# මෝසෙස් විසින් ලියනලද උත්පත්තිනම්

## පලමුවෙනි පොතය.

1. පරිච්ඡෙදය. පටන්ගැන්මෙහිදි
දෙවියන්වහන්සේ අහසත් පොලවත් මැ
2 වූසේක. පොලවද පිලිවෙලකට නැතුව
හිස්වූයේය ගැඹුර පිට අන්ධකාරය වූ
යේය දෙවියන්වහන්සේගේ ආත්මය ජල
3 මතුයෙහි හැසුරුනේය. දෙවියන්වහන්
සේ එලිය වේවයි වදාලසේක එවිට එලි
4 ය වූයේය. දෙවියන්වහන්සේ එලිය යහ
පත් බව දැක අන්ධකාරයෙන් එලිය
වෙන්කොට එලියට දවාලයයි කියාද
5 අන්ධකාරයට රාත්‍රියයි කියාද නම් තැබූ
සේක එවිට සවස සහ උදයව පලමුවෙ
නි දවස වූයේය.

6 දෙවියන්වහන්සේ ජල මධ්‍යයෙහි අව
කාසයක් වේවයි කියාද ජලයෙන් ජලය
එයින් වෙන්වේවයි කියාද වදාලසේක.
7 දෙවියන්වහන්සේ අවකාසයක් මවා අව
කාසයට මත්තෙහන් තිබුනාවූ ජලය කෙ
රෙන් අවකාසය යට තිබුනාවූ ජලය
8 වෙන්කලසේක ඒ එසේ විය. දෙවියන්ව
හන්සේ අවකාසයට අහසයයි නම් තැබූ
සේක එවිට සවස සහ උදයව දෙවෙනි
දවස වූයේය.

9 දෙවියන්වහන්සේ අහස යට තිබෙන්
නාවූ ජලය එක් තැනකට රැස්වේවයි වි
යලි භූමියද පෙනේවයි වදාලසේක ඒ එ
10 සේ විය. දෙවියන්වහන්සේ වියලි භූමියට
පොලවයයි කියාද රැස්වූ ජලයට සමුද්‍රය
යි කියාද නම් තබා ඒක යහපත්බව දුටු
11 සේක. දෙවියන්වහන්සේ භූමියෙන් තෘන
සහ බීජයන් උපදවන පලා වර්ගයද ඒ
ඒ වර්ග ලෙස එයින්ම භූමියෙහි බීජයන්
හටගෙන ඵල උපදවන ඵල වෘක්ෂද හට
12 ගනිත්වයි වදාලසේක ඒ එසේවිය. භූමි
යෙන් තෘන සහ ඒ ඒ වර්ග ලෙස බීජ උ
පදවන පලා වර්ගයද එයින්ම බීජයන්
හටගෙන ඒ ඒ වර්ග ලෙස ඵල උපදවන
වෘක්ෂයන්ද උපදවනලද්දේය දෙවියන්ව
13 හන්සේ ඒ යහපතැයි දුටුසේක. එවිට ස
වස සහ උදයව තුන්වෙනි දවස වූයේය.

14 දෙවියන්වහන්සේ රාත්‍රිය කෙරෙන් ද
වාල වෙන්කරණ පිනිසද ලකුනු පිනිසද
15 කාලයන් පිනිසද දවස් පිනිසද අවුරුදු
පිනිසද අහස්තලයෙහි බබලමින් භූමිය
ට එලිය දෙන පිනිසද අහස්තලයෙහි
ආලෝක වෙත්වයි වදාලසේක ඒ එසේ
විය.

16 දෙවියන්වහන්සේ මහත් ආලෝක දෙ
කක් සාදා එයින් වඩා මහත් ආලෝකය
17 දවහල් අධිපතිකම් කරණ පිනිසද කුඩා
ආලෝකය සහ තාරකාවල් රාත්‍රියෙහි අ
ධිපතිකම් කරණ පිනිසද නියමකොට
පොලවට එලිය දෙමින් දිවාරාත්‍රි දෙක්
18 හි අධිපතිකම් කරණ පිනිසද අන්ධකා
රයෙන් එලිය වෙන්කරණ පිනිසද ඒවා
අහසතලයෙහි තැබූසේක දෙවියන්වහන්
19 සේ ඒ යහපතැයි දුටුසේක. එවිට සවස
සහ උදයව සතරවෙනි දවස වූයේය.

20 දෙවියන්වහන්සේ ජලයෙන් ජීවමා
නවූ සත්වයෝ බොහෝසෙයින් හටග
නිත්වයි පක්ෂීහු භූමිය මත්තෙහි ආකාස
කුහරයෙහි පියාසර කෙරෙත්වයි වදාල
21 සේක. දෙවියන්වහන්සේ මහත් තල්මසු
න්ද ඒ ඒ වර්ග ලෙස බොහෝසෙයින් ජ
ලයෙහි හටගත්තාවූ ජීවමාන සියළු ස
තුන්ද ඒ ඒ වර්ග ලෙස පියාපත් ඇති සි
යළු පක්ෂීන්ද මැවූසේක දෙවියන්වහන්සේ
22 ඒ යහපතැයි දුටුසේක. දෙවියන්වහන්
23 සේ ඔවුන්ට ආශීර්වාදකරමින් වර්ධනව
බෝවෙමින් සමුද්‍රයෙහි ජලය පූර්ණක
රව් පොලවෙහි පක්ෂියෝ වර්ධනවෙත්ව
යි වදාලසේක එවිට සවස සහ උදයව
පස්වෙනි දවස වූයේය.

24 දෙවියන්වහන්සේ පොලවෙහි ඒ ඒ
වර්ග ලෙස ජීවන සත්වයෝද ඒ ඒ ව
ර්ග ලෙස සිවුපාවෝද දිඝී ජාතිහුද භූමි

යෙහි මෘගයන්ද හටගනිත්වයි වදාළ
25 සේක ඒ එසේවිය. දෙවියන්වහන්සේ ඒ
ඒ වර්ග ලෙස භූමියෙහි මෘගයන්ද ඒ ඒ ව
ර්ග ලෙස සිවුපාවුන්ද ඒ ඒ වර්ග ලෙස
පොලව පිට බඩගානාවූ සියල්ලන්ද මැවූ
සේක දෙවියන්වහන්සේ ඒ යහපතැයි
26 දුටුසේක. දෙවියන්වහන්සේ අපගේ ස
මානත්වය ලෙස අපගේ ස්වරූපයමෙන්
මනුෂ්‍යයා මවම්හ සමුද්‍රයෙහි මත්ස්‍යයන්
කෙරෙහිද ආකාසයෙහි පක්ෂීන් කෙරෙ
හිද සිවුපාවුන් කෙරෙහිද සියළු පොල
ව හා පොලව පිට බඩගානාවූ සියළු දිසි
ජාතීන් කෙරෙහිද අධිපතිකම ඔවුන්ට
27 වේවයි වදාළසේක. දෙවියන්වහන්සේ
තමන්වහන්සේගේ ස්වරූපය මෙන් මනු
ෂ්‍යයා මැවූසේක දෙවියන්වහන්සේගේ
ස්වරූපය මෙන් ඔහු මැවූසේක පුරුෂ
යෙක්ද ස්ත්‍රියෙක්ද කොට උන්වහන්සේ
28 ඔවුන් මැවූසේක. දෙවියන්වහන්සේ ඔ
වුන්ට ආශීර්වාදකොට සඵලවෙමින් බෝ
වව් භූමිය යටත්කොට එහිදී වර්ධනවව්
සමුද්‍රයෙහි මත්ස්‍යයන් කෙරෙහිද ආකා
සයෙහි පක්ෂීන් කෙරෙහිද පොලව පිට
හැසිරෙනනාවූ ජීවමාන සියල්ලන් කෙ
රෙහිද අධිපතිකම් කෙරෙත්වයි වදාල
29 සේක. තවද දෙවියන්වහන්සේ මුළු පො
ලවෙහි ඇත්තාවූ බීජ ධරන්නාවූ සියළු
පලා වර්ගයද ඵල උපදවන්නාවූ බීජ
යන් ධරනනාවූ සියළු වෘක්ෂයන්ද තොපට
30 දුන්මි ඒ දේ තොපට ආහර පිනිස වන්
නේය. පොලවෙහි සියළු මෘගයන්ටද ආ
කාසයෙහි සියළු පක්ෂීන්ටද භූමියෙහි
බඩගානාවූ පන ඇති සියල්ලන්ටද ආහ
ර පිනිස නිල් තන දුනිම්යි වදාලසේක
31 ඒ එසේවිය. දෙවියන්වහන්සේ තමන්ව
හන්සේ මැවූ සියළු දේම දුටුසේක ඒ ඉ
තා යහපත් වූයේය එවිට සවස සහ උද
යව සවෙනි දවස වූයේය.

2. පරිච්. මෙසේ අහසත් පොලවත්
එහි ඇත්තාවූ සියළු සේනාවත් නිමවන
2 ලද්දේය. සත්වෙනි දින දෙවියන්වහන්
සේ තමන් විසින් මවනලද ක්‍රියාව නිම
වූසේක සත්වෙනි දින උන්වහන්සේ කල
3 සියළු ක්‍රියාවෙන්ම නිවාඩුගත්සේක. දෙ
වියන්වහන්සේ සත්වෙනි දිනයෙහි තම
න්වහන්සේ මැවූවාවූ සෑදුවාවූ සියළු ක්‍රියා
වෙන් නිවාඩුගත්හෙයින් ඒ දින ආශීර්වා
දකොට ශුද්ධකලසේක.

4 යෙහෝවඃ දෙවියන්වහන්සේ අහසත්
පොලවත් සෑදූ කල්හි භූමියෙහි තිබෙන්
ට පලමුවෙන් වනයෙහි සියළු ගස්ද හට
ගන්ට පලමුවෙන් වනයෙහි සියළු පලා
5 ජාතීන්ද මැවූ දවසෙහිදී අහසෙහිද පො
ලවෙහිද ප්‍රවෘත්තිය මෙසේ විය ඒතාක්
කල් යෙහෝවඃ දෙවියන්වහන්සේ පොල
වෙහි වර්ෂාව නොවැස්වූසේක භූමිය වව
න පිනිස කිසි මනුෂ්‍යයෙක් නොවූයේය.
6 එහෙත් මීදුමක් භූමියෙන් නැගෙමින් සි
7 යළු බිම තෙමූයේය. යෙහෝවඃ දෙවිය
න්වහන්සේ පොලවේ දූවිල්ලෙන් මනුෂ්‍ය
යා මවා ඔහුගේ නාසිකා තුලෙහි ජීවන
යෙහි හුස්ම පිඹසේක එවිට මනුෂ්‍යයා ජී
වමාන ආත්මයෙක් වූයේය.

8 යෙහෝවඃ දෙවියන්වහන්සේ නැගෙ
නහිර දිසාවේදී ඒදන් යන ස්ථානයෙහි
9 උයනක් වවා දැකීමට ප්‍රියවූ කෑමට සුදුසු
වූ සියළු වෘක්ෂයන්ද උයන මැද ජීවනය
දෙනනාවූ වෘක්ෂයද යහපත හා නපුරු දැ
නීමෙහි වෘක්ෂයද භූමියෙහි හටගන්වා ත
මන්වහන්සේ මැවූ මනුෂ්‍යයා එහි පිහිටුවූ
10 සේක. උයන තෙමන පිනිස ඒදනෙන්
ගඟාවක් නික්ම එතනින් බෙදී ගඟා හ
11 තරක් වූයේය. එයින් පලමු වෙනි ගඟා
ව පීසොන් නම්ය රත්‍රන් තිබෙන්නාවූ
හවිලා රට මුළුල්ලෙහි ඒගඟාව වටේට පි
12 හිටියේය. ඒ දේසයෙහි රත්‍රන් යහපත්ය
13 ගුගුල්ද වෛඩූර්යයද එහි ඇත්තේය. දෙ
වෙනි ගඟාව ගීහොන් නම්ය ඒ ගඟාව
කූෂ් දේසය මුළුල්ලෙහි වටේට පිහිටි
14 යේය. තුන්වෙනි ගඟාව හිද්දෙකෙල්
නම්ය ඒ ගඟාව අසූර් දේසයෙහි පූර්වදිග්
භාගයට වැටෙන්නේය හතරවෙනි ග
ඟාව ප්‍රාත් නම්ය.

15 යෙහෝවඃ දෙවියන්වහන්සේ ඒ මනු
ෂ්‍යයා ගෙන ඒදන් උයන සශ්‍රීකකරමින්
16 රක්ෂාකරණ පිනිස එහි පිහිටුවා උයනෙ
හි සියළු ගස්වලින් කැමති ලෙස කන්න
17 ට පුළුවන. එහෙත් යහපත හා නපුරු දැ
නීමෙහි ගහෙන් කන්නට එපාය. එයින්
කන දවසෙහිම ඒකාන්තයෙන් නස්
නෙහියයි ඕහට වදාරා අඥාකලසේක.

18 යෙහෝවඃ දෙවියන්වහන්සේ මනුෂ්‍ය
යා තනියම සිටීම යහපත් නොවන්නේය

ඕහට සුදුසුවූ උපකාර කරනෙනක් සා
19 දා දෙන්නෙමියි වදාලසේක. පොලවෙ
හි සියළු මෘගයන්ද ආකාශයෙහි සියළු ප
ක්‍ෂීන්ද යෙහෝවඃ දෙවියන්වහන්සේ පො
ළොවෙන් සාදා ආදම් ඔවුන්ට නම් තබන්
නේ කෙසේදැයි දක්නා පිණිස ඔහු වෙ
තට ඔවුන් ගෙන්වූසේක. ආදම් සියළු
ජීවමාන සතුන්ට තැබූ නම් ඔවුන්ගේ
20 නාමවල් විය. ආදම් සියළු සිව්පාවුන්ටද
ආකාශයෙහි පක්‍ෂීන්ටද වනයෙහි සියළු
මෘගයින්ටද නම් තැබූයේය. නුමුත් ඕහට
සුදුසුවූ උපකාරකරන්නෙක් නූවූයේය.
21 යෙහෝවඃ දෙවියන්වහන්සේ ආදම් කෙ
රෙහි බරවූ නින්දක් පමුණුවා ඔහු නිදා
ගත්විට ඔහුගේ ඉල ඇටවලින් එකක්
22 ගෙණ ඒ ස්ථානය මාංශයෙන් පුරවා ඔහු
ගෙන් ගත් ඉල ඇටෙන් ස්ත්‍රියක් මවා ඈ
23 ආදම් වෙතට පැමිනවූසේක. එවිට ආදම්
මේ තැනැත්ති මාගේ ඇටවලින් ඇටය
මාගේ මාංශයෙන් මාංශයය මනුෂ්‍යයා
ගෙන් ගත් බැවින් මනුෂ්‍ය ස්ත්‍රියයි නම්
24 ලබන්නීය. එබැවින් මනුෂ්‍යයා තමන්
ගේ මවුපියන් හැර තමාගේ භාය්‍යාවට
ඇළුම් වන්නේය ඔවුහු එකම මාංශය ව
25 න්නෝය. පුරුෂයාද ස්ත්‍රීද යන මොවුන්
දෙදෙනම නිර්වස්ත්‍රව සිටියෝය නුමුත්
ඔවුන් ලැජ්ජා නොවූහ.

3. පරිච්ඡේ. යෙහෝවඃ දෙවියන්ව
හන්සේ මැවූ වනයෙහි සියළු සත්වයින්
ට වඩා ප්‍රයෝගකාරයෙක්වූ සර්පයා උය
නෙහි සියළු ගස්වලින් නොකනනට දෙ
වියන්වහන්සේ වදාලබව සැබෑදැයි ස්ත්‍රීහ
2 ට කීය. ස්ත්‍රීද උයනෙහි ගස්වල ගෙඩි
කන්නට අපට පුළුවන. එහෙත් දෙවිය
3 න්වහන්සේ තොපි නොනසින පිණිස උ
යන මැද්දේ තිබෙන ගසේ ගෙඩි නො
කව් ඒක අත නොගසව්යයි වදාලසේකැ
4 යි සර්පයාහට කීවාය. සර්පයා නුබලා සැබ
5 වින් නොනස්නෝය. එහෙත් එයින් ක
න දවසෙහි නුබලාගේ ඇස් ඇරී යහප
ත හා නපුරද දැනගෙණ දෙවියන්වහන්
සේ සමාන වෙයි බව දෙවියන්වහන්සේ
දන්නාසේකැයි ස්ත්‍රීහට කීයේය.
6 ස්ත්‍රීද ඒ ගහ කෑමට හොඳ බවද ඇස්
වලට ප්‍රියවූ බවද නුවන ලැබීම පිණිස
ආසාවිය යුතු බවද දැක එයින් කඩාගෙ
න කා ඇගේ ස්වාමි පුරුෂයාටත් දුන්නි
7 ය ඔහුද කෑවේය. එවිට ඔවුන් දෙදෙනා
ගේ ඇස් ඇරී ඔවුන් නිර්වස්ත්‍රව සිටි බව
දැනගෙන උදුම්බර පත් එක්කොට ගො
8 තා තමන්ට විලි වැසුම් සාදාගත්හ. එවිට
දිනයාගේ සීත කාලයෙහි යෙහෝවඃ
දෙවියන්වහන්සේ උයනෙහි සක්මන්ක
රණ ශබ්දය අසා ආදම් සහ ඔහුගේ භා
ය්‍යාව යෙහෝවඃ දෙවියන්වහන්සේ ඉදි
රියෙන් උයනෙහි ගස් අතරෙහි සැඟවු
නෝය.
9 යෙහෝවඃ දෙවියන්වහන්සේ ආදම්හ
ට අඬගසමින් තෝ කොතනදැයි වදාල
10 සේක. ඔබවහන්සේගේ ශබ්දය උයනෙ
හිදී අසා නිර්වස්ත්‍රවූ බැවින් භයපත්ව සැ
11 ඟවුනෙමියි කීයේය. උන්වහන්සේ තෝ
නිර්වස්ත්‍රවූ බව තට කීවේ කවුද නොක
නනට මම අණකල ගහෙන් කෑවෙහිදැ
12 යි ඕහට වදාලසේක. එවිට ආදම් මා සම
ග සිටින්ට ඔබවහන්සේ මට දුන් මේ ස්ත්‍රී
ගහෙන් මට දුන්නාය මමද කෑවෙමියි
13 කීය. එවිට යෙහෝවඃ දෙවියන්වහන්සේ
තී කලේ මොකදැයි ස්ත්‍රීහට වදාලසේක.
ස්ත්‍රීද සර්පයා මා රැවටූයේය මමත් කෑවෙ
14 මියි කීවාය. එකල යෙහෝවඃ දෙවියන්
වහන්සේ තෝ මේක කල බැවින් සියළු
සිවුපාවුන්ටද වනයෙහි සියළු මෘගයන්ට
ද වඩා සාපලත් තැනැත්තෙක්වේ බඩ
ගා ඇවිදිමින් තාගේ ජීවත්වීමෙහි සැම
15 දිනම දූවිලි කන්නෙහිය. තා සහ ස්ත්‍රී අ
තරෙහිද තාගේ වංශය සහ ඇගේ වංශය
අතරෙහිද සතුරුකම තබමි ඒ වංශය තා
ගේ හිස පොඩිකරනේය තෝ ඔහුගේ
විළුඹ පොඩිකරනෙහියයි සර්පයාහට ව
16 දාලසේක. උන්වහන්සේ ගර්භ දරීමෙහි
තීගේ දුක අතිසයින් වැඩිකරනෙමි දු
කින් දරුවන් වදන්නිය තීගේ ආසාව තී
ගේ පුරුෂයාහට පවත්නේය ඔහු තී කෙ
රෙහි අධිපතිකම් කරනේයයි ස්ත්‍රීහට
17 වදාලසේක. උන්වහන්සේ තාගේ භාය්‍යා
වගේ බස් අසා නොකන්නට මම අණ
කල ගහෙන් කෑ බැවින් තා නිසා භූමිය
සාපලද්දෑවේ තාගේ ජීවත්වීමෙහි සියළු
දවසෙහිම දුක් සහිතව එයින් කන්නෙ
18 හිය. ඒ භූමිය කටුද ගොකටුද උපදවන්
නේය තෝ පොලවෙහි පලා කනෙනහි
19 ය භූමියෙන් හටගත් තෝ භූමියට හැරී

යනතුරු මුහුනේ දහඩියෙන් කෑම කන්නෙහිය. තෝ දූවිලි බැවින් දූවිල්ලට හැරී යන්නෙහියයි ආදම්හට වදාලසේක.
20 ආදම් තමන් භාර්යාව ජීවමානවූ සියල්ලන්ට මව් නිසා ඈට ඒවයයි නම් තැබිය.
21 යෙහෝවඃ දෙවියන්වහන්සේ ආදම් සහ ඔහුගේ භාර්යාවට සම්වලින් ඇඳුම් සාදා ඔවුන්ට ඇන්දවූසේක.
22 තවද යෙහෝවඃ දෙවියන්වහන්සේ මනුෂ්‍යයා යහපතද නපුරද දැනගැනීමට අපගෙන් එකෙක් මෙන් වූයේය දැනුදු ඔහු සදාකාලේටම ජීවත්වෙන ලෙස ඔහුගේ අත දිගුකොට ජීවන දෙන්නාවූ වෘක්ෂයෙන් කඩාගෙන නොකන පිණිසය
23 කියා වදාරමින් යම් භූමියකින් ඔහු ගන්නාලද්ද ඒ භූමිය සස්‍යකකරණ පිණිස යෙහෝවඃ දෙවියන්වහන්සේ ඒදන් උයනෙන් ඔහු පිටත්කලසේක.
24 තවද උන්වහන්සේ මනුෂ්‍යයා පිටතට දමා ජීවනය දෙන්නාවූ වෘක්ෂයට එලඹෙන මාර්ගය රක්ෂාකරන පිණිස පූර්ව දිසාවෙහි කෙරුබිම් සහ ගින්නෙන් දිලිහෙන්නාවූ සියළු දෙසට කරකැවෙන්නාවූ කඩුවක්ද තැබූසේක.

4. පරිච්ඡේ. ආදම් තමාගේ භාර්යාවූ ඒව වෙතට පැමිණියේය ඈ ගර්භිණීව කායින් වදා යෙහෝවඃවහන්සේ කෙරෙන් මනුෂ්‍යයෙක් ලබාගත්තෙමියි කීවාය.
2 නැවතද ඈ ඔහුගේ සහෝදරවූ ආබෙල් වැදූවාය. ආබෙල් බැටළුපාලයෙක් වූයේය
3 කායින් ගොවියෙක් වූයේය. කල්යාමෙන් කායින් භූමියෙහි ඵලයෙන් යෙහෝවඃවහන්සේට පූජාවක් ගෙනාවේය.
4 ආබෙල් තමාගේ බැටළු සමූහයාගේ කුළුඳුලන්ගෙන්ද ඔවුන්ගේ තෙලින්ද ගෙනාවේය. යෙහෝවඃවහන්සේ ආබෙල් සහ ඔහුගේ පූජාව ඒත්තුගත් නුමුත්
5 කායින් සහ ඔහුගේ පූජාව ඒත්තු නොගත්සේක. එවිට කායින් අතිසයින් ක්‍රෝධව ඔහුගේ මූහුන මලානිකවූයේය.
6 යෙහෝවඃවහන්සේ තෝ ක්‍රෝධවූයේ මන්ද තාගේ මූහුන මලානිකවූයේ මක්නිසාද
7 ඉදින් තෝ යහපත්කම් කරන්නෙහිනම් පිළිගනු නොලබන්නෙහිද නපුරුකම් කරන්නෙහිනම් දොර ලඟට පාපය තිබෙන්නේය. ආබෙල්ගේ ආසාව තා කෙරෙහි පවත්නේය තෝ ඕහට අධිපතිකම් කරන්නෙහියයි කායින්හට වදාලසේක.
8 කායින් තමාගේ සහෝදරවූ ආබෙල් සමග කථාකෙලේය. ඔවුන් කෙතෙහි සිටිකල්හි තමන් සහෝදරවූ ආබෙල්ට එදිරිව නැගිට ඔහු මැරුවේය.
9 එවිට යෙහෝවඃවහන්සේ තාගේ සහෝදරවූ ආබෙල් කොතැන්හිදැයි කායින්ගෙන් විචාලසේක ඔහු මම නොදනිමි මම මාගේ සහෝදරයාගේ රැකවලෙක්දැයි කීය.
10 උන්වහන්සේ තෝ කෙලේ මොකද භූමියෙහි සිට තාගේ සහෝදරයාගේ ලෙයෙහි ශබ්දය මට හඬගසන්නේය.
11 දැනුදු තාගේ සහෝදරයාගේ රුධිරය තා අතින් පාවාගන්ට මුඛය ඇරියාවූ පොලවෙන් තෝ සාපලද්දෙක.
12 භූමිය සස්‍යකරණකල්හි ඈ මෙතැන් පටන් ඈගේ සැක්තිය තට නොදෙන්නීය. තෝ භූමියෙහි විදේශියෙක්ද පාදඩයෙක්ද වන්නෙහියයි වදාලසේක.
13 කායින් මාගේ අපරාධය ක්ෂමාවෙන්ට නුපුළුවන්වූ මහත් පාපයක්ද
14 ඔබවහන්සේ අද දවසෙහි පොලෝතලයෙන් මා එලවූසේක ඔබවහන්සේගේ ඉදිරියෙන් සැඟවෙන්නෙමි පොලවෙහි විදේශියෙක්ද පාදඩයෙක්ද වන්නෙම් මා දක්නා කවරෙක්වත් මා මරන්නේයයි යෙහෝවඃවහන්සේට කීයේය.
15 යෙහෝවඃවහන්සේ කායින් මරනනාවූ තැනැත්තේ සත් වරක් ප්‍රති දඬුවම් ලබන්නේයයි වදාරමින් කායින් දක්නා කවරෙක් නුමුත් ඔහු නොමරණ පිණිස ඔහු කෙරෙහි ලකුනක් තැබූසේක.
16 කායින් යෙහෝවඃවහන්සේගේ ඉදිරියෙන් ගොස් ඒදනෙන් නැගෙනහිර දිසාවෙහිවූ නොද් දේසයෙහි වසමින්
17 තමාගේ භාර්යාව වෙතට පැමිණියේය. ඈ ගර්භිණීව ඒනොඃ වැදූවාය. කායින් නුවරක් කොට තමාගේ පුත්වූ ඒනොඃගේ නම එයට තැබීය.
18 ඒනොඃහට ඊරද් උපනේය ඊරද්ද මෙහුජයෙල් ඉපදවූයේය මෙහුජයෙල්ද මෙතූසයෙල් ඉපදවූයේය.
19 මෙතූසයෙල්ද ලාමෙක් ඉපදවූයේය ලාමෙක් ආඩා සහ සීලානම්වූ ස්ත්‍රීන් දෙදෙනෙක් සරණපාවාගත්තේය.
20 ආඩා යාබෙල් වැදූවාය. ඔහු කූඩාරම්

වල වසන්නන්ගේද ගෝපාලයන්ගේද
21 පියානෝය. ඔහුගේ සහෝදරයානම් වී
නාකරනනන්ගේද නලාකාරයන්ගේද
22 පියානන්වූ යූබල්ය. සිලාද ලෝහකරු
වන් සහ කඹුරණ්‍ය යන සියල්ලන්ගේ ගු
රුවූ තුබෙල්කායින් වැදුවාය. තුබෙල්
කායින්ගේ සහෝදරී නාමානම් වූවාය.
23 ලාමෙක්ද ඔහුගේ භාර්යාවූ ආධා සහ සි
ලාහට ලාමෙක්ගේ භාර්යාවෙනි මාගේ
ශබ්දය අසා මාගේ වචනයට කන් දියල්
ලාය මාගේ වනයට මනුෂ්‍යයෙක්ද මා
ගේ තුවාලයට යව්වනයෙක්ද මැරූයෙ
24 මි. ඉදින් කායින් සත් වරක් ප්‍රතිදඬනය
ලබන්නේනම් සැබවීන් ලාමෙක් හැත්
තෑ හත් වරක් ලබන්නේයයි කියේය.
25 ආදම් නැවතද තමාගේ භාර්යාව වෙ
තට පැමිනියේය ඈ පුත්‍රයෙකු වදා කා
යින් විසින් මරණලද ආබෙල් වෙනුවට
දෙවියණ්වහන්සේ අන්‍ය වංශයක් මට නි
යමකලසේකැයි කී බැවින් ඕහට සැත්
26 යයි නම් තැබුවාය. සැත්හටද පුත්‍රයෙකු
උපනෝය ඔහු ඕහට ඒනොස් නම් තැ
බිය එතැන් පටන් මනුෂ්‍යයෝ යෙහෝ
වාවහන්සේගේ නාමය මතක්කරන්ට
පටන්ගත්තෝය.

5. පරිච්ඡේ. ආදම්ගේ පරම්පරාවෙහි
පොත මේය. දෙවියණ්වහන්සේ මනුෂ්‍ය
යා මැවූ දවසෙහි උන්වහන්සේගේ ස්ව
2 රූපය මෙන් ඔහු මැවූසේක. උන්වහන්
සේ පුරුෂයෙක්ද ස්ත්‍රියෙක්ද කොට ඔ
වුන් මැවූ දවසෙහි ඔවුන්ට ආදම්යයි නම්
තබා ඔවුන්ට ආශීර්වාදකලසේක.
3 ආදම් එකසිය තිස් අවුරුද්දක් ජීවත්වූ
පසු තමාගේ ස්වරූපය ලෙස තමාගේ
සමානත්වයෙහි පුත්‍රයෙකු ඉපදවූයේය
4 ඕහට සැත්යයි නම් තැබීය. සැත් ඉපද
වූ පසු ආදම්ගේ වයස් අටසියයක් අවුරු
5 දු වූයේය ඔහු පුත්‍රයන් දූවරුන් ඉපදවූ
යේය. ආදම් ජීවත්වූ සියළු වයස් නවසිය
තිස් අවුරුද්දක් විය ඔහු මෙලේය.
6 සැත් එකසිය පස් අවුරුද්දක් ජීවත්වූ
7 පසු ඒනොස් ඉපදවූයේය. ඒනොස් ඉප
දවූ පසු අටසිය සත් අවුරුද්දක් ජීවත්ව
8 පුත්‍රයන් දූවරුන් ඉපදවූයේය. සැත්ගේ
සියළු වයස් නවසිය දොළොස් අවුරුද්
දක් විය ඔහු මෙලේය.
9 ඒනොස් අනූ අවුරුද්දක් ජීවත්වූ පසු
10 කායිනන් ඉපදවූයේය. කායිනන් ඉපදවූ
පසු අටසිය පසළොස් අවුරුද්දක් ජීවත්
11 ව පුත්‍රයන්ද දූවරුන්ද ඉපදවූයේය. ඒ
නොස්ගේ සියළු වයස් නවසිය පස් අවු
රුද්දක් විය ඔහු මෙලේය.
12 කායිනන් සැත්තෑ අවුරුද්දක් ජීවත්
13 වූ පසු මහලාලිල් ඉපදවූයේය. මහලාලිල්
ඉපදවූ පසු අටසිය හතලිස් අවුරුද්දක්
ජීවත්ව පුත්‍රයන් දූවරුන් ඉපදවූයේය.
14 කායිනන්ගේ සියළු වයස් නවසිය දස
අවුරුද්දක් විය ඔහු මෙලේය.
15 මහලාලිල් සැටපස් අවුරුද්දක් ජීවත්
16 වූ පසු ජෙරද් ඉපදවූයේය. ජෙරද් ඉප
දවූ පසු අටසිය තිස් අවුරුද්දක් ජීවත්ව
17 පුත්‍රයන් දූවරුන්ද ඉපදවූයේය. මහලා
ලිල්ගේ සියළු වයස් අටසිය අනූපස් අවු
රුද්දක් විය ඔහු මෙලේය.
18 ජෙරද් එකසිය සැට දෑවුරුද්දක් ජීවත්
19 වූ පසු ඒනොක් ඉපදවූයේය. ඒනොක්
ඉපදවූ පසු අටසියයක් අවුරුදු ජීවත්ව
20 පුත්‍රයන් දූවරුන් ඉපදවූයේය. ජෙරද්
ගේ සියළු වයස් නවසිය සැටදෑවුරුද්දක්
විය ඔහු මෙලේය.
21 ඒනොක් සැටපස් අවුරුද්දක් ජීවත්
22 වූ පසු මෙතුසලා ඉපදවූයේය. මෙතුස
ලා ඉපදවූ පසු තුන්සියයක් අවුරුදු දෙ
වියන්වහන්සේ සමග හැසුරුණේය ඔහු
23 පුත්‍රයන් දූවරුන් ඉපදවූයේය. ඒනොක්
ගේ සියළු වයස් තුන්සිය සැටපස් අවුරුද්
24 දක් විය. ඒනොක් දෙවියණ්වහන්සේ සම
ග හැසුරුණේය දෙවියණ්වහන්සේ ඔහු
කැඳවාගත් බැවින් ඔහු ලෝකේ නොසි
ටියේය.
25 මෙතුසලා එකසිය අසූහත් අවුරුද්දක්
26 ජීවත්වූ පසු ලාමෙක් ඉපදවූයේය. ලා
මෙක් ඉපදවූ පසු සත්සිය අසූදෑවුරුද්දක්
ජීවත්ව පුත්‍රයන් දූවරුන් ඉපදවූයේය.
27 මෙතුසලාගේ සියළු වයස් නවසිය සැට
නව අවුරුද්දක් විය ඔහු මෙලේය.
28 ලාමෙක් එකසිය අසූ දෑවුරුද්දක් ජී
29 වත්වූ පසු පුත්‍රයෙක් ඉපදවූයේය. භූමිය
යෙහෝවාවහන්සේ කෙරෙන් සාපලත්
බැවින් අපගේ ක්‍රියාවන් හා හස්තක
ර්මාන්තය ගැන මොහු අප සනසන්නේ
යයි කියා ඕහට නෝවායයි නම් තැබීය.
30 ලාමෙක් නෝවා ඉපදවූ පසු පන්සිය අ

හු පස් අවුරුද්දක් ජීවත්ව පුත්‍රයන්ද දූව
31 රුන්ද ඉපදවූයේය. ලාමෙක්ගේ සියළු
වයස් සත්සිය සැත්තෑ සත් අවුරුද්දක්
විය ඔහු මළේය.

32 නෝවෘහට අවුරුදු පන්සියයක් වයස්
වූයේය ඔහු ෂේම්ද හැම්ද යාපෙත්ද ඉපදවූ
යේය.

6. පරිච්ඡේ. පොලවෙහි මනුෂ්‍යයෝ
2 බෝවෙන්ට පටන් ගෙන ඔවුන්ට දූව
රුන් උපන්කල්හි දෙවියන්වහන්සේගේ
පුත්‍රයෝ මනුෂ්‍යයන්ගේ දූවරු සෝභන
බව දැක ඔවුන් කැමති ලෙස භාර්‍ය්‍යාවන්
3 පාවාගත්තෝය. එවිට යෙහෝවෘවහන්
සේ මනුෂ්‍යයා මාංසය පමනක් හෙ
යින් මාගේ ආත්මය ඔහු හා සමග නිත
ර විවාද නොකරන්නේය. එසේ නුමුත්
ඔහුගේ දවස් එක්සිය විසි අවුරුද්දක් ව
4 න්නේයයි වදාලසේක. ඒ දවස්වලදී යෝ
ධයෝ පොලවෙහි සිටියෝය. එසින් ප
සුද දෙවියන්වහන්සේගේ පුත්‍රයෝ මනු
ෂ්‍යයන්ගේ දූවරුන් වෙතට පැමිනිකල්
හි ඒ ස්ත්‍රීවරු වැදූ දරුවෝ පරාක්‍රමයට
පැමින පූර්වයෙහි කීර්තිමත් මනුෂ්‍යයෝ
වූවෝය.

5 පොලවෙහි මනුෂ්‍යයාගේ දුෂ්ටකම
වැඩිවූ බවද ඔහුගේ හෘදයෙහි සියළු කල්
පනාවන් දුෂ්ටවම නිතරම පවත්නා බ
6 වද දෙවියන්වහන්සේ දුටුසේක. යෙ
හෝවෘවහන්සේ පොලවෙහි මනුෂ්‍යයා
මැවූබැවින් තැවුනුසේක උන්වහන්සේ
7 ගේ හෘදයෙහි සෝකාවූයේය. යෙහෝවෘ
වහන්සේ මම මනුෂ්‍යයා මැවූ නිසා තැ
වෙමි එබැවින් මම මැවූ මනුෂ්‍යයා පො
ළෝතලයෙන් විනාසකරන්නෙමි මනු
ෂ්‍යයන්ද මෘගයන්ද බඩගා ඇවිදින්නන්ද ආ
කාසයෙහි පක්ෂීන්ද විනාසකරන්නෙමියි
8 වදාලසේක. එහෙත් නෝවෘ යෙහෝවෘ
වහන්සේගෙන් කරුණාව ලැබූයේය.

9 නෝවෘගේ පරම්පරාව මේය. නෝවෘ
ධර්මිෂ්ටයෙක්ව ඔහුගේ පරම්පරාවෙහි
නිර්මලව දෙවියන්වහන්සේ සමග හැසු
10 රුනේය. ඔහු ෂේම්ද හැම්ද යාපෙත්ද ය
න පුත්‍රයන් තුන්දෙනෙක් ඉපදවූයේය.
11 පොලව දෙවියන්වහන්සේගේ ඉදිරියෙහි
අධමවූයේය බලාත්කාරයෙන් පිරුනේ
12 ය. දෙවියන්වහන්සේ පොලව බැලූසේ
ක ඒක අධමවිය. සියල්ලෝම තමන්ගේ
මාර්ගය පොලවෙහි අධමකෙලේය. දෙ
13 වියන්වහන්සේ සියළු මනුෂ්‍යයන් කරණ
කොටගෙණ මුළු පොලව බලාත්කාර
යෙන් පිරී තිබෙනහෙයින් ඔවුන්ගේ
අන්තිමය මා ඉදිරියට පැමුනුනේය. පො
ලව හා සමග ඔවුන් විනාසකරන්නෙමි.
14 තෝ ගෝෆෑර් දඬුවලින් නැවක් සදව.
ඇතුල් ගෙවල් සාදා ඇතුල පිට කීල් ගා
15 ව. මේ ප්‍රකාරයට ඒක සදව. නැවෙහි දි
ගරියන් තුන්සියයක පුළුල රියන් පනස
16 ක උස රියන් තිහක. නැවට කවුළුවක්
සදව. නැවෙහි මුදුන රියනකින් නිමව.
නැවෙහි දොර පැත්තකින් තබව ඒ නැ
ව පලමුවෙනි දෙවෙනි තුනෙවනි මහල්
17 වසයෙන් සාදව. මම්ම දිවි ඇති සියළු
සත්වයන් ආකාසය යටින් විනාසකරණ
පිනිස පොලවෙහි ජලගැලීමක් පමුනුව
18 නෙනමි. පොලවෙහි ඇත්තාවූ සියල්ල
නස්නෝය. එහෙත් තා කෙරෙහි මාගේ
ගිවිසුම පිහිටුවන්නෙමි. තෝද තාගේ
පුත්‍රයෝද තාගේ ස්ත්‍රීද තාගේ පුත්‍රයන්
ගේ ස්ත්‍රීවරුද නැවට ඇතුල්වෙනෝය.
තවද ජීවමානවූ සියල්ලන්ගෙන් තා ස
19 මග දිවි රැකෙන පිනිස සියළු වර්ග
යෙන් ගැනු පිරිමි දෙදෙනෙක් බැගින්
20 නැවට ගෙන යව. ඒ ඒ වර්ග ලෙස ප
ක්ෂීන්ගෙන්ද ඒ ඒවර්ග ලෙස සිවුපාවුන්
ගෙන්ද ඒ ඒ වර්ග ලෙස පොලවෙහි බඩ
ගානාවූ සියල්ලන්ගෙන්ද දිවි රැකෙන පි
නිස සියළු වර්ගයන්ගෙන් දෙදෙනෙක්
21 බැගින් තා වෙතට එන්නෝය. කෑයුතු
වූ සියළු ආහරයෙන්ම තා වෙතට රැස්
කරගනුව. ඒවා තමද ඔවුන්ටද භෝජ
න පිනිස වන්නේයයි නෝවෘහට වදාල
22 සේක. නෝවෘ එසේ කලේය. දෙවියන්
වහන්සේ ඕහට අනකල ලෙස ඔහු සිය
ල්ලම කෙලේය.

7. පරිච්ඡේ. යෙහෝවෘවහන්සේ නෝ
2 වෘහට වදාරණසේක් තව සත් දිනකින්
පසු දවහල් සතලිසක්ද රාත්‍රි සතලිසක්ද
3 පොලවෙහි වැසි වස්වමින් මම පොල
වෙහි සෑදූ සියළු සත්වයන් විනාසකර
ණහෙයින්ද මේ පරම්පරාවෙන් මාගේ ඉ
දිරියෙහි තා ධර්මිෂ්ටවූ බව දුටුහෙයින්ද
තෝද තාගේ සියළු පවුලද නැවට ඇ

4 තුල්වච්. පොළොවෙහි ජාති රක්ෂාකරණ පි
ණිස සියළු පවිත්‍රවූ සිවුපාවුන්ගෙන් ගැනු
පිරිමි සත් සත් කුට්ටම් බැගින්ද අපවිත්‍ර
වූ සිවුපාවුන්ගෙන් ගැනු පිරිමි කුට්ටම්
දෙකක් බැගින්ද ආකාශ පක්ෂීන්ගෙන්
ගැනු පිරිමි කුට්ටම් සත සත බැගින්ද
5 නා වෙතට ගනුවයි වදාළසේක. නෝවඃ
යෙහෝවඃවහන්සේ ඕහට අණකළ ලෙ
6 ස සියල්ල කෙළේය. පොළොවෙහි ජලගැ
ලීම වූකල්හි නෝවඃහට හසියයක් අවු
7 රුදු වයස් විය. නෝවඃ සහ ඔහුගේ පු
ත්‍රයෝද ඔහුගේ ස්ත්‍රීද ඔහුගේ පුත්‍රයන්
ගේ ස්ත්‍රීවරුද ජලගැලීම නිසා නැවට
8 ඇතුල්වූවෝය. පවිත්‍ර අපවිත්‍ර සිවුපාවුන්
ගෙනද පක්ෂීන්ගෙනද පොළොවෙහි බඩගා
9 නාවූ සියල්ලන්ගෙනද ගැනු පිරිමි දෙදෙ
න බැගින් යෙහෝවඃවහන්සේ නෝවඃ
හට අණදුන් ලෙස නැවෙහි නෝවඃ
වෙතට ගියෝය.

10 එසින් සත් දවසකට පසු ජලගැලීම
11 පොළොවෙහි විය. නෝවඃගේ වයස් අවුරු
දු හසියයක් වූකල්හි දෙවෙනි මස දස
සත්වෙනි දිනම මහත් ගැඹුරෙහි සියළු
උල්පත් බිඳුනෝය. ආකාසයෙහි කවුළු
12 හැරුනෝය දවල් සතළිසක්ද රෑ සතළි
13 සක්ද වර්ෂාව පොළොවෙහි වූයේය. එම ද
වසෙහිම නෝවඃ සහ ඔහු හා සමග නෝ
වඃගේ පුත්‍රවූ ෂෙම් හැම් යාපෙත්ද නෝ
වඃගේ ස්ත්‍රීද ඔහුගේ පුත්‍රයන්ගේ ස්ත්‍රීහු
14 තුන්දෙනාද නැවට ඇතුල්වූවෝය. ඔ
වුන් සහ සියළු සිවුපාවෝ තමන්ගේ ව
ර්ග ප්‍රකාරයටද සියළු මෘගයෝ තමන්
ගේ වර්ග ප්‍රකාරයටද පොළොවෙහි බඩ
ගානාවූ සියළු දිසි ජාතිහු තමන්ගේ ව
ර්ග ප්‍රකාරයටද නානාප්‍රකාර සියළු ප
15 ක්ෂීහු තමන්ගේ වර්ග ප්‍රකාරයටද පන
ඇති සියළු සතුන්ගෙන් කුට්ටම් කුට්
ටම් බැගින් නැවෙහි නෝවඃ වෙතට
16 ගියෝය. දෙවියන්වහන්සේ අණ දුන් ලෙ
ස ඇතුල්වූවාවූ පන ඇති සියළු සතුන්
ගෙන් ගැනු පිරිමි ඇතුල්වූනෝය. යෙ
හෝවඃවහන්සේ දොර වැසූසේක.

17 ජලගැලීම සතළිස් දවසක් පොළොවෙ
හි තිබුණේය. ජලය වර්ධනව නැව උල්ප
වාගත්තේය. ඒක පොළොවෙන් ඉල්ප ගි
18 යේය. ජලය බලවත්ව පොළොවෙහි බො
හෝසෙයින් වර්ධනවිය. නැවද ජල මතු
19 යෙහි ගියේය. ජලයද පොළොවෙහි බො
හෝසෙයින් බලවත්ව මුළු ස්වර්ගය යට
තිබෙන උස්වූ සියළු පර්වත වැසීගියේය.
20 ජලය බලවත්ව පර්වත වසාගෙන පස
21 ළොස් රියනක් උසට ගියේය. පක්ෂීන්ගෙ
නද සිවුපාවුන්ගෙනද මෘගයන්ගෙනද පො
ළොවෙහි බඩගානා සියළු දිසි ජාතීන්ගෙ
නද පොළොවෙහි ඇවිදින සියළු සත්වයෝ
22 ද සියළු මනුෂ්‍යයෝද නැසුනෝය. වියළි
භූමියෙහි හැසිරෙන සියල්ලන්ගෙන් ත
මන්ගේ නාසාපුටවල ජීවනයෙහි හුස්ම
23 ඇත්තාවූ සියල්ලෝම නැසුනෝය. මෙ
සේ භූමි මතුයෙහි සිටියාවූ සියළු සත්ව
යෝ විනාසවූනෝය. මනුෂ්‍යයෝද සිවු
පාවෝද දිසි ජාතිහුද ආකාස පක්ෂීහුද භූ
24 මියෙන් විනාසවූනෝය. නෝවඃ සහ ඔ
හු සමග නැවෙහි සිටියාහු පමනක්ව ඉ
තිරිවූනෝය. තවද එකසිය පනස් දව
සක් පොළොවෙහි ජලය බලවත්විය

8. පරිච්ඡේ. දෙවියන්වහන්සේ නෝ
වඃද නැවෙහි ඔහු සමග සිටිය සියළු සත්
වයින්ද සිවුපාවුන්ද සිහිකොට පොළොව පි
ට වාතයක් හමන්ට සැලැස්වූසේක එවි
2 ට ජලය අඩුවිය. ගැඹුරෙහි උල්පත්ද
ස්වර්ගයෙහි කවුළුද පියවූනෝය වර්ෂාව
3 ද ස්වර්ගයෙන් නැවැත්තේය. ජලය පො
ළොවෙන් නිතරම පෙරළෙමින් ගොස් එ
4 කසිය පනස් දවසකට පසු අඩුවිය. නැව
සත්වෙනි මස දස සත්වෙනි දින අරරත්
5 හි පර්වත පිට නැවතුණේය. ජලය දසවෙ
නි මාසය දක්වා නිතරම බැස්සේය. ද
සවෙනි මස පළමුවෙනි දිනයෙහි පර්වත
මස්තකවල් පෙනුනේය.

6 සතළිස් දවසකට පසු නෝවඃ තමා
විසින් සෑදූ නැවෙහි කවුළුව හැර කපු
7 ටුවෙකු පිටතට යවීය. ඒ කපුටුවාද පො
ළොවෙන් ජලය සිඳෙනතුරු ඔබ මොබ
8 හැසුරුණේය. ඔහු පොළොවෙන් ජලය
අඩුවූනේදැයි බලන පිනිස තමා කෙ
9 රෙන් පරවියෙකු යවීය. පරවියා පොළො
වෙහි සියළු තැන්හි ජලය තිබුනු බැවින්
තමාගේ පතුල ගසන්ට තැනක් නො
ලැබ ඔහු වෙතට නැවට හැරී ආයේය.
ඔහු තමාගේ අත දිගුකොට පරවියා
10 අල්වා නැවට ඇදගත්තේය. තව සත්
දවසක් බලාසිට පරවියා නැවෙන් පිට

11 තට නැවත හැරීයේය. පරවියාද සවස්
වේලෙහි ඔහු වෙතට ආයේය. ඔලීව ප
ත්‍රයක් උගේ තුඩෙහි තිබුනේය. එබැ
වින් නෝවඃ ජලය පොලවෙන් බස්නා
12 ලදැයි දැනගත්තේය. අන් සත් දවසක්
බලා සිට පරවියාද හැරීයේය ඒ පරවියා
නැවත ඔහු වෙත නොආයේය.

13 තවද හයසිය එක්වෙනි වර්ෂයෙහි ප්‍රථම
මස පලමුවෙනි දින ජලය පොලවෙන්
සිඳුනේය. එවිට නෝවඃ නැවෙහි පියන
හැර බැළුවේය භූමිය වියලී තිබුනේය.
14 දෙවෙනි මස විසි සත්වෙනි දින පොල
15 ලව වියළුනේය. දෙවියන්වහන්සේ නෝ
16 වඃහට වදුරණසේක් තෝද තාගේ ස්ත්‍රි
ද තාගේ පුත්‍රයෝද තාගේ පුත්‍රයන්ගේ
17 ස්ත්‍රිවරුද නැවෙන් පිටත්ව යව්. පොල
වෙහි වර්ධනවෙමින් සඵල ලෙස භූමියෙ
හි බෝවෙන පිනිස පක්ෂිනූ සිවුපාවුනූ
පොලවෙහි බඩගානා දිඝී ජතීනූ යන
සියළු සතුන්ගෙන් තා සමග සිටිනනාවූ
සියළු ප්‍රානීන් රැගෙන පිටත්ව එවයි ව
18 දලසේක. එවිට නෝවඃ සහ ඔහුගේ පු
ත්‍රයෝද ඔහුගේ ස්ත්‍රිද ඔහුගේ පුත්‍රයන්
ගේ ස්ත්‍රිවරුද ඔහු සමග පිටත්ව ගියෝ
19 ය. සියළු මෘගයෝද සියළු දිඝීජතීහුද සිය
ළු පක්ෂිහුද පොලවෙහි බඩගානා සියළු
ජතීහුද ඒ ඒ ජති ප්‍රකාරයෙන් නැවෙන්
පිටත්ව ගියෝය.

20 නෝවඃ යෙහෝවඃවහන්සේට පූජස
නයක් ගොඩනගා සියළු පවිත්‍රවූ සිවුපා
වුන්ගෙනූ සියළු පවිත්‍ර පක්ෂීන්ගෙනූ රැ
ගෙන දවන පූජාවන් එහි පූජාකෙලේය.
21 යෙහෝවඃවහන්සේ මධුර සුගන්ධය සි
ඹ මනුෂ්‍යයා නිසා පොලවට තවත් සා
ප නොකරනෙනම්. මනුෂ්‍යයාගේ හෘද
යෙහි කල්පනා ඔහුගේ තරුණ වයසෙ
හි පටන් නපුරුය නුමුත් මම කල ලෙස
සියළු සත්වයින්ට දෙවනු පහර නො
22 දෙනෙනම්. එහෙත් පොලව පවතිනතු
රු බීජ වපුරණ කාලය සහ කප්න කා
ලයද සීතලයද උෂ්ණයද ග්‍රීෂ්ම කාලය
සහ සීත කාලයද දවාලද රාත්‍රියද නො
නවත්නේයයි තමන්වහන්සේගේ සි
තින් සිතුසේක.

9. පරිච්ඡෙ. තවද දෙවියන්වහන්සේ
නෝවඃහටද ඔහුගේ පුත්‍රයන්ටද ආශීර්වා
දකොට වැඩි වැඩිව බෝවෙමින් පොල
2 ව පූර්ණකරව්. පොලවෙහි සියළු මෘග
යෝද ආකාසයෙහි සියළු පක්ෂිහුද පො
ලවෙහි ඇවිදිනනාවූ සියල්ලෝද සමුද්‍ර
යෙහි සියළු මත්ස්‍යයෝද තොප කෙරෙ
හි භයපත්වෙති ඔවුන් තොපගේ අතට
3 පාවාදී සිටිති. ජීවමානවූ සියළු තිරිස
නුන් තොපට භෝජන පිනිස වනෙන්
ය පලා ජති මෙන් ඒ සියල්ල තොපට
4 දුනිමි. එහෙත් ජීවිතය වන රුධිරය මා
5 ශය සමග නොකව්. සැබවින් තොප
ගේ ජීවිතයන්ගේ රුධිරය අයකරන්
නෙමි සියළු මෘගයන් අතිනූ මනුෂ්‍යයන්
අතිනූ ඒක අයකරනෙනම් සියළු මනුෂ්‍ය
සහෝදරයන්ගේ අතින් මනුෂ්‍යයාගේ
6 ජීවිතය අයකරනෙනම්. දෙවියන්වහන්
සේගේ ස්වරූපය මෙන් උන්වහන්සේ
මනුෂ්‍යයා මැවූසෙයින් මනුෂ්‍යයාගේ
ලේ වගුරුවන කවරෙක් නුමුත් ඔහුගේ
ලේ මනුෂ්‍යයන් විසින් වගුරුවනු ලැ
7 බේ. තොපි වැඩි වැඩිව වර්ධනවව් පො
ලවෙහි බොහෝසෙයින්ම වර්ධනවව්ය
යි ඔවුන්ට වදාලසේක.

8 තවද දෙවියන්වහන්සේ නෝවඃටද
9 ඔහුගේ පුත්‍රයන්ටද වදාරණසේක් මා
ගේ ගිවිසුම තොප සහ තොපගෙන් ප
10 සු තොපගේ වංශය සමගද නැවෙන් පි
ටත්ව යනනාවූ සියල්ලන් පටන් පොල
වෙහි සියළු මෘගයන් දක්වාම තොප වෙ
ත සිටිනනාවූ පක්ෂිනූ සිවුපාවුනූ පොල
වෙහි සියළු මෘගයනූ යන තොප සමග
සිටිනනාවූ සියළු ජීවමාන සතුන් සමග
11 ද පිහිටුවනෙනම්. තොප සමග මාගේ
ගිවිසුම පිහිටුවනෙනම් තවත් ජලගැලී
මෙන් සියල්ල විනාස නොවන්නේය.
පොලව විනාසකරණ පිනිස ජලගැලී
මක් මතු නොවනෙන්යයි වදාලසේක.

12 තවද දෙවියන්වහන්සේ මා අතරෙහි
ද තොප සහ තොප සමග සිටින්නාවූ
පන ඇති සියල්ලන් අතරෙහිද සියළු ප
රම්පරාවල මම කරනනාවූ මාගේ ගිවිසු
13 මෙහි ලකුනක්නම් මේය. කෙසේද මා
ගේ දුන්න වලාකුලෙහි තැබීම් ඒක මා
සහ පොලව අතරෙහි ගිවිසුමෙහි ලකු
14 නක් පිනිස වනෙන්ය. මම පොලව මස්
තකයෙන් වලාකුලක් ගෙනෙන කල්හි
ඒ දුන්න වලාකුලෙහි පෙනෙන්නේය.

15 එවිට මා අතරෙහිද තොප සහ ජීවමා
නාවූ සියල්ලන් අතරෙහිද ඇත්තාවූ මා
ගේ ගිවිසුම සිහිකරන්නෙමි සියළු ස
16 තුන් විනාසකරණ පිනිස තවත් ජලගැ
ලීමක් නොවන්නේය. දෙවියනුවහන්
සේ සහ පොලවෙහි සිටිනනාවූ පන ඇ
ති සියල්ලන් අතරෙහි තිබෙන සදාකා
ල ගිවිසුම සිහිවෙන පිනිස වලාකුලෙ
17 හි පෙනෙනනාවූ දුනා දෙස බලනෙන
වයි වදාලසේක. දෙවියනුවහන්සේ මා
සහ පොලවෙහි සිටිනනාවූ සියළු සතුන්
අතරෙහි මා විසින් පිහිටුවනලද ගිවිසු
මෙහි ලකුන මේයයි නෝවෘහට වදාල
සේක.

18 තවද නැවෙන් පිටතට ගියාවූ නෝ
වෘගේ පුත්‍රයෝනම් ෂෑම්ද හැම්ද යා
19 ඵත්ය. හැම් කානාන්ගේ පියානෝය.
මේ තුන්දෙන නෝවෘගේ පුත්‍රයෝ වෙ
ති. සියළු පොලව මොවුන්ගෙන්ම ග
20 හනව ගියේය. නෝවෘ ගොවිකම් කා
21 රන්ට පටන්ගෙණ මිදි වත්තක් වවා මූ
ද්‍රිකාපානය බී මත්ව තමාගේ කූඩාරමෙ
22 හි නිවස්ත්‍රව සිටියේය. කානාන්ගේ පි
යවූ හැම් ඔහුගේ පියානන්ගේ නග්න
භාවය දැක පිටත සිට තමන්ගේ සහෝ
23 දරයන් දෙදෙනාහට කීවිට ෂෑම් සහ
යාඵත් වස්ත්‍රයක් ගෙණ ඒක තමන්ගේ
උරහිස් පිට තබාගෙණ පස්සෙන් පස්
සට ගොස් තමන්ගේ පියානන්ගේ නග්
නභාවය වැසුවෝය. ඔවුන්ගේ මුහුන
අනකට හැරී තිබුනු බැවින් තමන්ගේ
24 පියානන්ගේ නග්නභාවය නුදුටුවෝය.
නෝවෘද තමාගේ මද්‍යපානයෙන් පිබිද
25 තමාගේ බාල පුත්‍රයා ඕහට කල දේ දැන
ගෙණ කානාන්හට සාපවේවා ඔහු තමන්
ගේ සහෝදරයන්ට මෙහෙකරුවන්ගේ
මෙහෙකරුවෙක් වන්නේයයි කීයේය.
26 තවද ඔහු ෂෑම්ගේ යෙහෝවෘ දෙවියන්
වහන්සේට ස්තුතිවේවා කානාන් ඔහු
27 ගේ මෙහෙකරුවෙක් වන්නේය. දෙවි
යනුවහන්සේ යාඵත් වර්ධන කරණසේක.
ඔහු ෂෑම්ගේ කූඩාරම්වල වසන්නේය.
කානාන් ඔහුගේ මෙහෙකරුවෙක් වන්
28 නේයයි කීයේය. නෝවෘ ජලගැලීමෙන්
පසු තුන්සිය පනස් අවුරුද්දක් ජීවත්වූ
29 යේය. නෝවෘගේ සියළුම වයස් නවසි
ය පනස් අවුරුද්දක්විය ඔහු මෙලේය.

10. පරිචෙඡ. ෂෑම්ද හැම්ද යාඵත්ද
යන නෝවෘගේ පුත්‍රයන්ගේ පරම්පර
2 වල් මේය. ජලගැලීමට පසු පුත්‍රයෝ
ඔවුන්ට උපන්නෝය. ගොමැර්ද මා
ගොග්ද මාදයිද යාවන්ද තුබල්ද මේ
3 සෙක්ද තිරස්ද යාඵත්ගේ පුත්‍රයෝ
4 ය. අස්කෙනෙස්ද රිඵත්ද තෝගර්මෘද
ගොමෙර්ගේ පුත්‍රයෝය. එලිෂෘද තර්
සිස්ද කිත්තිම්ද දොදානිම්ද යාවන්ගේ
5 පුත්‍රයෝය. මොවුන් විසින් අන්‍ය දේ
සින්ගේ විපවල් සහ දේසවල්ද ඔවුන්
ගේ භාෂාව හා පවුල්ද ජාතිවල්ද ප්‍රකා
රයට බෙදී තිබුනේය.

6 කුෂ්ද මිස්‍රායිම්ද පූත්ද කානානද හැම්
7 ගේ පුත්‍රයෝය. සෙබාද හවිලාද සබ්
තෘද රාමෘද සබ්තෙකෘද කුෂ්ගේ පුත්‍ර
8 යෝය. ෂෙබාද දෙදන්ද රාමාගේ පු
ත්‍රයෝය. කුෂ්ද නිම්රොද් ඉපදවූයේය.
9 ඔහු දේසයෙහි ශක්තිමත්වෙන්ට පටන්
ගෙණ යෙහෝවෘවහන්සේ ඉදිරියෙහි
බලවත්වූ දඩයන්කාරයෙක් විය. එබැ
වින් යෙහෝවෘවහන්සේ ඉදිරියෙහි
ශක්තිමත්වූ නිම්රොද්නම් දඩයම්කාර
10 යා සමානයයි කියනලද්දේය. සිනාර්නම්
දේසයෙහිවූ බාබෙල්ද ඇරෙක්ද අකද්
11 ද කල්නෙක්ද ඔහුගේ රාජ්‍යයෙහි ප
ටන්ගැන්ම විය. ඔහු ඒ දේසයෙන් අ
ෂූර් රටට පිටත්ව ගොස් නිනිවේ සහ
රෙහොබොත්ද කාලෘද යන නුවරවල්
12 ගොඩනගා නිනිවේ සහ කාලෘ අතරේ
13 රෙසෙන්යන මහත් නුවරක් ගොඩනැ
14 ගුයේය. මිස්‍රායිම්තෙම ලුදිම්ද අනම්ම්ද
ලෙහබිම්ද නප්තුහිම්ද පත්රුසිම්ද පි
ලිස්තිම් ඉපදවූ කස්ලුහිම්ද කප්තෝරිම්
ද ඉපදවූයේය.

15 කානාන් තමාගේ පලමුවෙනි පුත්‍රවූ
16 සිදොන් සහ හෙත්ද ජෙබුසියයන්ද අ
17 මෝරියයනුද ගිර්ගසියයනුද හිවියයනුද අර්
18 කියයනුද සිනියයන්ද අර්වදියයනුද සෙ
19 මරීයයනුද හමතියයනුද ඉපදවූයේය. ප
සුව කානාන්වරුන්ගේ වංශයෝ විසිර
ගියෝය. සිදොන් පටන් ගෙරර්ට යන
මාර්ගයෙහිදී ගාසර් දක්වාද සොදොම්
ගොමෝරා අද්මෘ සහ සෙබොයිම්ට ය
න මාර්ගයෙහිදී ලාසෘ දක්වාද ඔවුන්
20 ගේ සීමාවල්විය. තමන්ගේ දේසවල්හි
ද වංශවල්හිද තමන්ගේ වංශ හා භාෂා
ප්‍රකාරයට හැම්ගේ පුත්‍රයෝ මොවුන්
වෙති.

21 එබර්ගේ සියළු පුත්‍රයන්ගේ පිතෘවූ වැ

ඕමහල් යාපෙත්ගේ සහෝදරවූ ෂැම්හට
22 පුත්‍රයෝ උපනොත්ය. එලිම් අෂූර් අර්
23 පක්ෂද් ලූද් අරම් ෂැම්ගේ පුත්‍රයෝය.
24 උස් හූල් ගෙතැර් මස් අරම්ගේ පුත්‍රයෝ
ය. අර්පක්ෂද්ද සාලඃ ඉපදවූයේය. සා
25 ලඃද එබර් ඉපදවූයේය. එබර්හට පුත්‍ර
යෝ දෙදෙනෙක් උපන්නෝය. එයින්
එක්කෙනෙකුගේ දවස්වලදී පොලව
බෙදී තිබුන හෙයින් ඔහුට පෙලෙග්
නම්විය. තමන් සහෝදරයාගේ නම
26 යොක්තන්විය. යොක්තන්තෙම අල්
27 මොදද් සෙලෙප් හාසර්මවෙත් යෙරඃ
28 හදෝරම් ඌසල් දික්ලඃ ඔබල් අබිමා
29 යැල් ෂෙබා ඔපීර් හවිලඃ යොබබ් ඉප
දවූයේය. මේ සියල්ලෝම යොක්තන්
30 ගේ පුත්‍රයෝය. මේෂඃ පටන් නැගෙණ
ඉර දිසාවෙහිවූ සෙපර්නම් පර්වත මාර්ග
31 ය දක්වා ඔවුන්ගේ වාසස්ථානය විය. ඔ
වුන්ගේ දේසවලදී තමන්ගේ වර්ග වශ
භාෂා ප්‍රකාරයට ෂැම්ගේ පුත්‍රයෝ මො
වුන් වෙති.

32 තමන්ගේ වර්ගවල්හි තමන්ගේ ප
රම්පරාවන් ප්‍රකාරයට නෝවඃගේ පුත්‍ර
යන්ගේ ගෝත්‍රයෝනම් මේය. ජලගැ
ලීමෙන් පසු ඔවුන් විසින් පොලවෙහි
වර්ගයෝ බෙදනු ලැබුවෝය.

11. පරිච්ඡෙ. තවද මුළු පොලවෙහි
2 එකාකාර භාෂාවක් සහ කථාවක්ද වි
ය. ඔවුන් නැගෙනඉර දිසාවෙන් ගමන්
3 ගෙණ ෂිනාර්නම් දේසයෙහි සමභූමියක්
සම්භව එහි වාසය කලෝය. ඔවුන් ක
ථාකොට වරෙල්ලාය ගඩොල් සාදා හො
දට දවමුයයි කීවෝය. ගල් වෙනුවට
4 ගඩොල්ද හුනු වෙනුවට මැටි ජාතියක්
ද ඔවුන්ට තිබුනේය. ඔවුහුදු වරෙල්ලා
ය. සියළු පොලවෙහි අපි නොවිසිරෙ
ණ පිනිස නුවරක්ද අහස දක්වා මුදු
නක් ඇති කොටුවක්ද ගොඩනගා අ
5 පට නමක් සාදාගනිමුයයි කීවෝය. එ
විට මනුෂ්‍ය පුත්‍රයෝ ගොඩනගණ නුව
6 රද කොටුවද බලන පිනිස යෙහෝවඃ
වහන්සේ බැස්සසේක. යෙහෝවඃව
හන්සේද ලෝකයා එකෙක. ඔවුන් සි
යල්ලන්ට එක භාෂාවක. ඔවුන් මේක
කරන්ට පටන්ගත් හෙයින් ඔවුන් කල්
පනාකල සියළු දෙයින්ම යම් කිසිවක්
ඔවුන් කෙරෙන් වලකිනු නොලැබේ.
7 වරෙව් අපි බැස ඔවුනොවුන්ගේ කථා
කිරීම තේරුම් නොගනනා ලෙස ඔවුන්
ගේ භාෂාව අවුල්කරමුයයි වදාලසේක.
8 මෙසේ යෙහෝවඃවහන්සේ එතනින්
සියළු පොලෝතලයෙහි ඔවුන් විසිරවූ
සේක. ඔවුන් නුවර ගොඩනැගීම අත්
9 හැරියෝය. එහිදී යෙහෝවඃවහන්සේ
මුළු ලෝකයාගේ භාෂාව අවුල්කල බැ
වින් ඒක බාබෙල්නම් වේ. යෙහෝවඃ
වහන්සේ එතනින් මුළු පොලෝතලයෙ
හි ඔවුන් විසිරවූසේක.

10 ෂැම්ගේ පරම්පරාවල් මේය. ෂැම්හ
ට වයස් අවුරුදු සියයක්විය ඔහු ජල
11 ගැලීමෙන් දෑවුරුද්දකට පසු අර්පක්ෂද්
ඉපදවූයේය. ෂැම්ද අර්පක්ෂද් ඉපදවූ ප
සු අවුරුදු පන්සියයක් ජීවත්ව පුත්‍රයන්ද
දූවරුන්ද ඉපදවූයේය.

12 අර්පක්ෂද් පන්තිස් අවුරුද්දක් ජීවත්
13 ව සාලඃ ඉපදවූයේය. අර්පක්ෂද් සාලඃ ඉ
පදවූ පසු හාරසිය තුන් අවුරුද්දක් ජී
වත්ව පුත්‍රයන්ද දූවරුන්ද ඉපදවූයේය.

14 සාලඃ තිස් අවුරුද්දක් ජීවත්ව එබර්
15 ඉපදවූයේය. සාලඃද එබර් ඉපදවූ පසු
හාරසිය තුන් අවුරුද්දක් ජීවත්ව පුත්‍ර
යන්ද දූවරුන්ද ඉපදවූයේය.

16 එබර් තිස්හතර අවුරුද්දක් ජීවත්ව
17 පෙලෙග් ඉපදවූයේය. එබර්ද පෙලෙග්
ඉපදවූ පසු හාරසිය තිස් අවුරුද්දක් ජී
වත්ව පුත්‍රයන්ද දූවරුන්ද ඉපදවූයේය.

18 පෙලෙග් තිස් අවුරුද්දක් ජීවත්ව
19 රෙව් ඉපදවූයේය. පෙලෙග්ද රෙව් ඉ
පදවූ පසු දෙසිය නව අවුරුද්දක් ජීවත්
ව පුත්‍රයන්ද දූවරුන්ද ඉපදවූයේය.

20 රෙව් තිස් දෑවුරුද්දක් ජීවත්ව සෙ
21 රුග් ඉපදවූයේය. රෙව්ද සෙරුග් ඉප
දවූ පසු දෙසිය හත් අවුරුද්දක් ජීවත්
ව පුත්‍රයන්ද දූවරුන්ද ඉපදවූයේය.

22 සෙරුග් තිස් අවුරුද්දක් ජීවත්ව නා
23 හෝර් ඉපදවූයේය. සෙරුග්ද නාහෝර්
ඉපදවූ පසු දෙසිය අවුරුද්දක් ජීවත්ව
පුත්‍රයන්ද දූවරුන්ද ඉපදවූයේය.

24 නාහෝර් විසිනව අවුරුද්දක් ජීවත්ව
25 තෙරඃ ඉපදවූයේය. නාහෝර්ද තෙරඃ
ඉපදවූ පසු එකසිය දසනව අවුරුද්දක්
ජීවත්ව පුත්‍රයන්ද දූවරුන්ද ඉපදවූයේය.

26 තෙරඃද හැත්තෑ අවුරුද්දක් ජීවත්ව
ආබ්‍රම්ද නාහෝර්ද හාරන්ද ඉපදවූයේය.

27 තෙරඃගේ පරම්පරාවල් මේය. තෙ
රඃතෙම ආබ්‍රහම් නාහෝර් හාරන් ඉපද
28 වූයේය. හාරන්තෙම ලොත් ඉපදවූයේ

ය. හාරන් කස්දිවරුන්ගේ උර්නම් බ
29 හුගේ උපන් දේශයෙහි තමාගේ පියවූ
තෙරඃහට ප්‍රථමයෙන් මෙලේය. අබ්‍රම්
සහ නාහොර් භායර්‍ෂාවන් පාවාගත්තෝ
ය. අබ්‍රම්ගේ භායර්‍ෂාවගේ නම සාරා
යිය. නාහොර්ගේ භායර්‍ෂාවගේ නම මිල්
30 කාය. ඈ මිල්කා සහ ඉස්කාගේ පියවූ
හාරන්ගේ දූය. සාරායි වදිව දරුවෙක්
31 නොලැබූවාය. තෙරඃද තමන්ගේ පුත්‍ර
වූ අබ්‍රම්ද තමන් පුත්‍රවූ හාරන්ගේ පුත්
වූ ලොත්ද තමන් යෙහෙලිවූ අබ්‍රම්
ගේ භායර්‍ෂාවූ සාරායිද කැඳවාගෙණ බ
වුන් හා සමග කානාන්දේශයට යන පි
නිස කස්දිවරුන්ගේ උර්නම් නුවරින්
පිටත්ව හාරම්නම් රටට පැමින එහි වා
32 සය කලේය. තෙරඃගේ වයස් දෙසිය
පස් අවුරුද්දක්විය ඔහු හාරන්හිදී මෙ
ලේය.

12. පරිච්ඡ. යෙහෝවඃවහන්සේ
අබ්‍රම්හට කියනසේක් තාගේ නෑයන්
ගෙනු තාගේ පියාගේ ගෙයින්ද ගොස්
2 මම පෙණවනනාවූ දේශයට යව. තා
ගෙන් මහත් ජාතියක් උපදවා තට ආ
ශිර්වාදකොට තාගේ නාමය මහත්කර
3 නෙනම්. තෝ ආශිර්වාදයක් වෙනෙහි
ය. තට ආශිර්වාදකරනනාට මමත් ආශි
ර්වාද කරන්නෙම් තට සාපකරනනාට ම
මත් සාපකරන්නෙම්. ලෝකයෙහි සිය
ළු ගෝත්‍රයෝද තා කරනකොටගෙණ
4 ආශිර්වාද ලබනෙනෝයයි කීසේක. එබැ
වින් ඔහු යෙහෝවඃවහන්සේ කී ලෙසම
පිටත්ව ගියේය. ලොත්ද ඔහු සමග ගි
5 යේය. අබ්‍රම් හාරනෙන් ගියකල ඕහට
පන්සැත්තෑ අවුරුද්දක්විය. ඔහු තමා
ගේ භායර්‍ෂාවූ සාරායිද තමාගේ සහෝ
දරයාගේ පුත් ලොත්ද ඔවුන් එක්කාසු
කල සියළු වස්තුවද ඔවුන් හාරන්හි
6 ලැබූ අයවල්ද අරගෙණ කානාන් දේ
සයට යන පිනිස ගොස් කානාන් දේස
යට පැමින ඒ දේසය මැදින් සිකැම්නම්
ස්ථානයෙහි මොරඃගේ අලොන් වෘක්ෂ
7 ලඟට ගියේය. ඒ කාලයෙහි කනාන්ව
රු දේසයෙහි සිටියෝය. යෙහෝවඃව
හන්සේ අබ්‍රම්හට පෙනී මේ දේසය
තාගේ වංශයට දෙනෙනම්යි කීසේක.
ඔහු එතැන්හි තමාට පෙනුනාවූ යෙ
හෝවඃවහන්සේට පූජාසනයක් ගොඩ
නැගුයේය.

8 අබ්‍රම්ද එයින් බැතැල් යන ස්ථාන
යට නැගෙනහිර දිසාවෙහි පර්වතයකට
ගොස් බස්නාහිර දිසාවෙහි බැතැල් ස
හ නැගෙනහිර දිසාවෙහි හයි යන ස්ථා
නවල් අතරෙහි තමාගේ කූඩාරම තබා
ගන එතැන්හි යෙහෝවඃවහන්සේට
9 පූජාසනයක් ගොඩනගා යෙහෝවඃව
හන්සේට යාඥාකොට ගමන්ගෙන දකු
නු දිසාවට ගියේය.
10 ඒ දේසයෙහි සාගතයක් විය. අබ්‍රම්
ද දේසයෙහි සාගතය මහත් බැවින්
11 මිසර දේසයෙහි වසන පිනිස එයින්
ගොස් මිසර දේසයට ඇතුල්වෙන්ට
ලන්වූකල නුබ දැකීමට ප්‍රියවූ ස්ත්‍රියක්
12 බව දනිම් එබැවින් මිසර වැසියෝ නු
බ දක්නාවිට මේ මොහුගේ භායර්‍ෂාවය
13 යි කියා මා මරා නුබ ඉතුරුකරති නුබ
නිසා මට යහපතක් වෙන පිනිස නුබ
මාගේ සහෝදරියයි කීවත් යහපත. එ
විට නුබ නිසාම මාගේ ප්‍රානය ගැලවෙ
14 නෙය්යයි තමාගේ භායර්‍ෂාවූ සාරායිහ
ට කීයේය. අබ්‍රම්ද මිසරයට පැමිණි
15 කල ඒ ස්ත්‍රිය ප්‍රියවූ බව මිසර වැසියෝ
දුටුවෝය. ඵාරාවෝගේ ඇමතිවරු ඈ
දැක ඵාරාවෝ ඉදිරියෙහි ඈට ප්‍රසංසා
16 කොට ඵාරාවෝගේ ගෙට ඈ ගෙණ ගි
යෝය. ඵාරාවෝ ඈ නිසා අබ්‍රම්හට
සත්කාර කලේය. බැටළුවෝද ගවයෝ
17 ද කොටළුවෝද දාසි දාසයෝද කොටළු
දෙන්නුද ඔටුවෝද ඕහට වූවෝය. යෙ
හෝවඃවහන්සේ අබ්‍රම්ගේ භායර්‍ෂාවූ සා
රායි නිසා ඵාරාවෝහටද ඔහුගේ ගෙයි
18 වැසියන්ටද මහත්වූ පීඩාවලින් පීඩාක
19 ලසේක. එවිට ඵාරාවෝ අබ්‍රම් කැඳවා
මට කලේ මොකද. ඒ නුබේ භායර්‍ෂාව
බව නොකීවේ මක්නිසාද. ඈ නුබේ ස
හෝදරියයි කීවේ මන්ද. ඒ හැවියට ඈ
භායර්‍ෂාවකොට ගන්ට මට පුළුවන. දැන්
20 නුබේ භායර්‍ෂාව අරගෙණ පලයන්නැයි
ඕහට කීයේය. ඵාරාවෝ ඔහු ගැන තමා
ගේ වැඩකාරයින්ට අන දුනෙන්ය. ඔ
වුන් ඔහු සහ ඔහුගේ භායර්‍ෂාවද ඔහු
සන්තක සියල්ලද ඇරියෝය.

13. පරිච්ඡ. අබ්‍රම් තමාගේ භායර්‍ෂා
ව සහ තමා සන්තක සියල්ල අරගෙන
මිසර දේසයෙන් නික්ම ලොත් සමග
2 කානාන්දේසයෙහි දකුනු පලාතට ගි
3 යේය. ඔහු සිවුපාවුන්ගෙන් ද රන් රිදී

යෙඳු ඉතා වස්තුකාරයෙක් විය. ඔහු
දකුණු දිගින් ගමන් ගෙන බැතැල් යන
4 රටට පැමිණ බැතැල් සහ හයි අතරෙ
හි පලමුවෙන් ඔහුගේ කූඩාරමද ඔහු
විසින් සෑදූ පූජාසනයද තිබුනාවූ ස්ථාන
යට ගොස් එතැන්හි යෙහෝවඃවහන්
සේට යාඥකලේය.

5 ආබ්‍රම් සමග ගියාවූ ලොත්හට බැට
6 එවෝද ගවයෝද කූඩාරම්ද වූවෝය.
ඔවුන්ගේ වස්තුව බොහෝ නිසා ඒ දෙ
නනාගේ සිටිමට රටේ අවකාස මදිහෙ
7 යින් එක්ව වසන්ට ඔවුන්ට නුපුළුවන්
විය. ආබ්‍රම්ගේද ලොත්ගේද එඬේ
රුන් අතරෙහි දබරයක් විය. එකල්හි
8 ම කනානිවරුද පෙරිසිවරුද ඒ දේස
යෙහි සිටියෝය. එවිට ආබ්‍රම් අපි ස
හෝදරයන් නිසා මා සහ නුඹ අතරෙ
හිද මාගේ එඬේරුන් සහ නුඹේ එඬේ
9 රුන් අතරෙහිද දබරයක් නොවේවා.
සියළු දේසය නුඹ ඉදිරියෙහි නොවේද
මා කෙරෙන් වෙන්ව යනොත් යහපත.
නුඹ වම්දිගට යනෙනහිනම් මම දකුණු
දිගට යනෙනම්. නුඹ දකුණු දිගට යන්
නෙහිනම් මම වම් දිගට යනෙනම්යි
10 ලොත්හට කීයේය. ලොත්ද ඇස් ඔස
වා යොර්දන් සමීපයෙහිවූ සියළු සම
භූමිය බැළුයේය. යෙහෝවඃවහන්සේ
සොදෝම් සහ ගොමෝරාද විනාසකලා
ට පලමුවෙන් සොවර්ට යන පාරේදී ඒ
ක යෙහෝවඃවහන්සේගේ උයනමෙන්
11 මිසර දේසයමෙන් ජලසම්පන්නවිය. එ
විට ලොත් යොර්දන් සමීපයෙහිවූ සම
භූමිය තෝරාගෙන නැගෙනහිර දිසාව
ට ගියේය. ඔවුන් තමතමන් කෙරෙන්
12 වෙන්වූවෝය. ආබ්‍රම් කානාන් දේස
යෙහි සිටියේය. ලොත්ද සමභූමියෙහි
නුවරවල වාසයකොට ඔහුගේ කූඩාර
13 ම සෝදෝම් නුවර කිට්ටුව තබාගත්
තේය. එහෙත් සොදෝම් නුවර වැසි
යෝ යෙහෝවඃවහන්සේගේ ඉදිරියෙ
හි අතිසෙයින් දුෂ්ටවූ පව්කාරයෝ වූ
වෝය.

14 ආබ්‍රම් කෙරෙන් ලොත් ගියපසු යෙ
හෝවඃවහන්සේ ආබ්‍රම්ට කථාකොට
15 තෝ දක්නාවූ සියළු දේසය තටද තා
ගේ වංශයටද සදාකාලේටම දෙනෙනම්.
ඒ නිසා තාගේ ඇස් ඔසවා සිටිනනාවූ
ස්ථානය පටන් උතුරුදිගද දකුණුදිගද
16 පූර්වදිගද පස්චිමදිගද බලව. තාගේ ව
ශය භූමියෙහි දූවිලිමෙන් කරන්නෙමි.
මනුෂ්‍යයෙකුට භූමියෙහි දූවිලි ගනන්
17 කරන්ට පුළුවන්නම් තාගේ වංශයද ග
නන්කරන්ට පුළුවන. නැගිට දේසයෙ
හි දිගටද පලලටද යව ඒක තට දෙන්
18 නෙමියි කීයේක. එවිට ආබ්‍රම් තමාගේ
කූඩාරම අරගන හෙබ්‍රොන් දේසයෙ
හිවූ මම්රේගේ අලොන් වෘක්ෂයට ඇවිත්
එහි වාසයකොට යෙහෝවඃවහන්සේට
පූජාසනයක් ගොඩනැගුයේය.

14. පරිච්ඡේ. සිනාර්හි රජවූ අම්රාපෙල්
ගේද එල්ලාසර්හි රජවූ අරයොක්ගේද
එලම්හි රජවූ කෙදෝර්ලායොමැර්ගේ
2 ද වංශයන්ගේ රජවූ තිදල්ගේද කාල
යෙහි මොවුන් සොදෝම්හි රජවූ බෙරා
ද ගොමෝරෙහි රජවූ බිර්ෂාද අද්මඃගේ
රජවූ සිනබ්ද සෙබොයිම්හි රජවූ ෂෙ
මෙබැර්ද බෙලානම්වූ සොවර්හි රජද
3 යන මොවුන්ට එදිරිව යුඩකලෝය. එ
4 නු මූදනම්වූ සිදිම් යන මිටිතැන්හිදී මේ
සියල්ලෝම රුස්වූවෝය දොලොස් අවු
රුද්දක් කෙදෝර්ලායොමැර්හට මෙ
5 හෙකොට දහතුන්වෙනි අවුරුද්දෙහි
කැරලිගැසුවෝය. දහහතරවෙනි අවු
රුද්දෙහි කෙදෝර්ලායොමැර්ද ඔහු ස
මග සිටියාවූ රජදරුවෝද ඇවිත් අෂ්ති
රොත්කර්නයිම්හිදී රෙපායිම්වරුන්ටද
හම්හිදී සූසිම්වරුන්ටද ෂෙවඃකිරියාත
6 යිම්හිදී එම්ම්වරුන්ටද වනාන්තරය ලඟ
වූ එල්පරන් දක්වා සීර්නම්වූ ඔවුන්ගේ
7 කන්දෙහිදී හොරිවරුන්ටද පහර දී එ
තැනින් හැරී කැදෙස්නම් එන්මිස්පත්
ට ඇවිත් අමලකිවරුන්ගේ සියළු දේ
සයටද හසෙසොන් තාමර්හි සිටියාවූ සි
8 යළු අමෝරිවරුන්ටද පහරදුනෝය.
එවිට සොදෝම්හි රජද ගොමෝරෙහි
රජද අද්මඃහි රජද සෙබොයිම්හි රජද
බෙලානම්වූ සොවර්හි රජද යන රජුන්
9 පස්දෙනෙක් පිටතට ගොස් එලම්හි ර
ජවූ කෙදෝලීයොමැර්ද වංශයන්ගේ
රජවූ තිදල්ද සිනාර්හි රජවූ අම්රාපෙල්ද
එල්ලාසර්හි රජවූ අරියොක්ද යන රජුන්
හතර දෙනෙකුට එදිරිව යුඩකලෝය.
10 සිදිම් යන මිටිතැන සෙවෙල් වලවලින්
පිරී තිබුනේය. සොදෝම් සහ ගොමෝ
රෙහි රජහු සැඟවී ගොස් එහි වැටුනු
නෝය. ඉතිරිවූ අයවල් පර්වතයට පලාගි
11 යෝය. එකල සොදෝම් සහ ගොමෝ

රෙහි සියළු වස්තුවද ආහරයද සොදොම්
12 හි සිටියාවූ අබ්‍රම්ගේ සහෝදරයාගේ
පුත්වූ ලොත් සහ ඔහුගේ වස්තුවද අර
ගෙන ගියෝය.

13 එවිට සැඟවී ගියාවූ කෙනෙක් ඇවිත්
එස්කොල් සහ අනැර්ගේ සහෝදරවූ
මම්රේනම්වූ අමෝරියයාගේ අලොන්
වෘක්‍ෂ ලඟ වාසයකරනනාවූ හෙබ්‍රෙව්වූ අ
බ්‍රම්හට දැන්විය. ඒ තුන්දෙනම අබ්‍රම්
14 සමග එකඟවූවෝය. අබ්‍රම් තමාගේ ස
හෝදරයා අහුවුන බව අසා ඔහුගේ
ගෙයි උපන් දක්‍ෂවූ වැඩකාරයන්ගෙන්
තුන්සිය දස අට දෙනෙකුට ආයුධ දී
15 දන් දක්වා ඔවුන් එලවාගෙන ඔවුන්ට
එදිරිව තමන් සහ තමාගේ වැඩකාර
යින් බෙදාගෙන රාත්‍රියෙහි ඔවුන් කො
ටා දමස්කසයෙන් වම් පැත්තෙහිවූ හො
16 බා දක්වා ඔවුන් එලවාගන සියළු වස්
තුව සහ ස්ත්‍රීන්ද පිරිස්ද තමන්ගේ ස
හෝදරවූ ලොත් සහ ඔහුගේ වස්තුවද
හරවාගෙන ආයේය.

17 ඔහු කොදෙලාඕමැර් සහ ඔහු සම
ග සිටියාවූ රජුන්ගෙන් ජය ගෙන ආ
කල්හි සොදොම්හි රජ ෂාවේඃ නිම්න
ස්ථානයනම්වූ රජහුගේ මිටි තැන දක්
18 වා ඔහුගේ පෙරමගට ගියේය. මහෝත්
තම දෙවියන්වහන්සේගේ පූජකවූ මල්
19 කිසදෙක් රොටි හා මුද්‍රිකපානය ගෙන
වුත් අබ්‍රම්හට ආශීර්වාද කරමින් අහසත්
පොලවත් අයිතිවූ ඉතා උතුම්වූ දෙවිය
න්වහන්සේගෙන් අබ්‍රම්හට ආශීර්වාද වේ
20 වා නුඹේ සතුරන් නුඹේ අතට පාවා
දුන් මහෝත්තමවූ දෙවියන්වහන්සේට
ආශීර්වාද වේවයි කියේය. අබ්‍රම්ද සියල්
ලෙන් දහයෙන් කොටසක් ඕහට දුන්
නේය.

21 සොදොම්හි රජ ජනයන් මට දී වස්
තුවද නුඹටම ගණිනනැයි අබ්‍රම්හට කී
22 ය. අබ්‍රම්ද තරුණයන් කෑ දේ සහ මා
සමග ගියාවූ අනැර්ද එෂ්කොල් සහ
23 මම්රේගේ කොටසත් හැර මම අබ්‍රම්
පොහොසත් කෙලෙම්යි නුඹ නොකි
යන පිනිස නූලක් පමනවත් මිරිවැඩි ප
ටියක් පමනවත් නුඹට තිබෙන කිසි
දෙයකුත් නොගන්නෙමියි අහසත් පො
ලවත් අයිතිවූ මහෝත්තම දෙවිවූ යෙ
24 හෝවඃවහන්සේට මාගේ අත ඔසවා
දිව්වෙලෙම්. නුඹුත් ඒ මනුෂ්‍යයෝ තමන්
ගේ කොටස් ගනිත්වයි ඕහට කීවෝය.

15. පරිච්ඡෙ. මින් පසු යෙහෝවඃව
හන්සේගේ වචනය දර්ශනයකින් අබ්‍රම්
වෙතට පැමින අබ්‍රම් භයනොවව තා
ගේ පලිහ සහ ඉතා මහත්වූ විපාකයද
2 මමයයි කීසේක. අබ්‍රම්ද ස්වාමිවූ යෙ
හෝවඃවහන්ස මට දරුවෙක් නැත.
එහෙයින් ඔබවහන්සේ මට දෙනෙන්
මොකද මාගේ ගෙයි භාඩාගාරිකනම්
3 දමස්කයෙහි මේ එලියාසර්යයි කීයේය.
අබ්‍රම්ද ඔබවහන්සේ කිසි දරුවෙක් ම
ට නුදුන්සේක. මාගේ ගෙයි උපන් කෙ
නෙක් මාගේ උරුමක්කාරයායයි කී
4 යේය. එවිට යෙහෝවඃවහන්සේගේ
වචනය ඔහු වෙතට පැමින තා ඉපදෙව්
වාවූ කෙනෙක් තාගේ උරුමක්කාර
යා වන්නේය. මොහු තාගේ උරුමක්
5 කාරයා නොවන්නේයයි කීසේක. තවද
ඔහු පිටතට කැදවාගෙන දැන් අහස
දෙස බලා තාරකා ගනන්කරන්ට හැ
කිනම් එහි ගනන කියව තාගේ වංශය
6 එසේම වන්නේයයි ඕහට කීසේක. ඔහු
යෙහෝවඃවහන්සේ කෙරෙහි විශ්වාස
කෙලේය. උන්වහන්සේ ඒක ධර්මිෂ්ඨ
කම වෙනුවට ගනන්ගත්සේක.

7 උන්වහන්සේද කථාකොට මේ දේස
ය හිමිවෙන්ට තට දෙන පිනිස කල්දි
වරුන්ගේ උර්නම් නුවරින් තා ගෙනා
වාවූ යෙහෝවඃවහන්සේ මමයයි ඔහුට
8 කීසේක. ඔහු ස්වාමිවූ යෙහෝවඃවහන්
ස ඒක හිමිවනෙනාම්යි කෙසේ දැනග
නිම්දැයි කීය. උන්වහන්සේ වදාරන
9 සේක් තුන් අවුරුදු වැස්සියක්ද තුන්
අවුරුදු එළුදෙනක්ද තුන් අවුරුදු බැ
ටළුවෙක්ද කොබෙය්යෙකු සහ පරවි
පැටියෙක්ද මට ගෙනෙවයි ඕහට වදා
10 ලසේක. එවිට අබ්‍රම් මේ සියල්ලන් අර
ගෙන ඔවුන් දෙපළුකොට එක් පළුවක්
ඉදිරියෙහි අනිකක් බැගින් තැබීය. එ
11 හෙත් පක්‍ෂීන් දෙපළු නොකෙලේය. ප
ක්‍ෂීන් මල ශරීරයන් පිටට බසින කල
ඔහු උන් එලෙව්වේය. ඉර බස්නා කල
බරවූ නිඳක් සහ මහත් භයානකවූ අන්
ධකාරයක්ද ඔහු කෙරෙහි පැමිනියේය.

12 උන්වහන්සේ අබ්‍රම්හට වදාරනසේක්
තාගේ වංශය තමන් සන්තක නොවෙ
නනාවූ දේසයෙක්හි විදේසි වෙන බවද
13 ඔවුන්ට මෙහෙකරන බවද සැබවින් දැ
නගනුව ඒ දේසවාසීහු අවුරුදු හාරසිය
14 යක් ඔවුන්ට පීඩාකරන්නෝය. ඔවුන්

මෙහෙකරන්නාවූ වර්ගය විනිශ්චයකර
න්නෙමි. එසින් පසු බොහෝ වස්තු සම
15 ග ඔවුන් එතනින් එන්නෝය. තෝ ස
මාදානයෙන් තාගේ පියවරුන් වෙතට
ගොස් වෘද්ධ වයසේදී තැන්පත්කරනු ල
16 බන්නෙහිය. අමෝරිවරුන්ගේ අධර්ම්
ෂ්ඨකම තවම සම්පූර්ණ නැතිනිසා සත
රවෙනි පරම්පරාවෙහි දෙවන්නූ මෙහි එ
17 න්නෝයයි ආබ්‍රම්හට වදාලසේක. ඉර
බැස අඳුරුවූකල දුම් නගින උදුනක්ද
දිලිහෙන්නාවූ පහනක්ද ඒ පළු අත
18 රෙන් ගියේය. ඒ දවසෙහිම යෙහෝවා
වහන්සේ මිසරයෙහි ගඟාව පටන් ම
හත්වූ ප්‍රාත්නම් ගඟාව දක්වා තිබෙන්
19 නාවූ කෙනිවරුන්ගේද කෙනිසිවරුන්
ගේද කද්මොනිවරුන්ගේද හිතිවරුන්
20 ගේද පෑරසිවරුන්ගේද රෙපායිම්ව
21 රුන්ගේද අමෝරිවරුන්ගේද කනානි
වරුන්ගේද ගිර්ගාසිවරුන්ගේද යෙබු
සිවරුන්ගේද සියළු දේසය තාගේ වංශ
යට දුනිමියි කියමින් ආබ්‍රම් සමග ගිවිසු
මක් කලසේක.

16. පරිච්ඡෙ. ආබ්‍රම්ගේ භාර්‍යාවූ සා
රායි දරුවන් නොවැදුවාය. ඈට හාගර්
නම් මිසරදේස වාසිවූ දාසියක් වූවාය.
2 සාරායිද යෙහෝවාවහන්සේ දරු ඵලක්
ලැබීමෙන් මා වැලැක්වූසේක. මාගේ
දාසි කරණකොටගෙන මා දරුවන් ල
බන පිනිස ඈ වෙතට පැමිනෙන්නැයි
3 ආබ්‍රම්හට කීවාය. ඔහු සාරායිගේ කීමට
කන් දුන්නේය. ආබ්‍රම්ගේ භාර්‍යාවූ සා
රායි හාගර්නම් තමාගේ මිසරීය දාසිය
ගෙන ආබ්‍රම් කානාන් දේසයෙහි දස
අවුරුද්දක් සිටියායින් පසු තමාගේ පු
රුෂවූ ආබ්‍රම්හට භාර්‍යාවක් කොට පා
4 වා දුන්නාය. ඔහු ඈ වෙතට පැමිනියේ
ය ඈ ගර්භිනිවූවාය. ඈ ගර්භිනිවූ බව
දැන ඈගේ ස්වාමිදුවට අගෞරව කලා
5 ය. සාරායිද මේ දෝසය නුඹ කෙරෙහි
වේවා මාගේ දාසිය නුඹගේ ලයට දුනිමි
ඈ ගර්භිනිවූ බව දැන මට අගෞරව ක
ලාය. මා සහ නුඹ අතරෙහි යෙහෝවා
වහන්සේ විනිශ්චයකරනසේක්වයි ආ
6 බ්‍රම්ට කීවාය. එවිට ආබ්‍රම් නුඹේ දාසි
නුඹේ අතෙහිය කැමති ලෙස ඈට ක
රපන්නැයි සාරායිහට කීයේය. සාරායි
ඈට පීඩාකල කල්හි හාගර් ඈ කෙ
රෙන් සැඟවී ගියාය.
7 යෙහෝවාවහන්සේගේ දූතයා සූර්
8 යන පාරේ වනාන්තරයෙහි උල්පත ලඟ
දී ඈ දැක සාරායිගේ දාසිවූ හාගර් නො
තැන්හි සිට ආවාද කොතැනට යනවා
දැයි ඇසුයේය. මාගේ ස්වාමිදුවූ සාරායි
9 ගේ ඉදිරියෙන් සැඟවී යමියි කීවාය. යෙ
හෝවාවහන්සේගේ දූතයා තීගේ ස්වා
මිදුව වෙතට හැරී ඈට යටත්වවයි කී
10 සේක. තවද උන්වහන්සේ කියනසේක්
තීගේ වංශය ගනන්කරන්ට බැරිවූ සමූ
11 හ වසයෙන් ඉතා වැඩිකරන්නෙමි. තී
ගර්භිනිව පුත්‍රයෙක් වදන්නීය. යෙහෝ
වාවහන්සේ තීගේ දුක ඇසූසෙයින් ඒ
12 පුත්‍රයාට ඉෂ්මායෙල්යයි නම් තබව. ඔ
හු වනචරයෙක්ව ඔහුගේ අත සියළු ම
නුෂ්‍යයින්ට එදිරිවද සියළු මනුෂ්‍යයින්
ගේ අත ඔහුට එදිරිවද වන්නේය. ඔහු
ගේ සියළු සහෝදරයන්ගේ ඉදිරියෙහි
13 ඔහු වාසයකරන්නේයයි කීසේක. ඈ
මා දක්නාවූ උන්වහන්සේ දෙස නො
14 බැලිම්දැයි කියමින් මා දක්නාවූ දෙවිය
න්වහන්සේ යන අර්ථ ඇති නාමය ඈට
කථාකලාවූ යෙහෝවාවහන්සේට තැ
15 බුවාය. එබැවින් ඒ ළිඳට බියෙර්ලහ
රොයි යන නමක් විය. ඒක කාදෙශ් ස
හ බෙරෙද් අතරෙහිය.
16 හාගර් ආබ්‍රම් නිසා පුතෙක් වැදුවාය.
ආබ්‍රම් ඔහු නිසා හාගර් වැදූ පුත්‍රයාට
ඉෂ්මායෙල්යයි නම් තැබුයේය. හාගර්
ආබ්‍රම් නිසා ඉෂ්මායෙල් වැදූ කල ආබ්‍රම්
ගේ වයස් අසූ සාවුරුද්දක් විය.

17. පරිච්ඡෙ. ආබ්‍රම් අනූ නව අවුරු
දු වයසට පැමිනිකල යෙහෝවාවහන්
සේ ඔහුට පෙනී සර්වපරාක්‍රමවූ දෙවියන්
වහන්සේ මමය මා ඉදිරියෙහි හැසිර නි
2 ර්මලවව. මා සහ තා අතරෙහි මාගේ
ගිවිසුම කොට බොහෝසෙයින් තා වැ
3 ඩිකරන්නෙමියි කීසේක. ආබ්‍රම් ඔහුගේ
මුහුනින් වැටුනේය. එවිට දෙවියන්ව
හන්සේ ඔහු සමග කථාකරමින් මාගේ
4 ගිවිසුම තා සමගය. තෝ බොහෝ ජා
5 තීන්ගේ පියෙක් වන්නෙහිය. තා බො
හෝ ජාතීන්ට පියෙක් කල බැවින් තා
ගේ නාමය තවත් ආබ්‍රම් නොව ආබ්‍ර
6 හම්යයි කියවන්නේය. තා අතිසෙයින්
සඵලකොට රජදරුවන් තා කෙරෙන්
නික්මෙන ලෙස තාගෙන් නොයෙක්
7 ජාතීන් උපදවා තටද තාගෙන් පසු තා

ගේ වංශයටද දෙවිකෙනෙක් වෙන පි
නිස මා අතරෙහිද තා සහ තාගෙන් ප
සු තාගේ වංශය අතරෙහිද ඔවුන්ගේ
පරම්පරාවල සදාකාල ගිවිසුමක් කොට
8 මාගේ ගිවිසුම පිහිටුවනෙනම්. තෝ වි
දේසකයෙක්ව වාසයකරනාවූ කනාන්
ගේ සියළු දේසය තටද තාගෙන් පසු
තාගේ වංශයටද සදාකාල උරුමයක්
කොට දෙනෙනම්. මම ඔවුන්ගේ දෙවි
වනෙනම්යි කීසේක.

9 තවද දෙවියන්වහන්සේ වදාරනසේක්
තෝද තාගෙන් පසු තාගේ වංශයද ත
10 මන් පරම්පරාවල මාගේ ගිවිසුම රකිව්.
මා අතරෙහිද තා සහ තාගෙන් පසු තා
ගේ වංශය අතරෙහිද තොපි රක්ෂාකරන
මාගේ ගිවිසුමනම් තොපි අතරෙහි සියළු
පිරිමිදරුවන් චර්මච්ඡෙදයකරනු ලබන්
11 නෝය. තොපි තොපගේ චර්මාග්‍රයෙහි
මාංසය ඡෙදය කරන්නෝය. ඒක මා ස
හ තොප අතරෙහිද ඇත්තාවූ ගිවිසුමෙ
12 හි ලකුනක් පිනිස වන්නේය. තොපගේ
පරම්පරාවල තොපේ ගෙයි උපනාවූ
පිරිමි දරුවෝද විදේසියෙකුගෙන් මිල
දීගත් තොපගේ වංශයෙහි නොවූ සියළු
පිරිමි දරුවෝද අටදවස් පිරුනුකල ච
13 ර්මඡෙදය කරනු ලබන්නෝය. තාගේ
ගෙයි උපන් තැනැත්තාවත් තාගේ මිල
යෙන් ගත් තැනැත්තාවත් චර්මඡෙද
ය ලැබිය යුතුමය. මාගේ ගිවිසුම සදාකා
ල ගිවිසුමක් කොට තොපගේ මාංසයෙ
14 හි පවත්නේය. ඡෙදය නොකරණලද
චර්මාග්‍ර මාංසය ඇත්තාවූ අචර්මඡෙදිවූ පි
රිමි දරුවෙක් තමන්ගේ ජනයන් කෙ
රෙන් පහවන්නේය. ඔහු මාගේ ගිවිසු
ම කඩකලේයයි කීසේක.

15 තවද දෙවියන්වහන්සේ කියනසේක්
තාගේ භාර්යාවූ සාරයි ගැන ඇගේ න
16 ම තවත් සාරයි නොව සාරාඃ කියනෙන
හිය. මම ඇට ආශිර්වාදකොට ඇගෙන්
තට පුත්‍රයෙක්ද දෙනෙනම්. ඒ එසේම
ය. ඇට ආශිර්වාදකොට ඇද ජාතීන්ගේ
මවක් වන්නිය. ජනයන්ගේ රජදරු
වෝද ඇගෙන් නික්මෙන්නෝයයි ආබ්‍ර
17 හම්හට කීසේක. එවිට ආබ්‍රහම් මුනින්
වැටි සිනාසී සියක් අවුරුදු වයස්වූ තැ
නැත්තෙකුට දරුවෙක් උපදින්නේද
අනූ අවුරුදු වයස්වූ සාරාඃ ගර්භිනිවන්
18 නිදැයි සිතාගෙන අහෝ ඉස්මායෙල්
19 ඔබවහන්සේ ඉදිරියෙහි ජීවත්වේවයි
දෙවියන්වහන්සේට කීය. එවිට දෙවියන්
වහන්සේ තාගේ භාර්යාවූ සාරාඃ සැබ
වින් තට පුත්‍රයෙකු වදන්නීය. තෝද ඕ
හට ඊසාක්යයි නම් තබව. මම මාගේ ගි
විසුම ඔහු සමගද ඔහුගෙන් පසු ඔහුගේ
20 වංශය සමගද සදාකාල ගිවිසුමක්කොට
පිහිටුවන්නෙම්. මම ඉස්මායෙල් ගැන
තාගේ බස් අසා ඕහට ආශිර්වාදකෙලෙ
මි. ඔහු සඵලකරමින් බොහෝ සෙයින්
වැඩිකරනෙනම්. ඔහු අදිපතීන් දො
ලොස් දෙනෙක් උපදවන්නේය. මමද
21 ඔහු මහත් වර්ගයක් කරනෙනම්. එ
හෙත් සාරාඃ එන අවුරුද්දේ මෙම කාල
යෙහිදී තා නිසා වදනාවූ ඊසාක් සම
22 ග මාගේ ගිවිසුම පිහිටුවනෙනම්යි වදාල
සේක. දෙවියන්වහන්සේද ආබ්‍රහම් සම
ග කථාකිරිම නිමවා ඔහු කෙරෙන් නැ
ගී ගියසේක.

23 ආබ්‍රහම් දෙවියන්වහන්සේ තමාහට ව
දාල ලෙස එම දවසෙහිම තමාගේ පුත්‍රවූ
ඉස්මායෙල්ද තමාගේ ගෙයි උපන් සිය
ල්ලන්ද තමා මිල දී ගත් සියල්ලන්ද තමා
ගේ ගෙයි අයවල් අතරෙහි සියළු පුරුෂ
සින්ද රැගෙණ ඔවුන්ගේ චර්මාග්‍ර මාංසය
24 ඡෙදය කෙලේය. ආබ්‍රහම් තමාගේ ච
ර්මාග්‍ර මාංසයෙහි චර්මඡෙදය කරනු ලබ
25 න කල්හි ඕහට අනූ නව අවුරුදු වයස්
වූයේය. ඔහුගේ පුත්‍රවූ ඉස්මායෙල් දහ
තුන් අවුරුදු වයස්වූ කල්හි ඔහුගේ ච
ර්මාග්‍ර මාංසයෙහි චර්මඡෙදය කරනු ලැ
26 බූයේය. එම දවසෙහිම ආබ්‍රහම්ද ඔහු
27 ගේ පුත්‍රවූ ඉස්මායෙල්ද චර්මඡෙදය ක
රනු ලැබූවෝය. ඔහුගේ ගෙයි සියළු පු
රුෂයෝද ගෙයි උපනෙනෝද විදේසීන්
ගෙන් මිල දී ගත්තෝද ඔහු සමග චර්ම
ඡෙදයකරනු ලැබූවෝය.

18. පරිචෙජ. යෙහෝවාඃවහන්සේ
මම්රේගේ අලොන් වෘක්ෂය ලඟ සිට ඕහ
ට පෙනුනුසේක. ඔහු ඉරමුදුන් වේලෙ
2 හි කූඩාරම් දොරකඩ හිඳගෙණ ඇස් ඔ
සවා බලා ඔහු ඉදිරියෙහි සිටියාවූ මනුෂ්‍ය
යන් තුන්දෙනෙක් දැක කූඩාරම් දොර
3 කඩින් ඔවුන්ගේ පෙරමගට දිවගොස් බි
මට නැමී මාගේ ස්වාමිනි මට කරුණාව
ඇත්නම් නුබවහන්සේගේ මෙහෙකරු
4 වා කෙරෙන් නොගොස් පැන් ටිකක්
ගෙණ එන්ට අවසර දී නුබවහන්සේලා
ගේ පාද සෝදා වෘක්ෂය යට නිවාඩුගනම

5 නව. මම රොටි ටිකක් ගෙනෙමි. නුඹව
හන්සේලාගේ හෘදය සනසා ගියමැනව.
මේ නිසා නුඹවහන්සේලාගේ මෙහෙක
රුවා වෙතට ආවෝයයි ඔවුන්ට කීයේ
6 ය. ඔවුහුද තෝ කී ලෙස කරවයි කීවි
ට ආබ්‍රහම් කූඩාරමේ සිටි සාරාඃගේ ල
ඟට වහාම ගොස් සිහින් පිටියෙන් නැලි
තුනක් ඉක්මනින් සූදානම්කොට අනා
7 ලිපෙහි රොටි සාදපනහැයි කීයේය. එ
විට ගව රැලට දිව නාඹුවූ යහපත් වස්
සෙකු ගෙණවුත් තරුණයාට දී ඒ පිලි
යෙල කරන්ට ඉක්මන්කරමින් ගිතෙල්
8 හා කිරිද ඔහු පිලියෙලකල වස්සාද ගෙ
නවුත් ඔවුන් ඉදිරියෙහි තබා වෘක්ෂය ය
ට ඔවුන් ලඟ සිටියේය. ඔවුන් කෑවෝය.
9 ඔවුන් තාගේ භාර්‍ය්‍යාවූ සාරාඃ කො
10 හැන්හිදැයි ඇසූවෝය. කූඩාරමෙහියයි
කීයේය. එවිට උන්වහන්සේ නියම කාල
ය ලෙසට සැබවින් තා වෙතට නැවත
එනෙනම්. තාගේ භාර්‍ය්‍යාවූ සාරාඃ පුත්‍ර
යෙක් ලබන්නියයි කීසේක. සාරාඃ පසු
11 යෙහි කූඩාරම් දොරකඩ ඒ බස් ඇසූවා
ය. ආබ්‍රහම් සහ සාරාඃ වයෝවෘද්ධවූවෝය.
12 සාරාඃගේ පුත්‍රෝත්පත්ති කාලය ඉකුත්වි
ය. එබැවින් සාරාඃ රහසින් සිනාසී මා වෘ
13 ද්ධවූවායින් පසු මාගේ ස්වාමියා මහළුවූ
පසු සැප විඳිනෙනම්දැයි කීවාය. එවිට
යෙහෝවාඃවහන්සේ සාරාඃ මහළුවූ මම
සැබවින් පුත්‍රයෙකු වදනෙනම්දැයි කිය
14 මින් කුමක් පිනිස සිනාසුනාද. යෙහෝ
වාඃවහන්සේට අසීරු දෙයක් ඇද්ද. නිය
මකල සුදුසු කාලයෙහි තා වෙතට හැ
රී එනෙනම්. සාරාඃද පුත්‍රයෙකු ලබන්නි
15 යයි ආබ්‍රහම්හට කීසේක. එවිට සාරාඃ භ
යෙන් සඟවා මම සිනාසුනේ නැතැයි
කීවාය. උන්වහන්සේ නැත තී සිනාසූ
නායයි කීසේක.

16 ඒ මනුෂ්‍යයෝ එතනින් නැගිට සො
දොම් දෙස බැළුවෝය. ආබ්‍රහම් ඔවුන් ස
17 මග පසු ගමන් ගියේය. යෙහෝවාඃව
හන්සේද ආබ්‍රහම් සැබවින්ම මහත්වූ බ
ලවත්වූ වර්ග්‍යයක් වන්නේය. පොලොවෙ
හි සියළු වර්ග්‍යයන් ඔහු කාරණකොටගෙ
18 ණ ආශීර්වාද ලබන හෙයින් මම කරණ
19 දේ ඔහු කෙරෙන් සඟවනෙනම්ද යෙ
හෝවාඃවහන්සේ ඔහු ගැන වදාල දේ ඔ
හු කෙරෙහි පමුනුවන පිනිස ධර්මිෂ්ඨ
කමද විනිශ්චයද කරමින් යෙහෝවාඃව
හන්සේගේ මාර්ග්‍යය රක්‍ෂාකරන්ට තමා
ට පසු තමන් දරුවන්ටද ගෙයි වැසියෑ
20 ටද ඔහු අණකරණ බව දනිමියි කීසේක
තවද යෙහෝවාඃවහන්සේ සොදොම් හ
ගොමෝරෙහි හඬගැසීම මහත් බැවින
ඔවුන්ගේ පාපය ඉතා අධිකතරවූ බැ
21 ණ එයින් මා වෙතට ආවාවූ හඬගැසී
ලෙස ඔවුන් සියල්ල කලෝදැයි දක්න
22 පිනිස බස්නෙමි නැතහොත් දැනගැ
නෙමියි කීසේක. එවිට ඒ මනුෂ්‍යයෝ ප
මන්ගේ මුහුන එතනින් හරවා සො
දොම් දෙසට ගියෝය.

23 ආබ්‍රහම් යෙහෝවාඃවහන්සේ ඉදිරියෙ
හිම සිටියේය. ආබ්‍රහම්ද යෙහෝවාඃව
හන්සේ වෙතට පැමින දුෂ්ඨයන් සමග
24 ධර්මිෂ්ඨයන් විනාශකරණසේක්ද නුව
රෙහි ධර්මිෂ්ඨයෝ පනස් දෙනෙක්වූ
නම් ඒක විනාසකරණසේක්ද එහි සිටි
නාවූ ධර්මිෂ්ඨයන් පනස්දෙන උදෙසා
25 ඒ ස්ථානයට කරුණානොකරනසේක්ද
එලෙස දුෂ්ඨයන් සමග ධර්මිෂ්ඨයන් මැරී
ම ඔබවහන්සේ කෙරෙන් දුරුවේවා. ධ
ර්මිෂ්ඨයෝ දුෂ්ඨයන් සමානවීම ඔබව
හන්සේ කෙරෙන් දුරුවේවා. සියළු
ලෝකයෙහි විනිශ්චකාරයානන්වහන්
සේ ධර්මිෂ්ඨකම නොකරණසේක්දැයි කී
26 යේය. එවිට යෙහෝවාඃවහන්සේ සො
දොම් නුවරෙහි ධර්මිෂ්ඨයන් පනස්දෙ
නෙක් සඹවීනම් ඔවුන් නිසා ඒ ස්ථානය
මුළුල්ලට කරුණාකරනෙනම්යි වදාලසේ
27 ක. එවිට ආබ්‍රහම් උත්තර දෙමින් ධූලිහා
අළුනම්වූ මම යෙහෝවාඃවහන්සේට ක
28 ථාකරන්ට ධෛර්‍ය්‍ය ගතිමි. ධර්මිෂ්ඨවූ ප
නස්දෙනෙකුගෙන් පස්දෙනෙක් අඩුවී
නම් පස්දෙනෙක් අඩු නිසා ඔබවහන්
සේ නුවර මුළුල්ලම විනාසකරණසේක්
දැයි කීයේය. උන්වහන්සේද හතලිස් පස්
දෙනෙක් සඹවීනම් ඒක විනාසනොක
29 රනෙනම්යි වදාලසේක. තවද ඔහු උන්ව
හන්සේට සතලිස් දෙනෙක් එහිදී සඹ
වීනම් කෙසේදැයි කීයේය. උන්වහන්සේ
ද සතලිස් දෙනෙක් නිසා ඒක නොක
30 රනෙනම්යි වදාලසේක. ඔහුද යෙහෝවාඃ
වහන්ස කෝප නුවමැනව එවිට මම ක
ථාකරනෙනම්. තිස් දෙනෙක් එහිදී සඹ
වීනම් කෙසේදැයි කීය. උන්වහන්සේ
ද තිස් දෙනෙක් එහිදී සඹවීනම් ඒක
31 නොකරනෙනම්යි වදාලසේක. ඔහු යෙ
හෝවාඃවහන්සේට කථාකරන්ට ධෛ
ර්‍ය්‍ය ගතිමි විසි දෙනෙක් එහිදී සඹවී

නම් කෙසේදැයි කීයේය. උන්වහන්සේද
විසි දෙනෙක් නිසා ඒක විනාස නොක
32 රන්නෙමියි වදාළසේක. ඔහු යෙහෝවඃ
වහන්ස කෝපනූවමැනව මම තව ව
රක් කථාකරන්නෙමි. දස දෙනෙක් එ
හිදී සම්බවීනම් කෙසේදැයි කීයේය. උන්
වහන්සේද දසදෙනෙක් නිසා ඒක වි
නාස නොකරන්නෙමියි වදාළසේක.
33 යෙහෝවඃවහන්සේ ආබ්‍රහම් සමග ක
ථාකොට නිමවූ කෙනෙහිම ගියසේක.
ආබ්‍රහම් තමාගේ ස්ථානයටම ගියේය.

19. පරිච්ඡේ. සවස් වේලෙහි දේව
දූතයෝ දෙදෙන සොදොම් නුවරට
ආවෝය. සොදොම්හි දොරකඩ හුන්
ලොත් ඔවුන් දැක පෙරමගට යන පිනි
2 ස නැගිට බිමට නැමී මාගේ ස්වාමිදරු
වනි හැරී ඔබවහන්සේලාගේ මෙහෙක
රුවාගේ ගෙට ඇතුල්ව මුළු රාත්‍රියෙහි
සිට පාද සෝදා අළුයම් වේලෙහි ගමන්
ගියමැනවයි කීයේය. ඔවුන් නැත වීථි
යෙහි මුළු රාත්‍රිය සිටිනෙමුයයි කීවෝය
3 ඔහු අතිසයින් ඔවුන්ට යාඥාකෙලේය.
ඔවුන්ද ඔහු වෙතට හැරී ඔහුගේ ගෙට
ඇතුල්වූවෝය. ඔහු ඇඹුල් පිටි නොමුසු
රොටි පුළුස්සා භෝජනයක් පිළියෙල
කෙලේය. ඔවුන් කෑවෝය.
4 ඔවුන් සයනයකරන්ට පලමුවෙන් සො
දොම් නුවර තරුණවූද මහළුවූද සියළු ම
නුෂ්‍යයෝ සියළු දිගින් ගේ වටකර සිට
5 ගන ලොත්හට හඬගසමින් මේ රාත්‍රියෙ
හි නුඹ වෙතට ආවාවූ මනුෂ්‍යයන් කො
හිද අපි ඔවුන් ඇඳිනගන්නා පිනිස ඔවුන්
6 පිටතට ගෙනෙනුයයි කීවෝය. ලොත්
ද දොරකඩින් නික්ම දොර වසාගෙන ඔ
7 වුන් වෙතට ගොස් සහෝදරයෙනි එප
8 වන දුෂ්ඨකම් නොකරල්ලාය. පුරුෂයෙ
කු නොදන්නා දූවරු දෙදෙනෙක් මට
ඇත්තෝය. ඔවුන් නුඹලා ළඟට ගෙන
එන්ට අවසර දියල්ලාය. නුඹලාට යහ
පත්ව පෙනෙන ලෙස ඔවුන්ට කරපල්
ලාය. මේ පුරුෂයින්ට කිසිවක් නොක
රල්ලායයි ඉල්ලමි. ඒපිනිසම ඔවුන් මා
ගේ පියස්ස යටට ඇතුල්වූවෝයයි ඔවුන්
9 ට කීය. එවිට ඔවුන් ඈත පලයන්. මූ අප
සමග විදේශියෙකු ලෙස සිටින්ට ඇවිත්
නඩුකාරයෙක් වෙන්ට කැමතිය. දැන්
ඔවුන්ට වඩා නුඹට නපුරුකම් කරන්
නෙමුයයි කීවෝය. තවද ඔවුන් ලොත්
නම් ඒ පුරුෂයා කෙරෙහි අතිසේසින්
10 හැපී දොර බිඳින පිනිස ළංවූවෝය. එ
හෙත් පුරුෂයෝ දෙදෙන තමන්ගේ
අත් දිගුකොට තමන් වෙතට ගේ ඇතු
11 ළට ලොත් ඇදගෙන දොර වසා ගෙයි
දොරළඟ සිටියාවූ කුඩාවූද මහත්වූද මනු
ෂ්‍යයන්ට අන්දකාර කලේය. ඒ මනුෂ්‍ය
යෝ දොර සොයන පිනිස තමන්ම වෙ
හෙසුනෝය.

12 ඒ පුරුෂයෝ දෙදෙන ලොත්හට ක
ථාකොට අපි මේ ස්ථානය විනාසකරන්
නෙමුව. එබැවින් මොවුන් හැර නුඹට
කිසිවෙක් ඇද්ද නුඹේ බෑනා සහ පුත්‍ර
යන්ද දූවරුන්ද මේ නුවර නුඹට ඇත්තාවූ
සියල්ලම මෙයින් පිටත ගෙනෙල්ලාය.
13 යෙහෝවඃවහන්සේගේ ඉදිරියෙහි මේ
නුවරුන්ගේ මූරගෑසීම මහත් නිසා මේ
නුවර විනාසකරන්ට යෙහෝවඃවහන්
14 සේ අප එවූසේකැයි කීවෝය. ලොත්ද
පිටතට ගොස් තමාගේ දූවරුන් සරණ
පාවාගත් බෑනාවරුන්ට කථාකරමින්
නැගිට යෙහෝවඃවහන්සේ මේ නුවර
විනාසකරණහෙයින් මෙයින් පිටත්ව
පලයල්ලායයි කීය. එහෙත් ඔහු කවට
කම් කරන්නාක්මෙන් තමන් බෑනාව
රුන්ට පෙනුනේය.

15 අළුයම් වේලෙහි දේවදූතයෝ දෙදෙ
න නුඹ මේ නුවර අධර්මිෂ්ඨකමෙහි වි
නාසයට නොපැමිනෙන පිනිස නැගිට
නුඹේ භාර්‍යාව සහ මෙහි සිටින්නාවූ නු
ඹේ දූවරුන් දෙදෙනද කැඳවාගෙන
පලයන්නැයි කියා ලොත්හට ඉක්මන්
16 කරවූවෝය. ලොත් ප්‍රමාදවූකල යෙ
හෝවඃවහන්සේ ඔහු කෙරෙහි කරුණා
කලබැවින් ඒ පුරුෂයෝ ඔහුගේ අතද
ඔහුගේ භාර්‍යාව සහ ඔහුගේ දූවරුන්
දෙදෙනාගේ අතද අල්වාගෙන ඔහු
ගෙනගොස් නුවරින් පිට සිටවූවෝය.
17 ඔවුන් පිටතට කැඳවාගෙන ආවායින්
පසු නුඹේ ප්‍රානය නිසා ගැලවී පලයන්
න. ආපසු හැරී නොබලා සමභූමියෙහි
නොසිට විනාසයට නොපැමිනෙන පි
නිස පර්වතයට පලයන්නැයි කීයේය.
18 ලොත්ද අහෝ මාගේ ස්වාමිනි එසේ
19 නොවේය ඔබගේ මෙහෙකරුවාවූ මම
ඔබ ඉදිරියෙහි කරුණාව ලැබුයෙමි මා
ගේ ප්‍රානය රක්ෂාකිරීමෙන් ඔබ මට පෙ
න්වනලද කරුණාව මහත්කෙලෙහිය.
මට ගැලවී ජීවිතයට යන්ට නුපුළුවන

සම්හරවිට කිසි නපුරක් මට පැමින න
20 තිනෙනාම්. පලා යන්ට මේ නුවර ලඟය.
කුඩා එකක ඒක කුඩා නොවේද. අ
හෝ එතනට ගැලවී යන්ට අවසර දුන
මැනව එවිට මාගේ ප්‍රානය රක්‍ෂාවන්
21 නේයයි ඔවුන්ට කීය. එවිට ඔහු මේ
කාරණය ගැන නුබ පිලිගතිම් නුබ ස
දහන්කල නුවර විනාස නොකරනෙන
22 මි. ඉක්මනින් ගැලවී එතනට පලයන්
න. නුබ එතනට පැමිනෙනතුරු කිසි
වක් කරන්ට නොහැක්කෙමියි කීය.
එබැවින් ඒ නුවරට සොයර් නම් විය.
23 ලොත් සොයර් නුවරට ඇතුල්වූකල
24 ඒ දේසයට සූර්‍යයා උදවූයේය. එවිට යෙ
හෝවඃවහන්සේ සොදොම් සහ ගො
මෝරා කෙරෙහි ස්වර්‍ගයෙහි සිටින යෙ
හෝවඃවහන්සේ කෙරෙන් ගන්ධක ස
25 හ ගිනිද වස්වා ඒ නුවරවල්ද සියළු සම
භූමියද ඒ නුවර සියළු වැසියන්ද භූමියෙ
හි හටගත් දේවල්ද විනාසකලසේක.
26 එහෙත් ලොත්ගේ භාර්‍යාව ආපසු බැ
ළුවාය. ඈ ළුනු කනුවක් වූවාය.
27 ආබ්‍රහම් අළුයම් වේලෙහි නැගිට යෙ
හෝවඃවහන්සේ ඉදිරියෙහි තමන් සිටි
28 ස්ථානයට ගොස් සොදොම් සහ ගො
මෝරාද සමභූමියෙහි දේසය මුළුල්ලද
බලා ඒ දේසයෙහි ධූමය උදුනෙහි ධූම
29 යක් ලෙස නැගුනු බව දුටුයේය. දෙවි
යන්වහන්සේ සමභූමියෙහි නුවරවල් වි
නාසකරණ කල්හි ආබ්‍රහම් සිහිකොට
ලොත් විසූ නුවරවල් විනාසකරණ කල්
හි ඒ විනාසය මධ්‍යයෙන් ඔහු පිටතට
යවූසේක.
30 ලොත්ද සොයර් නුවර වසන්ට භය
ව තමාගේ දූවරු දෙදෙන සමග එයින්
පිටත්ව පර්‍වතයට ගොස් ගුහාවක වාස
31 යකලේය. එවිට වැඩිමහළු තැනැත්ති
අපේ පියානෝ මහළුය මුළු ලෝකයෙහි
ව්‍යවහාර ලෙස අප වෙතට පැමිනෙන්
ට පොලවෙහි පුරුෂයෙක් නැත්තේය.
32 වරෙනන අපේ පියානන්ගෙන් වංශය
රක්‍ෂාකරගන්නා පිනිස ඔහුට මුද්‍රිකපාන
ය පොවා අපි ඔහු සමග සයනය කරමූ
33 යයි බාල තැනැත්තිට කීවාය. ඔවුන්
ඒ රාත්‍රියෙහි තමන් පියානන්ට මුද්‍රික
පානය පෙවූවෝය. වැඩිමහළු තැනැත්
ති ඇතුල්ව තමන් පියානන් සමග සය
නය කලාය. ඔහුද ඇගේ සයනයකිරී
34 මවත් නැගිටීමවත් නොදත්තේය. වැඩි
මහළු තැනැත්ති පසුව දා කථාකොට
මම ඊයේ රාත්‍රියෙහි මාගේ පියානන් ස
මග සයනය කෙලෙම්. අද රාත්‍රියෙහිද
ඔහුට මුද්‍රිකපානය පොවා අපගේ පියා
නන්ගෙන් වංශය රක්‍ෂාකරගන්නා පිනි
ස නුබ ඇතුල්ව ඔහු සමග සයනයකර
35 පනනැයි බාල තැනැත්තිට කීවාය. ඔ
වුන් ඒ රාත්‍රියෙහිද තමන් පියානන්ට
මුද්‍රික පානය පොවා බාල තැනැත්ති
නැගිට ඔහු සමග සයනයකලාය. ඔහු
ඇගේ සයනයකිරීමවත් නැගිටීමවත්
36 නොදත්තේය. මෙසේ ලොත්ගේ දූව
රු දෙදෙන තමන් පියානන් කාරණ
37 කොටගෙන ගර්භිනිවූවෝය. වැඩිමහ
ළු තැනැත්ති පුත්‍රයකු වදා ඔහුට මෝ
වබ්යයි නම් තැබූවාය. ඔහු අද දක්වා
38 මෝවබිවරුන්ගේ පියානෝය. බාල
තැනැත්තිද පුත්‍රයෙකු වදා ඔහුට බෙන්
අම්මියයි නම් තැබූවාය. ඔහු අද දක්
වා අමොනිවරුන්ගේ පියානෝය.

20. පරිච්ඡේ. ආබ්‍රහම් එතනින් දකු
නු දේසයට ගොස් කාදෙස් සහ සූර් අත
රෙහිවූ ගෙරාර්හි විදේසිව වාසයකොට
2 තමාගේ භාර්‍යාවූ සාරඃ ගැන ඈ මා
ගේ සහෝදරියයි කීයේය. එවිට ගෙ
රාර්හි අබිමෙලෙක් රජ මිනිසුන් යවා
3 සාරඃ ගෙන්වාගත්තේය. දෙවියන්වහන්
සේද රාත්‍රියෙහි අබිමෙලෙක් කරා පැ
මින තා ගත් ස්ත්‍රී නිසා තෝ මල තැ
නැත්තෙක් මෙන් සිටිනෙනහිය. ඈ ම
නුෂ්‍යයකුගේ භාර්‍යාවයයි හිනයකින්
4 ඔහුට වදාලසේක. එහෙත් අබිමෙලෙක්
ඈ කරා නොපැමිනියේය. ඔහු ස්වාමින්
වහන්ස ඔබ ධර්මිෂ්ඨ වර්ගයක් නසන
5 සේක්ද. ඈ මාගේ සහෝදරියයි ඔහු ම
ට නොකීයේද ඈ ඔහු මාගේ සහෝද
රයයි කීවාය. මාගේ හෘදයෙහි අවංකක
මින්ද මාගේ අත් පවිත්‍රකමෙන්ද මේක
6 කෙලෙම්යි කීයේය. දෙවියන්වහන්සේද
එසේය තාගේ හෘදයෙහි අවංකකමින්
මෙසේ කලබව දනිමි. මට විරුඬව පවු
නොකරණ ලෙස මම තා නැවැත්වූයෙ
මි. ඉන්නිසා ඈ කරා නොපැමිනෙන
7 ලෙස තා වැලැක්වූයෙමි. දැන්ම ඒ ම
නුෂ්‍යයහට ඔහුගේ භාර්‍යාව පාවා දෙ
ව ඔහු අනාගතවක්තෘකෙනෙක් බැ
වින් තා නිසා යාඥාකරනෙන්ය. එවිට
තෝ ජීවත්වනෙනහිය. ඈ පාවා නුදු

නොනාහිනම් තෝද තා සත්තක සියල්
ලද ඒකාන්තයෙන් නසිනෙනෝයයි හි
නයකින් ඕහට වදාලසේක.

8 එබැවින් අබිමෙලෙක් අති උදයම නැ
ගිට තමාගේ මෙහෙකරුවන් කැඳවා
ඒ සියල්ල ඔවුන්ට දන්වූයේය. ඒ මනු
9 ෂ්‍යයෝද අතිසඨින් භයපත්වූවෝය. එ
කල්හි අබිමෙලෙක් ආබ්‍රහම් කැඳවා අ
පට තුමක් කෙලෙහිද. මා සහ මාගේ
රාජ්‍යය කෙරෙහි මහත් පාපයක් පමුනු
වන්ට මම නුබට කල වැරුද්ද කිමෙක්
ද. මට නොකටයුතු කාරණයන් කෙ
10 ලෙහිය. තුමක් දැක මේක කෙලෙහිදැ
11 යි ආබ්‍රහම්හට කීයේය. එවිට ආබ්‍රහම් ඒ
කාන්තයෙන්ම මේ ස්ථානයෙහි දෙවිය
න්වහන්සේට භය නැත්තේය. එබැවින්
මාගේ භාර්‍ය්‍යාව නිසා මා මරනෙනෝයයි
12 සිතිමි. සැබවින් ඈ මාගේ සහෝදරිය
මාගේ මවුගේ දියණියෝ නොව මාගේ
පියාගේ දියණියෝය. ඈද මාගේ භා
13 ර්‍ය්‍යාව වූවාය. දෙවියන්වහන්සේ මාගේ
පියාගේ ගෙයින් පිටත්ව යන්ට මා සැ
ලැස්වූකල මට පෙන්විය යුතුවූ කරුණ
වනම් අපි යනනාවූ සියළු තැන්හිදිම ඔ
හු මාගේ සහෝදරයයි කීවොත් යහප
14 තැයි ඈට කියමියි කීයේය. අබිමෙ
ලෙක්ද බැටළුවන්ද ගවයන්ද දසයන්ද ද
සීන්ද රැගෙන ආබ්‍රහම්හට දෙමින් ඔහු
15 ගේ භාර්‍ය්‍යාවද ඕහට පාවාදී මාගේ රට
නුබ ඉදිරියෙහිය කැමති තැනක වාස
16 යකරපනනැයි කීයේය. ඔහුද සාරාට
කථාකොට නුබ සමග සිටිනනවුන් සහ
අනික් සියල්ලන් ඉදිරියෙහි ඇස්වැසීමක්
පිනිස රිදී දහයක් නුබේ සහෝදරයාට
දුනිමියි කීය. මෙලෙස ඈ දනුමුතුකම්
ලැබුවාය.

17 එවිට ආබ්‍රහම් දෙවියන්වහන්සේට යා
ඥාකලේය. දෙවියන්වහන්සේද අබි
මෙලෙක් සහ ඔහුගේ භාර්‍ය්‍යාවද ඔහු
ගේ දාසීන්ද සුවපත්කලසේක. ඒ ස්ත්‍රීව
18 රුද දරුවන් වැදුවෝය. මක්නිසාද
යෙහෝවාවහන්සේ ආබ්‍රහම්ගේ භා
ර්‍ය්‍යාවූ සාරා නිසා අබිමෙලෙක්ගේ ගෙ
යි සියල්ලන්ගේ ගැබවල් පියවූසේක.

21. පරිච්ඡ. යෙහෝවාවහන්සේ
තමන්වහන්සේ කී ලෙස සාරා දෙස බ
ලා උන්වහන්සේ වදාලමෙන් ඈට කල
2 සේක. සාරාද ගර්භිණිව දෙවියන්වහන්
සේ ආබ්‍රහම්හට වදාලාවූ නියම කාල
යෙහිදී ඔහුගේ වෘද්ධ වයසෙහි ඔහු නිසා
3 පුත්‍රයෙකු වැදුවාය. ඔහුද සාරා වැදූ
තමාගේ පුත්‍රයාට ඊසාක්යයි නම් තබා
4 දෙවියන්වහන්සේ අන දුන් ලෙස අට
දවස් පිරුනු කල්හි තමාගේ පුත්‍රවූ ඊ
5 සාක්හට චර්මච්ඡේදනය කෙලේය. ආබ්‍ර
හම් තමාගේ පුත්‍රවූ ඊසාක් උපන්කල
6 සියක් අවුරුදු වයස් වූයේය. එවිට සාරා
දෙවියන්වහන්සේ මා සිනාසෙන්ට සැ
ලැස්වූසේක. ඒ අසන සියල්ලෝ මා ස
7 මග සිනාසෙතියි කියාද සාරා දරුවන්
ට කිරි දෙන්නීයයි ආබ්‍රහම්හට කියන්ට
කවරෙක් හැකිවූයේද මමත් ඔහු නිසා
ඔහුගේ වෘද්ධවයසෙහි පුත්‍රයෙකු වැදුයෙ
8 මියි කියාද කීවාය. ලදරුවා වැඩී කි
රෙන් වැරුයේය. ආබ්‍රහම් තමාගේ පු
ත්‍රවූ ඊසාක් කිරෙන් වැරූ එම දවසෙ
හි මහත් මංගල්‍යයක් සැදුයේය.

9 මිසරවාසිවූ හාගර් ආබ්‍රහම් නිසා වැදූ
පුත්‍රයා අපහාසකරණ බව සාරා දුටුබැ
10 වින් මේ දාසී සහ ඇගේ පුත්‍රයා පිටත
දමුවමැනව. තුමක්හෙයින්ද මේ දාසීගේ
පුත්‍රයා මාගේ පුත්‍රවූ ඊසාක් සමග උරු
මක්කාරයෙක් නොවනෙනෝයයි ආබ්‍රහම්
11 හට කීවාය. ආබ්‍රහම්ට තමාගේ පුත්‍රයා
නිසා මේ කාරණාව බලවත් කනගාටු
12 වක්ව තිබුනේය. එවිට දෙවියන්වහන්
සේ දරුවා සහ තාගේ දාසිය ගැන සෝ
ක නොවව. ඊසාක් කෙරෙහි තාගේ
වංශය වනබැවින් සාරා තට කිවූ සියල්
13 ලට කන් දෙව. දාසීගේ පුත්‍රයා තාගේ
වංශය බැවින් ඔහු කෙරෙන් ජාතියක්
කරනෙනාමියි ආබ්‍රහම්හට වදාලසේක.
14 ආබ්‍රහම් අළුයම් වේලෙහි නැගිට රොටි
සහ වතුර භාජනයක්ද හාගර්ගේ ක
රෙහි තබා දරුවාද ඈට දී ඈ යවූයේ
ය. ඈ එතනින් ගොස් බීර්ෂෙබානම් වන
15 යෙහි මන්මුලාවූවාය. භාජනයෙහි වතු
රද නැතිවූයේය. ඈ දරුවා පඳුරක් ය
16 ට තබා ගොස් ඔහු සම්මුඛයෙහි දුනුසැ
රයක් පමන දුර හිඳ දරුවාගේ මරණ
ය මට නොපෙනේවයි කියමින් ඔහු සම්මු
ඛයෙහි හිඳගන ශබ්ද නගා හැඬුවාය.
17 දෙවියන්වහන්සේ දරුවාගේ ශබ්දය
ඇසූසේක. දෙවියන්වහන්සේගේ දූත
යා ස්වර්ගයේ සිට හාගර්හට හඬගසා
හාගර් තිට තුමක් වූයේද. දෙවියන්ව
හන්සේ දරුවා සිටින තැන්හි ඔහුගේ

18 ශබ්දය ඇසූ නිසා භයනොවව. නැගිට
තිගේ අතින් දරුවා ඔසවාගනුව ඔහු
මහත් වශයක් කරනෙනම්යි කීසේක.
19 දෙවියන්වහන්සේ ඈගේ ඇස් අරෙව්
සේක. එවිට ඈ ලිඳක් දැක එහි ගොස්
භාජනය වතුරෙන් පුරවාගෙන දරුවා
20 හට බොනනට දුනනාය. දෙවියන්වහන්
සේද ඔහු සමග වූසේක. ඔහු වැඩී වන
යෙහි දුනුකාරයෙක්ව පාරන් නම්වූ ව
21 නයෙහි වාසයකෙලේය. ඔහුගේ මෑනි
යෝද ඊහට මිසර දේසයෙන් භාර්‍යා
වක් ගෙන දුන්නීය.
22 ඒ කාලයෙහි අබිමෙලෙක් සහ ඔහු
ගේ සමූදුවෙහි ප්‍රධාන සේනානායකවූ
පිකොල්ද ආබ්‍රහම්හට කථාකොට දෙ
වියන්වහන්සේ නුබ කරනනාවූ සියලෙ
23 හි නුබ හා සමගය. එබැවින් මම නුබ
ට කලාවූ යහපත්කම ලෙස මටත් නුබ
වාසයකරනනාවූ දේසයටත් කරුණාව
පෙනා මා සමගවත් මාගේ පුත්‍රයා සම
ගවත් මාගේ මුනුබුරා සමගවත් වංචා
වක් නොකරන්ට දෙවියන්වහන්සේ
ගේ නාමයෙන් මෙහි දැන් දිවුරපන්
24 නැයි කීවෝය. ආබ්‍රහම්ද මම දිවුරනෙන
25 මියි කීයේය. ආබ්‍රහම්ද අබිමෙලෙක්
ගේ මෙහෙකරුවන් බලාත්කාරයෙන්
උදුරා ගත්තාවූ ලිඳක් ගැන අබිමෙ
26 ලෙක්ට අවවාදකෙලේය. එවිට අබිමෙ
ලෙක් මේ දේ කලේ කවුදැයි මම නො
දනිමි නුබ මට කීවෙත් නැත. අද වෙ
නතුරු ඒ ගැන මම ඇසුවෙත් නැතැයි
27 කීයේය. ආබ්‍රහම්ද බැටළුවන් හා ගව
යන් ගෙන අබිමෙලෙක්හට දුනෙන්ය
28 ඒ දෙදෙන ගිවිසුමක් කලෝය. ආබ්‍රහම්
බැටළු රැලෙන් නෑඹියන් සත්දෙනෙ
29 කු වෙන්කොට තැබුයේය. එවිට අබි
මෙලෙක් නුබ වෙන්කොට තැබූ බැට
ළු නෑඹියන් සත්දෙන කවර කාරණය
30 කටදැයි ආබ්‍රහම්හට කීයේය. ඔහුද මේ
බැටළු නෑඹියන් සත්දෙන මේ ලිඳ මා
විසින් සාරණලද බවට සාක්ෂියක්කො
31 ට මා අතින් ගනිනනැයි කීයේය. ඔවුන්
එතැන්හිදී දිවූල බැවින් ඔහු ඒ ස්ථානය
32 ට බිෂීබායයි නම් තැබීය. මෙලෙස ඔ
වුන් බිෂීබායෙහිදී ගිවිසුමක් කලවිට
අබිමෙලෙක් සහ ඔහුගේ සමූදුවෙහි ප්‍ර
ධාන නායකවූ පිකොල්ද නැගිට පිලිස්
33 තිවරුන්ගේ දේසයට හැරී ගියෝය. ආ
බ්‍රහම් බිෂීබායෙහි වෘක්ෂ පන්තියක් රෝ
පනයකොට එතැන්හි සදාකාල දෙවිවූ
34 යෙහෝවඃවහන්සේට යාඥාකොට පි
ලිස්තිවරුන්ගේ දේසයෙහි බොහෝ
දවස් වාසයකෙලේය.

22. පරිච්. මෙයින් පසු දෙවියන්ව
හන්සේ ආබ්‍රහම් පරීක්ෂාකරමින් ආබ්‍රහම්
කියා ඊහට වදාලසේක. ඔහු මම මෙහි
2 යයි කීය. එවිට උන්වහන්සේ තාගේ පු
ත්‍රවූ තට ප්‍රියවූ තාගේ එකමවූ ඊසාක් රැ
ගෙණ මොරියඃ දේසයට ගොස් මම තට
කියනනාවූ පර්වතය මස්තකයෙහි දවනපූ
ජාවක් වසයෙන් ඔහු පූජාකරවයි වදාල
3 සේක. ආබ්‍රහම්ද ඉතා උදය නැගිසිට ත
මාගේ කොටළුවා සූදානම්කොට තම
ගේ යච්චනයන්ගෙන් දෙදෙනෙක් ග
තමාගේ පුත්‍රවූ ඊසාක් කැටුව රැගෙ
දවනපූජාකිරීම පිනිස දර පලා දෙවියන්
4 හන්සේ ඊහට කී ස්ථානයට ගොස් තු
වෙනි දවස්හි තමාගේ ඇස් ඔසවා දුරි
5 සිට ඒ ස්ථානය දැක තමාගේ යෞව
යන්ට කොටළුවා සමග නුබලා මෙහි
වපල්ලාය. මමද තරුණයාද එහි ගෙ
නමස්කාරකොට නුබලා වෙතට නැ
6 ත එමුයයි කීයේය. දවනපූජාකිරීම පි
ස දර රැගෙණ තමාගේ පුත්‍රවූ ඊසාක්
ට තබා තමාගේ අතින් ගිනි සහ පි
යත්ද ගත්තේය. ඔවුන් දෙදෙන එ
7 ව ගියෝය. ඊසාක් තමාගේ පියවූ ආ
හම්හට මාගේ පියානෙනි කීයේය. ඔ
මාගේ පුත්‍රය මම මෙහියයි කීයේය.
කල ඊසාක් ගිනි සහ දර තිබෙනෙන්
එහෙත් දවනපූජාව පිනිස බැටළු පැ
8 යා කොතැන්හිදැයි කීයේය. ආබ්‍රහම් ම
ගේ පුත්‍රය දවනපූජාවක් පිනිස දෙවියන්
වහන්සේ තමන්වහන්සේටම බැටළු පැ
වෙක් පිලියෙල කරණසේකැයි කීයෙ
ය. මෙසේ ඔවුන් දෙදෙන එක්ව ගො
9 දෙවියන්වහන්සේ විසින් කී ස්ථානයට අ
වෝය. එවිට ආබ්‍රහම් පූජාසනයක් ගෙ
ඩනගා දර පිලිවෙලින් තබා තමන්ගෙ
10 පුත්‍රවූ ඊසාක් බැඳ පූජාසනයෙහි දර පිට
තබා තමන්ගේ අත දිගුකොට තමාගේ
11 පුත්‍රයා මරණ පිනිස පිහිය ගත්තේය. එ
කල්හි යෙහෝවඃවහන්සේගේ දූතයා
ස්වර්ගයෙහි සිට ඊහට අඬගසා ආබ්‍රහම්
ආබ්‍රහම්යයි කීසේක. ඔහු මම මෙහියයි
12 කීයේය. එවිට දේවදූතයා තාගේ අත
තරුණයා කෙරෙහි නොතබව ඊහට

කිසිවක් නොකරව. තාගේ එකම පුත්‍රයා මා කෙරෙන් නොවලැක්වූ බැවින් තෝ දෙවියන්වහන්සේට භය වනොත්ය
13 යි දූන් දනිමියි කීසේක. ආබ්‍රහම්ද තමාගේ ඇස් ඔසවා බැළූකල්හි තමා පිටිපස්ස වන ලැනැබෙහි අං දූවටී සිටියාවූ බැටළුවෙක් දූක එහි ගොස් ඒ බැටළුවා රැගෙන තමන්ගේ පුත්‍රයා හිලව්වට දව
14 නපූජාවක් වසයෙන් පූජාකොට යෙහෝවඃ යිරඃ යන නාමය ඒ ස්ථානයට තැබූයේය. මෙසේ යෙහෝවඃවහන්සේ පර්වතයෙහිදී දක්නා ලබනසේක්කැයි අද දක්වා කියනලදී.
15 එවිට යෙහෝවඃවහන්සේගේ දූතයා ආබ්‍රහම්හට දෙවෙනි වර ස්වර්ගයෙහි
16 සිට හඬගසා තාගේ එකම පුත්‍රයා නො
17 වලක්වා මෙසේ කල බැවින් ආශිර්වාදකරමින් තට ආශිර්වාදකරනෙනාමි. අහස් තාරකාවන් මෙන්ද මූදු වෙරළෙහි වැලි මෙන්ද තාගේ වංශය දිවුණුකරමින් වැඩිකරනෙනම්. තාගේ වංශයද තමාගේ සතුරන්ගේ දොර හිමිවනොත්යයි මා ගැනම දිව්ලෙමියි යෙහෝවඃවහන්සේ වදාර
18 ණසේක මාගේ ශබ්දයට තෝ කීකරුව සිටිය නිසා තාගේ වංශය කරණකොටගෙණ ලෝකයෙහි සියළු වර්ගයෝ ආ
19 ශිර්වාදකරණු ලබන්නෝයයි කීයේය. ආබ්‍රහම්ද තමන්ගේ යව්වනයන් වෙතට ආයේය. ඔවුහුද නැගිට බීර්ෂබායට ගියෝය. ආබ්‍රහම් බීර්ෂබායෙහි වාසයකෙලේය.
20 ඉන්පසු මිල්කාඃ නුඹේ සහෝදරවූ නාහොර් නිසා පුත්‍රයන් වැදුවායයි කියා
21 ආබ්‍රහම්හට කියවුණේය. නාහොර්ගේ ප්‍රථම ජාතවූ හූස්ද ඔහුගේ සහෝදරවූ බූස්ද ආරම්ගේ පියවූ කෙමූයෙල්ද කෙ
22 සෙද්ද හාසොද පිල්දස්ද ජිද්ලප්ද බෙ
23 තුයෙල්ද ඈ වැදුවාය. බෙතුයෙල්ද රෙබෙකා ඉපදවූයේය. මොවුන් අටදෙන මිල්කාඃ ආබ්‍රහම්ගේ සහෝදරවූ නා
24 හොර් නිසා වැදුවාය. රෙයූමානම්වූ ඔහුගේ උපභාර්යාව තෙබඃද ගහම්ද ථාහස්ද මාකඃද වැදුවාය.

23. පරචෙජ. සාරාඃගේ ජීවත්වීමෙහි අවුරුදුනම් එකසිය විසි සත් අවුරුද්දක්
2 විය. කනාන්දේසයෙහි හෙබ්‍රොන්නම් කිර්ජත් අර්බා නුවරදී සාරාඃ මලාය. ආ
3 බ්‍රහම් සාරාඃ නිසා සෝකවෙන්ටද හඬන්ටද ඇවිත් තමන්ගේ මල තැනැත්තීගේ ඉදිරියෙන් නැගිට හෙත්ගේ පුත්‍රයන්ට
4 කථාකරමින් මම නුඹලා වෙත විදේසියෙක්ද ආගන්තුකයෙක්ද වෙමි මාගේ මල තැනැත්තී මා ඉදිරියෙන් තැන්පත් කරන පිනිස මට උරුමවෙන ලෙස සො
5 හොන්පලක් මට දියල්ලායයි කීයේය.
6 හෙත්ගේ පුත්‍රයෝ ආබ්‍රහම්හට උත්තර දෙමින් ස්වාමිනි අපගේ බස් ඇසුවමැනව. ඔබ අප අතරෙහි බලවත් අධිපතිකෙනෙක. අපේ සොහොන්පලවලින් ඉතා උතුම් එකක ඔබගේ මල තැනැත්තී තැන්පත්කලමැනව. ඔබගේ මල තැනැත්තී තැන්පත්කරන්ට අපගෙන් කිසිව කුදු තමන්ගේ සොහොන්පල නොව
7 ලක්වනොත්යයි කීවෝය. එවිට ආබ්‍රහම් නැගිට ඒ දේසවාසීවූ හෙත්ගේ පුත්‍රයන්
8 ට නමස්කාරකොට ඔවුන් සමග කථාකරමින් මම මාගේ මල තැනැත්තී මා ඉදිරියෙන් තැන්පත්කරන්ට නුඹලා කැම
9 තිනම් මාගේ බස් අසා සොහර්ගේ පුත්‍රවූ එප්‍රොන් තමන්ගේ කෙතෙහි කෙලවර තිබෙන තමන් සන්තකවූ මඃපෙලානම්වූ ගුහාව මට දෙන හැටියට ඉල්ලාපල්ලාය. නුඹලා අතරෙහි සොහොන්පලක් පිනිස ඒක වටිනා මිල ගෙන ඔහු ඒ
10 ක මට දෙනොත්යයි කීයේය. එප්‍රොන්ද හෙත්ගේ පුත්‍රයන් අතරෙහි වාසයකෙලේය. හිත්තියවූ එප්‍රොන් තමන් නුවර දොරටුවෙන් ඇතුල්වනනාවූ හෙත්ගේ සියළු පුත්‍රයන් ඉදිරියෙහි ආබ්‍රහම්ට උත්
11 තරදෙමින් මාගේ ස්වාමිනි මාගේ බස් ඇසුවමැනව. ඒ කෙත ඔබට දෙමි එහි තිබෙන ගුහාවද ඔබටම දෙමි මාගේ ගෝත්‍රයෙහි මිනිසුන් ඉදිරියෙහිදී මම ඒක ඔබට දෙමි. ඔබගේ මල තැනැත්තී
12 තැන්පත්කලමැනවයි කීයේය. ආබ්‍රහම් ඒ දේසවාසීන්ගේ ඉදිරියෙහි නමස්කාර
13 කොට ඔවුන් අසාගණ සිටිද්දී එප්‍රොන්හට කථාකරමින් ඔබ ඒක දෙන්ට කැමතිනම් මාගේ බස් අසා කෙතට මිල දෙනෙනම් ඒක මාගෙන් ගතමැනව. එවිට එහි මාගේ මල තැනැත්තී තැන්පත්
14 කරනෙනම්යි කීයේය. එප්‍රොන් ආබ්‍රහම්
15 හට උත්තරදෙමින් මාගේ ස්වාමිනි මාගේ බස් ඇසුවමැනව. ඒ බිම රිදී ෂෙකෙල් හාරසියයක් වටිනෙන්ය ඒක මා සහ ඔබද අතරෙහි කිමෙක්ද එබැවින් ඔබගේ මල තැනැත්තී තැන්පත්කලමැ

16 නවයි ඕහට කීයේය. ආබ්‍රහම්ද එප්‍රොන්
ගේ බස් අසා ඔහු හෙත්ගේ පුත්‍රයන් ඉදි
රියෙහි කීවාවූ වෙළඳුන් අතරෙහි වල
ගුවෙන්නාවූ රිදී ෂෙකෙල් හාරසියයක්
ඕහට කිරා දුනේය.

17 තවද මම්රේ ඉදිරිපිට මෑපෙලායෙහි
තිබෙන එප්‍රොන්ගේ කෙතද එහිවූ ගු
හාවද කෙතෙහි වටකර සියළු සීමාවල
18 තිබෙන සියළු ගස්ද එප්‍රොන්ගේ නුවර
ට ඇතුල්වූ හෙත්ගේ පුත්‍රයන් ඉදිරියෙහි
ආබ්‍රහම්හට උරුමයක් වශයෙන් සවිවිය
19 පසුව මම්රේ ඉදිරිපිට මෑපෙලාගේ කෙ
තෙහි ආබ්‍රහම් තමන් භාර්‍යාවූ සාරා
තැන්පත්කෙලේය. ඒක කානාන් දේස
20 යෙහි හෙබ්‍රොන්නම් ස්ථානයවේ. හෙත්
ගේ පුත්‍රයෝ කෙත සහ එහි ගුහාවද
සොහොන්පලක් පිනිස ආබ්‍රහම්හට අ
සිතිකලෝය.

24. පරිච්ඡේ. ආබ්‍රහම් මහළුවී වයසින්
ඉතා වැඩිවූයේය. යෙහෝවාවහන්සේද
සියළු දේ ගැන ආබ්‍රහම්හට ආශීර්වාදකල
2 සේක. ඔහු තමා සන්තක සියල්ලෙහි අ
ධිපතිකම් කරණ තමන් ගෙයි ප්‍රධාන
මෙහෙකරුවාහට කථාකොට නුඹේ අ
3 ත මාගේ කලවය යට තබාපනන. මම ව
සන කනානිවරුන්ගේ දේසයෙහි දූව
රුන්ගෙන් මාගේ පුත්‍රයාහට භාර්‍යා
වක් නොගන්නා පිනිස අහසෙහි දෙවි
යන්වහන්සේද පොලවෙහි දෙවියන්ව
හන්සේදවූ යෙහෝවාවහන්සේ ගැන
4 නුඹ දිවුරවමි. එහෙත් මාගේ රටටද මා
ගේ නෑයන් වෙතටද ගොස් මාගේ පුත්‍ර
වූ ඊසාක්හට භාර්‍යාවක් ගනිනනැයි කී
5 යේය. එවිට මෙහෙකරුවා ඒ ස්ත්‍රී මා
එක්ව මේ රටට එන්ට අකමැතිනම් ඔබ
පිටත්ව ආවාවූ ඒ දේසයට මා විසින් ඔ
බගේ පුත්‍රයා නැවත ගෙනයන්ට සුදුසු
6 දැයි ඕහට කීයේය. එකල ආබ්‍රහම් මගේ
පුත්‍රයා නැවත එහි ගෙන නොයන්ට
7 බලාගනිනන. මාගේ පියාගේ ගෙයින්ද
මාගේ නෑයින්ගේ රටින්ද මා ගෙනවුත්
මම මේ රට තාගේ වංශයට දෙනෙනමියි
කියා මට කථාකොට දිවිලාවූ ස්වර්ගයෙ
හි දෙවිවූ යෙහෝවාවහන්සේ තමන්ව
හන්සේගේ දූතයා නුඹ ඉදිරියෙහි යව
නසේක. නුඹද මාගේ පුත්‍රයහට එත
8 නින් භාර්‍යාවක් ගෙනෙනෙනහිය. ස්ත්‍රී
ද නුඹ සමග එන්ට අකමැතිනම් මාගේ
දිවුරීමෙන් මිදී සිටිනෙනහිය. එහෙත්
මාගේ පුත්‍රයා නැවත එහි ගෙන නොය
9 නනැයි කීයේය. මෙහෙකරුවා තමා
ගේ ස්වාමිවූ ආබ්‍රහම්ගේ කලවය යට අත
තබා ඒ ගැණ ඕහට දිවුලේය.

10 එවිට මෙහෙකරුවා තමන් ස්වාමිහු
ගේ වස්තුව තමාගේ අත යටතෙහි තිබූ
න බැවින් තමාගේ ස්වාමිහුගේ ඔටුවන්
ගෙන් ඔටුවන් දස දෙනෙකු රුගෙ
ණ නික්ම මෙසොපොතාමියෙහිවූ නා
11 හෝර්ගේ නුවරට ගියේය. ඔහු සවස්
වේලෙහි ඒනම් ස්ත්‍රීවරු පැන් ගෙන එ
න පිනිස නික්ම යන වේලෙහිම තමා
ගේ ඔටුවන් නුවරින් පිටත ලිඳක් ලඟ ද
12 නගස්වා කියනුයේ මාගේ ස්වාමිවූ ආබ්‍රම්
ගේ දෙවිවූ යෙහෝවාවහන්ස අද දව
සෙහි මාගේ ගමන සඵලකරමින් මාගේ
ස්වාමිවූ ආබ්‍රහම්හට කරුණාව දක්වූවමැ
13 නව. මම මෙහි ලිඳ ලඟ සිටිමි. නුවර ම
නුෂ්‍යයින්ගේ දූවරු පැන් අදින පිනිස
14 නික්ම එති. එවිට බොන පිනිස නුඹේ
කලය පහත්කරපනනැයි මම යම් කුමාරි
කාවකට කියම්ද එවිට බීපනන නුඹේ
ඔටුවන්ද පොවමියි කියනනාවූ ඇ ඔබව
හන්සේගේ මෙහෙකරුවූ ඊසාක්හට නි
යමකල තැනැත්තී වේවා. එවිට මාගේ
ස්වාමියා කෙරෙහි ඔබවහන්සේ කරු
ණාව දක්වූ බව එයින් දැනගනෙනමියි
කීයේය.

15 ඔහුද කථාකොට නිමවන්ට ප්‍රථම
යෙන් ආබ්‍රහම්ගේ සහෝදරවූ නාහෝර්
ගේ භාර්‍යාවූ මිල්කාගේ පුත්‍රවූ බෙතු
ඇල්හට උපන්නාවූ රෙබෙකා උරයෙහි
16 කලය තබාගෙන පිටතට ආවාය. ඒ කු
මාරිකාව ඉතා ලක්ෂනවූ කන්‍යාවක්වූවා
ය පුරුෂයකුදු ඈ කරා නොපැමිනියේ
ය. ඈ ලිඳට ගොස් කලය පුරවාගෙන
17 හැරුණාය. මෙහෙකරුවා ඈගේ සම්මු
ඛයට දිවගොස් නුඹේ කලයෙන් පැන්
18 ටිකක් බොන්නට දියනනැයි කීයේය. ඈ
ද මාගේ ස්වාමිනි බිව්වමැනවයි කියා ඈ
ගේ කලය ඉක්මනින් අතපිටට ගෙණ
19 බොන්නට දුන්නාය. ඔහු බීවායින් පසු
නුඹේ ඔටුවෝද බී කම්මුතුවෙනකල්
20 පැන් අදිමි කියා ඈගේ කලයෙහි තිබුනු
පැන් ඔරුවේ වත්කොට නැවත පැන් අ
දින පිනිස ලිඳට දිව ඔහුගේ සියළු ඔටු
21 වන්ටද පැන් ඇද්දාය. ඒ මනුෂ්‍යයා ඈ
කෙරෙහි මවිතව යෙහෝවාවහන්සේ

තමාගේ ගමන සඵලකලසේක්ද නැද්ද
යි දැනගන්නා පිණිස කථානොකර සිටි
22 යේය. ඔටුවෝද පැන් බී කෙලවරවූ
කල්හි ඒ මනුෂ්‍යයා ෂෙකෙල් බාගයක්
බර ඇති රන් කුඩලාභරණයක්ද ඇගේ
අත්වලට ෂෙකෙල් දසයක් බර ඇති
23 රන් වලළු දෙකක්ද රැගෙන නුඹ කා
ගේ දියනියෝද අපට නවාතැන් ගන්
ට නුඹේ පියානන්ගේ ගෙයි ස්ථානයක්
24 ඇද්දැයි කීයේය. ඈද මම මිල්කා නා
හෝර්හට වැදූ පුත්‍රවූ බෙතුයෑල්ගේ දිය
25 ණියෝය. සෑහෙන පමන පිදුරු සහ
ගොදුරුද නවාතැනට ස්ථානයද අප වෙ
26 ත ඇතැයි ඔහට කීවාය. ඒ මනුෂ්‍යයා හි
27 ස නමා යෙහෝවාවහන්සේට වැඳ මා
ගේ ස්වාමියාට තමන්වහන්සේගේ ක්‍රැ
ණාවෙන්ද සැබෑකමෙන්ද පිරිහී සිටින්ට
නොහැරියාවූ මාගේ ස්වාමිවූ ආබ්‍රහම්
ගේ දෙවිවූ යෙහෝවාවහන්සේට ස්තුති
වේවා. මාර්ගයෙහි සිටිනනාවූ මා මාගේ
ස්වාමියාගේ සහෝදරයන්ගේ ගෙට
යෙහෝවාවහන්සේ පැමිණෙවූසේකැයි
28 කීයේය. ඒ කුමාරිකාව දිවගොස් ඇගේ
මවුගේ ගෙයි සිටියන්ට මේ කාරණයන්
කීවාය.

29 රෙබෙකාට ලාබන්නම් සහෝදර
යෙක් වූයේය. ඔහු ළිඳ ළඟ සිටි ඒ මනු
30 ෂ්‍යයා වෙතට දිවගොස් තමාගේ සහෝ
දරීගේ අත තිබූ වලළු සහ කුඩලාභර
ණ දැක ඒ මනුෂ්‍යයා මට මෙලෙස කථා
කෙලේය කියා තමාගේ සහෝදරීවූ රෙ
බෙකාගේ වචනයන් අසා ඔහු වෙතට
31 ආයේය. ඔහුද ළිඳ ළඟ ඔටුවන් වෙත සි
ටියේය. ලාබන් යෙහෝවාවහන්සේ
ගෙන් ආශීර්වාද ලත් තැනැත්ත පිටත
සිටිනෙන් මන්ද ගේද ඔටුවන්ට ස්ථානය
ද සූදානම්කලහෙයින් ඇතුලට වරෙන්
32 නැයි කීයේය. ඒ මනුෂ්‍යයා ගෙට ඇතුල්
වූකල ලාබන් ඔටුවන්ගේ පටි මුදා ඔවුන්
ට පිදුරුද ගොදුරුද ඒ මනුෂ්‍යයාගේ පා
ද සහ ඔහු හා සමග සිටියවුන්ගේ පාද
යන්ද සෝදන්ට වතුරද දී ඔහු ඉදිරියෙ
33 හි කෑම තැබීය. එහෙත් ඔහු මාගේ කා
රණව කියනතුරු නොකනෙනම්යි කී
යේය. ලාබන් කියාපන්නැයි කීයේය.
34 එකල ඔහු මම ආබ්‍රහම්ගේ මෙහෙකරු
35 වෙමි. යෙහෝවාවහන්සේද මාගේ ස්වා
මියාහට බොහෝසෙයින් ආශීර්වාදකල
සේක. ඔහු මහත්විය. උන්වහන්සේ ඔහ
ට බැටළු සමූහයන්ද ගව සමූහයන්ද රිදීද
රත්‍රන්ද දසයන්ද දැසීන්ද ඔටුවන්ද කොටළු
36 වන්ද දුන්සේක. මාගේ ස්වාමියාගේ භා
ය්‍යාවූ සාරාඃ තමාගේ මහළු වයසෙහිදී
මාගේ ස්වාමියාහට පුත්‍රයකු වැදුවාය. ඔ
හු තමා සන්තක සියල්ල ඔහට දුනෙන්
37 ය. තවද මාගේ ස්වාමියා මම වසන ර
38 ටෙහි කානානවරුන්ගේ දූවරුන්ගෙන්
මාගේ පුත්‍රයහට භාය්‍යාවක් නොගනින්
න. එහෙත් මාගේ පියානන්ගේ ගෙට
ද මාගේ නෑයන් වෙතටද ගොස් මාගේ
පුත්‍රයහට භාය්‍යාවක් ගනිනනැයි කියා
39 මා දිවීරවූයේය. ඒ ස්ත්‍රී මා එක්ව නො
එන්නිදෝහොයි මාගේ ස්වාමියහට කී
40 යෙමි. එවිට ඔහු කථාකොට මම සේවය
කරනනාවූ යෙහෝවාවහන්සේ තමන්ව
හන්සේගේ දූතයා නුඹ එක්ව එවා නු
ඹේ ගමන සඵලකරණසේක. නුඹද මා
ගේ පුත්‍රයහට මාගේ නෑයන්ගෙන් මා
ගේ පියානන්ගේ ගෙයින් භාය්‍යාවක් ග
41 නෙනහිය. මාගේ නෑයන් වෙතට පැමි
ණි කල්හි මාගේ මේ දිවිරිල්ලෙන් මිදී සි
ටිනෙනහිය. ඔවුන් නුඹට එක් තැනැත්
තියක් නොදෙන නමුත් මාගේ මේ දිවි
42 රිල්ලෙන් මිදෙනෙනහියයි කීයේය. අද
මම ළිඳ ළඟට අවුත් මාගේ ස්වාමිවූ ආබ්‍ර
හම්ගේ දෙවිවූ යෙහෝවාවහන්ස ඔබව
හන්සේ මම යනනාවූ ගමන සඵලකර
43 ණසේක්නම් මම ළිඳ ළඟ සිටිමි කන්‍යා
වද පැන් අදින පිණිස එන කල්හි නුඹේ
කලයෙන් මට බොනනට පැන් ටිකක්
44 දියනනැයි මම ඈට කියමි. ඈ බීපනන
නුඹේ ඔටුවන්ටද මම පැන් අදිමියි කිය
නනාවූ ඒ තැනැත්තිම යෙහෝවාවහන්
සේ මාගේ ස්වාමිහුගේ පුත්‍රයහට නියම
45 කල ස්ත්‍රිය වේවයි කීමි. මම සිතින් සි
තා නිමවන්ට පලමුවෙන් රෙබෙකා උ
රයෙහි කලය ගෙන අවුත් ළිඳට ගොස්
පැන් ඇද්දය. එවිට මට බොනනට දිය
46 නනැයි ඈට කීමි ඈද ඉක්මනින් කල
ය පහත්කොට බීපනන නුඹේ ඔටුවන්
ටද බොනනට දෙමියි කීවාය. එවිට ම
ම බීවෙමි. ඈ ඔටුවන්ටද බොනනට
47 දුන්කල නුඹ කාගේ දියනියෝදැයි ඈ
ගෙන් ඇසුයෙමි. ඈ නාහෝර් නිසා
මිල්කා වැදූ පුත්‍රවූ බෙතුයෑල්ගේ දියණි
යෝයයි කීවාය. එවිට මම කුඩලා ඈ
ගේ කනෙහිද වලළු ඈගේ අතෙහිද ලා
48 මාගේ හිස නමා යෙහෝවාවහන්සේට

වැද මාගේ ස්වාමිහුගේ පුත්‍රයාහට ඔහු
ගේ සහෝදරයාගේ දියණියන් ගෙන
යන්ට සුදුසු මාර්ගය දැක්වූ මාගේ ස්වා
මිවූ ආබ්‍රහම්ගේ දෙවිවූ යෙහෝවාවහන්
49 සේට ස්තුතිකෙලෙමි. ඉදින් තුබලා මා
ගේ ස්වාමියා සමග කරුණාවෙන්ද සත්‍ය
යෙන්ද ක්‍රියා කරන්ට කැමතිනම් කියා
පල්ලාය. එසේ නැත්නම් මම දකුනට
වත් වමටවත් හැරෙණ පිණිස මට කියා
පල්ලායයි කීයේය.

50 එවිට ලාබන් සහ බෙතුයෑල්ද උත්
තරදෙමින් මේ කාරණාව යෙහෝවාව
හන්සේ කෙරෙන් පැමිණියේය නරක
වත් හොඳවත් කියන්ට අපට නුපුළුව
51 න. රෙබෙකා තුබ ඉදිරියෙහි සිටින්
නීය. තුබ ඈ කැඳවාගෙණ පලයනු.
ඈ යෙහෝවාවහන්සේ කී ලෙස තු
බේ ස්වාමියාගේ පුත්‍රයාගේ භාර්යාව
52 වේවයි කීවෝය. ආබ්‍රහම්ගේ මෙහෙ
කරුවා ඔවුන්ගේ බස් අසා බිමට නැමී
යෙහෝවාවහන්සේට නමස්කාරකො
53 ට රන් රිදී ආභරණයන්ද ඇඳුම්ද ගෙන
වුත් ඒවා රෙබෙකාට දී ඇගේ සහෝ
දරයාහටද මව්හටද අගය ඇති දේ දු
න්නේය.

54 ඔහුද ඔහු හා සමග සිටියවුන්ද කා බී
මුළු රාත්‍රියෙහි වාසයකොට උදය නැගි
ට මාගේ ස්වාමියා වෙතට මා පිටත්කර
55 හැරපල්ලායයි කීයේය. එවිට ඇගේ ස
හෝදරයාද මව්ද කුමාරිකාව ස්වල්ප
වසයෙන් දස දවසක් අප වෙත සිටි
56 වා. ඉන්පසු යන්නීයයි කීවෝය. ඔහු
යෙහෝවාවහන්සේ මගේ ගමන සඵ
ලකල බැවින් මා නොවලක්වා මාගේ
ස්වාමියා වෙතට යන පිණිස මා හැරපල්
57 ලායයි ඔවුන්ට කීයේය. එවිට ඔවුන් කු
මාරිකාවට අඬගසා ඇගෙන් විචාරමුය
58 යි කියා රෙබෙකාහට අඬගසා මේ මනු
ෂ්‍යයා සමග යන්නීදැයි කීවාම යනෙනාමි
59 යි කීවාය. ඔවුන් තමන් සහෝදරීවූ රෙ
බෙකාද ඇගේ කිරිමවුද ආබ්‍රහම්ගේ
මෙහෙකරුවාද ඔහුගේ මනුෂ්‍යයන්ද ය
60 වා රෙබෙකාහට ආශීර්වාදකොට තුබ අ
පගේ සහෝදරීය. දහස් ගණනින් දස
දහසක්ගේ මව් වෙයනු. තුබේ වංශය
තමන්ට වෛරකරනනවුන්ගේ දොරටු
ව අයිතිකොට ගනීවයි කීවෝය.

61 රෙබෙකාද ඇගේ දාසයෝද නැගිට
ඔටුවන් පිට නැගී ඒ මනුෂ්‍යයා එක්ව
ගියෝය. ඒ මෙහෙකරුවා රෙබෙකා
62 ගෙන ගියේය. දකුණු දේසයෙහි වසන්
නාවූ ඊසාක් ලහයිරොයිනම් ලිඳට යන
63 මාර්ගයෙන් අවුත් සවසෙහි මෙනෙහි
කරණ පිණිස කෙතට ගොස් ඇස් ඔස
64 වා ඔටුවෝ එනබව දුටුයේය. රෙබෙකා
ඇස් ඔසවා ඊසාක් දුටුකල්හි අපේ පෙ
රමගට කෙතෙහි එමින් සිටිනනාවූ මේ
මනුෂ්‍යයා කවරෙක්දැයි මෙහෙකරුවා
65 ට කීවාය. ඔහු මාගේ ස්වාමියයි කීවිට
ඕතු වැස්මකින් පෙරවාගෙණ ඔටුවාපි
66 ටින් බැස්සාය. මෙහෙකරුවා තමා ක
67 ලාවූ සියල්ල ඊසාක්හට කීයේය. ඊසාක්
ද තමන් මව්වූ සාරාගේ කූඩාරමට රෙ
බෙකා ගෙනවුත් ඈ පාවාගත්තේය.
ඈද ඔහුගේ භාර්යාව වූවාය. ඔහු ඈට
සෙන්හව තමාගේ මව්ගේ මරනයෙන්
පසු සැනසුනේය.

25. පරිච්ඡ. තවද ආබ්‍රහම් කෙතු
2 රානම් භාර්යාවක් පාවාගත්තේය. ඈ
ඔහු නිසා සිම්රන්ද යොක්ෂාන්ද මෙදාන්ද මි
3 දියාන්ද ඉෂ්බක්ද ෂුවාද වැදුවාය. යොක්
ෂාන්තෙම ෂෙබා සහ දෙදාන් ඉපදවූයේ
ය. අෂ්ෂුරිම්ද ලෙතුසිම්ද ලෙවුම්ම්ද දෙ
4 දාන්ගේ පුත්‍රයෝය. එපාද එපෙර්ද හ
නොාද අබිදාද එල්දාද මිදියන්ගේ පු
ත්‍රයෝය. මොවුන් සියල්ලෝම කෙතු
5 රාගේ දරුවෝය. ආබ්‍රහම් තමා සන්ත
6 ක සියල්ල ඊසාක්හට දී තමන්ගේ උප
භාර්යාවන්ගේ පුත්‍රයන්ට තෑගි දෙමින්
ඔහු ජීවත්ව සිටි කල්හිම තමාගේ පුත්‍ර
වූ ඊසාක් කෙරෙන් ඔවුන් පහකොට
7 පූර්විදිග රටට හැරියේය. ආබ්‍රහම් ජීවත්
ව විසූ අවුරුදුවල ගනන නම් එකසිය
8 පන්සැත්තෑවක් අවුරුද්දවිය. ඔහු අති
සයින් වයෝවෘද්ධව වයස් සම්පූර්ණවූ
කල්හි නැසී තමාගේ ජනයන්ට එක්වූ
9 යේය. ඔහුගේ පුත්‍රවූ ඊසාක් සහ ඉස්මා
යෙල්ද මම්රේ ඉදිරියෙහි හැත්ගේ පුත්‍ර
යන්ගෙන් ආබ්‍රහම් මිල දී ගත් හිතීයවූ
සොහර්ගේ පුත්‍රවූ එප්‍රොන්ගේ කෙතෙ
10 හි මක්පෙලා ගුහාවෙහි ඔහු තැන්පත්
කලෝය. එහි ආබ්‍රහම් සහ ඔහුගේ භා
11 ර්යාවූ සාරාද තැන්පත් වූවෝය. දෙවිය
න්වහන්සේ ආබ්‍රහම්ගේ මරණයෙන් ප
සු ඔහුගේ පුත්‍රවූ ඊසාක්හට ආශීර්වාදක
ලසේක. ඊසාක්ද ලහරොයිනම්වූ ලිඳ
ලඟ වාසය කෙලේය.

12 සාරාගේ දාසිවූ මිසරවාසිවූ හාගර් ආ
බ්‍රහම් නිසා වැදූ ආබ්‍රහම්ගේ පුත් ඉස්මා
13 යෙල්ගේ පරම්පරාවල්නම් මේය. තම
තමන්ගේ පරම්පරා ලෙස නම් වස
යෙන් ඉස්මායෙල්ගේ පුත්‍රයින්ගේ නා
මවල් මේය. ඉස්මායෙල්ගේ කුළුඳුල්
14 වූ නෙබයොත්ද කෙදර්ද අද්බෙයැල්ද
15 මිබ්සම්ද මිස්මාද දූමාද මස්සාද හදර්ද
16 තෙමාද යෙතූර්ද නාපිෂ්ද කෙදෙමාද
යන මොවුන් ඉස්මායෙල්ගේ පුත්‍රයෝ
ය. තමන්ගේ ජාති පරිද්දෙන් කුමාරව
රූ දොළොස් දෙනෙක්වූ ඔවුනොවුන්
17 ගේ නුවරවලද ග්‍රාමවලද නම් වස
යෙන් ඔවුන්ගේ නාමවල් මේය. ඉස්
මායෙල් ජීවත්ව විසූ අවුරුදු ගනන
නම් එකසිය තිස්හත් අවුරුද්දක්ය. ඔ
18 හු නැසී තමන් ජනයන්ට එක්වූයේය.
ඉස්මායෙල්ගේ පුත්‍රයෝද හවිලා පටන්
අසූර්ට යන මාර්ගයෙහි මිසර දේසය අ
භිමුඛයෙහිවූ ෂූර් රට දක්වා වාසයක
ලෝය. ඔහු තමාගේ සියළු සහෝදර
යන්ගේ ඇස් හමුයෙහිදී නැසුනේය.

19 ආබ්‍රහම්ගේ පුත්‍රවූ ඊසාක්ගේ පරම්ප
20 රාව නම් මේය. ආබ්‍රහම්තෙම ඊසාක්
ඉපදවූයේය. ඊසාක් ආරම්හි පදන් අ
රම් නුවර වාසී බෙතුයැල්ගේ දූවූ අර
මියවූ ලාබන්ගේ සහෝදරිවූ රෙබෙ
කා භාර්යාව කොට සරණ පාවාගත්
21 කල්හි සතලිස් අවුරුදු වයස්වූයේය. ඊ
සාක් තමාගේ භාර්යාව වඳ නිසා ඈ
උදෙසා යෙහෝවාවහන්සේට යාඥාක
ලේය. යෙහෝවාවහන්සේද ඔහුගේ
බස් ඇසූසේක. ඔහුගේ භාර්යාවූ රෙ
22 බෙකාද ගර්භනිවූවාය. ළදරුවෝද
ඇගේ කුසෙහි ඔවුනොවුන් හැපිහැපී
සිටියෝය. එවිට ඈ මෙසේවීනම් මට
මෙසේ වූයේ මන්දැයි කියා යෙහෝ
23 වාවහන්සේගෙන් විචාරණ පිනිස ගි
යාය. යෙහෝවාවහන්සේද තීගේ කු
සෙහි වර්ග දෙකක් ඇත්තේය. තීගේ
උදරයෙන් දෙයාකාර ජනයන් පිටත්
ව එක සමූහයක් අනික් සමූහයට වඩා
බලවත් වන්නේය. වැඩිමහල්ද බාලය
24 හට මෙහෙකරන්නේයයි වදාලසේක.
25 ඇගේ වදන කාලය පැමිණිකල ඇගේ
කුසෙහි දරු දෙදෙනෙක් වූවෝය. ප්‍රථ
ම තැනැත්තේ රත් පැහැව රෝමමය ව
ස්ත්‍රයක් මෙන් රෝම ඇතුව බිහිවූයේය.
26 ඔහට ඒසව් නම්විය. පසුව ඔහුගේ ස
හෝදරයා බිහිව ඔහු ඒසවුගේ විළුඹ අල්
වාගත්තේය. එබැවින් ඔහට යාකොබ්
නම් තැබුවෝය. ඈ ඔවුන් වැදූකල ඊ
27 සාක්හට සැට අවුරුදු වයස්වූයේය. දරු
වෝද වැඩුනෝය. ඒසව් හපන් දඩයන්
කරන්නාවූ වනචරයෙක. යාකොබ් කූ
28 ඩාරම වසන අවංකවූ මනුෂ්‍යයෙක් වූ
යේය. ඊසාක් ඒසවුගේ මුව මස් කෑ නිසා
ඔහට ආදර වූයේය. එහෙත් රෙබෙකා
29 යාකොබ්හට ආදරවූවාය. යාකොබ්
30 හොද්දක් පිසූයේය. එවිට ඒසව් වන
යෙන් අවුත් ක්ලාන්තව යාකොබ්හට ම
ම ක්ලාන්තව සිටින බැවින් රතු පාට
හොද්දෙන් මට දියනාැයි කීයේය. එ
31 බැවින් ඔහට ඒදොම් නම්විය. එවිට යා
කොබ් නුඹේ වැඩිමහළුකමේ ප්‍රයෝජ
32 න මට අද දවසේදී විකුනපනැයි කි
යේය. ඒසව්ද මම මරණසන්නව සිටිමි
33 මේ වැඩිමහල්කමෙන් මට ප්‍රයෝජන කි
මෙක්දැයි කීයේය. යාකොබ්ද අද මා ඉ
දිරියෙහි දිවුරපනැයි කීය. ඔහු යා
කොබ්ගේ ඉදිරියෙහි දිවුරමින් ඔහුගේ
34 වැඩිමහල්කමේ ප්‍රයෝජන ඔහුට වික්
කේය. එවිට යාකොබ් රොටිද කොල්ළු
හොදිද ඒසවුහට දුන්නේය. ඔහුද කා බී
නැගිට ගියේය. මෙලෙස ඒසවු තමාගේ
වැඩිමහල්කමට නින්දාකලේය.

26. පරිච්ඡෙ. ආබ්‍රහම්ගේ දවස්වලදී
පැමිනුනු පලමුවෙනි දුර්භික්ෂය හැර තා
ව දුර්භික්ෂයක් රටෙහි විය. ඊසාක් ගෙ
2 රාර්යෙහිවූ පිලිස්තිවරුන්ගේ රජවූ අබි
මෙලෙක් වෙතට ගියේය. යෙහෝවාව
හන්සේද ඔහට පෙනී වදාරණසේක් මි
සරයට නොගොස් මම තට කියන්නාවූ
3 දේසයෙහි වසව. මේ දේසයෙහි විදේසි
ව වසව. මමද තා සමග සිට තට ආශීර්වා
ද කරන්නෙමි. කුමක්හෙයින්ද තටද තා
ගේ වංශයටද මේ සියළු රටවල් දෙන්
4 නෙමි. ආබ්‍රහම් මාගේ වචනයට කීකරු
ව මාගේ පනතද ආඥාවල්ද නියෝග
5 වල්ද ව්‍යවස්ථාවල්ද රක්ෂාකල හෙයින්
තාගේ පියවූ ආබ්‍රහම්හට දිවිලාවූ දිවිරු
ම ඉෂ්ටකොට තාගේ වංශය අහස් තාර
කාවන් මෙන් වැඩිකරන්නෙමි. තාගේ
වංශයට මේ සියළු රටවල් දෙන්නෙමි.
තාගේ වංශය කරණකොටගෙණ ලෝ
කයෙහි සියළු වර්ගයෝ ආශීර්වාද ලබ
න්නෝයයි වදාලසේක.

6 ඊසාක් ගෙරාර්හි සිටියේය. ඒ ස්ථාන
7 යෙහි පුරුෂයෝ ඔහුගේ භාර්යාව ගැ
ණ ඔහුගෙන් ඇසූවිට ඈ මාගේ සහෝ
දරියයි කීයේය. රෙබෙකා ලක්ෂණවූ බැ
වින් ඈ නිසා මේ ස්ථානයෙහි පුරුෂයෝ
මා නසද්දෝහොයි සිතා ඈ මාගේ භා
8 ර්යාවයයි කියන්ට භයවූයේය. ඔහු බො
හෝ කලක් එහි විසූ පසු පිලිස්තිවරුන්
ගේ රජවූ අබිමෙලෙක් කවුළුවකින් බ
9 ලා ඔහුගේ භාර්යාවූ රෙබෙකා හා සම
ග ක්‍රීඩාකරනාවූ ඊසාක් දැක ඔහු කැඳ
වා ඒකාන්තයෙන් ඈ තුඹේ භාර්යාවන්
නිය. ඈ මාගේ සහෝදරියයි කීවේ මක්
නිසාදැයි කීයේය. ඊසාක්ද ඈ නිසා මම
10 නොනසින පිනිස කීයෙමියි ඔහුට කී
යේය. අබිමෙලෙක්ද තුඹ අපට කෙලේ
මොකද. ජනයන්ගෙන් කිසිවෙක් පහ
සුවෙන් තුඹේ භාර්යාව වෙතට එල
ඹෙන්ට හැකිවූයේය. එසේ තුඹ අප අ
11 තරෙහි වැරදි පැමිනවූයෙහියයි කියා ත
මන්ගේ සියළු ජනයන්ට ආඥාකොට
මේ පුරුෂයාටවත් ඔහුගේ භාර්යාවට
වත් හිංසාකරනොනාක් ඒකාන්තයෙන්
12 මරණය විඳිනෝයයි කීයේය. එකල ඊ
සාක් ඒ රටෙහි වපුර එම අවුරුද්දෙහි
ම එකෙන් සියක් කොටසක් ලද්දේය.
13 යෙහෝවාවහන්සේ ඔහුට ආශීර්වාදකල
සේක. ඒ පුරුෂයා ක්‍රමයෙන් දියුනුවෙ
මින් උතුම්කමට පැමින අතිසයින් මහත්
14 වනතුරු වර්ධනව බැටළු සමූහයෝද ගව
සමූහයෝද බොහෝ මෙහෙකරුවෝද
15 ඔහුට වූවෝය. පිලිස්තිවරු ඔහුට ඊර්ෂ්‍යා
කොට තමාගේ පියාගේ මෙහෙකරු
වන් විසින් තමන් පියවූ ආබ්‍රහම්ගේ දව
සවලදී හාරණලද්දාවූ සියළු ලිං පස්ව
16 ලින් පිරෙව්වෝය. අබිමෙලෙක්ද තුඹ
අපට වඩා බලවත්හෙයින් අප කෙ
රෙන් පලයනැයි ඊසාක්හට කීයේය.
17 ඊසාක් එසින් ගොස් ගෙරාර් යන මි
18 ටිතැන්හි තමාගේ කූඩාරම පිහිටුවා එ
හි සිටිමින් තමන් පියවූ ආබ්‍රහම්ගේ දව
සවලදී හාරණලද්දාවූ ආබ්‍රහම්ගේ මරන
යෙන් පසු පිලිස්තියන් විසින් ගොඩක
රණලද්දාවූ ලිං නැවත හාරා තමාගේ
19 පියා තැබූ නාමවල් ඒ ලිංවලට තැබූයේ
ය. ඊසාක්ගේ මෙහෙකරුවෝ මිටි
20 තැන්හි හාරා වතුර උනනාවූ ලිඳක්
ලැබූවිට ගෙරාර්හි එඬේරු ඊසාක්ගේ
එඬේරුන් සමග විවාදකෙරෙමින් මේ
පැන් අපගේයයි කීවෝය. ඔවුන් ඔහු
හා විවාද කල බැවින් ඔහු ඒ ලිඳට එ
21 සෙක් යන නම් තැබූයේය. ඔවුන් වෙන
ලිඳක් හාරා එයටත් විවාදකල බැවින්
ඊට සිත්නායයි නම් තබා එසින් ගොස්
22 වෙන ලිඳක් හෑරුවෝය. එයට ඔවුන්
විවාද නොකලෝය. යෙහෝවාවහන්
සේ අපට අවකාස දුන්සෙයින් දේසයෙ
23 හි අපි සඵලවමූයයි කියා ඊට රෙහො
බොත්යයි නම්තැබිය. එසින් ඔහු බේර්ෂී
24 බායට ගියේය. එම රාත්‍රියෙහි යෙහෝ
වාවහන්සේ ඔහුට පෙනී තාගේ පියවූ ආ
බ්‍රහම්ගේ දෙවියන්වහන්සේ මමය. භය
නොවව මම තා සමග සිට තට ආශීර්වා
දකරනෙනම්. මාගේ මෙහෙකරුවූ ආබ්‍ර
25 හම් නිසා තාගේ වංශය වර්ධනකරනෙනා
මියි වදාලසේක. ඔහු පූජාසනයක් එහි
ගොඩනගා යෙහෝවාවහන්සේට යාඥා
කොට තමාගේ කූඩාරම එහි පිහිටුවූයේ
ය. එතැන්හිද ඊසාක්ගේ මෙහෙකරු
වෝ ලිඳක් හෑරුවෝය.
26 එවිට අබිමෙලෙක්ද ඔහුගේ මිත්‍රයන්
ගෙන් එකෙක්වූ අහුසැත්ද ඔහුගේ ප්‍රධා
න සේනාධිපතිවූ පිකොල්ද ගෙරාර්හි සි
27 ට ඊසාක් වෙතට ගියෝය. ඊසාක්ද මට
අප්‍රියව තුඹලා කෙරෙන් මා යවූ බැවින්
28 තුඹලා මා වෙතට ආවේ මක්නිසාදැයි ඇ
සූයේය. ඔවුහුද යෙහෝවාවහන්සේ තු
29 ඹ සමග සිටි බව අපි ඒකාන්තයෙන් දු
ටිමුව. එබැවින් තුඹට හිංසාවක් නො
කොට යහපත මිස කිසි දෙයක් නොක
ලහෙයින් සමගිව්මෙන් තුඹ යවූ සෙයි
න් තුඹ අපට කිසි හිංසාවක් නොකර
න ලෙස අප සහ තුඹ අතරෙහි දිවිරීමක්
වේවා. තුඹ සමග ගිවිසුමක් කරමුව.
යෙහෝවාවහන්සේ කෙරෙන් තුඹ ආ
30 ශීර්වාදලත් තැනැත්තේයයි කීවෝය. ඔ
31 හු මඟල්‍ය කෑමක් පිලියෙල කෙලේය.
ඔවුහුද කා බී උදය නැගිට ඔවුනොවුන්
ට දිවිලෝය. ඊසාක්ද ඔවුන් යැවිය. ඔවු
32 හුද සමගිව්මෙන් ගියෝය. එදවස්හි ඊ
සාක්ගේ මෙහෙකරුවෝ අවුත් ඔවුන්
33 හාරණලද ලිඳක් ගැන කථාකර අපි ව
තුර ලැබිමූයයි කීවෝය. ඔහු ඒකට ෂෙ
බාය යන නම තැබූබැවින් ඒ නුවර න
ම අදදක්වා බේර්ෂෙබා වනෙනේය.
34 එසව් සතලිස් අවුරුදු වයස්ව හිත්තියවූ
බෙරීගේ දූවූ යුදිත් හා හිත්තියවූ එලොන්
35 ගේ දූ බසෙමත්ද තමාගේ භාර්යාවන්

කොට පාවාගත්තෝය. ඔවුන් නිසා ඊසා
ක්හටද රෙබෙකාහටද සිත් සෝකවිය.

27. පරිච්ඡේ. ඊසාක් මහළුව ඔහුගේ
ඇස් නොපෙනෙන ලෙස අඳුරුවූ කල්
හි තමාගේ වැඩිමහල් පුත්‍රවූ එසව් කැ
2 දවා මාගේ පුත්‍රයයි ඔහුට කීය. ඔහු මම
3 මෙහියයි කීය. එවිට ඊසාක් කියනුයේ
මම මහළුය මැරෙණ දවස නොදනිමි.
එබැවින් නුඹේ අඹුධද හීකොපුවද දු
නුද ගෙන වනයට ගොස් මුවමස් රැ
ගෙන මට ප්‍රසන්නාවූ රසවත් භෝජනය
4 සාදපන්න. එයින් කා මා විසින් මාගේ ම
රණයට පළමුවෙන් නුඹට ආශීර්වාදකර
න පිනිස ඒ කෑම මා ළඟට ගෙනෙන්
5 නැයි කීය. ඊසාක් තමන් පුත්‍රවූ එසව්හට
කථාකරණකල්හි ඔහු කී කාරණව රෙ
බෙකාට ඇසුනාය. එසව්ද මුවමස් සො
යා ගෙනෙන පිනිස වනයට ගියේය.
6 එවිට රෙබෙකා තමන් පුත්‍රවූ යා
7 කොබ්හට කථාකරමින් නුඹේ පියා මා
ගේ මරණයට ප්‍රථමයෙන් යෙහෝවඃව
හන්සේ ඉදිරියෙහි කා නුඹට ආශීර්වාදක
රණ පිනිස මට මුවමස් ගෙණවුත් රස
වත් භෝජනය සාදපන්නැයි නුඹේ ස
8 හෝදරවූ එසවුහට කියනබව ඇසිමි. එ
බැවින් මාගේ පුත්‍රය මම තට අඥාකරන
9 ලෙස මාගේ බස් අසා සිවුපා රැළට
ගොස් එතනින් හොඳ එළුවස්සන් දෙන්
නකු මට රැගෙණ වරෙන්න. මම නුඹේ
පියාට ප්‍රසන්නාවූ රසවත් භෝජනය සාද
10 න්නෙමි. නුඹේ පියා තමාගේ මරනයට
ප්‍රථමයෙන් කා නුඹට ආශීර්වාදකරණ පි
11 නිස ඒක ඔහු වෙතට ගෙනියාපන්නැයි
කීවාය. එවිට යාකොබ් මාගේ සහෝද
රවූ එසව් ලෝමික පුරුෂයෙක. මම අ
12 ලෝමික පුරුෂයෙක. මාගේ පියා මා අ
තගෑවොත් මම වංචකයෙක් මෙන් පෙ
නී ආශීර්වාදයක් නොව සාපයක් මා කෙ
13 රෙහි පමුනුවාගනිමියි තමන් මව්වූ රෙ
බෙකාහට කීය. එවිට ඔහුගේ මව් මාගේ
පුත්‍රය ඒ සාපය මා කෙරෙහි වේවා. මා
ගේ බස් පමනක් අසා ගොස් ඒ වස්සන්
14 මා වෙතට ගෙනෙන්නැයි ඔහට කීවා
ය. ඔහු ගොස් ඒ වස්සන් ගෙන අවුත් ත
මන් මවුට දුන්නේය. එවිට ඔහුගේ මව්
15 ඔහුගේ පියාට ප්‍රසන්න රසවත් භෝජ
නය පිළියෙලකොට ගෙයි ඇ ළඟ ති
බෙන ඇගේ වැඩිමහල් පුත්‍රවූ එසවුගේ
උතුම් වස්ත්‍ර රැගෙන ඇගේ බාල පුත්‍රවූ
16 යාකොබ්හට අඳුවා එළු වස්සන්ගේ
17 සම් ඔහුගේ අතෙහිද ඔහුගේ බෙල්ලෙ
හිද ඇන්දෙව්වාය. ඇ පිළියෙලකලාවූ
රසවත් භෝජනයද රොටිද ඇගේ පු
ත්‍රවූ යාකොබ්ගේ අතට දුනනාය.
18 ඔහු තමාගේ පියානන් වෙතට අවුත්
මාගේ පියානෙනියි කීය. ඔහු මම මෙහි
19 ය මාගේ පුත්‍රය නුඹ කවුදැයි කීය. යා
කොබ්ද මම ඔබගේ කුළුඳුල් පුත්‍රවූ එ
සව්ය. ඔබ මට අඥාකලලෙස කෙලෙමි.
මට ආශීර්වාදකරණ පිනිස නැගී හිඳ මා
ගේ මුවමස් කැවමැනවයි තමාගේ පියා
20 නන්ට කීය. ඊසාක්ද මාගේ පුත්‍රය නුඹ
මෙපමන ඉක්මනට ඒ ලැබුවේ කො
හොමදැයි තමන් පුත්‍රයහට කීය. ඔහුද
21 ඔබගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ මා
ළඟට ඒ ගෙනාසේකැයි කීය. තවද ඊ
සාක් නුඹ මාගේ පුත්‍රවූ එසව්ද නැද්දැයි
දැනගන්නා පිනිස නුඹ අතගා බලන්ට
22 මාගේ පුත්‍රය මා වෙතට වරෙනැයි යා
කොබ්හට කීය. යාකොබ්ද තමන් පිය
වූ ඊසාක් වෙතට ගියේය. එවිට ඔහු අ
තගා ශබ්දය යාකොබ්ගේ ශබ්දය වේ.
23 එහෙත් අත් එසව්ගේ අත්යයි කීය. ඔහු
ගේ අත් තමාගේ සහෝදරවූ එසව්ගේ
අත් ලෙස ලෝමික බැවින් ඔහු නොහැ
24 ඳින ඔහට ආශීර්වාදකොට නුඹ මාගේ පු
ත්‍රවූ එසව්මදැයි කීය. ඔහු මමැයි කීවිට
25 ඒ මස් මා ළඟට ගෙනෙන්න නුඹට ආ
ශීර්වාදකරන පිනිස මාගේ පුත්‍රයාගේ මු
වමස් කන්නෙමියි කීය. ඔහු ළඟට ගෙ
26 නායේය. ඊසාක්ද කෑයේය. මුද්‍රිකපාන
ය ගෙන අකල බිවේය. එවිට ඔහුගේ
පියවූ ඊසාක් මාගේ පුත්‍රය ළඟට අවුත්
27 මා සිඹගනිනැයි ඔහට කීය. එවිට ඔහු
ළඟට අවුත් ඔහු සිඹගත්තේය. ඊසාක්
ඔහුගේ වස්ත්‍රය ඉඹ යෙහෝවඃවහන්සේ
28 ආශීර්වාදකල කෙතෙක සුගන්ධය මෙන්
මාගේ පුත්‍රයාගේ සුගන්ධය වේ. එහෙ
සින් අහසේ පිනියෙන්ද පොළව රසයෙ
න්ද බොහෝවූ ධාන්‍ය සහ මුද්‍රිකපානයද
29 දෙවියන්වහන්සේ නුඹට දෙනසේක්වා.
ජනයෝ නුඹට සේවය කෙරෙත්වා. ව
ශිහයෝද නුඹට නමස්කාර කෙරෙත්
වා. නුඹේ සහෝදරයන් කෙරෙහි ප්‍රධා
නවෙයන්න නුඹේ මෑණියන්ගේ පුත්‍ර
යෝද නුඹට නමස්කාර කෙරෙත්වා.
නුඹට සාපකරන සියල්ලෝම සාපකරන්නු

ලැබෙත්වා නුබට ආශීර්වාදකරණ සිය
ල්ලෝම ආශීර්වාදකරනු ලැබෙත්වයි කි
යා ඕහට ආශීර්වාද කෙලේය.

30 තවද ඊසාක් යාකොබ්හට ආශීර්වාද
කොට කෙලවරවූ කල්හි යාකොබ් ත
මන් පියවූ ඊසාක් ඉදිරියෙන් ගියකෙ
31 නෙහිම තමන් සහෝදරවූ එසව් දඩය
මින් අවුත් රසවත් භෝජනය සාදා ත
මන් පියානන් වෙතට ගෙණ ඔබ මට ආ
ශීර්වාදකරන පිනිස මාගේ පියානෝ නැ
32 ගිට තමන් පුත්‍රයාගේ මුවමස් කනසේක්
වයි තමන් පියාට කීය. එවිට ඔහුගේ පි
යවූ ඊසාක් නුබ කවරෙක්දැයි ඕහට
33 කීය. ඔහු මම ඔබගේ කුළුඳුල් පුත්‍රවූ එ
සව්යයි කීය. ඊසාක්ද අතිසයින් තැති
ගෙණ කියනුයේ කවුද මුවමස් රැගෙන
මා වෙතට ආවාවූ ඔහු කොතනද. මමද
නුබ එන්ට ප්‍රථමයෙන් සියල්ලෙන්ම කා
ඕහට ආශීර්වාද කෙලෙමි. සැබවින් ඔහු
34 ආශීර්වාද ලබන්නේයයි කීය. එවිට එසව්
තමන් පියානන්ගේ බස් අසා මහත්වූ අ
තිසයින් දුක්ඛිතවූ ශබ්දයකින් හඬමින්
35 මාගේ පියානෙනි මට මටම ආශීර්වාද ක
ලමැනවයි තමන් පියාට කීය. ඔහුද නු
ඹේ සහෝදරයා රැවටිල්ලෙන් අවුත් නු
36 ඹේ ආශීර්වාදය රැගෙන ගියේයයි කීය.
එවිට ඔහු යාකොබ් යන නාමය සුදුසු
ලෙස ඔහුට තැබුයේ නොවේද. මේ දෙ
වරක්ම මා රැවටුයේය. මාගේ කුළුඳුල්
කමේ ප්‍රයෝජනය පැහැරගත්තේය. දැ
නුදු මාගේ ආශීර්වාදය පැහැරගත්තේය.
ඔබ මටත් ආශීර්වාදයක් ඉතුරු නොකල
37 සේක්දැයි කීය. ඊසාක් උත්තර දෙමින්
මම ඔහු නුබට ස්වාමියෙක්කොට තැබි
මි. ඔහුගේ සියළු සහෝදරයන් මෙහෙ
කරුවන්කොට ඕහට දුනිමි. ධාන්‍ය
යෙන් සහ මුද්‍රික පානයෙන් ඔහු පෝ
ෂ්‍යය කෙලෙමි දැන් මාගේ පුත්‍රය නුබ
38 ට කුමක් කෙරෙම්දැයි එසව්හට කියේ
ය. එසව්ද මාගේ පියානෙනි ඔබට එක
ආශීර්වාදය පමනක් තිබෙනෝද අහෝ
මාගේ පියානෙනි මට මටම ආශීර්වාද ක
ලමැනවයි තමන් පියාට කියා ශබ්දය න
39 ගා හැඬීය. එවිට ඔහුගේ පියවූ ඊසාක්
උත්තර දෙමින් පොලවේ සාරවත්කම
ද ඉහලින් පැමිනෙන අහසේ පිනිද ඇ
40 තුව නුඹේ වාසස්ථානය වන්නේය. නු
ඹේ කඩුවෙන් ජීවත්ව නුඹේ සහෝද
රයහට මෙහෙකරනෙහිය. නුබට අ
ධිපතිකම් ලැබෙන කල ඔහුගේ වියග
හ නුඹේ බෙල්ලෙන් බිඳදමනෙහියයි
ඕහට කීය.

41 තමාගේ පියා යාකොබ්හට දුනාවූ
ආශීර්වාදය නිසා එසව් යාකොබ් කෙරේ
වෛරබැඳ මාගේ පියානන් ගැන සෝ
කවෙන දවස් ආසනනය. එකල්හි මාගේ
සහෝදරවූ යාකොබ් මරනෙනම්යි සිති
42 ය. එකල්හි රෙබෙකාගේ කුළුඳුල් පුත්‍රවූ
එසව්ගේ මේ වචන ඈට කියඩ යෙදු
ණේය. ඈ තමන් බාල පුත්‍රවූ යාකොබ්
කැඳවා නුඹේ සහෝදරවූ එසව් නුබ න
43 සන්ට සිතා තමාම සැනසෙනෝය. ඒ
හෙයින් මාගේ පුත්‍රය මාගේ බස් අසා
44 හාරන්හි මාගේ සහෝදරවූ ලාබන් වෙ
තට පලාගොස් නුඹේ සහෝදරයාගේ
තද ක්‍රෝධය සංසිඳෙනතුරු ස්වල්ප දි
45 නක් එහි සිටපනන. නුඹේ සහෝදරයා
ගේ ක්‍රෝධය සංසිඳී නුබ ඕහට කල දේ
සිහිනැතිවූ කල මම කෙනෙක් එවමින්
එතනින් නුබ කැඳවාගන්නෙමි. එක ද
වසහිම නුබලා දෙදෙනම මා කෙ
රෙන් පහකරනු ලබනෝ මක්නිසාදැයි
46 කීවාය. රෙබෙකාද හැත්ගේ දූවරුන්
නිසා මාගේ ජීවිතය වෙහෙසට පැමිනි
යේය. යාකොබ් මේ දේසයෙහි දූවරුන්
වැනිවූ හැත්ගේ දූවරුන්ගෙන් භාය්‍යා
වක් පාවාගත්තේනම් මාගේ ජීවිත
යෙන් මට කුමන ප්‍රයෝජනදැයි ඊසාක්
හට කීවාය.

28. පරිච්ඡ. ඊසාක්ද යාකොබ් කැ
දවා ඕහට ආශීර්වාදකොට ආඥා දෙමින්
කියනුයේ නුබ කනාන්හි දූවරුන්
ගෙන් භාය්‍යාවක් පාවා නොගනිනා.
2 නැගිට පදන් අරම්හිවූ නුඹේ මව්ගේ
පියවූ බෙතුයෑල්ගේ ගෙට ගොස් එත
නින් නුඹේ මව්ගේ සහෝදරවූ ලාබන්
ගේ දූවරුන්ගෙන් භාය්‍යාවක් පාවාග
3 නිනා. සර්වපරාක්‍රමවූ දෙවියන්වහන්සේ
ද නුබ ජනසමූහයක් වෙන පිනිස නුබ
ට ආශීර්වාදකොට වැඩිවර්ධනය කරණ
4 සේක්වා. දෙවියන්වහන්සේ ආබ්‍රහම්හට
දුනාවූ නුබ විදේසියෙක්ව සිටිනාවූ
දේසය උරුමවෙන පිනිස නුබටද නු
ඹේ වංශයටද ආබ්‍රහම්ගේ ආශීර්වාදය දෙ
5 නසේක්වයි කියා ඔහු යවීය. යාකොබ්
ද තමාගේ සහ එසව්ගේද මව්වූ රෙබෙ
කාගේ සහෝදරවූ අරමීයවූ බෙතුයෑල්

ගේ පුත්‍රවූ ලාබන් වෙතට පදන් අරම
ට ගියේය.

6 ඊසාක් යාකොබ්හට ආශිර්වාදකොට
පදන් අරමෙන් ඕහට භාර්‍යාවක් පාවා
ගන්නා පිණිස ඔහු එහි යවූබවද ආශිර්වා
දකරද්දී නුඹ කනාන්හි දූවරුන්ගෙන්
භාර්‍යාවක් පාවා නොගනිනැයි අන
7 කල බවද යාකොබ් තමාගේ පියාටද
තමාගේ මව්ටද කීකරුව පදන් අරමට
8 ගියබවද එසව් දැක කනාන්හි දූවරුන්
ට තමන් පියවූ ඊසාක් නොසතුටුවූ බව
9 දැක ඉෂ්මායෙල් වෙතට ගොස් ආබ්‍රහම්
ගේ පුත්‍රවූ ඉෂ්මායෙල්ගේ දූවූ නෙබ
යොත්ගේ සහෝදරිවූ මහලත් තමන්
භාර්‍යාව වන පිණිස ඕහට සිටිය භාර්‍යා
10 වන් සමග පාවාගත්තේය. යාකොබ්ද
බිර්ෂෙබාවෙන් නික්ම හාරන් දිසාවට
11 ගොස් එක් තැනක නැවතී ඉර බැසගි
ය බැවින් රාත්‍රිය මුළුල්ලම එහි සිට ඒ
තැන ගල් රැගෙන කොට්ට පිණිස ත
බාගෙන හාන්සිවී නිදනකල හීනයක්
12 දුටුවේය. කෙසේද පොලවෙහි හිනිම
ගක් තිබුණේය එහි අගද අහස දක්වා
විය. දෙවියන්වහන්සේගේ දූතයෝද එ
13 හි නගිමින්ද බසිමින්ද සිටියෝය. යෙහෝ
වාවහන්සේ එහි මත්තෙහි සිට තාගේ
පියවූ ආබ්‍රහම්ගේ දෙවිවූ ඊසාක්ගේ දෙ
විවූ යෙහෝවාවහන්සේ වෙමි. තා සය
නයකරණලද දේසය තටද තාගේ වංශ
14 යටද දෙන්නෙමි. තාගේ වංශය භූමියෙ
හි දූවිලිමෙන් වන්නේය. තෝ පශ්චිම
දිගටද පූර්ව දිගටද උතුරු දිගටද දකුණු
දිගටද පැතිරීයන්නෙහිය ලෝකයෙහි
සියළු පවුල් තා නිසාද තාගේ වංශය නි
15 සාද ආශිර්වාද ලබන්නෝය. මම තා ස
මග සිටින්නෙම් තෝ යන්නාවූ සියළු
තැන්හිදීද තා රක්ෂාකොට නැවත මේ
රටට තා පමුනුවන්නෙමි. මක්නිසාද ම
ම තට කථාකල දෙය සිදුකරණතුරු
තා අත්නොහරින්නෙමියි වදාලසේක.

16 යාකොබ් නින්දෙන් පිබිද ඒකාන්ත
යෙන් යෙහෝවාවහන්සේ මෙතැන්හි
17 සිටිනසේක. මමද ඒ බව නොදත්තෙමි
යි කියා භයපත්ව මේක කෙබඳු භයා
නකවූ ස්ථානයක්ද මේක දෙවියන්වහන්
සේගේ ගේ විනා අන් කිසිවක් නොවේ
18 ය. මේක ස්වර්ගයෙහි වාරයයි කීයේය.
ඔහු අති උදය නැගිට තමාගේ කොට්
ට පිණිස තැබූ ගල රැගෙන කනුවක්
මෙන් නගා එහි මුදුනේ තෙල් වත්
කොට ඒ ස්ථානයට බෙතැල්යයි නම්
19 තැබුයේය. එහෙත් ප්‍රථමයෙන් ඒ නුව
20 ර ළුස්නම් වූයේය. යාකොබ් පොරෙන්
දුවක්කොට මාගේ පියානන්ගේ ගෙට
නැවත සමාදානයෙන් එන පිණිස දෙවි
21 යන්වහන්සේ මා සමග සිට මම යන්නාවූ
මේ මාර්ගයෙහි මා රක්ෂාකොට මට
කන්ට භෝජනද ඇඳීමට වස්ත්‍රද දෙන
සේක්නම් යෙහෝවාවහන්සේ මාගේ
22 දෙවියන්වහන්සේ වනසේක. මම කනු
වක්මෙන් තැබූ මේ ගල දෙවියන්වහන්
සේගේ ගේ වන්නේය. ඔබවහන්සේ
මට දෙන සියල්ලෙන්ම දසයෙන් කො
ටසක් ඔබවහන්සේට ඒකාන්තයෙන්ම
දෙන්නෙමියි කීයේය.

29. පරිච්ඡෙ. එකල්හි යාකොබ් ග
මන්ගෙන පූර්වදිග ජනයන්ගේ දේසය
2 ට පැමින කෙතෙහි ළිඳක්ද බැටළු රැල
තුනක් ඒ ළිඳ ලඟ ලගිමින් සිටිබවද දුටු
යේය. ඒ ළිඳෙන් බැටළු සමූහයන්ට
පැන් දුන්නෝය. මහත්වූ ගලක් ළින්
3 කට වසා තිබුණේය. සියළු බැටළු සමූ
හන් එතැන්හි රැස්කරවා ළින් කටින්
ගල පෙරලා හැර බැටළුවන්ට පැන් දී
ගලද ළින් කට මත්තෙහි නැවත තිබූ
4 වෝය. එවිට යාකොබ් මාගේ සහෝද
රයෙනි නුඹලා කොතැන්හි සිට ආවෝ
දැයි ඔවුන්ගෙන් ඇසීය. ඔවුහුද අපි හා
5 රන්හි සිටයයි කීව්ය. නාහෝර්ගේ පු
ත්‍රවූ ලාබන් දනිව්දැයි ඔවුන්ගෙන් ඇ
6 සුයේය. ඔවුහු දනිමුයයි කීවෝය. ඔහු
සුවසේ සිටිනවාදැයි ඔවුන්ගෙන් ඇසූව්
ට ඔහු සුවසේ සිටින්නේය ඔහුගේ දුව
නිවූ රාහෙල් බැටළුවන් සමග එන්නීය
7 යි කීව්ය. ඔහුද තවම දවහල්ය සිවුපා
වුන් රැස්කිරීමට කල් නොවෙයි බැටළු
වන්ට පැන් පොවා උන් ගෝචර ස්ථාන
8 යට ගෙනියාපල්ලායයි කීයේය. එවිට
ඔවුන් සියළු බැටළු සමූහයන් එක්කො
ට ළින් කටින් ගල පෙරලනතෙක් අප
ට නුපුළුවන. එසේ කල කල්හි බැටළු
9 වන්ට පැන් පොවමුයයි කීව්ය. ඔහුද ඔ
වුන් සමග කථාකරමින් සිටිකල්හිම බැ
ටළුපාලීවූ රාහෙල් ඇගේ පියාගේ බැ
10 ටළුවන් සමග ආවාය. යාකොබ් තමන්
මෑනියන්ගේ සහෝදරවූ ලාබන්ගේ
දූවූ රාහෙල්ද තමන් මෑණියන්ගේ ය

හෝදරවූ ලාබන්ගේ බැටළුවන්ද දුක
ලඟට ගොස් ලින් කටින් ගල පෙරලා
හැර තමන් මෑණියන්ගේ සහෝදරවූ
11 ලාබන්ගේ බැටළු සමූහයාට පැන් දී ර
බෙල් සිඹගෙන මහත් සැබිඳයෙන් හ
12 ඬා ඇගේ පියානන්ගේ සහෝදරයා බ
වද රෙබෙකාගේ පුත්‍රයා බවද රාබෙල්
හට කීයේය. ඈ දිවගොස් ඇගේ පි
13 යානන්ට කීවාය. එවිට ලාබන් තමන්
සහෝදරීගේ පුත්‍රවූ යාකොබ්ගේ ආරංචි
අසා පෙරමගට දිව ඔහු වැලඳගෙන සි
ඹ තමාගේ ගෙට කැඳවාගෙන ආයේය.
ඔහු සියළු ප්‍රවෘත්තිය ලාබන්හට කීයේය.
14 ලාබන් සැබවින් නුඹ මාගේ ඇට සහ
මාංශයයි ඕහට කීය. ඔහුද මාසයක් ඔහු
සමග සිටියේය.

15 ලාබන් නුඹ මාගේ සහෝදරයෙක්
බැවින් කුලී නැතුව මට වැඩ කරන්ට
සුතුද. නුඹේ කුලී කොපමන වනෙත්
දැයි මට කියාපනැයි යාකොබ්හට කී
16 යේය. තවද ලාබන්හට දූවරු දෙදෙ
නෙක් වූවෝය. වැඩිමහල් තැනැත්ති
ලෙයානම් වූවාය. බාල තැනැත්ති ර
බෙල්නම් වූවාය. ලෙයා දුර්වල ඇස්
17 ඇත්තීය. රාබෙල් රූ ඇති ලක්‍ෂන තැ
18 නැත්ති වූවාය. යාකොබ් රාබෙල්හට
ප්‍රේමවූබැවින් නුඹගේ බාල දුවනිවූ ර
බෙල් උදෙසා සත් අවුරුද්දක් නුඹට
19 වැඩකරනෙනම්යි කීය. එවිට ලාබන්
ඈ අන් පුරුෂයෙකුට සරණපාවා දීමට
වඩා නුඹට පාවාදීම යහපත මා සමග
20 සිටපනැයි කීයේය. යාකොබ්ද ර
බෙල් උදෙසා සත් අවුරුද්දක් වැඩ
කොට ඈට ප්‍රේම ඇතිබැවින් ඒ සත්
අවුරුද්ද ඕහට ස්වල්ප දවසක් මෙන්
වැටහුනේය.

21 යාකොබ්ද මාගේ භාර්‍ය්‍යාව කරා එල
ඹෙන පිනිස ඈ මට පාවාදියනන මාගේ
දවස් සම්පූර්ණවූයේයයි ලාබන්හට කී
22 යේය. ලාබන් ඒ ස්ථානයෙහි ඇත්තාවූ
සියළු මිනිසුන් රැස්කොට මංගල්‍යයක්
පිළියෙලකොට සවස්වූකල තමාගේ දූ
23 වූ ලෙයා රැගෙන ඕහට පාවාදුනෙන්ය.
24 ඔහුද ඈ කරා පැමිනියේය. ලාබන් ත
මන් දූවූ ලෙයාට තමාගේ දාසිවූ සිල්පා
25 දාසියක්කොට පාවාදුනෙන්ය. උදෙන්වූ
කල්හි ලෙයා බව දැනගත්තේය. එවිට
ඔහු ලාබන්හට කථාකොට මට කුමක්
කෙලෙහිද රාබෙල් උදෙසා නුඹට වැ
ඩකෙලෙම් නොවේද. දැන් මා රැවටු
වේ මක්නිසාදැයි ලාබන්හට කීයේය.
26 එවිට ලාබන් කියනුයේ වැඩිමහල් තැ
නැත්තිට පලමුවෙන් බාල තැනැත්තිය
සරණපාවා දීම අපගේ දේසයෙහි නුසු
27 දුසුය. ඇගේ සතිය සම්පූර්ණකරපනන. ත
වත් සත් අවුරුද්දක් මට කරනනාවූ වැ
ඩ උදෙසා රාබෙල්ද සරණපාවා දෙන්
28 නෙම්යි කීයේය. යාකොබ්ද එසේ කො
ට ඇගේ සතියද සම්පූර්ණකෙලේය.
ලාබන් තමන් දූවූ රාබෙල්ද ඕහට භා
29 ර්‍ය්‍යාවෙන පිනිස භාවාදී තමන් දුවනිවූ
රාබෙල්හට තමාගේ දාසිවූ බිල්හා ඇ
30 ගේ දාසියක් වෙන පිනිස දුනෙන්ය. යා
කොබ් රාබෙල් කරා පැමින ලෙයාට ව
ඩා රාබෙල්හට ආදරව තවත් සත් අවු
රුද්දක් ලාබන්හට වැඩකෙලේය.
31 යෙහෝවාවහන්සේද ලෙයාට ආදර
නුවූ බව දැක ඈ ගර්භිනිවෙන්ට සැ
32 ලැස්වූසේක. රාබෙල්ද වඳිවූවාය. ලෙ
යාඃ ගර්භිනිව පුත්‍රයෙකු වදා සැබවින්
යෙහෝවාවහන්සේ මාගේ දුක බලා
වදාලබැවින් මාගේ ස්වාමි පුරුෂයා මා
කෙරෙහි ප්‍රේමකරනෙන්යයි කියා ඕහ
33 ට රූබෙන්යයි නම් තැබුවාය. නැවතද
ගර්භිනිව පුත්‍රයෙකු වදා මා ප්‍රේමනො
කරනු ලැබූ බව යෙහෝවාවහන්සේ
ඇසූ බැවින් මේ පුත්‍රයාද මට දුන්සේ
කැයි කියා ඕහට සිමියොන් යන නාමය
34 තැබුවාය. නැවතද ගර්භිනිව පුත්‍රයෙ
කු වදා දැන් මාගේ ස්වාමි පුරුෂයා ඔහු
නිසා පුත්‍රයන් තුනෙනෙක් වැදූබැවින්
මාහා සමගිවනෙන්යයි කියා ලෙවී යන
35 නාමය ඕහට තැබුවාය. නැවතද ගර්භි
නිව පුත්‍රයෙකු වදා දැන් යෙහෝවාව
හන්සේට ප්‍රසංසාකරනෙම්යි කියා ඕ
හට යූදාඃ යන නාමය තැබුවාය. වැදීමද
නැවතුනේය.

30. පරිච්. රාබෙල් යාකොබ්හට
තමා දරුවන් නොවැදූ බව දුන තමා
ගේ සහෝදරීට ඊර්ෂ්‍යාකොට දරුවන් ම
ට දියනන නැතහොත් මම නසිම්යි යා
2 කොබ්හට කීවාය. එබැවින් යාකොබ්
රාබෙල්හට කිපී නුඹ ගැබ්ගැනීමෙන්
වැලකූ දෙවියන්වහන්සේ වෙනුවට මම
3 සිටිම්දැයි කීයේය. එවිට රාබෙල් කියන්
නී මාගේ දාසිවූ බිල්හාකරණකොටගෙ
න මටත් දරුවන් ලැබෙන පිනිස ඈ

කරා එලඹියනාත අෑ මාගේ දනහිස් ම
4 තුයෙහි වදන්නීයයි කියා තමාගේ දාසි
වූ බිල්හා භාර්යාවක්කොට ඔහට පා
වාදුන්නාය. යාකොබ්ද අෑ කරා පැමිනි
5 යේය. බිල්හා ගර්භිනීව යාකොබ් නිසා
6 පුත්‍රයෙකු වැදුවාය. රාබෙල්ද දෙවියන්
වහන්සේ මා විනිශ්චයකොට මාගේ හ
ඬ අසා පුත්‍රයෙක් මට දුන්සේකැයි කි
යා ඔහට දන් යන නාමය තැබුවාය.
7 රාබෙල්ගේ දාසිවූ බිල්හා නැවත ගර්භි
නීව යාකොබ් නිසා දෙවෙනි පුත්‍රයෙ
8 කු වැදුවාය. එවිට රාබෙල් මහත්වූ වි
වාදයෙන් මාගේ සහෝදරීහා සමග වි
වාදකොට ජයගතිමියි කියා ඔහුට නප්
9 තලී යන නාමය තැබුවාය. ලෙයාද අෑ
වැදීමෙන් නැවතුනු බව දැන තමාගේ
දාසිවූ සිල්පා භාර්යාකොට යාකොබ්හට
10 පාවා දුන්නාය. ලෙයාගේ දාසිවූ සිල්පා
11 යාකොබ් නිසා පුත්‍රයෙකු වැදුවාය. ලෙ
යා සමූහයක් එනෙන්යයි කියා ඔහට
12 ගද් යන නාමය තැබුවාය. ලෙයාගේ
දාසිවූ සිල්පා යාකොබ් නිසා දෙවෙනි
13 පුත්‍රයෙකු වැදුවාය. ලෙයාද මම වාස
නාවන්ත වෙමි. දුවරු මට ආශීර්වාදලත්
තීයයි කියතියි කියා ඔහට අෂේර් යන
නාමය තැබුවාය.

14 රූබෙන් ගෝධුම කපන කාලේදී
කෙතෙහි දූදයිම් ලැබ තමාගේ මව්වූ
ලෙයාහට ගෙනාවේය. එවිට රාබෙල්
ලෙයාහට කථාකොට නුඹේ පුත්‍රයාගේ
15 දූදයිම්වලින් මට දියනාැයි කීවාය. අෑ
ද මාගේ පුරුෂයා නුඹ පාවාගත් බව
ස්වල්ප කාරණයක්ද. මාගේ පුත්‍රයාගේ
දූදයිම්ද ගන්නාට කැමතිදැයි කීවාය.
එවිට රාබෙල් නුඹේ පුත්‍රයාගේ දූදයිම්
නිසා මේ රාත්‍රියෙහි ඔහු නුඹ කරා එල
16 ඹෙනෙන්යයි කීවාය. යාකොබ් සවස්
වේලෙහි කෙතෙන් එනකල ලෙයා ඔ
හු ඉදිරියට ගොස් මේ රාත්‍රියෙහි මා වෙ
තට එලඹෙන්ට ඕනෑය. මාගේ පුත්‍රයා
ගේ දූදයිම්වලින් ඔබ කුලියට ගතිමියි
කීවාය. ඔහුද ඒ රාත්‍රියෙහි අෑ කරා එලඹු
17 නේය. දෙවියන්වහන්සේ ලෙයාට කන්
දුන්සේක. අෑද ගර්භිනීව යාකොබ් නි
18 සා පස්වෙනි පුත්‍රයෙකු වදා මාගේ දාසි
මාගේ පුරුෂයාට මම දුන්සෙයින් දෙ
වියන්වහන්සේ මාගේ කුලි මට දුන්සේ
කැයි කියා ඔහට ඉස්සාඛර් යන නාමය
19 තැබුවාය. ලෙයාද නැවත ගර්භිනීව
20 යාකොබ් නිසා හවෙනි පුත්‍රයෙකු වදා
දෙවියන්වහන්සේ උතුම් දායාදයකින්
මා ධනවත්කලසේක. මාගේ පුරුෂයා
21 නිසා පුත්‍රයන් සදෙනෙක් මම වැදූ බැ
වින් ඔහු මා සමග වසනෙන්යයි කියා
ඔහට සෙබුලොන් යන නාමය තැබුවා
ය. ඉන්පසු අෑ දුවක් වදා ඈට දීනා
යන නාමය තැබුවාය.

22 තවද දෙවියන්වහන්සේ රාබෙල් සිහි
කොට අෑට කන් දී අෑ ගර්භිනිවෙන්ට
23 සැලැස්වූසේක. අෑ ගර්භනීව පුත්‍රයෙකු
24 වදා දෙවියන්වහන්සේ මාගේ නින්දාව ප
හකලසේකැයි කියා යෝසෆ් යන නාම
ය ඔහට තබා යෙහෝවාවහන්සේ අන්
පුත්‍රයෙකුද මට දෙනසේකැයි කීවාය.

25 රාබෙල් යෝශප් වැදුවායින් පසු යා
කොබ් ලාබන්හට කථාකොට මාගේ
26 නියම ස්ථානයටද මාගේ දේශයටද යන
පිනිස මා යව්වමැනව. මම අඹුදරුවන්
උදෙසා මෙහෙකෙලෙම්. ඔවුන් මට දී
යන්ට අවකාස දුනවැනව මක්නිසාද ම
27 ම කලාවූ මෙහෙය නුඹ දන්නාහියයි කී
ය. එවිට ලාබන් නුඹෙන් කරුණාව ල
දිම්නම් මා සමග සිටපන්නා. නුඹ උදෙ
සා යෙහෝවාවහන්සේ මට ආශීර්වාදක
ලසේකැයි මනාකොට දැනගත්තෙමි.
28 නුඹේ කුලි නියමකරපන්නා ඒ මම නු
29 ඹට දෙනෙන්නාමියි කීයේය. එවිට යා
කොබ් මම නුඹට වැඩකලකල්හි නුඹේ
30 සිවුපාවුන් මා ලඟ සිටියේ කොහොම
දැයි නුඹ දන්නාහිය. කුමක්හෙයින්ද
මම එන්ට පලමුවෙන් නුඹට තිබුනේ
ස්වල්පය දැන් ඒක බොහෝ වැඩිවිය.
මාගේ ඊමට පසු යෙහෝවාවහන්සේ නු
ඹට ආශීර්වාදකලසේක. දැනුදු මාගේ ප
වුලට සපයනෙන් කොහොමදැයි ඔහට
31 කීයේය. ඔහුද මම නුඹට දෙනෙන් කි
මෙක්දැයි කීයේය. එවිට යාකොබ් මට
කිසිවක් නොදෙන්නෙහිය. එහෙත්
මේක කරනෙන්හිනම් මම නැවත නු
ඹේ සිව්පා රැල පෝෂ්‍යයකොට රක්ෂාක
32 රනෙන්මි. අද සියළු සිවුපා රැල මැද්දට
යමින් සියළු තිත් ලප ඇත්තාවූ සිවුපා
වන්ද බැටළුවන් අතරෙහි සියළු අඳුරුවන්
වූ සිවුපාවන්ද එළුවන් අතරෙහි සියළු
තිත් ලප ඇත්තාවුන්ද වෙන්කරනෙන්මි.
මෙයාකාර සතුන්ගෙන් මාගේ කුලී ව
33 නෙන්ය. මෙසේ මින්මත්තෙහි ඒවා මා
ගේ කුලීමෙන් නුඹ ඉදිරියට එන කල්හි

මාගේ නිවැරදි බව පෙනෙන්නේය. එළු
වන් අතරෙහි තිත් ලප නැත්තාවූ බැ
ටළුවන් අතරෙහි අඳුනවන් නුවූ මා ළඟ
එකෙක් ඇත්නම් ඌ මා විසින් සොර
කම්කරගත්තේයයි කල්පනාකරපනනැ
34 යි කීයේය. ලාබන්ද නුඹේ වචනලෙස
35 වේවයිකියා එදවස්හි රේඛාවන් හා ලප
ඇති එළුවනූ තිත් ලප ඇත්තාවූ එළුදෙ
නුනූ සුදු පැහැ ටිකක් ඇති සියල්ලනූ බැ
ටළුවන් අතරෙහි අඳුන්වන්වූ සියල්ලනූ
වෙන්කොට තමන් පුත්‍රයන්ට පාවා දී ත
මා සහ යාකොබ් අතරෙහිද තුන් දව
36 සක් ගමන් තැබුයේය. යාකොබ් ලාබන්
ගේ අනිත් සිවුපා රැල පෝෂ්‍යයකලේය.
37 එවිට යාකොබ් එස්ද ලිබ්නාද අමෝ
නූ යන මේ ගස්වලින් අමු ලී රැගෙන
එහි සුදු රේඛා කපා ලීවල සුදුපැහැය
38 දක්වා ඒ ලී රැගෙන සිවුපාවුන් පැන්
බොනනට අකල උන් ගැබ්ගනනා පි
නිස ඒ ලී කඳුරැලියෙහිද පැන් ඔරුවෙ
39 හිද උන් ඉදිරිපිට තැබුයේය. සිවුපා රැ
ල ඒ ලී ඉදිරිපිට ගැබ්ගෙන රේඛා සහ
තිත්ද ලපද ඇත්තාවූ සිවුපාවන් වැදු
40 වෝය. යාකොබ් බැටළු පැටියන් වෙන්
කොට රේඛා සහ අඳුනවන් ඇත්තාවූ සි
යළු සිවුපාවුන්ගේ මූහුනු ලාබන්ගේ රැ
ල දෙසට හැරෙව්යේය. තමාගේ රැල
ලාබන්ගේ සිවුපාවන් අතරෙහි නොත
41 බා තනිව තැබුයේය. බලවන්තවූ සිවු
පාවෝ ගැබ්ගත් කල්හි ඔවුන් ලී මධ්‍ය
යෙහිදී ගැබ්ගනනා පිනිස සිවුපාවන්
ගේ ඇස් හමුයෙහි කඳුරැලිවල ලී තැබු
42 යේය. එහෙත් සිවුපාවෝ දුර්වලව සිටි
කල්හි ලී නොතැබුයේය. එලෙස දුර්වල
වූවෝ ලාබන්ගේද බලවන්තවූවෝ යා
43 කොබ්ගේද වූවෝය. ඒ පුරුෂයාද අති
සයින් වැඩිව බොහෝ සිවුපාවුනූ දාසි
දාසුන්ද ඔටුවන්ද කොටළුවන්ද ඇතුව
සිටියේය.

31. පරිච්ඡේ. යාකොබ් අපගේ පියා
නන් සන්තකවූ සියල්ලම ගත්තේය. අ
පේ පියානන් සන්තකවූ දෙයින් මේ සි
යළු වස්තුව ලබාගත්තේයයි ලාබන්ගේ
2 පුත්‍රයෝ කියන බව යාකොබ් අසා ලා
බන්ගේ මූහුන බැළුවිට පලමු ලෙස ඒ
ක ඔහු කෙරෙහි නොවූ බව දුටුයේය.
3 යෙහෝවාවහන්සේ තාගේ පියවරුන්
ගේ දේසයටද තාගේ නෑයන් වෙතට
ද හැරී යව මමද තා සමග සිටින්නෙමියි
4 යාකොබ්හට කීසේක. යාකොබ්ද ර
බෙල් සහ ලේයාද කෙතෙහි රැල ළඟ
5 ට කැඳවා නුබලාගේ පියානන්ගේ මූහු
න පලමු ලෙස මා කෙරෙහි නොවන
බව දකිමි. එහෙත් මාගේ පියානන්ගේ
දෙවියන්වහන්සේ මා සමග සිටිසේක.
6 මම මාගේ සියළු සක්තියෙන් නුබලා
7 ගේ පියාට වැඩ කෙලෙමියි දනිති. නු
බලාගේ පියානෝ දස වරක් මා රවටා
මාගේ කුලී වෙනස්කලාය. එහෙත් මට
නපුරක් කරන්ට දෙවියන්වහන්සේ ඔහු
8 ට අවසර නුදුන්සේක. ලප ඇත්තන් නු
ඹේ කුලී වන්නේයයි කීකල සියළු සිවුපා
9 රැල ලප ඇත්තන් වැදුවෝය. රේඛා
ඇත්තන් නුඹේ කුලී වන්නේයයි කීකල
සියළු සිවුපා රැල රේඛා ඇත්තන් වැදු
වෝය මෙසේ දෙවියන්වහන්සේ නුබලා
ගේ පියානන්ගේ සිවුපාවුන් අරගන මට
10 දුන්සේක. තවද සිවුපා රැල ගැබ්ගත්
කල්හි හීනයකින් මාගේ ඇස් ඔසවා සි
වුපාවුන් පිට නගිනනාවූ බැටළුවෝද එ
ළුවෝද රේඛා ලප අඳුනවන් ඇත්තෝද
11 වූබව දුටිමි. එවිට දෙවියන්වහන්සේගේ
දූතයා එම්බා යාකොබ්යයි මට කීසේක.
12 මමද මෙහියයි කීවිට තාගේ ඇස් ඔස
වා බලව. ලාබන් තට කරණ සියල්ල
දුටුහෙයින් සිවුපාවුන් පිට නගිනනාවූ
සියළු එළුවෝ රේඛා සහ ලපද අඳුන්
13 වන් ඇත්තෝ වෙති. තෝ කණුව අ
ලේපකොට මට පොරොන්දුවක් කලා
වූ බැතැල් දෙවියන්වහන්සේ මමය. නැ
ගිට මේ දේසයෙන් තාගේ නෑයන්ගේ
දේසයට හැරී යවයි කීසේකැයි කීයේ
14 ය. එවිට රබෙල් සහ ලෙයාද උත්තර
දෙමින් අපගේ පියානන්ගේ ගෙයි කිසි
කොටසක්වත් උරුමයක්වත් අපට ඇද්
15 ද ? ඔහු අප විකුන අපේ මිල වියදම්කල
නිසා අප විදේසීන්කොට කල්පනාකෙ
16 ලේ නොවේද ? දෙවියන්වහන්සේ අප
ගේ පියානන්ගෙන් ගත් සියළු වස්තුව
අපගේ සහ අපගේ පුත්‍රයන් සන්තකය.
එහෙයින් දෙවියන්වහන්සේ කී සියල්ල
කරපනනැයි ඔහට කීවෝය.
17 එකල යාකොබ් නැගිට තමන් පුත්‍ර
18 යන් සහ භාර්‍යාවනූ ඔටුවන් පිට නගවා
කානාන් දේසයෙහිවූ තමන් පියවූ ඊ
සාක් වෙතට යන පිනිස තමන්ගේ සිය
ළු සිවුපාවනූ තමන් උපයාගත් සියළු වස්

තුඹ්ද පදන් අරාමෙහිදි උපයාගත් සිව්
19 පාවුද තමන් කැටුව ගෙන ගියේය. එ
විට ලාබන් බැටළුවන්ගේ රෝම කපන
පිනිස ගියේය. රාබෙල්ද තමාගේ පියා
20 නන්ට තිබුණු රූප සොරා ගත්තාය. යා
කොබ් අරමීයවූ ලාබන්හට නොදැන
ස ලෙස සොරෙන් ගොස් තමන් යන
21 බව ඔහට නොකියා තමන්ගේ සියළු දේ
රැගෙණ පලාගියේය. ඔහු නැගිට ගඟින්
එතරව ගොස් ගිලියද් කන්ද දෙසට මුහු
22 ණ යොමුකෙලේය. තුන්වෙනි දින යා
කොබ් පලාගියබව ලාබන්ට අරංචිවිය.
23 එවිට ඔහු තමන් සහෝදරයන් කැඳවා
ගෙන සත්දවසක් ඔහු එලවා ගොස් ගිලි
24 යද් කන්දේදී ලඟට පැමිණියේය. දෙවි
යන්වහන්සේ රාත්‍රියෙහි සිහිනයකින් අරමී
යවූ ලාබන් වෙතට අවුත් යාකොබ්හට
නපුර පිනිස මොකවත් නොකියන්ට ප්‍ර
25 වේසම්වෙව්වයි කීසේක. එකල්හි ලාබන්
යාකොබ් ලඟට පැමුණුනේය. යාකොබ්
තමාගේ කූඩාරම කන්දේදී තබාගත්
තේය. ලාබන් තමන් සහෝදරයන් ස
මඟ ගිලියද්නම් කන්දේ කූඩාරම් තබා
26 ගත්තෝය. ලාබන් නුඹ කලේ කිමෙක්
ද? කුමක් පිනිස මම නොදැන සිටියදී මා
කෙරෙන් සොරකමින් ගොස් කඩුවෙන්
ජයගත්තවුන් මෙන් මාගේ දූවරුන් පැ
27 හැරගත්තෙහිද? මාගේ පුත්‍රයන් දූවරු
න් සිඹින්ට අවසර නොදී සතුටු ගීතිකා
බෙර වීනා සමඟ යවන්ට හැකිවන පිනි
28 ස මට නොකියා රහසින් මා කෙරෙන්
සොරකමින් පලා ගියේ මන්ද? මෙසේ
29 කෙරෙමින් අඥානලෙස කෙලෙහිය. නු
ඹට නපුර කරන්ට මාගේ අතෙහි බල
ය ඇත්තේය. එහෙත් ඊයේ රාත්‍රියෙහි
නුඹේ පියානන්ගේ දෙවියන්වහන්සේ ම
ට කථාකොට යාකොබ්හට නපුර පිනිස
මොකවත් නොකියන්ට ප්‍රවේසම් වෙව
30 යි කීසේක. නුඹේ පියාගේ ගෙට යන්ට
අතිසයින් ආසාවක් තිබුණු බැවින් යන්
ට කැමති නමුත් මාගේ දේවතාවන්
31 සොරකම්කෙලේ මන්දැයි කීයේය. යා
කොබ්ද උත්තර දෙමින් නුඹ බලාත්
කාරයෙන් නුඹගේ දූවරුන් මා කෙ
රෙන් පැහැර ගන්නේදෝහොයි සිතා
32 භයවූ නිසාය. නුඹේ දේවතාවන් යම්
කෙනෙකුන් වෙතදී ලබනෙත්ද ඔහු ජී
වත් නොවේවා. අපගේ සහෝදරයන්
ඉදිරියෙහිදී මා වෙත තිබෙන නුඹ සන්
තක දේ තෝරාගෙන ගණිතෑයි කීයේ
ය. මෙසේ කීවේ රාබෙල් ඒ දේවතා
වන් සොරාගත් බව යාකොබ් නොදත්
33 නිසාය. එවිට ලාබන් යාකොබ්ගේද ලෙ
යාගේද දාසීන් දෙදෙනාගේද කූඩාරම්
වලට ගොස් ඒවා නොලැබ ලෙයාගේ
කූඩාරමෙන් ගොස් රාබෙල්ගේ කූඩාර
34 මට ඇතුල්වූයේය. රාබෙල් ඒ රූපයන්
රැගෙණ ඔටුවන්ගේ ඇඳුම් යට තබා ඒ
මතුයෙහි හිඳගත්තාය. ලාබන් මුළු කූ
35 ඩාරම සොයා ඒවා නොලැබුයේය. ඈ
ඔබ අභිමුඛයෙහි මට නැගිටින්ට නො
හැකි බව මාගේ ස්වාමිදරුවන්ට අසන්
තෝස නොවේවා. කුමක්හෙයින්ද ස්ත්‍රීන්
ගේ නියමය මා කෙරෙහි වියයි තමන් පි
යාට කීවාය. ඔහු සොයා රූපයන් නො
ලැබුයේය.

36 එවිට යාකොබ් කිපී ලාබන්හට තරව
ටූකොට නුඹ මෙපමන තදින් මා එලෙව්
වේ මන්ද? මාගේ දෝෂය හා මාගේ පාප
37 ය කිමෙක්ද? නුඹ මාගේ සියළු වස්තුව
සොයා නුඹගේ ගෙයි සියළු වස්තුවෙන්
ලැබුනේ කිමෙක්ද? මාගේ සහෝර
යන් හා නුඹේ සහෝදරයන් ඉදිරියෙහි
ඒ තැබුවමැනව. ඔවුන් අප අතරෙහි වි
38 නිශ්වය කෙරෙත්වා. මේ විසි අවුරුද්
දේ නුඹ සමඟ සිටියෙමි. නුඹගේ බැට
ළුදෙනුන් හා නුඹගේ එළුදෙන්නුද ගැබ්
සා නොවූවෝය. නුඹගේ සිවුපා රැලෙ
39 හි බැටළුවන් මම නොකෑයෙමි. ඉරාද
මක ලද්දවුන් නුඹ වෙතට නොගෙණ
වූත් ඒ අලාභය මා පිටට ගතිමි. දවල්ද
රෑද සොරකම්කරනලද්දවුන් මා අතින්
40 ඉල්ළුයෙහිය. එසේ සිටියෙමි. දවල් වේ
ලිමෙන් රෑ සීතලෙන් මම දිරාගියෙමි.
මාගේ ඇස්වලින් මාගේ නින්ද දුරුව ගි
41 යේය. මේ විසි අවුරුද්ද මා නිසාම නු
ඹේ ගෙයි සිටියෙමි. නුඹේ දූවරුන් දෙ
දෙනා උදෙසා දස හතර අවුරුද්දක්ද
නුඹේ සිවුපාවුන් උදෙසා සවුරුද්දක්ද
මෙහෙකෙලෙමි. නුඹ මගේ කුලි දස ව
42 රක් වෙනස්කෙලෙහිය. ආබ්‍රහම්ගේ
දෙවිවූ ඊසාක්ගේ භයවූ මාගේ පියානන්
ගේ දෙවියන්වහන්සේ මා සමඟ නොසිටි
සේක්නම් සැබවින් මා හිස් අතින් යන්ට
හරිනෙතහිය. දෙවියන්වහන්සේ මාගේ
පීඩාව සහ මාගේ අත උත්සාහයද දැක
ඊයේ රාත්‍රියේ නුඹට තරවටුකලසේක
43 යි ලාබන්හට කීයේය. ලාබන් උත්තර

සැප් තමන්ගේ සහෝදරයන්ට මම යෝ
සැප් වෙමි. මාගේ පියානෝ තවම ජීවත්
වෙනොද්දැයි කීය. ඔහුගේ සහෝදරයෝ
ද ඔහුට උත්තර දෙන්ට නොහැකිව ඔ
4 හු ඉදිරියෙහි කැලඹී සිටියෝය. යෝ
සැප් තමාගේ සහෝදරයන්ට මා ළඟට
වරෙල්ලායයි කීය. ඔවුන් ළඟට ආවිට තු
බලා මිසරයට වික්කාවූ තුබලාගේ ස
5 හෝදරවූ යෝසැප් මම වෙමි. තුබලා මා
මේ රටට වික්ක නිසා සෝක නොවෙ
ල්ලාය තුබලාටම කෝප නොවෙල්ලාය.
දෙවියන්වහන්සේ ජීවිත රක්ෂාකරණ පි
නිස තුබලාට පෙරටුව මා එවූසේක.
6 මේ දෑවුරුද්ද රටෙහි දුර්භික්ෂය විය ත
ව පස් අවුරුද්දක් වැපිරීමක්වත් කැපී
7 මක්වත් නොවන්නේය. දෙවියන්වහන්
සේ තුබලාට පොලවෙහි වංශයක් රක්
ෂාරකණ පිනිසද මහත්වූ ගැලවීමකින්
තුබලාගේ දිවි රක්ෂාකරණ පිනිසද තුබ
8 ලාට පෙරටුව මා එවූසේක. එබැවින් තු
බලා නොව දෙවියන්වහන්සේ මා එවූසේ
ක. උන්වහන්සේ මා ඵාරාවෝහට පියකෙ
නෙක්කොටද ඔහුගේ සියළු ගෙයි ස්වා
මියෙක්කොටද සියළු මිසරදේසයට අධි
9 පතියෙක්කොටද කලසේක. තුබලා මා
ගේ පියානන් වෙතට ඉක්මනින් ගොස්
ඔබගේ පුත්‍රවූ යෝසැප් මෙසේ කියන්
නේය. දෙවියන්වහන්සේ සියළු මිසරදේ
සයට මා ස්වාමියෙක් කලසේක. ප්‍රමාද
10 නොව මා වෙතට අවමැනව. තුබ ගෝ
ෂෙම් රටෙහි වසන්නේය. එවිට තුබද තු
බේ දරුවෝද තුබේ මුනුබුරෝද බැටළු
සමූහයෝද ගව සමූහයෝද තුබ සන්ත
11 කවූ සියල්ලෝම මා ළඟ වසන්නෝය. දු
ර්භික්ෂය අවුරුදු පහක්ම තිබෙන හෙ
යින් තුබද තුබේ ගෙයි වැසියෝද තුබ
සන්තක සියල්ලෝද දිලිඳු බවට නොපැ
මිනෙන පිනිස තුබ පෝෂණකරනෙනම්
12 යි කියා ඔහුට කියාපල්ලාය. තුබලාගේ
ඇස්ද මාගේ සහෝදරවූ බෙන්යමින්
ගේ ඇස්ද මාගේ මුඛය කථාකරණ බව
13 දක්නෝය. තුබලා මිසරයෙහි මාගේ
සියළු ඓශ්වර්යද තුබලා දුටු සියළු දේ
ද මාගේ පියානන්ට කියා ඉක්මනින්
මාගේ පියානන් මෙහි කැඳවාගෙන ව
14 රෙල්ලායයි කියා තමන් සහෝදරවූ
බෙන්යමින්ගේ බෙල්ල බදාගෙන හැඬී
ය. බෙන්යමින්ද ඔහුගේ බෙල්ල බදාගෙ
15 ණ හැඬීය. ඔහු තමන් සහෝදරයන් සි
යල්ලම සිඹ ඔවුන් වැළඳගෙන හැඬීය.
ඉන්පසු ඔහුගේ සහෝදරයෝ ඔහු ස
මග කථාකලෝය
16 ඵාරාවෝගේ ගෙයි වැසියෝ යෝ
සැප්ගේ සහෝදරයන් ආබව ඇසුවෝ
ය ඵාරාවෝද ඔහුගේ මෙහෙකරුවෝ
17 ද ඉතා ප්‍රසන්නවූවෝය ඵාරාවෝ යෝ
සැප්ට කථාකොට තුබේ සහෝදරයන්ට
මෙසේ කියාපන්න ආඥාකරණලද්දවූ තු
බලා තුබලාගේ සිවුපාවුන් පැටවිලිකර
18 ගන කනාන් දේසයට ගොස් තුබලාගේ
පියානන් සහ ගෙයි වැසියන්ද කැඳවාගෙ
න මා වෙතට වරෙල්ලාය මම මිසරදේස
යෙහි යහපත් දේ තුබලාට දෙනෙනම්
තුබලා රටෙහි සරුකමෙන් කනෙනා
19 ය අන ලැබූ තුබලා තුබලාගේ දරුවන්
ටද භාර්යාවන්ටද මිසරදේසයෙන් යා
නාවන් රැගෙණ තුබලාගේ පියානන්
20 කැඳවාගෙන වරෙල්ලාය. තුබලාගේ
ගේ බඩු ගැන කල්පනා නොකරල්ලාය.
සියළු මිසරදේසයෙහි යහපත තුබලා
21 ගේයයි කීයේය. ඊශ්‍රාලේගේ පුත්‍රයෝද
එලෙස කලෝය. යෝසැප්ද ඵාරාවෝ
22 ගේ අන ලෙස ගැල්ද මගට වියදමද ඔ
වුන් සියල්ලන්ට වස්ත්‍ර දෙක බැගින්ද
බෙන්යමින්ට රිදී තුන්සියයක් සහ වස්
23 ත්‍ර පසක්ද තමාගේ පියානන්ට මගට වි
යදම පිනිස කොටළුවන් දසදෙනෙක්
බර මිසරයෙහි යහපත් දේවල්ද කො
ටළු දෙනුන් දසදෙනෙක් බර ධාන්‍යස
24 හ පූපද රස ඇති භෝජනද යවා තමා
ගේ සහෝදරයන්ට මාර්ගයෙහිදී දබර
නොකරල්ලායයි කියා ඔවුන් හැරියේය.
25 ඔවුන් නික්ම මිසරයෙන් ගොස් කනාන්
දේසයෙහි තමන් පියවූ යාකොබ් වෙත
26 ට අවුත් යෝසැප් තවම ජීවත්ව සිටින්
නේය. ඔහු සියළු මිසරදේසයෙහි අධිප
තියෙකැයි කීවෝය. එවිට යාකොබ් ඔ
වුන්ගේ බස් අදහනොගත් නිසා තමන්
27 ගේ හෘදය ක්ලාන්තවිය. ඔවුන් යෝසැප්
කී සියළු වචන ඔහුට කීවෝය. ඔවුන්
ගේ පියවූ යාකොබ් තමන් ගෙනයන පි
නිස යෝසැප් එවූ යානාවන් දැක ඔහු සි
28 හි ලැබුයේය. ඊශ්‍රායෙල්ද ඉතින් ඇත.
මාගේ පුත් යෝසැප් තවම ජීවත්වන්
නේය. මම නඟින්ට පලමුවෙන් ගොස්
ඔහු දක්නෙමියි කීයේය.

46. පරිච්ඡෙ. ඊශ්‍රායෙල් තමන් සතු සිය

ලූ ඊශ්‍රායෙල් නික්මගොස් බිඊෂෙබාට පැමි
ණ තමන් පියවූ ඊසාක්ගේ දෙවියන්වහන්
2 සේට යාගයන් පූජකෙලේය. දෙවියන්ව
හන්සේ රාත්‍රියෙහි ඝීනවලින් ඊශ්‍රායෙල්
හට යාකොබ් යාකොබ්ය කියා කීසේක.
3 ඔහු මම මෙහියයි කීයේය. උන්වහන්සේ
තාගේ පියානන්ගේ දෙවිවූ දෙවියන්ව
හන්සේ මම වෙමි. මිසරයට යන්ට භය
නොවව. කුමක්හෙයිනද එහි තාගෙන්
4 මහත්වූ වංශයක් කරනෙනමි. තා සමග
මිසරයට ගොස් සැබවින් තා නැවත ගෙ
නෙනෙනමි. යෝසැප්ද තාගේ ඇස්වල
ඔහුගේ අත තබනෙන්යයි වදාලසේක.
5 යාකොබ් බිඊෂෙබාවෙන් ගියේය. ඊශ්‍රා
යෙල්ගේ පුත්‍රයෝ ඔහු ගෙනයන පිනිස
ඵාරාවෝ එවූ ගැල්වලින් තමන් පියවූ යා
කොබ්ද තමන් දරුවන්ද ස්ත්‍රීන්ද ගෙනගි
6 යෝය. ඔවුන් තමන්ගේ සිව්පාවන්ද ක
නාන්දේසයෙහි ලැබූ සම්පත්ද ගෙන
යාකොබ් සහ ඔහුගේ සියළු වංශය සම
7 ග මිසරයට පැමිණියෝය. ඔහු තමන් පු
ත්‍රයන්ද මුණුබුරන්ද දූවරුන්ද මිනිබිරියන්ද
තමන් සියළු වංශයද තමන් සමග මිසර
යට ගෙනායේය.
8 මිසරයට පැමිණියාවූ ඊශ්‍රායෙල් පුත්‍රයෝ
නම් මෙය. යාකොබ් සහ තමන් පුත්‍ර
යෝය. යාකොබ්ගේ කුළුඳුල්වූ රූබෙන්
9 ය. රූබෙන්ගේ පුත්‍රයෝ හනොක්ද
ඵල්ලූද හෙස්‍රොන්ද කර්මිද යන මො
10 වුන්ය. සිමියොන්ගේ පුත්‍රයෝනම් යෙමූ
යෙල්ද යමීන්ද ඕහද්ද යාකීන්ද සොහර්ද ක
නානිය ස්ත්‍රීගේ පුත්‍රවූ සාවුල්ද යන මො
11 වුන්ය. ලෙවීගේ පුත්‍රයෝනම් ගෙර්ෂො
න්ද කොහත්ද මෙරාරිද යන මොවුන්ය.
12 යූදාගේ පුත්‍රයෝනම් ඒර්ද ඕනාන්ද ෂෙ
ලාද ඵෙරෙස්ද සාරාද යන මොවුන්ය. එ
හෙත් ඒර් සහ ඕනාන් කනාන්දේසයෙ
හි නැසුනෝය. ඵෙරෙස්ගේ පුත්‍රයෝනම්
13 හෙස්‍රොන් සහ හමූල්ය. ඉස්සාකර්ගේ පු
ත්‍රයෝනම් තොලාද පූවාද යෝබ්ද සිම්
14 රොන්ද යන මොවුන්ය. සෙබුලොන්ගේ
පුත්‍රයෝනම් සෙරෙද්ද ඵලොන්ද යහ්
15 ලීල්ද යන මොවුන්ය. ලෙයා පදන් ආර
මෙහි යාකොබ් නිසා වැදූ පුත්‍රයන්ද ත
මාගේ දූවූ දීනා යන තමාගේ සියළු ද
රුවෝ දෙතිස් දෙනෙක.
16 ගද්ගේ පුත්‍රයෝනම් සිපියොන්ද හග්
ගීද ෂූනීද ඵෂ්බොන්ද ඒරීද අරෝදිද අ
17 රෙලීද යන මොවුන්ය. ආෂෙර්ගේ පුත්‍ර
යෝනම් ජිම්නාද ඉෂ්වාද ඊෂුයිද බෙරි
යාද ඔවුන්ගේ සහෝදරීවූ සෙරාද යන
මොවුන්ය. බෙරියාගේ පුත්‍රයෝනම්
18 හෙබර් සහ මල්කීයෙල්ය. ලාබන් තමන්
දියණියන්වූ ලෙයාහට දුන් සිල්පා යා
කොබ් නිසා වැදූ පුත්‍රයෝනම් මොවුන්
සොළොස් දෙනෙක.
19 යාකොබ්ගේ භාර්‍ය්‍යාවූ රාහෙල්ගේ පු
ත්‍රයෝනම් යෝසැප් සහ බෙන්යමින්ය.
20 මිසරදේසයෙහි ඕන්හි පූජකවූ පොතිපර්
ගේ දූවූ අසෙනත් වැදූ මනස්සෙස් ස
හ ඵප්‍රායිම් යෝසැප්හට උපනෝය.
21 බෙන්යමින්ගේ පුත්‍රයෝනම් බෙලාද
බෙකෙර්ද අෂ්බෙල්ද ගෙරාද නාමන්ද එ
හීද රොෂ්ද මුප්පිම්ද හුප්පිම්ද අර්ද යන
22 මොවුන්ය. යාකොබ් නිසා වැදූ රාහෙල්
ගේ පුත්‍රයෝ මොවුන්ය. සියළු දෙනම ද
ස සතර දෙනෙක.
23 දාන්ගේ පුත්‍රයානම් හුෂිම්ය. නප්තලී
24 ගේ පුත්‍රයෝනම් යාසීල්ද ගූනීද යෙසෙර්
25 ද සිලෙම්ද යන මොවුන්ය. ලාබන් ත
මාගේ දියණියන්වූ රාහෙල්හට දුන් බිල්
හා යාකොබ් නිසා වැදූ පුත්‍රයෝනම් මො
26 වුන්ය. ඒ සියල්ලෝම සත්දෙනෙක. යා
කොබ්ගේ පුත්‍රයන්ගේ භාර්‍ය්‍යාවන් හැ
ර යාකොබ්ගේ කටියෙන් නික්මුනාවූ
ඔහු සමග මිසරයට පැමිණියාවූ සියල්
27 ලෝ සැට සදෙනෙක. යෝසැප් නිසා මි
සරයෙහි උපන් පුත්‍රයෝ දෙදෙනෙක.
මිසරයට පැමිණියාවූ යාකොබ්ගේ ගෙයි
සියල්ලෝ සැත්තෑ දෙනෙක්ය.
28 යාකොබ්ද යෝසැප් වෙතට ගොෂෙන්
දේසයට හැරී යන පිනිස යූදා යැවූයේය.
ඔවුන් ගොෂෙන් දේසයට පැමිණියෝය.
29 යෝසැප් තමන් රථය බැඳ තමන් පිතෘ
හට සම්මුඛවෙන පිනිස ගොෂෙන් දේස
යට ගොස් ඔහු දැක ඔහුගේ බෙල්ල වැ
30 ලඳගනිමින් බොහෝ වේලා හැඬීය. එ
විට ඊශ්‍රායෙල් යූසෙබ්ට තුඹුන දුටුබැවින්ද
තුඹ තවම ජීවත්ව සිටිනබැවින්ද දැන් ම
31 ම නසිම්වා. යෝසැප්ද තමන් සහෝදර
යන්ටද පියානන්ගේ ගෙයි වැසියන්ටද
කියනුයේ මම ඵාරාවෝ වෙතට ගොස්
කනාන්දේසයෙහි සිටියාවූ මාගේ සහෝ
දරයෝද මාගේ පියානන්ගේ ගෙයි වැ
32 සියෝද මා ලඟට ආවෝය. ඔවුන් එඬේ
රුය ඔවුන්ගේ කර්මාන්තය සිව්පාවන්
ඇතිකිරීමය. එබැවින් තමන් බැටළුවන්
සහ ගවයන්ද තමන් සතු සියල්ලද ගෙනා

33 වෝයයි ඔහුට කියමින් දනවනෙනම්. ඵා
රාවෝ තුබලාට අඬගසා තුබලාගේ ක
34 ර්මාන්තය කිමෙක්දැයි විචාරණකල තු
බලා ගොෂැන් දේසයෙහි වසන්ට අව
සර ලබන පිනිස ඔබගේ මෙහෙකරු
වන්ගේ එනම් අපගේ සහ අපගේ පිය
වරුන්ගේ කර්මාන්තය අපේ තරුණව
යසෙහි පටන් දූන් දක්වාම සිව්පාවන්
ගැන වූයේයයි කියාපල්ලාය. කුමක්හෙ
යින් සියළු එඬේරු මිසරදේසවාසීන්ට
නින්දුවක්ව තිබෙනෙන්යයි කීය.

47. පරිච්ඡේ. එකල්හි යෝසැප් අවුත්
මාගේ පියානෝද මාගේ සහෝදරයෝ
ද තමන්ගේ සිව්පා රැල සහ ගව රැලද
තමන් සන්තක සියල්ලද සමග කනාන්
දේසයෙන් අවුත් ගොෂැන් දේසයෙහි
2 සිටිතියි ඵාරාවෝහට කීයේය. ඔහු ත
මන් සහෝදරයන්ගෙන් පස් දෙනෙක්
3 රැගෙන ඵාරාවෝ ඉදිරියට ආයේය. ඵා
රාවෝ තුබලාගේ මෙහෙය කිමෙක්දැයි
ඔහුගේ සහෝදරයන්ට කීය. ඔවුන් ඔබ
ගේ මෙහෙකරුවෝ එනම් අපිද අපගේ
පියවරුද එඬේරුයයි ඵාරාවෝහට කී
4 වෝය තවද ඔවුන් කනාන් දේසයෙහි
දුර්භික්ෂය වැඩිහෙයින් ඔබගේ මෙහෙ
කරුවන්ගේ සිව්පාවන්ට ගොදුරු නැ
ති නිසා මේ දේසයෙහි සිටින්ට ආවෙමු
ව. එබැවින් දූන් ඔබගේ මෙහෙකරු
වන්ට ගොෂැන් දේසයෙහි වසන්ට අව
සර දුනමැනවයි ඵාරාවෝහට කීවෝය.
5 ඵාරාවෝ යෝසැප්හට කථාකොට තුබ
ගේ පියානෝද සහෝදරයෝද තුබ වෙ
6 තට ආවෝය. මිසරදේසය තුබ ඉදිරියෙ
හිය තුබේ පියා සහ සහෝදරයනු දේස
යෙහි උත්තම ස්ථානයක වාසයකරවාප
න්න ගොෂැන් දේසයෙහි ඔවුන් වාසය
කෙරෙත්වා. ඔවුන් අතරෙහි බුහුටි පු
රුෂයන් අඳුනනෙහාහිනම් ඔවුන් මාගේ
සිව්පාවන් කෙරෙහි අධිපතීන් කොට
නියමකරපනනැයි කීය.
7 එවිට යෝසැප් තමන් පියවූ යාකොබ්
ඇතුලට කැඳවාගෙනවුත් ඵාරාවෝ ඉදි
රියෙහි සිටවිය. යාකොබ්ද ඵාරාවෝහට
8 ආශීර්වාදකෙළේය. ඵාරාවෝද තුබගේ
වයස කොතෙක් අවුරුදුදැයි යාකොබ්
9 හට කීයේය. යාකොබ් මාගේ සචාරණ
යෙහි අවුරුදුවල වයස එකසිය තිස් අ
වුරුද්දක. මාගේ සචාරණයෙහි අවුරු
දුවල දවස් ස්වල්ප සහ නපුරුවිය. මා
ගේ වයස් මාගේ පියවරුන්ගේ සචාර
10 ණයවූ වයස්වලට සමාන නොවේය. යා
කොබ් ඵාරාවෝහට ආශීර්වාදකොට ඵා
රාවෝගේ ඉදිරියෙන් ගියේය.
11 ඉන්පසු යෝසැප් රමෙසෙස්නම් දේ
සයෙහිවූ උත්තම ස්ථානයෙහි තමන් පි
යා සහ තමන් සහෝදරයන් සිටුවා ඵා
රාවෝගේ ආඥාව ලෙස මිසරදේසයෙහි
12 ඔවුන්ට අයිතිවීමක් දුනෙන්ය. යෝසැප්
තමන් පියා සහ සහෝදරයනු තමන් පි
යානන්ගේ ගෙයි වැසියනු තමන්ගේ ප
වුල්වල ප්‍රකාරයට භෝජනයෙන් රක්ෂා
කෙළේය.
13 තවද මිසරදේසය සහ කනාන්දේස
යද ක්ෂයවෙනලෙස දුර්භික්ෂය වැඩිව ති
බෙන බැවින් මුළු දේසයෙහි භෝජන
14 නැතිවිය. යෝසැප්ද මිසරයෙහි සහ ක
නාන්දේසයෙහිද තිබුන සියළු මුදල් ධා
න්‍ය දීලා එක්කාසුකොට ඒ මුදල් ඵාරා
15 වෝගේ ගේ ඇතුලට ගෙනායේය. මිස
රදේසයෙහිද කනාන්දේසයෙහිද මුදල්
නැතිකල්හි සියළු මිසරියයෝ යෝසැප්
වෙතට අවුත් අපට භෝජන දුනමැනව.
අපි තුබ ඉදිරියෙහි කුමක්හෙයින් නසි
මෝද අපට මුදල් නැතැයි කීවෝය.
16 යෝසැප්ද තුබලාට මුදල් නැත්නම්
තුබලාගේ සිව්පාවුන් දියල්ලාය එවිට තු
බලාගේ සිව්පාවුන් හිලව්වට ආහර දෙ
17 නෙනම්යි ඔවුන්ට කීය. ඔවුන් තමන් සිව්
පාවන් යෝසැප් වෙතට ගෙනාවෝය.
යෝසැප්ද අශ්වයින් සහ බැටළුවනු ගව
සිනු කොටළුවනු හිලව්වට ඔවුන්ට ආහ
ර දී ඒ අවුරුද්ද මුළුල්ලෙහි ඔවුන්ගේ සි
යළු සිව්පාවුන් හිලව්වට ආහරයෙන් ඔ
18 වුන් රක්ෂාකෙලේය. ඒ අවුරුද්ද කෙල
වරවූකල්හි දෙවෙනි අවුරුද්දෙහි ඔ
වුන් ඔහු වෙතට අවුත් අපට මුදල් නැ
ති බව අපගේ ස්වාමීන්ට නොසඟවමුව.
අපගේ සිවුපාවෝ අපගේ ස්වාමි වෙත
ඇත්තෝය. අපගේ ස්වාමිහු ඉදිරියෙහි
අපගේ ශරීර සහ කෙත් හැර වෙන කි
19 සිවක් නැත්තේය. කුමක් පිනිස අපගේ
කෙත් සහ අපිද ඔබ ඉදිරියෙහි නසිමෝ
ද? අප සහ අපගේ කෙත් හිලව්වට ආ
හර දුනමැනව. එවිට අපගේ කෙත් සහ
අපිද ඵාරාවෝහට දාසයෝ වනෙනමුව.
අපි නොනැසී ජීවත්වෙන පිනිසද භූමි
ය පාළුනොවෙන පිනිසද බීජයන් අපට

20 දුනමැනවයි කීහ්වෝය. එකල්හි යෝශප්
ඵාරාවෝ උදෙසා මිසරියයන්ගේ සියළු
භූමිය ගත්තේය. සියළු මිසරියයෝ දුර්භි
ක්ෂයෙන් පීඩිතවූ බැවින් තමන්ගේ කෙ
ත් වික්කෝය එහෙයින් ඒ භූමිය ඵාරා
21 වෝ සන්තකවිය. ඔහු ජනයන් මිසරදේ
සයෙහි එක් සීමාවක කෙලවරක පටන්
අනික් සීමාවේ කෙලවර දක්වා ඒ ඒ නු
22 වරවලට යැවීය. පූජකයන්ගේ භූමි පම
ණක් ඔහු නොගත්තේය. පූජකයෝ ඵා
රාවෝගෙන් කොටසක් ලැබ ඵාරාවෝ
ඔවුන්ට දුන් කොටස කෑහෙයින් තමන්
23 කෙත් නොවික්කෝය එකල යෝසැප්
අද නුබලා සහ නුබලාගේ භූමි ඵාරා
වෝ උදෙසා ගනිමි. මෙහි බීජ ඇත්තේ
24 ය. නුබලා කෙත් වපුර උපදවන දෙ
සින් පහෙන් කොටසක් ඵාරාවෝහට දී
පල්ලාය. කෙතෙහි බීජ පිණිසද නුබලා
ගේද නුබලාගේ ගෙයි වැසියන්ගේද ද
රුවන්ගේද ආහර පිණිස පහෙන් සතර
25 කොටසක් නුබලාට වනෙන්යයි කීය. ඔ
වුන් ඔබ අපගේ ජීවිතයන් රක්ෂාකෙලේ
ය. අපගේ ස්වාමිහුගෙන් කරුණාව අප
ට ලැබේවා. එවිට අපිදු ඵාරාවෝගේ ද
26 සයෝ වෙනෙනවූයයි කීහ්වෝය. ඵාරාවෝ
සන්තකනුවූ පූජකයන්ගේ භූමි හැර සි
යළු මිසරදේසයෙහි පහෙන් කොටසක්
ඵාරාවෝ ලබනෙන්යයි අදදක්වා යෝ
සැප් නියෝගයක් කෙලේය.

27 ඊශ්‍රායෙල් මිසරදේසයෙහිවූ ගොෂැන්
රටෙහි සිට ප්‍රවේනිකාරයෝව වඞනව
28 ඉතා බොහෝවූවෝය. යාකොබ්ද මිස
රදේසයෙහි දස සත් අවුරුද්දක් ජීවත්
විය. ඔහුගේ මුළු වයස එකසිය සතලිස්
29 සත් අවුරුද්දක් විය. ඊශ්‍රායෙල් මැරෙණ
දවස ආසනනවූවිට ඔහු තමන් පුත්‍රවූ
යෝසැප් තමන් වෙතට කැඳවා නුඹෙන්
මට කරුණාව ඇත්නම් නුඹේ අත මා
ගේ කලවය යට තබා මා කෙරෙහි ක
රුණාවද සත්‍යයද කරපනන. මිසරදේ
30 සයෙහි මා තැන්පත් නොකරනන. මම
මාගේ පියවරුන් වෙත සයනයකරන්
නෙමි. මිසරදේසයෙන් මා ගෙනගොස්
ඔවුන්ගේ තැන්පත්කරණලද ස්ථානයෙ
හි මා තැන්පත්කරපනනැයි කීය. ඔහු
31 නුබ කී ලෙසම කරනෙනම්යි කීය. යා
කොබ්ද මා ඉදිරියෙහි දිවුරපනනැයි කී
ය. ඔහු දිවුලේය. ඊශ්‍රායෙල් ඇඳෙහි සි
ට නමස්කාර කෙලේය.

48. පරිච්. මෙයින් පසු නුඹේ පි
යානෝ ලෙඩිනැයි කෙනෙක් යෝසැප්
හට කීයේය. ඔහු තමන්ගේ පුත්‍ර දෙදෙ
නාවූ මනස්සෙස් සහ එප්‍රායිම්ද තමන්
2 කැටුව කැඳවාගෙන ගියේය. එවිට නු
ඹේ පුත්‍රවූ යෝසැප් නුඹ වෙතට එන්
නේයයි යාකොබ්හට කෙනෙක් කීයේ
ය. ඊශ්‍රායෙල් තමාම ශක්තිය ලැබ ඇඳ
3 පිට හුනේය. යාකොබ් යෝසැප්හට
කියනුයේ සර්වපරාක්‍රමවූ දෙවියන්වහන්
සේ කනාන් දේසයෙහි ලූස්හිදී මට පෙ
4 නී මට ආශීර්වාදකොට මම තා සඵලලෙ
ස වඩිනායකරවා තාගෙන් ජන සමූහ
යක්ද කරවා තාගෙන් පසු මේ දේසය
තාගේ වංශයට සදාකාලවූ උරුමයකට
5 දෙනෙනම්යි කීසේක. මම නුබ වෙතට
මිසරයට එන්ට පලමුවෙන් මිසර දේස
යෙහිදී නුබට උපන් පුත්‍ර දෙදෙනාවූ එ
ප්‍රායිම් සහ මනස්සෙස්ද රූබෙන් සහ
6 සිමියොන් මෙන් මාගේ වෙති. ඔවුන්
ගෙන් පසු නුබට උපදින දරුවෝ නු
ඹේ වෙති. ඔවුන් තමන් උරුමය හිමි
වෙමින් තමන් සහෝදරයන්ගේ නාම
7 ය ලෙස නම් ලබති. මම පදන්හි සිට
එද්දී රාබෙල් කනාන් දේසයෙහි ඒප්‍රත්
ට එන්ට තව ස්වල්පයක් දුර තිබියදීම
මාර්ගයෙහිදී මලාය. මමද ඈ බැත්ලෙ
හෙම්නම් ඒප්‍රත් මාර්ගයෙහි තැන්පත්
කොලෙමියි කීය.

8 ඊශ්‍රායෙල් යෝසැප්ගේ පුත්‍රයන් දුක
9 මොවුන් කවුරුදැයි ඇහුයේය. යෝසැප්
ඔවුන් දෙවියන්වහන්සේ මට දුන් මාගේ
පුත්‍රයෝයයි තමාගේ පියානන්ට කීයේ
ය. ඔහු ඔවුන් මා වෙතට ගෙනෙනන
මමද ඔවුන්ට ආශීර්වාද කරනෙනම්යි කී
10 යේය. ඊශ්‍රායෙල් වයෝවෘද්ධ බැවින් ත
මන් ඇස් නොපෙනෙන ලෙස අඳුරුව
තිබුනේය. යෝසැප් ඔවුන් ඔහු වෙතට
ගෙනායේය. ඊශ්‍රායෙල් ඔවුන් සිඹ වැල
11 දගෙන නුඹේ මුහුන දක්නෙම්යි නො
සිතුයෙමි එහෙත් දෙවියන්වහන්සේ නු
ඹේ දරුවන් පවා මට පෙන්නුසේකැයි
12 යෝසැප්හට කීයේය. යෝසැප් ඔවුන්
තමාගේ දනහිස් අතරෙන් බැහැරගෙ
න මුහුන බිමට නමා නමස්කාරකොට
13 ඔවුන් දෙදෙනා එප්‍රායිම් තමන් දකුන
තින් ඊශ්‍රායෙල්ගේ වමත දිශාවටද ම
නස්සෙස් තමන් වමතින් ඊශ්‍රායෙල්ගේ
දකුනත දිසාවටද අල්වාගෙන ඊශ්‍රා

14 යෙල් වෙතට පැමිනවිය. ඊශ්‍රායෙල් ත
මන් දකුනත දිගුකොට බාලවූ එප්‍රායිම්
ගේ ඉසපිටද මනස්සෙස් කුළුදුල් නුමුත්
තමන් වමත මනස්සෙස්ගේ ඉස පිටද
දූනදූනම තැබුවේය.

15 ඊශ්‍රායෙල් යෝසැප්හට ආශීර්වාදකො
ට මාගේ පියවරුවූ ආබ්‍රහම් සහ ඊසාක්
ද යම් දෙවිකෙනෙක් ඉදිරියෙහි හැසු
රුනෝද මාගේ සියළු ජීවිතයෙහි මේ
දිනය දක්වා මා පෝෂණය කලාවූ ඒ දෙ
16 වියන්වහන්සේ වන සියළු නපුරෙන් මා
රක්‍ෂාකල දූතයා තරුණයින්ට ආශීර්වාද
කරණසේක්වා. මාගේ නාමයද මාගේ
පියවරුවූ ආබ්‍රහම්ගේද ඊසාක්ගේද නා
මයද ඔවුන් කෙරෙහි කියනු ලැබේවා.
පොලවෙහි ඔවුන් ජන සමූහයකට වඩි
17 නවේවයි කීයේය. යෝසැප් ඔහුගේ පි
යානෝ තමන් දකුනත එප්‍රායිම්ගේ හි
සපිට තුබූ බව දැක නොසතුටුව එප්‍රායිම්
ගේ හිසින් අහක්කොට මනස්සෙස්ගේ
හිසපිට තබන පිනිස තමන් පියානන්
18 ගේ අත් ඔසවා මාගේ පියානෙනි එසේ
නොවේවා මේ කුළුදුල්වූ තැනැත්තේ
ය. නුබේ දකුනත ඔහුගේ හිස පිට තැබූ
වමැනවයි තමාගේ පියානන්ට කීයේය.
19 ඔහුගේ පියානෝද නොකමැතිව මම
දනිමි මාගේ පුත්‍රය මම දනිමි ඔහුද ජ
නසමූහයක් වන්නේය මහත් තැනැත්
තෙක්ද වන්නේය. එහෙත් සත්‍යයෙන්
ම ඔහුගේ බාල සහෝදරයා ඔහුට වඩා
උත්තමයෙක් වන්නේය ඔහුගේ වංශය
ද වංශයන්ගේ සමූහයක් වන්නේයයි
20 කියා එදවසෙහි ඔවුන්ට ආශීර්වාදකොට
දෙවියන්වහන්සේ එප්‍රායිම් සහ මනස්
සෙස් මෙන් නුබ කරණසේක්වයි කියා
ඊශ්‍රායෙල්වරු නුබ ගැන ආශීර්වාදකරන්
නෝයයි කීයේය. ඔහු එප්‍රායිම් මනස්
21 සෙස්ට ප්‍රධානව සිටෙව්වේය. ඊශ්‍රායෙල්
මම නස්නෙම් එහෙත් දෙවියන්වහන්
සේ නුබලා සමග සිට නුබලාගේ පියව
රුන්ගේ දේසයට නැවත නුබලා පමු
22 නුවනසේක. මම නුබේ සහෝදරයින්
ට වඩා එක් කොටසක් නුබට දුනිමි. ඒ
ක මාගේ දුනෙනන් සහ කඩුවෙන් අ
මෝරිවරුන්ගේ අතින් ගතිමියි යෝ
සැප්හට කීයේය.

49. පරිච්ඡෙ. එවිට යාකොබ් තමා
ගේ පුත්‍රයන් කැඳවා අන්තිම දවස්වල
දී නුබලාට පැමිනෙනනාවූ දේ ප්‍රකාස
2 කරන පිනිස රැස්වෙයල්ලාය. යාකොබ්
ගේ පුත්‍රයෙනි රැස්ව අසාපල්ලාය. නුබ
ලාගේ පියවූ ඊශ්‍රායෙල්ට කන් දියල්ලා
3 ය. රූබෙන් නුබ මාගේ කුළුදුලාය. මා
ගේ බලයය මාගේ සක්තියෙහි උතුම්
කමය ශ්‍රෙෂ්ඨභාවයෙහි උතුම්කමය පරා
4 ක්‍රමයෙහි උතුම්කමය. ජලය මෙන් අ
නිස්ථිරව උත්තමයෙක් නොවන්නෙහි
ය. කුමක්හෙයින්ද නුබේ පියානන්ගේ
යහනට නැගී ඒක කිළුටුකෙලේය. ඔහු
5 මාගේ යහනට නැංගේය. සිමියොන් ස
හ ලෙවී දෙදෙන සහෝදරයෝය. ඔ
වුන්ගේ කඩු ක්‍රූරකමේ ආයුධවල්ය. මා
6 ගේ ආත්මය ඔවුන්ගේ රහස් සභාවට
නොයනනා මාගේ ගෞරවය ඔවුන්ගේ
ශිවිසුමට එකඟ නොවෙනනා. කුමක්හෙ
යින්ද ඔවුන්ගේ ක්‍රෝධයෙන් මනුෂ්‍යයෙ
කු මරා තමන්ගේ සිත් දූඩිකමෙන් ගික්
7 තිය කඩාදැමුවෝය. ඔවුන්ගේ ක්‍රෝධ
ය රළුනිසාද ඔවුන්ගේ කෝපය ක්‍රූරත
ර නිසාද එයට සාපවේවා. මම ඔවුන්
යාකොබ් අතරෙහි බෙදා ඊශ්‍රායෙල් කෙ
8 රෙහි විසුරුවනෙනම්. යූදා: නුබේ ස
හෝදරයෝ නුබට ප්‍රසංසා කෙරෙති. නු
බේ අත නුබේ සතුරන්ගේ ගෙලෙහි ව
න්නේය. නුබේ පියානන්ගේ පුත්‍රයෝ
9 නුබට නමස්කාර කරති. යූදා: සිංහයෙකු
ගේ පැටියෙක. මාගේ පුත්‍රය නුබ ගො
දුරෙන් නැංගෙහිය ඔහු නැමුරුවූයේ
ය. ඔහු ශක්තිමත් සිංහයකුමෙන් මහළු
සිංහදේනුවෙකු මෙන් එබී හුන්නේය.
10 ඔහු නැගුටුවන්නේ කවරෙක්ද? සීලෝ
එනතුරු ජයකොන්තයවත් ඔහුගේ ව
ශයෙන් අන දෙතනක්වත් පහනො
වන්නේය. සීලෝ වෙතට ජනයෝ රැස්
11 වන්නෝය. තමාගේ පැටියා මිදිවැලෙ
හිද තමාගේ කොටළු වස්සා සාරවූ මිදි
වැලෙහිද බඳිමින් තමාගේ වස්ත්‍ර මිදි
රසයෙන්ද ඇඳුම් මුද්‍රික යුසයෙන්ද ඇපිල්
12 එයේය. ඔහුගේ ඇස් මිදිරසයෙන් රත්
වෙති ඔහුගේ දත් කිරෙන් සුදුවෙති.
13 සෙබුලොන් සමුද්‍රයාගේ නැව් තොටෙ
හි වසමින් නැව් තොටක් වන්නේය. ඔ
හුගේ සීමාව සීදොන් දක්වා වන්නේය.
14 ඉස්සාඛර් බර දෙකක් අතරෙහි නැමී
15 සිඳිනාවූ ශක්තිමත් කොටළුවෙක්ය. ඔ
හු නවාතැන් යහපත් බවද රට ප්‍රසන්
නාවූ බවද දැක උසුලන පිනිස තමාගේ

කර තමා පඬුරු දීමෙහි මෙහෙකරු
16 වෙක් විය. දන් ඊශ්‍රායෙල්ගේ ගෝත්‍රව
ලින් එකක් මෙන් තමාගේ ජනයා වි
17 නිශ්චයකරන්නේය. දන් මාර්ගයෙහි ස
ර්පයෙක. අශ්වයාගේ කුදිය දෂ්ටකරන්
නාවූ මාර්ගයෙහි පොලඟෙක්ය. එබැ
වින් අසරුවා උඩුබැල්මෙන් වැටෙන්
18 නේය. යෙහෝවාවහන්ස ඔබවහන්
සේගේ ගැලවීම උදෙසා බලා සිටියෙ
19 මි. ගද් ශුඩසේනාවකින් පරාජයවූ නු
20 මුත් කෙලවරදී ජයගන්නේය. ඔහුගේ
ආහර ආශෙර් කෙරෙන් තරවන්නේය.
ඔහු රාජ භෝජනයන් උපදවන්නේය.
21 නප්තලී උතුම් අතු හටගන්නාවූ විසාල
22 වූ අලොන් ගසෙක. යෝසැප් ඵලසම්
පන්න අත්තක්ය. ළිඳක් ළඟ ඵලබරන්
නාවූ අත්තක්ය. එහි අතු භිත්තිය පිට
23 විහිදී යෙති. වැද්දෝ ඔහුට අතිසයින්
දුක් දී ඔහුට විද ඔහු කෙරෙහි වෛර
24 වූවෝය. එහෙත් ඊශ්‍රායෙල්ගේ ගල නැ
මති එඬේරාගේ නාමයෙන් යාකොබ්
ගේ පරාක්‍රමවූ දෙවියන්වහන්සේගේ අ
25 තින්ද තුඹට උපකාර කල තුඹේ පියා
නන්ගේ දෙවියන්වහන්සේ කරණකො
ටගෙනද තුඹට ආශිර්වාද කල සර්වපරාක්‍ර
මයානන්වහන්සේ කරණකොටගෙනද
ඔහුගේ දුනන සවිවිය. ඔහුගේ හස්ත
26 යන්ගේ බාහු සැක්තිය ලැබූවෝය. මා
ගේ පූර්ව පිත්‍රුන්ගේ ආශිර්වාදයන්ට වඩා
උඩ ස්වර්ගයෙහි ආශිර්වාදවල්ද යට ගැ
ඹුරෙහි ආශිර්වාදවල්ද පයෝධරයන්ගේ
සහ ගර්භයෙහි ආශිර්වාදවල්ද තුඹේ පි
යානන්ගේ ආශිර්වාදවල් සදාකාල පර්වත
යන්ගේ සීමාව දක්වා අධිකතරවූවෝ
ය. ඒ ආශිර්වාදයෝ යෝසැප්ගේ හිස ම
ත්‍රයෙහි එනම් තමන් සහෝදරයන් කෙ
රෙන් වෙන්වූ තැනැත්තාගේ මස්ත
27 කයෙහි වන්නෝය. බෙන්යමින් වෘක
යෙක් මෙන් ඉරන්නේය. ඔහු අළුයම්හි
කොල්ලගෙන රාත්‍රියෙහි ඒ දෙය බෙද
න්නේයයි කීයේය.

28 මොවුන් සියල්ලෝ ඊශ්‍රායෙල්ගේ දො
ළොස් ගෝත්‍රයෝ වෙති. ඔවුන්ගේ පි
යා ඔවුන්ට මෙලෙස කථාකොට ඔවුන්
ට ආශිර්වාදකරමින් සියල්ලන්ට තමතමා
ගේ ආශිර්වාදය ලෙස ඔවුන්ට ආශිර්වාද
29 කෙලේය. ඔහු ඔවුන්ට අනකොට මම
මාගේ ජනයාට එක්වෙනබැවින් හිත්තිය
වූ එප්‍රොන්ගේ කෙතෙහිවූ ගුහාවෙහි
මාගේ පියානන් ලඟ මා තැන්පත්කරප
30 ල්ලාය. කනාන් දේසයෙහි මම්රේ ඉදිරි
යෙහි මෑපෙලානම් කෙතෙහිවූ ආබ්‍රහම්
සොහොන්භූමියක්කොට උරුමවෙන
පිනිස හිත්තියවූ එප්‍රොන්ගේ කෙත සමග
31 මිලේට ගත් ගුහාවෙහිය. ආබ්‍රහම් සහ
ඔහුගේ භාර්යාවූ සාරාද එහි තැන්පත්ක
රනු ලැබූවෝය. ඊසාක් සහ ඔහුගේ භා
ර්යාවූ රෙබෙකාද එහි තැන්පත්කරනු
ලැබූවෝය. මමද ලෙයා එහි තැන්පත්
32 කෙලෙමි. එහි තිබෙනනාවූ කෙත සහ
ගුහාවද හෙත්ගේ පුත්‍රයන්ගෙන් මිලේ
33 ට ගන්නාලද්දේයයි කීයේය. යාකොබ්
ද තමන්ගේ පුත්‍රයන්ට අනකොට නිම
වා තමන් පාදයන් යහනට ඔසවාගෙන
නැසී තමාගේ ජනයාට එක්වූයේය.

50. පරිච්ජ. යෝසැප් තමන් පියා
නන්ගේ මුහුණෙහි වැටී හඬමින් ඔහු සි
2 ඹගත්තේය. තමන් පියානන් සුවඳ ද්‍රව්‍ය
වලින් රක්ෂාකරණ පිනිස තමන් දාසවූ
සුගන්ධකාරයන්ට අනදුන්නේය. ඔවුහු
ද ඊශ්‍රායෙල් සුගන්ධ ද්‍රව්‍යවලින් රක්ෂා
3 කලෝය. සුගන්ධ ලබන්නන්ගේ දවස්
සම්පූර්ණකරණලෙස යාකොබ් උදෙසා
සතලිස් දවසක් සම්පූර්ණවිය. මිසරව
රු ඔහු උදෙසා සැත්තෑ දවසක් වැල
4 පුනෝය. තමන් සෝකවීමෙහි දිනවල්
ඉකුත්වූ කල්හි යෝසැප් ඵාරාවෝගේ
ගෙයි වැසියන්ට කියනුයේ තුඹලා
ගෙන් කරුණාව ලද්දෙම්නම් ඵාරාවෝ
5 සමග කථාකරමින් මාගේ පියානෝ මම
නසිම් කනාන් දේසයෙහි මටම හෑරූ
මාගේ සොහොන් ගෙයි මා තැන්පත්ක
රන්නැයි කියමින් මාගෙන් දිව්රී
මක් ගත් බැවින් දැන් මාගේ පියා තැන්
පත්කිරීමට යන පිනිස අවසර දුනමැන
ව මමද නැවත එන්නෙමියි කියාපල්ලා
6 යයි කීයේය. ඵාරාවෝද තුඹගේ පියා
නෝ තුඹෙන් දිව්රීමක් ගත්ලෙස පලය
න්න තුඹේ පියා තැන්පත්කරපන්නැයි
7 කීයේය එවිට යෝශප් තමන් පියා තැන්
පත්කරණ පිනිස ගියේය. ඵාරාවෝගේ
සියළු මෙහෙකරුවෝද තමන් ගෙයි
ප්‍රධානීහුද මිසරදේසයෙහි සියළු ප්‍රධානී
8 හුද යෝසැප්ගේ ගෙයි සියළු ජනයෝ
ද තමන් සහෝදරයෝද තමන් පියා
ගේ ගෙයි වැසියෝද ඔහු සමග ගියෝ
ය. ඔවුන්ගේ දරුවන් රැලවල්ද ගවයි

ළු පමනක් ගොෂැන් දේසයෙහි හැර
9 ගියෝය. රථ සහ අසරුවෝද ඔහු හා
සමග ගියහෙයින් මහත් ජනසමූහයක්
10 වූහය්ය. ඔවුහුද යොදීන් එතරෙහිවූ අ
තද්ගේ කලවිටට අවුත් එහිදී අතිසයින්
වැලපීමකින් හැඬුවෝය. යෝසැප්ද ත
මන් පියානන් උදෙසා සත් දවසක් සෝ
11 කවූයේය. කනානිවරු අතද්ගේ කල
විටෙහි සෝකය දැක මිසරිවරුන්ට තද
වූ සෝකයකැයි කීවෝය. එබැවින් යො
දීන් එතරෙහිවූ අබෙල් මිස්‍රායිම් යන
12 නාමය ඒ ස්ථානයට විය. යාකොබ්ගේ
පුත්‍රයෝ තමන් පියා අනදුන් ලෙස කර
13 මින් ඔහු කනාන් දේසයට ගෙනගොස්
ආබ්‍රහම් විසින් හිතීයවූ එප්‍රොන්ගෙන්
තැන්පත්කිරීමෙහි උරුමයක් වෙන පි
නිස කෙත සමග මිලේට ගත් මම්රේ ඉ
දිරියෙහිවූ මෑපෙලා කෙතේ ගුහාවෙහි
14 ඔහු තැන්පත්කලෝය. යෝසැප්ද ඔහු
ගේ සහෝදරයෝද තමන් පියා තැන්
පත්කරණ පිනිස සමග ගිය සියල්ලන්
කැටුව පියානන් තැන්පත්කලායින් පසු
මිසරයට නැවත ආවෝය.

15 එවිට යෝසැප්ගේ සහෝදරයෝද
තමන් පියා නැසීගිය බව දැක යම් කල
ක යෝසැප් අපට වෛරකරනොත්ය. අ
පි ඔහුට කලාවූ සියළු නපුරට අපට ප්‍රති
16 ඵල දෙනොත්යයි කියා දූතයෙක් යෝ
සැප් වෙතට යවමින් නුබගේ පියානෝ
තමන් මරණයට පූර්වයෙන් අපට අණ
17 කරමින් මෙලෙස යෝසැප්හට කියාප
ල්ලාය නුබේ සහෝදරයන්ගේ අපරාධ
යද දෝසයද ඔවුන් නුබට දුෂ්ටකම ක
ල නුමුත් ක්ෂමාකරපනැයි කීයේය. දැ
නුදු නුබේ පියාගේ දෙවියන්වහන්සේ
ගේ මෙහෙකරුවන්ගේ දෝසය ක්ෂමා
කලමැනවයි කීවෝය. යෝසැප්ද ඔවුන්
18 කථාකරණකල්හි හැඬුයේය. තමන් ස
හෝදරයෝ තමන් වෙතට ගොස් ත
මන්ම බිම වැටී අපි නුබේ මෙහෙකරු
19 වෝයයි කීවෝය. යෝසැප්ද භයනො
වෙල්ලාය. දෙවියන්වහන්සේ වෙනුවට
20 මම සිටිම්ද? නුබලා සැබවින්ම මට වි
රුඬව නපුරකට සිතිවිලි කලෝය. එ
හෙත් අද තිබෙනාක්මෙන් බොහෝ
දෙනෙක් ජීවත්කොට රක්ෂාකරණ පිනි
ස දෙවියන්වහන්සේ ඒක සුභසිඬවීමට අ
21 හිප්‍රාකලසේක. එබැවින් භයනොවෙල්
ලාය. නුබලා සහ නුබලාගේ බාලයන්
පෝෂනය කරනෙනම්යි කියා ඔවුන් සන
22 සා මිත්‍රකමෙන් ඔවුන්ට කථාකෙලේය.
යෝසැප්ද තමන් පියාගේ ගෙයි වැසි
23 යෝද මිසරයෙහි වාසයකලෝය. යෝ
සැප්ද එකසිය දස අවුරුද්දක් ජීවත්ව එ
ප්‍රායිම්ගේ දරුවන් තුන්වෙනි පරම්පරා
ව දක්වා දුටුයේය. මනස්සෙස්ගේ පුත්‍ර
වූ මාඛිර්ගේ දරුවෝ යෝසැප්ගේ දන
24 හිස් මතුයෙහි ඇතිවූයේය. යෝසැප් ත
මන් සහෝදරයන්ට කියනුයේ මම නසි
ම්. දෙවියන්වහන්සේ සැබවින්ම නුබලා
බලා වදාරා මේ දේසයෙන් ආබ්‍රහම්හට
ද ඊසාක්හටද යාකොබ්හටද උන්හන්
සේ දිව්ල දේසයට නුබලා ගෙනඑනසේ
25 කැයි කියා ඊස්‍රායෙල්ගේ දරුවන්ගෙන්
දිව්රීමක් ගනිමින් දෙවියන්වහන්සේ සැ
බවින්ම නුබලා බලා වදාරණසේක. නු
බලාද මාගේ ඇට මෙතනින් ගෙනයන්
26 නෝයයි ඔවුන්ට කීයේය. යෝසැප් එ
කසිය දස අවුරුද්දක් වයස්ව මෙලේය.
ඔවුහුදු සුවද ද්‍රව්‍යවලින් ඔහු රක්ෂාක
ලෝය. ඔහු මිසරයෙහිදී මිනිපෙට්ටියක
දමනුලැබූයේය.

---

# මෝසෙස් විසින් ලියනලද නික්මයාමේ කථාවනම්වූ දෙවෙනි පොතය.

---

1. පරිච්ඡේදය. මිසරදේසයට ආ ඊ
2 ස්‍රායෙල්ගේ පුත්‍රයන්ගේ නාමවල්නම්
3 රූබෙන්, සිමියොන්, ලෙවී, යූදා, ඉස්සා
4 ඛර්, සෙබුලොන්, බෙන්යමින්, දන්,
නප්තලී, ගද්, ආෂෙර්, යන මොවුන්ය.
මේ සියල්ලෝද තමන්ගේ ගෙයි වැසි
5 යෝද යාකොබ් සමග ආවෝය. යා
කොබ්ගේ කටියෙන් උපන් සියළු ප්‍රාණි
හු සැත්තෑ දෙනෙක. යෝසැප් ඔවුන්ට
6 ප්‍රථමයෙන් මිසරදේසයෙහි සිටියේය.
යෝසැප් හා තමන් සියළු සහෝදරයෝ
ද ඒ සියළු පරම්පරාවද මලෝය
7 තවද ඊස්‍රායෙල්ගේ පුත්‍රයෝ සඵල
ලෙස වැඩිවෙමින් බොහෝවී ඉතා බ

ලවත්වූවෝය. ඔවුන්ගෙන් දේශය සම්
8 පූර්ණවිය. ඉන්පසු යෝසැප් නොසලක
න අළුත් රජෙක් මිසරදේශයට පැමිණි
9 යේය. ඔහු තමන් ජනයන්ට කථාකො
ට ඊශ්‍රායෙල් පුත්‍රවූ ජනයෝ අපට වඩා
10 බොහෝය බලවත්ය. ඔවුන් බෝවී යම්
යුද්ධයක් සිද්ධවෙනකල අපේ සතුරන්ට
එක්ව අපට විරුද්ධව සටන්කොට දේශ
යෙන් නොයන පිණිස නුවණින් හැසිරෙ
11 මුයයි කීයේය. එබැවින් ඔවුන් ඊශ්‍රායෙල්
පුත්‍රයන් වැඩවලින් පීඩාකරණ පිණිස ඔ
වුන්ට විදනවරුන් නියෝගකලෝය. ඔ
වුන් පෙතොම් සහ රමසෙස්නම් ගබඩා
12 නුවරවල් ඵාරාවෝ නිසා ගොඩනගා ව
ඩවඩා වෙහෙසවූනාවූ ඔවුන් වැඩිවැඩිව
බෝවූවෝය. ඔවුන් නිසා මිසරවරු දුක
ට පැමිණ කකිසලෙස ඊශ්‍රායෙල් පුත්‍රයන්
13 ලවා මෙහෙකරවා බදුමෙන් හා ගඩො
14 ලින්ද කෙතෙහි සියළු ආකාර මෙහෙයෙ
න් තද දුකසමෙන් ඔවුන්ගේ ජීවිතවල්
තික්තකලෝය. ඔවුන් ලවා කරවූ සිය
ළු මෙහෙය තදකමින් විය.

15 මිසර දේශයෙහි රජ්ජුරුවෝ ශිප්‍රා
සහ පුවානම් හෙබ්‍රෙව්වූ විනතාඹුවන්ට
16 කථාකොට හෙබ්‍රෙව්වූ ස්ත්‍රීන්ට විනතාඹු
කම් කරණකල්හිද බිහිවෙනවා දකින
කල්හිද පුතෙක්නම් ඔහු මරාපල්ලාය දු
වෙක්නම් ඈ ජීවත්වන්නියයි කීයේය.
17 එහෙත් විනතාඹුවෝ දෙවියන්වහන්සේට
භයවෙමින් මිසරයෙහි රජ්ජුරුවන් වි
සින් අනදුන් ලෙස නොකොට පිරිමිලම
18 යින්ගේ ජීවිත රක්ෂාකලෝය. එවිට මිස
රයෙහි රජ්ජුරුවෝ විනතාඹුවන් කැඳ
වා කුමක්හෙයින් මේ දේ කොට පිරිමිද
රුවන් ඉතුරුකලාදැයි ඔවුන්ගෙන් ඇසූ
19 යේය. විනතාඹුවෝද හෙබ්‍රෙව්වූ ස්ත්‍රීන් බ
ලඇතිව මිසරයෙහි ස්ත්‍රීන්ට සමානනො
වෙති. විනතාඹුවෝ ඔවුන්ට ලඟවන්ට
පලමුවෙන් වදතියයි ඵාරාවෝහට කීවෝ
20 ය. එබැවින් දෙවියන්වහන්සේ විනතාඹු
වන්ට යහපත කලසේක. ජනයෝ වැඩී
21 තව අතිශයින් බලවත්වූවෝය. විනතා
ඹුවෝ දෙවියන්වහන්සේ කෙරෙහි භය
වූ බැවින් උන්වහන්සේ ඔවුන්ගේ පවුල්
22 වැඩිකලසේක. එවිට ඵාරාවෝ උපදින්
නාවූ සියළු පුත්‍රයන් ගඟේ දමා සියළු දූ
වරුන් ඉතුරුකරපල්ලායයි කියා තමා
ගේ සියළු ජනයන්ට අන දුන්නේය.

2. පරිච්ඡෙ. තවද ලෙවීගේ වංශයෙන්
මනුෂ්‍යයෙක් ගොස් ලෙවීගේ දුවෙක්
2 පාවාගත්තේය. ඒ ස්ත්‍රිය ගර්භිණිව පුත්‍ර
යෙකු වදා ඔහු සෝභමානවූ දරුවෙක්
3 බව දැක තුන් මසක් සඟවාගෙන වැඩි
කල් සඟවාගන්නට ඇට නොහැකි බැ
වින් ඔහු නිසා පංවලින් තැනූ පෙට්ටි
යක් රැගෙන ඒකේ මැලියන් සහ ලාවු
ද ගා දරුවා එහි තබා ගඟ ඉවුරබඩ දූ
4 නුයක් අතරේ තැබුවාය. ඔහුගේ සහෝ
දරිද ඔහුට කුමක් වේදැයි දැනගන්නා පි
5 ණිස දුරින් සිටියාය. ඵාරාවෝගේ දූ නා
න පිණිස ගඟට ආවාය. ඇගේ දාසියෝ ග
ගබඩ ඇවිද්දෝය. ඈ දූනුයක් අතරේ
6 පෙට්ටිය දැක දාසි ලවා ඒක ගෙන්වා ඇ
රියකල දරුවා දුටුවාය. බිලිඳ ඇඬුවේ
ය. ඈ ඔහු කෙරෙහි අනුකම්පාකොට
මොහු හෙබ්‍රෙව්වූවන්ගේ දරුවන්ගෙන්
7 එකෙකැයි කීවිට ඔහුගේ සහෝදරී ඵා
රාවෝගේ දූවට කථාකරමින් නුඹ නි
සා දරුවාට කිරි දෙන පිණිස හෙබ්‍රෙව්වූ
ස්ත්‍රීන්ගෙන් කිරි මවක් කැඳවා ගෙ
8 නෙම්දැයි ඇසූවාය. ඵාරාවෝගේ දූව
ද පලයන්නැයි ඇට කීවාය. කන්‍යාවද
ගොස් දරුවාගේ මව් කැඳවාගෙන ආ
9 වාය. ඵාරාවෝගේ දූව මේ දරුවා ගෙ
නගොස් මා නිසා කිරි දීපන්න නුඹේ කු
ලි දෙන්නෙමියි කීවාය. ඒ ස්ත්‍රීද දරුවා
10 රැගෙන කිරි දුන්නාය. දරුවාද වැඩුනු
විට ඔහු ඵාරාවෝගේ දූ වෙතට ගෙන
දුන්නාය. ඔහුද ඇගේ පුත්‍ර වූයේය. ම
ම වතුරෙන් ඔහු ඇදගතිමියි කියමින්
ඔහුට මෝසෙස්යයි නම් තැබුවාය.

11 මෝසෙස් වැඩුනුකල තමාගේ සහෝ
දරයන් වෙතට ගොස් ඔවුන්ගේ වෙ
12 හෙස බලා තමාගේ සහෝදරවූ හෙබ්‍රෙ
වූවෙකුට මිසරයෙක් ගහන බවත් ඔබ
මොබ බලා කිසිවෙක් ලඟ නොසිටින
බවත් දැක මිසරයා මරා වැල්ලෙහි සැඟ
13 වූයේය. දෙවෙනි දින පිටතට ගියකල්
හි හෙබ්‍රෙව්වූවන්ගෙන් දෙදෙනෙක් ග
හගන්න බව දැක කුමක්හෙයින් නුඹේ
සහයකාරයාට ගසන්නේදැයි වැරදිකාර
14 යාට කීයේය. ඔහුද අප කෙරෙහි නු
ඹ අධිපතියෙක්ද නඩු විනිශ්චයකරන්
නෙක්ද කෙලේ කව්රෙක්ද? මිසරයා
මැරූලෙස මාත් මරන්ට සිතනෙහිදැ
යි කීයේය. එවිට මෝසෙස් භයව ඒ
කාන්තයෙන්ම මේ දේ එළිදරව්වූහෝ

15 යයි කීයේය. ඵාරාවෝ ඒ අසා මෝසෙස්
මරන්ට සෙවීය. එහෙත් මෝසෙස් ඵාරා
වෝ කෙරෙන් සැඟවී ගොස් මිදියන් දේ
16 සයෙහි ළිඳක් ළඟ හිඳගත්තේය. මිදි
යන්හි පූජකහට දූවරු සත්දෙනෙක් වූ
වෝය. ඔවුහු අවුත් තමන් පියාගේ බැ
ටළු සමූහයන්ට වතුර දෙන පිණිස වතු
17 ර ඇද ඔරුවල පිරෙව්වෝය. එඬේරු
අවුත් ඔවුන් ඇඬෙව්විට මෝසෙස් ඔවුන්
ට උපකාරව ඔවුන්ගේ බැටළු සමූහ
18 යන්ට වතුර දුන්නේය. ඔවුන් තමන් පි
යවූ රූවෙල් වෙතට ආකල තුබලා මෙ
පමන වේලාසන ආවේ කොසේදැයි ඇසූ
19 යේය. එවිට ඔවුන් මිසරයෙක් එඬේ
රුන්ගේ අතින් අප ගලවා සෑහෙන ව
තුරද ඇද බැටළු සමූහයාට වතුර දුන්
20 නේයයි කීවෝය. ඔහුද ඒ මනුෂ්‍යයා
කොතැන්හිද? ඔහු ඇරලා ආවේ මන්ද?
කෑමට ඔහු කැඳවාපල්ලායයි තමාගේ දූ
21 වරුන්ට කීයේය. මෝසෙස්ද ඒ මනුෂ්‍ය
යා සමඟ විසීමට කැමති විය. ඔහු තමන්
ගේ දූවූ සිප්පොරා මෝසෙස්ට පාවාදු
22 න්නේය. ඈ ඔහුට පුත්‍රයෙකු වැදුවාය.
ඔහු අන් දේසයෙහි ආගන්තුකයෙක් වූ
යෙමි කියා ඔහුට ගැර්ෂොම්යයි නම් තැ
බූයේය.

23 කල්යාමෙන් මිසරයෙහි රජ්ජුරුවෝ
මළේය. ඊශ්‍රායෙල්ගේ දරුවෝ දාස බ
ව නිසා සුසුම්ලමින් හැඬුවෝය. දාස බ
ව ගැන ඔවුන්ගේ හැඬීම දෙවියන්වහන්
24 සේ වෙතට පැමුනුනේය. දෙවියන්වහන්
සේ ඔවුන්ගේ සුසුම් ලෑම අසා ආබ්‍රහම්
ඊසාක් යාකොබ් සමඟ කළාවූ උන්ව
25 හන්සේගේ ගිවිසුම සිහිකොට ඊශ්‍රායෙල්
ගේ දරුවන් බලා ඔවුන්ට කරුණාකල
සේක.

3. පරිච්ඡේ. එකල්හි මෝසෙස් තමන්
මාමා වන මිදියන්හි පූජකවූ යෙත්‍රෝගේ
බැටළු සමූහයා රක්ෂාකොට බැටළු රැළ
වනයෙහි අනිත් පැත්තට ගෙන ගොස්
හොරබ්නම්වූ දෙවියන්වහන්සේගේ ක
2 න්දට පැමිණියේය. යෙහෝවාවහන්සේ
ගේ දූතයා පඳුරක් මැද සිට ගිනිදැල්ල
කින් ඔහුට පෙනුනේය. මෝසෙස් බලා
3 පඳුර ගිනි ඇවිල නොදැ බව දැක පඳුර
නොදැවේ මක්නිසාද? මේ පුදුම දේ බ
ලන්ට පැත්තකට හැරෙනෙනම්යි කීය.
4 යෙහෝවාවහන්සේ ඔහු බලන පිණිස
පැත්තකට හැරුනු බව දැක දෙවියන්ව
හන්සේ පඳුර මැද සිට ඔහුට මෝසෙස්
මෝසෙස්ය කියා හඬගෑසූසේක. මම
5 මෙහියයි ඔහු කීයේය. උන්වහන්සේ මෙ
තනට ළං නොවව තාගේ පයින් ව
හන් හරුව තෝ සිටින තැන සුබ භූමිය
6 ක. ආබ්‍රහම්ගේද ඊසාක්ගේද යාකොබ්
ගේද දෙවිවූ තාගේ පියවරුන්ගේ දෙ
වියන්වහන්සේ මම වෙමියි කීසේක.
මෝසෙස්ද දෙවියන්වහන්සේ දෙස බ
ලන්ට භයව මූහුන සඟවාගත්තේය.
7 එවිට යෙහෝවාවහන්සේ සැබවින්
මිසරයෙහි වසන මාගේ ජනයන්ගේ පී
ඩා දුටිමි. ඔවුන්ගේ විධානවරුන්ගෙන්
විඳින ඔවුන්ගේ දුක් දැනගෙන ඔවුන්
8 ගේ විලාපද ඇසිමි. මිසරවරුන්ගේ අ
තින් ඔවුන් ගලවා ඒ රටින් පිටත්කො
ට යහපත්වූ විසාලවූ කිරි සහ මීයෙන්
ද පිරුණවූ කනානිවරුන්ගේද හිතීව
රුන්ගේද අමෝරීවරුන්ගේද පෙරිසිව
රුන්ගේද හිවිවරුන්ගේද ජෙබූසිව
රුන්ගේද දේසයට ගෙන එන්ට එමි.
9 ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ විලාපය මා වෙ
තට පැමුනුනේය. මිසරවරු ඔවුන්ට ක
10 රණ පීඩාවද දුටිමි. එබැවින් මාගේ ජ
නයන්වූ ඊශ්‍රායෙල් පුත්‍රයන් තා ලවා මි
සරයෙන් පිටට ගෙන්වන පිණිස ඵාරා
වෝ වෙතට තා යවන්නෙමියි කීසේක.
11 එවිට මෝසෙස් ඵාරාවෝ වෙතට යන්
ටද ඊශ්‍රායෙල් පුත්‍රයන් මිසරයෙන් ගෙ
න එන්නටද මම කවරෙක්දැයි දෙවිය
12 න්වහන්සේට කීය. උන්වහන්සේද සැබ
වින් තා සමඟ වන්නෙමි මම තා යවූ බ
වට මේක ලකුනක් වන්නේය. මිසර
යෙන් පිටට සමූදුව ගෙනාකල්හි මේ ක
න්දෙහි දෙවියන්වහන්සේට මෙහෙකරන්
13 නෝයයි කීසේක. මෝසෙස්ද ඊශ්‍රායෙල්
පුත්‍රයන් වෙතට ගොස් තුබලාගේ පි
යවරුන්ගේ දෙවියන්වහන්සේ තුබලා
වෙතට මා එවූසේකැයි ඔවුන්ට කියන
කල්හි උන්වහන්සේගේ නාමය කිමෙක්
දැයි මාගෙන් ඇසූවිට කුමක් කියම්නෙම
දැයි දෙවියන්වහන්සේගෙන් ඇසූයේය
14 දෙවියන්වහන්සේද මෝසෙස්හට ඇහි
යෑ අෂෙර් ඇහියෑය. තෝ ඊශ්‍රායෙල්
පුත්‍රයන්ට ඇහියෑවහන්සේ තොප වෙ
තට මා එවූසේකැයි කියවයි කීසේක.
15 තවද දෙවියන්වහන්සේ මෝසෙස්ට
කථාකොට තෝ ඊශ්‍රායෙල් පුත්‍රයන්ට ආ

බ්‍රහම්ගේද ඊසාක්ගේද යාකොබ්ගේද
දෙවිවූ තොපගේ පියවරුන්ගේ යෙ
හෝවඃ දෙවියන්වහන්සේ තොප වෙත
ට මා එවූසේකැයි කියව. සදාකල්හිම
මේ මාගේ නාමය වෙයි සියළු පරම්පරා
වලට මේ මා මතක්කරන නාමය වෙයි.
16 යව ඊශ්‍රායෙල්ගේ ප්‍රධානීන් රැස්කොට
අබ්‍රහම් ඊසාක් යාකොබ්ගේ දෙවිවූ
තොපගේ පියවරුන්ගේ දෙවිවූ යෙ
හෝවඃවහන්සේ මට පෙනී සැබවින් ම
ම තොප සලකා මිසරයෙහිදී තොපට ක
17 රණලද දේ දුටිමි. තොප මිසරයෙහි පී
ඩාවෙන් ගලවා කනානිවරුන්ගේද හි
ත්තිවරුන්ගේද අමෝරිවරුන්ගේද පෙ
රිසිවරුන්ගේද හිව්වරුන්ගේද ජෙබුසි
වරුන්ගේද දේසයවූ කිරෙන් මීයෙන්
පිරුණාවූ දේසයට ගෙන එන බව කියෙ
18 මියි කීසේකැයි ඔවුන්ට කියව. ඔවුන් තා
ගේ බස් අසති තෝද ඊශ්‍රායෙල්ගේ
ප්‍රධානිවරුද මිසරයෙහි රජහු වෙතට
ගොස් හෙබ්‍රෙව්වරුන්ගේ යෙහෝවඃ
දෙවියන්වහන්සේ අපට පෙනුනුසේක.
එබැවින් අපගේ දෙවිවූ යෙහෝවඃව
හන්සේට යාග කරණ පිනිස තුන් දවස
ක ගමන් වනාන්තරයට යන්ට අවසර දු
19 නමැනවයි ඔහුට කියන්නෝය. බලවත්
අතකින් මිසරයෙහි රජ තොපට යන්ට
20 නොදෙන බව සැබවින් දනිමි. මමද මා
ගේ අත දිගුකොට මම එහි කරන්නාවූ
මාගේ සියළු පුදුමවලින් මිසරයට පහර
දෙන්නෙමි එයින් පසු ඔහු තොපට යන්
21 ට හරින්නේය. මම මිසරවරුන් ලවා මේ
ජනයන්ට උපකාර කරවන්නෙමි තෙපි
යන කල්හිද හිස් අතින් නොයන්නෝ
22 ය. එහෙත් සියළු ස්ත්‍රීවරු තමන්ගේ අ
සල්වාසීන් හා තමන්ගේ ගෙවල්වල සි
ටියවුන්ගෙන් ගමන උදෙසා රන් රිදී ආ
භරණයන් වස්ත්‍රයන්ද ඉල්වාගන්නෝය.
තොපි ඒවා තොපගේ පුත්‍රයන්ටද දූව
රුන්ටද පලඳවා මිසරවරුන් දිලිඳුකර
න්නෝයයි වදාලසේක.

4. පරිච්ඡෙ. එවිට මෝසෙස් උත්තර
දෙමින් ඔවුන් මා විශ්වාසකරන්නේවත්
මාගේ වචන අසන්නේවත් නැතුව යෙ
හෝවඃවහන්සේ තුඹට නොපෙනුනු
2 සේකැයි කියන්නෝයයි කීයේය. එවිට
යෙහෝවඃවහන්සේ තාගේ අතෙහි
3 මොකදැයි ඇසූසේක. ඔහු සැරයටියයි
කීයේය. උන්වහන්සේ ඒක බිමහෙළවයි
කීසේක. ඔහු ඒක බිමට හෙළුවිට ඒ
ක සර්පයෙක් වූයේය. මෝසෙස්ද ඒ ඉදි
4 රියෙන් දිවිය. එවිට යෙහෝවඃවහන්
සේ තාගේ අත දිගුකොට ඒ සර්පයා වල්
ගෙන් අල්වාගනුවයි මෝසෙස්හට කී
සේක. ඔහු තමන් අත දිගුකොට ඒ අල්
වාගත්විට සර්පයා ඔහුගේ අතෙහි සැර
5 යටියක් වූයේය. උන්වහන්සේ ඔවුන් අ
බ්‍රහම්ගේ දෙවිවූ ඊසාක්ගේ දෙවිවූ යා
කොබ්ගේ දෙවිවූ ඔවුන්ගේ පියවරුන්
ගේ යෙහෝවඃ දෙවියන්වහන්සේ තට
පෙනුනුසේකැයි විශ්වාසකරණ පිනිස
මෙසේ කරව.
6 යෙහෝවඃවහන්සේ තාගේ අත තා
ගේ ලයෙහි තබවයි කීසේක. ඔහු ත
මන් අත ලයෙහි තබා ඒක පිටතට ගත්
කල ඒක පින්මෙන් කුෂ්ට ඇතිවූයේය.
7 එවිට උන්වහන්සේ තාගේ අත නැවත
ලයෙහි තබවයි කීසේක. ඔහු තමන් අ
ත නැවත ලයෙහි තබා ඒක ලයෙන්
ගත්විට ඔහුගේ ඉතිරි සැරීරයමෙන් වි
8 ය. එබැවින් ඔවුන් තා විශ්වාස නො
කොට පලමුවෙනි හාස්කමෙහි ශබ්දය
නොඅසනවානම් අන්තිම හාස්කමෙහි
9 ශබ්දය විශ්වාසකරන්නෝය. මේ ලකුණු
දෙක විශ්වාස නොකොට තාගේ බස්
නොඅසනවානම් ගංගාවෙන් ජලය රැ
ගෙන වියලි බිම වත්කරව ගංගාවෙන්
ගත් ජලය වියලි බිමෙහි ලේ වන්නෝය
යි කීසේක.
10 එවිට මෝසෙස් යෙහෝවඃවහන්සේ
ට කථාකොට අහෝ මාගේ ස්වාමින්ව
හන්ස මිට ප්‍රථමයෙන්වත් ඔබවහන්සේ
ගේ මෙහෙකරුවාට කථාකලායින් පසු
වත් කථාවෙහි සමර්ථ නොවී අව්‍යක්ත
යෙක් වෙමි අදක්ෂවූ දිවක් ඇත්තෙමි
11 යි කීයේය. එවිට යෙහෝවඃවහන්සේ
මනුෂ්‍යයාගේ මුඛය මැවූයේ කවුද?
ගොළුවන් බිහිරන් දකින්නන් අන්ධයි
න් මවන්නේ කවුද? යෙහෝවඃවහන්
12 සේවූ මම නොවෙම්ද? එබැවින් දැන්
යව මම තාගේ මුඛයෙහි සිට කියයුතු
දේ තට උගන්වන්නෙමියි ඔහුට කීසේක.
13 ඔහු අහෝ මාගේ ස්වාමීන්වහන්ස ඔබව
හන්සේ යවන්ට කැමැත්තකු අත යව
14 වමැනවයි කීයේය. එවිට යෙහෝවඃව
හන්සේගේ උදහස මෝසෙස්හට විරු
ද්ධව ඇවිල ලෙවීයවූ ආරොන් තාගේ ස

සහෝදරයා නොවේද? ඔහුට දක්ෂලෙස
කථාකරන්ට පුළුවන් බව දනිමි. ඔහු ත
ට සම්බවෙන්ට අවුත් තා දක සිතින් සතු
15 ටුවෙනේය. තෝ ඔහුට කථාකොට ඔහු
ගේ මුඛයෙහි වචන තබනෙහිය. මම
තාගේද ඔහුගේද මුඛයෙහි සිට කටයු
16 තු දේ තොපට උගන්වන්නෙමි. ඔහු තා
වෙනුවට ජනයන්ට කථාකොට තට මු
ඛයක් හිලව්වට වන්නේය තෝ ඔහුට
දෙවියන්වහන්සේ හිලව්වට වන්නෙහිය.
17 තෝ හාස්කම් කරණ මේ සැරයටිය තා
ගේ අතින් ගන්නෙහියයි කීසේක.

18 එවිට මෝසෙස් තමාගේ මාමා වන
යෙත්‍රෝ වෙතට ගොස් මිසරයෙහි මා
ගේ සහෝදරයින් වෙතට ගොස් ඔවුන්
තවම ජීවත්ව සිටින්නෝදැයි බලන පිනි
ස මට යන්ට අවසර දුනමැනවයි ඔහුට
කීයේය. යෙත්‍රෝද සුවසේ පලයනැයි
19 මෝසෙස්හට කීයේය. යෙහෝවාවහන්
සේ තාගේ ප්‍රානය සෙවූ සියල්ලෝ නැ
සුනෝය. මිසරයට නැවත යවයි මිදි
20 යන්හිදී මෝසෙස්හට කීසේක. එවිට
මෝසෙස් තමාගේ අඹුදරුවන් රැගෙ
න කොටළුවෙකු පිට හිඳුවා දෙවියන්
වහන්සේගේ සැරයටිය අතින් ගෙන මිස
21 ර දේසයට ගියේය. යෙහෝවාවහන්
සේ තෝ මිසරයට නැවත පැමිනෙන
කල්හි පාරාවෝ ඉදිරියෙහි මම තාගේ
අතයට තැබූ සියළු හාස්කම් කරන්ට බ
ලාගනුව. ජනයන් නොඅරින ලෙස ඔ
22 හුගේ හෘදය දැඩිකරන්නෙමි. තෝ පාරා
වෝහට කථාකොට ඊශ්‍රායෙල් මාගේ
කුළුඳුල්වූ පුත්‍රය මට මෙහෙකරණ පිනි
23 ස මාගේ පුත්‍රයා යන්ට හරුව. නැත
හොත් තට මම කියෙමි තාගේ කුළුඳුල්
වූ පුත්‍රයා නසන්නෙමියි යෙහෝවාව
හන්සේ වදාරණ බව කියවයි මෝසෙස්
ට කීසේක.

24 ඔහු යනකල නවාතැන්හිදී යෙහෝ
වාවහන්සේට ඔහු සම්බව ඔහු මරන්ට
25 සෙවූවිට සිප්පොරා තියුණු ගලක් රැගෙ
න ඇගේ පුත්‍රයා චිත්නනම් කොට ඒ හම
ඔහුගේ පාද මූලට හෙළා සැබවින් තු
ඹ මට ලේයෙන් ස්වාමියෙකැයි කීවාය.
26 එවිට උන්වහන්සේ ඔහු යන්ට හැරියසේ
ක. ඈද චිත්නනම් කිරීම නිසා තුඹ ලේ
27 යෙන් ස්වාමියෙකැයි කීවාය. යෙහෝ
වාවහන්සේ මෝසෙස් සම්බවෙන පිනිස
වනාන්තරයට යවයි ආරොන්හට කීසේ
ක. ඔහු ගොස් දෙවියන්වහන්සේගේ ක
න්දෙහි ඔහුට සම්බව ඔහු සිඹගත්තේය.
28 මෝසෙස් ඔහු යවූ යෙහෝවාවහන්සේ
ගේ සියළු වචනද උන්වහන්සේ අණකො
ලාවූ සියළු හාස්කම්ද ආරොන්හට කී
29 යේය. මෝසෙස් සහ ආරොන් ගොස් ඊ
ශ්‍රායෙල් දරුවන්ගේ සියළු ප්‍රධානයන්
30 රැස්කලෝය. ආරොන් යෙහෝවාවහන්
සේ මෝසෙස්හට වදාල සියළු වචන කි
යා සියළු ජනයන් ඉදිරියෙහි හාස්කම්
31 කෙලේය. එවිට ජනයෝ අදහගන යෙ
හෝවාවහන්සේ ඊශ්‍රායෙල් දරුවන් බ
ලා ඔවුන්ගේ පීඩාව දුටු බව අසා හිස්
නමා වැන්දෝය.

5. පරිච්ඡ. ඉන්පසු මෝසෙස් සහ
ආරොන් පාරාවෝ වෙතට ගොස් ඊශ්‍රා
යෙල්ගේ දෙවිවූ යෙහෝවාවහන්සේ
කියනසේක් මට වනාන්තරයේදී මඟල්‍ය
යක් පවත්වන පිනිස මාගේ ජනයන් හ
2 රිනාට කීසේකැයි කීවෝය. පාරාවෝ
ද යෙහෝවාවහන්සේ කවුද? ඊශ්‍රා
යෙල්වරුන් හරිනලෙස ඔහුගේ බසට
කීකරුවෙන්ට මිනෑ මන්ද? යෙහෝවා
වහන්සේ නොදනිමි ඊශ්‍රායෙල්වරුන්
3 යන්ට නොහරින්නෙමියි කීය. ඔවුන්
හෙබ්‍රෙවුවරුන්ගේ දෙවියන්වහන්සේ
අපට සම්බවූසේක. උන්වහන්සේ වසංග
ත රෝගයෙන් හා කඩුවෙන් යුක්තව
අප කෙරෙහි නොපැමිනෙන පිනිස ව
නාන්තරයෙහි තුන් දවසක් ගමන් ගොස්
අපගේ දෙවිවූ යෙහෝවාවහන්සේට පූ
ජා කරන්ට අවසර දුනමැනවයි කීවෝ
4 ය. එවිට මිසරයෙහි රජ්ජුරුවෝ එම්බා
මෝසෙස් ආරොන් ජනයන් ඔවුන්ගේ
මෙහෙවලින් පහකරන්නේ මන්ද? තුඹ
5 ලාගේ වැඩට පලයල්ලායයි කීය. පාරා
වෝ දේසයෙහි ජනයෝ දැන් බොහෝ
ය තුඹලාද වැඩවලින් ඔවුන් අහක්
6 කොට පහඬු ගන්ට දෙතියි කියා ඒ දව
සෙහිම ජනයන්ගේ විදනවරුන්ටද මූ
ලාදෑනීන්ටද අනකොට මිට පලමු ලෙ
7 ස ගඩොල් සාදන්ට පිදුරු ජනයන්ට
දුන් ලෙස තවත් නොදෙල්ලාය. ඔවුන්
8 ම ගොස් පිදුරු රැස්කරගනිත්වා. පල
මු ගනන ලෙස දැනුත් ගඩොල් සාදන්
ට නියමකරපල්ලාය. එයින් කිසිවක් අ
ඩුනොකරල්ලාය. ඔවුන් කම්මැලියෝය
එබැවින් අපගේ දෙවියන්වහන්සේට පූ

ජකරන්ට අපට යන්ට අවසර දියනතැයි
9 කියා කෑගසති. ඔවුන් නිෂ්ප්‍රයෝජන
වචන නොසලකන ලෙස වෙහෙස ලැ
බෙන තරමට වැඩිය වැඩ ඒ මිනිසුන්ට
10 නියමකරපල්ලායයි කීය. එවිට ජනයන්
ගේ විදනවරු සහ ඔවුන්ගේ මූලාදෑනි
ද පිටත ගොස් ජනයන්ට කථාකරමින්
ඵාරාවෝ මෙසේ කියන්නේය. මම නුඹ
11 ලාට පිදුරු නොදෙන්නෙමි සඹවෙන්ට
පුළුවන් තැන්වලට ගොස් පිදුරු ගනි
ල්ලාය. එහෙත් නුඹලාගේ වැඩෙන් කි
සිවක් අඩුනොවන්නේයයි කීවෝය.
12 එබැවින් ජනයෝ පිදුරු කිලව්වට ඉප
නැලි රැස්කරන්ට සියළු මිසර දේශයෙ
13 හි විසුරුනෝය. විදනවරු පිදුරු තිබු
ණු කල්හි මෙන් නුඹලාගේ නියමවූ ද
වස්පතා වැඩ සම්පූර්ණකරපල්ලායයි
14 කියා ඔවුන්ට ඉක්මන්කලෝය. ඵාරා
වෝගේ විදනවරු තමන් විසින් ඊශ්‍රා
යෙල්ගේ පුත්‍රයන් කෙරෙහි තැබූ මූලා
දෑනින්ට තලා මීට පලමු ලෙස ඊයෙත්
අදත් නියමව තිබෙන ගඩොල් නො
සෑදුවේ මන්දැයි ඔවුන්ගෙන් ඇසුවෝය.
15 එවිට ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ මූලාදෑ
නි ඵාරාවෝ වෙතට අවුත් ඔබගේ මෙ
හෙකරුවන්ට මෙසේ කරන්නේ මක්නි
16 සාද? ඔබගේ මෙහෙකරුවන්ට පිදුරු
කිසිත් නොදී ගඩොල් සාදපල්ලායයි අ
පට කියති ඔබගේ මෙහෙකරුවෝ තැ
ළම්කති එහෙත් වරද ඔබගේම ජන
17 යන් කෙරෙහියයි චූරගසා කීවෝය. ඔ
හු නුඹලා කම්මැලියෝය. එබැවින් අපි
ගොස් යෙහෝවාවහන්සේට පූජාකරමු
18 යයි කියති. ඒ නිසා ගොස් වැඩකරපල්
ලාය පිදුරු කොහෙත්ම නුඹලාට දෙන්
නේ නැත නුමුත් නුඹලාට නියම තිබෙ
19 න ලෙස ගඩොල් දීපල්ලායයි කීය එවිට
ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ මූලාදෑනින්ට නු
ඹලාගේ දවස්පතා වැඩෙන් ගඩොල්
අඩුනොකරල්ලායයි කී පසු ඔවුන්ට න
පුර පැමුණු බව දැනගත්තෝය.
20 ඔවුන් ඵාරාවෝ ලඟින් එනකල්හි ම
ග සිටියාවූ මෝසෙස් සහ ආරොන් ඔ
21 වුන්ට සඹව යෙහෝවාවහන්සේ නුඹ
ලා දෙස බලා විනිශ්චයකරණසේක්වා
අප මරවන පිනිස ඔවුන්ගේ අත්වලට
කඩුවක් දී ඵාරාවෝ සහ ඔහුගේ මෙ
හෙකරුවන්ගේ ඉදිරියෙහි අප පිළිකුල්
22 කලෝයයි කීවෝය. එවිට මෝසෙස් හැ
රී යෙහෝවාවහන්සේ වෙතට ගොස්
ස්වාමීනිවහන්ස මේ ජනයන්ට මෙපමන
නපුරු කෙලේ මක්නිසාද? ඔබවහන්
23 සේ මා එව්වේ මක්නිසාද? මම ඔබව
හන්සේගේ නාමයෙන් කථාකරණ පි
ණිස ඵාරාවෝ වෙතට ආවාසින් පසු ඔ
හු මේ ජනයන්ට නපුර කෙලේය. ඔබ
වහන්සේගේ ජනයන්ට කොහෙත්ම
ගැලවීමක් නුදුන්සේකැයි කීය.

6. පරිච්ඡේ. එවිට යෙහෝවාවහන්
සේ මෝසෙස්ට කථාකොට ඵාරාවෝට
මම කරණ දේ දක්නෙහිය ඔහු බලවත්
අතකින් ඔවුන් හරින්නේය. බලවත් අ
තකින් තමාගේ රටින් ඔවුන් අඹවන්
2 නේයයි කීසේක. දෙවියන්වහන්සේ
මෝසෙස්ට කථාකොට යෙහෝවාව
3 හන්සේ මමය. ආබ්‍රහම් ඊසාක් යාකොබ්
ට යෙහෝවා නාමයෙන් නොව සර්වප
රාක්‍රමවූ දෙවියන්වහන්සේ යන නාම
4 යෙන් පෙනී ඔවුන් ආගන්තුකව සිටි
කනාන් රට ඔවුන්ට දෙන පිනිස ඔවුන්
සමග මාගේ ගිවිසුමද ස්ථිර කෙලෙමි.
5 මිසරවරු වාල්කමට ගත් ඊශ්‍රායෙල් පුත්‍ර
යන්ගේ සුසුම්ලෑම අසා මාගේ ගිවිසුමද
6 සිහිකෙලෙමි. එබැවින් යෙහෝවාවූ ම
ම මිසරයන්ගේ වෙහෙසවලින් තොප
මුදා බැහැරට ගෙන එන්නෙමි ඔවුන්
ගේ වාල්කමෙන් තොප නිදහස්කොට
දිගුකරණලද අතකින්ද මහත් අච්චුවලි
7 න්ද තොප ගලවාගන්නෙමි. තොප මා
ගේ ජනයන්කොට ගෙන තොපට දෙ
වි වන්නෙමි. මිසරයන්ගේ වෙහෙසව
ලින් තොප ගලවාගත් තොපගේ දෙවි
වූ යෙහෝවාවහන්සේ මා බව තොපි දැ
8 නගන්නෝය. ආබ්‍රහම් ඊසාක් යාකොබ්
හට දෙනනට දිව්ලාවූ දේශයට තොප
පමුනුවා ඒක උරුමයක්කොට දෙන්
නෙමි. යෙහෝවාවහන්සේ මමයයි ඊ
ශ්‍රායෙල් දරුවන්ට කියවයි වදාලසේක.
9 මෝසෙස්ද ඊශ්‍රායෙල් පුත්‍රයින්ට ඒ
ලෙසම කථාකෙලේය. එහෙත් ඔවුන්
සිත්වේදනාව සහ කෘරවූ වාල්කම නිසා
10 මෝසෙස්ට කන් නුදුන්නෝය. යෙහෝ
වාවහන්සේද මෝසෙස්හට කථාකො
11 ට මිසරයෙහි රජවූ ඵාරාවෝ වෙතට
ගොස් ඊශ්‍රායෙල් පුත්‍රයින් ඔහුගේ දේශ
යෙන් හරින පිනිස ඔහුට කියවයි කී
12 සේක. මෝසෙස්ද යෙහෝවාවහන්සේ

ට කථාකොට ඊශ්‍රායෙල් පුත්‍රයෝ මාගේ
බස් නොඇසූවෝය. ඵාරාවෝ නිවට
තොල් ඇති මාගේ බස් අසනෝ කෙ
13 සේදැයි කීයේය. යෙහෝවාවහන්සේ
මෝසෙස් සහ ආරොන්ට කථාකොට ඊ
ශ්‍රායෙල්ගේ පුත්‍රයින් මිසර දේසයෙන්
ගෙනෙන පිනිස ඊශ්‍රායෙල්ගේ පුත්‍රයින්
සහ මිසරයෙහි රජවූ ඵාරාවෝ ගැන අ
නාඳුන්සේක.

14 තමන්ගේ පියවරුන්ගේ පවුල්වල ප්‍ර
ධානයෝ මොවුන්ය. ඊශ්‍රායෙල්ගේ කු
ළුදුල් රූබෙන්ගේ පුත්‍රවූ හනොක්ද
පල්ළුද හෙස්රොන්ද කර්මිද යන මොවුන්
15 රූබෙන්ගේ පවුල්ය. සිමියොන්ගේ පු
ත්‍රයෝනම් ජෙමූයෙල්ද ජමින් ඕහත්ද
ජකින් සොහර්ද කනනිය ස්ත්‍රීගේ පුත්‍රවූ
සාවුල්ද යන මොවුන් සිමියොන්ගේ ප
16 වුල්ය. ලෙවීගේ පුත්‍රයන්ගේ නාමවල්
ඔවුන්ගේ පෙලපත් වසයෙන් මෙසේ
ය. ගැර්ෂොන්ද කොහත් සහ මෙරාරිය.
ලෙවීගේ වයස් එකසිය තිස් හත් අවු
17 රුද්දක. ගැර්ෂොන්ගේ පුත්‍රයෝනම් ත
මන්ගේ පවුල් ලෙස ලිබ්නි සහ ෂිමීද ය
18 න මොවුන්ය. කොහත්ගේ පුත්‍රයෝ
නම් අම්රම්ද ඉස්හර්ද හෙබ්‍රොන් සහ
උස්සියෙල්ය. කොහත්ගේ වයස් එක
19 සිය තිස් තුන් අවුරුද්දක. මෙරාරිගේ
පුත්‍රයෝනම් මහලි සහ මූෂිය. ලෙවී
ගේ ගෝත්‍රයෝ ඔවුන්ගේ පවුල් ලෙස
20 මේය. අම්රම් තමන් පියාගේ සහෝද
රිවූ ජොකිබෙද් භාර්‍ය්‍යාවකොට පාවා
ගත්තේය. ඈ ඔහුට ආරොන් සහ මෝ
සෙස් වැදුවාය. අම්රම්ගේ වයස එකසි
21 ය තිස් හත් අවුරුද්දක් විය. ඉස්හර්ගේ
පුත්‍රයෝනම් කෝරද නෙෆෙග් සහ සිත්
22 රිය. උස්සියෙල්ගේ පුත්‍රයෝනම් මිශා
23 යෙල්ද එල්සාෆන් සහ සිත්රිය. ආරො
න් අම්නාදබ්ගේ දූවූ නාස්සොන්ගේ ස
හෝදරිවූ එලිෂෙබා භාර්‍ය්‍යාවකොට පා
වාගත්තේය. ඈ ඔහුට නාදබ්ද අබිහූද
24 එලියාසර්ද ඉතාමර්ද වැදුවාය. කෝර
ගේ පුත්‍රයෝනම් අසිර්ද එල්කානා සහ
අබියාසප්ය. කෝරියන්ගේ පවුල්නම්
25 මේය. ආරොන්ගේ පුත්‍රවූ එලියාසර් පු
තියෙල්ගේ දූවරුන්ගෙන් එකියක් භා
ර්‍ය්‍යාවකොට පාවාගත්තේය. ඈ ඔහුට
පිනිහස් වැදුවාය. ලෙවියන්ගේ ප්‍රධාන
යෝ තමන්ගේ පවුල් ලෙස මොවුන්ය.
26 ඊශ්‍රායෙල් පුත්‍රයින් තමන්ගේ සේනා
වල් ලෙස මිසර දේසයෙන් පිටතට පමු
නුවවීයයි යෙහෝවාවහන්සේගෙන් අ
න ලැබූ ආරොන් සහ මෝසෙස් මො
27 වුන්ය. මෙම මෝසෙස් සහ ආරොන්
ඊශ්‍රායෙල් පුත්‍රයන් මිසර දේසයෙන් පිට
තට පමුනුවන්ට මිසර රජවූ ඵාරාවෝහ
28 ට කථාකලෝය. මිසර දේසයෙහිදී යෙ
හෝවාවහන්සේ මෝසෙස්හට කථාකල
29 කල්හි උන්වහන්සේ යෙහෝවාවහන්සේ
මමය. මම තට කියනනාවූ සියල්ලම මිස
රයෙහි රජවූ ඵාරාවෝහට කියවයි මෝ
30 සෙස්හට කීසේක. මෝසෙස්ද නිවට
තොල් ඇති කෙනෙක් වෙමි ඵාරාවෝ
මාගේ බස් කෙසේ අසනෝදැයි කීය.

7. පරිච්ඡේ. යෙහෝවාවහන්සේ මෝ
සෙස්ට කථාකොට තා ඵාරාවෝහට දෙ
වියෙක් කෙලෙමි තාගේ සහෝදරවූ ආ
රොන් තට කියාදෙනනෙක් වන්නේය
2 මම තට අණකරන සියල්ල තෝ කිය
නෙහිය. ඊශ්‍රායෙල් පුත්‍රයන් තමාගේ
දේසයෙන් හරින්ට තාගේ සහෝදරවූ ආ
3 රොන් ඵාරාවෝට කියන්නේය. මමද ඵා
රාවෝගේ හෘදය දැඩිකොට මාගේ හාස්
කම්ද පුදුමද මිසර දේසයෙහි වැඩිකර
4 නෙනම්. එහෙත් ඵාරාවෝ තොපගේ
වචන නොඅසන්නේය. මම මහත් අච්චු
වලින් මාගේ සේනාව එනම් මාගේ ජ
නයන්වූ ඊශ්‍රායෙල් පුත්‍රයන් මිසර දේස
යෙන් ගෙනෙන ලෙස මිසරය පිට මා
5 ගේ අත තබනෙනම්. මිසර දේසයට මා
ගේ අත දිගුකොට ඊශ්‍රායෙල් පුත්‍රයන් ඔ
වුන් අතරෙන් පිටත ගෙනඑනකල්හි මි
ම යෙහෝවාවහන්සේ බව මිසර වැසි
6 යන්ට දැනෙනවා ඇතැයි කීසේක. මෝ
සෙස් සහ ආරොන්ද යෙහෝවාවහන්සේ
7 ඔවුන්ට අනකල ලෙස කලෝය. ඔවුන්
ඵාරාවෝහට කථාකරන කාලයෙහි මෝ
සෙස්ට අවුරුදු අසූවක්ද ආරොන්ට අවු
රුදු අසූ තුනක්ද වයස් විය.

8 යෙහෝවාවහන්සේ මෝසෙස් සහ ආ
9 රොන්ට කථාකොට හාස්කමක් පෙන්වා
පල්ලායයි ඵාරාවෝ තොපට කියනකල
තාගේ සැරයටිය ගෙන ඵාරාවෝ ඉදිරි
යෙහි හෙලවයි ආරොන්හට කියව ඒක
10 සර්පයෙකු වන්නේයයි කීසේක. මෝ
සෙස් හා ආරොන්ද ඵාරාවෝ වෙතට
ගොස් යෙහෝවාවහන්සේ අනකල ලෙ
ස කොට ආරොන් තමාගේ සැරයටිය ඵා

ඵාරඖවෝ සහ ඔහුගේ මෙහෙකරුවන් ඉදිරියෙහිද හෙළීය. ඒක සර්පයෙක් විය. 11 ඵාරඖවෝ ශාස්ත්‍රවන්තයන් සහ මායාකාරයන් කැඳවාගත්විට මිසරයෙහි ඉන්ද්‍රජාල දන්නෝද තමන්ගේ ඇස්බැන්දුම්වලින් එසේ කොට 12 තමන්ගේ ශරයටි හෙළුවෝය. ඒවාද සර්පයෝ වූවෝය. එහෙත් ආරොන්ගේ සැරයටිය ඔවුන්ගේ සැරයටි ගිලගත්තේය. 13 යෙහෝවාවහන්සේ වදුල ලෙසේ ඔවුන්ට කන් නොදෙනලෙස ඵාරඖවෝගේ හෘදය දැඩිවිය.

14 යෙහෝවාවහන්සේ ඵාරඖවෝගේ හෘදය දැඩිවිය ඔහු සමූදුව හරින්ට නොකමැතිය. 15 උදය සර්පවෙස් ගත් සැරයටිය අතින් රැගෙන ගඟට යන්නාවූ ඵාරඖවෝ පෙරමගට ගොස් ඔහු එන වේලාවට ගංඉවුර ළඟ සිටුව. 16 ඔහු එනවිට ඔහුට කථාකරමින් වනාන්තරයෙහිදී මට මෙහෙකරණ පිණිස මාගේ ජනයන් හරුවයි හෙබ්‍රෙව්වරුන්ගේ යෙහෝවා දෙවියන්වහන්සේ වදාරණ බව කියන්ට උන්වහන්සේ මා එවූසේක. මෙතැන් දක්වා අහන්ට අකමැතිවූයේය. 17 මෙයින් මා යෙහෝවා බව දැනගන්නෙහියයි යෙහෝවාවහන්සේ කීසේක. මා අත තිබෙන සැරයටියෙන් ගංගා ජලයට ගසන්නෙමි. ජලයද ලේ වන්නේය. 18 ගඟෙහි මසුන් මියයන්නෝය. ගඟද දුර්ගන්ධවන්නේය. මිසර වැසියෝ ගඟේ වතුර බොන්නටද පිළිකුල් වෙන්නෝයයි ඔහුට කියවයි කීසේක.

19 තවද යෙහෝවාවහන්සේ තාගේ සැරයටිය රැගෙන වතුර ලේ වෙන පිණිස ඇල ගංගා විල් පොකුණු යන මිසරයෙහි සියළු ජලය පිටට තාගේ අත දිගුකරවයි ආරොන්හට කියව. සියළු මිසරයෙහි ලී ගල් භාජනවල ලේ වන්නේයයි මෝසෙස්හට කීසේක. 20 මෝසෙස් හා ආරොනු යෙහෝවාවහන්සේ අණකළ ලෙස කරමින් සැරයටිය ඔසවා ඵාරඖවෝ සහ ඔහුගේ මෙහෙකරුවන් ඉදිරියෙහි ගඟේ වතුරට ගැසීය. එවිට ගඟේ සියළු 21 ජලය ලේ විය. ගඟේ සිටි මසුනු මැරුනෝය. ගඟද දුර්ගන්ධවිය. මිසරවැසියෝද ගඟෙන් වතුර බොන්නට නොහැකිවූවෝය. මිසරදේසය මුළුල්ලෙහිම 22 ලේවිය. මිසරයෙහි ඉන්ද්‍රජාල දන්නෝද තමන්ගේ ඇස්බැන්දුම්වලින් එසේ කළෝය. යෙහෝවාවහන්සේ කී ලෙස ඵාරඖවෝගේ හෘදය දැඩිවිය. ඔවුන්ට කන් 23 නොදී මේ කාරණාව හිතට නොගෙණ 24 තමාගේ ගෙට හැරී ගියේය. සියළු මිසර වැසියෝ ගඟෙන් වතුර බොන්නට නොහැකිව වතුර නොබන පිණිස ගඟ 25 ළඟ හෑරුවෝය. යෙහෝවාවහන්සේ ගඟාවට පහර දුන් පසු සත් දවසක් සම්පූර්ණවිය.

8. පරිච්ජ. යෙහෝවාවහන්සේ මෝසෙස්ට කථාකොට ඵාරඖවෝ වෙතට ගොස් මට මෙහෙකරණ පිණිස මාගේ 2 ජනයන් හරුව ඔවුන් නොහරින්නෙහි නම් තාගේ සියළු දේසයට මැඩියන් 3 ගෙන් පහර දෙන්නෙමි. එවිට බෝහෝසෙයින් ගඟෙන් හටගත් මැඩියෝ තාගේ ගෙවල්වලටද යහන් ගෙටද යහන පිටද තාගේ මෙහෙකරුවන්ගේ ගෙවල්වලටද තාගේ ජනයන් පිටටද තාගේ උදුන්වලටද පිටි අනන ඔරුවල 4 ටද නැගී එන්නෝය. මැඩියෝද තා සහ තාගේ ජනයන් තාගේ සියළු මෙහෙකරුවන් පිට නගින්නෝයයි යෙහෝවාවහන්සේ වදාරණ බව ඔහුට කියවයි වදුලසේක.

5 යෙහෝවාවහන්සේ මෝසෙස්ට කථාකොට තාගේ සැරයටිය රැගෙන මිසර දේසයට මැඩියන් ගෙනෙන්ට ඇලවලටද ගංගාවලටද පොකුණුවලටද අත දිගුකරවයි ආරොන්හට කියවයි කීසේ 6 ක. ආරොන් තමාගේ අත මිසරයෙහි ජලයට දිගුකෙළේය. මැඩියෝ නැගී මි 7 සර දේසය වසාගත්තෝය. මායාකාරයෝ තමන්ගේ ඇස්බැන්දුම්වලින් එසේ කොට මැඩියන් මිසර දේසයට පැමි 8 ණෙවූවෝය. ඵාරඖවෝ මෝසෙස් සහ ආරොන් කැඳවා මා සහ මාගේ ජනයන් කෙරෙන් මැඩියන් පහකරණ පිණිස යෙහෝවාවහන්සේට යාඥකරපල්ලාය. යෙහෝවාවහන්සේට පූජාකරන්ට 9 ජනයන් හරින්නෙමියි කීයේය. මෝසෙස්ද මැඩියෝ තා සහ තාගේ මෙහෙකරුවන් කෙරෙනු තාගේ ගෙවල්වලිනු පහව ගංගාවෙහිම සිටින පිණිස තා සහ තාගේ මෙහෙකරුවන්ද ජනයනු වෙනුවට යෙහෝවාවහන්සේට යාඥකරන්ට කාලයක් මට නියමකරපන්නැ 10 යි ඵාරඖවෝහට කීයේය. ඵාරඖවෝද හෙටයයි කීයේය. මෝසෙස්ද අපේ දෙවිවූ

යෙහෝවඃවහන්සේ සමාන කිසිවෙක්
නැති බව තුඹ දැනගන්නා පිණිස තු
11 ඹේ වචනය ලෙස වේවා. මැඩියෝද
තුඹ කෙරෙන්ද තුඹේ ගෙවල්වලින්ද තුඹේ
සේවකයන් සහ ජනයන් කෙරෙන්ද ප
හව ගොස් ගංගාවෙහිම සිටිනෝයයි
12 කීයේය. මෝසෙස් සහ ආරොන් ඵාරා
වෝගේ ඉදිරියෙන් ගොස් ඵාරාවෝට
විරුද්ධව පැමිණෙව් මැඩියන් ගැන මෝ
සෙස් යෙහෝවඃවහන්සේට යාඥාකෙ
13 ලේය. යෙහෝවඃවහන්සේ මෝසෙස්
ගේ වචනය ලෙස කලසේක. මැඩියෝ
ගෙවල්වලද ගම්වලද කෙත්වලද නැ
14 සුණෝය. මනුෂ්‍යයෝ ඒ මල මැඩියන්
ගොඩකල කල්හි දේශය දුර්ගන්ධ වි
15 ය. එහෙත් ඵාරාවෝ අවකාස තිබෙන
බව දැක තමාගේ හෘදය දැඩිකොට යෙ
හෝවඃවහන්සේ කී ලෙස ඔවුන්ගේ
බස් නොඇසුයේය.

16 තවද යෙහෝවඃවහන්සේ මෝසෙස්
ට කථාකොට තාගේ සැරයටිය දිගුකො
ට මිසර දේශය මුළුල්ලෙහි කින්තුල්ළු
වෙන පිණිස ඒ දේසයෙහි දූවිල්ලට ග
17 සන්ට ආරොන්හට කියවයි කීසේක. ඔ
වුන් එසේ කලෝය. ආරොන් තමාගේ
සැරයටිය රැගෙන අත දිගුකොට බිම
දූවිල්ලට ගැසුයේය. ඒක මනුෂ්‍යයන් හා
මෘගයන් පිට කින්තුල්ළු විය. දේසයෙහි
සියළු දූවිල්ල මිසර දේසය මුළුල්ලෙහි
18 කින්තුල්ළු විය. මායාකාරයෝද තමන්
ගේ ඇස්බැන්දුම්වලින් එලෙස කරන්
ට උත්සහකොට කින්තුළුන් උපදවන්ට
නොහැකි වූවෝය. මනුෂ්‍යයන් හා මෘග
19 යන් කෙරෙහිද කින්තුල්ළු විය. එවිට
මායාකාරයෝ මේ දෙවියන්වහන්සේ
ගේ ඇඟිල්ලයයි ඵාරාවෝට කීවෝය.
එහෙත් ඵාරාවෝගේ හෘදය දැඩිවිය. යෙ
හෝවඃවහන්සේ කී ලෙස ඔවුන්ගේ
බස් නොඇසුයේය.

20 තවද යෙහෝවඃවහන්සේ මෝසෙස්
ට කථාකොට ඉතා උදය නැගිට ගඟට
යන්නාවූ ඵාරාවෝගේ ඉදිරියෙහි සිටුව.
ඔහුට කථාකොට යෙහෝවඃවහන්සේ
මෙසේ කියනසේක. මට මෙහෙකරණ
21 පිණිස මාගේ ජනයන් හරුව. ඔවුන්
නොහැරියොත් තා සහ තාගේ මෙහෙ
කරුවන් කෙරෙහිද තාගේ ජනයන්
කෙරෙහිද තාගේ ගෙවල්වලටද මැසි
රැල ගෙන්වන්නෙමි. බිම සහ මිසරව
රුන්ගේ ගෙවල් මැස්සන්ගෙන් පිරෙ
22 න්නෝය. සියළු පොළවෙහි යෙහෝවඃ
වහන්සේ මමයයි තට දැනෙන පිණිස ඒ
දවසෙහි මාගේ ජනයන් සිටින ගො
සෙන් දේසයෙහි මැසි රැල නොසිටින පි
23 නිස ඒ දේසය වෙන්කොට මාගේ
ජනයන් හා තාගේ ජනයන් අතරෙහි
වෙනසක් කරන්නෙමි. හෙට දවසේ මේ
24 ලකුණ පැමිණෙන්නේයයි කියව. යෙ
හෝවඃවහන්සේද එසේ කලසේක. දුක්
උපදවන මැසි රැල ඵාරාවෝගේ ගෙට
ද ඔහුගේ මෙහෙකරුවන්ගේ ගෙවල
ටද මිසර දේසය මුළුල්ලටද ආවෝය.
රට මැස්සන් නිසා නරක්ව ගියේය.

25 ඵාරාවෝ මෝසෙස් සහ ආරොන් කැ
ඳවා දේසයෙහිදී තුඹලාගේ යෙහෝ
වඃ දෙවියන්වහන්සේට පූජාකරපල්ලාය
26 යි කීයේය. මෝසෙස්ද අපේ යෙහෝ
වඃ දෙවියන්වහන්සේට මිසරවරුන්ගේ
දේවතාවුන් වන සතුන් අප විසින් පූජා
කටයුතු බැවින් දේසයෙහිදී ඒක ක
රන්ට සුදුසු නැත. මිසරවරුන්ගේ දේ
වතාවුන් වන සතුන් ඔවුන් ඉදිරියෙහි
පූජාකරමෝනම් ඔවුන් අපට ගල් නො
27 ගසද්ද? අපි තුන් දිනක ගමන් වනාන්
තරයට ගොස් අපේ යෙහෝවඃ දෙවියන්
වහන්සේ අඥාකල ලෙස උන්වහන්සේ
28 ට පූජාකරන්නෙමුයයි කීයේය. එකල
ඵාරාවෝ තුඹලාගේ යෙහෝවඃ දෙවි
යන්වහන්සේට වනාන්තරයෙහිදී පූජාක
රන්ට හරින්නෙමි එහෙත් බොහෝ දු
ර නොයල්ලාය. මා උදෙසා යාඥාවෙය
29 ල්ලායයි කීයේය. මෝසෙස්ද මම තුඹ
කෙරෙන් ගොස් මැසි රැල ඵාරාවෝ
සහ ඔහුගේ මෙහෙකරුවන්ද ජනයන්ද
කෙරෙන් හෙට දවස පහව යන පිණිස
යෙහෝවඃවහන්සේට යාඥාවෙනෙමි
එහෙත් ඵාරාවෝ යෙහෝවඃවහන්සේ
ට පූජාකරන පිණිස ජනයන් නොහරින
ලෙස මතු වංචාකම් නොකරන්නැයි කී
30 යේය. මෝසෙස්ද ඵාරාවෝ කෙරෙන්
ගොස් යෙහෝවඃවහන්සේට යාඥාකො
31 ලේය. යෙහෝවඃවහන්සේද මෝසෙස්
ගේ වචනය ලෙස කොට මැස්සන් ඵා
රාවෝ සහ ඔහුගේ මෙහෙකරුවන්ද ජ
නයන්ද කෙරෙන් පහකලසේක. එක
32 කුඩු ඉතුරු නුවූයේය. එහෙත් ඵාරාවෝ
මේ වතාවෙත් තමාගේ හෘදය දැඩිකො
ට ජනයන් හරින්ට අකමැති වූයේය.

9. පරිච්ජ. තවද යෙහෝවාවහන්
සේ මෝසෙස්ට කථාකොට ඵාරාවෝ
වෙතට ගොස් මට මෙහෙකරන්ට මා
2 ගේ ජනයන් හරුව. ඔවුන් වලක්වා
3 නොහැරියොත් අශ්වයන් කොටළුවන්
ඔටුවන් ගවයන් බැටළුවන් යන කෙතෙ
හි තාගේ සිව්පාවුන් පිටට යෙහෝවාව
හන්සේගේ අත නැමති ඉතා දුක් උපද
4 වන වසංගතයක් වන්නේය. ඊශ්‍රායෙල්
පුත්‍රයන් සන්තක සියල්ලන්ගෙන් කිසි
වෙක් නොනසින ලෙස. ඔවුන්ගේ සිවු
පාවුන් මිසරවරුන්ගේ සිවුපාවුන් කෙ
රෙන් යෙහෝවාවහන්සේ වෙන්කර
ණසේකැයි හෙබ්‍රෙව්වරුන්ගේ යෙ
හෝවා දෙවියණ්වහන්සේ වදුරණ බව
5 කියවයි කීසේක. තවද යෙහෝවාව
හන්සේ දේසයෙහි හෙට මේ දේ කර
ණසේකැයි කියමින් වේලාවක් නියම
6 කොට පසුව එදා ඒ දේ කලසේක. කෙ
තෙහි සිටින මිසරයෙහි සියළු සිව්පා
වෝ මලෝය. එහෙත් ඊශ්‍රායෙල්ගේ සි
වුපාවුන්ගෙන් එකෙක්වත් නොමලේ
7 ය. එවිට ඵාරාවෝ මිනිසුන් යවිය. ඊශ්‍රා
යෙල්ගේ සිව්පාවුන්ගෙන් එකෙකුදු
නොමෙලේය. එවිටත් ඵාරාවෝගේ සි
ත දැඩිවිය ජනයන් නොහැරියේය.

8 තවද යෙහෝවාවහන්සේ මෝසෙස්
සහ අහරොන්ට කථාකොට උදුනේ අළු
අත් පුරා ගෙන ඵාරාවෝගේ ඇස් හමු
9 යෙහිදී මෝසෙස් අහසට ඒ දමාවා. ඒ
මිසර දේසය මුළුල්ලෙහි දූවිලිව මිසර
දේසය මුළුල්ලෙහි මිනිසුන් සහ සිව්පා
වුන් පිට වන අටගනනාවූ ගඩු වනෙන්
10 යයි කීසේක. ඔවුන් උදුනේ අළු රැගෙ
න ඵාරාවෝගේ ඉදිරිපිට සිටියෝය.
මෝසෙස් අහසට ඒ දැමීය. ඒවා මිනි
සුන් පිටද මෘගයන් පිටද වන අටගන්
11 නා ගඩු විය. මායාකාරයන් සහ සියළු
මිසරවරුන් පිට ගඩු තිබෙන නිසා මා
යාකාරයන්ට මෝසෙස් ඉදිරිපිට සිටින්
12 ට නුපුළුවන්විය. යෙහෝවාවහන්සේ
ඵාරාවෝගේ හෘදය දැඩිකලසේක. යෙ
හෝවාවහන්සේ මෝසෙස්ට කී ලෙස
ඵාරාවෝ ඔවුන්ගේ බස් නොඇසුයේය.

13 තවද යෙහෝවාවහන්සේ මෝසෙස්
ට කථාකොට ඉතා අළුයම නැගිට ඵාරා
වෝ ඉදිරිපිට සිට හෙබ්‍රෙව්වරුන්ගේ
දෙවිවූ යෙහෝවාවහන්සේ මෙසේ කි
යනසේක. මට මෙහෙකරණ පිනිස මා
14 ගේ ජනයන් හරුව. මුළු පොලවෙහි
මා සමාන කෙනෙක් නැති බව දැනග
න්නා පිනිස ඒකාන්තයෙන් තාගේ හි
තටද තාගේ මෙහෙකරුවන්ද ජනයන්ද
කෙරෙහි මාගේ සියළු උවදුරු පමුනුව
15 නෙමි. දැන් මාගේ අත දිගුකොට තා
සහ තාගේ ජනයන්ට ඒ වසංගත රෝ
ගයෙන් පහරදුනෙනම්නම් පොලවෙන්
16 විනාසවූයෙහිය. සැබවින්ම තට මාගේ
බලය පෙන්වන පිනිසද මාගේ නාමය
සියළු පොලවෙහි එළිදරව්වෙන පිනිස
17 ද තා පිහිටවූයෙමි. තව මාගේ ජනයන්
නොහරින ලෙස ඔවුන්ට විරුඩව උ
18 සස් වනෙනහිද? හෙට මේ වේලාව ප
මනේදී පටන්ගැම්මෙහි පටන් දැන්
දක්වාම මිසරයෙහි නුවූ මහත් දුක් උ
19 පදවන ගල් වැසීවක් වසවනෙමි. එ
බැවින් දැන් යවා කෙතෙහි සිටින තා
ගේ සිව්පාවුන්ද තා සන්තක සියල්ලන්ද
රැස්කරව. කෙතෙහි සිටින ගෙට නො
ගෙන්නූ සියළු මිනිසුන් සහ සියළු සිව්
පාවුන් පිට ගල් වැස්ස වසිනේය. ඔවු
හුදු මියනෙන්යයි කියවයි කීසේක.
20 ඵාරාවෝගේ මෙහෙකරුවන්ගෙන් යෙ
හෝවාවහන්සේගේ වචනට භයවෙන
තැනැත්තේ තමාගේ වැඩකාරයින්ද සි
වුපාවුන්ද ගෙවලට ගෙන්වාගත්තේය.
21 යෙහෝවාවහන්සේගේ වචනය නො
සැලකූ තැනැත්තේ තමාගේ වැඩකාර
යින්ද සිව්පාවුන්ද කෙතෙහි සිටින්ට හැරි
යේය.

22 යෙහෝවාවහන්සේද මෝසෙස්ට ක
ථාකොට මිසර දේසයේ සියළු තැනල
සිටින මිනිසුන් පිටද මෘගයන් පිටද කෙ
තේ සියළු පලා ජාතීන් පිටද ගල් වැස්
ස වසින පිනිස අහසට තාගේ අත දිගු
23 කරවයි කීසේක. මෝසෙස්ද තමාගේ
සැරයටිය අහසට දිගුකෙලේය. යෙ
හෝවාවහන්සේ හෙන සහ ගල් වැස්
ස එවූසේක. ගිනිහද භූමිය පිට දිවූයේ
ය. යෙහෝවාවහන්සේ මිසර දේසය
24 පිටට ගල් වැසීව වැස්වූසේක. මිසර දේ
සය ජනපදයක්වූ පසු එහි නුවූ ගල්
වැස්සද ඉතා දුක් උපදවන ඒ ගල්
වැස්ස එක්ව ගිනිද මිසුව වැස්සේය
25 ගල් වැස්ස සියළු මිසර දේසේ කෙත්ව
ල සිටින මිනිසුන්ටද සිව්පාවුන්ටද කෙ
තෙහි සියළු පලාජාතියටද පහර දී සිය
26 ළු ගස්ද බින්දේය. ඊශ්‍රායෙල්ගේ පුත්‍ර

යෝ සිටි ගොඩැන්නම් රටේ පමනක්
කිසි ගල් වැස්සක් නුවූයේය.
27 එවිට ඵාරාවෝ මෝසෙස් සහ ආ
රොන් හඬගසා මම මෙවිට පව්කෙලෙ
මි. යෙහෝවඃවහන්සේ ධර්මිෂ්ඨවනසේ
ක. මමද මාගේ ජනයෝද දුෂ්ඨයෝ ව
28 මුව. ඉතින් මෙපමනකින් ඇත. මහත්
හෙන සහ ගල් වැස්සද තවත් නොවෙ
න පිනිස මා උදෙසා යෙහෝවඃවහන්
සේට යාඥාකරපල්ලාය මමද නුබලා හ
රිනෙනම් නුබලා තවත් නොසිටිනෙනා්
29 යයි ඔවුන්ට කීය. මෝසෙස්ද මම නුව
රින් ගිය කෙනෙහිම යෙහෝවඃවහන්
සේ දෙසට මාගේ අත දිගුකරනෙනම්.
පොලව යෙහෝවඃවහන්සේගේයයි නු
බට දැනගතනා පිනිස හෙන නවතින්
නේය ගල් වැස්සද මතු නොවනෙනා්
30 ය. එහෙත් නුබද නුබේ මෙහෙකරු
වෝද යෙහෝවඃ දෙවියන්වහන්සේට
තව භය නොවෙන බව දනිම්යි ඔහුට
31 කීය. යව කරල්ගත්තේය හනද පිදු
නේය. එබැවින් හන සහ යවද විනාස
32 විය. ගෝධුම සහ තන හාල්ද නොවැඩු
33 නු බැවින් විනාස නුවූයේය. මෝසෙස්
ඵාරාවෝ ලඟින් නුවරින්ද ගොස් යෙ
හෝවඃවහන්සේ දෙසට තමන් අත් දි
ගුකලේය. හෙන සහ ගල් වැස්සද නැ
වතුනේය වර්ෂාවද පොළෝ මතුපිට
34 නොවැස්සේය. තවද ඵාරාවෝ වර්ෂාවද
ගල් වැස්සද හෙනද නැවතුනු බව දු
ක වඩවඩා පව්කොට ඔහු සහ තමන්
වැඩකාරයෝද තමන් සිත් දැඩිකලෝ
35 ය. යෙහෝවඃවහන්සේ මෝසෙස් ලවා
කියවූ ලෙස ඵාරාවෝගේ සිත දැඩි විය.
ඊශ්‍රායෙල්ගේ පුත්‍රයින් හරිනනට ඔහු
නොකමැතිවිය.

10. පරිච්ඡ. යෙහෝවඃවහන්සේ
මෝසෙස්ට කථාකොට ඵාරාවෝ වෙත
ට යව. මිසරයෙහිදී මම කල දේ සහ
ඔවුන් අතරෙහි මම කලාවූ හාස්කම්ද
2 තාගේ පුත්‍රයා සහ තාගේ මුනුබුරාටද
කියන පිනිසද මම යෙහෝවඃවහන්සේ
යයි ඔවුන්ට දැනෙන පිනිසද මාගේ
මේ හාස්කම් ඔහුගේ ඉදිරියෙහි දක්ව
න ලෙස ඔහුගේද ඔහුගේ මෙහෙකරු
වන්ගේද හදද දැඩිකෙලෙම්යි වදාලසේ
3 ක. මෝසෙස් සහ ආරොන්ද ඵාරාවෝ
වෙතට අවුත් හෙබ්‍රෙව්වරුන්ගේ දෙ
විවූ යෙහෝවඃවහන්සේ මෙසේ කියන
සේක. මට කොතෙක් කල් අකීකරු
වනෙනහිද? මට මෙහෙකරණ පිනිස
4 මාගේ ජනයන් හරුව. මාගේ ජනයන්
නොහැරියොත් හෙට තාගේ දේසයට
5 පලගැටියන් පමුනුවනෙනම්. උන් බිම
දකින්ට බැරි තරම භූමිය වසාගෙන
ගල් වර්ෂාවෙන්. ගැලවී ඉතුරුව තිබෙ
න සියල්ලද කෙනෙහි නොප නිසා වැ
6 ඩෙන සියළුම ගස්ද කනෙනාය උන්
තාගේ පියවරුවත් මුත්තාවරුවත් පො
ලවෙහි සිටි තැන් පටන් අද දවස දක්
වා නුදුටු ලෙස තාගේ සහ තාගේ සිය
ළු මෙමහකරුවන්ගේ ගෙවල්වලද සි
යළු මිසරයන්ගේ ගෙවල්වලද පිරෙන්
නෝයයි ඔහුට කීවෝය. මෝසෙස් හැ
7 රී ඵාරාවෝ කෙරෙන් ගියේය. ඵාරාවෝ
ගේ මෙහෙකරුවෝද මොවුන් කො
තෙක් කල් අපට මලපතක් වනෙනද?
ඒ මනුෂ්‍යයන් තමන්ගේ දෙවිවූ යෙ
හෝවඃවහන්සේට මෙහෙකරණ පිනිස
හැරියමැනව. මිසරය විනාසවූ බව ත
8 වම නොදනනාසේක්දැයි කීවෝය. නැ
වත ඵාරාවෝ තමන් වෙතට ගෙනවන
ලද්දාවූ මෝසෙස් සහ ආරොන්ට නුබ
ලාගේ දෙවිවූ යෙහෝවඃවහන්සේට
මෙහෙකරනනට පලයල්ලාය. එහෙත්
යනෙනා් කවුරුදැයි ඔවුන්ගෙන් ඇසූ
9 යේය. මෝසෙස්ද යෙහෝවඃවහන්සේ
ට මගල්‍යයක් පවත්වන්ට ඕනෑ නිසා
අපේ බාලයනූ මහල්ලනූ අපේ පුත්‍රයනූ
දූවරුන්ද අපේ බැටළුවනූ ගව සමූහය
10 නූ සමග යමුයයි කීයේය. ඔහු මම නු
බලා සහ නුබලාගේ බාලයන්ද හරින්
නාක්මෙන් යෙහෝවඃවහන්සේ නුබ
ලා සමග වනසේක්වා නපුර නුබලා
ඉදිරියෙහි තිබෙන බව බලාගනිල්ලාය.
11 එසේ නොවේය. නුබ ඉල්ලූ ලෙස නු
බලා පිරිමි ගොස් යෙහෝවඃවහන්සේ
ට මෙහෙකරපල්ලායයි කීය. ඔවුන් ඵා
රාවෝගේ ඉදිරියෙන් අඬවනලද්දෝය.
12 යෙහෝවඃවහන්සේද මෝසෙස්ට ක
ථාකොට පලගැටියන් මිසර දේසයට අ
වුත් දේසයෙහි ගල් වර්ෂාවෙන් ඉතිරිවූ සි
යළු පලා ජාතීන් කන පිනිස මිසරදේසය
13 ට අත දිගුකරවයි කීසේක. මෝසෙස් ත
මාගේ සැරයටිය මිසර දේසයට දිගුකෙ
ලේය. යෙහෝවඃවහන්සේද ඒ දවස
හා මුළු රාත්‍රියෙහි ඒ දේසයට පූර්ව දිගින්

14 හුළඟක් පැමිණෙවූසේක. උදයවූ කල්
හි ඉතා දුක් උපදවන්නාවූ උන්ට පලමු
වෙන් නුවූ උන්ට පසුනොවෙන්නාවූ පූ
විදිග් හුලඟෙන් ගෙනෙනලද පලඟැවි
යෝ මිසර දේසය මුළුල්ලෙහිම ගොස්
15 සියළු කඩඉම්වල සිට රට අඳුරුවෙන
ලෙස සියළු බිම වසාගෙන දේසයෙහි
සියළු පලාජාතීනූ ගල් වර්ෂාවෙන් ඉතුරු
වූ සියළු ගස්වල ගෙඩිද කෑවෝය. මිස
ර දේසය මුළුල්ලෙහි ගස්වලත් කෙතෙහි
පලාජාතිවලත් අමුවූ දෙයක් ඉතිරුනුවූ
16 යේය එවිට ඵාරාවෝද මෝසෙස් සහ
අහරොන් හනික කැඳවා මම නුබලාගේ
දෙවිවූ යෙහෝවඃවහන්සේටත් නුබලා
17 වත් විරුඬව පව්කෙලෙම්. මේ වාරයට
පමනක් මාගේ පව් ක්‍ෂමා වෙයල්ලාය.
මේ මරණය පමනක් මාගෙන් පහකරන්
ට නුබලාගේ දෙවිවූ යෙහෝවඃවහන්
18 සේට යාඥාකරපල්ලායයි කීයේය. ඔහු
ඵාරාවෝ කෙරෙන් ගොස් යෙහෝවඃ
19 වහන්සේට යාඥාකලේය. යෙහෝවඃ
වහන්සේද බස්නාහිරින් බලවත් හුල
ඟක් හමවා එයින් පලඟැවියන් රැගෙන
සූප්නම් මුහුදේ හෙළූසේක. මිසර දේ
සය මුළුල්ලෙහිම එකම පලඟැවියෙක්
20 වත් ඉතුරු නුවූයේය. එහෙත් යෙහෝ
වඃවහන්සේද ඊස්‍රායෙල් පුත්‍රයින් නො
හරිණ ලෙස ඵාරාවෝගේ හිත දැඩික
ලසේක.

21 යෙහෝවඃවහන්සේද කිසිවක් නො
පෙනෙන තරම් අන්ධකාරයක් මිසරය
ට පමුනුවන පිනිස තාගේ අත අහසට
22 දිගුකරවයි මෝසෙස්හට කීසේක. මෝ
සෙස් තමාගේ අත අහසට දිගුකලවිට
මිසරදේසය මුළුල්ලෙහි තුන් දිනක් ස
23 නාන්ධකාරය විය ඔවුන් තුන්දවසක්ම
ඔවුනොවුන් නුදුටුවෝය. කිසිවෙක් ත
මාගේ ස්ථානයෙන් නොනැගිට්ටේය.
එහෙත් සියළු ඊස්‍රායෙල් පුත්‍රයන්ගේ වා
24 සස්ථානවල එලිය පැවැත්තේය. ඵාරා
වෝද මෝසෙස් කැඳවා නුබලා ගොස්
යෙහෝවඃවහන්සේට මෙහෙකරපල්ලා
ය. නුබලාගේ බැටළු සමූහයනූ ගවසමූ
හයනූ පමනක් සිටින්වා නුබලාගේ බා
ලයෝද නුබලා සමග යන්වයි කීයේය.
25 මෝසෙස්ද අපි අපේ දෙවිවූ යෙහෝවඃ
වහන්සේට යාගවල්ද දවන පූජාවල්ද
පූජාකරණ පිනිස සතුන් ගෙනයන්ට නු
26 ඹ විසින් අවසර දියයුතුය. අපේ දෙවිවූ
යෙහෝවඃවහන්සේට මෙහෙකිරීමට
උන්ගෙන් ගතයුතු බැවින් එක කුරයක්
වත් ඉතුරුනොවෙන ලෙස අපේ සිව්පා
වෝ අප සමග යන්ට ඕනෑය. අපි එහි
යනතෙක් කුමකින් යෙහෝවඃවහන්
සේට මෙහෙකටයුතුදැයි නොදනිමුයයි
27 කීයේය. එහෙත් යෙහෝවඃවහන්සේ
ඵාරාවෝගේ හිත දැඩිකලසේක, ඔහු ඔ
28 වුන් නොහැරියේය. ඵාරාවෝද මා කෙ
රෙන් පලයන්න තවත් මාගේ මුහුන
නොදක්නට ප්‍රවේසම්වෙයන්න. මාගේ
මුහුන දක්නාවූ දවසෙහි නසිනෙන්නෙහිය
29 යි කීයේය. මෝසෙස්ද නුඹ මනාකොට
කීසේක තවත් නුඹේ මුහුන නොදක්
නෙමියි කීයේය.

11. පරිච්ඡෙ. තවද යෙහෝවඃවහන්
සේ මෝසෙස්ට කථාකොට ඵාරාවෝ ස
හ මිසරය පිටටද තවත් නාස්තියක් ගෙ
නෙන්නෙමි ඉන්පසු ඔහු නුබලා හරින්
නේය. ඒකාන්තයෙන් නුබලා හරිනක
ල එකවිටම නුබලා මෙතණින් එලවන්
2 නේය. සියළු පුරුෂයෝ තමන්ගේ අසල්
වාසීන්ගෙනූ සියළු ස්ත්‍රීවරු තමන්ගේ
අසල්වාසි ස්ත්‍රීන්ගෙනූ රන් රිදී ආභරන
ඉල්ලාගනිත්වයි සමූදුවට කියවයි මෝ
3 සෙස්හට වදාලසේක. යෙහෝවඃවහන්
සේ සෙනගට මිසරවරුන්ගේ ඉදිරියෙ
හිදී කරුණාව දුන්සේක. තවද මෝ
සෙස්නම් මනුෂ්‍යයා මිසර දේසයෙහිද
ඵාරාවෝගේ මෙහෙකරුවන් සහ සෙ
නග ඉදිරියෙහිද උත්තමයෙක්ව සිටියේ
4 ය. මෝසෙස්ද යෙහෝවඃවහන්සේ කි
යනසේක් මධ්‍යම රාත්‍රිය පමනට මම මි
5 සරය මැදින් යන්නෙමි. එවිට සිංහාසන
යේ හිඳින ඵාරාවෝගේ කුළුඳුලා පටන්
අඹරණ ගල පස්සෙහි දැසියගේ කුළුඳුලා
දක්වා මිසරයෙහි සියළු කුළුඳුලෝද
සිවුපාවුන්ගේ කුළුඳුලෝද මියනෙන්නෝය.
6 කිසි කලකත් නොතිබුනාවූ මහත් හැඬී
7 මක් මුළු මිසරදේසයෙහි වන්නේය. එ
හෙත් මිසරයන් සහ ඊස්‍රායෙල් අතරෙ
හි යෙහෝවඃවහන්සේ කරන්නාවූ වෙ
නස කිමෙක්දැයි නුබලාට දැනෙන පිනි
ස ඊස්‍රායෙල් පුත්‍රයන්ගෙන් කිසි මනුෂ්‍ය
යෙකුටවත් මෘගයෙකුටවත් විරුඬව බල්
ලෙක් තමාගේ දිව නොසොල්වන්නේ
8 යයි කීසේක. නුඹේ මේ සියළු මෙහෙක
රුවෝ මා වෙතට අවුත් මට වැඳ ඔබ

ගේ මූළු සමූදුව සමග නික්ම යනුමැන
වයි කියනොතා්ය ඉන්පසු යනොතාම්යි කි
යා ඵාරාවෝගේ ඉදිරියෙන් මහත් කෝ
9 පයෙන් ගියේය. යෙහෝවඃවහන්සේද
මාගේ හාස්කම් මිසරදේසයෙහි බෝවෙ
න පිනිස ඵාරාවෝ තොපගේ බසට ඇ
හුම්කන් නොදෙනෙත්යයි මෝසෙස්හ
10 ට කීසේක. මෝසෙස්හා ආරොන් ඵාරා
වෝ ඉදිරියෙහි මේ සියළු හාස්කම් ක
ලෝය. ඊස්‍රායෙල් දරුවන් තමාගේ දේ
සයෙන් නොහරින ලෙස යෙහෝවඃ
වහන්සේ ඵාරාවෝගේ සිත දැඩිකල
සේක.

12. පරිචෙ. යෙහෝවඃවහන්සේ මි
සරදෙසයෙහිදී මෝසෙස් සහ ආරොන්
2 ටද කථාකොට මේ මාසය තොපට මාස
වල පටන්ගැන්ම සහ අවුරුද්දෙහි පල
3 මුවෙනි මාසය වනෙත්ය. තොපි ඊස්‍රා
යෙල්ගේ මුළු සමූදුවට කථාකොට මේ
මාසේ දසවෙනි දිනදී තමන්ගේ පි
යවරුන්ගේ ගේ හැටියට ගෙයකට
බැටළු වස්සෙක් බැගින් එකිනෙකා
4 බැටළුවස්සෙක් ගන්නට කියව්. එහෙත්
බැටළුවස්සෙක් කන්නට ගෙයි වැසියෝ
මදිනම් ඊළඟ සිටින ඔහුගේ අසල්වාසි
යා සමග එකිනෙකාට කන්ට සෑහෙන
ලෙස මිනිසුන් ගනනට ඒකා ගනිත්වා.
5 බැටළුවන්ගෙණවත් එළුවන්ගෙණවත් අ
වුරුද්දක්වූ කැලල් නැති පිරිමි සතෙක්
6 ගෙන එම මාසේ දහහතරවෙනි දවස
දක්වා වෙන්කොට තබා ඊස්‍රායෙල්ගේ
7 මූළු සමූදුව සවස ඒකා මරා ලේ රැගෙ
න කන ගෙවල්වල උළුවහුකනු දෙක්
8 හිද උඩ පඩියෙහිද ගා රාත්‍රියෙහිම ගින්
නෙන් පුළුස්සා ඒ මාංශය ඇඹුල් පිටි නු
මුහු රොටිද තික්තවූ පලාද සමග කන්
9 නෝය. ඒ අමුවෙණවත් තම්බාවත් නො
කා උගේ හිසද කකුල්ද බඩද සමග ගි
නෙනන් පුළුස්සා උදයට කිසිවක් ඉතුරු
10 නොවෙන ලෙස ඒ මාංශය කව්. උදය
දක්වා එයින් ඉතුරුව තිබේනම් ඒක
11 ගින්නෙන් දවව්. මෙසේ තොපි ඒකා
කනවා ඇත. තොපගේ ඉහවට බැඳ මිරි
වැඩි පයලා සැරයටිය අතින් ගෙන ඉක්
මනින් කනවා ඇත ඒක යෙහෝවඃව
12 හන්සේගේ උපරිගමනය වේ. මක්නිසා
ද මේ රාත්‍රිය මිසරදේසය මැදින් යනොත
මි මිසරදේසයෙහි මනුෂ්‍යයන්ගේද සිවු
පාවුන්ගේද සියළු කුළුඳුලන් නසනොත
මි. මිසරයෙහි සියළු දෙවිවරුන්ට දඬු
වම්කරනොතාමි. යෙහෝවඃවහන්සේ ම
13 මය. මම මිසර දේසයට පහරදෙනකල්
හි ඒ ලේ තොපි සිටින ගෙවල්වල ලකු
නක්වනෙත්ය. ඒ ලේ දැක පීඩාවෙන්
තොප විනාසනොවෙන ලෙස තොප
ඉක්මවා යනොතාමි.
14 මේ දවස තොපට සිහිවීමක් පිනිස
තොපගේ පරම්පරාවල යෙහෝවඃව
හන්සේට පවත්වනනාවූ මගල්‍ය දිනක්
වනෙත්ය. නියමයක් වසයෙන් ඒ දවස
15 මගල්‍යයක්කොට නිතර පවත්වව්. ප්‍ර
ථම දවසෙහිම තොපගේ ගෙවල්වලින්
ඇඹුල්පිටි බැහැරකොට සත්දවසක් ඇ
ඹුල්පිටි නුමුහු රොටි කනවා ඇත. ප්‍රථම
දවස පටන් සත්වෙනි දවස දක්වා ඇ
ඹුල් පිටිමුහු රොටි කන කවරෙක්වත් ඊ
16 ස්‍රායෙල්ගෙන් පහවෙනනාටවේ. පළමු
වෙනි සහ සත්වෙනි දවස්වල පවිත්‍ර සභා
වක් වනෙත්ය. එදවස්වල සියල්ලන්ගේ
කෑමට නිසි වැඩ මිස අන් කිසි වැඩක්
17 නොකරනොතා්ය. මේ දවසෙහි මම
තොපගේ සේනාවල් මිසරදේසයෙන්
ගත්හෙයින් ඒක ඇඹුල් පිටි නුමුහු මග
ල්‍යයක්කොට තොපගේ පරම්පරාවල
නියෝගයක් වසයෙන් නිතරම පවත්
18 වව්. ප්‍රථම මාසේ දසහතරවෙනි දවස ස
වස පටන් විසිඑක්වෙනි දවස සවස දක්
වා ඇඹුල් පිට නුමුහු රොටි කනොතා්ය.
19 සත් දවසක් තොපගේ සියළු වාසස්ථාන
වල ඇඹුල් පිටි නුමුහු රොටි මිස ඇඹුල්
පිටි මුහු රොටි නොකන ලෙස තොපේ
ගෙවල්හි ඇඹුල් පිටි තිබාගන්ට එපාය.
ආගන්තුකයෙක්වත් දේසයෙහි උපන්
20 නෙක්වත් ඇඹුල් පිටි මුහු දේ කන කව
රෙක්වත් ඊස්‍රායෙල්ගේ සමූදුවෙන් ප
හවෙනනාට වේයයි කියවයි කීසේක.
21 එවිට මෝසෙස් ඊස්‍රායෙල්ගේ සියළු
ප්‍රධානීන් කැඳවා නුබලාගේ පවුල් ගන
නට බැටළු වස්සෙක් රැගෙන උපරිගම
22 න මගල්‍යය පිනිස මරාගනිල්ලාය. හි
සොප් මිටියක් ගෙන ඒක තැටියෙහි ති
බෙන ලෙයෙහි ගලා උළුවස්සේ උඩ ප
ඩිකදෙත් කනු දෙකෙත් තැටියෙහි ති
බෙන ලෙයින් ඉස කිසිවෙක් උදය දක්
වා දොරකඩින් නික්මෙනනාට එපාය.
23 මක්නිසාද යෙහෝවඃවහන්සේ මිසරවා
සීන්ට පහරදෙන පිනිස ගොස් උළුවස

සේ උඩ පඩිකඬෙහිද කනු දෙකෙහිද
ලේ දුක දොර ඉක්මවා යනසේක. තු
බලාට පහරදෙන පිනිස තුබලාගේ ගෙ
වලට ඇතුල්වෙන්ට විනාසකාරයාට අ
24 වසර නොදෙනසේක. මේ මෙහෙය තු
බලාටත් තුබලාගේ පුත්‍රයින්ටත් දුන් නි
යෝගයක්කොට සදාකාලයටම රක්‍ෂා
25 කරපල්ලාය. යෙහෝවෑවහන්සේගේ
පොරොන්දුවීම ලෙස තුබලාට දුන් දේ
සයට තුබලා පැමිනෙන කල්හි ඒක ර
26 ක්‍ෂාකරපල්ලාය. තුබලාගේ දරුවෝද
මේ මෙහෙයෙන් තේරුම්වෙනෙත් කි
27 මෙක්දැයි කියනකල ඒක යෙහෝවෑව
හන්සේගේ උපරිගමන මඟුල්‍යයෙහි යා
ගයයි කියාද උන්වහන්සේ මිසරවාසින්ට
පහරදුන් කල්හි මිසරදේසයෙහිවූ ඊස්‍රා
යෙල්ගේ පුත්‍රයින්ගේ ගෙවල් ඉක්මවා
ගොස් අපේ ගෙවල් ගලවාගත්සේකැයි
කියාද ඔවුන්ට කියාපල්ලායයි කීයේය.
28 එවිට ජනයෝ හිස් නමා වැන්දෝය. ඊ
ස්‍රායෙල්ගේ දරුවෝ ගොස් යෙහෝවෑ
වහන්සේ මෝසෙස් සහ ආරොන්ට අ
ණකල ලෙස කලෝය.
29 තවද මධ්‍යම රාත්‍රියෙහි යෙහෝවෑව
හන්සේ සිංහාසනය පිට හිඳින ඵාරාවෝ
ගේ කුළුඳුලා පටන් හිරගේ සිටින දාස
යාගේ කුළුඳුලා දක්වා මිසරයෙහි සියළු
කුළුඳුලන්ටද සිවුපාවුන්ගේ සියළු කුළුඳු
30 ලන්ටද පහරදුන්සේක. ඵාරාවෝද ඔහු
ගේ සියළු මෙහෙකරුවෝද සියළු මිස
රවාසිහුද රාත්‍රියෙහි නැගුටුනෝය. මි
සර දේසයෙහි මල කෙනෙක් නැති
ගෙයක් නොතිබුන හෙයින් මහත්වූ ල
31 තෝනියක් වූයේය. ඵාරාවෝ රාත්‍රියෙ
හි මෝසෙස්ද ආරොන්ද කැඳවා නැගිට
මාගේ ජනයන් කෙරෙන් තුබලාද ඊ
ස්‍රායෙල්ගේ දරුවෝද ගොස් තුබලා කී
ලෙස යෙහෝවෑවහන්සේට මෙහෙක
32 රපල්ලාය. තුබලාගේ බැටළුවන් ගවය
න් තුබලා කී ලෙස රැගෙණ පලයල්ලා
33 ය. මටද ආශීර්වාද කරපල්ලායයි කීයේය.
මිසරවරු අපි සියල්ලෝම මල තැනැත්
තෝ වමුයයි කියා ජනයන් දේසයෙන්
වහා යවන පිනිස ඔවුන්ට ඉක්මන්ක
34 ලෝය. ජනයෝද තමන්ගේ අනාප්‍ර පි
ටි ඇඹුල්වෙන්ට ප්‍රථමයෙන් ගෙන පිටි
අනන ඔරු තමන්ගේ වස්ත්‍ර සමග කර
35 බැඳගතෙතෝය. ඊස්‍රායෙල්ගේ දරුවෝ
මෝසෙස්ගේ වචන ලෙස කොට මිසර
වාසින් කෙරෙන් රන් රිදී ආභරණයන්ද
36 වස්ත්‍රද ඉල්වාගතෙතෝය. යෙහෝවෑව
හන්සේ මිසරවාසින්ගේ ඉදිරියෙහි ඔ
වුන්ට කරුණාකල බැවින් ඔවුන් ඉල්වූ
දේ දුනෙතෝය. ඔවුන් මිසරවාසින්ගේ
වස්තු පැහැරගතෙතෝය.
37 ඊස්‍රායෙල්ගේ දරුවෝද රමෙසෙස්
සිට සුකොත්ට ගියෝය. ඔවුන් දරුවන්
හැර පයින් ගියාවූ පුරුෂයන්ගෙන් ස
38 ලක්‍ෂයක් පමන වූවෝය. මිස්‍රවූ සමූහ
යක් හා බැටළු රැලවල්ද ගව රැලවල්ද
යන බොහෝ සිව්පාවුන් ඔවුන් සමග
39 ගියෝය. ඔවුන් ප්‍රමාදවෙන්ට නොහැ
කි ලෙස මිසර දේසයෙන් නෙරපනල
දුව කිසි ආහරයක් නොසෑදූ හෙයින්
මිසරයෙන් ගෙනාවාවූ ඇඹුල් නුවූ අනා
පූ පිටිවලින් ඇඹුල් නුමුසු රොටි පිලිස්
40 සුවෝය. මෙසේ මිසරයෙහි ඊස්‍රායෙල්
දරුවන්ගේ වාසයකිරීම හාරසිය තිස්
41 අවුරුද්දක් විය. හාරසිය තිස් අවුරුද්ද
පිරුනු එම දවසේදීම යෙහෝවෑවහන්
සේගේ සියළු සේනාවල් මිසර දේස
42 යෙන් ගියෝය. ඒ රාත්‍රිය මිසර දේස
යෙන් ඔවුන්ගේ නික්මයාම නිසා යෙ
හෝවෑවහන්සේට ඉතා ගෞරව කටයු
තු රාත්‍රියක්ය. ඊස්‍රායෙල්ගේ සියළු දරු
වන් විසින් තමන්ගේ පරම්පරාවල්හි
පැවැත්විය යුතුවූ යෙහෝවෑවහන්සේ
ගේ රාත්‍රිය මේය.
43 යෙහෝවෑවහන්සේ මෝසෙස් සහ
ආරොන්හට කථාකොට උපරිගමන ම
ඟුල්‍යයෙහි විධිය මේය. කොයි විදේසි
44 යෙක් නුමුත් එයින් නොකනෙත්ය. එ
හෙත් මිලේට ගත් සියල්ලන්ගේ මෙ
හෙකරුවෝ චර්මඡෙදනයකරනු ලැබූ
45 වායින් පසු එයින් කනවා ඇත. විදේසි
යෙක්වත් බැලමෙහෙකරනෙනක්වත්
46 එයින් නොකනෙත්ය. ඒක ගෙයක කා
එහි මාංසයෙන් ගෙයින් පිටත නො
ගෙන එයින් කිසි ඇටයක්වත් නොක
47 ඩව්. ඊස්‍රායෙල්ගේ මුළු සභාව ඒක ප
48 වත්වනෙත්ය. තා සමග සිටින විදේසි
යෙක් උපරිගමන මඟුල්‍යය යෙහෝවෑ
වහන්සේට පවත්වන්ට කැමතිනම් ඔ
හුගේ සියළු පිරිමි චර්මඡෙදනයකරනු ල
බනෙතෝය එවිට ඔහු සමීපයට අවුත්
ඒක පැවතුවාවේ. ඔහු දේසයෙහි උ
පන් කෙනෙක් මෙන් වනෙත්ය. චර්ම
ඡෙදනය නොවූ කවරෙක්වත් එයින්

49 නොකළයුතුය. දේශයෙහි උපන්නාවූ
තැනැත්තාටද නුඹ අතරෙහි වාසය
කරන්නාටද ඒක විධියක් වන්නේයයි
50 කීයේක. ඊශ්‍රායෙල්ගේ සියළු දරුවෝ
මෙසේ කලෝය. යෙහෝවඃවහන්සේ
මෝසෙස් සහ ආරොන්හට අණකල
51 ලෙස ඔවුන් කලෝය. ඒ දවසෙහිම
යෙහෝවඃවහන්සේ ඊශ්‍රායෙල්ගේ දරු
වන් ඔවුන්ගේ සේනාවල් හැටියට මිස
ර දේශයෙන් ගෙනාසේක.

13. පරිච්ඡ. තවද යෙහෝවඃවහන්
2 සේ මෝසෙස්හට කථාකොට ඊශ්‍රායෙල්
පුත්‍රයන්ගෙන් සියළු ප්‍රථම ජාතයන් ඒ
නම් මනුෂ්‍යයන්ගෙන්ද මෘගයන්ගෙන්ද
කුළුඳුල්වූවන් මට කැපකරව් ඒ මාගේ
3 යයි කීසේක. මෝසෙස්ද නුඹලා මිසර
දේශයෙන් ඒනම් වාල්කමේ ගෙයින්
පිටත ආ මේ දින සිහිකරපල්ලාය. මක්
නිසාද යෙහෝවඃවහන්සේ අතෙහි බ
ලයෙන් එතනින් නුඹලා ගෙන්වූසේක.
ඇඹුල් පිටි මුසු රොටි කිසිවක් කන්ට
4 එපාය. අබිබ්නම් මස මේ දින නුඹලා
5 පිටත ආවෝය. යෙහෝවඃවහන්සේ
කනානිවරුන්ගේද හිත්තිවරුන්ගේද අ
මෝරිවරුන්ගේද හිව්විවරුන්ගේද යෙ
බුසිවරුන්ගේද දේශයවූ කිරෙන්ද මී
යෙන්ද පූර්ණවූ උන්වහන්සේ නුඹලාට
දෙන පිණිස නුඹලාගේ පියානන් සමග
දිව්වාවූ දේශයට නුඹලා ගෙනා කල
6 මේ මාසේ මේ මෙහෙවර පවත්වා සත්
දවසක් ඇඹුල් පිටි නුමුසු රොටි කන්
නෝය. සත්වෙනි දවසේ යෙහෝවඃව
හන්සේ උදෙසා මංගල්‍යයක් වන්නේය.
7 සත් දවසක් ඇඹුල් පිටි නුමුසු රොටි ක
න්නෝය. ඇඹුල් පිටි මුසු රොටි නුඹ
ලා වෙත නොවන්නේය. නුඹලාගේ සි
යළු සීමාවල ඇඹුල් පිටි කිසිත් නොව
න්නේය.

8 මම මිසරයෙන් ආකල යෙහෝවඃව
හන්සේ මා කෙරෙහි කල ක්‍රියාවන් නි
සා මේක කරනු ලැබේයයි කියමින් ඒ
දවස් නුඹලාගේ පුත්‍රයන්ට දන්වාපල්ලා
9 ය. යෙහෝවඃවහන්සේගේ ව්‍යවස්ථාව
නුඹලාගේ මුඛයෙහි වෙන පිණිස අතෙ
හි ලකුනක් කොට ඇස් අතරෙහි සිහිවි
මක් පිණිසද ඒක වන්නේය. යෙහෝවඃ
වහන්සේ බලවත් අතකින් මිසරයෙන්
10 නුඹලා ගෙන්වූ බැවින් අවුරුද්දෙන්
අවුරුද්දට යුතු කාලයෙහි මේ නියෝග
11 ය රක්ෂාකරපල්ලාය. යෙහෝවඃවහන්
සේ නුඹලා සමගද නුඹලාගේ පියව
රුන් සමගද දිව්ව ලෙස කනානිවරුන්
ගේ දේශයට නුඹලා ගෙනවුත් ඒක දෙ
12 න කල්හි නුඹලා යෙහෝවඃවහන්සේ
උදෙසා කුළුඳුල් සියල්ලෑද නුඹලා ස
තු මෘගයන්ගෙන් සියළු ප්‍රථම ජාතයන්ද
වෙන්කරන්නෝය. ඒ සියළු පිරිමි සත්තු
13 යෙහෝවඃවහන්සේගේය. බැටළු වස්
සෙක් දෙමින් කොටළුවන්ගේ සියළු කු
ළුඳුලන් මුදන්නෝය. ඒ මුදන්ට නො
කමැතිනම් ඔහුගේ බෙල්ල බිඳින්නෝ
ය. නුඹලාගේ දරුවන් අතරෙන් කුළු
14 ඳුල්වූ සියළු පිරිමි මුදන්නෝය. පැමිනෙ
න කාලයෙහි නුඹලාගේ පුත්‍රයා මේ කි
මෙක්දැයි අසන කල යෙහෝවඃවහන්
සේ බාහු බලයෙන් මිසරයෙන් ඒනම්
වාල්කමෙහි ගෙයින් අප ගෙන්වූසේ
15 ක. ඵාරාවෝ අපේ යාම වැලැක්වූ කල්
හි යෙහෝවඃවහන්සේ මිසර දේශයෙහි
මනුෂ්‍යයන්ගේද මෘගයන්ගේද සියළු කු
ළුඳුලන් මැරූසේක. එබැවින් කුළුඳුල්
සියළු පිරිමි මම යෙහෝවඃවහන්සේට
පූජාකෙරෙමි. එහෙත් මාගේ දරුවන්
16 ගෙන් සියළු කුළුඳුලන් මුදමි. ඒක නුඹ
ලාගේ අතෙහි ලකුනක් පිණිසද ඇස් අ
තරෙහි ලකුනක් පිණිසද වන්නේය.
මක්නිසාද යෙහෝවඃවහන්සේ බාහුබ
ලයෙන් මිසරයෙන් අප පිටතට ගෙන්වූ
සේකැයි ඔහුට කියාපල්ලායයි ජනයන්
ට කීයේය.
17 ඵාරාවෝ ජනයන් හැරියකල්හි ඔ
වුන් යුද්ධය දකින කල පසුතැවිලිව දෙ
වනු මිසරයට යද්දෙහොයි කියමින් පි
ලිස්තිවරුන්ගේ දේශය මැදින් මාර්ග
ය නුදුරු නුමුත් දෙවියන්වහන්සේ ඒ මා
18 ර්ගයෙන් නොව සූප්නම් මුහුදේ ව
නාන්තරයෙන් ජනයන්ට යන්ට සැලැස්
වූසේක. ඊශ්‍රායෙල් පුත්‍රයෝ පිළිවෙළින්
19 මිසරදේශයෙන් ගියෝය. යෝසැප්ද සැ
බවින් දෙවියන්වහන්සේ නුඹලා බලන්
ට එනසේක. නුඹලා මාගේ ඇට මෙත
නින් ගෙනයතියි කියමින් තදින් දිවුර
වාගත් නිසා මෝසෙස් ඔහුගේ ඇට ත
20 මා සමග ගත්තේය. ඔවුන් සුකොත් සෙ
රෙන් ගොස් වනාන්තර සීමාවේ ඒතම්හි
21 කඳවුරු බැඳගත්තෝය. රෑ දවල් දෙක්
හි යන පිණිස යෙහෝවඃවහන්සේ මිං

පෙණවා දවහල් වලාකුල් මැඬකිඳු රාත්‍රි
යෙහි එළියවෙන පිණිස ගිනි මැඬකිඳු
22 ඔවුන්ට පෙරටුව ගොස් දවල් වලාකුල්
මැඬද රාත්‍රියෙහි ගිනි මැඬද ජනයන්
ඉදිරියෙන් බැහැර නොගත්සේක.

14. පරිචෙ. යෙහෝවඃවහන්සේ
2 මෝසෙස්ට කථාකොට ඊශ්‍රායෙල් පුත්‍ර
යෝ හැරී බාල්සිඵොන් ඉදිරිපිට මිග්
දෙල් සහ සමුද්‍රය අතරෙහි පිහාහිරොත්
හි කඳවුරු බඳින පිණිස ඔවුන්ට කියව
එයට ඉදිරිපිට සමුද්‍රය ළඟ කඳවුරු බ
3 ඳිව්. ඊශ්‍රායෙල් පුත්‍රයෝ දේසයට අසුවූ
වෝය. වනය ඔවුන් ඇතුල්කොට වසා
ගත්තේයයි ඵාරාවෝ ඔවුන් ගැන කිය
4 නෙන්ය. ඔවුන් පසු පස්සේ යන පිණිස
ඵාරාවෝගේ සිත දැඩිකරනෙනාමි. මිස
ර වැසියෝ මා යෙහෝවඃවහන්සේ බ
ව දැනගන්නා පිණිස ඵාරාවෝ සහ ඔහු
ගේ සේනාව නිසා ගෞරවයට පැමිණෙ
නෙනාමියි කීසේක. ඔවුන්ද එසේ ක
ලෝය.

5 සමූඳුව පලාගිය බව මිසරයෙහි රජහ
ට සැලවිය. ඵාරාවෝ සහ ඔහුගේ මෙ
හෙකරුවන්ගේ හෘදය සමූඳුවට විරුඬ
ව හැරී ඊශ්‍රායෙල්වරුන් අපට මෙහෙ
කිරීමෙන් කුමට හැරියෙමුද? කුමක්
හෙයින් මේක කලමෝදැයි කීවෝය.
6 ඔහු තමාගේ රථය සූදනම්කරගෙන ත
7 මාගේ සමූඳුවද තමා සමග ගෙන හයි
යක් තෝරාගත් රථද මිසරයෙහි සියළු
රථද ඒවා එකිනෙකට සේනානායකව
8 රුන්ද ගෙනෙත්ය. යෙහෝවඃවහන්සේද
මිසරයෙහි රජවූ ඵාරාවෝගේ සිත දැඩි
කලසේක. ඔහු ඊශ්‍රායෙල් පුත්‍රයන් එ
ලෙව්වේය. ඊශ්‍රායෙල් පුත්‍රයෝ බල අත
9 කින් ගියනුමුත් මිසරවැසියෝ එනම් ඵා
රාවෝගේ සියළු අසුන් සහ රථද අසරු
වෝද සුබ සමූඳුවද ඔවුන් එහුබැඳ බාල්
සෙපොන් ඉදිරිපිට පිහාහිරොත්හි මුහුදු
බඩ කඳවුරු බඳිමින් සිටි ඔවුන්ට ළන්
ඳුවෝය.

10 ඊශ්‍රායෙල් පුත්‍රයෝද ඵාරාවෝ ළන්වූ
කල්හි තමන්ගේ ඇස් ඔසවා මිසර වැ
සියෝ ඔවුන්ට ළන්වූ බව දැක අතිස
සින් භයව යෙහෝවඃවහන්සේට හඬ
11 ගැසුවෝය. ඔවුන් මිසරයෙහි මිනිවල
වල් නැති බැවින් වනයෙහි මියන්ට එ
12 සින් අප ගෙනාවේ මන්ද? මිසර වැසි
යන්ට මෙහෙකරන්ට අප ඇරියමැන
වයි මිසරයෙහිදී නොකීයෙමුද? වනයෙ
හි මැරෙණවාට වඩා මිසර වැසියන්ට
මෙහෙකිරීම යහපතැයි මෝසෙස්හට
13 කීවෝය. මෝසෙස්ද සමූඳුවට භයනො
වී සිටපල්ලාය. යෙහෝවඃවහන්සේ අද
නුබලාට පෙණවන ගැලවීම බලාපල්ලා
ය. නුබලා අද දුටු මිසර වැසියන් ත
වත් කිසි කලෙකත් නොදකිනවා ඇත.
14 යෙහෝවඃවහන්සේ නුබලා උදෙසා ස
ටන්කරණසේක නුබලා නිශ්ශබ්දව සි
ටිනෙනාහ්‍යයි කීයේය.

15 යෙහෝවඃවහන්සේද මෝසෙස්ට ක
ථාකොට කුමක්හෙයින් මට හඬගසන්
නෙහිද? ඊශ්‍රායෙල් පුත්‍රයන්ට පෙරටුව
16 යන්ට කියව. එහෙත් තාගේ සැරයටිය
ඔසවා තාගේ අත මුහුදට දිගුකොට ඒ
ක බෙදව. ඊශ්‍රායෙල් පුත්‍රයෝද මුහුද
17 මැද වියළි භූමිය පිට යනෙනාය. මම
ඔවුන් පස්සේ යන ලෙස මිසර වැසියන්
ගේ සිත් දැඩිකොට ඵාරාවෝද ඔහුගේ
සියළු සේනාවද ඔහුගේ රථ සහ අසරු
18 වන්ද නිසා ගෞරව ලබනෙනාමි. මම ඵා
රාවෝ සහ ඔහුගේ රථද ඔහුගේ අස
රුවන්ද නිසා ගෞරව ලැබූ කල්හි මිසර
වැසියෝද මා යෙහෝවඃවහන්සේ බව
19 දැනගනෙනාහ්‍යයි කීසේක. ඊශ්‍රායෙල්ගේ
කඳවුරට පෙරටුව ගිය දේවදූතයා හැරී
ඔවුන් පසුව ගියේය. වලාකුල් මැඬද
ඔවුන්ගේ මුහුන ඉදිරිපිටින් ගොස් පස්
20 සෙහි සිට මිසර වැසියන්ගේ කඳවුර
සහ ඊශ්‍රායෙල්ගේ කඳවුර අතරට පැමි
න මුළු රාත්‍රියෙහි එකෙක් අනිකෙකු
ලඟට නොඑන ලෙස ඔවුන්ට වලාකු
ලක් සහ අන්ධකාරයක් වූයේය. එ
හෙත් මොවුන්ට රාත්‍රියෙහි එළිය දුන්
21 නේය. මෝසෙස්ද තමාගේ අත මුහුද
ට දිගුකලේය. යෙහෝවඃවහන්සේ බ
ලවත්වූ නැගෙනහිර හුළඟකින් ඒ මුළු
රාත්‍රියෙහි සමුද්‍රය ඉවත්කරවා මුහුද විය
ළි භූමියක් කලසේක. ජලයද බෙදුනේ
22 ය. ඊශ්‍රායෙල් පුත්‍රයෝද වියළි භූමිය පි
ට මුහුද මැදට ගියෝය. ජලයද දකුණු
පැත්තෙන් සහ වම් පැත්තෙන් ඔවුන්ට
23 භිත්තියක් විය. මිසර වැසියෝ ඒනම්
ඵාරාවෝගේ සියළු අශ්වයෝද ඔහුගේ
රථද අසරුවෝද ඔවුන් එළවා මුහුද
24 මැදට ගියෝය. ඉන්පසු උදය යාමයෙ
හි යෙහෝවඃවහන්සේ වලාකුල සහ

ගිනි කණුව මැදින් මිසර සේනාව දෙස
25 බලා මිසර සේනාව කලඹා ඔවුන් අමා
රුවෙන් එලවන පිණිස ඔවුන්ගේ රථ
සක් ගැලෙව්වසේක. එවිට මිසර වැසි
යෝ ඊශ්‍රායෙල්ගෙන් සැඟවී යමු යෙ
හෝවඃවහන්සේ ඔවුන් වෙනුවට මිසර
වැසියන්ට එදිරිව සටන්කරණසේකැයි
කීවෝය.

26 යෙහෝවඃවහන්සේ මෝසෙස්ට ක
ථාකොට ජලය මිසර වැසියන් පිටටද
ඔවුන්ගේ රථ සහ අසරුවන් පිටටද
නැවත එන පිණිස තාගේ අත සමුද්‍රයට
27 දිගුකරවයි කීසේක. මෝසෙස්ද තමා
ගේ අත සමුද්‍රයට දිගුකලේය. සමුද්‍රය
පහන්වූ කල්හි වේගයට හැරුණේය.
මිසර වැසියෝ එයින් පලාගියෝය. යෙ
හෝවඃවහන්සේ මිසර වැසියන් මුහුද
28 මැදදී විනාසකලසේක. එවිට ජලය හැ
රී ඊශ්‍රායෙල්වරුන් පස්සෙහි මුහුදට ආ
වාවූ රථ සහ අසරුවන්ද ඵාරාවෝගේ
සියළු සේනාවද වසාගත්තේය. ඔවුන්
ගෙන් එකෙක්වත් ඉතුරු නොවූයේය.
29 එහෙත් ඊශ්‍රායෙල් පුත්‍රයෝ මුහුද මැද
වියලි භූමිය පිට ඇවිද්දෝය. ජලයද දකු
ණෙන් සහ වමෙන් ඔවුන්ට භිත්තියක්
30 විය. යෙහෝවඃවහන්සේ ඒ දවසෙහි
ඊශ්‍රායෙල් මිසර වැසියන් අතින් මෙසේ
ගැලෙව්වසේක. ඊශ්‍රායෙල්ද මිසර වැසි
31 යන් සමුද්‍ර තීරයෙහි මල බව දැක මිසර
වැසියන්ට යෙහෝවඃවහන්සේ කල ඒ
මහත් ක්‍රියාව දැනගෙන යෙහෝවඃව
හන්සේට භයව යෙහෝවඃවහන්සේද
උන්වහන්සේගේ මෙහෙකරුවූ මෝ
සෙස්ද විශ්වාස කලෝය.

15. පරිච්ඡේ. මෝසෙස් සහ ඊශ්‍රා
යෙල් පුත්‍රයෝ යෙහෝවඃවහන්සේට
මේ ගීතිකාව කියමින් මම යෙහෝවඃව
හන්සේට ගී කියන්නෙමි උන්වහන්සේ
උතුම් ගෞරවයට පැමිණ අශ්වයා සහ අ
2 සරුවාද සමුද්‍රයෙහි දැමූසේක. මාගේ
ශක්තියද ගීතිකාවද යෙහෝවඃවහන්
සේය උන්වහන්සේ මට ගැලවීමක් වූ
සේක. මොහු මාගේ දෙවියන්වහන්සේ
ය උන්වහන්සේට ගෞරව කරන්නෙමි
මාගේ පියානන්වන දෙවියන්වහන්සේය
උන්වහන්සේට වර්ණනා කරන්නෙමි.
3 යෙහෝවඃවහන්සේ යුද්ධ දක්ෂයෙක උ
න්වහන්සේගේ නාමය යෙහෝවඃය.
4 ඵාරාවෝගේ රථ සහ ඔහුගේ සේනාව
උන්වහන්සේ සමුද්‍රයට දැමූසේක. ඔහු
ගේ තෝරාගත් සේනානායකයෝද සූප්
5 නම් මුහුදෙහි ගිළුනෝය. ගැඹුරු ජල
යෙන් ඔවුන් වැසුනෝය ඔවුන් ගලක්
6 මෙන් පත්ලට කිඳුවෝය. යෙහෝවඃව
හන්ස ඔබගේ දකුනත පරාක්‍රමයෙන්
ගෞරව විය යෙහෝවඃවහන්ස ඔබගේ
7 දකුනත සතුරා කැබිලි කලේය. ඔබව
හන්සේගේ උතුම්කමෙහි මහත්තත්ව
යෙන් විරුද්ධකාරයින් හෙළූසේක. ඔබ
වහන්සේගේ උදහස එවා ඉපනැල්ල
8 මෙන් ඔවුන් විනාසකලසේක. ඔබගේ
හුස්මෙන් ජලය කැටිකලසේක ජලප්‍රවා
හයෝ ගොඩක්මෙන් කෙලින් සිටියෝ
9 ය සමුද්‍රය මැද ගැඹුරු ජලය මිදුණේය.
මම එහුබැඳ අල්වා කොල්ලකන්නෙමි
මාගේ අදහස ඔවුන් පිට පූර්ණවනු ලැ
බේ මාගේ කඩුව අදින්නෙමි මාගේ අ
තින් ඔවුන් විනාසකරන්නෙමියි සතුරා
10 කීය. ඔබවහන්සේ වාතය හැමවූසේක
සමුද්‍රය ඔවුන් වසාගත්තේය මහත් ජල
11 යෙහි ඊයන්මෙන් ඔවුන් කිඳුවෝය. යෙ
හෝවඃවහන්ස දෙවිවරුන් අතරෙහි ඔ
බවහන්සේට සමාන කවරෙක්ද? පවිත්‍ර
කමින් ගෞරවවූ ප්‍රශංසාවෙන් භයවිය යු
තුවූ හාස්කම් කරනනාවූ ඔබවහන්සේට
12 සමාන කවරෙක්ද? ඔබවහන්සේ ඔබ
ගේ දකුනත දිගුකලසේක භූමිය ඔවුන්
13 ගිල්ලේය. ඔබවහන්සේ ගලවාගත් ජන
යන් කරුණාවෙන් ගෙනගොස් ඔබගේ
පවිත්‍ර වාසස්ථානයට පරාක්‍රමයෙන් ඔවුන්
14 ට මග පෙන්වනසේක. ජනයෝ අසා භ
යවෙන්නෝය. පලස්තිනා රට වැසියන්
15 කෙරෙහි දුක් පැමිණෙන්නේය. එවිට ඒ
දොම්හි අධිපතියෝ පුදුමවෙන්නෝය
මෝවබ්හි බලවන්තයන් කෙරෙහි වෙ
ව්ලීම පැමිණෙන්නේය. කනාන්හි සියළු
16 වැසියෝ දියවෙන්නෝය. භයද තැති
ගැන්මද ඔවුන් පිට වැටෙන්නේය. යෙ
හෝවඃවහන්ස ඔබගේ ජනයන් ඉක්ම
යනතුරු ඔබවහන්සේ නිදහස්කරගත්
ජනයන් ඉක්ම යනතුරු ඔබවහන්සේ
ගේ බාහු බලයෙන් ඔවුන් ගලක්මෙන්
17 නිශ්චලවන්නෝය. යෙහෝවඃවහන්ස
ඔබගේ වාසස්ථානය පිණිස ඔබවහන්
සේ විසින් හදනලද ඔබගේ උරුම ප
ර්වතයට ඔවුන් ඇතුලත්කරවනසේක
යෙහෝවඃවහන්ස ඔබගේ අතින් ස්ථිර

කල පවිත්‍ර ස්ථානයෙහි ඔවුන් පිහිටුවන
18 සේක. යෙහෝවාවහන්සේ සදාකාල
යෙහි නිතර අධිපතිකම් කරණසේකැ
19 යි ගායනාකලෝය. මක්නිසාද ඵාරා
වෝගේ අශ්වයෝ ඔහුගේ රථ සහ අස
රුවන් සමග සමුද්‍රයට ගියෝය. යෙහෝ
වාවහන්සේද සමුද්‍ර ජලය ඔවුන් පිටට
ගෙනාසේක. එහෙත් ඊශ්‍රායෙල් පුත්‍ර
යෝ මුහුද මැද වියලි භූමිය පිට ගියෝ
20 ය. එවිට ආරොන්ගේ සහෝදරිවූ මිරි
යන්නම් අනාගතවක්ත්‍රි අතින් මිහිඟු
බෙරයක් ගත්තීය. සියළු ස්ත්‍රීවරුද මිහි
ඟු බෙර සහ නැටුම් සමග ඈ පස්සේ
21 ගියෝය. මිරියන් ඔවුන්ට උත්තර දෙ
මින් යෙහෝවාවහන්සේට ගායනාකර
පල්ලාය. උන්වහන්සේ උතුම් ගෞරවය
ට පැමිණ අශ්වයා සහ අසරුවාද සමුද්‍රය
ට දැමූසේකැයි කීවෝය.

22 මෙලෙස මෝසෙස් ඊශ්‍රායෙල්වරුන්
සූප් යන මුහුදෙන් ගෙනගියේය. ඔවුන්
ෂූර් වනයෙහි ගොස් වතුර නොලැබූ
23 වෝය. මාරාට අවුත් එහි වතුර තිත්ත
නිසා බොන්නට නොහැකිවූවෝය. එ
24 බැවින් ඒ ස්ථානය මාරා නම් විය. ජන
යෝද අපි බොන්නේ කුමක්දැයි කිය
මින් මෝසෙස්ට විරුද්ධව කොඳුලවීට
ඔහු යෙහෝවාවහන්සේට හඬගැසීය.
25 යෙහෝවාවහන්සේද ඔහුට ගහක් දැක්
වූසේක. ඒක ජලයට දැමූ කල්හි ජලය
මිහිරිවූයේය. එතනදී උන්වහන්සේ පන
26 තක්ද නියෝගයක්ද කලසේක. උන්
වහන්සේ ඔවුන් පරීක්ෂාකොට තාගේ
දෙවිවූ යෙහෝවාවහන්සේගේ ශබ්දය
ට කඩිසරව ඇහුන්කන් දී උන්වහන්සේ
ඉදිරියෙහි යුතුව තිබෙන දේ කොට උ
න්වහන්සේගේ ආඥාවලට කන් දෙමින්
උන්වහන්සේගේ සියළු පනත් රක්ෂාකර
ණවානම් මිසර වැසියන් පිටට මම ගෙ
නාවාවූ මේ රෝගවලින් එකක්වත් තා
පිට නොතබන්නෙමි. තට සුවකරන්නා
වූ යෙහෝවාවහන්සේ මමයයි කීසේක.
27 ඔවුන් වතුර ලින් දොළසක් හා ඉඳි ගස්
සැත්තෑවක් තිබෙන ඒලිම්ට අවුත් වතු
රබඩ නවාතැන් ගත්තෝය.

16. පරිච්ඡ. ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ
මුළු සභාව ඒලිමෙන් ගොස් මිසර දේස
යෙන් නික්ම ගිය දෙවෙනි මාසේ පහ
ලොස්වෙනි දිනදී ඒලිම් සහ සිනායි අත
රෙහිවූ සීන් යන වනයට පැමිණියෝය.
2 ඔවුන් වනයෙහි මෝසෙස් හා ආරොන්
3 හට විරුද්ධව කොඳුලෝය. ඊශ්‍රායෙල් ද
රුවෝ ඔවුන්ට කථාකොට මිසරදේස
යෙහි මාංශ භාජනවල් ලඟ හිඳ සෑහෙ
න පමන කෑම කන වේලාවෙහි යෙ
හෝවාවහන්සේගේ අතින් අපි නැසූ
නෙමුනම් යහපත. මුළු සභාව ක්ෂුධා
වෙන් මරවන්ට අප මේ වනාන්තරයට
4 ගෙනාවෝයයි කීවෝය. එවිට යෙහෝ
වාවහන්සේ මෝසෙස්ට කියනසේක් ඔ
වුන් මාගේ විධිවල හැසිරෙන්නෝද
නැද්දැයි විමසන පිණිස ස්වර්ගයෙන්
තොපට ආහර වස්වන්නෙමි ජනයෝද ද
වස්පතා නික්ම නියමවූ ප්‍රමාණයක් රැස්
5 කරණවා ඇත. සවෙනි දවසෙහි ඔවුන්
ගෙනෙන ආහර තිබාගනිති ඒද ඔවුන්
දවස්පතා එක්කරගන්නා ප්‍රමාණය දෙගු
6 ණයක් වන්නේයයි කීසේක. මෝසෙස්
සහ ආරොන් සියළු ඊශ්‍රායෙල් පුත්‍රයන්ට
කථාකොට හැන්දෑවෙහි යෙහෝවාව
හන්සේ තුබලා මිසරදේසයෙන් ගෙ
නාසේකැයි තුබලා දැනගන්නෝය.
7 පාන්දරදී යෙහෝවාවහන්සේගේ ම
හත්තත්වය දකින්නෝය. යෙහෝවාව
හන්සේට විරුද්ධව තුබලාගේ අවලාදය
උන්වහන්සේ ඇසූසේක. තුබලා අපට
විරුද්ධව අවලාද කියන්ට අපි කවුරුදැයි
8 කීවෝය. මෝසෙස්ද කියනුයේ යෙ
හෝවාවහන්සේ හැන්දෑවේදී කෑමට මා
ංශද පාන්දරදී සෑහෙන ආහරද දෙනසේ
ක. උන්වහන්සේට විරුද්ධව තුබලාගේ අ
වලාද යෙහෝවාවහන්සේ ඇසූසේක.
අපි කවුරුද? තුබලාගේ අවලාද අපට
විරුද්ධ නොව යෙහෝවාවහන්සේට වි
රුද්ධවන්නේයයි කීයේය.

9 මෝසෙස්ද ආරොන්ට කථාකොට යෙ
හෝවාවහන්සේ තුබලාගේ අවලාද ඇ
සූ හෙයින් උන්වහන්සේගේ ඉදිරියට
වරෙල්ලායයි ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ මුළු
10 සභාවට කියාපන්නැයි කීයේය. ආරොන්
ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ මුළු සභාවට ක
ථාකල කල්හි ඔවුන් වනාන්තරය දෙස
බැළුවෝය එවිට යෙහෝවාවහන්සේ
ගේ තේජස වලාපටලයෙහි පෙනුනේ
11 ය. යෙහෝවාවහන්සේද මෝසෙස්ට
12 කථාකොට මම ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ අ
වලාද ඇසීමි තොපි හැන්දෑවෙහි මාංශ
ය කනවා ඇත පාන්දරදී සෑහෙන පමන

කෑම ලබනවා ඇත. මම තොපගේ දෙ
විවූ යෙහෝවඃවහන්සේ බව තොපට දැ
13 නෙනවා ඇතැයි කීසේක. හැන්දෑවෙහි
වටුවෝ අවුත් කඳවුර වසාගත්තෝය.
පාන්දර සේනාව හාත්පස්හිද පිනි තිබු
14 ණේය. තිබුණු පිනි නැඟීකල වනයෙහි
කුඩාවූ වටවූ හිම සමානවූ කුඩා ද්‍රව්‍ය
15 යක් භූමි මතුයෙහි තිබුණේය. ඊශ්‍රා
යෙල් පුත්‍රයෝ ඒ දැක කිමෙක්දැයි නො
දැන මේ මොකදැයි කීවෝය. මෝසෙස්
ද කෑම පිනිස යෙහෝවඃවහන්සේ තුඹ
ලාට දුන් භෝජනය මේයයි කීයේය.
16 යෙහෝවඃවහන්සේ ආඥාකල දේනම් සි
යල්ලෝ කෑමට සෑහෙන පමන තුඹලා
ගේ කූඩාරම්වල සිටින අයවල්ගේ ගන
න හැටියට එකිනෙකාට ඕමරයක් බැ
17 ගින් එක්කරගනිත්වයි කීය. ඊශ්‍රායෙල්
පුත්‍රයෝ එසේ කොට සමහරක් වැඩි
යෙන් සමහරක් අඩුවෙන් එක්කල න
18 මුත් ඔවුන් ඕමර් යන මිම්මකින් ඒක මැ
නන කල්හි බොහෝ රැස්කල තැනැත්
තාට වැඩිව නොතිබුණේය අඩුවෙන්
රැස්කල තැනැත්තාටද හිඟව නොති
බෙණේය. ඔවුන් කෑමට සෑහෙන ලෙ
19 ස එයින් එක්කලෝය. මෝසෙස්ද කව
රෙක් තුමූත් උදයකාලය දක්වා එයින්
20 ඉතුරුනොකරේවයි කීයේය. එසේවි න
මුත් මෝසෙස්ගේ බසට කන් නොදී ඔ
වුන්ගෙන් සමහරෙක් උදයකාලය දක්
වා එයින් ඉතුරුකලේය. ඒද පණුවන්
උපදවා දුර්ගන්ධ විය. මෝසෙස්ද ඔවුන්
21 සමග කෝපවූයේය. ඔවුන් තමන්ගේ
කෑමට සෑහෙන ලෙස සියළු උදය ඒක
එක්කරගත්තෝය. සූර්‍ය්‍යා ග්‍රීස්මවුණුවිට
ඒක දියව ගියේය.

22 හවෙනි දවස ඔවුන් භෝජනයෙන්
දෙගුනයක් එනම් එකින් එකාට ඕමර්
දෙකක් බැගින් රැස්කලෝය. සභාවෙ
හි සියළු අධිපතිවරු අවුත් මෝසෙස්හ
23 ට ඒ බව කීවෝය. ඔහු යෙහෝවඃවහන්
සේ කී කාරණාවනම් මේය. සෙට දවස
යෙහෝවඃවහන්සේට ශුද්ධවූ සබත් දව
සෙහි නිවාඩුව වේ. පුළුස්සනනාවූ දේ
පුළුස්සාගනිල්ලාය තබනනාවූ දේ තබා
ගනිල්ලාය ඉතුරුව තිබෙන දේ උද
යකාලය දක්වා රක්ෂාකරගනිල්ලායයි
24 ඔවුන්ට කීයේය. ඔවුන් උදයකාලය
දක්වා මෝසෙස් කී ලෙස ඒක රක්ෂාක
රගත්තෝය. ඒද ගඳනොගැසුණේය කි
25 සි පණුවෙක්ද එහි නූවූයේය. මෝසෙස්
ද අද ඒක කාපල්ලාය අද යෙහෝවඃව
හන්සේට සබත්දවස නිසා ඒ භෝජන
26 ය කෙතෙහි නොසඹවනෙනෝය. සදව
සක් තුඹලා ඒ භෝජනය රැස්කරගනන
වා ඇත. සත්වෙනි සබත්දවසෙහි ඒක
27 නොතිබෙනනේයයි කීය. ජනයන් කෙ
රෙන් සමහරෙක් සත්වෙනි දවසේ
භෝජනය රැස්කරන්ට ගොස් කිසිවක්
28 නොලැබුවෝය. යෙහෝවඃවහන්සේද
මෝසෙස්ට කථාකොට තෙපි මාගේ අ
ඥාවන් පනතවල්ද රක්ෂාකරන්ට නො
කමැතිව සිටිනෙන් කොපමන කල්ද!
29 සබත් දවසක් තොපට දුන් යෙහෝවඃව
හන්සේ සවෙනි දවසෙහි දෙදවසකට
භෝජනයෙන් තොපට දුන් බැවින් සෑ
ම දෙනම තමන්ගේ ස්ථානවල සිටිත්වා.
සත්වෙනි දවසෙහි කිසිවෙක්වත් තමා
ගේ තැනින් නොනික්මේවයි කීසේක.
30 මෙලෙස ජනයෝ සත්වෙනි දවසෙහි
31 නිවාඩුගත්තෝය. ඊශ්‍රායෙල්ගේ වංශය
ඒ භෝජනයට මන්නා යන නාමය තැ
බුවෝය. ඒද මෙනේරි ඇටමෙන් සුදු
විය. එහි රස මී මිසු පූප මෙනි.

32 මෝසෙස්ද කියනුයේ යෙහෝවඃව
හන්සේ ආඥාකරනෙන්නම් මේය. මිස
ර දේසයෙන් තොප ගෙන ගොස් ව
නාන්තරයෙහිදී තොප පෝෂ්‍යකල භෝ
ජනය තොපගෙන් පැවත එනනන්ට
දක්වන්ට ඔවුන් නිසා එයින් ඕමරයක්
33 පුරවාගනිව්යයි කීයේය. මෝසෙස්ද අ
රොන්ට කථාකොට කලයක් රැගෙන ම
න්නා යන භෝජනයෙන් ඕමරයක් පුර
වා එහි තබාගනිනන. ඒක තුඹලාගේ
පරම්පරාවලට රක්ෂාකර තිබෙන පිනිස
යෙහෝවඃවහන්සේ ඉදිරියෙහි ඒක ති
34 බාගනිනනැයි කීයේය. යෙහෝවඃව
හන්සේ මෝසෙස්හට අඥාකල ලෙස අ
රොන් ඒක රක්ෂාකර තිබෙන පිනිස සා
35 ක්ෂි ඉදිරියෙහි තිබාගත්තේය. ඊශ්‍රායෙල්
පුත්‍රයෝ මනුෂ්‍ය වාසයට එනතුරු හත
ළිස් අවුරුද්දක් මන්නා කෑවෝය. ඔවුන්
කනාන්දේසයෙහි සීමාවලට පැමිනෙන
36 තුරු මන්නා කෑවෝය. ඕමරයක්නම්
එඵා යන මිම්මෙන් දසයෙන් කොට
සක්ය.

17. පරිච්ඡෙ. ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ
සියළු සමූහයෝ යෙහෝවඃවහන්සේ

ගේ ආඥාව ලෙස තමන්ගේ ගමන් ක්‍රම
යෙන් සීන් වනාන්තරයෙන් ගොස් රෙ
2 පිදිම්හි කඳවුරු බැඳගත්තෝය. එහි
බොන්නට වතුර නැති බැවින් ජනයෝ
මෝසෙස්ට අවලාද කියමින් අපට
බොන්නට වතුර දියන්නැයි කීවෝ
ය. මෝසෙස්ද මට අවලාද කියන්නේ ම
න්ද? යෙහෝවාවහන්සේ මක්නිසා පරි
3 ක්ෂාකරණවාදැයි ඔවුන්ට කීය. එහිදී ජ
නයන්ට පැන් පිපාසව අපත් අපේ දරු
වනුත් අපේ සිවුපාවනුත් පිපාසයෙන් ම
රවන්ට මිසරයෙන් අප මක්නිසා ගෙන්
වූයෙහිදැයි කියා මෝසෙස්ට විරුඬව
4 කොඳුලෝය. මෝසෙස්ද මේ ජනයන්
ට කුමක් කෙරෙම්ද? ඔවුන් මට ගල් ග
සන්ට සැදී සිටිතියි කියමින් යෙහෝවා
5 වහන්සේට හඬගෑසීය. එවිට යෙහෝ
වාවහන්සේ මෝසෙස්ට කථාකොට ඊ
ශ්‍රායෙල්වරුන්ගේ මහලුන්ගෙන් සම
හරුන් කැඳවා ගංගාවට පහර දුන් සැර
යටිය අතින් රැගෙණ ජනයන්ට පෙරටු
6 ව යව. හෝරෙබ්හි පර්වතය පිට තා ඉදි
රියෙහි සිටින්නෙමි. තෝ පර්වතයට ගස
න්විට ජනයන්ට බොන්නට එයින් වතු
ර එන්නේයයි කීසේක. මෝසෙස්ද ඊශ්‍රා
යෙල්ගේ මහලුන් ඇස් හමුයෙහිදී එ
7 සේම කොට ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ විවා
දය නිසාත් යෙහෝවාවහන්සේ අප අත
රේ ඇද්ද නැද්දැයි කියමින් ඔවුන් යෙ
හෝවාවහන්සේ පරීක්ෂාකලනිසාත් මස්
සාද මෙරිබාද කියා ඒ ස්ථානයට නම්
තැබීය.

8 එකල අමලෙක් අවුත් රෙපිදිම්හිදී
9 ඊශ්‍රායෙල් සමග යුඬකලෝය. මෝසෙස්
ද මිනිසුන් තෝරාගෙන ගොස් අමලෙක්
සමග යුඬකරපල්ලාය. හෙට දෙවියන්ව
හන්සේගේ සැරයටිය අතින් ගෙන හෙ
ළපිට සිටින්නෙමියි ජෝෂුවාහට කීය. එ
10 විට ජෝෂුවා මෝසෙස් ඔහුට කී ලෙස
කොට අමලෙක් සමග සටන්කෙලේය.
මෝසෙස්ද ආරොන්ද හූර්ද හෙළ මුදුන
11 ට ගියෝය. මෝසෙස්ද තමාගේ අත එ
සෙවූවිට ඊශ්‍රායෙල් ජයගත්තෝය තමා
ගේ අත් පාත එළුවිට අමලෙක් ජයගත්
12 තේය. මෝසෙස්ගේ අත් බරවූ විට ඔ
වුන් ගලක් රැගෙන ඔහුට යටින් තැබූ
වෝය. ඔහු ඒ පිට හිඳගත්තේය. ආ
රොන් සහ හූර්ද දෙපැත්තෙන් සිට ඔහු
ගේ අත් උසුලාගත්තෝය. එයින් ඔහු
13 ගේ අත් ඉරබස්නාතුරු ස්ථිරවීය. ජෝෂු
වාද අමලෙක් හා ඔහුගේ ජනයන් කඩු
14 මුවහතින් පරාදකෙලේය. යෙහෝවාව
හන්සේ මම ස්වර්ගය යටින් අමලෙක්
ගේ සිහිවීම මුළුමනෙම්ම නැතිකරණ
බැවින් සිහිවීම පිණිස පොතක මේක ලි
යා ජෝෂුවාට කියවයි මෝසෙස්ට කීසේ
15 ක. මෝසෙස් පූජාසනයක් ගොඩනගා
අමලෙක්ගේ අත යෙහෝවාවහන්සේ
16 ගේ සිංහාසනයට විරුඬ නිසා උන්වහන්
සේ සියළු පරම්පරාවලට ඔවුන්ට විරුඬ
ව යුඬකරණසේකැයි කියා එයට යෙ
හෝවා නිසියයි නම් තැබීය.

18. පරිච්ඡෙ. මෝසෙස් තමාගේ භා
ර්යාව සහ ඇගේ පුත්‍ර දෙදෙන මිදියන්
2 දේශයට ඇරළු පසු ඒ දේශයෙහි පූජක
වූ තමාගේ මාමා වන යෙත්‍රෝ දෙවියන්
වහන්සේ විසින් මෝසෙස් සහ උන්ව
හන්සේගේ ජනයන් නිසා කල සියල්ල
ද යෙහෝවාවහන්සේ ඊශ්‍රායෙල්වරුන්
මිසර දේශයෙන් ගෙනා බවද අසා මෝ
3 සෙස්ගේ පුත්‍රයන්ද සිප්පොරානම් ඔහු
ගේ භාර්යාවද කැඳවාගෙන දෙවියන්ව
හන්සේගේ පර්වතයෙහි කඳවුරු බැඳ
4 ගත් මෝසෙස් වෙතට ආයේය. මෝ
සෙස් අන්‍ය දේශයෙක්හි ආගන්තුක
යෙක් වූයෙමියි කිවූ නිසා ඒ පුත්‍රයන්
5 ගෙන් එකෙකුට ගෑර්ෂොම්යයි කියාද මා
ගේ පියානන්ගේ දෙවියන්වහන්සේ මට
පිහිටවී ඵාරාවෝගේ කඩුවෙන් මා ගැ
ලෙව්වේසේකැයි කී නිසා අනිකෙකුට එලි
6 යෙසර්යයි කියාද නම් තැබූයේය. මෝ
සෙස්ගේ මාමා වන යෙත්‍රෝද තුබේ මා
මා වන මමද තුබේ භාර්යාවද ඇගේ
පුත්‍රයෝ දෙදෙනද ඇවිත් සිටිනෙමුයයි
7 මෝසෙස්හට කීයේය. මෝසෙස්ද ත
මන් මාමාගේ පෙරමගට ගොස් ආචාර
කොට ඔහු සිඹගෙන තමතමන්ගේ සැ
8 පපාසු විචාරා කුඩාරමට ඇතුල්ව යෙ
හෝවාවහන්සේ ඊශ්‍රායෙල් නිසා ඵාරා
වෝහටද මිසරයන්ටද කල සියල්ල සහ
මාර්ගයෙහිදී ඔවුන්ට පැමුණුනු සියළු
වෙහෙසද යෙහෝවාවහන්සේ ඔවුන්
9 ගැලෙවූ ප්‍රකාරයද ඔහුට කීයේය. යෙ
ත්‍රෝද යෙහෝවාවහන්සේ මිසරයන් අ
තින් ගලවාගත් ඊශ්‍රායෙල්වරුන්ට ක
10 ලාවූ සියළු යහපත්කම් ගැන ප්‍රීතිව මිස
රයන් සහ ඵාරාවෝ අතින් තුඹලා මුදා

මිසරයන්ගේ අත යටතින් ජනයා ගල
වාගත්තාවූ යෙහෝවාවහන්සේට ස්තු
11 ති වේවා. ඔවුන් අහංකාර ලෙස කලා
වූ කාරණයෙහි උන්වහන්සේ ඔවුන්ට උ
සස්වූ හෙයින් යෙහෝවාවහන්සේ සිය
ළු දෙවිවරුන්ට උතුම් බව දැන් දනිමියි
12 කීයේය. මෝසෙස්ගේ මාමාවූ යෙත්‍රෝ
ද දෙවියන්වහන්සේට දවන පූජාවල්දයා
ගවල්ද ගෙනායේය. ආරොන්ද ඊශ්‍රායෙල්
වරුන්ගේ සියළු ප්‍රධානියෝද ඔහු සම
ග දෙවියන්වහන්සේ ඉදිරියෙහි කෑම
කන්ට ආවෝය.

13 උදය කාලයෙහිදී මෝසෙස් ජනයන්
විනිශ්චයකරණ පිණිස හුන්නේය. සමූද
වද උදය පටන් සවස දක්වා ඔහු ලඟ
14 සිටියෝය. මෝසෙස් සමූදුවට කල සි
යල්ල ඔහුගේ මාමා දැක නුඹ සමූදුවට
කරණ මේ කාරුණ කිමෙක්ද? නුඹ පම
නක් හිඳිමින් සියළු සමූදුව උදේ පටන්
සවස දක්වා නුඹ ලඟ සිටිනේත් මක්
15 නිසාදැයි ඇසුයේය. මෝසෙස්ද සමූද
ව දෙවියන්වහන්සේගේ විනිශ්ච දැන
ගන්ට මා වෙතට එන බැවින් ඔවුන්ට
කාරණයක් ඇති කල්හි ඔවුන් මා වෙත
16 ට එති. මමද ඔවුනොවුන් අතරෙහි වි
නිශ්චයකොට දෙවියන්වහන්සේගේ නි
යෝගයන් පනත්ද ඔවුන්ට දන්වමියි ත
17 මාගේ මාමාට කීයේය. මෝසෙස්ගේ
මාමා කථාකොට නුඹ කරණ දේ නුසු
18 දුසුය. නුඹ හා නුඹ කැටුව සිටින සමූද
වද ඒකාන්තයෙන් පිරිහෙති. මේ දේ
ඉතාම බරය ඒ ඉෂ්ටකෙරීම නුඹට පම
19 නක් නොහැකිය. මාගේ බස අසාප
නන මම නුඹට උපාය දෙන්නෙමි. දෙ
වියන්වහන්සේද නුඹ සමග සිටිනසේක.
නුඹ දෙවියන්වහන්සේ වෙතට කාරණ
යන් පමුණුවන පිණිස සමූදුව උදෙසා
20 දෙවියන්වහන්සේ දෙසට සිටපන්න. නු
ඹ ඔවුන්ට නියෝගයන් සහ පනත් උ
ගන්වා ඔවුන් විසින් හැසිරිය යුතු මාර්ග
යත් කටයුතු දේත් ඔවුන්ට පෙන්වන්න
21 හිය. තවද සියළු සමූදුව අතරෙන් දෙ
වියන්වහන්සේ කෙරේ භය ඇත්තාවූ සැ
බෑවන්තාවූ අලෝභීවූ සමර්ථවූ මනුෂ්‍ය
යන් රැගෙන දහසටද සියේටද පනස
ටද දසයටද අධිපතිවෙන පිණිස ජන
22 යන් කෙරෙහි තබාපන්න. ඔවුන් සිය
ළු අවස්ථාවලදී ජනයන් විනිශ්චයකෙ
රෙත්වා සියළු මහත් කාරණයන් නුඹ
වෙතට පමුණුවා සියළු සුළු කාරණයන්
විනිශ්චය කරන්නෝය. එලෙස නුඹට
ම සැහැල්ළු වන්නේය. ඔවුන් නුඹ සම
23 ග බර උසුලන්නෝය. නුඹ මේක ක
රන්නෙහිනම් දෙවියන්වහන්සේ නුඹට
ආඥාකල දේ ඉෂ්ටකරන්ට හැකිවන්න
හිය. මේ සියළු ජනයාද ඔවුන්ගේ ස්ථා
නවලට සමගිභාවයෙන් යනවා ඇතැයි
24 කීය. මෝසෙස්ද තමන් මාමාගේ බස
ට කන් දී ඔහු කී සියල්ල කොට සියළු
25 ඊශ්‍රායෙල්වරුන්ගෙන් සමර්ථ පුරුෂයන්
තෝරාගෙන දහස දහසටද සියේ සියේ
ටද පනස පනසටද දසය දසයටද අධි
පතිකම් කරණ පිණිස ජනයා කෙරෙහි
26 ප්‍රධානීන්කොට ඔවුන් තැබුයේය. ඔවු
න් සියළු අවස්ථාවලදී ජනයන් විනිශ්
චයකොට උගහටවූ කාරණවල් මෝ
සෙස් වෙතට පමුණුවා සියළු සුළු කාර
27 ණවල් විනිශ්චයකලෝය. මෝසෙස්
තමාගේ මාමා යන්ට හැරියේය. ඔහු සි
ය රටට ගියේය.

19. පරිච්ඡේ. ඊශ්‍රායෙල් පුත්‍රයෝ රෙ
පිඩිම් ස්ථානයෙන් ගොස් මිසර දේස
යෙන් ගිය තුන්වෙනි මස එම දවසෙහි
2 සීනයි වනයට අවුත් වනාන්තරයෙහි
කූඩාරම් තබා කන්ද ඉදිරිපිට නවාතැන්
3 ගත්තෝය. මෝසෙස්ද දෙවියන්වහන්
සේ වෙතට ගියේය. යෙහෝවාවහන්
සේද පර්වතයෙහි සිට ඔහුට හඬගසා
තෝ යාකොබ්ගේ වංශයෙහිවූ ඊශ්‍රා
4 යෙල් පුත්‍රයන්ට කථාකොට මම මිස
රයන්ට කල දෙයද රාජාලියාගේ පියා
පත්පිට ගෙනෙන ලෙස මා වෙතට ගො
5 ප ගෙනාබවද තෙපි දුටුවෝය. දැන් මා
ගේ හඬට කීකරුව මාගේ ගිවිසුම රක්
තාකරණවානම් සියළු පොලව මාගේම
නුමුත් සියළු ජනයන්ට වඩා විසිෂ්ට වස්
තුවක්ද පූජක රාජ්‍යයක්ද පවිත්‍ර වර්ග
6 යක්ද වන්නෝයයි කියව. ඊශ්‍රායෙල් පු
ත්‍රයන්ට කියයුතුවූ බස් මෙයයි කීසේ
7 ක. මෝසෙස්ද අවුත් ජනයන්ගේ ප්‍රධා
නීන් කැඳවා යෙහෝවාවහන්සේ ඔහු
ට ආඥාකල මේ සියළු වචනවල් ඔවුන්
8 ට දැන්වීය. එවිට සියළු ජනයෝ එක්ව
උත්තර දෙමින් යෙහෝවාවහන්සේ කී
සියල්ල කරමුයයි කීවෝය. මෝසෙස්ද
ජනයන්ගේ බස් යෙහෝවාවහන්සේට
9 සැලකලෝය. යෙහෝවාවහන්සේ මම්

හා සමග කථාකරණ කල්හි ජනයෝ අ
සා නිතරම හා අදහන පිණිස ඝන වලා
පටලයකින් හා වෙතට එම්පි මෝසෙස්
ට කීසේක. මෝසෙස්ද ජනයන්ගේ
බස් යෙහෝවාවහන්සේට කීය.

10 යෙහෝවාවහන්සේ මෝසෙස්ට ක
ථාකොට ජනයන් ලඟට ගොස් අදත්
සෙටත් ඔවුන් පවිත්‍රකරව ඔවුන් තමන්
ගේ ඇඳුම් අපුලලා තුන්වෙනි දවසට
11 සෑදෙත්වා. තුන්වෙනි දවසෙහි යෙ
හෝවාවහන්සේ සියළු ජනයන්ගේ ඉදි
රියෙහි සීනයි කන්ද පිටට එනසේක.
12 තොපි කන්දට නොනැගෙන පිණිසද එ
හි අයිනේ නොහැපෙන පිණිසද ප්‍රවේ
සම් වෙයව්යයි කියමින් ජනයන්ට හාත්
පස සීමාවල් තබව. කන්දෙහි හැපෙන
13 කවරෙක් නුමුත් මරනු ලබන්නේය.
කිසිවෙක් එහි අතගැසිනම් ඔහු ගල්ග
සනු ලබනෙන්ය නොහොත් විදදමනු
ලබනෙන්ය. මෘගයෙක් නුමුත් මිනිහෙක්
නුමුත් ඔහු ජීවත් නොවනෙන්ය. හො
රනෑව බොහෝ වේලා ශබ්දකරණ
කල්හි ඔවුන් කන්දට පැමිනෙනෙන්යයි
14 වදාළසේක. මෝසෙස්ද කන්දෙන් බැස
ජනයන් ලඟට අවුත් ඔවුන් පවිත්‍රකො
ලේය. ඔවුන් තමන්ගේ වස්ත්‍ර අපුලලාග
15 තෙත්ය. ඔහු තුන්වෙනි දවසට සෑදී සි
ටපල්ලාය. ස්ත්‍රීබලාගේ භාර්‍ය්‍යාවන් කරා
නොයල්ලායයි ජනයන්ට කීය.

16 තුන්වෙනි දවසෙහි උදය ගිගුරුමද
විදුලිද කන්ද පිට ඝන වලාපටලයක්ද අ
තිශයින් මහත් හොරනෑ ශබ්දයද විය.
එවිට කඳවුරෙහි සිටිය සියල්ලෝ වෙව්
17 ළුවෝය. මෝසෙස්ද ජනයන් දෙවියන්
වහන්සේට අභිමුඛවෙන පිණිස කඳවු
රෙන් පිටතට ගෙනායේය. ඔවුන් කන්
18 දෙහි පහල සිටියෝය. යෙහෝවාව
හන්සේ ගිනෙහන් කන්දට බැස්සසේක
සියළු සීනයි කන්ද දුමා ගොස් ඒ දුම
ය උදුනෙහි දූමයක් මෙන් නැංගේය.
කන්ද මුළුල්ලද මහත් ලෙස කම්පාවි
19 ය. බොහෝ වේලා නාදකල හොරනෑ
සැබ්දය වඩවඩා වැඩිවූ විට මෝසෙස්
කථාකෙලේය. දෙවියන්වහන්සේද ශබ්
20 දයකින් ඔහුට උත්තර දුන්සේක. යෙ
හෝවාවහන්සේ සීනයි කන්දෙහි මුදුන
ට අවුත් කන්ද මුදුනට මෝසෙස් කැඳවූ
21 සේක. මෝසෙස්ද නැංගේය. තවද යෙ
හෝවාවහන්සේ මෝසෙස්ට වදාරණ
සේක් යව ජනයන් යෙහෝවාවහන්
සේ දකින පිණිස ඇවිත් ඔවුන්ගෙන්
බොහෝ දෙන නොනස්නා පිණිස සීමා
22 ව ඉක්මවා නොයන්ට අනකරව. යෙ
හෝවාවහන්සේ ලඟට එන පූජකයෝ
ද යෙහෝවාවහන්සේ ඔවුන්ට පහර
නොදෙන පිණිස තමන්ම පවිත්‍රකරග
23 නිත්වයි වදාලසේක. එවිට මෝසෙස් ජ
නයෝ සීනයි කන්දට නැගෙන්ට නො
හැකිවෙති. මක්නිසාද කන්ද වටකර සී
මා තබව ඒක පවිත්‍රකරවයි කියමින් ඔ
බවහන්සේ අපට අනකලසේකැයි යෙ
24 හෝවාවහන්සේට කීය. යෙහෝවාව
හන්සේද පහව යව. තෝද හා සමග ආ
රොන් මුදුනට එනවා ඇත. යෙහෝවා
වහන්සේගෙන් පහර නොලබන පිණි
ස පූජකයෝද ජනයෝද උන්වහන්සේ
ලඟට එන්ට සීමාව ඉක්ම නොයත්වයි ඔ
25 හුට වදාලසේක. එවිට මෝසෙස් ජන
යන් ලඟට බැස මේ සියළු වචනවල් ඔ
වුන්ට කීයේය.

20. පරිච්ඡේ. දෙවියන්වහන්සේ වදා
2 රණසේක් වාල්කමේ ගේ නැමති මිසර
දේසයෙන් තා ගෙනාවාවූ තාගේ දෙ
3 වියවූ යෙහෝවාවහන්සේ මම වෙමි මා
හැර අන් දෙවිවරු තට ඇතුව නොසි
ටුව.

4 උඩ අහසෙහිවත් පාත භූමියෙහිවත්
භූමියෙන් යට ජලයෙහිවත් තිබෙන
දෙයට සමානවූ කැපූ යම් රූපයක් සා
5 ද නොගනුව ඒ දේට වැඳවැටී නමස්
කාර නොකරව තාගේ දෙවිවූ යෙහෝ
වාවහන්සේ වන මම ඊර්ෂ්‍යාතවූ දෙවි
කෙනෙක් සෙයින් මා කෙරෙහි අප්‍රිය
වෙන්නවුන්ගේ දරුවන්ගෙන් තුනෙව
නි සතරවෙනි පරම්පරාව දක්වා පිය
6 වරුන්ගේ පාපයන්ට පලිගනෙනම් මට
සෙනහවෙමින් මාගේ ආඥාවල් පවත්
වන්නන්ගේ දරුවන්ට දහස් ගනන්
පරම්පරාවල් දක්වා කරුණාව පෙනුවන්
නෙමි.

7 තාගේ දෙවිවූ යෙහෝවාවහන්සේ
ගේ නාමය අගෞරව ලෙස ව්‍යවහාර
නොකරව මක්නිසාද යෙහෝවාවහන්
සේ තමන්වහන්සේගේ නාමය අගෞර
ව ලෙස ව්‍යවහාර කරණ තැනැත්තා
නිවැරදිකාරයෙක් කොට නොගන්නා
සේක

8 සබත් දින පවිත්‍රකොට පවත්වන්ට සි
9 හිකරගනුව සදවසක් වැඩකරමින් තා
10 ගේ සියළු කර්මාන්ත කරගනුව එහෙත්
සත්වෙනි දින තාගේ දෙවිවූ යෙහෝ
වාවහන්සේගේ සබත් දිනය වේ ඒ දින
තෝවත් තාගේ පුත්‍රයාවත් දුවවත් වැ
ඩකරුවාවත් වැඩකාරිවත් සිව්පාවෝ
වත් තාගේ සීමාව ඇතුළේ වසන ආගන්
තුකයාවත් කෙබඳු වැඩක්වත් නොක
11 කරව් කුමක්හෙයින්ද අහසද පොලවද
මුහුදද එහි තිබෙන සියල්ලද යෙහෝ
වාවහන්සේ සදවස තුළෙහි මවා සත්
වෙනි දවසෙහි නිවාඩුගත්සේක. එහෙ
යින් යෙහෝවාවහන්සේ සත්වෙනි දව
සට ආශීර්වාදකොට පවිත්‍රකලසේක.

12 තාගේ දෙවිවූ යෙහෝවාවහන්සේ
තට දෙන දේසයෙහිදී තාගේ දවස්
බොහෝවෙන පිණිස තාගේ පියාටද ම
වුවටද ගෞරව කරව.

13 මිනී නොමරව.

14 පරදූර කර්මය නොකරව.

15 සොරකම් නොකරව.

16 තාගේ අසල්වාසියාට විරුඬව බො
රු සාක්ෂි නොකියව.

17 තාගේ අසල්වාසියාගේ ගෙට ආසා
නොවව තාගේ අසල්වාසියාගේ භාර්‍ය්‍යා
වටවත් ඔහුගේ වැඩකරුවාටවත් වැඩ
කාරීටවත් ඔහුගේ ගොනාටවත් කොට
ළුවාටවත් තාගේ අසල්වාසියාගේ කෙ
බඳු දෙයකටවත් ආසා නොවවයි වදා
ළසේක.

18 සියළු ජනයෝ හිගුරුමද විදුලිද හො
රනෑ ශබ්දයද දුම් නගිනාවූ කන්ද දැ
19 ක බැහැර ගොස් දුරින් සිට අප නො
නසින පිණිස දෙවියන්වහන්සේ නොව
නුඹ අප හා සමඟ කථාකලමැනව අපි
20 අසමුයයි මෝසෙස්ට කීවෝය. මෝ
සෙස්ද භයනොවෙල්ලාය නුඹලා පරී
ක්ෂාකරණ පිණිසද උන්වහන්සේ කෙරෙ
හි භය ඇතුව සිට පව් නොකරණ පිණි
සද දෙවියන්වහන්සේ ආසේකැයි ජන
21 යන්ට කීයේය. එවිට ජනයෝ දුරින් සි
ටියෝය. මෝසෙස්ද දෙවියන්වහන්සේ
සිටි ඝනාන්ධකාරය ළඟට පැමුනුණේය.
22 යෙහෝවාවහන්සේද මෝසෙස්ට කථා
කොට ඊශ්‍රායෙල්ගේ දරුවන්ට මෙසේ
කියව මම අහසෙහි සිට තොප සමඟ ක
23 ථාකල බව දුටුවෝය. රිදියෙන් දෙවිව
රුන් සාදා නොගනිව් රනින්වත් දෙවිව
24 රුන් තොපට සාදානොගනිව්. මැටියෙන්
පූජාසනයක් මට සාදා තාගේ දවන යා
ගයන්ද ශාන්තියෙහි යාගයන්ද බැටළුවන්ද
ගවයින්ද එහි පූජාකරව. මම මාගේ නාම
ය එළිදරව්කරණ සියළු ස්ථානවල්හි තා
වෙතට එන්නෙමි තට ආශීර්වාද කරන්
25 නෙමි. පූජාසනයක් ගල්වලින් මට සාද
න්නෙහිනම් කැපූ ගල්වලින් ඒක ගො
ඩනොනගව තාගේ ආයුදය ඒ පිට ඔස
වන්නෙහිනම් ඒක අපවිත්‍රකලෙහිය.
26 තාගේ නග්නකම එහි නොපෙනෙන පි
ණිස මාගේ පූජාසනයට පඩිවලින් නො
නැගෙව.

21. පරිච්ඡේ. ඔවුන්ට නියමකරණ ප
2 නත්නම් මේය.· හෙබ්‍රෙව් වාලෙක් මිල
යට ගන්නෙහිනම අවුරුදු හයක් ඔහු
වැඩකොට සත්වෙනි අවුරුද්දේ නිදහ
3 ස්ව යන්නේය. ඔහු පමනක් ආවොත් ඔ
හු පමනක්ම නිදහස්ව යන්නේය. විවාහ
වී ආවොත් ඔහුගේ භාර්‍ය්‍යාව ඔහු සමඟ
4 යන්නීය. ඔහුගේ ස්වාමියා භාර්‍ය්‍යාවක්
ඔහුට දුන්නේනම් ඈ පුතුන්වත් දූන්
වත් ඔහු නිසා වැදුවොත් ඒ ස්ත්‍රිය හා
දරුවෝද ඈගේ ස්වාමියා සන්තකය ඔ
5 හු පමනක් නිදහස්ව යන්නේය. ඒ දාස
යාද මාගේ ස්වාමියාටද භාර්‍ය්‍යාවටද ද
රුවන්ටද ආදරවෙමි නිදහස්ව නොය
6 න්නෙමියි කීවොත් ඔහුගේ ස්වාමියා ඔ
හු නඩුකාරයින්ගේ ඉදිරියට කැඳවාගෙ
න දොරට නොහොත් දොර කනුව ළ
ඟට ඔහු ගෙනගොස් කටුවකින් ඔහුගේ
කන විදින්නේය ඒ දාසයාද සැම දාම ඔ
හුට මෙහෙකරන්නේය.

7 යමෙක් තමාගේ දූ දාසිවෙන පිණිස
වික්කොත් දාසයන් නිදහස්ව යනාක්
8 මෙන් ඈ නොයන්නීය. ඈ අඹුකොට
ගත් ඈගේ ස්වාමියා ඈ කෙරෙහි නො
සතුටුවූවොත් ඈගේ මිදීමට අවසර දිය
යුතුය. ඔහු ඈට නින්දාකල හෙයින් අ
න්‍ය ජාතීන්ට ඈ විකුනන්ට ඔහුට කිසි
9 බලයක් නැත්තේය. ඔහු තමන්ගේ පුත්‍ර
යාට අඹුකමට පාවාදුන්නොත් දූවරුන්
10 ට මෙන් ඈට කරන්නේය. ඔහු අන් භා
ර්‍ය්‍යාවක් තමාට සරණ පාවාගත් නුමුත්
ඈට කෑමද ඇඳිමද අඹුවට යුතු දේද
11 අඩුනොකරන්නේය. ඈට මේ තුන් කා
රණය නොකලොත් ඈ මිල නොදී නි
දහස්ව යන්නීය.

12 මැරෙනතට යමෙකුට පහර දෙන
13 තැනැත්තා මරාදමව්. නුමුත් මරණ අද
හසක් නැතුව ඒක කලොත් දෙවියන්
හන්සේ තමාගේ අතට ඔහු බාරදුන්
සෙයින් ඔහුට පලායන්ට පිළිවන් තැ
14 නක් නියමකරනෙනම්. එහෙත් යමෙක්
නැමැත්තෙක් අවුත් ප්‍රයෝග ලෙස ත
මාගේ අසල්වාසියා මැරුවොත් ඔහු ම
රණ පිනිස මාගේ පූජාසනය වෙතින්
ගෙනයව්.

15 සිය පියානන්ටවත් මෑණියන්ටවත් ප
හරදෙන තැනැත්තා මරාදමව්.

16 යමෙක් මනුෂ්‍යයෙකු සොරකම්කො
ට ගෙන ඔහු වික්කත් නොවික්කත් ඔ
හු මරාදමව්.

17 යමෙක් පියානන්ටවත් මෑණියන්ට
18 වත් යදිනම් ඔහු මරාදමව්. මනුෂ්‍යයෝ
දබරකොට එකෙක් අනිකෙකුට නො
මැරෙණ ලෙස ගලකින්වත් මිටින්වත් ප
හරදුන්විට නොනැසුනොත් ඔහු ඔත්ප
19 ලව සිටි නුමුත් දෙවනු නැගිට ඔහුගේ
සැරයටියෙන් ඇවිද්දෙත් ඔහුට පහර
දුන් තැනැත්තේ මිදීම ලැබ ඔහු නිකම්
සිටි කාලයට පමනක් ගෙවා ඔහු මනා
කොට සුවකරනෙන්ය.

20 යමෙක් තමාගේ දාසයාටවත් දාසිටවත්
සැරයටියෙන් ගසා ඔහු අතින් මලොත්
ඔහු සැබවින් දඬුවමට පැමිණෙනෙන්ය.
21 එසේවී නුමුත් ඒ දාසයා දවසක් දෙදව
සක් නොමැරී සිටියොත් ඒ දාසයා ඔහු
ට අයිති නිසා දඬුවමට නොපැමිණෙන්
නේය.

22 මනුෂ්‍යයෝ දබරකරණකොට ගර්භි
නියෙකුට ගස්සාවෙන ලෙස යමෙක් ප
හර දුනෙනාත් පසුව කිසි නපුරක් සිදු
නුනත් ඇගේ ස්වාමිපුරුෂයාගේ අභිප්‍රා
වේ සැටියට සැබවින්ම දඬුවමට පැමින
නඩුකාරයන් විසින් නියමකරණ ලෙස
23 ගෙවනෙන්ය. යම් කිසි නපුරක් සිදුවූ
24 නොත් ප්‍රාණයට ප්‍රාණයත් ඇසට ඇසත්
දතට දතත් අතට අතත් පයට පයත්
25 දැවීමට දැවීමත් තුවාලයට තුවාලයත් ප
හරට පහරත් දෙව.

26 යමෙක් තමාගේ දාසයාගේවත් දාසි
ගේවත් ඇස විනාසවෙන්ට ගැසුවොත්
ඔහුගේ ඇස නිසා නිදහස්ව යනතට හරි
27 නෙන්ය. තමාගේ දාසයාගේවත් දාසිගේ
වත් දත ඉගිලෙන්ට ගැසුවොත් ඔහුගේ
දත නිසා නිදහස්ව යන්ට හරිනෙන්ය.

28 ගොනෙක් පුරුෂයෙකුටවත් ස්ත්‍රියෙ
කුටවත් මැරෙනතට ඇනෙනාත් ඌට
ගල්ගසා උගේ මස් නොකව් එහෙත්
29 ගොනා ඇත්තා මිදෙනෙන්ය. ඒ ගො
නා අඟින් අන්ට පුරුදු බව ඌ ඇත්තා
දැනත් ඇතුලතෙහි ප්‍රවේසම් නොකො
ට ඌ පුරුෂයෙක්වත් ස්ත්‍රියෙක්වත් මැ
රුවොත් ගොනාට ගල්ගසා ඌ ඇත්තා
30 ද මරව්. තමාගේ ප්‍රාණය ගලවාගැනීම
පිනිස මිල ගනනක් ගෙවන්ට නියමවූ
31 නොත් ඒ දඩය ගෙවනෙන්ය. පුත්‍රයෙ
කුටවත් දුවෙකුටවත් ඇන්නොත් මේ
32 නඩු ලෙස කරව්. ගොනා දාසයෙකුට
වත් දාසියෙකුටවත් ඇනෙනාත් ඔවුන්
ගේ ස්වාමියාට රිදී ෂෙකෙල් තිහක් ගෙ
වනෙන්ය. ගොනාට ගල්ගසව්.

33 තවද යමෙක් වලක් වැසුම් හැර නො
හොත් වලක් හාරා ඒක නොවසනවා
නම් ගොනෙක්වත් කොටළුවෙක්වත්
34 එහි වැටුනොත් ඒ වල ඇත්තා පලිය දී
උන්ගේ අයිතිකාරයාට මිල ගෙවනෙන්
ය මලාවූ මෘගයා ඔහුට වනෙන්ය.

35 යමෙකුගේ ගොනා අනිකකුගේ ගො
නාට මැරෙනතට ඇනෙනාත් ජීවත්වෙ
න ගොනා ඔවුන් විකුන මිලද මලාවූ
36 ගොනාද බෙදාගනෙනාය. එහෙත් ඒ
ගොනා මීට ප්‍රථම අනනට පුරුදුවූන බ
ව ඌ ඇත්තා දැනගෙනාත් ඇතුලතෙ
හි ප්‍රවේසම් නොකලොත් ගොනාට
ගොනා ගෙවනෙන්ය මල එකා ඔහුට
වනෙන්ය.

22. පරිච්ඡේ. මනුෂ්‍යයෙක් ගොනෙක්
වත් බැටළුවෙක්වත් සොරකම්කොට
මැරුයේනම් වික්කේනම් ගොනෙකුට
ගොන් පස්දෙනෙක්ද බැටළුවෙකුට බැ
ටළුවන් හතර දෙනෙක්ද පලිදෙන්
2 නේය. සොරෙක් උමන් කැන අසුවී ගැ
සීමෙන් මෙලේනම් ඔහු නිසා කිසි ලෙ
3 යක් නොවැගිරෙනෙන්ය. ඔහු පිටට ඉ
රු උදාවීනම් ඔහු විසින් සම්පූර්ණවූ ප
ළිය දියයුතුහෙයින් ඔහුට කිසිවක් නැත්
නම් ඔහුගේ සොරකම ගැන ඔහු විකු
ණන්ට යුතුහෙයින් ඔහු නිසා ලේ වැගි
4 රේ. සොරා ගත් දෙයක් ගොනෙක්වත්
කොටළුවෙක්වත් බැටළුවෙක්වත් දිවි
සහිතව ඔහු අත සඹවීනම් දෙගුණයක්
පලිදෙන්නේය.

5 යමෙක් ගොදුරු පිනිස තමාගේ සිවු

පාවුන් අනිකෙකුගේ කෙතෙහි නවත්
වා යමෙකුගේ කුඹුරකවත් මිදිවත්තක
වත් කවනොත්නම් තමාගේ කෙතෙහි
ද මිදිවත්තෙහිද උතුම් පඟුවෙන් පලි
6 දෙන්නේය. ගිනි ඇවිලී කටුවලට වැද
එයින් ගොයම් කොලවත් නොකපාපු
ගොයම්වත් කෙතවත් දැවේනම් ගිනි
7 දැල්වූ තැනැත්තේ පලි දෙනොත්ය. ය
මෙක් මිලවත් බඩුවත් ප්‍රවේසම්කරණ පි
නිස තමාගේ අසල්වාසියාට බාරදුන්
නොත් ඒ මනුෂ්‍යයාගේ ගෙයින් ඒවා
සොරුගත්තුනම් සොරාද අහුවූයේනම්
8 දෙගුනයක් දේවා. සොරා නොඅහුවිනම්
ඔහුගේ අසල්වාසියාගේ බඩුවල අත් තැ
බූදැයි දැනගන්නා පිනිස ගේ ඇත්තා නඩු
9 කාරයන්ලඟට ගෙනෙව. අනිකෙක් ත
මාගේයයි කියන ගොනෙක් කොටළු
වෙක් බැටළුවෙක් වස්ත්‍රයක් එක්කෝ
නැතිවූ කොයිප්‍රකාර දෙයක්නුමුත් අයි
තිකොට ගැනීමේ සියළු ප්‍රකාර වැරදි ගැ
න දෙපක්ෂයෙහි කාරණව නඩුකාරයින්
ලඟට පැමිනෙනොත්ය. නඩුකාරයන් ව
රදට පත්කරණ තැනැත්තේ තමාගේ අ
සල්වාසියාහට දෙගුනයක් දෙනොත්ය.
10 කිසිවෙක් තමාගේ අසල්වාසියාට කො
ටළුවෙක් ගොනෙක් බැටවෙක් එක්
කෝ කිසි මෘගයෙක් ප්‍රවේසම්කිරීමට බා
රදී ඒකා කිසිවෙකුට නොපෙනී මලේ
නම් තුවාලයක් වූයේනම් පන්නන්ඩ
11 යෙදුනේනම් තමාගේ අසල්වාසියාගේ
දෙයට අත නොතැබූ බවට ඔවුන් දෙ
දෙනා අතරේ යෙහෝවඃවහන්සේ ඉදිරි
යෙහි දිවිරීමක් වනොත්ය. පලිදීම වෙ
12 නුවට ඒකද ඇත්තා පිලිගනොත්ය. ඒ
හෙත් ඔහු කෙරෙන් සොරකම් කරණ
ලද්දේනම් ඒ ගැන අයිතිකාරයාට පලි
13 දෙනොත්ය. ඒකා කැබලිවී ඉරීනම් ඔහු
සාක්ෂි පිනිස ඒකා ගෙනවා ඉරී තිබුනු ඒ
කා නිසා කිසිවත් නොගෙවනොත්ය. ය
14 මෙක් තමාගේ අසල්වාසියාගෙන් කිසි
වක් ඉල්ලාගනොත්නම් ඇත්තා ලඟ නැ
තුව ඒකාට යම් පළුදුවක් උනොත් ම
15 ලොත් ඒ ගැන පලිදිය යුතුය නුමුත් ඇ
ත්තා ලඟනම් පලි නොදෙනොත්ය. ඒ
කා කුලියට ගනොත්නම් උගේ කුලියට
ආ නිසා පලි නොදෙනොත්ය.
16 විවාබස් නුදුන්නාවූ කන්‍යාවක් ය
මෙක් කැමතිකරවාගෙන ඇ සමග සය
නය කරනොත්නම් ඇ තමාගේ භාර්‍යා
17 වකොට ගනොත්ය. ඈගේ පියා ඈ ඔහු
ට දෙනහට මුළුමනෙම්ම නොකමැති
නම් කන්‍යාවන්ගේ දෑයාද ලෙස ඔහු මි
18 ල ගෙවනොත්ය. මායාකාරියක් ජීවත්
19 වෙන්ට නොහරුව. මෘගයින් හා සත්වා
20 ස කරනොක් මරව. යෙහෝවඃවහන්
සේට මිස අන් දෙවියෙකුට පූජාකරන්
21 නෙක් විනාසකරව. මිසරදේසයෙහි
තොපි ආගන්තුගව සිටි නිසා අන් දේසි
යෙකුට හිංසා නොකරව අයුත්තේ බ
22 ලාත්කාරයද නොකරව. වැන්දඹුවකුට
වත් පියා නැත්තාටවත් දුක් නොදෙව.
23 යම් ආකාරයකින් ඔවුන්ට දුක් දුනොත
හිනම් ඔවුන් මට හඬගසනවානම් ඒ
කාන්තයෙන්ම ඔවුන්ගේ ශබ්දය අස
24 නෙනම්. මාගේ උදහසද ඇවිලෙනොත්
ය. මමද කඩුවෙන් තොප මරන්නෙම්.
තොපේ ස්ත්‍රීවරු වැන්දඹුවන්ද තොපේ ද
රුවන් පියා නැත්තන් වෙනවා ඇත.
25 තා ලඟම සිටින මාගේ ජනයාගෙන් දුප්
පත්වූ කිසිවෙක්හට මිල නයට දෙනොත
හිනම් පොලී ගන්නෙක් මෙන් අනඩු
26 පොලී ඔහුගෙන් නොගනුව. තාගේ
අසල්වාසියාගේ වස්ත්‍රය උකස් පිනිස
ගන්නෙහිනම් ඉර බහින්නට පලමු
27 වෙන් ඒක බාරදෙව. ඒක ඔහුගේ එක
ම සළුවය ඒක ඔහුගේ ශරීරයෙහි වැස්ම
ය ඒක ඔහුට නැත්නම් නිදනොත් කො
හොමද? ඔහු මට හඬගසන විට කරුණ
වන්තවූ මම ඔහුගේ බස් අසන්නෙම්.
28 නඩුකාරයන්ට නින්දනොකර තා
ගේ ජනයන්ගේ අධිපතියාට සාප නො
29 කරව. තාගේ ඉදුනු ඵලවලින්ද පානව
ලින්ද පලමු කොටස පූජාකිරීමට ප්‍රමාද
නොවව. තාගේ පුත්‍රයන්ගෙන් කුළුඳුලා
30 මට දෙව. තාගේ ගවයින් සහ බැටළු
වන් ගැනද එසේම කරව. ඌ සත් දව
සක් මව් ලඟ සිටිනොත්ය අටවෙනි දි
31 නෙහි උන් මට දෙව. තොපි මට සුඩවූ
මනුෂ්‍යයෝ වෙති කෙතෙහි මෘගයන් වි
සින් ඉරූ මාංශ නොකා ඒක බල්ලන්ට
දමව්.

23. පරිච්ජ. බොරු කථාවක් නුප
දවව දුෂ්ටයන් සමග අධර්මිෂ්ඨ සාක්ෂි
2 කාරයෙක් වෙන්නට අත නොදෙව. සා
පූරක් කරණ පිනිස සමූහයකට එකතු
නොවෙව නඩුවකදී අවනඩු කරන්ට
මහතුන් සමග එකගව කථානොකරව.

3 දිලිඳකුගේ නඩුවකදී ඔහුට අයුතු ලෙස
4 උපකාර නොකරව. තාගේ සතුරාගේ
ගොනෙක්වත් කොටළුවෙක්වත් මුලා
ව යනවා සම්භවීනම් ඒකා නැවත ගෙ
5 න දෙව. තට වෛර කරනතාගේ කො
ටළුවා බර සමග වැටී සිටිනා බව දැක
උපකාරවෙන්ට කැමති නැතත් ඔහුට
6 උපකාර වෙව. තාගේ දිලිඳුගේ නඩුව
7 කදී අවනඩු නොකරව. මම අධර්මිෂ්ඨ
යන් ධර්මිෂ්ඨ නොකරණ බැවින් බොරු
කාරණවකින් දුර සිට නිවැරදිකාරයින්
8 සහ ධර්මිෂ්ඨයන් නොමරව. අල්ලස්
නොගනුව අල්ලස නුවන අඳුරුකොට
ධර්මිෂ්ඨයන්ගේ බස් වෙනස්කෙරෙයි.
9 නොපි මිසර දේසයෙහි විදේසිව සිටි
බැවින් විදේසියෙකුගේ හෘදය දැනගත්
හෙයින් විදේසියෙකුට වෙහෙස නො
10 දෙව. තාගේ කෙත සාවුරුද්දක් වපුර
11 එහි ඵල රුස්කරගනුව. එහෙත් සත්වෙ
නි අවුරුද්දේ තාගේ ජනයන්ගේ දිලින්
දෝ එයින් කන පිනිස ඒක ඇරී තිබේ
වා. ඔවුන් අත්හරිණ දෙය කෙතෙහි
මෘගයෝ කනෙනෝය. තාගේ මිදි වත්ත
12 සහ ඔලීව වත්තටද එසේ කරව. සදව
සක් තාගේ කර්මාන්ත කරව. තාගේ
ගවයා සහ කොටළුවාට නිවාඩු ලැබෙ
න පිනිසද තාගේ දසීගේ පුත්‍රයා සහ
අගන්තුගයාට සැප ලැබෙන පිනිසද
13 සත්වෙනි දවස නිවාඩු ගනුව. මම නො
පට කී සියළු දෙයෙහි පවතිව් අන් දෙවි
වරුන්ගේ නම් සඳහන් නොකරව් ඒක
තාගේ මුඛයෙන් අසවනු නොලැබේවා.
14 අවුරුද්දට තුන් වරක් මට මඟල්‍ය
15 යක් පවත්වව. ඇඹුල් පිටි නුමුහු රොටි
මඟල්‍යය පවත්වව නොප මිසරයෙන් ආ
ආබිබ් මස නියමකල කාලයෙහි මා වි
සින් අනකල ලෙස සත් දවසක් ඇඹුල්
පිටි නුමුහු රොටි කා යම් කිසිවෙක් හිස්
16 අතින් මා ඉදිරියට නොඑව. තා විසින්
කෙතෙහි කල තාගේ කර්මාන්තවල ප්‍ර
ථම ඵලයෙන් කපන කාලයෙහි මඟල්‍ය
යද අවුරුද්දේ අන්තිමේදී කෙතෙන්
තාගේ කර්මාන්ත ඵල රුස්කල කල්හි
17 රුස්කිරීමේ මඟල්‍යයද පවත්වව. තා
ගේ සියළු පිරිමි අවුරුද්දකට තුන් වරක්
යෙහෝවඃ දෙවියණ්වහන්සේගේ ඉදිරිපි
18 ට පෙණෙනවා ඇත. මට පූජකල යාග
ලේ ඇඹුල් පිටි මුහු රොටි සමග පූජ
නොකර මාගේ යාග තෙල්ද උදය දක්
19 වා තිබෙන්ට නොදෙව. තාගේ භූමියෙ
හි ප්‍රථම ඵල තාගේ දෙවිවූ යෙහෝවඃ
වහන්සේගේ ගෙට ගෙනෙව. එළුපැට
වෙක් සිය මව්ගේ කිරෙන් නොපිසව.
20 මාර්ගයෙහි තා රක්ෂාකොට මා විසින්
පිළියෙල කල ස්ථානයට ගෙනෙන පි
21 නිස තා ඉදිරියෙහි දූතයෙක් යවමි. උ
න්වහන්සේගේ ශබ්දය කීකරු ලෙස ස
ලකා උන්වහන්සේ කෝප නොකරව
මාගේ නාමය උන්වහන්සේ කෙරෙහි
ඇති බැවින් උන්වහන්සේ නොපගේ අ
22 පරාධවලට ක්ෂමා නොවනසේක. ඉදින්
උන්වහන්සේගේ හඬට කීකරුව මම කී
සියල්ල කරනෙහිනම් තාගේ සතුරන්
ට සතුරෙක්ද තාගේ විරුඬකාරයන්ට
23 විරුඬකාරයෙක්ද වනෙනම්. මාගේ දූත
යා තා ඉදිරියෙහි ගොස් අමෝරිවරුන්
ගේද හිතිවරුන්ගේද පෙරිසිවරුන්ගේ
ද කනානිවරුන්ගේද හිව්වරුන්ගේද
ජෙබුසිවරුන්ගේද දේසයට තා ගෙනෙ
24 නෙන්ය. මමද ඔවුන් සිඳදමනෙනම්. ඔ
වුන්ගේ දෙවිවරුන්ට වැඳ මෙහෙනො
කරව ඔවුන් කල ලෙස නොකරමින්
ඒවා මුළුමනින්ම පෙරලා දමා ඔවුන්ගේ
රූප බිඳ නොපගේ දෙවිවූ යෙහෝවඃ
25 වහන්සේට මෙහෙකරණවා ඇත. උන්
වහන්සේ තාගේ භෝජනයට හා ජල
යට ආශීර්වාද කරණසේක. මම තා මැ
26 දින් රෝග ඉවත්කරනෙනම්. තාගේ
දේසයෙහි කිසි සනෙක්වත් පැටියන්
ගස්සානොකරනෙන්ය වඳියෝද නො
වෙති තාගේ වයස් ගනනද සම්පූර්ණ
27 කරනෙනම්. මාගේ භය තා ඉදිරියෙහි
යවා නොපි යන තැන්වල සියළු ජනයන්
විනාසකොට තාගේ සියළු සතුරන් තා
මන්ගේ පිටවල් තා දෙසට හරවන පි
28 නිස සලස්වනෙනම්. තා ඉදිරියෙන් හිව්
වරුන් කනානිවරුන් හිතිවරුන් එල
වන පිනිස දෙබරුන් තා ඉදිරියෙහි ය
29 වනෙනම්. දේසය පාළුව ගොස් වන මෘ
ගයන් තට විරුඬව බෝ නොවෙන පි
30 නිස එක අවුරුද්දකින් නොව තෝ වැ
ඩී දේසය උරුමවෙනතුරු ඔවුන් ටිකින්
31 ටික තා ඉදිරියෙන් එලවනෙනම්. තා
ගේ සීමාවල් සූප් යන මුහුද පටන් පිලිස්
තිවරුන්ගේ මුහුද දක්වාද වනාන්තරය
පටන් ප්‍රාත් ගංගාව දක්වාද තබා දේස
යෙහි වැසියන් නොප අතට පාවාදෙන්
නෙමි. තෝද ඔවුන් තා ඉදිරියෙන් එල

32 වනෙනහිය. ඔවුන් සමගවත් ඔවුන්ගේ
දෙවිවරුන් සමගවත් ගිවිසුමක් නොක
33 රව. ඔවුන් මට එදිරිව පව් කරන්ට තා
නොපොලඹවන පිණිස ඔවුන් තාගේ දේස
යෙහි නොවසනවා ඇත. තෝ ඔවුන්
ගේ දෙවිවරුන්ට මෙහෙකරනෙනාහි
නම් සැබවින්ම ඒක තට මලපතක් ව
නෙන්ය.

24. පරිච්ඡෙ. උන්වහන්සේද මෝ
සෙස්හට තෝද ආරොන් නාදබ්ද අබි
හූද ඊශ්‍රායෙල්ගේ ප්‍රධානවරුන්ගෙන්
හැත්තෑ දෙනෙක්ද යෙහෝවාවහන්
සේ වෙතට නැගී ගොස් දුරින් සිට න
2 මස්කාර කරව්. මෝසෙස් මිස ඔවුනවත්
ජනයෝවත් යෙහෝවාවහන්සේ ළඟට
3 නොඑතියි කීසේක. මෝසෙස්ද අවුත්
යෙහෝවාවහන්සේගේ සියළු වචන
වල්ද නියෝගවල්ද ජනයන්ට දැන්වූ
සේය. සියළු ජනයෝද එක හඬින් උත්
තර දෙමින් යෙහෝවාවහන්සේ කී සිය
4 ල්ල කරමුයයි කීවෝය. මෝසෙස්ද යෙ
හෝවාවහන්සේගේ සියළු වචනවල්
ලියා මා උදය නැගිට කන්ද මුල පූජාස
නයක් හා ඊශ්‍රායෙල්ගේ දොළොස් ගෝ
ත්‍රයන්ගේ ගනනට කණු දොළසක් ගො
5 ඩනගා යෙහෝවාවහන්සේට දවන යා
ගයන් සහ ගවයින්ගෙන් ශාන්ති යාග
යන් පූජාකරන්ට ඊශ්‍රායෙල් පුත්‍රයන්
6 ගෙන් යව්වනයන් යවා ලෙයින් දෙ
කොන් පඟුවක් ගෙන භාජනවල තබා
7 ඉතිරි පඟුව පූජාසනය පිට ඉස ගිවිසුමෙ
හි පොත රැගෙන ජනයන් ඉදිරියෙහි
කියවූසේය. ඔවුන් යෙහෝවාවහන්සේ
කී සියල්ල කොට කීකරුවමුයයි කීවෝ
8 ය. මෝසෙස්ද ඒ ලේ රැගෙන ජන
යන්ට ඉසිමින් මේ සියල්ල ගැන යෙ
හෝවාවහන්සේ තුබලා සමග කලාවූ
ගිවිසුමෙහි ලේ බලව්යයි කීසේය.

9 එකල මෝසෙස්ද ආරොන් නාදබ්ද
අබිහූද ඊශ්‍රායෙල්ගේ ප්‍රධානවරුන් හැ
ත්තෑ දෙනෙක්ද නැගී ඊශ්‍රායෙල්ගේ
10 දෙවියන්වහන්සේ දුටුවෝය. උන්වහන්
සේගේ පය යට නිල් මැණික් ඇතුරු
වක් මෙන් බබලනාවූ අහස්තලය මෙ
11 න් තිබුනේය. උන්වහන්සේ ඊශ්‍රායෙල්
පුත්‍රයන්ගේ ප්‍රධානීන් පිට අත නොතැ
බූසේක. ඔවුන් දෙවියන්වහන්සේ දැකත්
12 කා බී සිටියෝය. යෙහෝවාවහන්සේ
කන්දට නැගී මා ළඟ සිටුව තා විසින්
ඒවා උගන්වන පිණිස ගල් ලෑලි සහ ව්‍ය
වස්ථාවක්ද මම ලිවූ ආඥාවල්ද තට දෙ
13 නෙනමියි මෝසෙස්ට කීසේක. මෝ
සෙස්ද ඔහුගේ සේවකවූ යෝෂුවාද නැ
ගුටුනෝය. මෝසෙස්ද දෙවියන්වහන්
14 සේගේ කන්දට නැගී අපි තුබලා වෙත
ට එනතුරු මෙහි සිටපල්ලාය යමෙකුට
කිසි කාරණාවක් ඇත්නම් තුබලා සම
ග සිටින ආරොන් සහ හූර් වෙතට පලය
ල්ලාය කියා කන්දට නැගී ගියේය. වලාප
15 ටලයක්ද කන්ද වසාගත්තේය. යෙහෝ
වාවහන්සේගේ තේජස සීනයි කන්දේ
16 රැඳුනේය. වලාපටලයද සදවසක් ඒක
වසාගත්තේය. සත්වෙනි දින උන්වහන්
සේ වලාපටලය මැදින් මෝසෙස්ට හ
17 ඬගැසූසේක. යෙහෝවාවහන්සේගේ
තේජසෙහි පෙනීම ඊශ්‍රායෙල් පුත්‍රයන්
ගේ ඇස්වලට කන්ද මුදුනෙහි විනාසක
18 රණ ගිනකක් මෙන් විය. මෝසෙස්ද
වලාපටලය මැදට ගොස් කන්ද මුදුනට
නැගී දවල් සතලිසක්ද රෑ සතලිසක්ද
එහි සිටියේය.

25. පරිච්ඡෙ. යෙහෝවාවහන්සේ
2 මෝසෙස්හට කථාකරමින් මා වෙතට
පූජාවක් ගෙනෙන්ට ඊශ්‍රායෙල් පුත්‍රයන්
ට කියව මනාප සිතින් දෙන සියල්ලන්
3 ගෙන් මාගේ පූජාව ගනුව. ඔවුන්ගෙන්
4 තෝ ගන්නා පූජාවනම් රන් රිදී පිත්ත
ලද නිල් පැහැද දුඹුරු පැහැද රත් පැ
5 හැද සිහින් රෙදිද එළු ලොම්ද රතු සා
යම් පෙව් බැටළු හම්ද නිල් පාට හම්ද
6 සීතිම් ලීද එළිය පිණිස තෙල්ද ගාන
තෙල් සහ සුවඳ දුම්වලට සුවඳ ද්‍රව්‍යද
7 ඵෙවුදුයකීද ඒපොද්හිද උරසැදෙහි බඳි
8 න පිණිස ගල්ද යන මේය. මා විසින් ඔ
වුන් අතරේ වාසයකරණ පිණිස පවිත්‍ර
9 ස්ථානයක් සාදත්වා. මඩපය සහ එහි
සියළු භාජනවල් මා විසින් පෙන්වන ලෙ
ස සාදා සීතිම් ලීවලින් පෙට්ටියක්ද සා
10 දත්වා. එහි දිග දෙරියන් සමාරක. ප
ළල එක් රියන් සමාරක. උස එක් රි
11 යන් සමාරක. පවිත්‍ර රනින් ඇතුල සහ
පිටද ඒක වසා වටකර රන් ඔටුන්නක්
12 සාදා තබව. ඒකට වළළු හතරක් වාත්
තුකොට එහි සතර කොනේ තබව.
එක පැත්තකට වළළු දෙකක අනික්
13 පැත්තට වළළු දෙකක. සීතිම් ලීයෙන්

පොළු සාදා ඒවා රනින් වසා පෙට්ටිය
14 ඔසවන පිනිස පෙට්ටියේ පැතිවල ති
15 බෙන වලළුවල පොළු දමව. පොළුද
පෙට්ටියේ වලළුවල තිබෙන්නෝය ඒ
වා එසින් ගලවනු නොලබන්නෝය.
16 මම තට දෙන සාක්ෂිය පෙට්ටිය තුලේ
17 තබව. පවිත්‍ර රනින් කරුණාසනයක්
සාදව. එහි දිග දෙරියන් සමාරක පල
18 ල එක් රියන් සමාරක. කරුණාසනයෙ
හි දෙකෙලවර මිටියෙන් තලනලද ක
ර්මාන්තයෙන් රන් කෙරුබි දෙදෙනෙක්
19 සාදව. එක් කෙලවරත එක් කෙරුබි
ද අනික් කෙලවර එක් කෙරුබිද ක
රුණාසනයෙන් දෙකෙලවර කෙරුබි
20 සාදව. කෙරුබි උඩට දිගුකල පියාපත්
වලින් කරුණාසනය වසාගෙන කරුණා
සනය දෙසට මුහුනට මුහුන ලා සිටිත්
21 වා. කරුණාසනය පෙට්ටිය උඩින් තබ
ව. මා විසින් තට දෙන සාක්ෂිය පෙට්
22 ටිය තුලේ තබව. මම එහිදී තට සම්බ
ව සාක්ෂියේ පෙට්ටියේ මතුයෙහි සිටින
කෙරුබි දෙදෙනා අතරේ සිට ඊශ්‍රා
යෙල්ගේ පුත්‍රයන් උදෙසා ආඥාකරණ
සියල්ල ගැන තා සමග කථාකරන්නෙමි.
23 ෂිතිම් ලීවලින් මේසයක් සාදව. එහි
දිග දෙරියනක්ය පලල එක් රියනක්
24 ය. එහි උස එක් රියන් සමාරක්ය. ඒ
25 ක පවිත්‍ර රනින් වසා ඒකට වටින් රන්
ලීස්තුයක් අල්ලා සතරඟුල් ලී පටියක්
වටකරින් ගසා ඒ පටියද වටින් රන් ලී
26 ස්තුයක් ගසව. එයට රත්‍රන් වලළු සත
රක් සාදා එහි කකුල් කොනවලට වලළු
27 ලව. ඒ මේසය ඔසවා ගෙන යන පිනි
ස පොළුවල තැනලට ලී පටිය ඉදිරිපිට
28 වලළු වන්නෝය. ෂිතිම් ලියෙන් පොළු
සාදා ඒවා අවට රනින් වසව. ඒවා ඒ
මේසය ඔසවා ගෙන යන පිනිස වන්
29 නෝය. එහි මඩාද හැඳිද පියනු භාජ
30 නද පවිත්‍ර රනින් සාදව. මේසය පිට පි
දූ රොටි නිතර මා ඉදිරියෙහි තබව.
31 පවිත්‍ර රනින් පහන් රුකක්ද එහි ක
ඳද අතුද භාජනද ගෙඩිද මල්ද මිටි
යෙන් තලනලද කර්මාන්තයෙන් සාද
32 ව. එහි පැතිවලින් අතු හයක් වේවා.
පහන් රුකේ අතුවලින් එක පැත්ත
කින් අතු තුනක අනික් පැත්තෙන් අතු
33 තුනක. ගෙඩිද මල්ද ඇත්තාවූ කොට
ටඹා ඇට සමාන භාජන තුනක් තුනක්
බැගින් පහන් රුකෙන් නික්මෙන අ
34 තු හයට වන්නේය. පහන් රුකේ ගෙ
ඩි සහ මල් සමග කොට්ටඹා ඇට සමා
න සාදන භාජන සතරක් වන්නේය.
35 තවද පහන් රුකෙන් නික්මෙන අතු
සය ලෙස එහි අතු දෙකක් යට ගෙඩි
යක්ද අනික් අතු දෙක යට ගෙඩියක්
ද අනික් අතු දෙක යට ගෙඩියක්ද වේ
36 වා. එහි ගෙඩි සහ අතු යන සියල්ල ත
ලනලද පවිත්‍රවූ රන් කර්මාන්තයකින්
37 වන්නේය. එහි පාන් සතක් සාදව. එ
ලිය දෙන පිනිස ඔවුන් ඒවා දල්වනවා
38 ඇත. එහි අඬු සහ අඬු තබන තැටිද
39 ජම්බල රනින් වන්නේය. මේ සියළු භා
ජන සහිතව පවිත්‍රවූ රන් තලෙන්තය
40 කින් ඒක සාදන්නේය. කන්දෙහිදී ත
ට පෙන්වූ ලෙස ඒවා සාදව.

26 පරිච්. තවද නිල්වන්වූ තඹ
වන්වූ රත්වන්වූ සිහින් හුහුලින් ගො
තනලද වස්ත්‍රමයවූ තිර දසයකින් මඩප
ය සාදව. ඒවා සිත්තමවූ කර්මාන්තයෙන්
2 කෙරුබිම් සහිතව සාදව. එක් තිරය
ක දිග අටවිසි රියනක. එක් තිරයක
පලල සතර රියනක. සියළුම තිර එක
3 ප්‍රමානයෙන් යුක්ත වන්නේය. තිර ප
හක් එකකට එකක් සන්ධිකරනු ලබ
න්නේය. අනික් තිර පසද එකකට එ
4 කක් සන්ධිකරනු ලබන්නේය. සන්ධි
යෙහි කෙලවර පටන් තිරයක අන්ත
යෙහි නිල්වන් පුඩු සාදව. දෙවෙනි ති
රයේ සන්ධියෙහි අන්තිම කෙලවරද
5 එසේම කරව. පුඩු එකකට එකක් බැඳී
තිබෙන පිනිස තිරයක පුඩු පනසක්ද
දෙවෙනි තිර සන්ධියේ අන්තයෙහි ප
6 නසක්ද කරව. රන් කොකු පනසක්
කොට කොකුවලින් තිර එකට එක්කර
ව. එවිට ඒක එක් මඩපයක් වන්නේය.
7 මඩපයෙහි මතුපිට වැස්මක් පිනිස එ
8 එලොමින් තිර එකොළසක් සාදව. ති
රයක දිග තිස් රියනක පලල සතර රිය
නක. එකොලසම එක ප්‍රමාන වන්නේ
9 ය. තිර පසක් වෙනමද තිර හයක්
වෙනමද සන්ධිකොට මඩපයේ ඉදිරිපි
10 ට හයවෙනි තිරය දෙගුණ කරව. සන්
ධියේ පිටින්ම තිබෙන තිරයේ අන්ත
යෙහි පුඩු පනසක්ද දෙවෙනි තිරය
බැඳෙන තිරයේ අන්තයේ පුඩු පන
11 සක්ද කරව. තවද එක් මඩපයක් වෙ
න පිනිස පිත්තල කොකු පනසක් කො

12 ට කොකු පුඩුවල දමා එක්කරව. මඬ
පයෙහි තිරවලින් ඉතුරුවෙන සෙස්
සෙන් ඉතිරිවූ තිර භාගයක් මඬපයෙහි
13 පිටිපස එල්ලෙන්නේය. මඬපයෙහි තිර
වල දිගින් ඉතිරිවෙන සෙස්සෙන් පැත්
තකින් රියනක්ද පැත්තකින් රියනක්
ද මඬපයේ පැතිවල මතුපිටින් ඒක ව
සන පිනිස දෙපැත්තෙන් එල්ලෙන්නේ
14 ය. රත පෙවූ බැටළු සමින් මඬපයට
වැස්මක්ද නිල් පාට සමින් උඩ වැස්
මක්ද කරව.

15 මඬපයට ෂිතිම් ලීවලින් කෙලින් සි
16 ටුවා දස රියන් දිග්වූ එක් රියන් හමා
17 රක් පලල්වූ ලෑලි සාදව. එකින් එක
පිළිවෙලින් තිබූ ඒ එක ලෑල්ලකට කු
ඩ්ඩි දෙකක් වන්නේය. මඬපයෙහි සි
18 යළු ලෑලිවලට එසේ කරව. මඬපයේ
දකුණු දිසාවට ලෑලි විස්සක් සාදා එක
ලෑල්ලක කුඩ්ඩි දෙකකට විලි දෙකක්ද
19 අනික් ලෑල්ලෙහි කුඩ්ඩි දෙකට විලි
දෙකක් බැගින් ලෑලි විස්ස යටට රිදී
20 යෙන් විලි හතලිසක් සාදව. මඬපයේ
උතුරු දිසාවේ දෙවෙනි පැත්තට ලෑලි
21 විස්සක් වන්නේය. ඒවායේ විලි හතලි
හ රිදීයෙන් එක් ලෑල්ලක් යට විලි දෙ
22 කක්ද අනික් ලෑල්ලක් යට විලිදෙකක්
ද වන්නේය. මඬපයේ අවරදිසා පැති
23 වලට ලෑලි සයක්ද සාදව. මඬපයේ
දෙපැත්තේ කොනවලට ලෑලි දෙකක්
24 සාදව. ඒවා යටින්ද උඩින්ද වළල්ලකින්
එකට එක්කරනු ලබනෝය. දෙකට
ම එසේ කරන්නේය. ඒවා දෙකොනට
25 වන්නේය. ලෑලි අටක්ව එක ලෑල්ලක්
යට විලි දෙකක්ද අනික් ලෑල්ලක් යට
විලි දෙකක්ද බැගින් රිදීයෙන් විලි
සොලසක් වන්නේය.

26 ෂිතිම් ලීවලින් පොළු සාදා මඬපයේ
එක් පැත්තක ලෑලිවලට පොළු සයක්
27 ද මඬපයෙහි අනික් පැත්තක ලෑලිව
ලට පොළු සයක්ද මඬපයෙහි අවරදිග
දෙපැත්තක ලෑලිවලට පොළු පසක්ද
28 සාදව. ලෑලි මැද පොල්ල කොනක් ප
ටන් අනික් කොන දක්වා වන්නේය.
29 ලෑලි රනින් වසා පොළු තැබීම පිනිස
එහි වළළුද රනින් සාදා පොළුද රනින්
30 වසව. කන්දෙහිදී තට පෙන්නූ ආදර්ශය
ලෙස මඬපය ගොඩනගව.

31 නිල් තඹ රත්වන්වූ සිහින් නූලින්
ගෙතූ සිතුවම් වැඩ ඇති තිරයක් කෙරු
32 බිම් සහිතව සාදව. ඒක රනින් වසන
ලද ෂිතිම් ලීවලින් සෑදූ කනු සතරක්
පිට එල්ලව රිදී විලි සතර පිට ඒවායේ
33 කොකු රනින් වන්නේය. සාක්ෂියෙහි
පෙට්ටිය තිරය ඇතුලට ගෙන එන පි
නිස තිරය කොකු යට එල්ලව. තිරයද
පවිත්‍ර සහ අති පවිත්‍ර ස්ථාන අතරෙහිද
34 වෙයි. අතිපවිත්‍ර ස්ථානයෙහි සාක්ෂියෙහි
35 පෙට්ටිය පිට කරුණාසනය තබව. මේ
සය තිරයට පිටතින් පහන් රුක මේස
ය ඉදිරිපිටින් මඬපයෙහි දකුණුදිග පැත්
තේ තබා මේසයද උතුරු පැත්තේ ත
36 බව. මඬප දොරටුවට නිල් තඹ රත්
වන්වූ සිහින් නූලින් ගෙතූ හිඳිකම්කාන්
37 ත කල තිරයක් සාදව. තිරයට ෂිතිම්
ලීවලින් කනු පසක් සාදා ඒවා රනින්
වසා ඒවාට රන් කොකුද පිත්තල විලි
පසක්ද සාදව.

27. පරිච්ඡෙ. පස්රියන් දිග පස්රියන්
පලල තුන්රියන් උස සතරැස්වූ පූජාසන
2 යක් ෂිතිම් ලීවලින් සාදව එම ලීවලින්
සාදනලද පූජාසනයෙහි අං සතර එහි ස
තර කොන්හි සාදා ඒක පිත්තලින් වස
3 ව. එහි අළු රුදීමට කබල්ද අඟුරු හැ
ඳිද තලිද මස් අඹුනන කටුද ගිනිකබල්
ද යන සියළු භාජන පිත්තලින් සාදව.
4 එයට පිත්තලින් දැල්කම් කල මස්උදු
නක්ද ඒ පිට සතර කොන පිත්තලින්
වළළු සතරක්ද සාදා පූජාසනය මැදට
5 වෙන පිනිස පූජාසනයෙහි යට පැත්තේ
6 ගැටියට තබව. පූජාසනයට පොළු ෂිතිම්
7 ලීවලින් සාදා පිත්තලින් වසව. ඒ පො
ළු වළළුවල දමා පූජාසනය උසුලන පිනි
ස එහි දෙපැත්තෙහි තබව. ඒක ලෑලි
8 වලින් කුහර ඇතුව සාදව. කන්දෙහිදී
පෙන්වූ ලෙස ඔවුන් ඒක සාදනෝය.

9 මඬප මළුවට දකුණු පැත්තේ යහපත්
ඇඹිරූ නූල් රෙදිවලින් එක පැත්තට සි
10 යක් රියන් දිග තිර සාදව. එහි කනු විස්
සද ඒ කනුවල පේකඩ විස්සද පිත්ත
ලින් හා කනුවල කොකුද එහි බැම්ද රි
11 දීයෙන් වනෝය. එසේම උතුරු දිගට
සියක් රියන් දිග තිරද එහි කනු විස්සද
ඒ කනුවල පේකඩ විස්සද පිත්තලින්
වනෝය. කනුවල කොකු සහ කොකු
12 වල බැම්ත් රිදීයෙන් වන්නේය. බස්නා
ඉර දිසාවෙන් මළුවෙහි පලලට පනස්
රියන් තිර වනෝය. එහි කනු දසයක්

13 ය කණුවල පේකඩ දසයක්ය. මළුවෙහි
නැගෙනහිර දිසාවෙහි පලල පනස් රි
14 යනක. දොරකඩ එක පැත්තක තිර ප
සළොස් රියනක. එහි කණු තුනක්ය ක
15 ණුවල පේකඩ තුනක්ය. අනික් පැත්
තෙහිද පසළොස් රියන් තිර වන්නේය
එහි කණු තුනක්ය කණුවල පේකඩ
16 තුනක්ය. මළුවේ දොරටුවට නිල් තඹ
රත්වන්වූ ගෙත්තම්කල සිහින් දෙණුල්
රෙද්දවලින් විසි රියන් තිරයක් වන්නේ
ය. එහි කණු සතරක්ය කණුවල පේක
17 ඩද සතරක්ය. මළුව වටකර සියළු කණු
රිදීයෙන් බඳින්නු ලබන්නේය කණුවල
කොකු රිදීයෙන්ද පේකඩ පිත්තලින්ද ව
18 න්නේය. මළුවෙහි දිග රියන් සියයක
පලල සෑම තැනින් පනස් රියනක සි
හින් ඇඹරූ නූල් රෙද්දවලින් උස පස් රි
19 යනක. එහි පේකඩ පිත්තලින්ද මණ්ඩපයෙ
හි සියළු වැඩවලට ගන්නාවූ සියළු භා
ජනද එහි සියළු ඇනද මළුවෙහි සියළු
20 ඇන පිත්තලින් වන්නේය. එලිය දීමට
නිතර පහන් දල්වන පිණිස පවිත්‍රවූ කො
ටාගත් ඔලීව තෙල් ගෙනෙන්ට ඊශ්‍රා
21 යෙල් පුත්‍රයන්ට අනකරව. සාක්ෂිය ඉදි
රියෙහි තිබෙන තිරයෙන් පිට සමූද මණ්ඩ
ඩපයෙහි ආරොන් සහ ඔහුගේ පුත්‍ර
යෝ යෙහෝවාවහන්සේ ඉදිරියෙහි ස
වස පටන් උදය දක්වා ඒක ප්‍රවේසම්ක
රණවා ඇත. ඒක ඊශ්‍රායෙල් පුත්‍රයන්
ගැන ඔවුන්ගේ පරම්පරවලට සදාකා
ලවූ නියෝගයක් වන්නේය.

28. පරිච්ඡේ. ඊශ්‍රායෙල්ගේ පුත්‍රයන්
කෙරෙන් පූජක තනතුරෙහි සිට මට
මෙහෙකරණ පිණිස ආරොන්ද නාදබ් අ
බිහූ එලියාසර් ඉතාමර් යන තාගේ ස
හෝදරවූ ආරොන්ගේ පුත්‍රයන් සමග
2 ගනුව. තාගේ සහෝදරවූ ආරොන්හට
අලංකාරවූ සෝභනවූ පවිත්‍රවූ වස්ත්‍ර සා
3 දව. ආරොන් පූජක තනතුරෙහි සිට ම
ට මෙහෙකරණ ලෙස ඔහුගේ ශුද්ධකිරී
ම පිණිස මා විසින් ඥානවන්ත පූර්ණකර
ණලද ඥානවන ඇති සියල්ලන්ට ඔහුගේ
4 වස්ත්‍ර සාදන්ට කියව. ඔවුන් සාදන වස්ත්‍ර
නම් උරසෑදක්ද ඒපොදක්ද දිග ඇඳු
මක්ද විසිතුරුවූ උතුරු සළුවක්ද මකුට
යක්ද ඉණපටියක්ද යන මේවාය. ඔහු
පූජක තනතුරෙහි සිට මට මෙහෙකර
ණ පිණිස තාගේ සහෝදරවූ ආරොන්ට
ද ඔහුගේ පුත්‍රයන්ටද පවිත්‍රවූ වස්ත්‍ර සා
5 දනවා ඇත. ඔවුන් රන්ද නිල් දම් රත්
6 වන්වූ සිනිඳු වස්ත්‍රද ගෙන රන් නිල් දම්
රත්වන්වූ අඹරණලද සිනිඳු නූලින් විසි
තුරු කර්මාන්ත ඇති ඒ පොද් සාදනවා
7 ඇත. ඒක දෙවුරය වසන කෑබලි දෙ
කක් කෙලවරවල් එකතු කටයුතුය. මෙ
8 සේ ඒක එකතුකරන්නේය. ඒ කර්මාන්
තය ප්‍රකාරයට රන් නිල් දම් රත්වන්වූ
අඹරනලද සිහින් නූලින් ඒපිට තිබෙන
ඒපොද්හි විසිතුරු ඉණපටිය සාදනවා
9 ඇත වෛදූර්ය දෙකක් ගෙන එක් මැ
ණිකක් පිට නාමවල් සයක්ද අනික් මැ
10 ණිකක් පිට නාමවල් සයක්ද ඔවුන්ගේ
උත්පත්තිය ලෙස ඊශ්‍රායෙල් පුත්‍රයන්
11 ගේ නාමවල් කොටව. ගල් කොටනනා
ගේ කර්මාන්තයෙන් මුද්‍රයෙහි කෙටීම
මෙන් වෛදූර්ය මැණික් දෙකෙහි ඊශ්‍රා
යෙල් පුත්‍රයන්ගේ නාමවල් කොටා ඒ
12 වා රන් කෙවෙනිවල්හි බඳුව. ඒ මැණික්
දෙක ඊශ්‍රායෙල් පුත්‍රයන්ට සිහිවීමේ ගල්
පිණිස ඒ පොද්හි උරපිට තබව. ආරොන්
යෙහෝවාවහන්සේගේ ඉදිරියෙහි සිහි
වීමක් පිණිස ඔවුන්ගේ නම් තමාගේ දෙ
13 වුරපිට ධරන්නේය. රන් කෙවෙනි සහ
14 පවිත්‍ර රනින් මාල දෙකක් ඒපොද් කෙ
ලවරෙහි ගොතනලද කර්මාන්තයෙන්
සාදා ගොතනලද මාලත් කෙවෙනිව
ල බඳුව.
15 ඒපොද්හි කර්මාන්තය ලෙස රන් නිල්
දම් රත්වන්වූ අඹරණලද සිහින් නූල් වි
සිතුරුවූ කර්මාන්තයෙන් විනිශ්චයෙහි
16 සනනාහය සදව. ඒක දෙනුනව හතරැස්
ව තිබෙන්නේය. එහි දිග වියතක පල
ල වියතක. සනනාහය පිට මැණික්වලින්
17 පේලි සතරක් බඳුව. පලමුවෙනි පේලි
ය මැණිකකින්ද පත්මරාගයකින්ද ලාදලිය
18 කින්ද දෙවෙනි පේලිය මරකතයෙන්ද නී
19 ලමය මැණිකකින්ද හීරකයෙන්ද තුන්වෙ
නි පේලිය ලසමයකින්ද සූර්යකාන්තිය
20 කින්ද නිලමාණික්‍යකින්ද සතරවෙනි පේ
ලිය වෛදූර්යකින්ද ද්‍රජයකින්ද චන්ද්‍ර
කාන්තියකින්ද විය යුතුය. ඒවා රනින්
21 බඳින්නු ලබන්නේය. ඒ මැණික් පිට ඊශ්‍රා
යෙල් පුත්‍රයන්ගේ නාමවල් ගනනට නා
මවල් දොලසක් මුද්‍රයෙහි කෙටීම ලෙස
තිබෙන්නේය. දොළොස් ගෝත්‍රවල ග
නනට එකිනෙකාට තමතමාගේ නාම
22 ය තිබෙන්නේය. සනනාහයෙහි කෙල

වරවල් පිට පිරිසිදු රනින් ගොතනලද
23 මාලයක් සාදව. සනාහය පිට රනින්
වලළු දෙකක් සාදා ඒ වලළු දෙක ස
24 නාහයෙහි දෙකෙලවර පිට තබව. ර
නින් ගොතනලද මාල දෙකේ දෙකෙ
ලවර සනාහයෙහි තිබෙන වලළු
25 දෙකෙහි තබව. ගොතනලද මාල දෙ
කේ ඉතිරි දෙකෙලවර කෙවෙනි දෙ
කෙහි බැඳ ඒ පොද්හි උරඉස පිට ඉදිරි
26 කොට තබව. රන් වලළු දෙකක් සාදා
ඒපොද්හි ඇතුල් පැත්තේ තිබෙන ස
නාහ කෙලවර දෙකේ වාටියෙහි ර
27 නින් ඒ වලළු තබව. තවත් වලළු දෙ
කක් සාදා ඒපොද්හි දෙපැත්තේ යටද
ඉදිරිපිටද අනික් සන්ධිය ඉදිරියෙහිද
ඒපොද්හි විසිතුරු පටිය පිටද තබව.
28 සනාහය ඒපොද්හි විසිතුරු ඉගපටිය
පිට තිබෙන ඒපොද්ගෙන් මුදනු නො
ලබන පිනිසද එහි වලළුවලින් ඒපොද්
හි වලළු නිල්වන් පටියකින් බඳිනවා
29 ඇත. යෙහෝවඃවහන්සේ ඉදිරියෙහි
නිතර සිහිවීමක් පිනිස ආරොන් පවිත්‍ර
ස්ථානයට ඇතුල්වෙනකල්හි ඊශ්‍රායෙල්
පුත්‍රයන්ගේ නාමවල් විනිශ්චය සනා
හයේදී ඔහුගේ හෘදය පිට ධරනේය.
30 විනිශ්චය සනාහයෙහි ඌරීම් සහ
තුම්මීම් තබව. ආරොන්ද යෙහෝවඃව
හන්සේ ඉදිරියට ඇතුල්වෙන කල්හි ඒ
වා ඔහුගේ හෘදය පිට තිබෙනේය.
ආරොන්ද ඊශ්‍රායෙල්පුත්‍රයන්ගේ විනිශ්
චය යෙහෝවඃවහන්සේ ඉදිරියෙහි ඔ
හුගේ හෘදය පිට නිතර ධරන්නේය. ඒ
31 පොද්හි දිග වස්ත්‍රය මුළුල්ල නිල් පැහැ
32 යෙන් සාදව. එහි උඩ පැත්තේ මැද
සිදුරක් තිබෙන්නේය. ඒක නොසිරෙ
න පිනිස වර්මයෙහි සිදුර මෙන් ඒ සිදුර
වට වියනලද බැඳීමක් තිබෙන්නේය.
33 එහි කෙලවර පිට නිල් දම් රත් පැහැ
යෙන් දෙළුන් ඵලය මෙන් වටකොට
එහි අතර රනින් මිනිගෙඩි වටේට කර
34 ව. රන් මිනිගෙඩියක්ද දෙළුන් ඵලයක්
ද රන් මිනිගෙඩියක්ද දෙළුන් ඵලයක්
ද දිග වස්ත්‍ර කෙලවර පිට වටේට තිබෙ
35 නේය. මෙහෙකෙරීම පිනිස ආරොන්
ඒ වස්ත්‍රය පලඳින්නේය. ඔහු නොන
සින පිනිස ඔහු යෙහෝවඃවහන්සේ ඉ
දිරියෙහි පවිත්‍ර ස්ථානයට ඇතුල්වෙන
විටද පිටතට එනවිටද එහි ශබ්ද ඇ
සෙන්නේය.

36 පවිත්‍රවූ රනින් නහඹුවක් කොට මුද්‍ර
යෙහි කෙටීම මෙන් ඔවුන් යෙහෝවඃව
හන්සේට සුඛකමය කියා එහි පිට කො
27 ටා ඒක මකුටය පිට තිබෙන පිනිස ඒ
ක නිල්වන්වූ පටියක් පිට බඳුව. ඒකම
38 කුටය ඉදිරියෙහි තිබෙන්නේය. ඊශ්‍රා
යෙල් පුත්‍රයන් පවිත්‍රකරනාවූ ඔවුන්
ගේ සියළු පූජාවන්ගේ දෝෂය ආරොන්
ධරණ පිනිස ඒක ඔහුගේ නලල පිට ති
බෙන්නේය. යෙහෝවඃවහන්සේ ඉදිරි
යෙහි ඔවුන් පිළිගනු ලබන පිනිස ඒක
ඔහුගේ නලල පිට නිතර තිබෙන්නේ
39 ය. උතුරු සළුව සිනිඳු වස්ත්‍රයෙන් විසිතු
රුකොට මකුටය සිනිඳු වස්ත්‍රයෙන් සාද
40 ඉගපටිය මැහීමෙන් සදව. මහිම සහ
සෝභනය පිනිස ආරොන්ගේ පුත්‍රයින්
ට උතුරු සළුද ඉගපටිද තොප්පිද සාද
41 ව. ඒ ඒ වස්ත්‍ර තාගේ සහෝදරවූ ආ
රොන්ටද ඔහුහා සමග ඔහුගේ පුත්‍රයන්
ටද පලඳවා පූජක තනතුරෙහි සිට මට
මෙහෙකරණ පිනිස ඔවුන්ට ආලේප
කොට ඔවුන් නියම ලෙස පිරිසිදුකරව.
42 ඔවුන්ගේ විලි වසන පිනිස ඔවුන්ට කො
ට කලසන් සාදව. ඉඟ පටන් කලවය
43 වැසෙනතුරු ඒවා තිබෙන්නේය. ආ
රොන් සහ ඔහුගේ පුත්‍රයෝ දෝෂය ධ
රා නොනසින පිනිස සභාමඩපයට ඇ
තුල්වෙන කල්හිද පවිත්‍ර ස්ථානයෙහිදී
මෙහෙකරන පිනිස පූජාසනයට ලංවෙ
න කල්හිද ඒ කොටකලසන් අඳිනවා
ඇත. ඔහුටද ඔහුගෙන් පසු ඔහුගේ ව
ශයටද මේක සදාකාලයටම පනතක්
වන්නේය.

29. පරිච්ඡෙ. තවද පූජක තනතුරෙ
හි මට මෙහෙකරණ පිනිස ඔවුන් කැප
කරන්ට ඔවුන්ට කරණ ක්‍රියානම් මේය.
කැලල් නැති නාඹු ගොනෙක්ද බැටළු
2 වන් දෙදෙනෙක්ද ගෝධුම පිටිවලින්
සාදනලද ඇඹුල් පිටි නුමුසු රොටිද තෙ
ලින් මිශ්‍රවූ ඇඹුල්පිටි නුමුසු පූපයන්ද
තෙල් ගෑ ඇඹුල්පිටි නුමුසු පූප පෙතිද
3 ගෙන පැසෙක තබා ගොනාත් බැටළු
4 වන් දෙදෙනාත් සමග ගෙනවුත් ආරොන්
සහ ඔහුගේ පුත්‍රයනු සභාමඩප දොරක
5 ඩට කැඳවාගෙන ඔවුන් නාවව. ඒ වස්ත්‍ර
ගෙන උතුරුසළුවෙනු ඒපොද්හි දිග
වස්ත්‍රයෙනු ඒපොද්ද උරසැදද ආරොන්
ට අඳවා ඒපොද්හි විසිතුරු පටියෙන් බ

6 හූ බැඳ මකුට සහ මකුටය පිට පවිත්‍ර ඔටු
7 නන ඔහුගේ හිස තබා ගාන තෙල් ගෙ
න ඔහුගේ හිස පිට වත්කරමින් ඔහු අ
8 ලේප කරව. ඔහුගේ පුත්‍රයන් රැගෙන
9 උතුරුසළුවලින් අඳවා බඳපටිවලින් ආ
රොන් සහ ඔහුගේ පුත්‍රයන් බැඳ ඔ
වුන්ගේ හිස්පිට තොප්පි තබව. නිතර ප
වත්වන පනතකින් පූජක තනතුර ඔ
10 වුන්ට වන්නේය. තෝ ආරොන් සහ ඔහු
ගේ පුත්‍රයන් කැපකරණ පිණිස ගො
නෙක් සභාමඬප දොරකඩ ඉදිරිපිටට
ගෙණව ආරොණ ඔහුගේ පුත්‍රයෝද
ගොනාගේ හිසපිට අත් තබන්නෝය.
11 තෝද යෙහෝවාවහන්සේ ඉදිරියෙහි
සභාමඬප දොරකඩදී ඒ ගොනා මරා උ
12 ගේ ලෙයින් පූජාසනයෙහි අංවල තා
ගේ ඇඟිල්ලෙන් ඉස සියළු ලේ පූජාසනය
යට වත්කොට අතුනු වසාතිබෙන සියළු
13 තෙල්ද අක්මාව පිට තිබෙන දලද වකු
ගඩු දෙකද එහි තිබෙන තෙල්ද රැගෙ
14 න පූජාසනය පිට දවා උගේ මාංශද හමද
ගොමද කඳවුරෙන් පිට ගින්නෙන් දව
15 ව. ඒක පව් නසන පූජාවක් වේ. බැටළු
වෙක් ගනුව ආරොන් සහ ඔහුගේ පුත්‍ර
යෝද ඔවුන්ගේ අත් උගේ හිස පිට ත
16 බන්නෝය. තෝද ඌ මරා උගේ ලෙ
17 යින් පූජාසනය වටකර ඉස බැටළුවා කැ
බලි කැබලිකොට කපා උගේ අතුනුද
කකුල්ද සෝද ඒවා කැබලි සහ ඉස ළඟ
18 තබා පූජාසනය පිට මුළු බැටළුවා දවව.
ඒක යෙහෝවාවහන්සේට දවන පූජාව
ක. මිහිරි සුවඳවූ යෙහෝවාවහන්සේට
ගින්නෙන් කළ පූජාවක්ය.

19 අනික් බැටළුවා ගනුව උගේ හිස පි
ට ආරොන් සහ ඔහුගේ පුත්‍රයෝද අත්
20 තබන්නෝය. තෝ ඌ මරා උගේ ලෙ
යින් ආරොන් සහ ඔහුගේ පුත්‍රයන්ගේ
දකුණු කන් පෙලවරද ඔවුන්ගේ දකු
ණත්හි මාපට ඇඟිලිවලද ඔවුන්ගේ ද
කුණු පාදවල මාපට ඇඟිලිවලද ගා ලේ
21 පූජාසන පිට වටකර ඉසුව. පූජාසනයෙ
හි තිබෙන ලෙයින්ද ගාන තෙලින්ද රැ
ගෙන ආරොන් සහ ඔහුගේ වස්ත්‍ර පිටද
ඔහුගේ පුත්‍රයන් සහ ඔවුන්ගේ වස්ත්‍ර පි
ටද ඉසුව. ඔහු සහ ඔහුගේ වස්ත්‍රද ඔහු
ගේ පුත්‍රයෝද ඔවුන්ගේ වස්ත්‍රද පවිත්‍ර
22 වෙත්. ඌ කැපකිරීමෙහි බැටළුවා නිසා
උගේ තෙල්ද තුනටියද අතුනු වැසී ති
බෙන තෙල්ද අක්මාව පිට දලද වකු
ගඩු දෙක හා එහි පිට තිබෙන තෙල්ද
23 දකුණු උරයද රොටියක්ද තෙල් ගාපු
රොටියක්ද යෙහෝවාවහන්සේ ඉදිරි
යෙහි තබනලද ඇඹුල් පිටි නූමුසු රොටි
24 පෑසෙන් පෙත්තක්ද ගෙන ඒ සියල්ල
ආරොන් සහ ඔහුගේ පුත්‍රයන්ගේ අත්ව
ලට තබව. ඔවුන් යෙහෝවාවහන්සේ
ගේ ඉදිරියෙහි තේව පූජාවක් වශයෙන්
25 ඒවා තේව කරන්නෝය. ඔවුන්ගේ අ
තින් ඒවා ගෙන යෙහෝවාවහන්සේ
ගේ ඉදිරියෙහි මිහිරිවූ සුවඳක් පිණිස පූ
ජාසනය පිට දවව. ඒක යෙහෝවාව
හන්සේට ගින්නෙන් කරණලද පූජාව
26 ක. ආරොන්ගේ කැපකිරීමේ බැටළුවා
ගේ ළපැත්ත ගෙන තේව පූජාවක් වශ
යෙන් යෙහෝවාවහන්සේගේ ඉදිරියෙ
හි තේව කරව. ඒද තාගේ කොටස වන්
27 නේය. ආරොන් සහ ඔහුගේ පුත්‍රයන්
ගේ කැපකිරීමෙහි බැටළුවාගෙන් තේ
වකරණලද තේව පූජාවෙන් ළපැත්තද
ඔසවන පූජාවෙන් උරයද පවිත්‍ර කරව.
28 ඒ ඔසවන පූජාවක් නිසා ඊශ්‍රායෙල් පු
ත්‍රයන්ගේ නියෝගයකින් නිතරම ආ
රොන්හටද ඔහුගේ පුත්‍රයන්ටද වන්නේ
ය. ඒ ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ ශාන්ති උ
පදවන පූජාවලින් යෙහෝවාවහන්සේ
ට ඔසවන පූජාවක් වන්නේය.

29 ආලේපය සහ කැපකරනු ලබන පිණිස
ආරොන්ගේ පවිත්‍රවූ වස්ත්‍ර ඔහුගෙන් පසු
30 ඔහුගේ පුත්‍රයන්ට වන්නේය. ඔහුගේ ත
නතුරෙහි පූජකව සිටින පුත්‍රයා පවිත්‍ර
ස්ථානයෙහි මෙහෙකරණ පිණිස සභාම
ඬපයට ඇතුල්වෙන කල්හි සත් දවසක්
ඒ ඇඳුම් අඳින්නේය.

31 තෝ කැපකිරීමේ බැටළුවා රැගෙන
32 පවිත්‍ර ස්ථානයෙහි උගේ මාංශය පිසව. ආ
රොන් හා ඔහුගේ පුත්‍රයෝද සභාමඬප
යෙහි දොරකඩ සිට ඒ බැටළුවාගේ මා
ංශද පෑසේ තිබෙන රොටිද කනවා ඇ
33 ත. ඔවුන් කැපකොට සුධකරණ පිණිස
ශාන්ති උපදවන පූජාවක් වශයෙන් ති
බෙන දේ ඔවුන් කනවා ඇත. එහෙත් ඒ
වා පවිත්‍ර බැවින් අන් කෙනෙක් එයින්
34 නොකන්නේය. කැපකිරීමේ මාංශයෙන්
වත් රොටියෙන්වත් උදය දක්වා කිසිවක්
ඉතිරිවූයේනම් ඒ ගින්නෙන් දවව. ඒක
35 පවිත්‍රබැවින් කනු නොලබන්නේය. මා
විසින් තට අණකළ සියල්ල ලෙස ආ
රොන්ටද ඔහුගේ පුත්‍රයන්ටද කොට

36 සත් දවසක් ඔවුන් කැපකරව. තෝ
ශාන්ති උපදවන පිනිස පව් නසන පූජ
වක් නිසා නාඹු ගොනෙක් සෑම දිනම
පූජාකරව. පූජාසනය උදෙසා ශාන්ති උ
පදවන පූජාවක් කොට ඒක ශුබකරව.
ඒක පවිත්‍රකරණ පිනිස ආලේප කරව.
37 සත් දවසක් පූජාසනය උදෙසා ශාන්ති
යාගයක් කොට ඒක පවිත්‍රකරව ඒ අ
තිපවිත්‍ර පූජාසනයක් වන්නේය. ඒ පූජාස
නයට තැවරෙණ සියළු දේ පවිත්‍ර වෙත්.
38 තෝ පූජාසනයෙහි පූජාකරණ දේනම්
මේය. දවස්පතා එක් අවුරුදු බැටළු
39 වස්සන් දෙන්නෙක. එක බැටළු වස්
සෙක් උදය පූජාකරව අනික් බැටළු
40 වස්සා සවස පූජාකරව. එක බැටළු වස්
සෙකු සමග කොට ගත් තෙල් හිනකින්
සතරෙන් පඟුවක් මිශ්‍රවූ පිටි දසයෙන්
කොටසක්ද බොන පූජාවක් පිනිස මු
ද්‍රිකපානයෙන් හින් සතරෙන් පඟුවක්
41 ද පූජාකරව. අනික් බැටළු පැටවා සව
ස පූජාකොට උදය කරන ආහර පූජාව
සහ එහි බොන පූජාව මෙන් යෙහෝවඃ
වහන්සේට ශිනෙහාන් කරනලද සුවඳවූ
42 පූජාව පිනිස පූජාකරව. මේක යෙහෝ
වඃවහන්සේ ඉදිරියෙහි සභාමඩප දොර
කඩ තොපගේ පරම්පරවල පවත්වන
දවන පූජාවක්ය. එහිදී තා සමග කථාක
43 රණ පිනිස තොපට සඹවෙනෙහාම්. එහි
ඊශ්‍රායෙල්ගේ පුත්‍රයන්ට සම්භවෙනෙහා
ම් මාගේ මහත්තත්වයෙන් මඩපය පවි
44 ත්‍රවන්නේය. මම සභාමඩපයද පූජාසන
යද පවිත්‍රකොට ආරොන් සහ ඔහුගේ පු
ත්‍රයන් පූජක තනතුරෙහි සිට මට මෙ
45 හෙකරන පිනිස පවිත්‍රකරනෙහාම්. ඊශ්‍රා
යෙල් පුත්‍රයන් අතරෙහි වාසයකරමින්
46 ඔවුන්ගේ දෙවියන්වහන්සේ වනෙහාම්.
ඔවුන් අතරේ වාසයකරණ පිනිස මිසර
දේසයෙන් ඔවුන් ගෙනාවාවූ ඔවුන්ගේ
දෙවිවූ යෙහෝවඃවහන්සේනම් මමය
යි දැනගනිති ඔවුන්ගේ දෙවිවූ යෙහෝ
වඃවහන්සේ මම වෙමි.

30. පරිච්ඡේ. තවද සුවඳ ද්‍රව්‍ය දවන
පිනිස පූජාසනයක් ෂිතිම් ලීවලින් සා
2 දව එහි දිග රියනක්ද පලල රියනක්ද
ඒක සතරැස්දවන්නේය. එහි උස දෙරි
යනක් වන්නේය එහි අන් එයින්මය. පි
3 වීත්‍ර රනින් එහි මුදුනද පැති සහ හාත්ප
සද අන් වසව එහි හාත්පසට රන් ඔටුන්
4 නක්ද සාදව. එහි ඔටුනනට යටින් දෙ
කොනට රන් වලළු දෙකක්ද සාදව දෙ
පැත්තෙන් ඒක සාදව. ඒවා ඒක ඉසිලී
මට පොළු දමන තැන් පිනිස වන්නේය.
5 පොළුද ෂිතිම් ලීවලින් සාදා ඒවා රනින්
6 වසව. සාක්ෂි පෙට්ටිය ලඟ තිබෙන තිර
ය ඉදිරිපිට ඒනම් සාක්ෂිය පිට තිබෙනක
රුණාසනය ඉදිරිපිට ඒක තබව. එහිදීම
7 තට සඹවෙනෙහාම්. ආරොන් සියළු උද
යම එහි සුවඳ ද්‍රව්‍ය දවන්නේය. ඔහු ප
හන් සුද්දනම්කරන කල්හි ඊපිට සුවඳ ද්‍ර
8 ව්‍ය දවන්නේය. ආරොන් සවස පහන්
දල්වන කල්හිද ඊපිට සුවඳ ද්‍රව්‍ය දවන්
නේය. ඒක තොපගේ සියළු පරම්පරව
ල යෙහෝවඃවහන්සේ ඉදිරියෙහි නි
9 රන්තර සුවඳක් වෙයි. තොපි අන් සුව
ඳක්වත් දවන යාගයක්වත් ආහර පූජා
වක්වත් ඊපිට පූජා නොකරනෙහාය.
පාන පූජාවක්ද එහි වක් නොකරන්
10 නෝය. ආරොන් අවුරුද්දට වරක් ශාන්
ති උපදවන පවු නසන පූජාවෙහි ලෙ
යින් එහි අන් පිට ශාන්තියක් කරන්
නේය තොපගේ සියළු පරම්පරවල
අවුරුද්දට වරක් ඔහු ඊපිට ශාන්තියක්
කරන්නේය. ඒක යෙහෝවඃවහන්සේ
ට අති සුබයයි වදාලසේක.
11 තවද යෙහෝවඃවහන්සේ මෝසෙස්
12 හට වදාරණසේක් තෝ ඊශ්‍රායෙල් පුත්‍ර
යන් ගනන්කරණ කල්හි ඔවුන් අතරෙ
හි වසංගතයක් නොපැමිනෙන පිනිස
ඔවුන්ගේ ගනන හැටියට සියළු මනුෂ්‍ය
යෝ තමතමන්ගේ ආත්මවල් උදෙසාම්
දීමෙහි පූජාවක් යෙහෝවඃවහන්සේට
13 දෙනෙහාය ඔවුන් අතරෙහි ගනන්
කරනු ලබන සියල්ලෝම පවිත්‍ර ස්ථාන
යෙහි ෂෙකෙල් ලෙස ෂෙකෙල් පඟු
වක් දෙනෙහාය. යෙහෝවඃවහන්සේ
ගේ පූජාව ෂෙකෙල් පඟුවක් වන්නේය.
14 ෂෙකෙලයක්නම් ගෙරාඃ විස්සක්ය. ඔ
වුන් අතරෙහි විසි අවුරුදුවූද ඉන් වැඩි
වූද වයස් ඇත්තාවූ ගනන්කරනු ලැබූ සි
යල්ලෝ යෙහෝවඃවහන්සේට පූජාවක්
15 දෙනෙහාය. තොපගේ ප්‍රානවලට ශාන්
තියක් කරණ පිනිස යෙහෝවඃවහන්
සේට පූජාවක් දෙනකල ධනවන්තයා
ෂෙකෙල් පඟුවකට වඩා නොදෙන්නේ
ය. දිලිඳු තැනැත්තෝද එයට අඩුව නො
16 දෙන්නේය. තෝද ඊශ්‍රායෙල් පුත්‍රයන්
ගෙන් ශාන්ති උපදවන මුදල ගෙන

තොපගේ ප්‍රාණවල් උදෙසා ශාන්තියක්
කිරීමට යෙහෝවාවහන්සේ ඉදිරියෙහි
ඊශ්‍රායෙල් පුත්‍රයන්ට සිහිවීමක් වෙන පි
නිස ඒ මුදල සභාමණ්ඩපයෙහි මෙහෙයට
නියමකරවයි වදාළසේක.

17 තවද යෙහෝවාවහන්සේ මෝසෙස්
18 හට වදාරණසේක් සේදීම පිණිස පිත්ත
ලෙන් භාජනයක් සාදව. එහි කකුල්ද
පිත්තලෙන් සාදව. ඒක සභාමණ්ඩපයටද
පූජාසනයටද අතරෙහි තබා එහි පැන්
19 වක්කරව. එහිදී ආරොන් සහ ඔහුගේ පු
ත්‍රයෝ තමන්ගේ අත් පා සෝදන්නෝ
20 ය. ඔවුන් සභාමණ්ඩපයට යනකල්හි ඔවුන්
නොනස්නා පිණිස වතුරෙන් සෝදනවා
ඇත. ඔවුන් යෙහෝවාවහන්සේට ගින්
නෙන් කරණලද පූජාව දවන පිණිස මෙ
21 හෙයට පූජාසනය ළඟට එනකල්හි ඔ
වුන් නොනසින පිණිස තමන්ගේ අත්
පා සෝදනවා ඇත. ඒක ඔහුටද ඔහුගේ
වංශයටද ඔවුන්ගේ මුළු පරම්පරාවල ස
දාකාල පනතකැයි වදාළසේක.

22 තවද යෙහෝවාවහන්සේ මෝසෙස්
23 හට වදාරණසේක් පවිත්‍ර ගන්ධරසයෙන්
ෂෙකෙල් පන්සියයක්ද මිහිරි කුරුඳුව
ලින් ෂෙකෙල් දෙසිය පනසක්ද සුවඳ ව
24 දකසා ෂෙකෙල් දෙසිය පනසක්ද පවිත්‍ර
ස්ථානයෙහි ෂෙකෙල් ලෙස කලිස්පතු
රු ෂෙකෙල් පන්සියයක්ද ඔලීව තෙ
ලින් හිනක්ද යන ප්‍රධාන සුවඳ ද්‍රව්‍ය ගෙ
25 න ඒක සුබවූ ආලේපනය පිණිස වෛද්‍ය
ශාස්ත්‍රය ලෙස යෙදූ තෙලක් කරව. ඒක
26 සුබ ආලේප තෙලක් වන්නේය. එයින්
27 සභාමණ්ඩපයද සාක්ෂිපෙට්ටියද මේසය ස
හ එහි සියළු භාජනද පහන් රුකක් සහ
එහි සියළු භාජනද දුම් කබලද දවන පූ
28 ජාසනය සහ එහි සියළු භාජනද සෝද
න භාජන සහ එහි කකුල්ද ආලේපකො
29 ට ඒවා ඉතා සුබවෙන පිණිස පවිත්‍රකරව.
එහි වදින කොයි දෙයක් වුවත් සුබවන්
30 නේය. ආරොන් සහ ඔහුගේ පුත්‍රයන් පූ
ජක තනතුරෙහි මට මෙහෙකරණ පිණි
31 ස ආලේපකොට පවිත්‍රකරව. තෝ ඊශ්‍රා
යෙල් දරුවන්ට කථාකොට මේක තො
පගේ සියළු පරම්පරාවල මට සුබ ආලේප
32 තෙලක් වෙයි. මනුෂ්‍ය ශරීරය පිට ඒක
වක්කරනු නොලැබේ එහි යෙදීම ලෙස
එයට සමාන කිසිවක් නොසාදව්. ඒක
33 සුබය ඒක තොපට සුබවන්නේය. ඒට
සමාන කිසිවෙක් යොදන්නෙක් සහ
අන් කෙනෙක් පිට එයින් තිබන්නෙක්
ද තමන් ජනයන් කෙරෙන් පහකරනු
ලබනෙන්යයි කියවයි වදාළසේක.

34 යෙහෝවාවහන්සේ මෝසෙස්ට වදා
රණසේක් මිහිරි සුවඳ දේ ඒනම් සතක්
දිද ඔනිබාද ගල්බානුම්ද යන සුගන්ධ ද්‍ර
ව්‍යයන් සමග පවිත්‍ර තුවරලාද එකිනෙ
35 ක සමබරට ගෙන වෛද්‍යශාස්ත්‍රය ලෙස
36 සුබ පිරිසිදු සුවඳක් කරව. ඉන් මදක් සු
නුකොට එයින් සභාමණ්ඩපයෙහි සාක්ෂිය
ඉදිරියෙහි මා තට සම්භවෙන තැන ද
මව. ඒක තොපට ඉතා සුබවන්නේය.
37 තෝ සාදන සුවඳ එහි යෙදීම ලෙස තො
පට නොසාදව්. ඒක තොපට යෙහෝ
38 වාවහන්සේ උදෙසා සුබවන්නේය. ඉඹි
න පිණිස ඒට සමාන සුවඳක් සාදන කව
රෙක් වුවත් තමන් ජනයන් කෙරෙන්
පහකරනු ලබනෙන්මයයි වදාළසේක.

31. පරිච්ඡෙ. යෙහෝවාවහන්සේ
2 මෝසෙස්හට වදාරණසේක් යූදාගේ
ගෝත්‍රයෙහිවූ හූර්ගේ පුත් උරීගේ පුත්‍ර
3 වූ බෙසලීල් සියුම් කර්මාන්ත උපදවන
පිණිසද රන් රිදී පිත්තලවලින්ද ගල් ක
4 පා තැබීමෙන් හා දඬු කැටයම් කිරීමෙ
න්ද සිල්පයෙහි සියළු ආකාර කර්මාන්ත
5 කරණ පිණිසද නමින් කැඳවූයෙමි. ඔහු
සිල්පයෙහි සියළු ආකාර කර්මාන්ත කා
රණ පිණිස දේවාත්මයෙන්ද නුවණින්ද වැ
ටහීමෙන්ද දැනීමෙන්ද පූර්ණකෙළෙමි.
6 දන්ගේ ගෝත්‍රයෙහි අහිසාමක්ගේ පු
ත්‍රවූ අහොලියබ් ඔහු සමග දුනෙනමි. ම
ම තට අනකල සියළු දෙය සාදන පිණි
ස නුවණ ඇති සියල්ලන්ගේ හෘදවල ප්‍ර
7 ඥාව තැබීමි. සභාමණ්ඩපයද සාක්ෂි පෙට්
ටියද ඊපිට කරුණාසනයද මඩපයට බ
8 නෑවූ සියල්ලද මේසය සහ එහි භාජන
ද පවිත්‍රවූ පහන් රුක සහ එහි සියළු
9 භාජනද දුම් කබලද දවන පූජාසනය ස
හ එහි සියළු භාජනද සෝදන භාජන
10 සහ එහි කකුල්ද මෙහෙකිරීමෙහි සළුද
පූජක තනතුරෙහි මෙහෙකිරීමට පූජ
කවූ ආරොන්ට සුබ වස්ත්‍රද ඔහුගේ පුත්‍ර
11 යන්ගේ වස්ත්‍රද ආලේප තෙලද පවිත්‍ර
ස්ථානයට සුවඳ දේද යන මේ සියල්ල
මා විසින් තට අනකල ලෙස ඔවුන් ක
රණවා ඇතැයි වදාළසේක.

12 යෙහෝවාවහන්සේ මෝසෙස්හට ව
13 දාරණසේක් තෝ ඊශ්‍රායෙල් දරුවන්ට

කථාකොට මාගේ සබත් රක්‍ෂාකරව් තොප පවිත්‍රකරන්නාවූ යෙහෝවඃව හන්සේ මමයයි තොපට දැනෙන පිනිස ඒක තොප සහ මා අතරෙහි තොපගේ
14 පරම්පරාවල් දක්වා ලකුනක්ය. එබැවින් තොපි සබත් රක්‍ෂාකරණවා ඇත ඒක තොපට සුබවේ ඒක කඩකරණ සියල්ලෝ සැබවින්ම මරනු ලබනවා ඇත. ඒ සබත් දවසෙහි කර්මාන්තයක් කරණ කවරෙක් නුමුත් තමන් ජනයන්
15 කෙරෙන් පහකරනු ලබනෙන්ය. සදවසක් කර්මාන්තකල හැක්කේය. සත්වෙනි දින යෙහෝවඃවහන්සේට සුබවූ නිවාඩුවූ සබත් දවසය ඒ දවසෙහි කර්මාන්තයක් කරණ කවරෙක් නුමුත් මරනු
16 ලබන්නේය. එබැවින් ඊශ්‍රායෙල් පුත්‍රයෝ තමන්ගේ පරම්පරාවල් දක්වා සබත් පවත්වන පිනිස සදාකාල ගිවිසුමක
17 ට ඒ සබත් රක්‍ෂාකරණවා ඇත. යෙහෝවඃවහන්සේ අහසත් පොලවත් සදවසින් මවා සත්වෙනි දා නැවතී නිවාඩුගත් බැවින් ඒක ඊශ්‍රායෙල් පුත්‍රයන් සහ මා අතරෙහි සදාකාල ලකුනක් වේ
18 යයි කියවයි වදාලසේක. උන්වහන්සේ සීනායි කන්ද පිටදී මෝසෙස් සමග කලකථාවේ කෙලවරදී දෙවියන්වහන්සේගේ ඇඟිල්ලෙන් ලියනලද ගල් ලෑලිවූ සාක්‍ෂියෙහි ලෑලි දෙක ඔහුට දුන්සේක.

32. පරිචෙඡ. ජනයෝ මෝසෙස් කන්දෙන් බසින්ට ප්‍රමාදවූ බව දැක ආරොන් ලඟට රැස්ව නැගිට අප පෙරටුව යන පිනිස දේවතාවන් අපට සාදපනන. මිසර දේසයෙන් අප ගෙනාවාවූ මෝසෙස් නම් පුරුෂයාට කුමක් වූයේදැයි නොද
2 න්නමුයයි කීවෝය. ආරොන් නුබලාගේ ස්ත්‍රීන්ගේද පුත්‍රයින්ගේද දූවරුන්ගේද කන්වල තිබෙන රන් කුඩලාභරණ ගලවා මා ලඟට ගෙනෙල්ලායයි කීයේය.
3 සියළු ජනයෝද තමන්ගේ කන්වල තිබුනු රන් කුඩලාභරණයන් බිඳ ආරොන්
4 ලඟට ගෙනාවෝය. ඔහු ඒවා ඔවුන් අතින් ගෙන වස්සෙක් වාත්තුකොට කටුවකින් කැටයම් කලේය. ඔවුන් අහෝ ඊශ්‍රායෙල් නුබලා මිසර දේසයෙන් ගෙනාවාවූ දේවතාවෝ මේයයි කීවෝය.
5 ආරොන්ද ඒ දැක ඒ ඉදිරියෙහි පූජාසනයක් ගොඩනගා සෙට දවස යෙහෝවඃවහන්සේට මඞ්ගල්‍යයක් පැවැත්විය යුතු
6 යයි කියමින් ප්‍රසිද්ධයක් කෙලේය. පසුවදා ජනයෝ වේලාසනින් නැගිට දවන පූජාවල් පූජාකොට සමාදාන පූජාවල් ගෙන හිඳ කා බී සෙල්ලමට නැගුට්ටුනෝය.
7 යෙහෝවඃවහන්සේද මෝසෙස්ට වදාරණසේක් බැස යව තෝ මිසරයෙන් ගෙනාවාවූ තාගේ ජනයෝ තමන්ම
8 නරක්කරගෙන මා විසින් අණකල මාර්ගයෙන් වහාම පහව ගොස් වාත්තු වස්සෙකු සාදා ඒකට වැඳ පූජාකරමින් අහෝ ඊශ්‍රායෙල් තා මිසර දේසයෙන් ගෙනාවාවූ දේවතාවෝ මේයයි කීවෝ
9 යයි කීසේක. යෙහෝවඃවහන්සේද මේ ජනයා දුටිමි ඔවුන් තද කුලල් ඇත්තාවූ
10 සමූහයක්ය. එබැවින් ඔවුන් විනාස කරණ ලෙස මාගේ ක්‍රෝධය ඔවුන්ට විරුඬව දිලිහෙන්ට අවකාස දෙව. තාගෙන් මහත් වර්ගයක් කරනෙනමියි
11 මෝසෙස්හට කීසේක. එවිට මෝසෙස් තමාගේ දෙවිවූ යෙහෝවඃවහන්සේට යාඥාකොට යෙහෝවඃවහන්ස මහත්වූ බලයෙන් හා සැක්තිමත්වූ අතින් මිසර දේසයෙන් ගෙනාවාවූ ඔබවහන්සේගේ ජනයන්ට විරුඬව ඔබවහන්සේගේ
12 ක්‍රෝධය දිලිහෙනෙන් මන්ද? කඳුවලදී ඔවුන් මරන්ටද පොලවෙන් ඔවුන් නාස්තිකරන්ටද නපුරට පත්කරන්ටද උන්වහන්සේ ඔවුන් පිටතට ගෙනාසේකැයි කියන ලෙස මිසරවරුන්ට අවකාස දෙනෙන් මක්නිසාද? ඔබවහන්සේගේ තද ක්‍රෝධයෙන් හැරී ඔබවහන්සේගේ ජනයන්ට විරුඬවූ මේ නපුරෙන් හැරු
13 නමැනව. ඔබවහන්සේගේ මෙහෙකරු ආබ්‍රහම්ද ඊසාක්ද ඊශ්‍රායෙල්ද සිහිකලමැනව. ඔබවහන්සේ තමන්වහන්සේ ගැනම ඔවුන්ට දිවුරමින් තොපගේ වංශය අහස් තාරකාවන් මෙන් බෝකොට මම කී සියළු දේසය ඔවුන්ට දෙනෙනමි ඔවුන් ඒ දේසය සදාකාලයටම උරුම වෙනෙනෝයයි ඔබවහන්සේ වද
14 ලසේකැයි කීයේය. යෙහෝවඃවහන්සේ තමන් ජනයන්ට කරන්ට සිතූ නපුරෙන් හැරුනුසේක.
15 මෝසෙස් හැරී කන්දෙන් බැස්සේය. සාක්‍ෂියෙහි ලෑලි දෙක ඔහුගේ අතෙහි තිබුනේය. ඒ ලෑලිවල දෙපැත්තෙහි ලියවී තිබුනේය. ඒවා එක පැත්තෙහිද
16 අනික් පැත්තෙහිද ලියවී තිබුනේය. ඒ ලෑලි දෙවියන්වහන්සේගේ කර්මාන්තය

වීය. ලෑලි පිට කොටනලද ඒ ලියවිම
17 දෙවියන්වහන්සේගේ ලියවිම විය. කෝ
ලාහල කරණ ජනයන්ගේ ශබ්දය යෝ
ෂුවා අසා කඳවුරෙහි යුධ ශබ්දයකැයි
18 මෝසෙස්හට කීයේය. ඔහු ඒ ශබ්දය
ජය පරාජයෙහි හඬක් නොවේය ගීති
කා කරන්නන්ගේ ශබ්දය අසමියි කි
19 යේය. ඔහු කඳවුරට ලන්වූ විට වස්සාද
නැටීමද දැක තමාගේ ක්‍රෝධය ඇවිල
කඳු පහළට අතින් ලෑලි හෙළා බින්
20 දේය. ඔවුන් සෑදූ වස්සාද ගෙන ගින්
නෙන් දවා සුනුකොට වතුර පිට ඉස ඊ
21 ස්‍රායෙල් දරුවන්ට පෙවිය. මෝසෙස්ද
ආරොන්ට කියනුයේ මේ ජනයන් කො
රෙහි මෙපමන මහත්වූ පාපයක් ගෙ
නෙන්ට ඔවුන් තුඹට කලේ කිමෙක්දැ
22 යි කීයේය. ආරොන්ද මාගේ ස්වාමිහුගේ
කෝපය නොඇවිලේවා ජනයන් නපු
රෙහි යෙදී සිටින බව තුඹ දනෙහිය.
23 ඔවුන් අප පෙරටුව යන පිනිස දේවතා
වුන් සාදව මිසර දේසයෙන් අප ගෙනා
වාවූ මෝසෙස්නම් මේ පුරුෂයාට පැමු
නුනේ කිමෙක්දැයි නොදනිමුයයි මට කි
24 වෝය. මම රන් ඇති කවරෙක්වත් ඒ
න බිඳිවයි ඔවුන්ට කීමි ඔවුන් ඒක මට
දුන්නෝය. මවද ඒක ගින්නෙහි හෙළිමි
මේ වස්සා පිටතට ආයේයැයි කීයේය.

25 ආරොන්ද සතුරන් අතරෙහි ජනයන්
ට ලැජ්ජාව පිනිස ඔවුන් නග්න කල
නිසා මෝසෙස් ජනයන් නග්නව සිටින
26 බව දැක කඳවුරෙහි දොරකඩ සිට යෙ
හෝවඃවහන්සේගේ පක්ෂට සිටිනෝ
කවරෙක්ද ඔහු මා වෙතට එවයි කී
යේය. එවිට ලෙවිගේ සියළු පුත්‍රයෝ ඔ
27 හු ලඟ රැස්වූවෝය. ඔහු ඊස්‍රායෙල්ගේ
දෙවිවූ යෙහෝවඃවහන්සේ මෙසේ ව
දරණසේක. සියල්ලෝ කඩු බැඳ කඳවු
ර මුළුල්ලෙහි දොරක් දොරක් පාසා
ගොස් තමතමාගේ සහෝදරයන්ද සහා
යකාරයන්ද අසල්වාසීන්ද මරාදමව්යයි ඔ
28 වුන්ට කීය. ලෙවිගේ දරුවෝද මෝ
සෙස් කී ලෙස කලෝය. මේ දවසෙහි
යෙහෝවඃවහන්සේගෙන් ආශීර්වාදයක්
ලබන පිනිස එකිනෙකා තමන් පුත්‍රයා
කෙරෙහිද සහෝදරයා කෙරෙහිද මේ
දවසෙහි උන්වහන්සේට පවිත්‍ර කරව්යයි
29 මෝසෙස් කී හෙයින් ඒ දවසෙහිම ජන
යන්ගෙන් තුන්දහසක් පමන වැටුනෝ
30 ය. පසුව දා මෝසෙස් තුඹලා මහත්වූ
පාපයක් කලෝය. මමද යෙහෝවඃව
හන්සේ වෙතට දැන් යන්නෙමි සමහර
විට මම තුඹලාගේ පාපයට ශාන්තියක්
31 කරන්නෙමියි ජනයන්ට කියා යෙහෝ
වඃවහන්සේ වෙතට හැරී ගොස් අහෝ
මේ ජනයෝ මහත්වූ පාපයක් කොට
32 රනින් දේවතාවුන් සාදාගත්තෝය. එ
සේ නුමුත් ඔවුන්ගේ පාපය ක්ෂමාකල
මැනව නැතහොත් ඔබවහන්සේ ලිවූ
පොතෙන් මාගේ නාමය මැකුවමැනව.
33 එවිට යෙහෝවඃවහන්සේ මට විරුධව
පව්කල කවරෙක් නුමුත් ඔහු මාගේ
34 පොතෙන් මකන්නෙමි. එබැවින් ගොස්
මම තට කී තැනට ජනයන් ගෙන ය
ව. මාගේ දූතයා තට පෙරටුව යන්නේ
ය. එහෙත් මම විචාරණ දවසෙහි ඔ
වුන්ගේ පාපයට ඔවුන්ට ප්‍රතිඵල දෙන්
35 නෙමියි මෝසෙස්ට කීසේක. යෙහෝ
වඃවහන්සේද ආරොන් සෑදූ වස්සා ගැ
න ජනයන්ට පීඩාකලසේක.

33. පරිචේ. තවද යෙහෝවඃවහන්
සේ තෝද මිසර දේසයෙන් තා විසින්
ගෙනෙනලද ජනයෝද මෙයින් ගොස්
යම් දේසයක් තාගේ වංශයට දෙන්නෙ
මියි කියමින් ආබ්‍රහම්හටද ඊසාක්හටද
2 යාකොබ්හටද දිව්ලෙම්ද එහි යව්. මම
ද තට පෙරටුව දූතයෙක් යවා කනානි
වරුන්ද අමෝරිවරුන්ද හිතීවරුන්ද පෙරි
සිවරුන්ද හිව්වරුන්ද ජෙබුසිවරුන්ද දුරු
3 කරන්නෙමි. කිරෙන් හා මීයෙන් සම්පූ
ර්ණවූ දේසයකට යව්. තෝ තද කුල
ලක් ඇති ජනයෙක් බැවින් මගදී තා
විනාස නොකරණ පිනිස තා අතරෙහි
නොයන්නෙමියි කීසේක.

4 ජනයෝද මේ නපුරු ආරංචි අසා හ
ඬා තමන්ගේ ආභරණ පැලඳනොගත්
5 තෝය මක්නිසාද යෙහෝවඃවහන්සේ
මෝසෙස්ට වදාරණසේක් ඊස්‍රායෙල් පු
ත්‍රයන්ට මෙසේ කියව තෝ තද කුල
ලක් ඇති ජනයෙක එකෙනෙහිම තා
මැදට අවුත් තා විනාසකරන්නෙමි තට
කටයුතු දේ මා විසින් දැනගන්නා පිනි
ස දැන් තොපගේ ආභරණ තොප කෙ
6 රෙන් පහකරව්යයි වදාලසේක. ඊස්‍රා
යෙල් පුත්‍රයෝ හොරෙබ් කන්ද ලඟදී
තමන්ගේ ආභරණ ගලවා දැමූවෝය.
7 මෝසෙස් මඬපය ගෙන කඳවුරට පිට
දුරින් තබා එයට සභාමඬපයයි නම් තැ

බූයේය. යෙහෝවඃවහන්සේ සොයන
සියල්ලෝ කඳවුරෙන් පිට තිබෙන ස
8 හාමඬපය ලඟට ගියෝය. මෝසෙස් ම
ඬපයට ගිය කල සියළු ජනයෝ නැගිට
තමන්ගේ කූඩාරම් දොරකඩවල සිට
මෝසෙස් මඬපයට ඇතුල්වෙනතුරු ඔ
9 හු දෙස බලා සිටියෝය. මෝසෙස් මඬ
පයට ඇතුල්වූ කල්හි වලාකුල් කණුවක්
බැස මඬපයේ දොර ලඟ සිටියේය. යෙ
හෝවඃවහන්සේද මෝසෙස් සමග ක
10 ථාකලසේක. සියළු ජනයෝද මඬපයෙ
හි දොර ලඟ වලාකුල් කණුව තිබෙන
බව දැක නැගිට තමන්ගේ කූඩාරම්
11 දොරකඩ සිට වැන්දෝය. මනුෂ්‍යයෙක්
තමාගේ මිත්‍රයාට මූහුනට මූහුන ලා ක
ථාකරන්නාක්මෙන් යෙහෝවඃවහන්
සේ මෝසෙස්හට කථාකලසේක. ඔහු
කඳවුරට නැවත ආයේය. එහෙත් තමා
ගේ මෙහෙකරුවූ නූන්ගේ පුත්‍රවූ ජෝ
ෂුවානම් තරුණයා මඬපයෙන් නො
නික්මුනේය.

12 මෝසෙස් යෙහෝවඃවහන්සේට ක
ථාකොට ඔබවහන්සේ මෙ ජනයන් ගෙ
නෙවයි මට කී නුමුත් මා සමග එවන්
නේ කවරේදැයි මට නොදැන්වූසේක.
එසේ නුමුත් නාමයෙන් තා අඳුනම් මා
ගේ ඇස් හමුයෙහි තට කරුණාව ලැබූ
13 නේයයි කීසේක. එබැවින් මට ඔබගේ
ඇස් හමුයෙහි කරුණාව ලැබුනොත් ඒ
කරුණාව ලැබෙන පිනිසද මම ඔබ අඳු
නන පිනිසද මාර්ගය මට පෙන්නුව මැ
නව මේ සෙනග ඔබගේ ජනයෝයයි
සිහිකලමැනවයි යාඥාවෙමියි කීයේය.
14 උන්වහන්සේද මම තා සමග ගොස් තට
15 නිවාඩු දෙනෙනාමියි කීසේක. ඔහු ඔබ
වහන්සේම නොයනොත් මෙයින් අප
16 ගෙන නොගිය මැනව. මටත් ඔබගේ
ජනයන්ටත් ඔබගේ ඇස් හමුයෙහි ක
රුණාව ලැබුනු බව කොයින් දැනගනු
ලැබෙනේද? ඔබවහන්සේ අප සම
ග යාමෙන් නොවේද? මෙලෙස මමද
ඔබගේ ජනයෝද භූමියෙහි සියළු ජන
යන් කෙරෙන් වෙනවනු ලබමුයයි කීය.
17 යෙහෝවඃවහන්සේ තට මාගේ ඇස්
හමුයෙහි කරුණාව ලැබුනේය. නාම
යෙන් තා අඳුනන බැවින් තා කියන
මේ දෙයත් කරන්නෙමියි මෝසෙස්හට
18 කීසේක. ඔහුද ඔබගේ මහන්තත්වය
19 මට පෙන්නුව මැනවැයි කීය. උන්වහන්
සේද තා ඉදිරියට මාගේ සියළු යහපත්
කම එවනෙනාමි මමද යෙහෝවඃවහන්
සේගේ නාමය තා ඉදිරියෙහි ප්‍රකාස ක
රනෙනාමි මම කරුණා කරන්ට කැමති
තැනැත්තාට කරුණා කරනෙනාමි මම
දයාවෙන්ට කැමති තැනැත්තාට දයා
20 වෙනෙනාමියි කීසේක. උන්වහන්සේද
කිසිවෙක් මාගේ මූහුන දැක ජීවත්වෙන්
ට නොහැකි බැවින් මාගේ මූහුන දකින්
21 ට තට නුපුළුවනැයි කීසේක. යෙහෝ
වඃවහන්සේද මා ලඟ ස්ථානයක් තිබෙ
නේය. තෝ පර්වතය පිට සිටිනෙනහි
22 ය. මාගේ මහන්තත්වය තා වෙතට එ
නවිට මම පර්වත විවරයෙක්හි තා තබා
මා යනවිට මාගේ අතින් තා වසනෙනා
23 මි. පසුව මාගේ අත පහකොට ගනෙනා
මි තෝ මාගේ පිටිපස දක්නෙහිය. එ
හෙත් මාගේ මූහුන දකිනු නොලබන්
නේයයි කීසේක.

34. පරිච්ජ. තවද යෙහෝවඃවහන්
සේ මෝසෙස්ට වදාරණසේක් ප්‍රථම ගල්
ලෑලි ලෙස ගල් ලෑලි දෙකක් කපාග
නුව. මමද තා විසින් කැඩූ ප්‍රථම ගල්
ලෑල්ලේ තිබුනු සියළු වචන මේ ගල් ලෑ
2 ලිවල ලියනෙනාමි. අළුයම් වේලෙහි සෑ
දී සිටුව උදයෙහි සීනා කන්දට අවුත් කඳ
3 මූදුනේදී මා ඉදිරියෙහි පෙනෙව. තා ස
මග කිසිවෙක් උඩට නොඒවා කඳු මුළු
ල්ලෙහිම කිසිවෙක් නොපෙනේවා ඒ
කඳු ඉදිරිපිට ගවසිවුත් බැටළුවනුත්
ගොදුරු කවන්ට නොදෙවයි කීසේක.
4 මෝසෙස් ප්‍රථම ගල් ලෑලි ලෙස ගල් ලෑ
ලි දෙකක් කපා අති උදයෙහි නැගිට
යෙහෝවඃවහන්සේ තමාට අනඳුන් ලෙ
ස සීනා කන්ද උඩට ගොස් තමා අතින්
5 ගල් ලෑලි දෙකක් ගෙන ගියේය. යෙ
හෝවඃවහන්සේද වලාපටලයෙන් බැ
ස මෝසෙස් සමග එහි සිට යෙහෝවඃව
6 හන්සේගේ නාමය ප්‍රකාසකලසේක. ත
වද යෙහෝවඃවහන්සේ ඔහු ඉදිරිපිටින්
වඩිමින් යෙහෝවඃ දෙවිවූ දයාවන්තවූ
කරුණාවන්තවූ ඉවසිලි ඇත්තාවූ යහ
7 පත්කමෙන් හා සැබෑකමෙනු අධිකතර
වූ දහස් ගනනකට දයාවන්තවූ අධර්
මිෂ්ඨකමටද අපරාධයටද පාපයටද ක්ෂමා
වෙනනාවූ අපරාධීන් කොයි ප්‍රකාරයකි
නුත් නිර්දෝස නොකරනනාවූ තුන්වෙනි
සතරවෙනි පරම්පරාව දක්වා දරුමුනු

රන් කෙරෙහි පියවරුන්ගේ අපරාධයට
ප්‍රතිඵල දෙනතාවූ යෙහෝවඃවහන්සේ
8 යයි ඒ නාමය ප්‍රකාසකලසේක. මෝ
සෙස්ද ඉක්මන්කොට තමන් හිස බිමට
9 නමා වැඳ ස්වාමීන්වහන්ස ඔබවහන්සේ
ඉදිරියෙහි මට කරුණාව ලැබුනොත්
මේ ජනයන් තද කුලල් ඇති හුඹුත් මා
ගේ ස්වාමීන්වහන්සේ අප අතරට පැමින
අපේ අධර්මිෂ්ඨකම හා පාපයද ක්ෂමාවී ඔ
බගේ උරුමයක්කොට අප පිළිගතමැ
නවයි කීය.

10 උන්වහන්සේද මම ගිවිසුමක් කෙරෙ
මි. මුළු පොළවෙහිවත් කිසි වර්ගයක්
කෙරෙහිවත් කරනු නොලැබූ මවිතවල්
තාගේ සියළු ජනයන් ඉදිරියෙහි කරන්
නෙමි. මම තා සමග කරණ දේ භයාන
කවූ දෙයක් නිසා යම් ජනයන් අතරෙහි
තෝ සිටිනෙහිද ඒ සියල්ලෝම යෙ
හෝවඃවහන්සේගේ ක්‍රියාව දකිනෝ
11 ය. අද මා විසින් තට අනකරණ දෙය සි
තට ගනුව. අමෝරිවරුද කනානිවරු
ද හිත්තියවරුද පෙරිසියවරුද හිවියව
රුද ජෙබුසියවරුද තා ඉදිරියෙන් දු
12 රුකරනෙමි. තා අතරෙහි මලපතක්
වෙන ලෙස තෝ යන දේසයෙහි වැසි
යන් සමග ගිවිසුමක් නොකරණ පිනිස
13 ප්‍රවේසම්වව. තොපි ඔවුන්ගේ පූජසන
විනාසකරව් ඔවුන්ගේ රූපවල්ද බිඳිව්
14 දෛවත්‍ය වෘක්ෂද කපව්. දිලිහිමනම්වූ යෙ
හෝවඃවහන්සේ දිලිහෙනතාවූ දෙවි
කෙනෙක් බැවින් තෝ අන් කිසි දෙවි
කෙනෙකුටත් නමස්කාර නොකරව.
15 ඒ දේසයෙහි වැසියන් සමග ගිවිසුමක්
නොකරව එසේ කලහොත් ඔවුන් වෛ
ශ්‍යාකමෙන් ඔවුන්ගේ දේවතාවන්ට
මෙහෙකරමින් ඔවුන්ට යාග පූදනකො
ට තටද හඬගසා තෝද ඔවුන්ගේ යාග
16 යෙන් කනෙනහිය. තාගේ පුත්‍රයන්ට ඔ
වුන්ගේ දූවරුන්ගෙන් පාවානොගනු
ව. එසේ කලොත් ඔවුන්ගේ දූවරු වෛ
ශ්‍යාකමෙන් ඔවුන්ගේ දේවතාවන් පස්
සේ ගොස් තාගේ පුත්‍රයන් ඔවුන්ගේ
17 දේවතාවන් පසුයවනෙනෝය. තට වාත්
තුකරපු කිසි දෙවිවරුන් සාදා නො
ගනුව.

18 ඇඹුල් පිටි නුමුසු රොටි මගල්‍යය පවත්
වන්නෙහිය. අබිබ් මසෙහි තෝ මිසර
යෙන් ආ නිසා ඒ මාසයෙහි මා විසින් අන
දුන් ලෙස සත් දවසක් ඇඹුල් පිටි නුමුසු
19 රොටි කන්නෙහිය. කුළුඳුල් සියල්ලෝ
ද තාගේ සිව්පාවුන්ගේ සියළු කුළුඳුල්
20 ගොන් හා බැටළුවෝද මාගේය. එ
හෙත් කුළුඳුල් කොටළුවා බැටළු වස්[illegible]ස
කු දී මුදාගනෙනහිය. මුදාගන්ට නොක
මැත්තෙහිනම් උගේ බෙල්ල බිඳිනෙන
හිය. තාගේ පුත්‍රයන්ගෙන් සියළු කුළුඳු
ලන් මුදාගනුව. තවද කිසිවෙක් සිස් අ
21 තින් මා ඉදිරියෙහි නොපෙනේවා. සද
වසක් කර්මාන්තකොට සත්වෙනි දින
නිවාඩු ගනුව. සාන කාලයෙහිද ගො
යම් කපන කාලයෙහිද ඒ දින නිවාඩු ග
22 නුව. ගොයම් කපන කාලයෙහි ප්‍රථම ඵ
ල සතිවල මගල්‍යයද අවුරුද්දේ කෙලව
23 ර රැස්කරණ මගල්‍යයද පවත්වව. ඊස්‍රා
යෙල්ගේ දෙවිවූ යෙහෝවඃ දෙවියන්ව
හන්සේ ඉදිරියෙහි තොපගේ සියළු පිරි
මි අවුරුද්දකට තුන් වරක් පෙනෙන්
24 නෝය. මම තා ඉදිරියෙන් අන්‍ය ජාතීන්
දුරුකොට තාගේ සීමාවන් විසාලකරන්
නෙමි. තෝ අවුරුද්දකට තුන් වරක් තා
ගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ ඉදිරියෙ
හි පෙනෙන්ට යන කල්හි කිසිවෙක් තා
ගේ දේසයට ආලය නොකරනෝය.
25 තෝ ඇඹුල්පිටි සමග මාගේ යාග ලේ පූ
ජනොකරව. උපරිගමන මගල්‍යයෙහි
යාගය උදය දක්වා නොපවත්නේය.
26 තාගේ දේසයෙහි ප්‍රථම ඵලයෙන් තා
ගේ දෙවිවූ යෙහෝවඃවහන්සේගේ ගෙ
ට ගෙනෙනව. තෝ එළුපැටවෙකු මව්ගේ
කිරෙන් නොපිසවයි කීසේක.

27 යෙහෝවඃවහන්සේ මම තා සමගද
ඊස්‍රායෙල් සමගද මේ වචන ලෙස ගිවිසු
මක් කලෙමි එබැවින් මේ වචන ලියවයි
28 මෝසෙස්ට කීසේක. ඔහුද යෙහෝවඃ
වහන්සේ සමග සතලිස් දිනක් හා සත
ලිස් රාත්‍රියක් කෑම නොකා වතුර නො
බී එහි සිටියේය. උන්වහන්සේ ලෑලිවල
ගිවිසුමෙහි වචන ඒනම් ආඥා දසය ලි
වූසේක.

29 මෝසෙස් තමා අතින් සාක්ෂියෙහි ලෑ
ලි දෙක රැගෙන සීනා කන්දෙන් බැස්
සේය. දෙවියන්වහන්සේ ඔහු සමග කථා
කරද්දී ඔහුගේ මුහුණේ සම දීප්තිවූ බව
30 ඔහුට දැනුනේ නැත. ආරොන් සහ ඊස්‍රා
යෙල්ගේ සියළු දරුවෝද මෝසෙස් දුටු
කල ඔහුගේ මුහුණේ සම දීප්ති විය. ඔවු
හු ඔහු ළඟට එන්නට භයවූවෝය.
31 මෝසෙස් ඔවුන්ට අඬගැසූ කල ආරොන්

හා සභාවේ සියළු අධිපතිවරුද ඔහු ළඟ
ට හැරී ආවෝය. මෝසෙස්ද ඔවුන් සම
32 ග කථාකෙලේය. ඉන්පසු ඊශ්‍රායෙල්ගේ
සියළු දරුවෝ ළඟට ආවෝය ඔහු සීනා
කන්දේදී යෙහෝවඃවහන්සේ තමාට
33 කී සියල්ල ගැන ඔවුන්ට අන දී ඔවුන් ස
මග කථාකොට කෙලවර වෙනතුරු ත
මාගේ මුහුන වැස්මකින් වසාගත්තේය.
34 එහෙත් මෝසෙස් යෙහෝවඃවහන්සේ
සමග කථාකරණ පිනිස උන්වහන්සේ ඉ
දිරියට ගොස් පිටතට එනතුරු වැස්ම
හැර සිටියේය. පිටතට අවුත් ඔහුට අන
35 දුන් දේ ඊශ්‍රායෙල් පුත්‍රයන්ට කීයේය. ඊ
ශ්‍රායෙල් දරුවෝද මෝසෙස්ගේ මුහුන
බලා එහි සම දීප්තිවෙන බව දුටුවෝය.
මෝසෙස්ද දෙවියන්වහන්සේ සමග ක
ථාකරන්ට ඇතුල්වෙන තෙක් තමාගේ
මුහුන වැස්මකින් වසාගත්තේය.

35. පරිච්ඡ. මෝසෙස් ඊශ්‍රායෙල් පු
ත්‍රයන්ගේ මුළු සභාව රැස්කොට කියනු
යේ නුබලා විසින් කටයුතුවූ යෙහෝවඃ
2 වහන්සේ අනකල වචනනම් මේය. සද
වසක් කර්මාන්තකරනු ලැබේ එහෙත්
සත්වෙනි දින නුබලාට පවිත්‍ර දවසක්
ද යෙහෝවඃවහන්සේට නිවාඩුවෙහි ස
බත් දවසක්ද වන්නේය. ඒ දවසෙහි ක
ර්මාන්ත කරණ තැනැත්තේ මරනු ලබ
3 න්නේය. සබත් දවසෙහි නුබලාගේ සිය
ළු වාසස්ථානවල ගිනි නොදල්වල්ලාය
යි කීය.
4 මෝසෙස් ඊශ්‍රායෙල් දරුවන්ගේ මුළු
සභාවට කථාකරමින් යෙහෝවඃවහන්
5 සේ අනකල දේ මේය නුබලා අත
රෙන් යෙහෝවඃවහන්සේට පූජාවක්
ගනිල්ලාය. කැමති සිත් ඇත්තෝ යෙ
හෝවඃවහන්සේගේ පූජාවක් පිනිස ර
6 න් රිදීද පිත්තලද නිල්වන් දුඹුරුවන්
7 රතුවන් සිහින් රෙදිද එළු ලොම්ද රත්
8 පෙවූ බැටළු සම්ද නිල් සම්ද ෂිතිම් ලීද
එළිය පිනිස තෙල්ද ආලේප තෛලයට
සහ සුවඳ ධූමයට සුවඳ ද්‍රව්‍යද වෛඩූර්‍ය්‍යසී
9 ද ඒපොද් සහ උරසැදද මැනික්ද ගෙ
10 නේවා. නුබලා අතරෙහි ප්‍රඥ සිත් ඇති
සියල්ලෝ අවුත් යෙහෝවඃවහන්සේ අ
11 නකල සියළු දේ සාදන්නෝය. ඒනම් ම
12 ඩපයද එහි කූඩාරමද වැස්මද කොකුද
ලෑලිද අහුල්ද කනුද ආධාරද පෙට්ටිය
සහ එහි පොළුද කරුණාසනයද වැස්මෙ
13 හි තිරයද මේසය සහ එහි පොළුද සියළු
14 භාජනද ඉදිරිපිට පිදූ රොටිද එළිය පිනි
15 ස පහන් රුකද එහි භාජනද එහි ප්‍රදීප
සහ එළියට තෙල්ද දුම් පූජාසන සහ එ
හි පොළුද ආලේප තෙල්ද සුවඳ ද්‍රව්‍යය
ද මඩපයට ඇතුල්වීමේ දොරකඩට තිර
16 යද දවන පූජාසනය හා එහි පිත්තල
දැලද පොළුද සියළු භාජනද සෝදන
භාජන සහ එහි කකුල්ද මළුවේ තිර
17 හා එහි කනුද එහි විලිද මළුවේ දොරක
18 ඩට තිරයද මඩපයෙහි ඇනද මළුවේ
19 ඇනද ඒවාගේ ලනුද පවිත්‍ර ස්ථානයෙහි
මෙහෙකිරීමට වස්ත්‍ර සහ පූජක තනතු
රේ මෙහෙකිරීමට ආරොන්ට පවිත්‍ර ව
ස්ත්‍රද ඔහුගේ පුත්‍රයන්ට වස්ත්‍රදැයි කීය.
20 ඉන්පසු ඊශ්‍රායෙල් පුත්‍රවූ මුළු සභාව
මෝසෙස් ඉදිරියෙන් නික්ම ගියේය.
21 සිත් මනාපවූ ප්‍රසන්න සිත් ඇති සියල්
ලෝ අවුත් සියළු කර්මාන්ත පිනිසද පවි
ත්‍ර වස්ත්‍ර පිනිසද සභාමඩපයේ කර්මාන්ත
ය පිනිසද යෙහෝවඃවහන්සේට පූජාව
22 ගෙනාවෝය. කැමති සිත් ඇති පුරුෂ
යෝද ස්ත්‍රීහුද අවුත් වළළු හා කුඩලාභ
රණද මුදුද අභරණද සියළු රන් අභර
ණද ගෙනවුත් පූජාකර සියල්ලෝ රන්ම
යවූ පූජාවක් යෙහෝවඃවහන්සේට ක
23 ලෝය. තවද නිල් දුඹුරු රත් සිහින් රෙ
දි එළු ලොම් බැටළුවන්ගේ රත්පැහැ
සම් නිල් සම් යන මේ දේ ඇත්තෝ ගෙ
24 නාවෝය. රිදී හා පිත්තල පූජාවක් පූජා
කරණ සියල්ලෝ යෙහෝවඃවහන්සේට
පූජාව ගෙනාවෝය. කර්මාන්තකාරයා
ගේ කිසි වැඩකට ෂිතිම ලී ඇත්තෙක් ඒ
25 ගෙනායේය. ප්‍රඥ සිත් ඇති සියළු ස්ත්‍රීහු
තමන් අත්වලින් නුල් කැට ඔවුන් විසින්
කටිනලද දේ ඒනම් නිල් දුඹුරු රත් සි
26 හින් රෙදි ගෙනාවෝය. නුවනින් යො
මුකල සිත් ඇති සියළු ස්ත්‍රීහු එළු ලොම්
27 කැට්ටෝය. අධිපතියෝ ඒපොද්ටත් උ
28 රසැදටත් වෛඩූර්‍ය්‍යසීද බැඳීමට මැනික්ද
සුවඳ ද්‍රව්‍ය හා එළිය පිනිසත් ආලේප
තෙල් පිනිසත් සුවඳ දුම් පිනිසත් තෙල්
29 ගෙනාවෝය. ඊශ්‍රායෙල් පුත්‍රයන්ගෙන්
ගෙනෙන්ට තමන් සිත යොමුකල සිය
ළු ස්ත්‍රී පුරුෂයෝ යෙහෝවඃවහන්සේ
මෝසෙස් ලවා සාදන්ට අනකල සර්වකා
ර කර්මාන්තයට මනාපවූ පූජාවක් යෙ
හෝවඃවහන්සේ වෙතට ගෙනාවෝය.
30 මෝසෙස්ද ඊශ්‍රායෙල් පුත්‍රයන්ට කීය

නූගේ යෙහෝවාඃවහන්සේ යූදාගේ ගෝ
ත්‍රයෙන් හූර්ගේ පුත්‍රවූ උරිගේ පුත්‍ර බෙ
31 සලෙඃයෙල් නාමයෙන් කැඳවා රන් රිදී
පිත්තල කර්මාන්ත කරන්නටද බඳිනපි
32 නිස මැණික් ගානනටද ලී කැටයන්කර
සව්‍යාකාර සියුම් කර්මාන්ත කරන්ටද විසි
තුරු කර්මාන්ත උපදවන්ටද සව්‍යාකාර
33 කර්මාන්ත සිල්පයෙන් හා නුවනින් බුඬි
යෙන් වැටහුමෙන් දේවාත්මයෙන් ඔහු
34 සම්පූර්ණකොට ඔහුටද දන්ගේ ගෝත්‍ර
යෙන් අහිසාමාඃගේ පුත්‍රවූ අහෝලියබ්ට
35 උගන්වන්ට සිත් දුන්සේක. කැටයන්
කරනනාගේද සියුම් වැඩ කරනනාගේ
ද නිලෙන් දුඹුරෙන් රතෙන් සිහින් රෙ
දි ගොතනනාගේද රෙදි වියනනාගේද
කොයි කර්මාන්තයක්වත් කරනනාගේ
ද සියුම් කර්මාන්ත උපදවනනාගේද ස
ව්‍යාකාර කර්මාන්ත කරනනට ඔවුන්ගේ
සිත් ඥානයෙන් පූර්ණකලසේක.

36. පරිච්ඡෙ. එවිට යෙහෝවාඃවහන්
සේ විසින් පවිත්‍ර ස්ථානයෙහි මෙහෙවර
පිනිස සව්‍යාකාර කර්මාන්ත දැනගඬ දෙ
නලද ප්‍රඥාව හා වැටහීම ඇති බෙසලෙ
යෙල් හා අහොලියබ්ද ඥාන සිත් ඇති
සියළු මනුෂ්‍යයෝද යෙහෝවාඃවහන්සේ
2 අනඳුන් සියළු දේ කලෝය. මෝසෙස්ද
බෙසලෙයෙල් හා අහොලියබ්ද යෙ
හෝවාඃවහන්සේ විසින් හෘදයෙහි තබන
ලද ප්‍රඥාව ඇති ඥාන සිත් ඇති සියළුම
නුෂ්‍යයන් එනම් ඒ කර්මාන්තය කරණ
පිනිස එළඹෙන්ට කැමති සිත් ඇති සිය
3 ල්ලන් කැඳවූයේය. ඔවුහුද ඉශ්‍රායෙල්පු
ත්‍රයන් විසින් පවිත්‍ර ස්ථානයෙහි මෙහෙව
ර කර්මාන්ත කිරීමට ගෙනාවාවූ සියළු පූ
ජාවල් මෝසෙස්ගෙන් අරගත්තෝය.
ජනයෝද තවත් සියළු උදයකාලවල ත
මතමන් මනාපවූ පූජාවල් ඔහුට ගෙනා
4 වෝය. පවිත්‍ර ස්ථානයෙහි සියළු කර්මාන්
ත කලාවූ සියළු ප්‍රඥාවන්තයෝ තමන්
5 කල කර්මාන්ත හැර මෝසෙස්ට කියන්
නෝ යෙහෝවාඃවහන්සේ කරන්ට අණ
කල කර්මාන්ත මෙහෙවරට සෑහෙන ප
මනට වඩා ජනයෝ ගෙනෙන්නෝයයි
6 කිවෝය. මෝසෙස්ද අනඳුනෙන්ය. ඔ
වුහුද කඳවූර මුළුල්ලෙහි කිසි පුරුෂ
යෙක්වත් ස්ත්‍රියෙක්වත් පවිත්‍ර ස්ථානයට
පූජාකරණ පිනිස තවත් කිසි කර්මාන්ත
යක් නොකෙරේවයි කියා ප්‍රසිඬකලෝ
ය. මෙලෙස ජනයෝ තවත් කිසිවක්
ගෙන ඊමෙන් වලක්වනු ලැබුවෝය.
7 ඔවුන්ට තිබුනු ද්‍රව්‍ය සියළු කර්මාන්ත
කිරීමට සෑහී වැඩිව තිබුණේය.
8 එවිට මඬපයෙහි කර්මාන්ත කලවුන්
අතරෙහි ඥාන සිත් ඇති සියල්ලෝ ඇඹ
රූ සිහින් නූලින් නිල්වන් දම්වන් රත්
වන් තිර දසයක් සෑදුවෝය. සියුම් ක
ර්මාන්තයෙන් සාදනලද කෙරුබිම් සහි
9 තව ඔහු ඒවා සෑදුයේය. එක් තිරයෙක
දිග විසිඅට රියනක්ය එහි පුළුලද සතර
10 රියනක. සියළු තිර ඒකාකාර මහත්ය.
ඔහුද තිර පසක් එකිනෙකට ඈඳා අ
නික් තිර පසද එකිනෙකට ඈඳා එක් ති
11 රයෙක්හි සන්ධියෙහි නිල්වන්වූ පාස
සෑදුයේය. දෙවෙනි තිරයෙහි සන්ධියෙ
හිද එසේම කොට එක් තිරයෙක්හි පා
12 ස පනසක් සාදා එකතුව තිබුනු දෙවෙ
නි තිර සන්ධියෙහිද පාස පනසක් සාදා
ඒ පාසවලින් එක තිරයක් අනික් තිරය
කට බඳනාලදුව මුදු පනසක් රනින් සා
13 දා තිරය එකිනෙකට බැන්දේය. මෙසේ
ඒ සියල්ල එක මඬපයක් විය.
14 මඬපය වසන පිනිස එළු ලොමින් ති
ර සාදා තිර එකොලොසක් එයින් සෑදු
15 යේය. තිරයෙක්හි දිග තිස් රියනක පු
ළුල සතර රියනක තිර එකොලසම ඒ
16 කාකාර මහත ඇතිවිය. ඔහුද තිර පසක්
17 එකට ඈඳා තිර සයක් එකට ඈඳා තිර
සන්ධියෙහිම අන්තිම වාටියෙහි පාස ප
නසක් සාදා දෙවෙනි සන්ධි වාටියෙහි
18 පාස පනසක්ද සාදා ඒක එක මඬපයක්
වෙනපිනිසද ඒක එකතුකරන පිනිසද
ගන්ටින් පනසක් පිත්තලෙන් සෑදුයේ
19 ය. රත් පෙවූ බැටළුසමින් මඬපයට වැස්
මක්ද ඊපිටට නිල් සමින් වැස්මක්ද සෑ
20 දුයේය. මඬපයට කෙලින් තිබෙනනාවූ
21 සීතිම් ලීවලින් පුවරුද සෑදුයේය. පුවරු
වක දිග දසරියනක පුළුල එක්රියන් ස
22 මාරක. පුවරුවකට එකින් එකට ඒකා
කාර දුරින් කුඩ්ඩි දෙකක් තිබුණේය. ඔ
හු මෙලෙස මඬපයෙහි සියළු පුවරුවල
23 ට සෑදුයේය ඔහු මඬපයට පුවරුද දකු
ණු දිගෙහි දකුණු පැත්තට පුවරු විස්සක්
ද පුවරු විස්සට රිදීයෙන් සිදුරු සතලි
සක්ද පුවරුවක යට කුඩ්ඩි දෙකකට සි
24 දුරු දෙකක්ද අනික් පුවරුවකට යට කු
ඩ්ඩි දෙකකට සිදුරු දෙකක්ද උතුරු දි
25 ගට මඬපයෙහි අනික් පැත්තට පුවරු

26 විස්සක්ද එහි රිදීයෙන් සිදුරු සතලිසක්
ඒ නම් පුවරුවක යට සිදුරු දෙකක්ද. අ
නික් පුවරුවක් යට සිදුරු දෙකක්ද බැ
27 ගින් සාදා පස්චිම දිග මඩපයෙහි පැතිව
ලට පුවරු දසයක්ද මඩපයාගේ දෙපැ
28 ත්තෙහි කොන්වලට පුවරු දෙකක්ද
29 සෑදුයේය. ඒවා එකට එක්කරණ ලද්
දේවිය. දෙකොනෙහි යටින් එක්කොට
එක වලල්ලකට එහි මුදුන පුවරු දෙකක
30 ට එසේ කෙලේය. පුවරු අටක්ද එහි සි
දුරු ඒනම් පුවරුවක් යට සිදුරු දෙකක්
බැගින් රිදීයෙන් සිදුරු දහසයක් විය.
31 ඔහු මඩපයෙහි එක් පැත්තකට පුවරු
පහක් බැගින් ෂිතිම් ලීවලින් අගුල්
32 පොළුද මඩපයෙහි අනික් පැත්තේ පුව
රුවලට අගුල් පොළු පසක්ද පශ්චිම දිග්
හි මඩපයෙහි පුවරුවලට අගුල්පොළු ප
33 සක්ද සෑදුයේය. මැද අගුල්පොල්ල එක
ක කෙලවර පටන් අනික දක්වා පුවරු
34 විනිවිද යන පිනිස සෑදුයේය. ඔහු පුව
රුද අගුල්පොළුද රනින් වසා අගුල්පො
ළු තබන පිනිස එහි වලළුද රනින් සෑදු
35 යේය. ඔහු නිල්වන් දම්වන් රත්වන් අ
ඹරණලද සිහින් හුලින් තිරයක් සාදා
කෙරුබිම් සමග විචිත්‍ර කර්මාන්තයෙන්
36 සෑදුයේය. ඔහු ඒ තිරයට ෂිතිම් ලීව
ලින් කනු සතරක් සාදා ඒවා රනින් වැ
හුයේය එහි කොකු රනින් වූයේය. ඔහු
ඒ කනුවලට රිදීයෙන් විලි සතරක් වාත්
37 තුකෙලේය. ඔහු මඩප දොරකඩට නිල්
වන් දම්වන් රත්වන් අඹරණලද සිහින්
හුලින් සුචි කර්මාන්තයෙන් එල්ලන ති
38 රයක්ද එහි කනු පසක්ද එහි කොකුද
සාදා එහි ජේකඩද පටිද රනින් වැහුයේ
ය. එහි විලි පසක්ද පිත්තලෙන් වූයේය.

37. පරිච්ඡේ. බෙසලෙයෙල් ෂිතිම්
දඬුවලින් දිග දෙරියන් සමාරක්ද පලල
එක්රියන් සමාරක්ද උස එක්රියන් ස
මාරක්ද ඇති ගිවිසුම් පෙට්ටියක් සාදා
2 ඒක ඇතුල පිට පවිත්‍ර රනින් වසා හාත්
3 පසට රන් ඔටුන්නක් සාදා එහි සතර
කොනට එක පැත්තකට වළළු දෙකක්
ද අනික් පැත්තට වළළු දෙකක්ද බැ
ගින් ඒකට රනින් වළළු සතරක් සෑදු
4 යේය. ෂිතිම් දඬුවලින් පොළු සාදා ඒවා
5 රනින් වසා ඒ පොළු පෙට්ටිය උසුලන
පිනිස එහි පැතිවල වළළුවලට දැමූයේ
6 ය. ඔහුද දිග දෙරියන් සමාරක්ද පලල
එක්රියන් සමාරක්ද ඇති කරුණාසන
7 ය සෑදුයේය. ඔහු කරුණාසනයෙහි දෙ
කෙලවරට පවිත්‍ර රනින් කෙරුබිම් රූ
ප දෙකක් සාදා ඒවා එක කැබෙල්ල
8 කින් තලා සාදා කරුණාසනයෙහි මේ
පැත්තේ කෙලවරට එක කෙරුබ් රූ
පයක්ද ඒ පැත්තේ කෙලවරට අනික්
කෙරුබ් රූපයක්ද බැගින් කරුණාසන
යෙහි දෙකෙලවරට කෙරුබ් රූප සෑ
9 දුයේය. කෙරුබිම්ද තමන්ගේ පියාපත්
උඩට විදහා පියාපත්වලින් කරුණාසන
ය වසා ඔවුනොවුන් මුහුනට මුහුන ලා
කෙරුබිම්ගේ මුහුන කරුණාසනය දෙ
ස බලා තිබුනේය.
10 ඔහු ෂිතිම් ලීවලින් දිග දෙරියනක්ද
පලල රියනක්ද උස එක්රියන් සමාරක්
ද ඇති මේසය සාදා ඒක පවිත්‍ර රනින්
11 වසා එහි හාත්පසට රන් ඔටුනක් සා
දා එහි හාත්පසට වියතක් පලල ගැවි
12 යක්ද කොට එහි හාත්පස ගැවියට රන්
13 ඔටුන්නක් සාදා ඒකට රන් වළළු සත
රක්ද කොට එහි අඩි සතරෙහි කොන්
14 සතරට ඒ වළළු දැමූයේය. ඒ වළළු ගැ
විය ඉදිරිපිට මේසය උසුලන පිනිස පො
15 ළු දමන තැන්වල තිබුනේය. මේසය උ
සුලන පිනිස ෂිතිම් ලීවලින් පොළු සා
16 දා ඒවා රනින් වැහුයේය. මේසය පිට
තබන භාජනද එහි තැටිද හැඳිද කො
රස්ද ඒවා වසන පියනද පවිත්‍ර රනින් සෑ
17 දුයේය. පවිත්‍ර රනින් පහන් රුක සාදා
ඒක තලන කර්මාන්තයෙන් සෑදුයේය.
එහි කඳද අත්තද තැටිද ගෙඩිද මල්ද
18 එසේම විය. එහි පැතිවලින් අතු සයක්
පහන් රුකේ එක පැත්තකින් අතු තු
නක්ය. පහන් රුකේ අනික් පැත්තෙන්
19 අතු තුනක්ය. එක අත්තකට කොට්ටං
බා එල වැනි තැටි තුනක්ද ගෙඩියක්ද
මලක්ද සාදා අනික් අත්තටද කොට්ටං
බා එල වැනි තැටි තුනක්ද ගෙඩියක්
ද මලක්ද සෑදුයේය. පහන් රුකෙන්
20 නික්මුන අතු සයටම මෙසේ විය. පහන්
රුකේ කොට්ටංබා වැනි තැටි සතරක්ද
21 එහි ගෙඩිද මල්ද විය. එයින් නික්මුන
අතු සය එසේ අතු දෙකකට යට ගෙඩි
යක්ද එයින්මය අතු දෙකකට යට ගෙ
ඩියක් එයින්මය අතු දෙකකට යට ගෙ
22 ඩියක් එයින්මය. එහි ගෙඩිද අතුද එ
යින්ම විය. ඒ සියල්ල පවිත්‍ර රනින් ත
23 ලන කර්මාන්තයෙන් වූයේය. ඔහු එහි

පහන් සනද කතුරුද කතුරු තැටිද ප
24 විත්‍ර රනින් සෑදුවේය. පහන් රුක සහ
එහි සියළු භාජන පවිත්‍රවූ රන් තලෙන්
තයකින් සෑදුවේය.

25 ඔහු ෂිතිම් දඬුවලින් දිග රියනක්ද
පලල රියනක්ද ඇති දුම් පූජාසනය සෑ
26 දුවේය. ඒක සතරැස් විය. එහි උස දෙ
රියනක එහි අං එසිත්ම විය. එහි මුදුන
ද හාත්පස පැතිද එහි අංද පවිත්‍ර රනින්
වසා හාත්පසට රන් ඔටුනනක් සෑදුවේ
27 ය. ඒක ඉසිලීමට පොළු දමන පිණිස එහි
දෙපැත්තේ දෙකොනේ යටින් ඔටුන්
28 නට රන් වලළු දෙකක් සෑදුවේය. ෂි
තිම් ලීවලින් පොළුද සාදා ඒවා රනින්
29 වැසුවේය. වෛද්‍යශාස්ත්‍රය ලෙස පිරිසිදු
ආලේප තෙලද මිහිරි සුවඳ ද්‍රව්‍යයෙන්
පවිත්‍ර ධූමයද සෑදුවේය.

38. පරිචෙ. ඔහු ෂිතිම් ලීවලින් දි
ග පස්රියනක්ද පලල පස්රියනක්ද උ
ස තුන් රියනක්ද ඇති සතරැස්වූ දව
2 න පූජාසනය සාදා එහි සතර කොනට
අං සතරක්ද සෑදුවේය. එහි අං එසිත්ම
3 ය. ඒක පිත්තලෙන් වසා පූජාසනයෙහි
සියළු භාජන ඒනම් සැලවල්ද ගිනි ක
බල්ද තලිද මස් කොකුද අඟුරු හැඳිද
එහි සියළු භාජන පිත්තලෙන් සෑදුවේ
4 ය. ඔහු පූජාසනයට එහි යට පැත්තෙහි
මැද දක්වා දැල්කම්කල පිත්තල මැස්
5 සක්ද සාදා ඒ පිත්තල මැස්සේ සතර
කොනට පොළු තබන පිණිස වලළු සත
රක් වාත්තුකොට ෂිතිම් ලීවලින් පොළු
6 ද සාදා ඒවා පිත්තලෙන් වසා ඒ පොළු
7 පූජාසනය උසුලන පිණිස එහි පැතිවල
වලළුවල දමා පූජාසනය ලෑලිවලින් ඇ
8 තුල සිදුරු ඇතුව සෑදුවේය. ඔහු සභා
මඬප දොරකඩ ලඟ රැස්වෙන ස්ත්‍රීන්ගේ
කැඩපත්වල පිත්තලෙන් සෝදන භාජ
නයද එහි අඩියද සෑදිය. ඔහු මළුව සෑ
9 දුවේය. එහි දකුණු පැත්තේ දකුණු දිසා
වට අඹරා වියනලද සිහින් වස්ත්‍රයෙන් සි
10 යක් රියන් එල්ලෙන තිර වූයේය. එහි
කනු විස්සක ඒ කනුවල පිත්තල විලි විස්
සක කනුවල කොකු සහ බැම්ද රිදි
11 යෙන් විය. උතුරු දිසාවට සියක් රියන්
දිග එල්ලෙන තිර වූයේය. එහි කනු විස්
සක පිත්තල විලි විස්සක කනුවල කො
12 කු සහ බැම්ද රිදියෙන් විය. බස්නාහිර
දිසාවටද පනස් රියන් එල්ලෙන තිර වූ
යේය. එහි කනු දසයක කනු විලිද දස
යක කනුවල කොකු සහ බැම් රිදියෙන්
13 විය. පූර්ව දිගින් පූර්ව දිසාවටද පනස් රි
14 යන්ය. දොරටුවෙහි එක පැත්තේ තිර
15 පසළොස් රියන්ය. එහි කනු තුනක්ය
විලි තුනක්ය. මළු දොරටුවෙහි අනික්
පැත්තටද මේ අතින් ඒ අතින් පස
ළොස් රියන් එල්ලෙන තිර වූයේය. එහි
16 කනු තුනක්ය කනු විලි තුනක්ය. මළු
වෙහි වටකර සියළු තිර අඹරා වියනලද
17 සිහින් වස්ත්‍රයෙන් විය. කනුවල විලිද පි
ත්තලෙන් විය කනුවල කොකු සහ බැම්
ද ජේකඩ වැස්මද රිදියෙන් විය. මළුවෙ
18 හි සියළු කනුද රිදියෙන් බඳිනලද්දේය.
මළු දොරටුවට නිල් අඳුන්වන් රත්වූ අඹ
රා වියනලද සිහින් වස්ත්‍රයෙන් විසි රියන්
දික්වූ පලලෙන් පස්රියන් උස්වූ ගෙත්
තම් කලාවූ මළුවෙහි තිරවලට සුදුසු එ
19 ල්ලෙන තිරයක් විය. එහි කනුද සතරක්
ය පිත්තලින් විලිද සතරක්ය. එහි කො
කුද රිදියෙන් විය කනුවල ජේකඩ වැස්
20 මද කනු බැම්ද රිදියෙන් විය. මඬපයෙහි
සහ මළුව වටකර සියළු ඇන පිත්තලින්
21 විය. පූජකවූ ආරොන්ගේ පුත්වූ ඉතාමර්
අතින් ලෙවීන්ගේ මෙහෙය පිණිස මෝ
සෙස්ගේ ආඥාව ලෙස ගනන්ගත් සාක්ෂි
22 මඬපයෙහි ගනන මේය. යූදාගේ ගෝ
ත්‍රයෙහිවූ හූර්ගේ පුත් උරීගේ පුත්‍රවූ බෙ
සලෙයෙල්ද යෙහෝවාවහන්සේ මෝ
23 සෙස්ට අනකල සියල්ල සෑදුවේය. දන්
ගේ ගෝත්‍රයෙහි අහිසාමක්ගේ පුත්‍රවූ
කැටයම් කරන්නාක්ද සිතුම් කර්මාන්ත
දන්නාක්ද නිලෙන් අඳුනවන් පැයෙන්
රතෙන් සිහින් වස්ත්‍රයෙන් වතාම් කර
න්නාක්දවූ අහොලියබ් බෙසලෙයෙල් ස
24 මග සිටියේය. පවිත්‍ර ස්ථානයෙහි සියළු
කර්මාන්තවල වැඩට වියදම්වූ පූජාකල
රන් සියල්ල තලෙන්ත එකුන් තිසක් හා
පවිත්‍ර ස්ථානයෙහි ෂෙකෙල් ගනනින්
25 ෂෙකෙල් හත්සිය තිහක් විය. ගනන්ක
ල සමූහයාගෙන් ගත් රිදීද තලෙන්ත සි
යයක් හා පවිත්‍ර ස්ථානයෙහි ෂෙකෙල් ග
නනින් ෂෙකෙල් එක්දහස් සත්සිය පන්
26 සැත්තෑවක් විය. ගනන් දෙන පිණිස ගි
යාවූ විසි අවුරුදු වයසින් ඉහලවූ හලක්ෂ
තුන්දහස් පන්සිය පනසක් පමනවූ සිය
ළු පුරුෂයන්ට එකිනෙකාට බෙකක් ඒ
නම් පවිත්‍ර ස්ථානයෙහි ෂෙකෙල් ගන
27 නින් ෂෙකෙල් බාගයක් බැගින් විය. ප

විත්‍ර ස්ථානයෙහි සහ තිරයෙහි විලි රිදී
තලෙන්ත සියයකින් විය. විල්ලකට ත
ලෙන්තයක් බැගින් තලෙන්ත සිය
28 යකින් විලි සියයක්ය. ඔහු ෂෙකෙල්
එක්දහස් සත්සිය පන්සැත්තෑවකින් ක
නුවල කොකු සාදා එහි උඩ පේකඩ ව
29 සා කණුද බැන්දේය. පූජකල පිත්තල
ද තලෙන්ත සැත්තෑවක් සහ ෂෙකෙල්
30 දෙදහස් හාරසියයක. ඔහු ඒ පිත්තලව
ලින් සභාමඩපයෙහි දොරටුවට විලිද පි
ත්තල පූජාසනයද එයට පිත්තල මැස්සද
පූජාසනයෙහි සියළු භාජනද මළුව වටක
31 ර විලිද මළු දොරටුවෙහි විලිද මඩපයෙ
හි සියළු ඇනද මළුව හාත්පස සියළු ඇ
නද සෑදුවේය.

39. පරිච්ඡ. පවිත්‍ර ස්ථානයෙහි මෙ
හෙකරණ පිණිස නිලෙන් දුඹුරු පැහැ
යෙන් රතෙන් මෙහෙකෙරීමෙහි වස්ත්‍ර
සාදා යෙහෝවඃවහන්සේ මෝසෙස්ට අ
නකල ලෙස අරොන්හටද පවිත්‍ර ඇඳුම්
2 සෑදුවේය. ඔහු රනින් නිලෙන්ද දුඹුරු
පැහැයෙන් රතෙන් අඹරා වියනලද සි
3 හින් වස්ත්‍රයෙන් ඒපොද් සෑදුවේය. ඔ
වුහුදු සිත්තම් කර්මාන්ත සමග නිලෙන් දු
ඹුරු පැහැයෙන් රතෙන් සිහින් වස්ත්‍ර
යෙන් ඒකට කර්මාන්ත කරණ පිණිස ර
න්‍රන් තුනී තහඩු තලා කෙඳි ඇද ඒක
4 එක්කොට බඳින්ට උරපටි සෑදුවෝය.
ඒක දෙකෙලවර එක්කොට බඳිනලද්
5 දේය. ඒපොද් පිට තිබෙන එහි විසිතු
රු බඳපටියද යෙහෝවඃවහන්සේ මෝ
සෙස්ට අනකල ලෙස රනින් සහ නිලෙ
න් දුඹුරු පැහැයෙන්ද රතෙන් අඹරා වි
යනලද සිහින් වස්ත්‍රයෙන් සෑදුවේය. එ
6 හි කර්මාන්ත එසින්ම විය. ඔවුන් ඊශ්‍රා
යෙල් පුත්‍රයන්ගේ නම් කොටා ඇස් මු
ද්‍ර ලෙස වෛඩූර්‍ය්‍ය මැණික් කැටයම්
කොට රන් වලයම්වලට ඇතුල්කොට
7 බැන්දෝය. ඔහු ඒවා යෙහෝවඃවහන්
සේ මෝසෙස්ට අනකල ලෙස ඊශ්‍රායෙල්
පුත්‍රයන්ට සිහිවීමක් පිණිස ඒපොද් උර
8 පිට තැබුවේය. ඔහු ඒපොද්හි කර්මාන්
තමෙන් රනින් නිලෙන් දුඹුරු පැහැ
යෙන් රතෙන් අඹරා වියනලද සිහින් ව
ස්ත්‍රයෙන් සිත්තම් කර්මාන්ත කොට උර
9 වැස්ම සෑදුවේය. ඒක සතරැස් විය. උර
10 සැද හුවලකොට සෑදුවෝය එහි දිග
වියතක පලල වියතක ඒක හුවලය එහි
මැණික් සතර පෙලක්ද බැන්දෝය. පේ
ලියක් ලෝහිතාක්ෂද පද්මරාගද රතු
11 මැණික්ද විය. මේ ප්‍රථම පේළියය. දෙවෙ
12 නි පෙල මරකත නිල්කැට වජ්‍ර විය. තුන්
වෙනි පෙල ලෂම සූර්‍ය්‍යකාන්තිය සෙව්
13 වන්දි විය. සතරවෙනි පෙල වෛඩූර්‍ය්‍ය
පිරෝජා චන්ද්‍රකාන්තිය. ඒවා එහි රන්
14 වලයම් ඇතුලෙහි ඔබ්බන ලද්දේය. ඒ
ගල් ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ නම් ගනන
ට දොළසක් විය. ගෝත්‍ර දොළොස ලෙ
ස ඔවුන්ගේ නම් අස් මුද්දක කෙටුවාක්
15 මෙන් ඒ පිට තිබුණේය. උරසැද පිට
කොන් ලඟ පවිත්‍ර රනින් ගෙතූ කර්මාන්
16 තයෙන් දන්වැල්ද සාදා රන් වලයම්
දෙකක් සහ රන් මුදු දෙකක්ද කොට
17 උරසැදෙහි දෙකොන ඒ රන් මුදු දෙක
තබා ගෙතූ රත්‍රන් දන්වැල් දෙක උර
සැදෙහි කොනවල මුදු දෙකෙහි දමා ගෙ
18 තූ දන්වැල් දෙකෙහි තොංගල් දෙකද
වලයම් දෙකෙහි සවිකොට ඒවා ඒ ඉදි
19 රිපිට තිබෙන ඒපොද්හි උරපටිවල දමා
රන් වලළු දෙකක්ද සාදා ඒපොද්හි ඇ
තුල් පැත්ත දිසාවට තිබෙන උරසැද් වා
20 වියෙහි දෙකොනේ තැබුවෝය. ඔවුන්
තවත් රන් වලළු දෙකක් කොට ඒවා ඒ
පොද්හි විසිතුරු බඳපටියට මත්තෙන්
එහි බැඳීම ඉදිරිපිට පූර්වභාගයෙහි ඒ
පොද්හි පහළ දෙපැත්තෙහි තබා යෙ
21 හෝවඃවහන්සේ මෝසෙස්ට අනකල
ලෙස උරසැදෙහි මුදු ඒපොද්හි මුදුවල
ට එක්කොට ඒක ඒපොද්හි විසිතුරු බ
ඳපටියට මතෙතන් තිබෙන පිණිසද උර
සැද ඒ පොදෙන් නොලිහෙන පිනිසද
22 නිල් දුහුල් පටියකින් බැන්දෝය. ඔහු නි
ලෙන්ම වියනලද ඒපොද්හි සළුව සෑදු
23 වේය. ඒ සළුවෙහි මැද සනාහ සැට්ට
යක පාසයක් මෙන් පාසයක් විය. ඒ පා
සය සළුව නොඉරෙන පිණිස බඳිනලද්
24 දේය. ඔවුන් යෙහෝවඃවහන්සේ මෝ
සෙස්හට අනකල ලෙස සළුවෙහි වාටිව
ල නිලෙන් අඳුන් පැහැයෙන් රතෙන්
ඇඹරූ නූලෙන් පොහොට්ටු සහ පවිත්‍ර
25 රනින් රහු ගෙඩිද සාදා ඒවා පොහොට්
ටු අතරෙහි සළු වාටියෙහි පොහොට්ටු
26 වටකර තැබුවෝය. මෙහෙකරණ පිනි
ස සළු වාටිය වටකර රහු ගෙඩියක්ද
පොහොට්ටුවක්ද රහු ගෙඩියක්ද පො
27 හොට්ටුවක්ද බැගින් විය. ඔවුන් යෙ
හෝවඃවහන්සේ මෝසෙස්ට අනකල

ලෙස ආරොන් හා ඔහුගේ පුත්‍රයන්ට වි
යනලද සිහින් වස්ත්‍රයෙන් උතුරු සළුද
28 සිහින් වස්ත්‍රයෙන් මකුටයක්ද සිහින් ව
ස්ත්‍රයෙන් යහපත් තොප්පියද අඹරා විය
නලද සිහින් වස්ත්‍රයෙන් කලිසම්ද අඹ
29 රා වියනලද සිහින් වස්ත්‍රයෙන් නිලෙන්
අඳුන් පැහැයෙන් රතෙන් ගෙත්තම් ක
30 රණලද බඳපටියද සෑදුවෝය. ඔවුන් ප
විත්‍ර රනින් ඔටුන්නෙහි තහඩුව සාදා ඊපි
ට යෙහෝවාවහන්සේට සුබකමය යන
ලිවුම අස්මුද්දක කැටයම මෙන් ලියා
31 යෙහෝවාවහන්සේ මෝසෙස්ට අනක
ල ලෙස නිල් දුල් පටියකින් ඒක මකුට
32 ය මුදුනෙහි සවිකොට බැන්දෝය. සමූ
දුවගේ මඩපයෙහි සියළු කර්මාන්ත මෙ
සේ නිමවන ලද්දේය. ඊශ්‍රායෙල් පුත්‍ර
යෝද යෙහෝවාවහන්සේ මෝසෙස්ට
අනකල ලෙස සියල්ල කලෝය.
33 ඔවුන් මඩපය ඒනම් කූඩාරම සහ එ
හි සියළු සැරසිලිද කොකුද ලෑලිද දඬු
34 ද කණුද විලිද රත්පෙව් බැටළු සම් වැස්
35 ම සහ නිල් සම්වැස්මද වැස්මෙහි තිරද
36 ශිවිසුමෙහි පෙට්ටිය සහ එහි පොළුද ක
37 රුණාසනයද මේසය සහ එහි සියළු භා
ජනද ඉදිරිපිට පිඩු රොටිද පවිත්‍ර පහන්
රුකද එහි පිලිවෙලට තබන්ට පහන්ද
එහි සියළු භාජනද එලියට තෙල්ද රන්
38 මය පූජාසනයද ආලේප තෙල්ද සුවඳ ද
ව්‍යද මඩප දොරකඩට එල්ලන තිරය
39 ද පිත්තල පූජාසනයද එහි පිත්තල මැස්
සද එහි පොළු සහ සියළු භාජනද සෝ
දන භාජනය සහ එහි අඩියද මළුවෙහි
40 තිර සහ එහි කණුද විලිද මළු දොරටු
වෙහි තිරය සහ එහි ලණුද ඇනද සමූ
දුවගේ කූඩාරමට සහ මඩපයෙහි මෙ
හෙකිරීමෙහි සියළු භාජනද පවිත්‍ර ස්ථා
41 නයෙහි මෙහෙකිරීමට මෙහෙකිරීමෙහි
සළුද ආරොන් පූජකයාහට පවිත්‍ර ඇඳුම්
ද පූජක තනතුරෙහි මෙහෙකිරීමට ඔ
හුගේ පුත්‍රයන්ට ඇඳුම්ද මෝසෙස් ලඟ
42 ට ගෙනාවෝය. ඊශ්‍රායෙල් පුත්‍රයෝ යෙ
හෝවාවහන්සේ මෝසෙස්ට අනකල සි
යල්ල ලෙස ඒ සියළු කර්මාන්ත කලෝ
43 ය. මෝසෙස්ද ඒ සියළු කර්මාන්ත දෙ
ස බලා යෙහෝවාවහන්සේ අනකල
ලෙස ඔවුන් ඒවා සෑදූ බව දැක ඔවුන්
ට ආශීර්වාද කලේය.

40. පරිච්ඡේ. තවද යෙහෝවාවහන්
සේ මෝසෙස්ට වදාරණසේක් පළමුවෙ
නි මාසේ පළමුවෙනි දිනදී සභාවෙහි කූ
2 ඩාරමේ මඩපය පිහිටුවව. සාක්ෂියෙහි
පෙට්ටිය එහි තබා පෙට්ටිය තිරයෙන්
3 වසව. මේසයද ඇතුලට ගෙන එහි උ
ඩ තිබියයුතු දේ එහි උඩ පිලිවෙලින්
4 තබව. පහන් රුකද ඇතුලට ගෙන එ
හි පහන් දල්වව. දුම් පූජාව පිනිස රන්
5 වූ පූජාසනය සාක්ෂිපෙට්ටිය ඉදිරියෙහි
තබා මඩප දොරකඩ එල්ලෙන තිරය ත
6 බව. දවනපූජාසනය සභාවෙහි කූඩාර
මේ මඩප දොරකඩ ඉදිරියෙහි තබව.
සෝදන භාජනද සභාවෙහි මඩපයටද
7 පූජාසනයටද අතරෙහි තබා වතුර තබ
8 ව. වටේට මළුවක් සාදා මිදුලේ දොරක
ඩ එල්ලන තිරය එල්ලා තබව. ආලේප
තෙල් ගෙන මඩපයද එහි සියල්ලද ආ
9 ලේපකොට ඒද සියළු භාජනවල්ද පවි
ත්‍රකරව. ඒද සුබවන්නේය. දවනපූජාස
නයද එහි සියළු භාජනද ආලේප කො
10 ට පූජාසනයද පවිත්‍රකරව. ඒද ඉතා සුබ
11 වූ පූජාසනයක් වන්නේය. සෝදන භා
ජනද එහි අඩියද ආලේපකොට සුබක
12 රව. ආරොන් සහ ඔහුගේ පුත්‍රයන් සභා
මඩප දොරකඩට ගෙනවුත් වතුරෙන්
නහවා පූජක තනතුරෙහි මට මෙහෙක
13 රණ පිනිස ආරොන්ට සුබවූ වස්ත්‍ර හඳවා
14 ඔහු ආලේපකොට පවිත්‍රකරව. ඔහුගේ
පුත්‍රයන්ද ගෙනවුත් ඔවුන්ට ඇඳුම් හඳ
වා පූජක තනතුරෙහි මට මෙහෙකරන
15 පිනිස ඔවුන්ගේ පියා ආලේප කලාක්
මෙන් ඔවුන්ටද ආලේපකරව. ඔවුන්ගේ
ආලේපකිරීම ඔවුන්ගේ සියළු පරම්පරා
වලට සදාකාල පූජක තනතුරක් වන්නේ
16 ය. මෝසෙස් එසේම කෙලේය. යෙහෝ
වාවහන්සේ ඔහුට අඥාකල සියල්ල ලෙ
ස ඔහු කෙලේය.
17 දෙවෙනි අවුරුද්දේ පළමුවෙනි මා
සේ පළමුවෙනි දවසේදී මඩපය පිහිටෙ
18 වූයේය. මෝසෙස් මඩපය පිහිටුවා විලි
සවිකොට ලෑලි පිහිටුවා එහි අගුල් දමා
19 කණු පිහිටෙවූයේය. යෙහෝවාවහන්
සේ මෝසෙස්ට අන දුන් ලෙස මඩප මු
දුනෙහි කූඩාරම අතුට කූඩාරමේ වැස්ම
තැබූයේය. ඔහු සාක්ෂිය පෙට්ටියෙහි ත
20 බා පෙට්ටිය මුදුනේ පොළුද කරුණාස
21 නයද තබා පෙට්ටිය මඩපය ඇතුලට
ගෙනවුත් වැස්මෙහි තිරය එල්වා යෙ
හෝවාවහන්සේ මෝසෙස්ට අනකල

22 ලෙස සාක්ෂියෙහි පෙට්ටිය වැහුවේය. ඔ
හු මේසය සභාමණ්ඩපයෙහි තබා තිරයට
පිටින් මණ්ඩපයාගේ උතුරුදිසාවෙහි තැ
23 බුවේය. යෙහෝවාවහන්සේ මෝසෙස්
ට අනදුන් ලෙස රොටි එහිපිට යෙහෝ
වාවහන්සේ ඉදිරියෙහි පිළිවෙළින් ත
බා පහන්රුක සභාමණ්ඩපය තුලට ගෙන
24 වුත් මේසයට ඉදිරියෙහි මණ්ඩපයාගේ ද
25 කුණු දිසාවෙහි තබා යෙහෝවාවහන්
සේ මෝසෙස්ට අනකල ලෙස උන්වහන්
26 සේ ඉදිරියෙහි පහන් පත්තුකෙලේය.
රන්මයවූ පූජාසනය සභාමණ්ඩපයෙහි ති
27 රය ඉදිරියට තබා යෙහෝවාවහන්සේ
මෝසෙස්ට අණකල ලෙස එහි පිට සුව
28 ඳ දුම් දැවීය. ඔහු මණ්ඩප දොරකඩ තිරය
29 එල්ලා දවනපූජාවෙහි පූජාසනය සභාම
ණ්ඩප දොරකඩ ලඟ තබා ඊපිට යෙහෝ
වාවහන්සේ මෝසෙස්ට අනදුන් ලෙස
දවනපූජාවද අහර පූජාවද පූජාකෙලේ
30 ය. ඔහු සෝදන භාජනය සභාමණ්ඩපය
ටද පූජාසනයටද අතරෙහි තබා සෝ
31 දන්ට වතුර එහි තැබුවේය. මෝසෙස්
ද ආරොන් සහ ඔහුගේ පුත්‍රයෝද ඔවුන්
32 ගේ අත්පා එහි සේදුවෝය. ඔවුන් සභා
මණ්ඩප තුලට ගියකල්හිද පූජාසනයට
ළන්වූකල්හිද යෙහෝවාවහන්සේ මෝ
සෙස්ට අනකල ලෙස ඔවුන් සේදුවෝ
33 ය. ඔහු මණ්ඩපය හා පූජාසනය වටේට ම
ළුව සාදා මළුවේ දොරකඩ එල්ලන තිර
යද එල්ලුවේය මෙසේ මෝසෙස් ඒ ක්‍රි
යාව නිමකෙලේය.

34 එවිට වලාපටලයක් සභාමණ්ඩපය වසා
ගත්තේය. යෙහෝවාවහන්සේගේ ම
35 හත්තත්වයද මණ්ඩපය පූර්ණකෙලේය.
වලාපටලය ඒ පිට රඳා යෙහෝවාවහන්
සේගේ මහත්තත්වයෙන් මණ්ඩපය පූ
ර්ණවූ බැවින් මෝසෙස්ට සභාමණ්ඩපය
36 ට ඇතුල්වෙන්ට නොහැකිවිය. ඊශ්‍රා
යෙල්ගේ වංශය ඉදිරියෙහි තමන් සියළු
ගමන්වලදී යෙහෝවාවන්සේගේ වලා
37 පටලය දවාලෙහිද ගින්න රාත්‍රියෙහිද
මණ්ඩපය මුදුනේ තිබුණුහෙයින් වලාපට
ලය මණ්ඩපයෙන් නැගිකල්හි ඊශ්‍රායෙල්
පුත්‍රයෝ පිටත්ව ඔවුන්ගේ සියළු ගමන්
38 ගියෝය. එහෙත් වලාපටලය නොනැ
ගුනොත් ඒක නගින්නාවූ දිනය දක්වා
ගමන් නොගොස් සිටියෝය.

## මෝසෙස් විසින් ලියනලද ලෙවී කථාවනාම්වූ තුන්වෙනි පොතය.

1. පරිච්ඡේ. යෙහෝවාවහන්සේ මෝ
සෙස් කැඳවා සභාමණ්ඩපයෙහි සිට ඔහුට
2 වදාරණසේක් ඊශ්‍රායෙල් පුත්‍රයන්ට ක
ථාකරමින් තොපගෙන් කිසිවෙක් යෙ
හෝවාවහන්සේට පූජාවක් ගෙනෙන්
නේනම් තොපගේ පූජාව සිවුපාවුන්
ගෙන් එනම් ගවයන්ගෙන්ද බැටළුවන්
3 ගෙන්ද ගෙනෙනවයයි කියව. ඔහුගේ පූජා
ව ගවයන්ගෙන් දවන පූජාවක්නම් කැ
ලල් නැති පිරිමි සතෙක් පූජාකලාවේ.
ඔහු සිත් මනාපවීමෙන් සභාමණ්ඩප දොර
කඩදී යෙහෝවාවහන්සේ ඉදිරියෙහි
4 ඒක පූජාකොට තමාගේ අත දවන පූජා
වෙහි සතාගේ ඉස පිට තබන්නේය. ඒ
ශාන්තියක් පිනිස ඔහු නිසා පිළිගනු ල
5 බන්නේය. ඔහු යෙහෝවාවහන්සේ ඉ
දිරියෙහි ගොනා මරන්නේය. පූජකයෝ
වූ ආරොන්ගේ පුත්‍රයෝ ලේ ගෙනවුත්
සභාමණ්ඩප දොරකඩ ලඟ පූජාසනය මුදු
6 නේ වටේට ලේ ඉසින්නෝය. ඔහු දවන
පූජා සතාගේ සම හැර කැබලි කපන්
7 නේය. පූජකවූ ආරොන්ගේ පුත්‍රයෝ පූ
ජාසනය පිට ගිනි තබා ගිනි පිට දර පේ
8 ළිවලින් තබා කැබලිද හිසද තෙලද
පූජාසනය පිට ගින්නෙහි දර පිට පිළිවෙ
9 ලින් තබන්නෝය. එහෙත් ඔහු සතා
ගේ අතුණුද කකුල්ද වතුරෙන් සෝදන්
නේය. යෙහෝවාවහන්සේට දවන යා
ගයක්ද ගින්නෙන් සාදනලද පූජාවක්ද
මිහිරිවූ සුවඳක්ද වෙන පිනිස පූජකයා
සියල්ල පූජාසනය පිට දවන්නේය.

10 දවන පූජාවක් පිනිස තමාගේ පූජාව
රැළෙන්නම් බැටළුවන්ගෙන්වත් එළුවන්
ගෙන්වත් කැලල් නැති පිරිමි සතෙක්
11 ගෙන පූජාසනයට උතුරුපැත්තේදී යෙ
හෝවාවහන්සේ ඉදිරියෙහි ඒ සතා ම
රන්නේය. පූජකයෝවූ ආරොන්ගේ පු
ත්‍රයෝ පූජාසනය මුදුනේ වටේට ලේ

12 ඉසිනෙන්නාය. ඔහු ඒ සතාද උගේ හිසද
තෙලද කැබලි කපනෙන්නය. පූජකයාද
පූජාසනය මුදුනේ ගින්නෙහි දර පිට
13 පිලිවෙලින් ඒවා තබනෙන්නය. එහෙත්
ඔහු අතුණුද කකුල්ද වතුරෙන් සෝද
නෙන්නය. පූජකයාද ඒ සියල්ල ගෙන
වුත් පූජාසනය පිට දවනෙන්නය. ඒක යෙ
හෝවාවහන්සේට දවන යාගයක්ද ගි
නෙනන් කරණලද පූජාවක්ද මිහිරි සුව
දක්ද වේ.

14 යෙහෝවාවහන්සේට ඔහුගේ දවන
පූජාව පක්ෂීන්ගෙන්නම් කොබෙයියන්
ගෙණවත් පරෙවි පැටියන්ගෙණවත් ඔහු
15 ගේ පූජාව ගෙනෙනෙන්නය. පූජකයාද ඒ
සතා පූජාසනයට ගෙනවුත් උගේ බො
ටුව කඩා පූජාසනය පිට දවා එහි ලේ
පූජාසන පැත්තේ මිරිකා හෙළා උගේ
16 ගොදුරු බොක්ක හා පිහාටු උදුරා පූජා
සනය ලඟ නැගෙනහිර දිසාවේ අළු ති
බෙන තැන හෙළා ඒ සතා පියාපත් ස
17 මග පලා දෙකට නොබෙදූ පූජාසනයේ
ගිනෙනහි දර පිට දවනෙන්නය. ඒක යෙ
හෝවාවහන්සේට දවන පූජාවක්ද ගි
නෙනන් කරණලද පූජාවක්ද මිහිරිවූ සු
වඳක්ද වේ.

2. පරිච්ඡ. තවද යමෙක් ආහර පූජා
වක් යෙහෝවාවහන්සේට පූජාකරනු
කැමති කල ඔහුගේ පූජාව උතුම් පිටිව
2 ලින් වේවා. ඔහු ඒ පිට තෙල් වත්කො
ට තුවරලා දමා ආරොන්ගේ පුත්‍රවූ පූජ
කයන් වෙතට ඒ ගෙනවුත් එහි පිටි
යෙන් සහ තෙලින් අතලොස්සක්ද එ
හි සියළු තුවරලාද ගනෙන්නය. පූජකයා
යෙහෝවාවහන්සේට මිහිරි සුවඳක්ද
ගින්නෙනන් කරණලද පූජාවක්ද වෙන
පිණිස එහි සිහිවීමක් පූජාසනය පිට දව
3 නෙන්නය. ආහර පූජාවෙන් ඉතිරි දේ ආ
රොන්ටද තමන් පුත්‍රයන්ටද වනෙන්නය.
ඒ යෙහෝවාවහන්සේට ගිනෙනන් ක
රණලද පූජාවලින් අති පවිත්‍ර දෙයක.
4 උදුනෙහි බදිනලද පූජාවක් ගෙනෙන්
නෙහිනම් ඒ තෙලින් මිශ්‍රවූ උතුම් පිටි
වලින් ඇඹුල් පිටි නුමුසු රොටි වනෙන්
ය නොහොත් තෙල් ගානලද ඇඹුල් පි
5 ටි නුමුසු පෙති වනෙන්නය. තාගේ පූජාව
ඇතිලියේ බදින ආහර පූජාවක්නම් ඒ
තෙලින් මිශ්‍රවූ ඇඹුල් නුමුසු උතුම් පිටි
6 වලින් වනෙන්නය. ඒක කැබලිකොට එ
හි පිට තෙල් වක්කරව. ඒ ආහර පූජාව
7 ක. තාගේ පූජාව ඇතිලියේ බදින ආහ
ර පූජාවක්නම් ඒ තෙලින් මිශ්‍රවූ උතුම්
8 පිටිවලින් වේ. මේ දේවලින් සාදනලද
ආහර පූජාව යෙහෝවාවහන්සේ වෙත
ට ගෙනෙව. පූජකයා ලඟට ගෙනෙන
ලද කල්හි ඔහු ඒක පූජාසනය ලඟට
9 ගෙනවුත් ආහර පූජාවෙන් සිහිවීමක්
ගෙන පූජාසනය පිට දවනෙන්නය. ඒ ගින්
නෙන් කරණලද යෙහෝවාවහන්සේ
10 ට මිහිරි සුවඳ පූජාවක. ආහර පූජාවෙන්
ඉතිරි දේ ආරොන්ටද ඔහුගේ පුත්‍රයන්
ටද වනෙන්නය. ඒ යෙහෝවාවහන්සේට
ගිනෙනන් කරණලද පූජාවලින් අති ප
11 විත්‍ර දෙයක. තොපි යෙහෝවාවහන්
සේ වෙතට ගෙනෙන ආහර පූජාවලින්
කිසිවක් ඇඹුල් පිටිවලින් නොසාදව.
යෙහෝවාවහන්සේට ගින්නෙන් කර
ණලද කිසි පූජාවෙක්හි ඇඹුල් පිටිවත්
මීපැණිවත් නොදමව.

12 තොපි යෙහෝවාවහන්සේට නාඹුල්
ඵල පූජාව පූජාකල නුමුත් ඒවා මිහිරි
සුවඳ පිණිස පූජාසනය පිට දවනු නොල
13 බනෙන්නය. තාගේ සියළු ආහර පූජාවල
ට ලුණු දමව. තාගේ දෙවියන්වහන්සේ
ගේ ගිවිසුමේ ලුණු තාගේ ආහර පූජාවෙ
හි අඩුවෙන්ට නොදෙව. තාගේ සියළු
14 පූජාවල් සමග ලුණුත් පූජාකරව. තාගේ
නාඹුල් ඵලවලින් යෙහෝවාවහන්සේ
ට ආහර පූජාවක් කරනෙනහිනම් ඒ පූ
ජාවක් පිණිස ගිනෙනන් වියලනලද අඹු
ගොයම සම්පූර්ණ කරල්වලින් මඩින
15 ලද ධාන්‍ය පූජාකොට ඒ පිට තෙල් බ
හා තුවරලා තබව. ඒ ආහර පූජාවක.
16 පූජකයාද එයින් සිහිවීමක් පිණිස මැඩ
පු ධාන්‍යවලින් සහ තෙලින් පංගුවක්ද
තුවරලා සියල්ලද දවනෙන්නය. ඒ යෙ
හෝවාවහන්සේට ගිනෙනන් කරණල
ද පූජාවක්ය.

3. පරිච්ඡ. ඔහු ගවයින්ගෙන් පිරිමි
සතෙකුවත් ගෑනු සතෙකුවත් ශාන්ති
පූජාවක් පූජාකරනෙන්නම් කැලැල් නැ
ති එකෙකු යෙහෝවාවහන්සේ ඉදිරි
2 යෙහි පූජාකරමින් තමාගේ අත පූජා
සතාගේ ඉස පිට තබා සභාමණ්ඩපයෙහි
දොරකඩදී ඌ මරනෙන්නය. ආරොන්ගේ
පුත්‍රවූ පූජකයෝද පූජාසනය මුදුනේ ව
3 ටේට ලේ ඉසිනෙන්නාය. ඔහු අතුණු වැසි

තිබෙන තෙල්ද අතුනු පිට සියළු තෙ
4 ලද උකුල් ලඟින් තිබෙන වකුගඩු දෙ
ක සහ එහි පිට තෙලද වකුගඩු සමග
අක්මාව පිට දලඹුවද රැගෙන යෙහෝ
වාවහන්සේට ශාන්ති පූජාවෙහි යාග
යෙන් ගිනෙනහි දවනලද පූජාවක් කර
5 නෙත්ය. ආරොන්ගේ පුත්‍රයෝද ඒක පූ
ජාසනයෙහි ගිනාන පිට තිබෙන දර පිට
දවන යාගය මත්තෙහි දවනෙනෝය ඒ
යෙහෝවාවහන්සේට ගින්නෙන් කර
ණලද මිහිරි සුවඳ යාගයක.

6 බැටළු රැලෙන් පිරිමි සතෙක්වත් ගෑ
නු සතෙක්වත් ශාන්ති පූජාවක්කොට
යෙහෝවාවහන්සේට පූජාකලොත් කැ
7 ලැල් නැති එකෙකු පූජාකරනෙත්ය ත
මාගේ පූජාවට බැටළු වස්සෙක් පූජාකර
නෙත්නම් ඒක යෙහෝවාවහන්සේ ඉ
දිරිපිට පූජාකරමින් තමාගේ අත පූජා ස
තාගේ හිස පිට තබා සභාමඬපය ඉදිරි
8 පිට ඌ මරනෙත්ය. ආරොන්ගේ පුත්‍ර
යෝද ලේ පූජාසනය වටේට ඉසිනෙනෝ
9 ය. ඔහු එහි තෙල සහ කොඳු ඇටය
ලඟින් කපාගන්නා මුළු වහටද අතුනු
10 වැසී තිබෙන තෙලද අතුනු පිට තිබෙ
න සියළු තෙලද උකුල් ලඟින් තිබෙ
න වකුගඩු දෙක සහ එහි පිට තෙලද
වකුගඩු සහ අක්මාව පිට දලඹුවද රැ
ගෙන යෙහෝවාවහන්සේට ශාන්ති පූ
ජාවෙහි යාගයෙන් ගිනෙනන් කරණල
11 ද පූජාවක් කරනෙත්ය. පූජකයාද ඒක
පූජාසනය පිට දවනෙත්ය. ඒක යෙහෝ
වාවහන්සේට ගිනෙනන් කරණලද පූ
ජාවෙහි ආහරය වේ.

12 ඔහුගේ පූජාව එළුවෙක්නම් ඔහු ඒ
ක යෙහෝවාවහන්සේ ඉදිරියෙහි පූජා
13 කරමින් තමාගේ අත සතාගේ හිස පිට
තබා සභාමඬපය ඉදිරිපිට ඔහු මරනෙත්
ය. ආරොන්ගේ පුත්‍රයෝද එහි ලේ පූ
ජාසනය මුදුනේ වටේට ඉසින්නෝය.
14 ඔහු අතුනු වැසී තිබෙන තෙල්ද අතුනු
15 පිට තිබෙන සියළු තෙල්ද උකුල් ල
ඟින් තිබෙන වකුගඩු දෙක සහ එහි පි
ට තිබෙන තෙල්ද වකුගඩු සමග අක්
මාව පිට දලඹුවද රැගෙන යෙහෝවා
වහන්සේට ගිනෙනන් කරණලද පූජා
16 වක් පූජාකරනෙත්ය. පූජකයාද ඒවා පූ
ජාසනය පිට දවනෙත්ය. ඒක මිහිරි සු
වඳක් පිනිස ගිනෙනන් කරණලද පූජා
වක්හි ආහරයය. සියළු තෙල් යෙහෝ
17 වාවහන්සේට වනෙත්ය. තොපි වසන
සියළු තැන්වලදී ඒ තෙල්වත් ලේවත්
නොකන පිනිස තොපගේ පරම්පරාව
ලට සදාකාල පනතක් වනෙත්ය.

4. පරිච්. යෙහෝවාවහන්සේද
2 මෝසෙස්හට වදාරණසේක් යමෙක්
නොදැනීමෙන් යෙහෝවාවහන්සේ අ
නකල කිසිවකට විරුද්ධව පව්කොට
නොකටයුතු දේ කරනෙත්නම් ආලේප
3 වූ පූජකයා ජනයන්ගේ පාපය ලෙස ප
ව් කරනෙත්නම් ඔහු කලාවූ පාපය නි
සා යෙහෝවාවහන්සේට පව් නසන පූ
ජාවක්කොට නොකැළැල්වූ ගොන් නා
4 ඹකු උන්වහන්සේ ඉදිරියෙහිදී සභාමඬ
ප දොරකඩට ගෙනවුත් තමාගේ අත
උගේ හිස පිට තබා යෙහෝවාවහන්
5 සේ ඉදිරියෙහි ඌ මරනෙත්ය. ආලේප
වූ පූජකයාද ගොනාගේ ලෙයින් සභා
6 මඬපයට ගෙනවුත් තමාගේ ඇඟිල්ල
ලෙයෙහි ගලා සුද්ධ ස්ථානයෙහි තිරය ඉ
දිරිපිට යෙහෝවාවහන්සේ ඉදිරියෙහි
7 ඒ ලේ සත් වරක් ඉස ලෙයෙන් මදක්
සභාමඬපයෙහි තිබෙන සුවඳ දුම් පූජා
සනයාගේ අං පිට යෙහෝවාවහන්සේ
ඉදිරියෙහි දමා සභාමඬපයෙහි දොරක
ඩ තිබෙන දවන පූජාසනය මුල ගො
8 නාගේ සියළු ලේ වත්කරනෙත්ය. ඔහු
අතුනු වැසී තිබෙන තෙලද අතුනු පිට
9 තිබෙනනාවූ සියළු තෙලද වකුගඩු දෙ
කද උකුල් ලඟ ඊපිට තෙලද වකුගඩු
10 සහ අක්මාව පිට දලඹුව යන සියළු තෙ
ල ශාන්ති යාගවල ගොනාගෙන් ගත්
තාක්මෙන් පව් නසන පූජාව පිනිස ගෙ
න යනෙත්ය. පූජකයාද දවන පූජාසනය
11 පිට ඒ දේ දවා ගොනාගේ සම්ද මාංශ
12 ද හිසද කකුල්ද අතුනු සහ අසූචිද යන
උගේ මුළු ශරීරය කඳවුරෙන් පිටත අළු
දමන පවිත්‍ර ස්ථානයට ගෙන ගොස් දර
පිට ගිනෙනන් දවනෙත්ය. අළු දමනනා
වූ ස්ථානයෙහි ඌ දවනු ලබනෙත්ය.

13 ඊශ්‍රායෙල්ගේ මුළු සභාව අයුතු දේ
කොට යෙහෝවාවහන්සේ අනකල කි
සිවකට විරුද්ධව නොදැනීමෙන් පව්කර
14 මින් වැරදිකාර වූයේනම් ඒක ඔවුන්
ගෙන් සැඟවී තිබෙන නුමුත් ඒ පාපය
දැනගත් කල්හි සභාව ගොන් නාඹකු
ඒ පව් නසන පිනිස පූජාකරන්ට සභාම
15 ඬප ඉදිරියට ගෙනවුත් සභාවෙහි ප්‍රධා

නිවරු තමන්ගේ අත් උගේ හිස පිට
යෙහෝවඃවහන්සේ ඉදිරියෙහි තබන්
නෝය. ගොනා යෙහෝවඃවහන්සේ ඉ
16 දිරියෙහිදී මරනු ලබනෙන්ය. ආලේපවූ
පූජකයා ගොනාගේ ලෙයෙන් මදක්
17 සභාමඬපය ලඟට ගෙනවුත් තමන් ඇ
ඟිල්ල ලෙයෙහි ගලා යෙහෝවඃවහන්
සේ හමුයෙහි තිරය ඉදිරිපිට සත් වරක්
18 ඉස ලෙයෙන් මදක් යෙහෝවඃවහන්
සේ ඉදිරියෙහි පූජාසනයෙහි අං පිට ත
බා සභාමඬප දොරකඩදී දවන පූජාසන
19 ය මුල සියළු ලේ වත්කොට උගේ සියළු
තෙල ගෙන පූජාසනය පිට දවා පව් න
20 සන පූජාවෙහි ගොනාට කලාක්මෙන්
මේ ගොනාටත් කොට ඔවුන් උදෙසා
ශාන්තියක් කරනෙන්ය. එවිට ඒ පාප
21 ය ඔවුන්ට ක්ෂමාකරනු ලබනෙන්ය. පූජ
කයාද ගොනා කඳවුරෙන් පිටතට ගෙ
න ගොස් ප්‍රථම ගොනා දැවූවාක්මෙන්
ඌ දවනෙන්ය. ඒක සභාව උදෙසා පව්
නසන පූජාවක් වේ.

22 අධිපතියෙක් නොදැනීමෙන් තමාගේ
දෙවිවූ යෙහෝවඃවහන්සේගේ කිසි ආ
ඥාවකට විරුද්ධව නොකටයුතු දේ කර
මින් පව්කොට වැරදිකාරයෙක්ව සිටින
23 කල්හි තමා කලාවූ පාපය දැනගත්තේ
නම් නොකැලැල් පිරිමි එළු පැටියෙකු
තමාගේ පූජාවක් වශයෙන් ගෙනවුත්
24 තමාගේ අත එළුවාගේ ඉස පිට තබා
යෙහෝවඃවහන්සේ ඉදිරියෙහි දවන පූ
ජාව මරණ තැන්හිදී මරනෙන්ය. ඒක
25 පව් නසන පූජාවක් වේ. පූජකයාද ත
මාගේ ඇඟිල්ලෙන් පව් නසන පූජාවෙ
හි ලේ ගෙන දවන පූජාසනයෙහි අං පි
ට තබා උගේ ලේ දවන පූජාසනයෙහි
26 මුල වත්කොට උගේ සියළු තෙල පූජා
සනය පිට ශාන්ති පූජාවල යාගයෙහි
තෙල මෙන් දවා ඔහු උදෙසා ඔහුගේ
පාපය ගැන ශාන්තියක් කරන්නේය.
ඒද ඔහුට ක්ෂමාකරනු ලබනෙන්ය.

27 පොදු මනුෂ්‍යයන්ගෙන් කිසිවෙක්
යෙහෝවඃවහන්සේගේ කිසි ආඥාවකට
විරුද්ධව නොදැනීමෙන් නොකටයුතු දෙ
යක් කරමින් පව්කොට වැරදිකාරයෙක්
28 ව සිටිනෙන්නම් තමා කල පාපය දැන
ගත්විට තමා කලාවූ පාපය නසන පිනි
ස නොකැලැල්වූ එළු වැස්සියක් පූජා
29 වක් වශයෙන් ගෙනවුත් තමාගේ අත ප
වූ නසන පූජාවෙහි හිස පිට තබා දවන
පූජා තැන්හිදී පව් නසන පූජාව මරන්
30 නේය. පූජකයාද තමාගේ ඇඟිල්ලෙන්
ඒහි ලෙයෙන් මදක් ගෙන දවන පූජා
සනයෙහි අං පිට දමා එහි සියළු ලේ
31 පූජාසනය මුල වත්කොට ශාන්ති පූජා
වලින් තෙල ගනනාක්මෙන් එහි සියළු
තෙල ගෙනවුත් යෙහෝවඃවහන්සේට
මිහිරිවූ සුවඳක් කොට පූජාසනය පිට ද
වන්නේය. පූජකයාද ඔහු උදෙසා ශාන්
තියක් කරනෙන්ය ඒ පව් ඔහුට ක්ෂමා
32 කරනු ලබන්නේය. එහෙත් ඔහු පව්
නසන පූජාවක් වශයෙන් බැටළු පැට
වෙක් ගෙනෙන්නේනම් නොකැලැල්
33 බැටළු වැස්සියක් ගෙනවුත් තමාගේ
අත් පව් නසන පූජා සතාගේ හිස පිට
තබා පව් නසන පූජාවක් වශයෙන් දව
න පූජාව මරණ ස්ථානයෙහි ඌ මරන්
34 නේය. පූජකයාද තමාගේ ඇඟිල්ලෙන්
එයින් මදක් ලේ ගෙන දවන පූජාසන
යෙහි අං පිට තබා සියළු ලේ පූජාසනය
35 මුල වත්කරන්නේය. ශාන්ති පූජාවල
යාගයෙහි බැටළු පැටියාගෙන් තෙල් ග
නනාක්මෙන් එහි සියළු තෙල ගෙනය
නෙන්ය. පූජකයාද යෙහෝවඃවහන්සේ
ට ගිනෙනන් කරණලද පූජාවල් ලෙස
පූජාසනය පිට ඒවා දවා ඔහු කලාවූ පා
පය උදෙසා ශාන්තියක් කරන්නේය.
ඒද ඔහුට ක්ෂමාකරනු ලබනෙන්ය.

5. පරිච්ඡ. යමෙක් අපරාධයක් ක
රණ බව දැකලාවත් දැනලාවත් ඒ ගැන
සාක්ෂිකාරයෙක් කොට දිවුරවනලද්දුව
ඒක කියා නොදී පව් කරයොත්නම් ඔහු
තමාගේ අපරාධය ධරනෙන්ය. යමෙක්
2 අපවිත්‍ර දෙයක් ඒනම් අපවිත්‍ර මෘගයෙකු
ගේවත් සිවුපාවෙකුගේවත් බඩගානා
සතෙකුගේවත් මලකඳක හැපෙනෙන්
නම් ඒ නොදත් නුමුත් අපවිත්‍රව වරදට
3 පැමිනෙන්නේය. ඔහු මනුෂ්‍යයාගේ අ
පවිත්‍රකම ඒනම් මනුෂ්‍යයෙක් කිලිටුවෙ
නනාවූ කවර අපවිත්‍ර කමක්වත් හැපෙ
නෙත්නම් ඒ නොදත් නුමුත් ඒ දැනගත්
4 කල්හි වැරදිකාරයෙක් වනෙන්ය. යමෙ
ක් නපුරු කිරීමටවත් යහපත කිරීමට
වත් කථාකරමින් දිවුරනෙත්නම් මනුෂ්‍ය
යෙක් දිවුරුමකින් කථාකරණ කොයි
දෙයක්වත් සිහිනැතිකල නුමුත් ඒ දැන
5 ගත් කල්හි වැරදිකාරයෙක් වනෙන්ය.
ඔහු මේ දෙයින් එකක් ගැන වැරදිකා

රයෙක් වෙන කල්හි ඒ දේ ගැන පවුකා
6 ල බව කියාදී තමන් කල පව් නැසීම පි
නිස අපරාධ නසන පූජාවක් වසයෙන් රැ
ලෙන් බැටළු වැස්සියක්වත් එළු වැස්සි
යක්වත් පවු නසන පූජාව පිනිස යෙහෝ
වාවහන්සේ වෙතට ගෙනෙන්නේය.
පූජකයාද ඔහුගේ පාපය ගැන ඔහුට
7 ශාන්තියක් කරන්නේය. බැටළු වස්
සෙක් ගෙනෙන්ට නොහැකිවීනම් තමා
කල අපරාධය ගැන පරවියන් දෙදෙ
නෙකුවත් කොබෙයි පැටියන් දෙදෙ
නෙකුවත් යෙහෝවාවහන්සේ වෙතට
ගෙනෙන්නේය. එකක් පවු නසන පූජා
8 වක අනික දවන පූජාවක. ඔහු උන් පූජ
කයා වෙතට ගෙනෙන්නේය. පූජකයා
පලමුකොට පව් නසන පූජාවෙහි සතා
ගේ බොටුව කඩා දෙකට නොබෙදා පූ
9 ජාකොට එහි ලෙයින් පූජාසන පැත්තේ
ඉස ඉතිරි ලේ පූජාසනය මුල මිරිකන්
10 නේය. ඒ පව් නසන පූජාවක. ඔහු දෙ
වන්නුව ව්‍යවහාර ලෙස දවන යාගය පූජා
කරන්නේය පූජකයාද ඔහු කල පාපය
ගැන ඔහු උදෙසා ශාන්තියක් කරන්
11 නේය. ඒක ඔහුට ක්ෂමාවනු ලැබේ. ඔහු
පරවියන් දෙදෙනකුවත් කොබෙයි පැ
ටියන් දෙදෙනකුවත් ගෙනෙන්ට නො
හැකිවීනම් පව්කල තැනැත්තේ තමා
ගේ පූජාවට ඒඵාවකින් දහයෙන් කොට
සක් උතුම් පිටියෙන් පව් නසන පූජාව
පිනිස ගෙනවුත් ඒක පව් නසන පූජාවක්
බැවින් එහි තෙල්වත් තුවරලාවත් නො
දමා පූජකයා වෙතට ගෙනෙනෙන්
12 ය. පූජකයාද සිහිවීමක් පිනිස එයින් අ
තලොස්සක් යෙහෝවාවහන්සේට ගි
නෙහාන් කල පූජාවල් ලෙස පූජාසනය පි
13 ට දවන්නේය. ඒ පව් නසන පූජාවක.
පූජකයාද මෙයින් එකකින් ඔහු කලාවූ
පාපය වෙනුවට ශාන්තියක් කරනෙන්
ය. එවිට ඒක ඔහුට ක්ෂමාවනු ලැබේ.
ඉතිරි දෙය ආහාර පූජාව ලෙස පූජකයා
හට වන්නේය.

14 තවද යෙහෝවාවහන්සේ මෝසෙස්
15 හට වදාරනසේක් යමෙක් නොදැනි
මෙන් යෙහෝවාවහන්සේගේ පවිත්‍ර
දේවල අපරාධයට පැමින පව් කරනෙන්
නම් තමාගේ අපරාධය වෙනුවට අපරා
ධ නසන පූජාවක් පිනිස පවිත්‍ර ස්ථානයෙ
හි ෂෙකෙල් ගනනින් තාගේ නියම ලෙ
ස රිදී ෂෙකෙල් ගනනද රැලවලින් නො
කැලැල් බැටළුවෙක්ද යෙහෝවාවහන්
සේ වෙතට ගෙනවුත් පවිත්‍ර දෙයෙහි
16 කලාවූ දෝෂයට නිස්සක්කොට එයට ප
හෙන් කොටසක් වැඩිකොට ඒක පූජ
කයාහට දෙන්නේය. පූජකයාද අපරාධ
නසන යාග බැටළුවාගෙන් ඔහු උදෙසා
17 ශාන්තියක් කරන්නේය. ඒක ඔහුට ක්ෂ
මාවනු ලැබේ. යමෙක් යෙහෝවාව
හන්සේගේ ආඥාවලින් නොකටයුතුය
යි වලකනලද දෙයින් කිසිවක් කොට
පව්කරනෙන්නම් ඒ නොදත්තුවූත් අප
රාධිකව තමාගේ අපරාධය බරා තා විසින්
18 නියමකල මිලද අපරාධ නසන පූජාවක්
පිනිස රැලෙන් නොකැලල් බැටළුවෙක්
ද පූජකයා වෙතට ගෙනෙන්නේය. පූ
ජකයාද ඔහු මුලාවී නොදැන සිටි ඔහුගේ
අඥානකම ගැන ඔහු උදෙසා ශාන්ති
19 යක් කරන්නේය. ඒකද ඔහුට ක්ෂමාව
නු ලැබේ. ඒ අපරාධ නසන යාගයක.
සැබවින් ඔහු යෙහෝවාවහන්සේට වි
රුඬව අපරාධ කෙලේය

6. පරිච්ඡ. තවද යෙහෝවාවහන්
2 සේ මෝසෙස්ට වදාරනසේක් යමෙක්
පවුකරමින් යෙහෝවාවහන්සේට විරු
ඬව අපරාධයක් කරණ ලෙස ප්‍රවේසම්
කරණ පිනිස තමාට භාරදුන් දෙය ගැ
ණවත් හවුල්කම ගැනවත් බලාත්කාර
යෙන් ගත් දෙයක් ගැනවත් තමාගේ
අසල්වාසියාට බොරු කියා තමාගේ අ
සල්වාසියා රැවටුවේද නැතිවූ දෙයක් ත
3 මහට සඹව ඒගැන බොරු කියන්නේද
බොරුවට දිවුරන්නේද මේ සියල්ලෙන්
4 පව්කරනෙන්නම් ඔහු පවුකොට අපරා
ධකයෙක්වූ බැවින් බලාත්කාරයෙන්
ගත් දෙයවත් රැවට්ලෙන් අත්කරගත්
දෙයවත් තමහට ප්‍රවේසමට භාරදුන්
දෙයත් තමහට සම්භවූ නැතිවූන දෙ
5 යවත් යම් දෙයක් ගැන බොරුවට දිවූ
ලේද ඒ සියළු දේ ඒනම් එහි මුල් දෙ
ය සහ ඊට පසෙන් කොටසක්ද එයට
වැඩිව එක්කොට තමාගේ අපරාධ පූජා
දවසෙහි ඒ දෙය අයිතිකාරයාට දෙමින්
6 හිලව්කරන්නේය. තා විසින් නියමකල
මිලද බැටළු රැලෙන් නොකැලල් බැට
ළුවෙක්ද යෙහෝවාවහන්සේට අපරාධ
නසන පූජාව පිනිස පූජකයා වෙතට ගෙ
7 නෙන්නේය. පූජකයාද යෙහෝවාව
හන්සේ ඉදිරයෙහි ඔහු උදෙසා ශාන්ති

යක් කරන්නේය. එවිට ඔහු කල සියළු
අපරාධය ඔහුට ක්‍ෂමාවෙනු ලැබේයයි
වදාලසේක.

8 තවද යෙහෝවඃවහන්සේ මෝසෙස්
9 ට වදාරණසේක් ආරොන් සහ ඔහුගේ
පුත්‍රයන්ට අනකොට දවන පූජා පනත
මේයයි කියව. සියළු රාත්‍රියෙහි උදය
දක්වා පූජාසනය පිට දවන බැවින් පූජා
සනයෙහි ගිනි ඇවිල තිබෙන බැවින්
10 ඒක දවන පූජාවය. පූජකයාද වස්ත්‍ර හැ
ද කලිසම ලාගෙන පූජාසනය පිට දව
න පූජාව දැවී ගිනෙන් අළු රැගෙන පූජා
11 සනය ලඟ දමා තමාගේ ඇඳුම් ගලවා
වෙනින් වස්ත්‍ර හැද කඳවුරෙන් පිට පවි
12 ත්‍ර තැනකට අළු ගෙනයනෙන්ය. පූජාස
නය පිට ගින්න ඇවිල නිවාදමනු නො
ලැබේ. පූජකයාද සියළු උදය කාලවල
එහි දර දමමින් ඊපිට දවන පූජාව පිළි
වෙලට තබා එහි ශාන්ති පූජාවල තෙ
13 ල දවනෙන්ය. පූජාසනය පිට නිතර ඇ
විල තිබෙන ගින්න කවදාවත් නොනි
වන්නේය.

14 ආහාර පූජා පනත මේය. ආරොන්ගේ
පුත්‍රයෝ යෙහෝවඃවහන්සේ ඉදිරියෙ
හි පූජාසනය ඉදිරිපිට ඒක පූජාකරණවා
15 ඇත. පූජකයාද ආහාර පූජාවෙහි පිටි
යෙන් අතලොස්සක්ද එහි තෙලින්ද ආ
හර පූජාව පිට තිබෙන සියළු තුවරලාද
යෙහෝවඃවහන්සේට එහි සිහිවීම පිණි
ස මිහිරි සුවඳක්කොට පූජාසනය පිට ද
16 වනෙන්ය. එයින් ඉතිරි දෙය ආරොන්
සහ ඔහුගේ පුත්‍රයෝ කනවා ඇත. ඇ
මුල් පිටි නුමුසු රොටි සමග පවිත්‍ර ස්ථාන
යෙහිදී ඒක කනු ලැබේ. ඔවුන් ඒක
17 සභාමණ්ඩප මළුවේදී කනවා ඇත. ඒක
ඇඹුල් පිටියෙන් බදිනු නොලැබේ. ගි
නෙහන් කල මාගේ පූජාවලින් ඔවුන්
ගේ කොටසට ඒක දුනෙමි. ඒක පවි
නසන පූජාව මෙන්ද අපරාධ නසන පූජා
18 ව මෙන්ද අතිපවිත්‍රය. ආරොන්ගේ දරු
වන් අතරෙහි සියළු පිරිමි එයින් කන
වා ඇත. යෙහෝවඃවහන්සේට ගින්
නෙන් කල පූජාවල් ගැන තොපගේ ප
රම්පරාවලට ඒක සදාකාල පනතක. ඒ
වායේ හැපෙන සියල්ලෝ පවිත්‍රවෙනවා
ඇතැයි වදාලසේක.

19 යෙහෝවඃවහන්සේ මෝසෙස්ට වදා
20 රණසේක් ආරොන් සහ ඔහුගේ පුත්‍ර
යෝ ඔවුන් අලේපවූ දවසෙහි යෙහෝ
වඃවහන්සේට පූජාකරණ ඔවුන්ගේ පූ
ජාව මේය. නිරන්තර ආහාර පූජාවක් පි
ණිස උතුම් පිටි එඵාවකින් දසයෙන්
කොටසකින් භාගයක් උදයෙහිද භාග
21 යක් රාත්‍රියෙහිද පූජාකොට ඒක වලඳ
ක තෙලින් බැද ඇතුලට ගෙන ආහාර
පූජාවෙහි බැදුන කැබලි යෙහෝවඃව
හන්සේට මිහිරි සුවඳක් පිණිස පූජාකර
22 ව. ඔහු වෙනුවට අලේපවූ ඔහුගේ පුත්‍ර
යන්ගෙන් පූජකයෙක් ඒක පූජාකරන්
නේය. ඒක යෙහෝවඃවහන්සේට සදා
කාල පනතක ඒක මුළුවසන් දවනු ලැ
23 බේ. පූජකයන් උදෙසා කල සියළු ආ
හර පූජාවල් මුළුවසන් දවනු ලැබේ ඒ
ක කනු නොලබනෙන්යයි වදාලසේක.

24 නැවතත් යෙහෝවඃවහන්සේ මෝ
25 සෙස්ට වදාරණසේක් ආරොන් සහ ඔහු
ගේ පුත්‍රයන්ට කථාකරමින් පව් නසන
පූජා පනත මේයයි කියව. දවන පූජා
වෙහි සතා මරණ තැන්හිදී පව් නසන
පූජාවෙහි සතා යෙහෝවඃවහන්සේ ඉදි
රියෙහි මරන්නේය. ඒක අති පවිත්‍රය.
26 පව් නැසීම පිණිස ඒක පූජාකරණ පූජ
කයාද ඒ කනෙන්ය සභාමණ්ඩප මළුවෙහි
පවිත්‍ර ස්ථානයෙහිදී ඒක කනු ලැබේ.
27 ඒ මාංශයෙහි හැපෙන කොයි දෙයක්
නුමුත් පවිත්‍ර වනෙන්ය. එහි ලේ කිසි ව
ස්ත්‍රයක ඉසුනුකල්හි පවිත්‍ර ස්ථානයෙහිදී
28 ඒක සෝදව. එහෙත් ඒක තැම්බූ මැටි
භාජනය බිඳිනු ලැබේ. පිත්තල භාජන
යක ඒ තම්බනලද්දේනම් ඒක මැද වතු
29 රෙන් සෝදනු ලැබේ. පූජකයන් අත
රෙහි සියළු පිරිමි එයින් කනවා ඇත.
30 ඒක අති පවිත්‍රය. පවිත්‍ර ස්ථානයෙහි
ශාන්තිකරණ පිණිස සභාමණ්ඩපයට ලේ
ගත් පව් නසන පූජාව කනු නොලැබේ
ඒක ගිනෙනහි දවනු ලැබේ.

7. පරිච්ඡෙ. තවද අපරාධ නසන පූජා
2 වෙහි පනත මේය. ඒ අති පවිත්‍රය. ඔ
වුන් දවන පූජාවෙහි සතා මරණ තැන්
හිදී අපරාධ නසන පූජාවෙහි සතා මර
ණවා ඇත. පූජකයාද එහි ලේ පූජාසන
3 ය මුදුනේ වටේට ඉස ඉගටියද අතුනු
4 වැසී තිබෙන තෙලද උකුල් ලඟින් ති
බෙන වකුගඩු දෙක සහ එහි පිට ති
බෙන තෙලද වකුගඩු සමග අක්මාව
5 පිට දලඹුවද පහකොට ඒ සියළු තෙල
පූජාකරමින් ඒවා යෙහෝවඃවහන්සේට

ගිනෙහාන් කරණලද පූජාවක් පිනිස පූ
ජාසනය පිට දවනෙන්ය. ඒ අපරාධ න
6 සන පූජාවක. පූජකයන් අතරෙහි සියළු
පිරිමි එයින් කනවා ඇත. ඒක පවිත්‍ර ස්ථා
නයෙහිදී කනු ලැබේ ඒක ඉතා ශුද්ධය.
7 අපරාධ නසන පූජාවද පව් නසන පූජාව
මෙනි. ඒවාට එක පනතක. එයින් ශාන්
8 තිකරණ පූජකයාද ඒක ලබනෙන්ය. කි
සිවකුගේ දවන පූජාව පුදන පූජකයාට
9 එහි හම ලැබෙනෙන්ය. උදුනෙහි පුළුස්
සනලද මුළු ආහර පූජාවද වලදෙහි හා
ඇතිලියෙහිද බදිනලද සියල්ල ඒ පූජා
10 කරණ පූජකයාට වන්නේය. තෙලින්
මිශ්‍රවූ වේළුනාවූ සියළු ආහර පූජාවල් ආ
රොන්ගේ සියළු පුත්‍රයන්ට ඒකාකාර
යෙන් ලැබෙන්නේය.
11 ඔහු යෙහෝවඃවහන්සේට පූජාකරන්
12 නාවූ ශාන්ති පූජාවල පනත මෙය. ඒ
ක ස්තුතියක් පිනිස පූජාකරන්නේනම්
ස්තුති පූජාව සමග තෙලින් මිශ්‍රවූ ඇඹුල්
පිටි නුමුසු පූපද තෙලින් මිශ්‍රවූ ඇඹුල්
පිටි නුමුසු පෙතිද උතුම් පිටිවලින් බැ
13 දපු තෙලින් මිශ්‍රවූ පූපද පූප හැර ඔහු
ගේ පූජාව පිනිස ඔහුගේ ශාන්ති පූජා
වල ස්තුති යාගය සමග ඇඹුල් පිටි මුසු
14 රොටි පූජාකරනෙන්ය. ඒ මුළු පූජාවෙන්
එකක් යෙහෝවඃවහන්සේට තේව පූජා
වක් පිනිස පූජාකරනෙන්ය. ඒද ශාන්
ති පූජාවල ලේ ඉසින පූජකයාහට වන්
15 නේය. ස්තුතිකරණ ඔහුගේ ශාන්ති පූ
ජාවල මාංශය පූජාකල දවසෙහිම කනු
ලැබේ. උදය දක්වා එයින් කිසිවක් ඉ
16 තුරුකොට නොතිබෙනෙන්ය. ඔහු පූජා
කරණ යාගය පොරොන්දුවක්වත් කැ
මැත්තෙන් කල පූජාවක්වත් වීනම් පූජා
කරණ දවසෙහිම ඒක කාපසුව දද එ
17 යින් ඉතුරු දෙය කන්නේය. එහෙත්
යාගයෙන් ඉතුරුවූ මාංශය තුනෙවනි දව
18 සෙහි ගිනෙහන් දවනු ලැබේ. ඔහුගේ
ශාන්ති පූජාවල යාගයෙහි මාංශයෙන්
කිසිවක් තුන්වෙනි දවසෙහි කෑවොත්
ඒක පිලිගනු නොලැබ පූජාකරණ තැ
නැත්තාගේ ගනනට තබනු නොලැ
බේ ඒක පිලිකුලක් වන්නේය. එයින්
කන තැනැත්තේ තමාගේ අපරාධය බ
19 රනෙන්ය. අපවිත්‍ර දෙයක තැවරුණ මා
ංශය කනු නොලැබ ගින්නෙන් දවනු
ලැබේ. පවිත්‍රව සිටින සියල්ලෝ පූජාක
20 ල මාංශයෙන් කනවා ඇත. එහෙත් අප
විත්‍රවූ කිසිවෙක් යෙහෝවඃවහන්සේට
අයිති ශාන්ති පූජාවල මාංශයෙන් කන්
නේනම් තමාගේ ජනයන් කෙරෙන් ප
21 හකරනු ලැබේ. මනුෂ්‍යයකුගේ අපවි
ත්‍රකමවත් අපවිත්‍ර මෘගයකුවත් පිලිකුල්
අපවිත්‍ර දෙයකවත් යම් කිසි අපවිත්‍ර
දෙයකවත් හැපෙන තැනැත්තේ යෙ
හෝවඃවහන්සේට අයිති ශාන්ති පූජාව
ල මාංශයෙන් කනෙන්නම් තමාගේ ජ
නයන් කෙරෙන් පහකරනු ලැබේයයි
කීසේක.
22 යෙහෝවඃවහන්සේ මෝසෙස්හට ව
23 දරණසේක් ඊශ්‍රායෙල් පුත්‍රයන්ට කථා
කොට ගොනාගේවත් බැටළුවාගේවත්
එළුවාගේවත් තෙලින් නොකනවා ඇ
24 ත. තවත් ඉබේ මලාවූ මෘගයාගේ තෙ
ලද මෘගයන් විසින් ඉරාදැමූ සතාගේ
තෙලද අන් කිසි වැඩකට ගතයුතු නු
25 මුත් එයින් නොකනවා ඇත. මනුෂ්‍ය
යන් විසින් යෙහෝවඃවහන්සේට ගින්
නෙන් පූජාකටයුතුවූ සතාගේ තෙලින්
කන තැනැත්තේ තමාගේ ජනයන්
26 කෙරෙන් පහකරනු ලබනෙන්ය. පක්ෂි
යාගේවත් මෘගයාගේවත් තෙලින් තො
පගේ වාසස්ථානවලදී නොකනවා ඇ
27 ත. ලෙයින් කන තැනැත්තේ තමාගේ
ජනයන් කෙරෙන් පහකරනු ලැබේයයි
ඔවුන්ට කියවයි වදාලසේක.
28 යෙහෝවඃවහන්සේ මෝසෙස්ට වද
29 රණසේක් ඊශ්‍රායෙල් පුත්‍රයන්ට කථා
කොට යෙහෝවඃවහන්සේට ශාන්ති පූ
ජාව පුදන තැනැත්තේ තමාගේ ශාන්
ති පූජාවල යාගය යෙහෝවඃවහන්සේ
30 වෙතට ගෙනාවුත් ලය යෙහෝවඃවහන්
සේ ඉදිරියෙහි තේව පූජාවක් කොට
තේව කරණ පිනිස යෙහෝවඃවහන්සේ
ට ගිනෙහන් කල පූජාවලින් තමාගේ
අත්වලින් තෙලද ලයද ගෙනෙන්නේ
31 ය. පූජකයාද තෙල පූජාසනය පිට දව
නෙන්ය. ලය ආරොන්හටද ඔහුගේ පු
32 ත්‍රයන්ටද වනෙන්ය. තොපගේ ශාන්ති
පූජාවලින් තේව පූජාවක් පිනිස දකුණු
33 උරය පූජකයාට දියයුතුය. තේව කර
ණ ලයද උස්කොට සොලවනලද උර
යද ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ ශාන්ති පූජා
වල යාගවලින් ගෙන ඊශ්‍රායෙල් පුත්‍ර
යන් කෙරෙන් ආරොන්වද ඔහුගේ පුත්‍ර
යින්වද සදාකාලවූ පනතකින් දුන් නිසා
34 ආරොන්ගේ පුත්‍රයන් අතරෙහි ශාන්ති

පූජාවල ලෙය හා තෙල පූජාකරනනාවූ
තැනැත්තේ තමාගේ කොටසවූ දකුණු
උරය ලබනෙන්යයි වදාලසේක.
35 පූජක තනතුරෙහි යෙහෝවඃවහන්
සේට මෙහෙකරන පිනිස උන්වහන්සේ
ඔවුන් අලේප කිරීමෙන් ආරොන් සහ
ඔහුගේ පුත්‍රයන් නියමකල දවසෙහි යෙ
හෝවඃවහන්සේට ගින්නෙන් කල පූජා
36 වලින් ඔවුන්ගේ පරම්පරවල්හි සදාකා
ල පනතකින් ඊශ්‍රායෙල් පුත්‍රයන් විසින්
ඔවුන්ට දෙන පිනිස යෙහෝවඃවහන්
37 සේ අඥාකල කොටස මෙය. සිනායි ව
නාන්තරයෙහි ඔවුන්ගේ පූජාවල් යෙ
38 හෝවඃවහන්සේට පූජාකරන්ට උන්ව
හන්සේ ඊශ්‍රායෙල් පුත්‍රයන්ට අඥාකල
දවසෙහිදි සිනායි කන්දේදි යෙහෝවඃ
වහන්සේ මෝසෙස්හට අඥාකල දවන
පූජාවෙහිද අහර පූජාවෙහිද පව් නසන
පූජාවෙහිද අපරාධ නසන පූජාවෙහිද
කැපකිරීම්වල ශාන්ති පූජාවල යාගයෙ
හිද පනත මෙය.

8. පරිච්ඡේ. යෙහෝවඃවහන්සේ
2 මෝසෙස්ට කියනසේක් ආරොන්ද ඔහු
ගේ පුත්‍රයන්ද කැදවා වස්ත්‍රද අලේප
තෙල්ද පව් නසන පූජාවට ගොනෙක්
ද බැටළුවන් දෙදෙනාක්ද ඇඹුල් පිටි
3 නුමුසු පූප පැසක්ද රැගෙන සභාමඩප
දොරකඩට සියළු සභාව රැස්කරවයි කි
4 සේක. මෝසෙස්ද යෙහෝවඃවහන්සේ
ඔහුට අඥාකලාක්මෙන් කෙලේය. සමූ
දුවද සභාමඩප දොරකඩට රැස්වූවෝ
5 ය. මෝසෙස් යෙහෝවඃවහන්සේ ක
රන්ට අඥාකල දේ මෙයයි සමූදුවට කි
6 යා ආරොන් සහ ඔහුගේ පුත්‍රයන් ගෙ
7 නා වතුරෙන් ඔවුන් නාවා උතුරු සළු
ව ඔහුගේ ඇඟෙහි ලා ඉගපටියෙන් ඉ
ග බැද වස්ත්‍රද ඒපොද්ද ඔහුට හදවා ඒ
පොද්ගේ විසිතුරු දමයෙන් බැද ඒක
ඔහුගේ ඇඟ පිට බැද උරසැද ඔහු පිට
8 තබා උරසැදෙහි ඌරිම් සහ තුම්මිම් ත
9 බා ආරොන්ගේ ඉසෙහි තොප්පිය තබා
එහි රන් තලල්පටවූ පවිත්‍ර ඔටුනත යෙ
හෝවඃවහන්සේ මෝසෙස්ට අන දුන්
10 ලෙස තැබුවේය. මෝසෙස්ද අලේප
තෙල රැගෙන මඩපය හා එහි තිබුනු සි
යලු අලේපකරමින් ඒවා පවිත්‍රකොට
11 ඒ තෙලෙන් පූජාසනයට සත් වරක් ඉස
පූජාසනය සහ එහි සියළු භාජනද සෝ
දන භාජනය හා එහි අඩියද පවිත්‍රකර
ණ පිනිස ඒවා අලේපකොට ආරොන්
12 ගේ හිස පිට අලේප තෙල වත්කරමින්
ඔහු පවිත්‍රකරණ පිනිස අලේප කෙලේ
13 ය. මෝසෙස්ද ආරොන්ගේ පුත්‍රයන්
ගෙණා ඔවුන්ට උතුරු සළු හදවා ඉග
පටිවලින් ඉග බැද යෙහෝවඃවහන්සේ
මෝසෙස්හට අඥාකල ලෙස තොප්පිය
14 තබා පව් නසන පූජාව පිනිස ගොනා
ගෙනායේය. ආරොන්ද ඔහුගේ පුත්‍රයෝ
ද ඔවුන්ගේ අත් පව් නසන පූජාවට ගෙ
15 නා ගොනාගේ හිස පිට තැබුවෝය. ඔ
හුද ඌ මැරීය. මෝසෙස්ද එහි ලේ රැ
ගෙන පූජාසනයාගේ අංවල වටේට ඔ
හුගේ ඇඟිල්ලෙන් ගා පූජාසනය පවිත්‍ර
කොට පූජාසනය මුල ඒ ලේ වත්කොට
ඒ පූජාසනය මතුයෙහි සතුටු පඩුර පුද
16 න පිනිස ඒක පවිත්‍රකොට අතුනු පිට
සියළු තෙලද අක්මාව පිට දලඹුවද ව
කුගඩු දෙකද ඒවාගේ තෙලද ගතෙත්
ය. මෝසෙස්ද ඒක පූජාසනය පිට් දැවූ
17 යේය. එහෙත් ගොනා සහ ඔහුගේ ස
මද මාංශයද ගොමද යෙහෝවඃවහන්
සේ මෝසෙස්හට අනකල ලෙස කඳවූ
රෙන් පිටත ගින්නෙන් දැවූයේය.
18 ඔහුද දවන පූජාවට බැටළුවා ගෙනා
යේය. ආරොන් සහ ඔහුගේ පුත්‍රයෝ ඔ
වුන්ගේ අත් බැටළුවාගේ හිස පිට තැ
19 බුවෝය. පසුව ඌ මැරීය. මෝසෙස් ඒ
ලේ පූජාසනය පිටද වටේටද ඉස්සේය.
20 ඔහුද බැටළුවා කැබලි කැපීය. මෝ
සෙස්ද ඒ හිස සහ කැබලිද තෙලද දැවූ
21 යේය. ඔහු අතුනුද කකුල්ද වතුරෙන්
සේදුයේය. මෝසෙස්ද මුළු බැටළුවා පූ
ජාසනය පිට දැවීය. ඒක මිහිරි සුවඳක්
කොට දවන යාගයක්ද යෙහෝවඃව
හන්සේ මෝසෙස්හට අනකලාක්මෙන්
යෙහෝවඃවහන්සේට ගින්නෙන් කර
22 නලද පූජාවක්ද විය. ඔහු අනික් බැට
ළුවා කැපකිරීමෙහි බැටළුවෙක්කොට
ගෙනායේය. ආරොන් සහ ඔහුගේ පුත්‍ර
යෝ ඔවුන්ගේ අත් බැටළුවාගේ හිස
23 පිට තැබුවෝය. ඔහුද ඌ මැරීය. මෝ
සෙස්ද එහි ලෙයින් මදක් රැගෙන ආ
රොන්ගේ දකුණු කනේ කොලවරෙහිද
ඔහුගේ දකුනතෙහි මාපට ඇඟිල්ලෙහි
ද දකුණු පය මාපට ඇඟිල්ලෙහිද තැබී
24 ය. ඔහුද ආරොන්ගේ පුත්‍රයන් ගෙනා
යේය. මෝසෙස්ද ලෙයින් මදක් ඔවුන්

ගේ දකුණු කන් කෙලවරවලද දකුණ
ත මාපට ඇඟිලිවලද දකුණු පය මාප
ට ඇඟිලිවලද තැබූයේය. මෝසෙස් ඒ
ලේ පූජාසනය පිටද වටේටද ඉස්සේය.
25 ඔහු තෙලද ඉඟටියද අතුණු පිට සියළු
තෙලද අක්මාව පිට දලඹුවද වකුගඩු
දෙකද ඒවායේ තෙලද දකුණු උරයද
26 යෙහෝවඃවහන්සේ ඉදිරියෙහිවූ ඇඹුල්
පිටි නුමුසු පූප පැසින් ඇඹුල්පිටි නුමුසු
පූපයක්ද තෙලින් මිශ්‍රවූ පූපයක්ද පෙ
තතක්ද රැගෙන ඒවායේ තෙල පිටද
27 දකුණු උරය පිටද තබා ඒ සියල්ල ආ
රොන්ගේ අත්ද ඔහුගේ පුත්‍රයන්ගේ
අත්ද පිට තබා යෙහෝවඃවහන්සේ ඉ
දිරියෙහි තේව පූජාවක් පිනිස ඒවා තේ
28 වකෙලේය. මෝසෙස්ද ඒවා ඔවුන්ගේ
අතින් ගෙන දවන පූජාසනයෙහි දවන
පූජාව පිට දැවීය. ඒවා මිහිරි සුවඳක් වෙ
න පිනිස කැපකිරීමවල්ය. යෙහෝවඃව
හන්සේට ගිනෙනන් කරණලද පූජාව
29 ක. මෝසෙස්ද ළය රැගෙන තේව පූජා
වක් පිනිස යෙහෝවඃවහන්සේ ඉදිරි
යෙහි තේව කෙලේය. යෙහෝවඃව
හන්සේ මෝසෙස්හට අනකල ලෙස ඒ
ක කැපකිරීමෙහි බැටළුවාගෙන් මෝ
30 සෙස්ගේ කොටස වූයේය. මෝසෙස්ද
ආලේප තෙලින් පූජාසනය පිට තිබුණු
ලෙයින් රැගෙන ඒක ආරොන් පිටද ඔ
හුගේ වස්ත්‍ර පිටද ඔහුගේ පුත්‍රයන් පිටද
ඔහුගේ පුත්‍රයන්ගේ වස්ත්‍ර පිටද ඉස ආ
රොන් සහ ඔහුගේ වස්ත්‍රද ඔහුගේ පුත්‍ර
යන් සහ ඔහුගේ පුත්‍රයන්ගේ වස්ත්‍රද ප
31 විත්‍රකෙලේය. මෝසෙස්ද ආරොන් සහ
ඔහුගේ පුත්‍රයින්ට කියනුයේ සභාමණ්ඩප
දොරකඩ ළඟ ඒ මාංශය තම්බා කැපකි
රීම්වල පැසෙහි තිබෙන රොටි සමග එ
හිදී ඒක කාපල්ලාය. ආරොන් සහ ඔහු
ගේ පුත්‍රයෝ මා විසින් අනකල ලෙස
32 ඒක කනවා ඇත. මාංශයෙන් හා රොටි
යෙන් ඉතුරු දෙය ගිනෙනන් දවනවා
33 ඇත. තුඹලා සභාමණ්ඩප දොරකඩින්
සත් දවසක් ඉකුත්වෙනතුරු ඒනම් තු
ඹලාගේ කැපකිරීමෙහි දවස් ඉකුත්වෙ
නතුරු තුඹලා පිටත නොයනෙනාය.
මක්නිසාද උන්වහන්සේ තුඹලා සත් ද
34 වසක් පවිත්‍රකරණසේක. උන්වහන්සේ
මේ දවසෙහි කලාක්මෙන් තුඹලා වෙ
නුවට ශාන්තියක් කරණ පිනිස යෙ
හෝවඃවහන්සේ එසේ කරන්ට අණ ක
35 ළසේක. එබැවින් තුඹලා සත් දවසක්
පසුවෙනතුරු සභාමණ්ඩප දොරකඩ ළඟ
රෑ දවල් සිටගෙන තුඹලා නොනස්නා
පිනිස යෙහෝවඃවහන්සේගේ නියෝ
ගය රක්ෂාකරනෙනාය. මක්නිසාද එ
සේ මම අණකරනු ලැබීමියි කීයේය.
36 එසේ ආරොන් සහ ඔහුගේ පුත්‍රයෝ
යෙහෝවඃවහන්සේ මෝසෙස් ලවා අ
ණකල සියල්ල කලෝය.

9. පරිච්ජ. ඉන්පසු අටවෙනි දින
මෝසෙස්ද ආරොන් සහ ඔහුගේ පුත්‍රය
2 න් ඊස්‍රායෙල්ගේ ප්‍රධානීන් කැඳවා පව්
නසන පූජාව පිනිස කැලැල් නැති එළ
වස්සෙක්ද දවන පූජාවක් පිනිස බැටළු
වෙක්ද රැගෙන යෙහෝවඃවහන්සේ
3 ඉදිරියෙහි පූජාකරපනන. ඊස්‍රායෙල්ගේ
පුත්‍රයන්ට කථාකරමින් පව් නසන පූජා
වක් පිනිස එළු පැටියෙක්ද දවන පූජා
වක් පිනිස අවුරුද්දක් පිරුණු නොකැ
ලල් එළ වස්සෙක්ද බැටළු වස්සෙක්ද
4 යෙහෝවඃවහන්සේ ඉදිරියෙහි පූජාක
රන්ට ශාන්ති පූජාවක් පිනිස ගොනෙක්
ද බැටළුවෙක්ද තෙලින් මිශ්‍රවූ ආහර පූ
ජාවක්ද ගෙනෙනනට කියාපනන. මක්
නිසාද අද තුඹලාට යෙහෝවඃවහන්
සේ පෙනෙනසේකැයි ආරොන්ට කී
යේය.
5 ඔවුන්ද සභාමණ්ඩපය ඉදිරිපිටදී මෝ
සෙස් අණකල දේ ගෙනාවෝය. සියළු
සමූහයාද ළඟට අවුත් යෙහෝවඃවහන්
6 සේ ඉදිරියෙහි සිටියෝය. මෝසෙස්ද තු
ඹලා විසින් කරන්ට සුදුසුවූ යෙහෝවඃ
වහන්සේ අනකලාවූ දේ මේය. යෙහෝ
වඃවහන්සේගේ තේජස තුඹලාට පෙ
නෙනනේයයි කීයේය.
7 මෝසෙස්ද ආරොන්ට කථාකොට තු
ඹ පූජාසනය ළඟට ගොස් යෙහෝවඃව
හන්සේ අනකල ලෙස තුඹේ පව් නසන
පූජාවද දවන පූජාවද පූජාකොට තුඹටද
ජනයන්ටද ශාන්තියක් කරපනන. ජන
යන්ගේ පූජාවද පූජාකොට ඔවුන්ටද
8 ශාන්තියක් කරපනනැයි කීය. එබැවින්
ආරොන් පූජාසනය ළඟට ගොස් තමන්
ගැන පව් නසන පූජාවෙහි එළවස්සා මැ
9 රූයේය ආරොන්ගේ පුත්‍රයෝ ඔහු ළඟ
ට ලේ ගෙනාවෝය. ඔහුද ලෙයෙහි ඇ
ඟිල්ල ගලා පූජාසනයෙහි අං පිට ගා පූ
10 ජාසනය මුල ලේ වත්කෙලේය. එහෙත්

යෙහෝවඃවහන්සේ මෝසෙස්ට අනකල හැටියට තෙලද වකුගඩුද පව් නසන පූජාවෙහි අක්මාව පිට දලඹුවද පූජාසනය පිට දැවූයේය.
11 මාංසද සමද කඳවුරපිට
12 ගිනෙතන් දැවූයේය. ඔහුද දවන පූජාවෙහි සතා මැරුයේය. ආරොන්ගේ පුත්‍රයෝද ඔහු ලඟට ලේ ගෙනාවෝය. ඔහු පූජාසනය පිට වටේට ලේ ඉස්සේය.
13 ඔවුහුද කෑබලි හා හිස සමග දවන පූජාව ඔහු ලඟට ගෙනාවෝය. ඔහුද පූජාස
14 නය පිට ඒවා දවා අතුණුද කකුල්ද සෝදා පූජාසනයෙහි දවනපූජාව පිට ඒවා දැවූයේය.

15 ඔහු ජනයන්ගේ පූජාව ගෙනවුත් ජනයන් උදෙසා පව් නසන පූජාව පිණිස වූ එළුවා රැගෙන මරා පෙර ලෙස පව් නැසීම පිණිස ඒක පූජාකොට දවන පූජා
16 ව ගෙනවුත් විධිවූ ලෙස ඒක පූජාකෙළේ
17 ය. ඔහුද ආහර පූජාව ගෙනවුත් එයින් අතලොස්සක් රැගෙන උදය දවනපූජාවත් සමග ඒක පූජාසනයපිට දැවූයේය.
18 ඉන්පසු ඔහු ජනයන්ට තිබුනාවූ ශාන්ති පූජාව පිණිස ගොනාද බැටළුවාද මැරූයේය. ආරොන්ගේ පුත්‍රයෝද ලේ ඔහු ලඟට ගෙනාවෝය. ඔහුද පූජාසනය පි
19 ට වටේට ඒ ඉස්සේය. ගොනාගේ සහ බැටළුවාගේ තෙලද ඉඟද අතුණු වසන දෙයද වකුගඩුද අක්මාව පිට දලඹුවද
20 ඔහු ලඟට ගෙන තෙල ලයවල තැබූවෝය. ඔහුද තෙල පූජාසනයපිට දැවූයේ
21 ය. මෝසෙස් අනකලාක්මෙන් ආරොන් තේව පූජාවක් පිණිස ලයවල් හා දකුණු උරයද රැගෙන යෙහෝවඃවහන්සේ ඉ
22 දිරියෙහි තේවකලේය. ආරොන් ජනයන් දෙසට තමාගේ අත ඔසවා ඔවුන්ට ආශිර්වාදකොට පව් නසන පූජාවද දවන පූජාවද ශාන්ති පූජාවද පූජාකලායින්
23 පසු බැස්සේය. මෝසෙස් සහ ආරොන්ද සභාමඬපයට ඇතුල්ව පිටට අවුත් ජනයන්ට ආශිර්වාද කලෝය. යෙහෝවඃවහන්සේගේ තේජස සියළු ජනයන්ට
24 පෙනුණේය. එවිට යෙහෝවඃවහන්සේගේ ඉදිරියෙන් ගින්නක් නික්ම අවුත් පූජාසනය පිට දවන පූජාවද තෙලද දැවීවෙය. සියළු ජනයෝ ඒ දැක ඔල්වර හඬ පවත්වා මුහුණින් වැටුනෝය.

10. පරිච්. ආරොන්ගේ පුත්‍රවූ නාදබ් සහ අබිහු තමන්ගේ ධූප භාජන රැගෙන එහි ගිනි බහා සුවඳ ද්‍රව්‍ය ලා යෙහෝවඃවහන්සේ ඔවුන්ට අන නොකල අශුද්ධ ගින්න උන්වහන්සේ ඉදිරියෙහි පූ
2 ජාකලෝය. එවිට යෙහෝවඃවහන්සේ කෙරෙන් ගිනි නික්ම අවුත් ඔවුන් විනාසකලේය. ඔවුහුද යෙහෝවඃවහන්සේ
3 ඉදිරියෙහි මලෝය. එකල්හි මෝසෙස් මා ලඟට එනුනාවුන් කරණකොටගෙන පවිත්‍රකරනු ලබමි. සියළු ජනයන් ඉදිරියෙහි මහිමයට පැමිනෙන්නෙමියි යෙහෝවඃවහන්සේ කී කාරණාව මෙයයි ආරොන්ට කීයේය. එවිට ආරොන් කා
4 ර බාගන හුන්නේය. මෝසෙස්ද ආරොන්ගේ මයිලනුවූ උසියෙල්ගේ පුත්‍රවූ මිශායෙල් හා එල්සාපාන් කැඳවා තුබලා ලඟට අවුත් තුබලාගේ සහෝදරයන් පවිත්‍ර ස්ථානය ඉදිරියෙන් කඳවුරෙන් පි
5 ට ගෙනියාපල්ලායයි කීය. ඔවුහුද ලඟට ගොස් ඔවුන්ගේ උතුරු සළුවලින් ඔවුන් කඳවුරෙන් පිටට මෝසෙස් කී හැටි
6 යට ගෙනගියෝය. මෝසෙස්ද ආරොන්හටද ඔහුගේ පුත්‍රවූ එලෙයාසර් හා ඉතාමර්හටද තුබලා නොනස්නා පිණිසද උදහස සියළු ජනයන් පිටට නොපැමිණෙන පිණිසද තුබලාගේ හිස් වැසුම් නොහරිල්ලාය තුබලාගේ වස්ත්‍ර ඉරා නොගනිල්ලාය. එහෙත් මුළු ඊශ්‍රායෙල් වංශයෙහි තුබලාගේ සහෝදරයෝ යෙහෝවඃවහන්සේ ඇවිලෙවූ දැවීමට සෝ
7 ක කෙරෙත්වා. යෙහෝවඃවහන්සේගේ අලේප තෙල තුබලා පිට ඇති නිසා තුබලා නොනස්නා පිණිස සභාමඬප දොරකඩින් පිට නොයල්ලායයි කීය. ඔවුන් මෝසෙස්ගේ වචනය ලෙස කලෝය.

8 ඉන්පසු යෙහෝවඃවහන්සේ ආරොන්
9 හට වදාරණසේක් තොපි සුබ අසුබ අතරෙහිද කිළුටු නොකිළුටු අතරෙහිද වෙනස තබන පිණිසද යෙහෝවඃවහන්සේ
10 මෝසෙස් ලවා ඊශ්‍රායෙල් පුත්‍රයන්ට කියෙව් සියළු පනත් ඔවුන්ට උගන්වන පි
11 ණිසද තෝවත් තාගේ පුත්‍රයෝවත් සභාමඬපයට යනකල්හි තොපි නොනසින පිණිස මුද්‍රිකපානයවත් මද්‍යපානයවත් නොබොව් තොපගේ පරම්පරාවලට ඒක සදාකාල පනතකැයි වදාලසේක.

12 මෝසෙස්ද ආරොන්හටද ඔහුගේ ඉතිරිවූ පුත්‍රවූ එලෙයාසර් සහ ඉතාමර්හටද කථාකොට යෙහෝවඃවහන්සේට

ගිනෙනතන් කල පූජාවලින් ඉතුරුව ති
බෙන අහර පූජාව රැගෙන පූජාසනය ල
ඟදී ඇඹුල්පිඩි නූවුනුව කාපල්ලාය. ඒක
13 අති පවිත්‍රය. යෙහෝවාවහන්සේගේ ද
වන යාගවලින් ඒක නුඹටද නුඹේ පුත්‍ර
යන්ටද යුතු නිසා ඒක පවිත්‍ර ස්ථානයෙ
හි කනවා ඇත. එසේ මම අණකරණ
14 ලද්දෙමි. තේව ලය සහ ඔසවන උරය
ද නුඹද නුඹේ පුත්‍රයෝද නුඹේ දූවරු
ද පවිත්‍ර ස්ථානයකදී කනවා ඇත. ඒ නු
ඹට යුතුය නුඹේ පුතුන්ටද යුතුය. ඒවා
ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ ශාන්ති පූජාවල
15 යාගයෙන් දෙනලද්දේය. ඔවුන් යෙ
හෝවාවහන්සේ ඉදිරියෙහි තේව පූජා
වකට තේවකරණ පිනිස ඔසවන උරය
ද තේව ලයද තෙලෙහි ගිනෙනතන් ක
රණලද පූජාවල් සමඟ ගෙනෙනෝය.
ඒක යෙහෝවාවහන්සේ අණකලාක්
මෙන් සදාකාල පනතකින් නුඹටද නු
ඹ සමඟ නුඹේ පුත්‍රයන්ටද වන්නේයයි
16 කීයේය. මෝසෙස්ද පව් නසන පූජාවෙ
හි එළුවා ඕනෑකමින් සෙවීය. නුමුත් ඒ
කා දැගියේය. ඔහු අරොන්ගේ ඉතිරිව
සිටි පුත්‍රයෝවූ එලෙයාසර් හා ඉතාමර්
සමඟ අසන්තෝසව කුමක්හෙයින් අති
17 පවිත්‍රවූ පව් නසන පූජාව පවිත්‍රස්ථානයෙ
හිදී නොකෑවෝද? දෙවියන්වහන්සේ
ඒක සමූදවගේ පාපය උසුලන පිනිසද
යෙහෝවාවහන්සේ ඉදිරිපිට ඔවුන් උ
දෙසා ශාන්තිකරණ පිනිසද නුඹලාට
18 දුන්සේක. එහි ලේ පවිත්‍ර ස්ථානය ඇතු
ලට නොගෙනෙන ලද්දේය. මා අනක
ල ලෙස ඒක සැබවින් පවිත්‍ර ස්ථානයෙ
හිදී නුඹලා විසින් කන්ට යුතුයයි කීයේ
19 ය. එවිට අරොන් කථාකොට ඔවුන් මෙ
දවසෙහි තමන්ගේ පව් නසන පූජාවස
හ දවනපූජාව යෙහෝවාවහන්සේ ඉදි
රියෙහි පූජාකලෝය. මෙබඳු දේ මට පැ
මිණියේය. මම පව් නසන පූජාව අද කෑ
වෙම්නම් ඒක යෙහෝවාවහන්සේ ඉදි
රියෙහි පිළිගනු ලැබේදැයි මෝසෙස්හ
20 ට කීයේය. මෝසෙස්ද ඒ අසා එක
ගවිය.

11. පරිච්ඡේ. යෙහෝවාවහන්සේ
මෝසෙස් සහ අරොන්ට වදාරණසේක්
2 භූමියෙහි සියළු මෘගයන් අතරෙන් නො
ප විසින් කෑයුතු මෘගයන් මෙයයි ඊශ්‍රා
3 යෙල් පුත්‍රයන්ට කියව. මෘගයන් අත
රෙන් කුරය බෙදී තිබෙන වමාරු වික
4 න මෘගයන් කෑ යුතුය. එසේ නුමුත් ව
මාරු විකනනාවූ මෘගයන්ගෙන්ද කුරය
බෙදී ඇත්තන්ගෙන්ද මූන් නොකව් ඔ
ටුවා වමාරු විකන්නේ නමුත් කුරේ බෙ
5 දී නැති නිසා නොපට අපවිත්‍රය. ගම්
හාවා වමාරු විකන නමුත් කුරය බෙදී
6 නැති බැවින් නොපට අපවිත්‍රය. හාවා
වමාරු විකන නමුත් කුරය බෙදී නැ
7 ති බැවින් නොපට අපවිත්‍රය. ඌරු කු
රය වෙණ්ව තිබෙන නමුත් වමාරු නො
8 විකන බැවින් නොපට අපවිත්‍රය. උන්
ගේ මාංශයෙන් නොකව් උන්ගේ මලක
දද නොහැපෙව් උන් නොපට අපවිත්‍ර
වෙති.

9 ජලයෙහිවූ මේ සියල්ලන්ගෙන් කෑ
යුතුය. ජලයෙහි සමුද්‍රයෙහි ගඟෙහි ව
රල්හා කොර ඇත්තන්ගෙන් කෑයුතු
10 ය. එහෙත් සමුද්‍රයෙහි ගඟෙහි ජලයෙ
හි හැසිරෙන සියල්ලන්ගෙනුද ජලයෙහි
සතුන්ගෙනුද වරල් හා කොර නැති සි
11 යල්ල නොපට පිළිකුල්ය. උන්ගේ මාංශ
යෙන් නොකව් එහෙත් උන්ගේ කුනප
12 වල් නොපට පිළිකුල්වෙත්. ජලයෙහිව
රල් කොර නැති කොයි සතෙක් නුමුත්
නොපට පිළිකුලක.

13 පක්ෂීන් අතරෙහි නොපට පිළිකුල්
නම් මේය. උන් නොකව් උන් පිළිකු
14 ලක්ය. ගිජුලිහිනියාද උකුස්සන්ද මුහුදු
උකුස්සන්ද උන්ගේ වර්ග ලෙස කොක්
15 නාවුනුද කුරුළුගොයිනුද උන්ගේ වර්ග
16 ලෙස සියළු කපුටුවනුද උන්ගේ වර්ග
17 ලෙස බකමූහුනනුද ඇටිකුකුලනුද කොවු
ලනුද රාජාලිනුද බස්සනුද දියකාවුන්ද ම
හා බකමූනනුද මහා හංසයනුද කරවැල්
18 කොකුනුද කුරලයනුද සේරුනුද උන්ගේ
19 වර්ග ලෙස කිරළුනුද කනකොකුනුද වව්
20 ලනුද සතර පයින් යන සියළු පක්ෂීනුද නො
21 පට පිළිකුලක. එහෙත් මෙසින් කෑයුතු
22 ය. පියාසරකරණ බඹගානා සතර පයින්
ඇවිදින භූමිය පිට පනින පිනිස පයපිට
දික් කකුල් ඇති සතුන් අතරෙන් උන්
ගේ වර්ග ලෙස ගොබෙල්ලුද උන්ගේ
වර්ග ලෙස තව්ට ඉස ගොබෙල්ලන්ද
උන්ගේ වර්ග ලෙස කුරැමිණියනුද උන්
ගේ වර්ග ලෙස පොලගැවියනුද නොප
23 විසින් කෑයුතුය. එහෙත් පියාසරකරන
හතර පය ඇති බඹගානා අනික් සියළු
24 සත්වයෝ නොපට පිළිකුල් වෙත්. නො

පි මේ උදෙසා අපවිත්‍රවෙති උන්ගේ
කුනපය හැපෙන කවරෙක් වුවත් සව
25 ස දක්වා අපවිත්‍ර වන්නේය. උන්ගේ කු
නපයෙන් දරනාවූ කිසිවෙක් නමුත්
ඔහුගේ වස්ත්‍ර සෝද සවස දක්වා අපවි
26 ත්‍රවන්නේය. කුරේ ඇති වුවත් ඒ වෙන්
වූ වමාරා නොකන සියළු මෘගයෝ
තොපට අපවිත්‍රය. උන් හැවරෙන සිය
27 ල්ලෝද අපවිත්‍ර වෙති. සර්වාකාර සිවුපා
වුන් අතරෙන් පතුරුගා යන සියල්ලෝ
තොපට අපවිත්‍රය. උන්ගේ කුනපයෙහි
හැවරෙන සියල්ලෝ සවස දක්වා අපවි
28 ත්‍රවන්නේය. උන්ගේ කුනපය උසුල
නා ඔහුගේ වස්ත්‍ර අපුල්ලා සවස දක්
වා අපවිත්‍රවන්නේය. මූන් තොපට අප
විත්‍ර වන්නේය.
29 බිම බඩගානා සතුන් අතරෙන් ත
30 මන් වර්ග ලෙස මූගටි මීයෝ ඉබිබෝ
කලවැද්දෝ කටුස්සෝ හූනෝ ගොම්
බෙල්ලෝ වැලිමියෝ යන මූන් තොපට
31 අපවිත්‍රය. බඩගානා සියළු සතුන් අත
රෙන් මූන් තොපට අපවිත්‍රය. මලාවූ
උන් හැවරෙන සියල්ලෝ සවස දක්වා
32 අපවිත්‍ර වන්නාය. මලාවූ උන් කිසි දෙ
යක් පිට වැටුනොත් ලී ගෝනි හම මල්
ල යන වැඩකරන කොයි භාජනයක්
33 වුවත් ඒ අපවිත්‍ර වන්නේය. වතුරෙහි දැ
මනු ලැබේ. සවස දක්වා අපවිත්‍රව එසේ
පවිත්‍රවනු ලැබේ. එපින් කිසිවක් මැටි
භාජනයක වැටුනොත් එහි තිබෙන දේ
34 අපවිත්‍රය භාජනයද බිඳිව්. කන කොයි
කෑමක් වුවත් අපවිත්‍ර වතුර ඒ පිට වැ
ටුනොත් ඒ කෑම අපවිත්‍රය. ඒ අපවිත්‍රවූ
භාජනයෙහි බොනනට යුතු සියළු බීම
35 අපවිත්‍රවන්නේය. ඒ කුනපයෙන් කිසි
වක් යම් දෙයක් පිට වැටුනොත් උදුන
වත් වලඳුරවත් ඒ අපවිත්‍රව බිඳිනු ලැ
බේ. අපවිත්‍රවූ ඒවා තොපට අපවිත්‍රවන්
36 නේය. උන්ගේ කුනපය හැවරෙන සිය
ල්ල අපවිත්‍රවෙන වුවත් බොහෝ වතුර
ඇති උල්පතක්වත් ළිඳක්වත් අපවිත්‍ර
37 නොවන්නේය. උන්ගේ කුනපයෙන්
කිසිවක් වපුරන්ට තිබෙන වප් බිත්තර
පිට වැටුනොත් ඒක අපවිත්‍ර නොවන්
38 නේය. එහෙත් ඒ බිත්තර වතුර වත්ක
ලාපින් පසු උන්ගේ කුනපයෙන් කිසි
වක් ඒ පිට වැටුනොත් ඒ තොපට අප
39 විත්‍ර වන්නේය. තොපගේ කෑමට යුතු
වූ සතෙක් නැසුනොත් ඒ කුනපය හැ
වරෙන කෙනෙක් සවස දක්වා අපවිත්‍ර
40 වන්නේය. ඒ කුනපයෙන් කන තැනැ
තෙත් වස්ත්‍ර අපුල්ලාත් සවස දක්වා අප
41 විත්‍රවන්නේය. කුනපය උසුලනනා වස්
ත්‍ර අපුල්ලාත් සවස දක්වා අපවිත්‍රවන්
නේය. බිම බඩගානා සියල්ලෝ පිලි
42 කුල් වෙති ඒක නොකව්. බඩගානා
වූ සතර පයින් යනනාවූ භූමිය පිට ඇ
විදින සතුන් අතරෙන් හතරට වඩා
පා ඇත්තාවූ උන් පිලිකුල් නිසා උන්
43 ගෙන් නොකව්. බඩගානා සතෙකු
ගෙන් තොප පිලිකුල් ලෙස අපවිත්‍ර
44 නොවව්. මම තොපගේ යෙහෝවඃ දෙ
වියන්වහන්සේ නිසා එයින් තොපම අප
විත්‍ර නොකරව්. මම සුඛව සිටින නිසා
තොපි සුඛව සිටිව්. බඩගානා කොයි ස
තෙකුගෙනවත් තොපම අපවිත්‍ර නොක
45 රව්. තොපගේ දෙවියන්වහන්සේ වෙන
පිණිස මිසරදේසයෙන් තොප ගෙනාවා
වූ යෙහෝවඃ වන මම සුඛවෙමි එබැ
වින් තොපින් සුඛව සිටිව්.
46 අපවිත්‍රයන්ගෙන් පවිත්‍රයන් වෙන්ක
රණ පිණිසද කෑමට යුතුවූ මෘගයන්ගෙන්
කෑමට අයුතු මෘගයන් වෙන්කරණ පිණි
47 ස මෘගයනු පක්ෂීන්ද වතුරෙහි හැසිරෙ
න සතුනු බිම බඩගා යන සියල්ලන් ගැ
න පනත මේය.

12. පරිච්. යෙහෝවඃවහන්සේ
2 මෝසෙස්ට වදුරණසේක් ඊශ්‍රායෙල් පු
ත්‍රයන්ට කථාකරමින් ස්ත්‍රියක් ගර්භිනිව
පුත්‍රයෙකු වදන්නිනම් ඇගේ කිලිවෙ
න දවස් ලෙස සත් දවසක් අපවිත්‍රවන්
3 නිය. අටවෙනි දවසෙහි ඒ පුත්‍රයා චර්ම
4 ඡේදය කරනු ලබන්නේය. පසුව ඇ
ගේ කිලි සුඛවීමට සිටින්ට යුතු තිස්තුන්
දවසක් කිසි පවිත්‍ර දෙයක් නොඅල්ලා
ඒ දවස් සම්පූර්ණවෙනතුරු පවිත්‍ර ස්ථා
5 නයට නොඑන්නිය. එහෙත් දුවකු ව
දන්නිනම් ඇගේ කිලිවීම ලෙස දෙසති
යක් අපවිත්‍රවන්නිය. ඇගේ කිලි සුඛ
වෙනතුරු දින හැට සයක් පවත්නිය.
6 පුත්‍රයෙකුටවත් දුවකුටවත් ඇගේ පවි
ත්‍රවීමෙහි දවස් පූර්ණවූ කල්හි දවන
පූජාවකට අවුරුද්දක්වූ බැටළු වස්සෙක්
ද පව් නසන පූජාවකට පරවි පැටියෙක්
වත් කොබෙයියෙක්වත් සභාමඩප දො
7 රකඩ පූජකයා ළඟට ගෙනෙන්නිය. පූ
ජකයාද ඒක යෙහෝවඃවහන්සේ ඉදිරි

යෙහි පූජකොට ඈ වෙනුවට ශාන්තික
රන්නේය. ඈද ඒ කිලිටිමෙන් පවිත්‍ර
වන්නීය. පුත්‍රයෙකුවත් දූවකුවත් වැදූ
8 වාවූ ස්ත්‍රීහට පනත මේය. ඈට බැටළු
වස්සෙකු ගෙනෙන්ට නුපුළුවන්නම්
කොබෙයියන් දෙදෙනෙක්වත් පරවි
පැටියන් දෙදෙනෙක්වත් ගෙනෙන්නී
ය. එයින් එකෙක් දවන පූජාවටය අනි
කා පව් නසන පූජාවටය. පූජකයාද ඈ
වෙනුවට ශාන්තියක් කරන්නේය ඈ
පවිත්‍රවන්නීයයි කියවයි කීසේක.

13. පරිච්ඡ. තවද යෙහෝවාවහන්
සේ මෝසෙස් සහ ආරොන්හටද වදාර
2 නසේක් මනුෂ්‍යයෙකුට තමන් සමෙ
හි විසප්පුවක්වත් කබුලක්වත් පැහැ
පත් වනයක්වත් තිබෙනකල්හි ඒක
ඔහුගේ සමෙහි කුෂ්ඨරෝගය සමාන
නම් ඔහු පූජකවූ ආරොන් වෙතටවත්
ඔහුගේ පුත්‍රවූ පූජකයන් අතරෙන් කෙ
නෙක් වෙතටවත් ගෙනයනු ලබනොත්
3 ය. පූජකයාද සමෙහි රෝගය බලන්
නේය. රෝගයෙන් ලොම් සුදු බවද ඒ
රෝගය ඔහුගේ සමට වඩා ගිලී ගැඹු
රුව තිබෙන බවද පූජකයාට පෙනීනම්
ඒ කුෂ්ඨරෝගයක. පූජකයාද ඔහු බලා
4 අපවිත්‍රයයි කියන්නේය. ඔහුගේ සමෙ
හි පැහැපත් වනය සුදුව සමට වඩා ගිලී
නොතිබුනු බවද එහි ලොම් සුදු නුවූ බ
වද පූජකයාට පෙනුනොත් ඔහු රෝග
ඇත්තා සත් දිනක් ගේ තුල සිටුවා සත්
5 වෙනි දින ඔහු බලන්නේය. රෝගය
නැවතී සමෙහි පැතිරීමක් නුවූ බව ඔහු
ට පෙනුනොත් තවත් සත් දිනක් සිටුවා
6 සත්වෙනි දිනද නැවත ඔහු බලා රෝග
ය පමනක් කළුව සමෙහි නොපැතුරු
නොත් ඔහු පවිත්‍රයයි කියන්නේය ඒ
කබුලක් විතරය. ඔහු තමාගේ වස්ත්‍ර
7 සෝදා සුඩවන්නේය. එහෙත් ඔහුගේ ප
විත්‍රවීම පිනිස ඔහු පූජකයා දුටු පසු රෝ
ගය සමෙහි බොහෝසෙයින් පැතිර ගි
යොත් පූජකයා නැවත ඔහු බලා කබො
8 ලල සමෙහි පැතිරෙන බව දුටුවොත් ඔ
හු අපවිත්‍රයයි කියන්නේය. ඒක කුෂ්ඨ
රෝගය වේ.

9 මනුෂ්‍යයෙකුට කුෂ්ඨරෝගයක්වූ කල්
හි ඔහු පූජකයා ලඟට ගෙනයනු ලබන්
10 නේය. පූජකයාද ඔහු බලා සමෙහි වි
සප්පුව සුදුව ලොම්ද සුදුව විසප්පුවෙහි
11 අමු මස් වැඩුනොත් ඒක ඔහුගේ සමෙ
හි පරණ කුෂ්ඨරෝගයක් නිසා ඔහු අප
විත්‍රයයි කියා ගේ තුල ඔහු නොසිටුවන්
12 නේය. ඔහු අපවිත්‍රය. කුෂ්ඨය සමෙහි පැ
තිරී රෝග ඇත්තාගේ සියළු සම හිස
පටන් පය දක්වා ගියොත් පූජකයා බල
න සෑම තැන කුෂ්ඨ රෝගයෙන් වැ
13 සුනොත් කල්පනාකොට කුෂ්ඨරෝග
යෙන් ඔහුගේ සියළු මාංශය වැසුනොත්
ඔහු පවිත්‍රයයි කියන්නේය. එහි සියළු මා
14 ංශය සුදු බැවින් ඔහු පවිත්‍රය. එහෙත් අ
මු මස් පෙනුනොත් ඔහු අපවිත්‍රවන්නේ
15 ය. පූජකයාද අමු මස් දැක ඔහු අපවිත්‍ර
යයි කියන්නේය. අමු මස් අපවිත්‍රය ඒ
16 කුෂ්ඨරෝගය වේ. අමු මස් නැවත සුදු
වුනොත් ඔහු පූජකයා වෙතට එන්නේ
17 ය. පූජකයාද ඔහු බලා රෝගය සුදුවූ
වොත් රෝග ඇත්තා පවිත්‍රයයි කියන්
18 නේය. ඔහු පවිත්‍රය. එහි සමෙහි ගෙඩි
19 යක් වූයේද ඒ ගෙඩිය සුවවේ. ගෙඩි
ය තිබුනු තැන සුදු විසප්පුවක්වත් සුදු
ව පමනක් රතුව පැහැපත් වනයක්වත්
තිබේනම් ඒක පූජකයාට පෙනනන්
20 නේය. පූජකයාද ඒ බලා සමට වඩා ප
හත්ව පෙනෙමින් එහි රෝම සුදුවිනම්
ඔහු අපවිත්‍රයයි කියන්නේය. ඒක ගෙඩි
21 යෙන් හටගත් කුෂ්ඨරෝගයක. පූජක
යා ඒ බලා එහි තුල සුදු ලොම් නැතුව
සමට වඩා පහත්නොව පමනක් කළුවූ
වොත් සත් දිනක් ගේ තුල ඔහු සිටුවා
22 ඒක බොහෝසෙයින් සමෙහි පැතිරගි
යොත් ඔහු අපවිත්‍රයයි කියන්නේය. ඒ
23 ක කුෂ්ඨරෝගයක. පැහැපත් වනය එ
ම තැන නැවතී පැතිර නොගියොත් ඒ
ක දැවිල්ල ඇති ගෙඩියක පූජකයා ඔහු
24 පවිත්‍රයයි කියන්නේය. නොහොත් ස
මෙහි තද දැවිමක්ව ඒ අමු මාංශයෙහි සු
දු පැහැපත්වූ මදක් රතුවුනු සුදු වනයක්
25 ඇත්නම් පූජකයා ඒක බලා පැහැපත්
වනයෙහි ලොම් සුදුව සමට වඩා ගිළුනු
බව පෙනුනොත් දැවිමෙන් හටගත් කු
ෂ්ඨයක් බැවින් ඔහු අපවිත්‍රයයි කියන්
26 නේය. ඒක කුෂ්ඨරෝගයක. පූජකයා
ඒ බලා පැහැපත් වනයෙහි සුදු ලොම්
නැතුව සමට වඩා පහත්නොව මදක්
කළුවිනම් සත් දිනක් ගේ තුල ඔහු සි
ටුවා සත්වෙනි දින ඔහු බලා ඒක සමෙ
27 හි බොහෝසෙයින් පැතිරී ගියොත් ඔ
හු අපවිත්‍රයයි කියන්නේය. ඒක කුෂ්ඨ

28 රෝගයක. පැහැපත් වනය එම තැන
නැවති සමෙහි පැතිර නොගොස් මදක්
කළුවිනම් ඒක ගෙඩියෙන්වූ විසප්පුව
ක. පූජකයාද ඔහු පවිත්‍රයයි කියනෙන්
ය. ඒක ලේ ගෙඩියෙන්වූ කැලලක.

29 ඉදින් පුරුෂයෙකුටවත් ස්ත්‍රියෙකුට
වත් හිසෙහි නොහොත් නිකටෙහි රෝ
30 ගයක් විනම් පූජකයා ඒ බලා සමට ව
ඩා ගිලී එහි තුල සිහින් කහාවන් ලෝ
මයක් වූබව පෙනුනොත් පූජකයා ඔහු
අපවිත්‍රයයි කියනෙන්ය ඒක වියලි වන
යක්වූ ඉසෙහි නොහොත් නිකටෙහි කු
31 ෂ්ඨයක. පූජකයාද ඒ රෝගය බලා සම
ට වඩා නොගිලී එහි තුල කළු ලොම්
නැති බව පෙනුනොත් රෝගකාරයා
32 සත් දිනක් ගේ තුල සිටුවා සත්වෙනි දි
න රෝගය බලා වනය නොපැතිරී එහි
තුල කහාවන් ලොම් නැතුව සමට වඩා
33 නොගිළුනු බව පෙනුනොත් ඒ වනය
හැර මුඩුකරවා වනය ඇත්තා නවත්
34 සත් දිනක් සිටුවා සත්වෙනි දින ඒ වන
ය බලා සමෙහි පැතිර නොගොස් සමට
වඩා නොගිළුනු බව පෙනුනොත් ඔහු
පවිත්‍රයයි කියන්නේය. ඔහු රෙදි සෝද
35 නුඩවන්නේය. එහෙත් ඔහුගේ පවිත්‍රවී
මෙන් පසු විසප්පුව බොහෝසෙයින් ස
36 මෙහි පැතිර ගියොත් පූජකයා ඔහු බ
ලා විසප්පුව සමෙහි පැතිර තිය බව දැ
ක කහාවන් ලොම් නොසොයනෙන්ය.
37 ඔහු අපවිත්‍රය. එහෙත් විසප්පුව නැවති
එහි තුල කළු රෝම හටගත් බව පෙනු
නොත් විසප්පුව සුවවිය ඔහු පවිත්‍රය.
පූජකයාද ඔහු පවිත්‍රයයි කියන්නේය.

38 පුරුෂයෙකුටවත් ස්ත්‍රියෙකුටවත් ඔ
වුන්ගේ සමෙහි පැහැපත් සුදු වන ඇ
39 තිවිනම් පූජකයා බලා ඔවුන්ගේ සමෙ
හි පැහැපත් වන මදක් කළුව සුදුවිනම්
ඒක සමෙහි හටගන්නාවූ කැලලක. ඔ
40 හු පවිත්‍රය. ඉසකෙස් වැටුන තැනැත්
41 තේ හිස මුඩු වුවත් පවිත්‍රය. යමෙකුගේ
නලල පැත්තෙන් හිසකෙස් වැටුනොත්
ඔහු නලලින් හිස මුඩු වුවත් පවිත්‍රය.
42 මුඩු ඉසෙහිවත් මුඩු නලලෙහිවත් සුදුවූ
මදක් රතුවූ වනයක් විනම් ඒක ඔහු
ගේ මුඩු ඉසෙහිවත් මුඩු නලලෙහිවත්
43 හටගත් කුෂ්ඨයක. පූජකයා ඒක බලා
සමෙහි කුෂ්ඨය පෙනෙන ලෙස ඔහුගේ
මුඩු ඉසෙහිවත් මුඩු නලලෙහිවත් නැගි
වනය සුදුව මදක් රතුවිනම් කුෂ්ඨ ඇ
44 තිවූ ඔහු අපවිත්‍ර බැවින් ඔහු අතිසයින්
අපවිත්‍රයයි කියන්නේය. රෝගය ඔහු
ගේ හිසෙහිය.

45 කුෂ්ඨරෝගකාරයා වස්ත්‍ර ඉරාදමා හිස
නොවසා උඩු තොල වසා අපවිත්‍රය අ
46 පවිත්‍රයයි කෑගසමින් ඔහුට රෝග ඇති
සියළු දවස්හි අශුද්ධවන්නේය. අපවිත්‍රවූ
ඔහු තනියම සිටින්නේය ඔහුගේ වාස
ස්ථානය කඳවුරට පිටින් වන්නේය.

47 කුෂ්ඨරෝග ඇති වස්ත්‍රය බැටළු ලොම්
වස්ත්‍රයක්වත් කපු පිළියක්වත් සමෙහි
48 වත් සමින් කරණලද දෙයෙහිවත් ඒ
වස්ත්‍රයෙහි නොහොත් සමෙහි හරහින්
49 වත් දිගින්වත් රෝගය මදක් කොළපාට
නම් මදක් රතු පාටනම් ඒක කුෂ්ඨරෝ
50 ගයක පූජකයාට පෙන්විය යුතුය. පූජ
කයාද ඒ රෝගය බලා රෝග ඇති
51 දෙයද සත් දිනක් ගෙයි තුල තබා සත්
වෙනි දින රෝගය බලා රෝගය වස්ත්‍ර
යෙහි හරහින්වත් දිගෙන්වත් සමෙහිවත්
සමින් කරණලද කර්මාන්තයෙහිවත් පැ
තිරී ගියොත් වැඩිවෙන කුෂ්ඨ රෝගය
52 වූ ඒක අපවිත්‍රය එබැවින් ඒ බැටළු
ලොම් වස්ත්‍රයෙහිවත් කපු පිළියෙහිවත්
හරහින්වත් දිගෙන්වත් සමින් කරණලද
දෙයෙහිවත් රෝගය ඇති දෙය දවන්
නේය. ඒක වැඩිවෙන කුෂ්ඨයක. ඒ ව
53 ස්ත්‍රය ගින්නෙන් දවන්නේය. පූජකයා
බලා රෝගය වස්ත්‍රයෙහි හරහින්වත් දි
ගෙන්වත් සමින් කරණලද දෙයෙහිවත්
54 පැතිරී නොගියොත් රෝගය ඇති දෙ
ය සෝදන්ට ඔවුන්ට අනදී ඒක තවත්
55 සත් දිනක් ගෙයි තුල තබා රෝගය සේ
දූ පසු බලා රෝගයේ පැහැය ඒ වෙ
නස්ව පැතිරී නොගියොත් ඇතුලතවත්
පිටතවත් ලොම් නැතුව සුමුත් අපවිත්‍ර
වූ ඒක එහි ඇතුලත තිබෙන රෝග
56 යක් නිසා ගින්නෙන් දවන්නේය. ඒක
සේදූ පසු පූජකයා බලා රෝගය මදක්
කළුවිනම් වස්ත්‍රයෙන්වත් සමින්වත් හරහි
57 න්වත් දිගෙන්වත් ඉරාදමන්නේය. ඒක
තවම වස්ත්‍රයෙහි ඒනම් හරහින්වත් දි
ගෙන්වත් සමින් කරණලද දෙයෙහිවත්
පෙනෙනෙන්නම් පැතිර යන රෝගවූ
58 ඒ දෙය ගින්නෙන් දවන්නේය. තවද
සේදූ වස්ත්‍රයෙන් ඒනම් හරහින්වත් දි
ගෙන්වත් සමින් කරණලද දෙයින්වත්
රෝගය පහව ගියොත් ඒක දෙවෙනි
වරත් සොදනු ලැබ පවිත්‍ර වන්නේය.

59 පවිත්‍රය නොහොත් අපවිත්‍රයයි කියන
පිනිස බැටළු ලෝම මයවූ කපුමයවූ වස්
ත්‍රයකවත් හරහිඹවත් දිගෙහිඹවත් සම්ව
ලින් කරණලද දෙයෙකිවත් ඇති කු
ෂ්ඨ රෝගයාගේ පනත මේය.

14. පරිච්ඡෙ. ඉක්පසු යෙහෝවාව
2 හන්සේ මෝසෙස්හට වදාරණසේක් කු
ෂ්ඨය ඇත්තාට පවිත්‍රවෙන දවසෙහි ප
නත මේය. ඔහු පූජකයා වෙතට ගෙ
3 නෙනු ලැබේ. පූජකයාද කඳවුරෙන් පි
ටට ගොස් බලා කුෂ්ඨ රෝගය සුවවීනම්
4 පවිත්‍රවෙන්ට සිටිනතා වෙනුවට ජීවත්
පවිත්‍රවූ පක්ෂීන් දෙදෙනෙක්ද කිහිරි
දඬුද රක්ත ලෝමයද හිසොප්ද ගෙන
5 වුත් පක්ෂීන්ගෙන් එකෙක් මැටි භාජ
නයක බහින ජලය පිට මරනතාටද අන
6 කොට ජීවත් පක්ෂියා සහ කිහිරි දඬුද
රක්ත ලෝමයද හිසොප්ද රැගෙන ජී
වත් පක්ෂියා සමග ඒවා බහින ජලය පි
ට මරණලද පක්ෂියාගේ ලෙයෙහි ගලා
7 කුෂ්ඨයෙන් පවිත්‍රවෙනතාට සිටින්නාට
සත් වරක් ඉස පවිත්‍ර බව ඔහුට කියාදී
ජීවත් පක්ෂියා එළිමානෙහි මුදා හරින්
8 නේය. පවිත්‍රවෙනතාට සිටි තැනැත්තේ
පවිත්‍රවෙන පිනිස තමාගේ වස්ත්‍ර සෝදා
සියළු කෙස් බා වතුර නා කඳවුරට අ
වුත් තමාගේ කූඩාරමෙන් පිට සත් දව
9 සක් ප්‍රමාදව සත්වෙනි දවසෙහි තමා
ගේ ඉසෙහි සියළු කෙස්ද රැවුලද බැම
ද බාගෙන වස්ත්‍ර සෝදා වතුර නා පවි
10 ත්‍රවන්නේය. අටවෙනි දවසෙහිද නො
කැලල් බැටළු වස්සන් දෙදෙනෙක්ද
එක් අවුරුදු නොකැලල් බැටළු වැස්සි
යක්ද ආහර පූජාවකට තෙලින් මිශ්‍ර උ
තුම් පිටියෙන් දසයෙන් තුන් කොට
සක්ද තෙලින් ලොග් එකක්ද ගෙනෙ
11 නේය. ඔහු පවිත්‍රකරණ පූජකයාද ප
විත්‍ර කරනු ලබන්ට සිටින ඒ මනුෂ්‍යයා
සහ ඒ දේවල් සභාමණ්ඩප දොරකඩ යෙ
12 හෝවාවහන්සේ ඉදිරිපිට තබා බැටළු
වස්සෙක්ද තෙල් ලොග්ද රැගෙන අප
රාධ නසන පූජාවක් පිනිස ඒක පූදා යෙ
හෝවාවහන්සේ ඉදිරියෙහි තේව පූජා
13 වක් කොට ඒවා තේව කරන්නේය. ඔ
හු පව් නසන පූජාවෙහි සතා සහ දවන
පූජාවෙහි සතා මරණ පවිත්‍ර ස්ථානයෙහි
බැටළු වස්සා මරන්නේය. පව් නසන පූ
ජාව පූජකයාහට අයිතිවෙනතාක්මෙන්
අපරාධ නසන පූජාවද අයිතිවේ. ඒක
14 අති පවිත්‍රය. පූජකයාද අපරාධ නසන පූ
ජාවෙහි ලෙයින් මදක් ගෙන පවිත්‍රවෙ
නතාට සිටිනතාගේ දකුණු කනේ කෙ
ලවරෙහිද දකුනත මාපට ඇඟිල්ලෙහි
ද දකුණු පය මාපට ඇඟිල්ලෙහිද ගා
15 තෙල් ලොගින් මදක් ගෙන වමත අත්
16 ලෙහි වත්කොට දකුණු ඇඟිල්ල වමත
තිබෙන තෙලෙහි ගලා ඔහුගේ ඇඟිල්
ලෙන් යෙහෝවාවහන්සේ ඉදිරියෙහි
17 සත් වරක් තෙල් ඉස ඉතිරි තෙලින් ප
වින්‍රවෙන්ට සිටින්නාගේ දකුණු කන්
කෙලවරෙහිද දකුනත මාපට ඇඟිල්
ලෙහිද දකුණු පය මාපට ඇඟිල්ලෙහිද
අපරාධ නසන පූජාවෙහි ලේ පිටද එලා
18 තමා අත තිබෙන ඉතිරි තෙල් පවිත්‍ර
වෙනතාට සිටිනතාගේ ඉසෙහි වත්කො
ට යෙහෝවාවහන්සේ ඉදිරියෙහි ඔහු
19 උදෙසා ශාන්තියක් කරන්නේය. පූජ
කයාද පව් නසන පූජාව පූදා අපවිත්‍රක
මෙන් පවිත්‍රවෙනතාට සිටිනතා උදෙසා
ශාන්තියක් කොට ඉක්පසු දවන පූජා
20 සතා මරා ඒ දවන පූජාවද ආහර පූජාව
ද පූජාසනය පිට පූදා ඔහු උදෙසා ශාන්
21 තියක් කරන්නේය. ඔහු පවිත්‍රවේ. ඔ
හු දිළිඳුව එපමන සපයන්ට නොහැකි
නම් තමා උදෙසා ශාන්තියක් කරණ
පිනිසද තේව කරණ අපරාධ නසන පූ
ජාවක් පිනිසද බැටළු වස්සෙක්ද ආහර
පූජාවක්කොට තෙලින් මිශ්‍ර උතුම් පිටි
යෙන් දසයෙන් එකක්ද තෙල් ලොග්
22 එකක්ද ගෙනෙනේය. තවද එකෙක්
පව් නසන පූජාවක් පිනිසද අනිකා දව
න පූජාවක් පිනිසද ඔහුට සපයාගනතා
ට පුළුවන් පමනකින් කොබෙයියන් දෙ
නෙනක්වත් පරෙවි පැටියන් දෙන්
23 නෙක්වත් තමාගේ පවිත්‍රවීමට අටවෙ
නි දවසෙහි යෙහෝවාවහන්සේ ඉදිරි
යෙහි සභාමණ්ඩප දොරකඩ පූජකයා වෙ
24 තට ගෙනෙන්නේය. පූජකයාද අපරා
ධ නසන පූජාවෙහි බැටළු වස්සා සහ
තෙල් ලොග් රැගෙන යෙහෝවාවහන්
සේ ඉදිරියෙහි ඒවා තේව පූජාවක්කො
25 ට තේවකර අපරාධ නසන පූජාවෙහි
බැටළු වස්සා මරා ලෙයින් මදක් ගෙ
න පවිත්‍රවෙන්ට සිටිනතාගේ දකුණු ක
නේ කෙලවරෙහිද දකුනත මාපට ඇ
ඟිල්ලෙහිද දකුණු පය මාපට ඇඟිල්ලෙ
26 හිද එලා තෙලින් වමත අත්ලෙහි වත්

27 කොට දකුණු ඇඟිල්ලෙන් වමත තිබෙ
න තෙලින් මඳක් යෙහෝවඃවහන්සේ
28 ඉදිරියෙහි සත් වරක් ඉස තමාගේ අත
තිබෙන තෙලින් පවිත්‍රවෙන්ට සිටින්
නාගේ දකුණු කණේ කෙලවරෙහිද ඔ
හුගේ දකුනත මාපට ඇඟිල්ලෙහිද දකු
ණු පය මාපට ඇඟිල්ලෙද අපරාධ නස
29 න පූජාවෙහි ලේ පිට එලා ඉතිරි තෙල
පවිත්‍රවෙන්ට සිටිනනා උදෙසා යෙහෝ
වඃවහන්සේ ඉදිරියෙහි ශාන්තියක් ක
රණ පිනිස ඔහුගේ ඉසේ එලන්නේය.
30 ඔහු තමාට සපයන්ට පුළුවන් පමනින්
කොබෙය්යන්ගෙන් එකෙක්වත් පරෙ
31 වි පැටියන් එකෙක්වත් අහර පූජාව ස
මඟ එකෙක් පව් නසන පූජාවක්කොට
එකෙක් දවන පූජාවක්කොට පූජාකර
නෙන්ය. පූජකයාද පවිත්‍රවෙන්ට සිටින්
නා උදෙසා යෙහෝවඃවහන්සේ ඉදිරි
32 යෙහි ශාන්තියක් කරන්නේය. ඔහු
ගේ පවිත්‍රවීමට නිසි දෙය සපයාගන්ට
නුපුළුවන්වූ කුෂ්ඨරෝග ඇත්තාට පන
ත මෙයයි කීයේක.

33 යෙහෝවඃවහන්සේ මෝසෙස් හා ආ
34 රොන්ට වදුරණසේක් තොපගේ බුත්
තිවිඳීමට මා විසින් දෙනනාවූ කනාන්
දේසයට තොපි එන කල්හි තොපට හි
මි දේසයෙහි ගෙයක කුෂ්ඨ රෝගය ත
35 බතොතම්නම් ගෙය ඇත්තා අවුත් ගෙ
යි රෝගයක් තිබෙන බව මට පෙනෙ
36 නෙන්යයි පූජකයාට කිය යුතුය. එවිට
පූජකයා ගෙයි තිබෙන සියල්ල අපවිත්‍ර
නොවෙන පිනිස රෝගය බලන්ට යන්
ට මත්තෙන් ගෙය සිස්කරන්ට ඔවුන්ට
අනකොට ඉන්පසු ගෙය බලන්ට එහි
37 ගොස් රෝගය බලා භික්තියට වඩා ප
හත් පලාවනවත් රත්වනවත් පැලි වලන්
සමඟ රෝග ගෙයි භික්තිවල තිබෙන
38 බව පෙනුනොත් ගෙයින් පිටත දෙර
කඩිට ගොස් සත් දවසක් ගෙය පියා ති
39 බා සත්වෙනි දවසෙහි නැවත අවුත්
රෝගය ගෙයි භික්තිවල පැතිර තිබේ
40 නම් රෝග තිබෙන ගල් ගෙනගොස්
41 නුවරින් පිට අපවිත්‍ර ස්ථානයක ඒවා ද
මන්ටද ගෙය තුල සෑම තැන සූරන්ටද
අනකොට ඔවුන් සූරා හල ඒ දූවිලි නු
42 වරින් පිට අපවිත්‍ර ස්ථානයක දමා වෙ
නින් ගල් ගෙන ඒ ගල් තිබුණු තැනවල
තබා වෙනින් බදාම රැගෙන ගෙය බ
43 දාම ගාන්නේය. ගල් ගෙනගොස් ගේ
සූරාදමා එහි බදාම ගෑ පසු රෝගය නැ
වත පැමින ගෙයි පැතිරෙන්නේනම්
44 පූජකයාද ඇවිත් බලා රෝගය ගෙයි
පැතිර ගියේනම් ඒක ගෙයෙහි බෝ
45 වෙන කුෂ්ඨයක්ය. ඒක අපවිත්‍රය. එවිට
ඔහු ගෙය කඩා එහි ගල්ද දඬුද ගෙයි
සියළු බදාමද නුවරින් පිට අපවිත්‍ර ස්ථා
46 නයකට ගෙනයන්නේය. තවද ගේ පි
යා තිබෙනතුරු ඒ ගෙය තුලට යන
47 තැනැත්තේ සවස දක්වා අපවිත්‍රය. ඒ
ගෙයි නිදන තැනැත්තේ තමාගේ වස්
ත්‍ර සෝදන්නේය. ඒ ගෙයිදී කන තැ
නැත්තේද තමාගේ වස්ත්‍ර සෝදන්නේ
48 ය. පූජකයා එහි අවුත් ගෙය බලා ගෙ
ය බදාම ගෑ පසු රෝගය ගෙයි පැතිර
නොගියේනම් රෝගය සුවවූ බැවින්
49 ගෙය පවිත්‍රයයි කියන්නේය. ඔහු ගෙය
පවිත්‍ර කරණ පිනිස පක්ෂීන් දෙදෙනෙක්
ද කිහිරි දඬුද රතු එළු ලොම්ද හිසොප්
50 ද රැගෙන පක්ෂීන්ගෙන් එකෙක් මැටි
51 භාජනයක ඔසින ජලය පිට මරා කිහිරි
දඬුද හිසොප්ද රතු එළු ලොම්ද ජීවත්
පක්ෂියාද රැගෙන මැරූ පක්ෂි ලෙයෙ
හිත් ඔසින ජලයෙහිත් ගලා සත් වරක්
52 ගෙට ඉස පක්ෂි ලෙයිනුද ඔසින ජලයෙ
නුද ජීවත් පක්ෂියාගෙනුද කිහිරි දඬුවලිනුද
හිසොපිනුද රතු එළු ලොම්නුද ගෙය පවි
53 ත්‍රකොට ජීවත් පක්ෂියා නුවරින් පිට එ
ළිමානයට හැර ගෙය උදෙසා ශාන්ති
54 යක් කරන්නේය ඒකද පවිත්‍රවේ. සිය
55 ළු ආකාර කුෂ්ඨ රෝගයටද ගජ චර්මය
56 ටද වස්ත්‍රයක හා ගෙයක්හි කුෂ්ඨයටද
57 විසප්පුවටද කබොල්ලටද පැහැපත් ව
නයටද ඒක පවිත්‍ර කල්හිද අපවිත්‍ර කල්
හිද උගන්වන පනත මේය. ඒක කුෂ්ඨ
යෙහි පනත වේ.

15. පරිච්ඡේ. යෙහෝවඃවහන්සේ
මෝසෙස්ටද ආරොන්ටද වදුරණසේක්
2 ඊශ්‍රායෙල් පුත්‍රයන්ට කථාකොට යම් පු
රුෂයෙකුට තමාගේ ඇඟෙන් නික්මෙ
න ප්‍රමේහයක් ඇති කල්හි ප්‍රමේහය
3 නිසා ඔහු අපවිත්‍රය. ප්‍රමේහය නිසා අප
විත්‍රකම මෙසේය. ශරීරය ප්‍රමේහයෙන්
වැගිරෙන්නේවත් නැවති තිබෙනොත්
4 වත් ඒක ඔහුගේ අපවිත්‍රකමය. ප්‍රමේහ
ඇත්තා නිදන සියළු යහනද හිඳින සියළු
5 දේවල්ද අපවිත්‍රය. ඔහුගේ යහනේ හැ
පෙන තැනැත්තේ තමාගේ වස්ත්‍ර සෝද

වතුර නා සවස දක්වා අපවිත්‍රව සිටින්නේය. 6 ප්‍රමේහ ඇත්තා කිසිවක් පිට හිඳිද ඒ පිට හිඳිනාවූ තැනැත්තේ තමාගේ වස්ත්‍ර සෝද වතුර නා සවස දක්වා අපවිත්‍රව සිටින්නේය. 7 ප්‍රමේහ ඇත්තාගේ ශරීරයෙහි හැපෙන තැනැත්තේ තමාගේ වස්ත්‍ර සෝද වතුර නා සවස දක්වා අපවිත්‍රව සිටින්නේය. 8 ප්‍රමේහ ඇත්තා පවිත්‍රවූ තැනැත්තා පිට කෙළගසන්නේනම් ඔහු තමාගේ වස්ත්‍ර සෝද වතුර නා සවස දක්වා අපවිත්‍රව සිටින්නේය. 9 ප්‍රමේහ ඇත්තා යම් සෑදලයක් පිට හිඳින්නේද ඒක අපවිත්‍රය. 10 ඔහු හිඳගත් කිසි දෙයක හැපෙන තැනැත්තේ සවස දක්වා අපවිත්‍රව සිටින්නේය. ඒ දේ උසුලනතා වස්ත්‍ර සෝද වතුර නා සවස දක්වා අපවිත්‍රව සිටින්නේය. 11 ප්‍රමේහ ඇත්තා අත් නොසෝද කිසිවකු කෙරේ හැපෙන්නේනම් ඔහු වස්ත්‍ර සෝද වතුර නා සවස දක්වා අපවිත්‍රව සිටින්නේය. 12 ප්‍රමේහ ඇත්තා විසින් හැපුන මැටි භාජනය බිඳිනු ලැබේ. සියළු ලී භාජනද වතුරෙන් සෝදනු ලැබේ. 13 ප්‍රමේහ ඇත්තා ප්‍රමේහයෙන් පවිත්‍රවූ කල්හි තමාගේ පවිත්‍රවීමට සත් දවසක් ගනන්කොට වස්ත්‍ර සෝද තමාගේ ශරීරය බසින වතුරෙන් නා පවිත්‍රවන්නේය. 14 අටවෙනි දවසෙහි කොබෙසියන් දෙදෙනාක්වත් පරෙවි පැටියන් දෙදෙනාක්වත් රැගෙන යෙහෝවාවහන්සේ ඉදිරියෙහි සභාමඩප දොරකඩට අවුත් පූජකයාට දෙන්නේය. 15 පූජකයාද එයින් එකෙක් පව් නසන පූජාව පිණිසද අනිකා දවන පූජාව පිණිසද පූජාකොට ප්‍රමේහය නිසා යෙහෝවාවහන්සේ ඉදිරියෙහි ඔහු වෙනුවට ශාන්තියක් කරන්නේය. 16 යම් පුරුෂයකුගේ ශුක්ල වැගෙන්නේනම් ඔහු තමාගේ මුළු ශරීරය වතුරෙන් සෝද සවස දක්වා අපවිත්‍ර වන්නේය. 17 ශුක්ල තිබෙන සියළු වස්ත්‍ර හා සම් වතුරෙන් සෝද සවස දක්වා අපවිත්‍රව තිබෙන්නේය. 18 යම් ස්ත්‍රීයෙක් සමග පුරුෂයෙක් සංසර්ගය කරන්නේනම් ඔවුන් දෙදෙන වතුර නා සවස දක්වා අපවිත්‍ර වෙනවා ඇත.

19 යම් ස්ත්‍රියකුට ප්‍රමේහයක් වීනම් එහි ලේ තිබේනම් සත් දවසක් වෙන්ව සිටින්නීය. ඇට හැපෙන කවරෙක් නුමුත් සවස දක්වා අපවිත්‍ර වන්නේය. 20 ඇගේ වෙන්ව සිටීමෙහිදී කිසිවක් පිට සැතපෙන්නීද හිඳින්නීද ඒක අපවිත්‍රය. 21 ඇගේ යහනෙහි හැපෙන තැනැත්තේ තමාගේ වස්ත්‍ර සෝද වතුර නා සවස දක්වා අපවිත්‍රව සිටින්නේය. 22 ඈ උන්නාවූ කිසිවක හැපෙන තැනැත්තේ තමාගේ වස්ත්‍ර සෝද වතුර නා සවස දක්වා අපවිත්‍රව සිටින්නේය. 23 ඇගේ යහනෙහිවත් ඈ හිඳින දෙයකවත් තිබෙන දෙයෙහි හැපෙන්නේනම් සවස දක්වා අපවිත්‍රව සිටින්නේය. 24 යම් පුරුෂයෙක් ඈ සමග සංසර්ගය කොට ඇගේ කිළුටු ඔහුට තැවරුනේනම් ඔහු සත් දවසක් අපවිත්‍රව සිටින්නේය. ඔහු සැතපෙන යහනද අපවිත්‍රය. 25 යම් ස්ත්‍රියෙක් අකාලේදී ලේ වැගිමක් ඇත්තීනම් ඇගේ මල්වරවෙන දවසට පසුවත් වැගෙන්නේනම් ඇගේ අපවිත්‍රකමෙහි ප්‍රමේහයෙහි සියළු දවස් ඇගේ වෙනව සිටින දවස් ලෙස ඈ අපවිත්‍ර වන්නීය. 26 ඒ සියළු දවස්වලදී ඈ සැතපෙන හිඳින සියල්ල ඇගේ මල්වරවෙන දවස් ලෙස අපවිත්‍රය. 27 ඒ දේවල හැපෙන තැනැත්තේ අපවිත්‍රය. ඔහු තමාගේ වස්ත්‍ර සෝද වතුර නා සවස දක්වා අපවිත්‍රව සිටින්නේය. 28 ඈ ප්‍රමේහයෙන් පවිත්‍රවූවානම් සත් දවසකට පසු පවිත්‍රව 29 අටවෙනි දවසෙහි කොබෙසියන් දෙදෙනාක්වත් පරෙවි පැටියන් දෙදෙනාක්වත් ගෙන සභාමඩප දොරකඩට පූජකයා වෙතට ගෙනෙන්නීය. 30 පූජකයාද එයින් එකෙක් පව් නසන පූජාව පිණිසද අනිකා දවන පූජාව පිණිසද පූජාකොට ඇගේ ප්‍රමේහයෙහි අපවිත්‍රකම වෙනුවට යෙහෝවාවහන්සේ ඉදිරියෙහි ශාන්තියක් කරන්නේය 31 ඉශ්‍රායෙල්ගේ පුත්‍රයන් ඔවුන් අතරෙහි තිබෙන මාගේ මණ්ඩපය කිළුටුකරණ කල්හි ඔවුන්ගේ අපවිත්‍රකමෙන් නොනස්නා පිණිස තොපි ඔවුන්ගේ අපවිත්‍රකමෙන් ඔවුන් මෙසේ වෙන්කරව්. 32 ප්‍රමේහයක් ඇත්තාගේද ශුක්ල වැගෙන අපවිත්‍රව සිටිනතාගේද 33 මල්වරවීමෙන් ලෙඩින් සිටින්නීගේද ප්‍රමේහයක් ඇති පුරුෂයාගේද ස්ත්‍රීගේද අපවිත්‍රවූ තැනැත්තී සමග සංසර්ගය කරණ තැනැත්තාගේ පනත මේයයි ඔවුන්ට කියව්යි කීසේක.

16. පරිච්ඡ. යෙහෝවාවහන්සේ

තමන්වහන්සේ ඉදිරියෙහි පූජාකොට ම
ලාවූ ආරොන්ගේ පුත්‍රයන් දෙදෙනා
ගේ මරණයෙන් පසු මෝසෙස්හට කථා
2 කොට කරුණාසනය පිට වලාපටල
යෙන් මම පෙනෙන හෙයින් තාගේ
සහෝදරවූ ආරොන් නොනස්නා පිණිස
සියළු කාලයෙහි තිර ඇතුල්වූ පෙට්ටිය
පිට කරුණාසනය ඉදිරියෙහි පවිත්‍ර ස්ථා
3 නයට නොයනාතට ඔහුට කියව. ආ
රොන් පව් නසන පූජාවට නාඹු ගො
නෙක්ද දවන පූජාවකට බැටළුවෙක්ද
4 ගෙනවුත් පවිත්‍රවූ උතුරු සළුව සහ කලි
සම හැඳ රෙදි පටියෙන් ඉඟ බැඳ තොප්
පිය ලා පවිත්‍ර ස්ථානයට එන්නේය. මේ
වස්ත්‍ර පවිත්‍ර බැවින් ඔහු වතුර නා ඒවා
5 පැලඳ ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ සභාවෙන්
පව් නසන පූජාවකට එළුපැටියන් දෙ
නෙනක්ද දවන පූජාවකට බැටළුවෙක්
6 ද ගෙනෙන්නේය. ආරොන් තමා වෙ
නුවට පව් නසන පූජාවෙහි ගොනා පූජා
කොට තමාටද තමාගේ පවුලටද ශාන්
7 තියක් කරන්නේය. ඔහු එළුවන් දෙන්
නා රැගෙන සභාමණ්ඩප දොරකඩ යෙ
හෝවාවහන්සේ ඉදිරියෙහි තබන්නේ
8 ය. ආරොන් යෙහෝවාවහන්සේ නිසා
පසඇටයක්ද අත්හරිනනාවූ එළුවා නි
සා අනික් පසඇටයක්ද එළුවන් කෙරෙ
9 හි පසඇට දමන්නේය. ආරොන් යෙ
හෝවාවහන්සේගේ පසඇට වැටුනාවූ
එළුවා ගෙනවුත් පව් නසන පූජාවක් පි
10 නිස ඔහු පූජාකරන්නේය. අත්හැරීමට
පසඇට වැටුනාවූ එළුවා යෙහෝවාව
හන්සේ ඉදිරියෙහි ඔහුගෙන් ශාන්ති
යක් කරන පිණිසද අත්හරිනනාවූ එළු
වෙක්කොට ඌ වනාන්තරයට හරින පි
නිසද යෙහෝවාවහන්සේ ඉදිරියෙහි දි
11 වි ඇතුව තබනු ලබන්නේය. ආරොන්
ඔහු නිසා පව් නසන පූජාවෙහි ගොනා
ගෙනවුත් ඔහු හා ඔහුගේ පවුල නිසා
ශාන්තියක් කරමින් පව් නසන පූජාවෙ
12 හි ඒ ගොනා මරා යෙහෝවාවහන්සේ
ඉදිරියෙහි පූජාසනයෙහි දිලිහෙන අඟු
රුවලින් ධූම භාජනයක් පුරවා කුඩුක
ලාවූ මිහිරි සුවඳ ද්‍රව්‍යයෙන් ඔහුගේ අත්
පුරවා තිර ඇතුලට ගෙනවුත් ඔහු නො
13 නසින ලෙස ධූම පටලය සාක්ෂිය පිට ති
බෙන කරුණාසනය වසාගනනා පිණිස
ඒ සුවඳ යෙහෝවාවහන්සේ ඉදිරියෙහි
14 ගිනිපිට තබන්නේය. ඔහු ගොනාගේ
ලෙයින් මදක් රැගෙණ ඇඟිල්ලෙන් ක
රුණාසනයෙහි පූර්වදිශාවට ඉස කරුණා
සනය ඉදිරියෙහි ඇඟිල්ලෙන් ඒ ලේ
සත්වරක් ඉසින්නේය.
15 එවිට ඔහු ජනයන් වෙනුවට පව් න
සන පූජාවෙහි එළු වස්සා මරා ලේ තිර
ය ඇතුලට ගෙනගොස් ගොනාගේ ලෙ
යින් කලාක්මෙන් කොට කරුණාසනය
පිටද කරුණාසනය ඉදිරියෙහිද ඉස ඊ
16 ශ්‍රායෙල් පුත්‍රයන්ගේ අපවිත්‍රකම නිසාද
ඔවුන්ගේ සියළු පාපවල අපරාධයන් නි
සාද පවිත්‍ර ස්ථානයට ශාන්තියක්කොට
ඔවුන්ගේ අපවිත්‍රකම මැද ඔවුන් අත
රෙහිද තිබෙනනාවූ සභාමණ්ඩපයටද එ
17 සේ කරන්නේය. ඔහු පවිත්‍ර ස්ථානයට
ශාන්තියක් කරන්ට ඇතුල්වෙන කල්
හි තමා වෙනුවටද තමාගේ පවුල වෙ
නුවටද සියළු ඊශ්‍රායෙල් සභාව වෙනුව
ටද ශාන්තියක් කොට පිටතට එනතුරු
කිසිවෙක්වත් සභාමණ්ඩපයෙහි නොසිටි
18 නෙත්ය. ඔහු යෙහෝවාවහන්සේ ඉදි
රියෙහි තිබෙන පූජාසනය ලඟට ගොස්
ඒ වෙනුවට ශාන්තියක් කොට ගොනා
ගේ ලෙයිනුද එළු වස්සාගේ ලෙයිනුද ම
ද මදක් රැගෙන පූජාසනයෙහි අං වටේට
19 තබා ඇඟිල්ලෙන් ලෙයින් මදක් රැගෙ
න එහි පිට සත්වරක් ඉස ඒක පවිත්‍රකො
ට ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ අපවිත්‍රක
මෙන් ඒක සුධකරන්නේය
20 ඔහු පවිත්‍ර ස්ථානයටද සභාමණ්ඩපයට
ද පූජාසනයටද ශාන්තියක්කොට නිම
21 වා ජීවත්වූ එළුවා ගෙනෙන්නේය. ආ
රොන් තමාගේ දෑත් ජීවත්වූ එළුවාගේ
හිසපිට තබා ඔහු පිටට ඊශ්‍රායෙල් පුත්‍ර
යන්ගේ සියළු අශුද්ධකම්ද සියළු පාප
වල්ද අපරාධයන්ද කියාදෙමින් ඒවා එ
එළුවාගේ හිසපිට තබා සුදුසු මනුෂ්‍යයකු
22 අත වනාන්තරයට යවන්නේය. එළුවාද
ඔවුන්ගේ සියළු අධර්මිෂ්ඨකම් පාළු දේ
සයට ගෙනයන්නේය. ඔහුද එළුවා ව
23 නාන්තරයෙහි අත්හරින්නේය. ආරොන්
සභාමණ්ඩපයට අවුත් පවිත්‍ර ස්ථානයට ගි
යකල්හි හැඳගත් වස්ත්‍ර පහකොට එහි
24 තබා පවිත්‍ර ස්ථානයෙහිදී වතුර නා ව
ස්ත්‍ර හැඳ පිටතට අවුත් තමාගේ දවන
පූජාවද ජනයන්ගේ දවන පූජාවද පූජා
කොට තමා සහ ජනයන් වෙනුවටද
25 ශාන්තියක්කොට පව් නසන පූජාවෙහි
26 තෙල පූජාසනය පිට දවන්නේය. අත්

හරින එළුවා ඇරිය තැනැත්තේත් තමා
ගේ ඇඳුම් සෝදා වතුර නා කඳවුරට
27 එන්නේය. තවද පවිත්‍ර ස්ථානයෙහි
ශාන්තිකරන්ට ලේ ගත් පව් නසන පූ
ජාවෙහි ගොනාද එළුවාද කඳවුරෙන්
පිට ගෙනගොස් සම්ද මස්ද ගොමද ගි
28 නෙහි දවනවා ඇත. උන් දවන තැ
නැත්තේ වස්ත්‍ර සෝදා වතුර නා කඳවු
රට එන්නේය.

29 සත්වෙනි මාසෙහි දසවෙනි දිනදී
යෙහෝවාවහන්සේ ඉදිරියෙහි තොප
ගේ සියළු පාපවලින් පවිත්‍රව සිටින පි
නිස පූජකයා තොප පවිත්‍රකොට තො
30 ප වෙනුවට ශාන්තියක් කරණ නිසා ඒ
දවසේදී තොපගේ රටවැසියෙක්වත්
තොප අතරෙහි වසන අන්රට වැසි
යෙක්වත් තමන්ගේ හිත්වලට පීඩාක
රමින් කිසි කර්මාන්තයක් නොකරණ
ලෙස තොපට සදාකාල පනතක් වන්
31 නේය. සදාකාල පනතකින් ඒක තොප
ට නිවාඩුවූ සබත් දවසක් වන්නේය. ඒ
දවසේදී තොපගේ හිත්වලට පීඩාකර
32 ණවා ඇත. ආලේපකිරීමෙන් තමාගේ
පියාගේ ස්ථානයෙහි පූජක තනතුරෙ
හි මෙහෙකරණ පිනිස පවිත්‍රකරණලද
පූජකයා ශාන්තියක් කරන්නේය. ඔහු
33 පවිත්‍ර වස්ත්‍ර හැඳ පවිත්‍ර ස්ථානයටද සභා
මඬපයටද පූජාසනයටද පූජකයින්ටද
සභාවෙහි සියළුජනයන්ටද ශාන්තියක්
34 කරන්නේය. ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ සි
යළු පාපවල් නිසා අවුරුදු පතා ශාන්ති
යක් කරණ පිනිස මේක තොපට සදා
කාල පනතක් වන්නේයයි කීසේක. ආ
රොන් යෙහෝවාවහන්සේ මෝසෙස්ට
අනකල ලෙස කෙලේය.

17. පරිච්ඡ. යෙහෝවාවහන්සේ
2 මෝසෙස්ට වදාරණසේක් ආරොන් සහ
ඔහුගේ පුත්‍රයන්ටද සියළු ඊශ්‍රායෙල් පු
ත්‍රයන්ටද කථාකොට යෙහෝවාවහන්
3 සේ අනකල දේනම් ඊශ්‍රායෙල් පුත්‍රයෝ
වෛශ්‍යකමෙන් මෙන් යක්ෂයින්ට ඇ
ළුම්ව සිට ඔවුන්ට පූජාවල් පූජා නොක
රණ පිනිසද එළිමහනෙහි පූජාකරණ
තමන්ගේ යාගවල් සභාමඬප දෙරකඩ
ට යෙහෝවාවහන්සේ ඉදිරියෙහි පූජ
කයා වෙතට ගෙනවුත් යෙහෝවාව
හන්සේට ශාන්ති පූජාවල් කොට තමන්
4 සතුන් පූජාකරවන පිනිසද ඊශ්‍රායෙල්
වංශයෙන් කොයි මනුෂ්‍යයෙක් නුමුත්
ගොනෙක්වත් බැටළු වස්සෙක්වත් එ
ළුවෙක්වත් යෙහෝවාවහන්සේගේ ම
ඬපය ඉදිරියෙහි යෙහෝවාවහන්සේට
පූජාකරන්ට සභාමඬප දෙරකඩට ගෙ
නෙන්නේය. එසේ නොකොට කඳවු
රේදීවත් පිටතදීවත් උන් මැරුවොත්
5 ඔහු ලේ වැගිරෙව් නිසා ලෙයෙහි අපරා
ධය ඔහුට වන්නේය ඔහු තමන් ජන
6 යන් කෙරෙන් පහකරනු ලැබේ. පූජ
කයාද ඒ සතාගේ ලේ සභාමඬප දෙර
කඩදී යෙහෝවාවහන්සේගේ පූජාසන
ය පිට ඉස යෙහෝවාවහන්සේට මිහිරි
සුවඳක් පිනිස තෙල දවන්නේයයි ඔ
7 වුන්ට කියව. මේක ඔවුන්ට තමන්ගේ
පරම්පරාවල සදාකාල පනතක.

8 ඊශ්‍රායෙල්ගේ වංශයෙනවත් තොප අ
තරෙහි වසන අන්රට වැසියන්ගෙන්
වත් දවන පූජාවක් හෝ යාගයක්හෝ
පූජාකරනතාවූ කවරෙක් නමුත් යෙහෝ
9 වාවහන්සේට පූජාකරණ පිනිස ඒක ස
භාමඬප දෙරකඩට නොගෙනෙනවා
නම් ඔහු තමාගේ ජනයන් කෙරෙන් ප
10 හකරනු ලැබේයයි ඔවුන්ට කියව. තව
ද ඊශ්‍රායෙල් වංශයෙන්වත් තොප අත
රෙහි වසන අන් රට වැසියන්ගෙනවත්
කවරෙක් නුමුත් කෙබඳු ලෙයක්වත්
කනවානම් ඔහුට විරුද්ධව මාගේ මුහුණ
තබා ඔහු තමන් ජනයන් කෙරෙන් ප
හකරදමනෙමි. සත්වයාගේ ප්‍රාණය
11 ලෙයෙහි ඇත්තේය ලේ ආත්මයට ශාන්
තිකරණ බැවින් එයින් පූජාසනය පිටදී
තොපගේ ආත්මවලට ශාන්තියක් කර
12 ණ පිනිස තොපට අනදුනෙමි. එබැ
වින් තොපගෙන් කිසිවෙක්වත් තොප
අතරෙහි වසන අන් රට වැසියෙක්වත්
ලෙයින් නොකව්යයි ඊශ්‍රායෙල් පුත්‍රයන්
13 ට කියමි. ඊශ්‍රායෙල් පුත්‍රයන්ගෙනවත්
තොප අතරෙහි වසන අන් රට වැසියන්
ගෙනවත් කිසිවෙක් දඩයම් කරමින් කෑ
යුතු මෘගයෙක්වත් පක්ෂියෙක්වත් අල්
වාගන්නේනම් ප්‍රාණය ලෙයෙහි ඇති
හෙයින් ඒ සතාගේ ලේ වත්කර දූවිල්
14 ලෙන් වසන්නේය. සියළු සතුන්ගේ ප්‍රා
ණය ලෙයෙහි ඇති නිසා කොයි ප්‍රකා
ර සතුන්ගේ ලෙයිනවත් තොපි නොකව්
යයි ඊශ්‍රායෙල් පුත්‍රයන්ට කියෙමි. එයින්
කන තැනැත්තේ පහකරනු ලැබේ.
15 තොපේ රටවැසියෙක් හෝ අන්රට වැ

සියෙක් හෝ ඉබේ නැසුන සතෙකුත් මෘ
ගයන් විසින් ඉරණලද්දවූණත් කනවා
නම් ඔහු තමාගේ වස්ත්‍ර සෝදා වතුර නා
16 සවස දක්වා අපවිත්‍රව සිටින්නේය. එවි
ට ඔහු පවිත්‍ර වන්නේය. ඔහු ඒවා සෝ
දා වතුර නොනෑයේනම් ඔහු තමාගේ
අපරාධය බරණ බව ඔවුන්ට කියවයි
කීයේය.

18. පරිච්ඡේ. යෙහෝවාවහන්සේ
2 මෝසෙස්ට වදාරණසේක් ඊශ්‍රායෙල් පු
ත්‍රයන්ට මෙසේ කියව තොපගේ දෙවි
වූ යෙහෝවාවහන්සේ මමය. තොපි වි
සූ මිසර දේසයෙහි ක්‍රියාවල් ලෙස නො
3 කරව්. ඔවුන්ගේ විධිවල නොහැසිර මා
ගේ පනතවල් කොට එහි හැසිරෙන පි
නිස මාගේ නියෝගවල් රක්‍ෂාකරව්.
4 තොපගේ දෙවිවූ යෙහෝවාවහන්සේ
මමය. එබැවින් තොපි මාගේ පනත් ස
5 හ නියෝගවල්ද රක්‍ෂාකරව්. මනුෂ්‍ය
යෙක් ඒ කරන්නේනම් එහි ජීවත්වන්
නේය. යෙහෝවාවහන්සේ මමය.
6 තොපගෙන් කිසිවෙක් තමාට නෑවූ
ස්ත්‍රියකු කරා නොඑළඹිවා. යෙහෝවා
7 වහන්සේ මමය. තාගේ මවු කරා නො
එළඹෙව ඈ තාගේ පියා සන්තක නි
සාත් තාගේ මවු නිසාත් ඈ කරා නොඑ
8 ළඹෙව. තාගේ පියා සතු භාර්‍යාවක් ක
9 රා නොඑළඹෙව. තාගේ සහෝදරීවූ
තාගේ පියාගේවත් මවුගේවත් දූ කරා
නොඑළඹෙව. ඈ ගෙයි උපන් නුමුත්
වෙන ස්ථානයක උපන් නුමුත් ඈ කරා
නොඑළඹෙව. තාගේ පුත්‍රයාගේවත් දූ
10 වනියන්ගේවත් දූ කරා නොඑළඹෙව.
ඔවුන් තා සන්තක නිසා ඔවුන් කරා
11 නොඑළඹෙව. තාගේ පියාගේ භාර්‍යා
ව තාගේ පියා නිසා වැදූ දූ කරා නොඑ
12 ළඹෙව ඈ තාගේ සහෝදරීය. තාගේ
පියාගේ සහෝදරී කරා නොඑළඹෙව
ඈ තාගේ පියාට කිට්ටු නෑකම් ඇත්තී
13 ය. තාගේ මවුගේ සහෝදරී කරා නො
එළඹෙව ඈ තාගේ මවුට කිට්ටු නෑකම්
14 ඇත්තීය. තාගේ පියාගේ සහෝදරයා
සතු ඔහුගේ භාර්‍යාව කරා නොඑළඹෙ
15 ව ඈ තාගේ කුඩම්මාය. තාගේ ලේලි
කරා නොඑළඹෙව ඈ තාගේ පුත්‍රයා
ගේ භාර්‍යාව නිසා ඈ කරා නොඑළඹෙ
16 ව. තාගේ සහෝදරයා සතු ඔහුගේ භා
17 ර්‍යාව කරා නොඑළඹෙව. ස්ත්‍රී සහ ඈ
ගේ දූ කරා නොඑළඹෙව. ඈගේ පුත්‍රයා
ගේවත් දූවනියන්ගේවත් දූ කරා එළ
ඹෙන පිනිස ඔවුන් නොගන්නුව. ඔවුන්
ඈට කිට්ටු නෑකම් ඇත්තියෝය. ඒක
18 දුෂ්ටකමය. තාගේ භාර්‍යාව ජීවත්ව සි
ටින කල්හි ඈට දුක්දෙන පිනිස ඈගේ
සහෝදරී තට අඹුකමට ගෙන ඈ කරා
19 නොඑළඹෙව. ඈගේ මල්වරවීම නිසා
වෙනව සිටින ස්ත්‍රියකු කරා නොඑළඹෙ
20 ව. තා අපවිත්‍රවෙන ලෙස තාගේ අසල්
වාසියාගේ ස්ත්‍රිය සමග සංසර්ගය නො
21 කරව. තාගේ වංශයෙන් කිසිවෙක් මෝ
ලෙක් නිසා ගිනි මැදින් යන්ට අවසර
නොදෙව. තාගේ දෙවියන්වහන්සේගේ
නාමය අපවිත්‍ර නොකරව යෙහෝවාව
22 හන්සේ මමය. ස්ත්‍රිය සමග මෙන් පුරු
23 ෂයන් සමග සයනය නොකරව. ඒක පි
ලිකුලක. කිසි මෘගයෙක් සමග සංසර්ග
යකොට අපවිත්‍ර නොවව. කිසි ස්ත්‍රියෙක්
සංසර්ගය පිනිස මෘගයෙකු ඉදිරිපිට නො
24 සිටිවා ඒක වියවුල්ය. මේ දේවලින් කි
සිවකින් කිළුටු නොවව. මම තොප ඉ
දිරියෙන් පහකරණ ජාතීහු මේ සියළු
25 දේවලින් අපවිත්‍රව දේසය කිළුටුකල නි
සා ඒ අධර්මිෂ්ඨකමට පලිගන්නෙමි. දේ
සය තෙමේම එහි වැසියන් වමනයකර
26 දමන්නේය. එබැවින් තෙපි දේසය අප
27 විත්‍රකරණ කල්හි තොපට පූර්වයෙන් එ
හි සිටි ජාතීන් දේසය විසින් වමනයකර
දැමූවාක්මෙන් තොප වමනයකර නො
දමන පිනිස මාගේ පනත් සහ නියෝග
28 වල් රකිව්. තොපට පූර්වයෙන් දේසයෙ
හි විසූ මනුෂ්‍යයෝ මේ සියළු පිලිකුල්
දේවල් කොට දේසය කිළුටු කලෝය. ඒ
නිසා තොපගේම ජාතියෙන් කිසිවෙක්
වත් තොප අතරෙහි වසන කිසි අන්‍ය
ට වැසිවෙක්වත් මේ පිලිකුල් දේවලින්
29 කිසිවක් නොකරව්. මේ පිලිකුල් දේව
ලින් කිසිවක් කරණ කවරෙක් නුමුත් ඒ
ප්‍රාණයෝ තමන් ජනයන් කෙරෙන් පහ
30 කරනු ලැබෙත්. එබැවින් තෙපි තොප
ට පලමුවෙන් කරණලද මේ පිලිකුල්
සිරිත්වලින් කිසිවක් කොට ඒ දේවලින්
අපවිත්‍ර නොවන පිනිස මාගේ නියෝග
යන් රකිව්. තොපගේ දෙවිවූ යෙහෝ
වාවහන්සේ මම වෙමියි වදාලසේක.

19. පරිච්ඡේ. තවද යෙහෝවාවහන්
2 සේ මෝසෙස්ට වදාරණසේක් ඊශ්‍රායෙල්

පුත්‍රයන්ගේ මුළු සභාවට කථාකොට
තොපගේ දෙවිවූ යෙහෝවාවහන්සේ
වන මම ශුද්ධව සිටිමි ඒ නිසා තොපිත්
3 ශුද්ධවව්. තොපි එකින්එකා තමතමාගේ
මවුටද පියාටද භයවෙමින් මාගේ සබත්
රක්‍ෂාකරව්. තොපගේ දෙවිවූ යෙහෝ
4 වාවහන්සේ මම වෙමි. රූපවලට නමස්
කාර නොකරව් වාත්තු දේවතාවන් සා
දා නොගනිව්. තොප්පගේ දෙවිවූ යෙ
5 හෝවාවහන්සේ මමය. තොපි ශාන්ති
පූජාවල්වලින් යාගයක් යෙහෝවාව
හන්සේට පූජාකරන්නහුනම් කැමැත්
6 තෙන්ම ඒක පූජාකරණුවා ඇත. පූජාක
රණ දවසෙහිද පසු දවසෙහිද ඒක කනු
ලැබේ එහෙත් තුන්වෙනි දවස දක්වා
කිසිවක් ඉතුරුව තිබේනම් ඒක ගින්
7 නෙහි දවනු ලැබේ. එයින් කිසිවක්
තුන්වෙනි දවසෙහි කනු ලැබේනම් ඒ
ක පිළිකුල්ය ඒක පිළිගනු නොලැබේ.
8 එබැවින් ඒක කන තැනැත්තේ යෙ
හෝවාවහන්සේගේ පවිත්‍රවූ දෙය අප
විත්‍රකල නිසා තමාගේ අධර්මිෂ්ඨකම
ධරා තමාගේ ජනයන් කෙරෙන් පහක
9 රනු ලැබේ. තොපගේ දේසයෙහි ගො
යම් කපන කල්හි තාගේ කෙත්වල
කොන් මනාකොට නොකපා වැටී ති
10 බෙන කරල් එකතු නොකරව. තාගේ
මිදි වත්තෙහි වැටී තිබෙන මුද්‍රික ඵල
එකතු නොකොට එහි සියළු මුද්‍රික ඵල
නොකඩා දිලිඳුන්ටද අන් රට වැසියන්
ටද ඒවා අත්හරුව. තොපගේ දෙවිවූ
11 යෙහෝවාවහන්සේ මමය. සොරකම්
නොකරව් වචා නොකරව් උනු උනුන්
ට බොරු නොකියව්. මාගේ නාමයෙන්
12 බොරුවට නොදිව්රව් තාගේ දෙවියන්
වහන්සේගේ නාමයට අශුද්ධ නොකරව
13 යෙහෝවාවහන්සේ මමය. තාගේ අ
සල්වාසියාට අයුත්තක් නොකරව ඔහු
ගේ වස්තු කොල්ල නොගනුව. කුලීකා
රයාගේ කුලී උදය දක්වා මුළු රාත්‍රි තා
14 වෙත නොතිබව. බිහිරන්ට නපුරුසා
ප නොකරව අන්ධයන් ඉදිරියෙහි පැකි
ලෙන යමක් නොතිබව. එහෙත් තාගේ
15 දෙවියන්වහන්සේට භයවෙව යෙහෝ
වාවහන්සේ මමය. විනිශ්චයෙහි අයුතු
කම් කරණ ලෙස දිළිඳුයේවත් වස්තුකා
රයාගේවත් මුහුන නොබලා සාධාරණ
කමෙන් තාගේ අසල්වාසියා විනිශ්චය
16 කරව. තාගේ ජනයන් අතරෙහි කේ
ලම්කාරයෙක්ව ඔබ මොබ නොයව.
තාගේ අසල්වාසියාගේ ප්‍රාණයට විරුද්ධ
ව නොසිටුව. යෙහෝවාවහන්සේ මම
17 ය. තාගේ හෘදයෙහි තාගේ සහෝදර
18 යාට වෛරව නොසිටුව. තාගේ අසල්
වාසියාට පව් කරන්ට අවකාස නොදී දූ
නමුතුකම් දෙව. තාගේ ජනයන්ගේ පු
ත්‍රයන්ට විරුද්ධව වෛරව නපුරට නපු
රක් නොකොට තටම මෙන් තාගේ අ
සල්වාසියාට ස්නේහ කරව. යෙහෝවා
වහන්සේ මමය. මාගේ පනත් රක්‍ෂාක
19 රව්. තාගේ සිවුපාවුන් අන්‍ය ජාතීන් ස
මග සංවාසය කරන්ට නොදෙව්. මිශ්‍රවූ
බිත්තර බෝගවලින් තාගේ කෙත
නොවපුරව. කපු සහ ලොම්වලින් මිශ්‍ර
20 වූ වස්ත්‍රයක් නොහඳුව. පුරුෂයෙකුට වි
වාහබස් දුන් මිදීමවත් නිදහස්කමවත්
නොලැබූ දාසියෙක් සමග කිසිවෙක්
සංසර්ගය කරන්නේනම් ඇ පහර ල
බන්නීය. ඇ නිදහස්ව නොසිටින නිසා
21 ඔවුන් මරණය නොලබනවා ඇත. ඔහු
තමාගේ අපරාධ නාසන පූජාවක්කොට
බැටළුවකු සභාමණ්ඩප දොරකඩ ළඟ යෙ
හෝවාවහන්සේ වෙතට ගෙනෙන්නේ
22 ය. පූජකයාද අපරාධ නාසන පූජාවෙහි
බැටළුවාගෙන් ඔහු කල පාපය වෙනුව
ට යෙහෝවාවහන්සේ ඉදිරියෙහි ශාන්
තියක් කරන්නේය. ඔහු කලාවූ පාපය
23 ඔහුට ක්‍ෂමාකරනු ලැබේ. තොපි දේස
යට ඇතුල්ව ආහරය පිනිස සියළු ආකාර
ගස් වචා තුන් අවුරුද්දකට එහි ඵල අ
24 පවිත්‍ර නිසා කෑම පිණිස නොකඩව්. හ
තරවෙනි අවුරුද්දේ එහි සියළු ඵල යෙ
හෝවාවහන්සේගේ ස්තුති පැවැත්වීම
25 පිනිස පවිත්‍රවන්නේය. පස්වෙනි අවු
රුද්දෙහිද එහි වැඩිවීම ලැබෙන ලෙස
එහි ඵල නෙලා කනවා ඇත. තොපගේ
26 දෙවිවූ යෙහෝවාවහන්සේ මමය. ලේ
සමග කිසිවක් නොකව් ඇස්බැන්දුම්
නොපවත්වව්. කාලයන් නොසලකව්.
27 තොපගේ හිසකෙසෙහි කොන් වට
නොකරව්. තොපගේ රැවුල කොන්
28 නොකපව්. මලවුන් නිසා තොපගේ ශ
රීරයෙහි කැපුන් නොකරව්. තොප ශ
රීරයෙහි කිසි ලකුනක් නොකරව් යෙ
29 හෝවාවහන්සේ මමය. දේසය වෛශ්‍යා
කමට නොවැටෙනපිනිසද දුෂ්ඨකමෙන්
පූර්ණ නොවෙන පිනිසද වෛශ්‍යාකම
30 ට තාගේ දුව පාවා නොදෙව. මාගේ

සබත් රක්‍ෂාකරව් මාගේ පවිත්‍ර ස්ථානය
ට ගෞරව කරව් යෙහෝවඃවහන්සේ
31 මමය. යක්‍ෂ බන්ධනයන් නොසලකව්.
විනකාරයන් සොයා අපවිත්‍ර නොවව්.
තොපගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ
32 මමය. පැහුනු ඉසකෙස් ඇත්තා ඉදිරියෙ
හි නැගී සිටුව මහල්ලාගේ මුහුනට ගෞ
රව කරව. තාගේ දෙවියන්වහන්සේට භ
යවව. යෙහෝවඃවහන්සේ මමය. තො
33 පගේ දේසයෙහි අන්රට වැසියෙක් වස
නොත්නම් ඔහුට නොවෙහෙසව්. මිසර
34 දේසයෙහි අන්රට වැසියන් මෙන් තො
පි විහූ නිසා තොප සමග වසන අන්රට
වැසියා තොප අතරෙහි උපනෙකු
මෙන් වන්නේය. තටමෙන් ඔහුට
සෙන්හ කරව. තොපගේ දෙවිවූ යෙ
35 හෝවඃවහන්සේ මමය. නඩුඇහීමෙන්
වත් මනින දන්ඩෙන්වත් කිරීමෙන්වත්
මැනීමෙන්වත් අධර්මිෂ්ඨකම් නොක
36 රව්. යුතු තරාදිද යුතු බරද යුතු ඒපාවක්
ද යුතු හිනක්ද තොපට තිබාගනිව්. මි
සර දේසයෙන් තොප ගෙනාවාවූ තො
පගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ මම
37 ය. එබැවින් මාගේ සියළු නියෝගවල්ද
සියළු පනත්ද සලකා ඒවා කරව් යෙ
හෝවඃවහන්සේ මමයයි ඔවුන්ට කියව
යි වදාලසේක.

20. පරිච්ඡ. තවද යෙහෝවඃවහන්
2 සේ මෝසෙස්ට වදාරණසේක් නැවත
ඊස්‍රායෙල් පුත්‍රයන්ට කථාකොට ඊස්‍රා
යෙල් පුත්‍රයන් අතරෙන්වත් ඊස්‍රායෙල්
හි වසන අන්රට වැසියන්ගෙන්වත් ඔහු
ගේ වංශයෙන් මෝලෙක්හට දෙන ක
වරෙක් හුවූත් සැබවින් මරණට පැමි
ණෙනොත්ය. දේසයෙහි වැසියෝ ඔහුට
3 ගල්ගසනවා ඇත. මාගේ පවිත්‍ර ස්ථාන
ය කිළුටුකොට මාගේ පවිත්‍ර නාමය අප
විත්‍ර කරනනාවූ ඔහු තමාගේ වංශයෙන්
මෝලෙක්හට දුන් බැවින් මාගේ මුහු
න ඔහුට විරුඬව හරවා ඔහුගේ ජන
යන් කෙරෙන් ඔහු පහකර දමනෙනම්.
4 ඔහු තමාගේ වංශයෙන් මෝලෙක්හට
දෙනකල දේසයෙහි වැසියෝ ඒ නො
සලකා ඔහු නොමරනනාහුනම් එවිට ම
ම ඒ මනුෂ්‍යයාටද ඔහුගේ පවුලටද වි
5 රුඬව මාගේ මුහුන හරවා ඔහු සහ ඔ
හු සමග මෝලෙක්හට වෙශ්‍යාකමෙන්
මෙන් ඇළුම්ව සිටින සියල්ලන්ද ඔවුන්
ගේ ජනයන් කෙරෙන් පහකර දමන්
නෙම්.
6 යක්‍ෂ බන්ධනකාරයන්ටද මායාකාර
යන්ටද ඇළුම්ව සිටින ප්‍රාණිහට විරුඬ
ව මාගේ මුහුන හරවා ඔහු තමන් ජන
7 යන් කෙරෙන් පහකර දමනෙනම්. මම
තොපගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ
8 ය. එබැවින් පවිත්‍ර ලෙස තොපම වෙන්
කොට මාගේ නියෝගයන් රක්‍ෂාකර
මින් කීකරු වව්. තොප පවිත්‍ර කරණ
යෙහෝවඃවහන්සේ මමය.
9 පියානන්ටවත් මෑනියන්ටවත් අවන්
නාවූ සියල්ලෝම සැබවින් මරනු ලැ
බෙත්. ඔවුන් තමන් පියානන්ටවත් මෑ
නියන්ටවත් ඇව්වෝය. ඔවුන් මැරිය
10 යුතු වැරදිකාරයෝය. ඔහුගේ අසල්වා
සියාගේ භාර්‍ය්‍යාව සමග පරදාර කරණ
තැනැත්තේ මරනු ලබනෙනය. පරදාර
කර්මය කරනනාද පරදාර කර්මය කරන්
11 නිද මරනු ලබනවා ඇත. යම් මනුෂ්‍ය
යෙක් තමාගේ පියා සතු භාර්‍ය්‍යාව සම
ග සයනයකොට සංසර්ගය කරන්නේ
නම් ඒ දෙදෙන මරනු ලබනවා ඇත.
12 ඔවුන් මැරිය යුතු වැරදිකාරයෝය. මනු
ෂ්‍යයෙක් තමන් ලේලී සමග සයනය
කරනෙනත්නම් ඒ දෙදෙන සැබවින් මර
නු ලබනවා ඇත ඔවුන් වියවුල් කලෝ
ය. ඔවුන් මැරිය යුතු වැරදිකාරයෝය.
13 මනුෂ්‍යයෙක් ස්ත්‍රියක් සමග සයනය ක
රනාක්මෙන් පුරුෂයකු සමග සයනය
කරන්නේනම් ඒ දෙදෙන පිලිකුලක්
කලෝය. ඔවුන් සැබවින් මරනු ලබන
වා ඇත ඔවුන් මැරිය යුතු වැරදිකාර
14 යෝය. මනුෂ්‍යයෙක් භාර්‍ය්‍යාව සහ ඇ
ගේ මෑනියන් පාවාගනොත්නම් ඒ දුෂ්ට
කමය. තොප අතරේ දුෂ්ටකම නොවේ
න පිනිස ඔවුන් දෙදෙන් ගිනෙනන් අ
15 වනු ලබනවා ඇත. මනුෂ්‍යයෙක් මෘග
යකු සමග සංසර්ගය කරනෙනත්නම් ඔහු
මරනු ලබනෙනය. තොපි ඒ මෘගයා ම
16 රනෙනාය. තවද ස්ත්‍රියක් මෘගයකු සම
ග සංසර්ගය කරන්ට ළං ලඟට යන්නි
නම් ඒ ස්ත්‍රී හා මෘගයාද මරව් ඔවුන් සැ
බවින් මරනු ලබනවා ඇත. ඔවුන් මැ
17 රිය යුතු වැරදිකාරයෝය. මනුෂ්‍යයෙක්
තමන් පියාගේවත් මෑනියන්ගේවත්
දූ කර එලබෙනවානම් ඒ දුෂ්ට කාර
ණයක. ඔවුන් තමන් ජනයන්ගේ ඇස්
ඉදිරියෙහි මරනු ලබනවා ඇත. ඔහු

තමාගේ සහෝදරී කර එලඹ ඔහුගේ
18 අශුතුකම බරන්නේය. තවද මනුෂ්‍ය
යෙක් මල්වරවූ ස්ත්‍රියකු කර එලඹ ඈ
සමග සංසර්‍ගය කරනොත්නම් ඔහු ඈ
ගේ උල්පත දුටුවේය ඈද ඈගේ ලේ
උල්පත ප්‍රකාසකලාය. ඒ දෙදෙන ඔ
වුන්ගේ ජනයන් අතරෙන් පහකරනු
19 ලබනවා ඇත. තෝ තාගේ මෑනියන්
ගේවත් පියානන්ගේවත් සහෝදරී කර
එලඹ කිට්ටු නෑකම් ඇත්තාවූ ඔවුන් ස
මග සංසර්‍ගය නොකරව. ඔවුන් තමන්
20 ගේ දුෂ්ඨකම බරණවා ඇත. මනුෂ්‍ය
යෙක් තමන් බාප්පා සතු භාර්‍යාවක්
සමග සයනය කරනොත්නම් ඔවුන් ත
මන්ගේ පාපය බර දරුවන් නැතුව
21 නස්නෝය. මනුෂ්‍යයෙක් තමන් සහෝ
දරයා සතු භාර්‍යාව සමග සයනය කර
නොත්නම් ඒ කිළුටු කාරණයක ඔවුන්
දරුවන් නැතුව සිටිනවා ඇත.

22 තොපේ වාසය පිනිස මා විසින් තො
ප ගෙනයන දේසය තොප වමාරා නො
දමන පිනිස මාගේ සියළු නියෝගයනු
පනතවල්ද කීකරු ලෙස රක්‍ෂාකරව.
23 තොප ඉදිරියෙන් මා විසින් බැහැරකලා
වූ වර්‍ගයන් ඒ සියල්ල කොට මට පිළිකු
ලක්වූ බැවින් තොපි ඔවුන්ගේ අනුම්
24 වල නොහැසිරෙව්. මීයෙනු කිරෙන්ද
සම්පූර්‍ණවූ ඔවුන්ගේ දේසය තොපි හි
මිවනොතාය ඒ අයිතිවෙන පිනිස ඒක
තොපට දෙන්නෙම්යි තොපට කීම්.
අන් ජනයන් කෙරෙන් තොප වෙන්ක
ලාවූ තොපගේ දෙවිවූ යෙහෝවාවහන්
25 සේ මමය. එබැවින් තොපි පවිත්‍රවූ අප
විත්‍රවූ මෘගයනු අපවිත්‍රවූ පවිත්‍රවූ පක්‍ෂීනු
අතරෙන් වෙනස්කරව්. අපවිත්‍රකොට
තොප කෙරෙන් මා විසින් වෙන්කලා
වූ මෘගයින්ගෙණවත් පක්‍ෂීන්ගෙණවත් බ
ඩගාන කොයි ප්‍රකාර සතුන්ගෙන්වත්
තොපේ ප්‍රාණවල් පිළිකුල් නොකරව්.
26 මාගේම වෙන පිනිස අන් ජනයන් කෙ
රෙන් තොප වෙන්කල යෙහෝවාවූ ම
ම පවිත්‍රව සිටිම් ඒ නිසා තොපිත් මට
27 පවිත්‍රවව්. බන්ධනවූ යකෙක් ඇත්තා
වූ නොහොත් මායාකාරයෙක්වූ පුරුෂ
යෙක්වත් ස්ත්‍රියෙක්වත් මරණට පැමින
ගල්වලින් ගසනු ලැබෙනොතාය. ඔවුන්
මැරිය යුතු වැරදිකාරයෝයයි ඊශ්‍රායෙල්
පුත්‍රයන්ට කියවයි වදාලසේක.

21. පරිච්. යෙහෝවාවහන්සේ
2 මෝසෙස්ට වදාරණසේක් ආරොන්ගේ
පුත්‍රවූ පූජකයන්ට කථාකරමින් තමාට
කිට්ටු නෑකම් ඇත්තාවූ තමාගේ මව්ද
පියාද පුත්‍රයාද දුවද සහෝදරයාද අක්‍වා
මිකා කනකාවූ තමා ලග සිටින සහෝද
රීද යන මොවුන් ඇර පූජකයන් අත
රෙහි කිසිවෙක් මලවුන් උදෙසා කිළුටු
3 නොවනොත්ය. ඔහු තමන් ජනයන් අ
4 තරෙහි නායකයෙක් බැවින් තමන්ම
කිළු කරණ ලෙස අපවිත්‍ර නොවනොත්
5 ය. ඔවුන් තමන් හිස මුඩු නොකොට
රැවුල කොන් නොබා ඔවුන්ගේ මාංශ
යෙහි කිසි සිදීමක් නොකරණවා ඇත.
6 ඔවුන් තමන්ගේ දෙවියන්වහන්සේට ප
වින්‍රව තමන්ගේ දෙවියන්වහන්සේගේ
නාමය අපවිත්‍ර නොකරණවා ඇත. ඔ
වුන් තමන්ගේ දෙවිවූ යෙහෝවාවහන්
සේගේ දවන පූජාවල් සහ භෝජනය
පූජාකරණ බැවින් පවිත්‍රවෙනවා ඇත.
7 ඔවුන් වෛශ්‍යාවියක්වත් කිළුටුකල නැ
නැත්තියක්වත් ඈගේ ස්වාමියා කෙ
රෙන් පහවූ ස්ත්‍රියක්වත් අඹුකමට නො
8 ගනොතාය. ඔහු තමාගේ දෙවියන්වහන්
සේට පූඩයෙක. ඔහු තාගේ දෙවියන්ව
හන්සේගේ භෝජනය පූජාකරණ නිසා
ඔහු පවිත්‍ර කරව. තා පවිත්‍ර කරණ යෙ
හෝවාවහන්සේ වන මම පවිත්‍රව සිටිම්
9 ඒ නිසා ඔහු තට පවිත්‍ර වනොත්ය. කිසි
පූජකයෙකුගේ දුවක් වෛශ්‍යාකමෙන්
කිළුටු වන්නිනම් ඈ තමාගේ පියා අප
විත්‍ර කරන්නිය ඈ ගිනෙනන් දවනු ල
බන්නිය.

10 ඔහුගේ හිස පිට ආලේප තෙල වගුර
වනලදුව පූඩ වස්ත්‍ර හැඳීමට කැපකරණ
ලදුව තමාගේ සහෝදරයන් අතරෙහි
නායක පූජකවූ තැනැත්තේ තමාගේ
හිස වැසුන් නොහැර තමාගේ වස්ත්‍රද
11 නොඉරා කිසි මිනියක් ලඟට නොගොස්
තමාගේ පියාවත් මවුවත් උදෙසා අපවි
12 ත්‍ර නොවනොත්ය. පවිත්‍ර ස්ථානයෙන් පි
ටත්ව නොගොස් තමාගේ දෙවියන්ව
හන්සේගේ ආලේප තෙල නැමති ඔටු
න්න ඔහු පිට ඇති නිසා තමාගේ දෙවි
යන්වහන්සේගේ පවිත්‍ර ස්ථානය අපවිත්‍ර
13 නොකරන්නේය. යෙහෝවාවහන්සේ
මම වෙමි. ඔහු භාර්‍යාවක් තමාගේ ක
14 න්‍යාභාවයෙහිදී පාවාගනොත්ය. වැන්
දඹුවක්වත් හැරුණවූ ස්ත්‍රියක්වත් කිළුටු

කල තැනැත්තියක්වත් වේසියක්වත්
15 නොව තමාගේම ජනයන්ගෙන් කන්‍යා
වක් පාවාගෙන තමාගේ ජනයන් අත
රෙහි තමාගේ වංශය අපවිත්‍ර නොකර
න්නේය. ඔහු පවිත්‍ර කරණ යෙහෝවඃ
වහන්සේ මම වෙමියි ඔවුන්ට කියවයි
වදාළසේක.

16 යෙහෝවඃවහන්සේ මෝසෙස්ට වදා
17 රණසේක් ආරොන්හට කථාකොට ඔ
වුන්ගේ පරම්පරා අතරෙන් තාගේ ව
ංශයෙන් කැලල් ඇති කවරෙක් නුමුත්
ඔහුගේ දෙවියන්වහන්සේගේ භෝජන
18 ය පූජාකරන්ට ළං නොවේවා. කැලලක්
ඇති කොයි මනුෂ්‍යයෙක් නුමුත් ශුද්ධ
19 මෙහෙයට ළං නොවන්නේය. අන්ධ
යෙක්වත් කොරෙක්වත් නාස් පැතැල්
ලෙක්වත් විකලාංගයෙක්වත් බිඳුනු අත්
20 පා ඇත්තෙක්වත් කුදෙක්වත් ලකුන්ට
21 කයෙක්වත් අවලක්ෂණ ඇස් ඇත්තෙක්
වත් පිලිකා ඇත්තෙක්වත් දද ඇත්
තෙක්වත් බිඳුනු කොස ඇත්තෙක්වත්
පූජකවූ ආරොන්ගේ වංශයෙහි කැල
ලක් ඇති මනුෂ්‍යයෙක් යෙහෝවඃව
හන්සේගේ දවන පූජාවල් පූජාකරණ
22 පිණිස ළං නොවන්නේය. කැලල් ඇති
තැනැත්තෙක් ඔහුගේ දෙවියන්වහන්
සේගේ භෝජනය පූජාකරණ පිණිස
23 ළං නොවන්නේය. ඔහු තමාගේ දෙවි
යන්වහන්සේගේ පවිත්‍රවූද අති පවිත්‍රවූ
ද භෝජනය කන නුමුත් කැලලක් ඇ
ති බැවින් මාගේ පවිත්‍ර ස්ථානයන් අප
විත්‍ර නොකරණ පිණිස තිර ඇතුලට
වත් පූජාසනය ළඟටවත් නොයන්නේ
යයි කියව. ඔවුන් පවිත්‍ර කරණ යෙහෝ
වඃවහන්සේ මම වෙමියි වදාළසේක.
24 මෝසෙස්ද ඒවා ආරොන් සහ ඔහුගේ
පුත්‍රයන්ටද සියළු ඊශ්‍රායෙල් පුත්‍රයන්ටද
කීයේය.

22. පරිච්. තවද යෙහෝවඃවහන්
2 සේ මෝසෙස්ට වදාරණසේක් ආරොන්
සහ ඔහුගේ පුත්‍රයෝ ඊශ්‍රායෙල් පුත්‍ර
යන්ගේ පවිත්‍ර දේවලින් වෙන්ව මාගේ
ශුද්ධවූ නාමය මට පවිත්‍රකල දේවලින් අ
පවිත්‍ර නොකරණ පිණිස ඔවුන්ට කියව.
3 යෙහෝවඃවහන්සේ මමය. තොපගේ
පරම්පරා අතරෙහි තොපගේ සියළු වංශ
යෙන් කවරෙක් නුමුත් තමාගේ අපවි
ත්‍රකම තිබෙද්දී ඊශ්‍රායෙල් පුත්‍රයන් යෙ
හෝවඃවහන්සේට පවිත්‍රකරණ ශුද්ධ දේ
ළඟට ගියොත් ඔහු මාගේ ඉදිරියෙන්
පහකරනු ලැබේ. යෙහෝවඃවහන්සේ
4 මමය. ආරොන්ගේ වංශයෙන් කොයි පු
රුෂයෙක් නුමුත් කුෂ්ඨයෙක්ව නො
හොත් ප්‍රමේහයෙක්ව සිටිද පවිත්‍රවන
5 තුරු ශුද්ධවූ දෙයින් නොකන්නේය. මල
වුන් නිසා අපවිත්‍රවූ කිසි දෙයෙහිවත්
ශුක්ල වැගෙන පුරුෂයෙකුවත් අපවිත්‍ර
කරන්ට හැකි බඩගානා කිසි සතෙකු
වත් ඔහු අපවිත්‍ර කරන්ට හැකි පුරුෂ
යෙකුවත් ඔහුගේ අපවිත්‍රකම කෙසේ
6 නුමුත් හැපෙන තැනැත්තේ සවස දක්
වා අපවිත්‍රව වතුර නොනා ශුද්ධවූ දෙ
7 යින් නොකන්නේය. ඔහු ඉර බැස්ස
කල්හි පවිත්‍රව ශුද්ධවූ දේ ඔහුගේ කෑම
8 නිසා එයින් කන්නේය. ඉබේම නසින්
නාවූ නොහොත් මෘගයන් විසින් ඉරුවා
වූ සතුන්ගෙන් තමාම අපවිත්‍රවෙන පි
ණිස නොකන්නේය. යෙහෝවඃවහන්
9 සේ මමය. ඔවුන් මාගේ පනත්වලට
නින්දාකොට පාපය ධරා නොනස්නා පි
ණිස ඔවුන් මාගේ පනත් රක්ෂාකරණවා
ඇත. යෙහෝවඃවහන්සේවූ මම ඔවුන්
10 පවිත්‍ර කෙරෙමි. කිසි අන් වංශයෙක්වත්
ශුද්ධවූ දෙයින් නොකන්නේය. පූජකයා
සමග වසන අන් වංශයෙක්වත් කුලියට
ගත් මෙහෙකරුවෙක්වත් ශුද්ධවූ දෙ
11 යින් නොකන නුමුත් පූජකයා මිලේට
ගත් තැනැත්තේද ගෙයි උපන් තැනැ
ත්තෝද ඔහුගේ කෑමෙන් කනවා ඇත.
12 අන් වංශයෙකුට පාවාදී සිටින පූජකයා
ගේ දුව ශුද්ධවූ දේවල පූජාවකින් කන්
13 ට අයුතුය. නුමුත් ඈ දරුවන් නැතුව
වැන්දඹුවක්වත් පුරුෂයාගෙන් අහක්ව
සිටින්නියක්වත් ඇගේ තරුණ අවස්ථා
ව මෙන් ඇගේ පියාගේ ගෙට හැරී
ගොස් සිටින්නීනම් ඇගේ පියාගේ
භෝජනයෙන් කන්නීය. එහෙත් කිසි
අන් වංශයෙක්වත් එයින් නොකන්නේ
14 ය. යම් මනුෂ්‍යයෙක් ශුද්ධවූ දෙයින් නො
දැනුවත්ව කන්නේනම් ඔහු පහෙන්
කොටසක් එකට ලා ශුද්ධවූ දෙය සමග
15 පූජකයාට දෙන්නේය. ඔවුන් යෙහෝ
වඃවහන්සේට පූජාකරනාවූ ඊශ්‍රායෙල්
පුත්‍රයන්ගේ ශුද්ධවූ දේ අපවිත්‍ර නොකර
16 ණවා ඇත. ඔවුන් තමන්ගේ ශුද්ධවූ දෙ
යින් කනකොට අපරාධකමෙහි අයුතු
කම් ධරන්ට නොසලස්වනවා ඇත. යෙ

හෝවඃවහන්සේවූ මම ඔවුන් පවිත්‍රකෙ
රෙමියි කියවයි වදාලසේක.

17 යෙහෝවඃවහන්සේ මෝසෙස්ට වදා
18 රණසේක් ආරොන්ටද ඔහුගේ පුත්‍රයන්
ටද ඊශ්‍රායෙල් සියළු පුත්‍රයන්ටද කථාක
රමින් ඊශ්‍රායෙල් වංශයෙනවත් ඊශ්‍රායෙල්
හි වසන අන්රට වැසියන්ගෙනවත් ක
වරෙක් නුමුත් ඔහුගේ සියළු පොරොන්
දුවීම්වල පූජාවල්ද කැමති පූජාවල්ද
යෙහෝවඃවහන්සේට දවන පූජාවක්
19 කොට පූජාකරනොත්නම් කැමැත්තෙන්
ගවයින්ගෙනවත් බැටළුවන්ගෙනවත් එ
ළුවන්ගෙන්වත් නොකැලල් පිරිමි ස
20 තෙක් පූජාකරනොත්ය. එහෙත් කැලල්
ඇති සතෙක් පූජා නොකරව් ඒක තො
21 පි ගැන පිලිගනු නොලැබේ. කිසිවෙක්
වත් ඔහුගේ පොරොන්දුවීම ඉෂ්ටකරණ
පිනිස ශාන්ති පූජාවල යාගයක්වත් කැ
මති පූජාවක්වත් ගවයින්ගෙනවත් බැට
ළුවන්ගෙනවත් යෙහෝවඃවහන්සේට පූ
ජාකරනොත්නම් ඒක පිලිගනු ලබන පි
නිස සම්පූර්ණ විය යුතුය එහි කිසි කැ
22 ලලක් නොතිබෙනොත්ය. අන්ධවූවත්
බිඳුනාවූවත් කොරවූවත් ගඩපොල ඇ
තිවූවත් කුෂ්ඨවූවත් කබළුවූවත් සතුන්
යෙහෝවඃවහන්සේට පූදා පූජාසනය පි
ට ගිනෙනන් කරණලද පූජාවක් යෙ
23 හෝවඃවහන්සේට එයින් නොකරව්. උ
ගේ අංගවලින් අඩුවැඩියක් ඇති ගව
යෙක්වත් බැටළු වස්සෙක්වත් කැමති
පූජාවක් පිනිස පූජාකරන්ට යුතුය. නු
මුත් පොරොන්දුවීමක් පිනිස ඒක පිලි
24 ගනු නොලැබේ. මැඩාවූවත් පෑගුවාවූ
වත් සිඳුනාවූවත් කැපූවාවූවත් සතුන්
පූජා නොකරව්. තොපගේ දේසයෙහි
තොපි එයින් කිසි පූජාවක් නොකරව්.
25 තොපගේ දෙවියනවහන්සේගේ භෝජ
නය අන්රට වැසියෙකුගේ අතින් මුන්
ගෙන් කිසිවෙක් පූජා නොකරව්. උන්
ගේ අපවිත්‍රකම හා කැලල් උන් තුලෙ
හි තිබෙන නිසා උන් තොප උදෙසා
පිලිගනු නොලබනවා ඇතැයි කියවයි
වදාලසේක.

26 යෙහෝවඃවහන්සේ මෝසෙස්ට වදා
27 රණසේක් ගවයෙක්වත් බැටළුවෙක්
වත් එළුවෙක්වත් බිහිවූ කල්හි සත් දව
සක් මවු ලඟ සිට අටවෙනි දවස පටන්
ඉන් මත්තට යෙහෝවඃවහන්සේට ගි
නෙනන් කරණලද පූජාවක් පිනිස පිලි
28 ගනු ලබනොත්ය. එලදෙනෙක්වත් බැ
ටළුදෙනෙක්වත් ඈ සහ ඈගේ පැටවා
29 එක දවසෙහි තොපි නොමරව්. තොපි
ස්තූති යාගයක් යෙහෝවඃවහන්සේට පූ
ජාකරන්ට කැමති කල්හි මනාප සිතින්
30 ඒක පූජාකරව්. එම දවසෙහිම ඒක ක
නු ලැබේ පසුව දා දක්වා එයින් යමක්
ඉතුරු නොකරව්. යෙහෝවඃවහන්සේ
31 මමය. එබැවින් තොපි මාගේ අණවල්
රක්‍ෂාකොට ඒවා කරව් යෙහෝවඃව
32 හන්සේ මමය. මාගේ ශුද්ධවූ නාමය තො
පි අපවිත්‍ර නොකරව්. එහෙත් මම ඊශ්‍රා
යෙල් පුත්‍රයන් අතරෙහි ශුද්ධවනු ලබන්
නෙමි. තොප ශුද්ධකරනාවූ යෙහෝවඃ
33 වහන්සේ මමය. තොපගේ දෙවියන්ව
හන්සේ වෙන පිණිස මිසර දේසයෙන්
තොප ගෙනාවාවූ යෙහෝවඃවහන්සේ
මමයයි වදාලසේක.

23. පරිච්ඡේ. යෙහෝවඃවහන්සේ
2 මෝසෙස්ට වදාරණසේක් පවිත්‍ර රැස්කි
රීම් වසයෙන් තොපි ප්‍රසිද්ධකරණ යෙ
හෝවඃවහන්සේගේ මංගල්‍යවල් මේය
3 යි ඊශ්‍රායෙල් පුත්‍රයන්ට කියව. සදවසක්
කර්මාන්ත කටයුතුය එහෙත් සත්වෙනි
දින නිවාඩුවෙහි සබත්ය පවිත්‍රවූ රැස්කි
රීමක. ඒ දවසෙහි කිසි කර්මාන්තයක්
නොකරව් තොපගේ සියළු වාසස්ථාන
වල යෙහෝවඃවහන්සේගේ සබත්ය.
4 තමන් කාලවල්හි තොපි ප්‍රසිද්ධකරණ
යෙහෝවඃවහන්සේගේ මංගල්‍යයවූ ප
5 වීත්‍ර රැස්කිරීම් මේය. පලමුවෙනි මසද
සතරවෙනි දින සවස යෙහෝවඃව
හන්සේගේ උපරිගමන මංගල්‍යය වේ.
6 එම මස පසලොස්වෙනි දින යෙහෝවඃ
වහන්සේට ඇඹුල් පිටි නූමුසු රොටි මංග
ල්‍ය වන්නේය. සත් දවසක් ඇඹුල් පිටි
7 නූමුසු රොටි කව්. පලමුවෙනි දින පවිත්‍ර
වූ රැස්කිරීමක් වන්නේය. ඒ දවස කි
8 සි කර්මාන්තයක් නොකරව්. එහෙත්
යෙහෝවඃවහන්සේට ගිනෙනන් කල
පූජාවක් සත් දවසක් පූජාකරව් සත්වෙ
නි දිනෙහි පවිත්‍රවූ රැස්කිරීමක් වනෙන්
ය. ඒ දවස කිසි කර්මාන්තයක් නොක
රව්යයි වදාලසේක.

9 යෙහෝවඃවහන්සේ මෝසෙස්ට වදා
10 රණසේක් ඊශ්‍රායෙල් පුත්‍රයන්ට කථාක
රමින් මා විසින් තොපට දෙන දේසය
ට අවුත් එහි ගොයම් කපන කල්හි එහි

නාඹුල් සසඃවලින් මිටියක් පූජකයා වෙ
11 තට ගෙන යව්. ඔහු ඒ මිටිය තොප උ
දෙසා පිලිගනු ලබන පිනිස යෙහෝවඃ
වහන්සේ ඉදිරියෙහි ඒක තේවකරන්
නේය. සබත් දිනෙන් පසුවද පූජකයා
12 ද ඒක තේවකරන්නේය. තොපි ඒ මිටි
ය තේව කරණ දිනෙහි යෙහෝවඃව
හන්සේට දවන පූජවක් පිනිස එක් අ
වුරුදුවූ කැලල් නැති බැටළු පැටවෙ
13 කු පූජකරව්. එහි ආහර පූජවනම් තෙ
ලින් මිශ්‍රවූ උතුම් පිටි දසයෙන් දෙකො
ටසක ඒ යෙහෝවඃවහන්සේට මිහිරි සු
වඳ පිනිස ගිනෙනන් කල පූජවක. එහි
බොන පූජවනම් මුද්‍රිකපානයෙන් හින
14 කින් සතරෙන් කොටසක. තොපගේ
දෙවියණ්හන්සේ වෙතට පූජවක් ගෙ
නෙන දින දක්වා රොටිවත් විලදවත්
අමු ගොයම්වත් නොකව්. ඒ තොපේ
සියළු වාසස්ථානවලද තොපේ සියළු ප
රම්පරාවලද සදකාලවූ පනතක.

15 සබත් දවසට පසු තේව කරණ පූජ
වෙහි මිටිය ගෙනාවාවූ දින පටන් සම්
පූර්ණලෙස සබත් සතක් ගනන්කරග
16 නිව්. සත්වෙනි සබතෙන් පසුව දු දක්
වා පනස් දිනක් ගනන්කරගෙණ යෙ
හෝවඃවහන්සේට අළුත් ආහර පූජවක්
17 පුද තොපගේ වාසස්ථානවලින් උතුම්
පිටිවලින් දසයෙන් කොටසින් සාදනල
ද ඇඹුල් පිටිවලින් පිසනලද තේව රො
ටි දෙකක් ගෙනෙව්. ඒ යෙහෝවඃව
18 හන්සේට නාඹුල් ඵලය වේ. තොපි ඒ
රොටි සමග කැලල් නැති එක් අවුරුදු
වූ බැටළු වස්සන් සත් දෙනෙක්ද නාඹු
ගොනෙක් සහ බැටළුවන් දෙදෙනෙක්
ද පූජකරව්. ඒ ආහර පූජව සහ බොන
පූජවල්ද සමග යෙහෝවඃවහන්සේට
මිහිරි සුවඳවූ ගිනෙනන් කල දවන පූජ
19 වක් වන්නේය. එවිට පව් නසන පූජ
වක් පිනිස එළුවන්ගෙන් වස්සෙක්ද
ශාන්ති පූජවල් පිනිස එක් අවුරුදුවූ බැ
20 ටළු වස්සන් දෙන්නෙක්ද පූජකරව්. පූ
ජකයාද උන් නාඹුල් ඵලවලින් පලමු
වෙනි රොටි. සහ බැටළු වස්සන් දෙන්
නෙක් සමග යෙහෝවඃවහන්සේ ඉදිරි
යෙහි තේව පූජවක්කොට තේව කරන්
නේය. ඒවා පූජකයන් උදෙසා යෙහෝ
21 වඃවහන්සේට පවිත්‍ර වන්නේය. තොප
ට පවිත්‍රවූ රැස්කිරීමක් එම දවසෙහි ප්‍ර
සිද්ධකොට ඒ දින කිසි කර්මාන්තයක්
නොකරව්. ඒ තොපේ සියළු වාසස්ථාන
වලද තොපේ සියළු පරම්පරාවලද සද
කාලවූ පනතක් වේ.

22 තවද තොපේ දේසයෙහි ගොයම් ක
පන කාලයෙහි කපන විට කෙතේ මූළුව
ල තිබෙන සියල්ල සිස්කර නොකපව.
තාගේ කෙත්වලින් ඇරුනු කරල් රැස්
නොකරව. දිලිඳුන් හා අන්රට වැසියන්
ට ඒ අරුව. තොපගේ දෙවිවූ යෙහෝ
වඃවහන්සේ මමයයි වදාලසේක

23 තවද යෙහෝවඃවහන්සේ මෝසෙස්
24 ට වදාරණසේක් ඊශ්‍රායෙල් පුත්‍රයන්ට ක
ථාකරමින් සත්වෙනි මස පලමුවෙනි දි
න සබතක්ද හොරනෑ පිඹීමේ සිහිවීමක්
ද පවිත්‍රවූ රැස්කිරීමක්ද තොපට වේත්.
25 ඒ දින තොපි කිසි කර්මාන්තයක් නො
කරව් එහෙත් යෙහෝවඃවහන්සේට ගි
නෙනන් කරණලද පූජවක් පූජකරව්
යයි කියවයි වදාලසේක.

26 යෙහෝවඃවහන්සේ මෝසෙස්ට වදා
27 රණසේක් සත්වෙනි මස දසවෙනි දින
ශාන්තිකරණ දවසක් වන්නේය. එහි
දී පවිත්‍රවූ රැස්කිරීමක් වන්නේය. තො
පි තොපේ හිත්වලට සෝක උපදවා යෙ
හෝවඃවහන්සේට ගිනෙනන් කල පූජ
28 වක් පූජකරව්. තොපගේ දෙවිවූ යෙ
හෝවඃවහන්සේ ඉදිරියෙහි තොප උ
දෙසා ශාන්තියක් කරණ පිනිස ශාන්ති
යෙහි දවසක් නිසා එහි කිසි කර්මාන්
29 තයක් නොකරව්. එම දවසෙහි සෝක
නුවූ කවරෙක් නුමුත් තමන් ජනයන්
30 කෙරෙන් පහකරනු ලබන්නේය. එම
දවසෙහි කිසි කර්මාන්තයක් කරන කව
රෙක්වත් ඔහු තමන් ජනයන් කෙරෙන්
31 විනාසකරන්නෙමි. එහිදී කිසි කර්මාන්
තයක් නොකරන්ට තොපේ සියළු වාස
ස්ථානවල තොපගේ සියළු පරම්පරාවල
32 සදකාලවූ පනතක් වන්නේය. ඒක
තොපට නිවාඩුවෙහි සබතක එහිදී තො
පගේම හිත්වලට සෝක උපදවව්. මා
සේ නවවෙනි දින උදය පටන් සවස
දක්වා තොපි තොපේ සබත් රක්ෂාක
රව්යයි වදාලසේක.

33 තවද යෙහෝවඃවහන්සේ මෝසෙස්
34 ට වදාරණසේක් ඊශ්‍රායෙල් පුත්‍රයන්ට ක
ථාකරමින් සත්වෙනි මස පසලොස්වෙනි
දින යෙහෝවඃවහන්සේට මඩප මඟුල්‍ය
35 ය සත් දවසක් වන්නේය. පලමුවෙනි
දින පවිත්‍ර රැස්කිරීමක් වේ ඒ දවස කි

36 සි කර්මාන්තයක් නොකරව්. සත් දව
සක් ගින්නෙන් කල පූජාවක් යෙහෝ
වාවහන්සේට පූජාකරව්. අටවෙනි දින
තොපට පවිත්‍ර රැස්කිරීමක් වන්නේය.
ගින්නෙන් කල පූජාවක් යෙහෝවාව
හන්සේට පූජාකරව්. ඒ පවිත්‍රවූ රැස්කිරි
මක එහි කිසි කර්මාන්තයක් නොකරව්.
37 යෙහෝවාවහන්සේගේ සබත් දිනයන්ද
යෙහෝවාවහන්සේට කැමැත්තෙන්
දුන් පූජාවල්ද තොපේ දානයන්ද පො
38 රොන්දුවීම්වල්ද ඇර යුතු දවස්වල යෙ
හෝවාවහන්සේට ගින්නෙන් කල පූජා
වල්ද ආහර පිදීමෙහි යාගයක්ද බොන
පූජාවල්ද පූජාකරණ පිනිස පවිත්‍ර රැස්
කිරීම් වසයෙන් තොපි එලිදරව් කර
ණ යෙහෝවාවහන්සේගේ මගල්‍යවල්
මෙය.

39 තවද පස්වෙනි මස පහලොස්වෙනි
දින දේසවල ගොයම් රැස්කල කල යෙ
හෝවාවහන්සේට සත් දවසක් මගල්‍ය
යක් පවත්වව්. ප්‍රථම දින සබතක අට
40 වෙනි දින සබතක. පලමුවෙනි දින
හොඳ ගස්වල අතුද තල ගස්වල අතුද
රටමරද අතුද ගං ඉවුරුවල තිබෙන ර
ඹුක් ගස්ද ගෙණ සත් දවසක් තොපේ
දෙවිවූ යෙහෝවාවහන්සේ ඉදිරියෙහි ස
41 තුටුවව්. තොපි අවුරුද්දකට වරක් සත්
දවසක් ඒ මගල්‍යය යෙහෝවාවහන්
සේට පවත්වව් ඒ තොපේ පරම්පරාවල
42 සදාකාලවූ පනතක. සත්වෙනි මාසයෙ
හිදී ඒක පවත්වමින් කුඩාරම්වල සත්
43 දවසක් වාසයකරව්. මා විසින් ඊශ්‍රායෙල්
පුත්‍රයන් මිසර දේසයෙන් ගෙනාකල කු
ඩාරම්වල ඔවුන් වාසය කෙරෙව් බව
තොපේ පරම්පරාවලට දැනගන්නා පිනි
ස ඊශ්‍රායෙල්වරුව උපන් සියල්ලෝ කුඩා
රම්වල වාසයකරණවා ඇත. තොපේ
දෙවිවූ යෙහෝවාවහන්සේ මමයයි ඔ
44 වුන්ට කියවයි වදාලසේක. මෝසෙස්ද
ඊශ්‍රායෙල් පුත්‍රයන්ට යෙහෝවාවහන්
සේගේ මගල්‍යයන් ප්‍රසිද්ධ කලේය.

24. පරිච්ඡෙ. යෙහෝවාවහන්සේ
2 මෝසෙස්ට වදාරණසේක් එලිය පිනි
ස නිතර පහන් දල්වීමට මැඩගත් පවි
ත්‍ර ඔලිව තෙල් තා ලඟට ගෙනෙන්ට
3 ඊශ්‍රායෙල් පුත්‍රයන්ට අනකරව. ආරොන්
සභාමඩපයෙහි සාක්ෂියෙහි තිරයෙන්
පිට සවස පටන් උදය දක්වා යෙහෝවා
වහන්සේ ඉදිරියෙහි පහන් නිතර පවත්
වනේය. ඒක තොපගේ පරම්පරාවල
4 ට සදාකාල පනතක. ඔහු යෙහෝවාව
හන්සේ ඉදිරියෙහි පවිත්‍ර පහන් රුකෙහි
5 ට නිතර පහන් පවත්වන්නේය. තෝ
ද උතුම් පිටි ගෙණ එයින් රොටි දොල
සක් උයව. එක රොටියකට ඕමැර්හි දස
6 යෙන් කොටසක් වන්නේය. තෝ ඒවා
යෙහෝවාවහන්සේ ඉදිරියෙහි පවිත්‍ර
මේසය පිට පෙලකට සයක් බැගින් දෙ
7 පෙලට තබා ඒක සිහිවීමක් පිනිසද යෙ
හෝවාවහන්සේට ගින්නෙන් කල පූජා
වක් වෙන පිනිසද ඒ භෝජනයෙහි දෙ
8 පෙල පිට පවිත්‍ර තුවරලා දමව. ඒක සි
යළු සබත්වලදී සදාකාල ගිවිසුමක් පිනි
ස ඊශ්‍රායෙල් පුත්‍රයන්ගෙන් යෙහෝවා
වහන්සේ ඉදිරියෙහි නිතර පිලිවෙලට
9 තබන්නේය. ඒද ආරොන් සහ ඔහුගේ
පුත්‍රයන්ට වන්නේය. ඒක ඔහුට සදකා
ල පනතකින් යෙහෝවාවහන්සේට ගි
න්නෙන් කල පූජාවලින් අති පවිත්‍ර බැ
වින් ඔවුන් ඒක පවිත්‍ර ස්ථානයෙහි කන
වා ඇතැයි වදාලසේක.

10 ඊශ්‍රායෙල් ස්ත්‍රියෙකුගේ පුත්‍රයෙක් ඊ
ශ්‍රායෙල් පුත්‍රයන් සමග ගියේය. ඔහුගේ
පියා මිසරවැසියෙක. ඔහුගේ මවුගේ න
ම දන්ගේ ගෝත්‍රයෙහි දිබ්රිගේ දූවූ ශෙ
ලොමිත්ය. මේ ඊශ්‍රායෙල් ස්ත්‍රියගේ පුත්‍ර
යාද ඊශ්‍රායෙල් මනුෂ්‍යයෙක්ද එක්ව ක
11 දවුරෙහිදී දබරකොට ඊශ්‍රායෙල් ස්ත්‍රිය
ගේ පුත්‍රයා යෙහෝවාවහන්සේගේ නා
12 මයට අපහාසකොට සාප කොලේය. ඔ
වුන් ඔහු මෝසෙස් ලඟට ගෙනවුත් යෙ
හෝවාවහන්සේගේ අදහස දැනගන්
13 නා පිනිස සිරකොට සිටවූවෝය. යෙ
14 හෝවාවහන්සේද මෝසෙස්ට වදාරණ
සේක් කදවුරෙන් පිටදී සාපකලාවූ තැ
නැත්තා ගෙනෙව. ඔහුගේ බස් ඇසූ සි
යල්ලෝද තමන්ගේ අත් ඔහුගේ හිසපි
ට තබන්වා සියළු සමූදුවද ඔහුට ගල් ග
15 සත්වා. තෝ ඊශ්‍රායෙල් පුත්‍රයන්ට කථා
කොට තමාගේ දෙවියන්වහන්සේට සා
පකරණ කවරෙක් නුමුත් තමාගේ පා
16 පය ධරන්නේයයි කියව. යෙහෝවාව
හන්සේගේ නාමයට අපහාසකරණ තැ
නැත්තේ සැබවින් මරනු ලැබේ. සිය
ළු සමූදුවද සැබවින් ඔහුට ගල්ගසන
වා ඇත. අන්රට වැසියෙක්ද දේසයෙ
හි උපන්නෙක්ද යෙහෝවාවහන්සේ

ගේ නාමයට අපහාසකරන්නේනම් ම
රනු ලැබේ.
17 මිනිමරනෙතක් මරනු ලැබේ. මෘග
යෙකු මරන්නෙක් මෘගයාට මෘගයෙක්
18 දෙව. මනුෂ්‍යයෙක් තමාගේ අසල්වාසි
19 යාට කැලලක් කරන්නේනම් ඔහු ක
20 ලාක්මෙන් ඔහුටද කරනු ලැබේ. බිඳුම
ට බිඳුමද ඇසට ඇසද දතට දතද මනු
ෂ්‍යයෙකුට කැලලක් කල ලෙස ඔහුටද
21 කැවත කරනු ලැබේ. මෘගයෙක් මරන්
නා ඒක හිලව්කරනෙතය. මිනි මරන්
22 නෙක් මරනු ලැබේ. අන්රට වැසියාට
ද තොපගේම රට වැසියෙකුටද ඒකා
කාර පනතක් වේ. තොපගේ දෙවිවූ
යෙහෝවාවහන්සේ මම වෙමියි වදාල
23 සේක. මෝසෙස්ද කදවුරෙන් පිටදී සා
පකලාවූ තැනැත්තේ ගෙනවුත් ඔහුට
ගල්වලින් ගසන්ට ඊශ්‍රායෙල් පුත්‍රයන්ට
කීයේය. ඊශ්‍රායෙල් පුත්‍රයෝද යෙහෝ
වාවහන්සේ මෝසෙස්ට අනකල ලෙස
කලෝය.

25. පරිච්ඡ. යෙහෝවාවහන්සේ සි
නයි කන්දේදී මෝසෙස්ට වදරනසේක්
2 ඊශ්‍රායෙල් පුත්‍රයන්ට කථාකරමින් මෙ
සේ කියව. මා විසින් තොපට දෙන දේ
සයට ඇතුල්වෙන කල්හි දේසය යෙ
හෝවාවහන්සේට සබ්බත් පවත්වන්
3 නේය. සාවුරුද්දක් තාගේ කෙත වපුර
ව සාවුරුද්දක් තාගේ මිදිවතත සන්‍රික
4 කොට එහි ඵල එක්කරව. සත්වෙනි අවු
රුද්දෙහි යෙහෝවාවහන්සේට නිවාඩු
වෙහි සබත් දේසයට වන්නේය. එහි තා
ගේ කෙත නොවපුරව තාගේ මිදිවත්ත
5 සන්‍රික නොකරව. තාගේ ගොයමින් ඉ
ඩිම හටගත් දෙය නොකපව සන්‍රික
නොවූ මිදි ඵල නොනෙලව. ඒ වරුෂය
6 දේසයට නිවාඩුවෙහි වරුෂයක්ය. දේ
සයෙහි සබ්බත් තටද තාගේ මෙහෙක
රුවාටද මෙහෙකාරීටද කුලීකාරයාටද
තා සමග වසන අන්රට වැසියාටද තා
7 ගේ සිවුපාවුන්ටද තාගේ දේසයෙහි සි
විත මෘගයාටද එහි සියළු වැඩිම කෑම
පිනිස වන්නේය.
8 අවුරුද්දෙහි සත් සබතක් අවුරුදු
සත් වරක් සතයි ගනන්කරව. අවුරුද්
දෙහි සබත් සතක කාලය අවුරුදු හත
9 ලිස් නවයක් තිබෙන්නේය. එවිට සත්
වෙනි මාසේ දසවෙනි දිනදී හැරවීමෙ
හි හොරනෑව නාදකරව. ශාන්ති උප
දවන දින තොපගේ දේසයෙහි සියළු
10 තැන්හි හොරනෑව නාදකරව්. තවද
පනස්වෙනි වරුෂය පවිත්‍රකරමින් තො
පගේ දේසයෙහි සියළු තැන්හි එහි වා
සින්ට නිදහස්කම ප්‍රසිඩකරව්. ඒ තො
පට හැරවීමෙහි අවුරුද්දක් වන්නේය.
තොපි එකිනෙකා තමතමාගේ උරුම
යට හැරී යන්නේය. තොපි එකිනෙකා
තමතමාගේ පවුල්වලට හැරී යන්නේ
11 ය. ඒ පනස්වෙනි වරුෂය තොපට හැර
වීමෙහි අවුරුද්දක් වන්නේය. එහිදී
තොපි නොවපුරව් ඉබේම හටගනනා
වූ දේ නොකපව් සන්‍රික නොකලාවූ තා
12 ගේ මිදි ඵල නොනෙලව්. ඒ වරුෂය
හැරවීමක් පිනිස වේ ඒක තොපට සුබ
වන්නේය. එහි වැඩිම කෙතෙන් කන
13 වා ඇත. මේ හැරවීමෙහි වරුෂයෙහිදී
තොපි එකිනෙකා තමතමාගේ උරුම
14 යට හැරී යන්නේය. තාගේ අසල්වාසි
යාට කිසිවක් විකුනන්නෙහිනම් ඔහු
ගේ අතින් කිසිවක් මිලේට ගනෙනහි
15 නම් අයුතුකම් නොකොට හැරවීමෙහි
වරුෂයට පසුව තිබෙන අවුරුදු ගනන
හැටියට තාගේ අසල්වාසියාගෙන් මිලේ
ට ගනුව. අවුරුදුවල ගනන හැටියට ත
16 ට ඵලයෙන් විකුනව. අවුරුදුවල ඵලව
ල අවුරුදු ගනන හැටියට ඔහු විකුනන
බැවින් වැඩිවීම ප්‍රකාරයට ඒහි මිල වැඩි
කරව අවුරුදුවල අඩුවීම ලෙස එහි මිල
17 අඩුකරව. එබැවින් ඔවුනොවුන්ට අයුතු
කම් නොකොට තාගේ දෙවියන්වහන්
සේට භය ඇතුව සිටිනෙනහිය. තොප
ගේ දෙවිවූ යෙහෝවාවහන්සේ මමය.
18 එබැවින් තොපි දේසයෙහි ආන්ත්‍රා
වක් නැතුව වසන පිනිස මාගේ නියෝ
ග පවත්වමින් මාගේ පනත් රක්‍ෂාකර
19 ගනිව්. දේසයද තමාගේ ඵලය දෙන්
නේය. තොපි සෑහෙන ලෙස කා එහි
20 ආන්ත්‍රාවක් නැතුව සිටිනවා ඇත. සත්
වෙනි අවුරුද්දෙහි අපි කුමක් කමුද අ
පි නොවපුරන්නෙමුව අපගේ වැඩිවීම
රැස්නොකරනෙනමුයයි තෙපි කියන
21 වානම් හවෙනි අවුරුද්දෙහි මාගේ ආ
ශීර්වාදය තොප කෙරෙහි පමුනුවනෙන
මි ඒද තුන් අවුරුද්දකට ඵල උපදවන්
22 නේය. අටවෙනි අවුරුද්දෙහි තොපි
වපුර නවවෙනි අවුරුද්ද දක්වා පුරාන
ඵලයෙන් කනවා ඇත. එහි ඵල රැස්

කරණතුරු පූර්ණ ඵලයෙන් කනවා
ඇත.

23 දේසය මාගේ නිසාත් තොපි අන්රට
වැසියෝද ආගන්තුකයෝද මෙන් මා
ලඟ සිටින නිසාත් දේසය සදකාලේටම
24 විකුනනු නොලැබේ. තොපි උරුමවෙ
නාවූ දේසයෙහි සියළු තැන්හි දේසය
25 මුදන්ට අවසර දෙව්. තාගේ සහෝදර
යා දුප්පත්ව තමාගේ උරුමයෙන් කිසි
වක් විකුන්නේනම් ඔහුගේ නෑයන්
ගෙන් කිසිවෙක් ඒක මුදන්ට එන්නේ
නම් ඔහු තමාගේ සහෝදරයා වික්ක
26 දේ මුදන්නේය. එහෙත් ඒ පුරුෂයාට
උරුමය මුදන්ට කිසිවෙක් නැත්නම් ත
මාම ඒක මුදන්ට හැකිවන්නේනම් වි
27 කිනිමෙහි අවුරුදු ගනන්කොට ඔහුගේ
උරුමය නැවත ලැබෙන පිනිස ඉතුරු
ව තිබෙන ඒක මිලේට ගත් තැනැත්
28 තාට නැවත භාර කෙරේවා. එහෙත් ඔ
හුට නැවත දෙන්ට නොහැකිනම් එවි
ට විකුනනාවූ දේ මිලේට ගත් තැනැත්
තාගේ අතෙහි හැරවීමෙහි වරුෂය දක්
වා තිබෙන්නේය. හැරවීමෙහි වරුෂ
යෙහි ඒක මිදෙන්නේය ඔහු තමාගේ
29 උරුමයට හැරී යන්නේය. කොටුවකදී
මනුෂ්‍යයෙක් වසන ගෙයක් විකුනන්
නේනම් ඒක වික්ක තැන් පටන් පූර්ණ
වූ අවුරුද්ද ඇතුලතදී ඒක මුදන්ට හැ
කිවේ අවුරුද්දක් පූර්ණවෙනතුරු ඒක
30 මුදන්ට යුතුය. පූර්ණවූ අවුරුද්දක් ඇ
තුලතදී ඒක මුදනු නොලැබේනම් කො
ටුව තුලෙහි තිබෙන ගේ මිලේට ගත්
තැනැත්තාට ඔහුගේ පරම්පරාවල සද
කාලේටම වන්නේය. ඒක හැරවීමෙහි
31 වරුෂයෙහිදී මුදනු නොලැබේ. එහෙත්
වටට පවුරු නැති ගම්වල ගෙවල් දේස
යෙහි කෙත්වල මෙන් වන්නේය. ඒ
වා මුදන්ට යුතුය ඒවා හැරවීමෙහි ව
32 රුෂයෙහිදී මිදෙන්නේය. එසේවී නු
මුත් ලෙවියයන්ගේ නුවරවල්ද ඔවුන්
ගේ උරුම නුවරවල ගෙවල්ද කොයි
කලෙකත් ලෙවියයන් විසින් මුදන්ට
33 යුතුය. මනුෂ්‍යයෙක් ලෙවියයන්ගෙන්
මිලේට ගනොත්නම් ලෙවියයන්ගේ ගෙ
වල් හා නුවරවල් ඊශ්‍රායෙල් පුත්‍රයන් අ
තරෙහි ඔවුන්ගේ උරුමයක් නිසා වි
කුනනාවූ ගේ සහ ඔහුගේ උරුම නුවර
34 ද හැරවීමෙහි වරුෂයෙහිදී මිදෙන්
නේය. එහෙත් ඔවුන්ගේ පිට කොටු
වෙහි කෙත් විකුනනු නොලබන්නේ
ය ඒක ඔවුන්ගේ නිරන්තරවූ උරුම
යක් වේ.

35 තාගේ සහෝදරයා ඕනෑකම්වලට
පැමින දුප්පත්ව සිටින්නේනම් ඔහු අන්
රට වැසියෙක්වත් ආගන්තුකයෙක්වත්
විනමුත් ඔහු තා ලඟ වාසයකරණ පි
36 නිස ඔහුට උපකාරකරව. පොලිවත්
වැඩියක්වත් ඔහුගෙන් නොගනුව එ
හෙත් තාගේ සහෝදරයා තා ලඟ සිටි
න පිනිස තාගේ දෙවියන්වහන්සේට භ
37 යවව. තාගේ මිල පොලිවලට ඔහුට
නොදෙව. තාගේ ආහර වැඩිය ලබන්
38 ට ඔහුට නයට නොදෙව. කානාන් දේ
සය තොපට දෙන පිනිසද තොපගේ
දෙවියන්වහන්සේ වෙන පිනිසද මිසර
දේසයෙන් තොප ගෙනාවාවූ තොප
ගේ දෙවිවූ යෙහෝවාවහන්සේ මමය.
39 තා සමග සිටින තාගේ සහෝදරයා දි
ලිඳු බවට පැමින තට විකුනනු ලැබුයේ
නම් වාලෙක් මෙන් මෙහෙකරන්ට ඔ
40 හුට බලාත්කාර නොකරව. කුලියට
ගත් වැඩකාරයෙකු මෙන්ද ආගන්තුක
යෙකු මෙන්ද ඔහු තා ලඟ සිටිමින් හැර
වීමෙහි වරුෂය දක්වා තට මෙහෙකො
41 ට ඔහුද ඔහු හා සමග ඔහුගේ දරුවෝ
ද තමාගේ පවුලට නිදහසව ගොස් ඔහු
ගේ පියවරුන්ගේ උරුමයට හැරී යන්
42 නේය. මිසර දේසයෙන් මා විසින් ගෙ
නාවාවූ ඔවුන් මාගේ මෙහෙකරුවෝ
නිසා ඔවුන් වාළුන්මෙන් විකුනනු නො
43 ලැබෙත්. තෝ රෞද්‍රකමෙන් ඔහු කෙ
රෙහි අධිපතිකම් නොකොට තාගේ
44 දෙවියන්වහන්සේට භයවව. තාගේ දාස
යෝද දාසියෝද තොප හාත්පසින් සිටින්
නාවූ විදේසීන්ගෙන් වෙති. ඔවුන්ගෙන්
දාසයෝද දාසියෝද තොපි මිලේට ගනිති.
45 තොප අතරෙහි සිටිනාවූ අන්රට වැ
සියන්ගේ දරුවන්ගෙන්ද ඔවුන් තොප
ගේ දේසයෙහිදී ඉපදවූ තොප ලඟ සි
ටින ඔවුන්ගේ පවුල්වලින්ද මිලේට ගනි
46 ති ඔවුන් තොපගේ උරුමය වෙති. තො
පට පසු තොපගේ දරුවන්ගේ උරුම
යක් පිනිස ඔවුන් ගනිති. ඔවුන් සදකා
ලයටම තොපගේ දාසයෝ වෙති. එ
හෙත් තොපගේ සහෝදරවූ ඊශ්‍රායෙල්
පුත්‍රයන් කෙරෙහි තොපි රෞද්‍රයෙන් අ
ධිපතිකම් නොකරව්.

47 ආගන්තුකයෙක්වත් අන්රට වැසි

යෙක්වත් තා ළඟ වසනුකාරයෙක්ව සි
ටින්නේනම් ඔහු ළඟ සිටින තාගේ ස
හෝදරයා දුප්පත්ව තා ළඟ සිටින ආ
ගන්තුකයාටවත් අන්රට වැසියාටවත්
ඔවුන්ගේ පවුලටවත් තමාම විකුනන්
48 නේනම් ඔහු විකුණුනායින් පසු ඔහු නැ
වත මිදීම ලැබිය යුතුය ඔහුගේ සහෝ
දරයන්ගෙන් එකෙක් ඔහු මුදන්ට හැ
49 කිවන්නේය. ඔහුගේ මව්පියන්ගේ ස
හෝදරයාවත් මව්පියන්ගේ සහෝදර
යාගේ පුත්‍රයාවත් ඔහු මුදන්ට හැකිවන්
නේය. ඔහුගේ පවුලට කිට්ටු නෑසින්
ගෙන් කෙනෙක්වත් ඔහු මුදන්ට හැකි
වන්නේය නොහොත් ඔහු හැකිනම් ත
50 මාම මුදගන්ට ඔහුට යුතුය. ඔහුට විකුණු
න අවුරුද්ද පටන් හැරවීමෙහි අවුරුද්ද
දක්වා මිලේට ගත් තැනැත්තා සමග
ගනන්කරන්නේය. ඔහුගේ විකිනීමෙ
හි මිල අවුරුදු ගනන හැටියට තිබෙන්
නේය. කුලියට ගත් වැඩකාරයෙකුගේ
කාලය හැටියට ඔහු ගැන තිබෙන්නේ
51 ය. බොහෝ අවුරුදු ඉතුරුව තිබේනම්
ඒ හැටියට ඔහු මිලේට ගත් මිලයෙන්
ඔහුගේ මිදීමෙහි මිලය නැවත ගෙවන්
52 නේය. එහෙත් හැරවීමෙහි අවුරුද්ද
දක්වා ස්වල්ප අවුරුදු ඉතුරුව තිබේ
නම් ඔහු සමග ගනන්කොට ඔහුගේ අ
වුරුදු හැටියට ඔහුගේ මිදීමෙහි මිලය
53 ඔහුට නැවත දෙන්නේය. ඔහු අවුරුදු
පතා කුලියට ගත් වැඩකාරයෙක් මෙන්
ඔහු සමග වන්නේය. අනික් එකා තා
ඉදිරියෙහි ඔහු කෙරෙහි රෞද්‍රයෙන්
54 අධිපතිකම් නොකරන්නේය. ඒ අවුරු
දුවලදී ඔහු මුදනු නොලබන්නේනම්
හැරවීමෙහි අවුරුද්දේදී ඊස්‍රායෙල් පුත්‍ර
යෝ මාගේ මෙහෙකරුවෝ බැවින් ඔ
හු සහ ඔහු හා සමග ඔහුගේ දරුවෝද
55 නිදහස්ව යන්නේය. මා විසින් මිසර දේස
යෙන් ගෙනාවාවූ ඔවුන් මාගේ මෙහෙ
කරුවෝ වෙති තොපගේ දෙවිවූ යෙ
හෝවාවහන්සේ මමයයි වදාළසේක.

26. පරිචෙ. මම තොපගේ දෙවිවූ
යෙහෝවාවහන්සේය. ඒ නිසා එයට
නමස්කාර කරණ පිනිස කිසි පිළිමයක්
වත් කැපූරූපයක්වත් නොසාදා කිසි සි
ටි රූපයක් සිටුවා නොගෙන කිසි ගල්
රූපයක් තොපේ දේසයෙහි තබානො
2 ගනිව්. තොපි මාගේ සබත් රක්‍ෂාකොට
මාගේ පවිත්‍ර ස්ථානයට ගෞරව කරව්.
3 යෙහෝවාවහන්සේ මමය. තොපි මා
ගේ පනත් ලෙස හැසිර මාගේ ආඥාවන්
4 පවත්වමින් ඒවා කරව්නම් එවිට සුදුසු
කලට වර්ෂාව වස්වන්නෙමි භූමියද එහි
5 වැඩීම දෙන්නීය. කෙතෙහි ගස්ද ඵල
දෙන්නේය. තොපේ ගොයම් මඩින කා
ලය මුද්‍රික ඵල නෙලන කාලය දක්වා
පවත්වන්නේය මුද්‍රික ඵල නෙලන කා
ලය වපුරණ කාලය දක්වා පවත්නේ
ය. තොපි සෑහෙන කෑම කා තොපේ
දේසයෙහි ආන්ත්‍රාවක් නැතුව සිටිනවා
6 ඇත. මමද තොපේ දේසයෙහි සමාදාන
ය දෙන්නෙමි තොපට කොයියම් කෙ
නෙකුගෙණවත් භයක් නොපැමින සය
නය කරණවා ඇත. තොපේ දේසයෙන්
නපුරු මෘගයන් දුරුකරන්නෙමි කඩුව
ද තොපේ දේසයට නොපැමිනෙන්නේ
7 ය. තොපේ සතුරන් ලුහුබැදගන්නෝ
ය ඔවුන් තොප ඉදිරියෙහි කඩුවෙන්
8 වැටෙන්නෝය. තොප අතරෙන් පස්
දෙනෙක් සියයක් එලවති තොපෙන්
සියක් දෙන දසදහසක් ලුහුබැදගණිති
තොපේ සතුරෝද තොප හමුයෙහි ක
9 ඩුවෙන් වැටෙන්නෝය. මම තොපට ආ
දරකොට සඵලකරන්නෙමි තොප බෝ
කොට මාගේ ගිවිසුම තොප සමග පිහි
10 ටුවන්නෙමි. තොපි පරණ රැස්කල දේ
කති අළුත් දේ නිසා පරන දේ පිටත
11 ගෙනෙන්නෝය මමද මාගේ මඩපය
තොප අතරෙහි පිහිටුවම් මාගේ ආත්ම
12 යද තොපට වෛර නොවන්නේය. ම
මද තොප අතරෙහි හැසිර තොපගේ
දෙවියණ්වහන්සේ වන්නෙමි තොපිදු මා
13 ගේ ජනයෝ වන්නෝය. මිසරයන්ගේ
දාසයන් නොවෙන පිනිස මිසර දේස
යෙන් තොප පිටතට ගෙනාවාවූ තො
පේ දෙවිවූ යෙහෝවාවහන්සේ මමය.
වියගසේ බැඳුම් බිඳ තොපව කෙලින්
ව යන්ට සැලැස්වූයෙමි.
14 එහෙත් තොපි මාගේ බස් නොඅසා
මේ සියළු ආඥාවලට කීකරු නොවෙත
15 වානම් මාගේ පනත්වලට නින්දාකොට
මාගේ සියළු ආඥාවලට කීකරු නොව
මාගේ ගිවිසුම කඩකර තොපේ ආත්ම
යෙන් මාගේ පනත්වලට වෛරකරණවා
නම් මමද මේක තොපට කරන්නෙමි.
16 තොප කෙරෙහි ඇස් වෙංගසවන්නාවූ
හෘදයෙහි දුක් උපදවන්නාවූ භයද ක්‍ෂය

රෝගයද තද උනද පමුනුවනෙනම්. තොපි නිෂ්ප්‍රයෝජන ලෙස බීජ වපුර ණවා ඇත තොපේ සතුරෝ ඒ කනවා
17 ඇත. මමද මාගේ මුහුන තොපට විරු ඬව හරවාගනෙනම්. තොපේ සතුරන් ඉදිරියෙහි මරනු ලබනෙනෝය. තොපට වෛරව සිටියෝ තොප කෙරෙහි අධිප තිකම් කරනෙනෝය කිසිවෙක් නොඑ
18 ලවනකල තොපි දුවනවා ඇත. තවද මේ සියල්ල ගැන මාගේ බස් නොඇහු වොත් එවිට තව සත්වරක් තොපේ පාප
19 ය උදෙසා තොපට දඬුවම්කොට තො පේ බලයෙහි අහංකාරය බිදිනෙනම්. තොපේ අහසද යකඩ මෙන්ද තොපේ භූමියද පිත්තලමෙන් කරනෙනම්. තො පේ උත්සාහය නිෂ්ප්‍රයෝජන වනෙන්
20 ය. භූමිය එහි වැඩීම නොදෙනෙන්ය භූමියෙහි ගස්ද ඵල නොදෙන්නේය.
21 තොපි මට විරුඬව හැසිර මාගේ බස් නොඅසව්නම් තොපේ පව් ලෙස පීඩා වල් තව සත්ගුණයක් තොපට පමුනුවා තොප අතරේ වන මෘගයන් යවනෙන
22 ම්. උන් තොපේ දරුවන් බලාත්කාර යෙන් අල්වා තොපේ සිව්පාවුන් විනාස කරනෙනෝය. තොපිද ගනනින් අඩුවන් නෝය තොපේ මාර්ගවල් වනාන්තර ව
23 නෙන්ය. තවද මා විසින් කල මේ දේ වල්වලින් හොඳකමට නොපැමින මට
24 විරුඬව හැසුරුනොත් එවිට මම තොප ට විරුඬව හැසිර තොපේ පාපය උදෙ සා තව සත්වරක් දඬුවම් කරනෙනම්.
25 මාගේ ගිවිසුමේ අපරාධයට පලිදෙන ක ඩුවක් තොප පිටට පමුනුවා තොපි නු වරවල රැස්ව සිටින කල තොප අතරේ වසංගත රෝගය පමුනුවනෙනම්. තො පි සතුරාගේ අතට බාරදෙනු ලබනවා
26 ඇත. මා විසින් තොපේ භෝජන නැ මති සැරයටිය බින්දවිට ස්ත්‍රීහු දසදෙ නෙක් එක් උදුනෙක්හි තොපේ රොටි පිස කිරමින් තොපේ රොටි භාරදෙන වා ඇත තොපි කා සෑහීමට නොපැමි
27 නෙනෙනෝය. තොපි මේ සියල්ල ගැන මාගේ බස් නොඅසා මට විරුඬව හැසි
28 රෙව්නම් එවිට ක්‍රෝධයෙන් තොපට විරුඬව හැසිර මම්ම තොපේ පාපය උ දෙසා සත්වරක් තොපට දඬුවම් කරන්
29 නෙම්. තොපේ පුත්‍රයන්ගේ මාංසය ක නවා ඇත තොපේ දූවරුන්ගේ මාංසය
30 ද කනවා ඇත. මමද තොපේ උසස් තැන් විනාසකොට තොපේ රූපයන් සි දදමා තොපේ බිඳුනාවූ දේව රූපයන් පිට තොපේ කුනප දමනෙනම්. මාගේ ආත්මයද තොපට පිලිකුල් කරනෙන්ය.
31 මම තොපේ නුවරවල් පාළුකොට තො පේ පවිත්‍ර ස්ථානයන් වනාන්තර බවට ප මුනුවා තොපේ මිහිරි සුවඳ නොසිඹින්
32 නෙම්. තොපේ දේසය වනාන්තර බවට පමුනුවනෙනම් එහි සිටින තොපේ සතු
33 රෝ ඒ ගැන මවිතවෙති. මමද අන්‍යජා තීන් අතරෙහි තොප විසුරුවා තොප ප සුපස්සෙහි කඩුවක් අදිනෙනම් තොපේ දේසයද වනාන්තර වනෙන්ය තොපේ
34 නුවරවල්ද පාළුවන්නේය. එකල දේස
35 යෙහි සබත් තමාට වනෙන්ය. තොපි තොපේ සතුරන්ගේ දේසයෙහි සිටින තුරු දේසය පාළු බවට පැමින නිවාඩු ගෙන තමාගේ සබත් තමාට වනෙන්ය. තොපි එහි සිටිනකල තොපේ සබඩල දේස නිවාඩු නොගත් බැවින් පාළුව ති
36 බෙනතුරු නිවාඩු ගනෙන්ය තොප අ තරෙන් ඉතුරු නැනැත්තන් තමන් සතු රන්ගේ දේසයෙහි සිටිද්දී ඔවුන්ගේ හි ත්ලට බෙලහීනකම පමුනුවන්නෙම් සැලෙන කොලයක ශබ්දය ඔවුන් ද ලවා කඩුවෙන් දුවනනාක්මෙන් පල ගොස් කිසිවෙකුදු නොඑලවන කල්හි
37 වැටෙනවා ඇත. ඔවුන් කඩුවක් ඉදිරි යෙහි මෙන් කිසිවෙක් එලුනොබදින කල්හි ඔවුනොවුන් පිට වැටෙනෙනෝ තොපට තොපේ සතුරන් ඉදිරිපිට සි ටින්ට කිසි බලයක් නැතුව සිටිනවා ඇ
38 ත. තොපි අන්‍යජාතීන් අතරෙහි සිට විනාසයට පැමිනෙති තොපේ සතුරන් ගේ දේසයද තොප විනාසකරනෙන්ය.
39 තොපගෙන් ඉතිරි නැනැත්තෝ තො පේ සතුරන්ගේ දේසවල සිට ඔවුන්ගේ අධර්මිෂ්ඨකම්හිද ඔවුන්ගේ පියවරුන් ගේ අධර්මිෂ්ඨකම්හිද දිරා යෙති.
40 ඔවුන් මට විරුඬව කල අපරාධය තමන් සහ තමන් පියවරුන්ගේ අධර්මි
41 ෂ්ඨකමද ඔවුන් මට විරුඬව හැසුරුනු බවද මමද ඔවුන්ට විරුඬව හැසිර ඔ වුන්ගේ සතුරන්ගේ දේසයට පමුනුව න බවද කියාදුනොත් ඔවුන්ගේ චර්ම ඡේදනය නොවූ හෘදය උඩඟු නැති බවට පැ මින ඔවුන් තමන් අධර්මිෂ්ඨකමේ දඬුව
42 ම පිලිගනෙනෝනම් එවිට මම යාකොබ් ද ඊසාක්ද අබ්‍රහම්ද සමග මාගේ ගිවිසු

මද සිහිකොට දේසය සිහිකරනෙනම්.
43 ඔවුන් මාගේ පනත්වලට නින්දාකොට
මාගේ නියෝගවල් තමන්ගේ සිත් පිලි
කුල් බැවින් දේසයද ඔවුන් විසින් අත්
හරින්නු ලැබ ඔවුන්ගෙන් සිස්ව පාළුව ති
බෙනතුරු තමාගේ සබත් ලබනෙන්ය.
ඔවුන් තමන්ගේ අධර්ම්‍ගකමේ දඬුවම
පිලිගන්නාවා ඇත. එසේවී නුමුත් මම ඔ
44 වුන්ගේ දෙවිවූ යෙහෝවඃ නිසා ඔවුන්
තමන් සතුරන්ගේ දේසයෙහි සිටිනක
ල ඔවුන් බැහැර නොදමා ඔවුන් මුළුම
නෙම්ම විනාශ නොකොට ඔවුන් සමග
මාගේ ගිවිසුම කඩකරණ ලෙස ඔවුන්
45 ට පිලිකුල් නොකරනෙනම්. මම ඔවුන්
ගේ දෙවියන්වහන්සේ වෙන පිනිස අ
න්‍ය ජාතීන් ඇස් හමුයෙහි මිසර දේස
යෙන් ගෙනාවාවූ ඔවුන්ගේ පියවරුන්
ගේ ගිවිසුම ඔවුන් උදෙසා සිහිකරන්
46 නෙම්. යෙහෝවඃවහන්සේ මමය. යෙ
හෝවඃවහන්සේ තමන්වහන්සේද ඊස්‍රා
යෙල් පුත්‍රයන්ද අතරේ සීනයි කන්දේදී
මෝසෙස් ලවා පිහිටුවනලද නියෝග
වල්ද පනතවල්ද ආඥාවල්ද මේවාය.

27. පරිච්ඡෙ. යෙහෝවඃවහන්සේ
2 මෝසෙස්ට වදාරණසේක් ඊස්‍රායෙල් පු
ත්‍රයන්ට කථාකොට මනුෂ්‍යයෙක් පො
රොන්දුවීමක් කර අයවල් යෙහෝවඃව
හන්සේට දෙනකල ඔවුන් තාගේ අග
3 යකිරීම ලෙස දෙනු ලබනවා ඇත. විසි
අවුරුදු පටන් සැට අවුරුදු දක්වා වයස්
වූ පිරිමින් ගැන පවිත්‍ර ස්ථානයෙහි ෂෙ
කෙල් ගනනට රිදී ෂෙකෙල් පනසක්
4 තාගේ අගයකිරීම වන්නේය. ඒ ස්ත්‍රී
යෙක්නම් තාගේ අගයකිරීම ෂෙකෙල්
5 තිසක් වනෙන්ය. ඒ පස් අවුරුදු වයඃ
සෙහි පටන් විසි අවුරුද්ද දක්වා වයස්
ඇතෙතක්නම් තාගේ අගයකිරීම පිරිමි
යාට ෂෙකෙල් විස්සක්ද ගෑනිට ෂෙ
6 කෙල් දසයක්ද වනෙන්ය. මාසක් වයඃ
සෙහි පටන් පස් අවුරුද්ද දක්වා වයඃ
ඇතෙතක්නම් තාගේ අගයකිරීම පිරිමි
යාට රිදී ෂෙකෙල් පසක්ද ගෑනිට රිදී
7 ෂෙකෙල් තුනක්ද වනෙන්ය. සැට අවු
රුදු වයසෙහි පටන් වඩා වයස් ඇත්
තෙක්නම් තාගේ අගයකිරීම පිරිමියාට
ෂෙකෙල් පසලොසක්ද ගෑනිට ෂෙ
8 කෙල් දසයක්ද වනෙන්ය. එහෙත් ඔහු
තාගේ අගයකිරීමට වඩා දිලිඳුනම් එවිට
ඔහු පූජකයා ඉදිරිපිට සිටිනෙන්ය පූජ
කයාද ඔහු මිලකරනෙන්ය. පොරොන්
දු වූනාවූ තැනැත්තාගේ පොහොසත්ක
මේ ප්‍රකාරයට පූජකයා ඔහු මිලකරන්
9 නේය. මනුෂ්‍යයෝ මෘගයෙක් යෙහෝ
වඃවහන්සේට පූජාකරනෙන්නම් දුන් සි
යල්ල යෙහෝවඃවහන්සේට පවිත්‍ර වන්
10 නේය. ඔහු ඒ වෙනස්කොට හොද එ
කා නරක එකෙකුටද නරක එකා හො
ද එකෙකුටද මාරු නොකරන්නේය.
ඉදින් කොයි ආකාරයකින්වත් මෘගයකු
මෘගයකුට මාරුකරනෙන්නම් ඒකාද එ
යින් මාරුවූන එකාද පවිත්‍ර වනෙන්ය.
11 යෙහෝවඃවහන්සේට යාගයකට පූජා
නොකරණ අපවිත්‍ර මෘගයෙක්නම් ඔහු
ඒ මෘගයා පූජකයා ඉදිරිපිට සිටුවනෙන්
12 ය. පූජකයාද ඒකා හොද නුමුත් නරක
13 නුමුත් මිලකරනෙන්ය. පූජකවූ තා වි
සින් මිලකල ලෙසටම ඒකා වනෙන්ය.
එහෙත් ඔහු ඒකා මුදා හරින්නු කැමති
නම් තාගේ අගයකිරීමට පහෙන් කො
14 ටසක් එකතුකරනෙන්ය. මනුෂ්‍යයෙක්
තමාගේ ගෙය යෙහෝවඃවහන්සේට සු
ඩවෙන පිනිස කැප කරණ කල්හි පූජ
කයා ඒක හොදවත් නරකවත් අගයක
රනෙන්ය. පූජකයා මිලකල ලෙසටම
15 ඒක වනෙන්ය. ඉදින් ඒක කැපකල තැ
නැතෙත් තමාගේ ගෙය ගලවාගන්ට
කැමතිනම් තාගේ අගය තැබීමේ මුද
ලෙන් පහෙන් කොටසක් එයට එකතු
16 කරනෙන්ය එවිට ඒක ඔහුගේය. මනු
ෂ්‍යයෙක් තමන් බුත්තිවිඳින කුඹුරෙන්
මදක් යෙහෝවඃවහන්සේට කැප කර
නෙන්නම් එවිට තාගේ අගය තැබීම
එහි ගොඃම් හැවියට වනෙන්ය. යව ධා
න්‍ය හොමරයක් රිදී ෂෙකෙල් පනසක
17 ට මිල වනෙන්ය ඔහු තමාගේ කුඹුර
හැරවීමෙහි අවුරුද්ද පටන් කැප කරන්
නේනම් ඒක තාගේ අගය තැබීමට ව
18 නෙන්ය. එහෙත් ඔහුගේ කුඹුර හැරවී
මෙහි අවුරුද්දට පසුව කැප කරනෙත්
නම් පූජකයා හැරවීමෙහි අවුරුද්ද දක්
වා ඉතුරුව තිබෙන අවුරුදු ලෙස ඒ
මුදල ඔහුට දණනෙන්ය. ඒකද තාගේ
19 අගයකිරීමෙන් අඩුකරනු ලැබේ. කුඹු
ර කැපකල තැනැතෙත් ඒක යම් ප්‍රකා
රයකින්වත් ගලවාගනෙන්නම් තාගේ අ
ගයකිරීමේ මුදලෙන් පහෙන් කොට
සක් එයට එක්කරනෙන්ය. එවිට ඒක

20 ඔහුටම වන්නේය ඉදින් ඔහු කුඹුර ග
ලවා නොගන්නේනම් ඒක වෙන මිනි
හෙකුට විකුනනු ලබන්නේනම් තවත්
21 ඒක ගලවනු නොලැබ කුඹුර හැරවීමේ
අවුරුද්දේදී මිදිය යුතු කල්හි ඒක යෙ
හෝවෘවහන්සේට මිදිමක් නැතුව දුන්
කුඹුරක් මෙන් සුබඃ. එහි බුත්තිවිඳිම
22 පූජකයාට වන්නේය. මනුෂ්‍යයෙක් ත
මන් බුත්තිවිඳින කුඹුරුවලින් නොව
මිලේට ගත් කුඹුරක් යෙහෝවෘවහන්
23 සේට කැප කරන්නේනම් එවිට පූජකයා
හැරවීමෙහි අවුරුද්ද දක්වා තාගේ අ
ගය තැබීමෙහි මිල ඔහුට දන්වන්නේය.
ඔහු ඒ දවසේදී තාගේ අගය තැබීම යෙ
හෝවෘවහන්සේට පවිත්‍ර දෙයක් කො
24 ට දෙන්නේය. හැරවීමේ අවුරුද්දේදී
ඒ කුඹුර උරුමවෙන ඒ මිලේට දුන් තැ
25 නැත්තාහට නැවත වන්නේය. තාගේ
සියළු අගය තැබීමවල් පවිත්‍ර ස්ථානයෙ
හි ෂෙකෙල් ගනනට වන්නේය. ගෙරාඃ
විස්සක් ෂෙකෙලයක.
26 . යෙහෝවෘවහන්සේගේ කුළුදුලන් වී
ය යුතුවූ මෘගයන්ගේ කුළුදුලන් කිසි
වෙක් කැප නොකරන්නේය. ඒ ගව
යෙක් වුවත් බැටළුවෙක් වුවත් යෙ
27 හෝවෘවහන්සේගේමය. ඒ අපවිත්‍ර මෘ
ගයෙක්නම් ඔහු තාගේ අගයකිරීම හැ
වියට ඒකා මුදා හැර එයින් පහෙන්
කොටසක් එයට එක්කරන්නේය. ඒකා
නොමිදුවොත් තාගේ අගයකිරීම ප්‍රකාර
28 යට ඒකා විකුනනු ලැබේ. එසේදවුවත්
කිසිවෙක් මිනිසුන්ගෙන්වත් මෘගයින්
ගෙණවත් තමා සන්තක කුඹුරෙණවත් ත
මාට ඇති සියල්ලෙන් යෙහෝවෘවහන්
සේට වෙන්කර නියමවූ දෙයක්කොට
දුන් කිසි දෙයක් වුවත් විකුනනු නො
ලැබේ මුදනු නොලැබේ නියමවූ සියළු
දේවල් යෙහෝවෘවහන්සේට අති පවි
29 ත්‍රය. මනුෂ්‍යයන්ගෙන් නියමවූ පූජවක්
කොට වෙන්වූ කිසිවෙක් නැසියනතු
30 රු මුදනු නොලැබේ. කෙතෙහි ධාන්‍ය
යෙන්ද ගස් ගෙඩිවලින්ද භූමියෙන් හට
ගත් සියල්ලෙන් දසයෙන් කොටසක්
යෙහෝවෘවහන්සේට වේ ඒක යෙහෝ
31 වෘවහන්සේට සුධයක්ය. ඉදින් මනුෂ්‍ය
යෙක් එයින් මිදෙන්නේනම් පහෙන්
32 කොටසක් එයට එක්කරන්නේය. ගව
යන්ගෙණවත් බැටළුවන්ගෙණවත් සැරය
වීය යටින් යනාවූ කොයි සතුන්ගෙන්
වුවත් ඔතන ගැන දසයෙන් කොටස
33 යෙහෝවෘවහන්සේට සුධ වන්නේය. ඔ
හු ඒකා හොඳද නරකද නොසොයා
ඒකා මාරු නොකරන්නේය. ඉදින් ඒ
කා මාරුකරන්නේනම් එවිට ඒකාද එ
යට මාරුවුන එකාද සුධව මුදනු නො
ලබන බව ඔවුන්ට කියවයි වදාලසේ
34 ක. යෙහෝවෘවහන්සේ සීනයි කන්දේ
දී ඊශ්‍රායෙල් පුත්‍රයන් ගැන මෝසෙස්ට
අනකල අඥවල් මේවාය.

## මෝසෙස් විසින් ලියනලද ගනන් කථාවනම්වූ හතරවෙනි පොතය.

1. පරිච්ඡේදය. මිසර දේසයෙන් නික්
ම ආ දෙවෙනි වරුෂයෙහි දෙවෙනි මා
සේ පලමුවෙනි දින සීනයි වනයෙහි
සභාමණ්ඩපයෙහිදී යෙහෝවෘවහන්සේ
2 මෝසෙස්ට වදාරණසේක් ඊශ්‍රායෙල් පු
ත්‍රයන් සියළු සභාවෙහි ගනන ගණ්ව ඔ
වුන්ගේ වංශයද පියවරුන්ගේ පෙලපත්
3 ද හැවියට නම් වසයෙන් විසි අවුරුද්
දෙහි පටන් ඊට වැඩි වයස් ඇතිව ඊශ්‍රා
යෙල්හි යුධයට යන්ට හැකිවන සියළු
පුරුෂයන් ඔවුන්ගේ සේනාවල් ප්‍රකාර
යට තෝද ආරොන්ද ගනන්කරණවා
4 ඇත. තමන් පියවරුන්ගේ පවුල්වල ප්‍ර
ධානවූ එක එක වංශයෙන් පුරුෂයෙක්
5 තොප සමග සිටිනේය. තොප සමග
සිටිනාවූ පුරුෂයන්ගේ නම මෙඃ.
රූබෙන්ගේ වංශයෙන් ෂෙදේවූර්ගේ
6 පුත්වූ එලිසූර්ය. සිමියොන්ගේ වංශ
යෙන් සූරිෂද්දයිගේ පුත්වූ ෂෙළුමියෙල්
7 ය. යූදාගේ වංශයෙන් අම්මිනාදබ්ගේ පුත්
8 වූ නාසොන්ය. ඉස්සාඛර්ගේ වංශයෙන්
9 සුවර්ගේ පුත්වූ නෙතානියෙල්ය. සෙබු
ලොන්ගේ වංශයෙන් හෙලොන්ගේ
10 පුත්වූ එලියබ්ය. යෝසෑප්ගේ පුත්‍රයන්
අතරෙන් ඒප්‍රායිම්ගෙන් අම්මිහුද්ගේ
පුත්වූ එලිසාමාය. මනස්සෙස්ගෙන් ප්

11 දෑහූර්ගේ පුත්වූ ගමාලියෙල්ය. බෙන්ය
මින්ගේ වංශයෙන් ගිදියෝනිගේ පුත්වූ
12 අබිදන්ය. දන්ගේ වංශයෙන් අම්මිෂද්
13 දයිගේ පුත්වූ අහියෙසර්ය. ආෂෙර්ගේ
වංශයෙන් ඔක්‍රාන්ගේ පුත්වූ පාගියෑල්ය.
14 ගද්ගේ වංශයෙන් රූවෙල්ගේ පුත්වූ එ
15 ලියාසප්ය. නප්තලීගේ වංශයෙන් ඒ
16 නන්ගේ පුත්වූ අහිරය. මොවුන් සභා
වෙහි ප්‍රධානිව ඔවුන්ගේ පියවරුන්ගේ
වංශවලින් අධිපතියෝය ඊශ්‍රායෙල්හි ද
17 හසකට මූලාදනියෝය. ඔවුන්ගේ නාම
වලින් සඳහන්ව තිබෙන ඒ පුරුෂයන්
මෝසෙස් සහ ආරොන් කැඳවාගෙන
18 දෙවෙනි මාසේ ප්‍රථම දිනදී සියළු සභා
ව රැස්කොට විසි අවුරුද්දෙහි පටන් ඊ
ට වැඩි වයස් ඇති එකිනෙකා තමන්
ලාග් වංශය සහ පියවරුන්ගේ ගෙවල් හැ
වියට නම් ගනන ලෙස තමන්ගේ පෙ
19 ලපත කියාදුන්නෝය. යෙහෝවාවහන්
සේ මෝසෙස්ට අනකල ලෙස ඔහු සීන
20 යි වනයේදී ඔවුන් ගනන් කෙළේය. ඊ
ශ්‍රායෙල්ගේ කුළුඳුල්වූ රූබෙන්ගේ පු
ත්‍රයන්ගෙන් තමන් පරම්පරාවල තමන්
ගේ වංශ සහ පියවරුන්ගේ පෙලපත් හැ
21 වියට එකිනෙකාගේ නම් ගනන ලෙස
යුඩයට යන්ට හැකිවූ අවුරුදු විස්සෙහි
පටන් ඊට වැඩි වයස් ඇති ගනන්කල
සියළු පිරිමිහු හතලිස් හදුස් පන්සියයක්
22 වූවෝය. සිමියොන්ගේ පුත්‍රයන්ගෙන්
තමන් පරම්පරාවල තමන්ගේ වංශ සහ
පියවරුන්ගේ පෙලපත් හැවියට එකි
23 නෙකාගේ නම් ගනන ලෙස යුඩයට
යන්ට හැකිවූ අවුරුදු විස්සෙහි පටන්
ඊට වැඩි වයස් ඇති ගනන්කල සියළු
පිරිමිහු පනස් නවදුස් තුන්සියයක් වූ
24 වෝය. ගද්ගේ පුත්‍රයන්ගෙන් තමන් ප
රම්පරාවල වංශ සහ පියවරුන්ගේ පෙ
25 ලපත් හැවියට නම් ගනන ලෙස යුඩය
ට යන්ට හැකිවූ අවුරුදු විස්සෙහි පටන්
ඊට වැඩි වයස් ඇති ගනන්කල සියල්
ලෝ හතලිස් පන්දුස් හසිය පනසක්
26 වූවෝය. යූදාගේ පුත්‍රයන්ගෙන් තමන්
පරම්පරාවල වංශ සහ පියවරුන්ගේ පෙ
27 ලපත් හැවියට නම් ගනන ලෙස යුඩය
ට යන්ට හැකිවූ අවුරුදු විස්සෙහි පටන්
ඊට වැඩි වයස් ඇති ගනන්කල සියල්
ලෝ හැත්තෑ හාරදුස් හසියයක් වූවෝ
28 ය. ඉස්සාඛර්ගේ පුත්‍රයන්ගෙන් තමන්
පරම්පරාවල වංශ සහ පියවරුන්ගේ පෙ
29 ලපත් හැවියට නම් ගනන ලෙස යුඩයට
යන්ට හැකිවූ අවුරුදු විස්සෙහි පටන් ඊ
ට වැඩි වයස් ඇති ගනන්කල සියල්ලෝ
පනස්හාරදුස් හාරසියයක් වූවෝය.
30 සෙබුලොන්ගේ පුත්‍රයන්ගෙන් තමන්
පරම්පරාවල වංශ සහ පියවරුන්ගේ පෙ
31 ලපත් හැවියට නම් ගනන ලෙස යුඩය
ට යන්ට හැකිවූ අවුරුදු විස්සෙහි පටන්
ඊට වැඩි වයස් ඇති ගනන්කල සියල්
ලෝ පනස් සත්දුස් හාරසියයක් වූවෝ
32 ය. යෝසෑප්ගේ පුත්‍රවූ එප්‍රායිම්ගේ පුත්‍ර
යන්ගෙන් තමන් පරම්පරාවල වංශ සහ
33 පියවරුන්ගේ පෙලපත් හැවියට නම්
ගනන ලෙස යුඩයට යන්ට හැකිවූ අවු
රුදු විස්සෙහි පටන් ඊට වැඩි වයස් ඇ
ති ගනන්කල සියල්ලෝ හතලිස්දුස්
34 පන්සියයක් වූවෝය. මනස්සෙස්ගේ පු
ත්‍රයන්ගෙන් තමන් පරම්පරාවල වංශ
35 සහ පියවරුන්ගේ පෙලපත් හැවියට
නම් ගනන ලෙස යුඩයට යන්ට හැකිවූ
අවුරුදු විස්සෙහි පටන් ඊට වැඩි වයස්
ඇති ගනන්කල සියල්ලෝ දෙතිස්දුස්
36 දෙසියයක් වූවෝය. බෙන්යමින්ගේ
පුත්‍රයන්ගෙන් තමන් පරම්පරාවල වංශ
සහ පියවරුන්ගේ පෙලපත් හැවියට
37 නම් ගනන ලෙස යුඩයට යන්ට හැකි
වූ අවුරුදු විස්සෙහි පටන් ඊට වැඩි ව
යස්ඇති ගනන්කල සියල්ලෝ තිස්පන්
38 දුස් හාරසියයක් වූවෝය. දන්ගේ පුත්‍ර
යන්ගෙන් තමන් පරම්පරාවල වංශ සහ
39 පියවරුන්ගේ පෙලපත් හැවියට නම්
ගනන ලෙස යුඩයට යන්ට හැකිවූ අවු
රුදු විස්සෙහි පටන් ඊට වැඩි වයස් ඇ
ති ගනන්කල සියල්ලෝ හැට දෙදුස්
40 සත්සියයක් වූවෝය. ආෂෙර්ගේ පුත්‍ර
යන්ගෙන් තමන් පරම්පරාවල වංශ සහ
පියවරුන්ගේ පෙලපත් හැවියට නම්
ගනන ලෙස යුඩයට යන්ට හැකිවූ අවු
41 රුදු විස්සෙහි පටන් ඊට වැඩි වයස් ඇ
ති ගනන්කල සියල්ලෝ හතලිස් එක
42 දුස් පන්සියයක් වූවෝය. නප්තලීගේ
පුත්‍රයන්ගෙන් තමන් පරම්පරාවල වංශ
43 සහ පියවරුන්ගේ පෙලපත් හැවියට
නම් ගනන ලෙස යුඩයට යන්ට හැකිවූ
අවුරුදු විස්සෙහි පටන් ඊට වැඩි වයස්
ඇති ගනන්කල සියල්ලෝ පනස් තුන්
44 දුස් හාරසියයක් වූවෝය. මෝසෙස් ස
හ ආරොන් විසිනද එකිනෙකා තමන් පි
යවරුන්ගේ වංශ වෙනුවට සිටියාවූ ඊශ්‍රා

යෙල් අධිපති පුරුෂයන් දොළොස්දෙ
න විසින්ද ගනන්කරනු ලැබුවෝ මො
45 වුන්ය. ඊශ්‍රායෙල් පුත්‍රයන්ගෙන් තමන්
පියවරුන්ගේ පෙලපත් හැටියට ඊශ්‍රා
යෙල්හි යුඩයට යන්ට හැකිවූ අවුරුදු
46 විස්සෙහි පටන් ඊට වැඩි වයස් ඇති ග
නන්කල සියල්ලෝ සලක්‍ෂ තුන්දස් පන්
47 සිය පනසක් වූවෝය. ලෙවීයයෝ ත
මන්ගේ පියවරුන්ගේ වංශ හැටියට ග
48 නන්කරනු නොලැබුවෝය. මක්නිසාද
49 යෙහෝවඃවහන්සේ මෝසෙස්ට වදාල
සේක් ලෙවීගේ වංශය පමනක් ගනන්
නොකරව. ඊශ්‍රායෙල් පුත්‍රයන් අතරෙ
50 හි ඔවුන්ගේ ගනන නොගනුව. එහෙත්
තෝ සාක්‍ෂියෙහි මඩපයද එහි සියළු භා
ජනද එයට අයිතිව තිබෙන සියල්ලද
පිටට ලෙවීයයන් නියෝගකරව. ඔවුන්
මඩපය හා එහි සියළු භාජනද බර එ
යට මෙහෙකොට මඩපය හාත්පස්හි සි
51 ටිනවා ඇත. මඩපය ගෙනියන කල්හි
ලෙවීයයෝ ඒක අකුලාගනිති. මඩපය
පිහිටුවන්ට යුතුව තිබෙන කල්හි ලෙවී
යයෝ ඒක පිහිටුවති. එහි ලංවෙනනා
52 වූ අන් වංශයක් මරනු ලබන්නේය. මුළු
සභාවෙහි ඊශ්‍රායෙල් පුත්‍රයෝ එකිනෙ
කා කඳවුරෙහි තමතමාගේ ජය කෙත්තු
53 ව ලඟ කූඩාරම් පිහිටුවති. එහෙත් ඊශ්‍රා
යෙල් පුත්‍රයන් සභාව කෙරෙහි කෝප
යක් නොතිබෙනපිනිස ලෙවීයයෝ සා
ක්‍ෂි මඩපය වටේට සිට ඒ රක්‍ෂාකරණ
54 වා ඇතැයි වදාලසේක. ඊශ්‍රායෙල් පුත්‍ර
යෝ යෙහෝවඃවහන්සේ විසින් මෝ
සෙස්ට අනකල ලෙස සියල්ල කලෝය.

2. පරිච්ඡෙ. යෙහෝවඃවහන්සේ
මෝසෙස් සහ ආරොන්ට වදාරණසේක්
2 ඊශ්‍රායෙල් පුත්‍රයන්ගෙන් සියල්ලෝ ත
මන් පියවරුන්ගේ ජයකොඩි සමග ත
මන් ජයකොඩි ලඟ සභාමඩප දුරින් සි
3 ට ඒ වටේට කූඩාරම් තබාගනිත්වා. ඉ
ර නගිනනාවූ පූර්ව දිසාවෙහි යූදඃගේ ක
ඳවුරේ ජයකොඩියට අයිති සේනාවල්
කූඩාරම් තබනවා ඇත. අම්නාදබ්ගේ
පුත් නාෂොන් ඔවුන්ට අධිපතිවනෙන්
4 ය. ඔහුගේ සේනාවෙන් ගනන්කල සි
5 යල්ලන් හැත්තෑ හාරදස් හසියයක. ඉස්
සාඛර්ගේ ගෝත්‍රය ඔහු ලඟ කූඩාරම්
තබනවා ඇත. සොහර්ගේ පුත්‍රවූ නතා
නියෙල් ඔවුන්ට අධිපති වනෙන්ය. ඔහු
ගේ සේනාවෙන් ගනන්කල සියල්ලන්
6 පනස් හාරදස් හාරසියයක. ඔවුන් ලඟ
සෙබුලොන්ගේ ගෝත්‍රය වනෙන්ය ඔ
වුන්ට හෙලොන්ගේ පුත්‍රවූ එලියබ් අධි
7 පති වනෙන්ය. ඔහුගේ සේනාවෙන් ග
නන්කල සියල්ලන් පනස් හත්දස් හාර
8 සියයක. යූදඃගේ කඳවුරෙහි ඔවුන්ගේ
සේනාවල් ලෙස ගනන්කල සියල්ලන්
9 එක්ලක්‍ෂ අසූහදස් හාරසියයක. මො
වුන් ප්‍රථමයෝව යනෙනෝය.
10 දකුනු දිසාවේ ඔවුන්ගේ සේනාවල්
ලෙස රූබෙන්ගේ කඳවුරෙහි ජයකො
ඩි වනෙන්ය. ෂෙදූර්ගේ පුත්‍රවූ එලිසර් රූ
බෙන්ගේ පුත්‍රයන්ට අධිපති වනෙන්ය.
11 ඔහුගේ සේනාවෙන් ගනන්කරණ ලද්
12 දවුන් හතලිස් හදස් පන්සියයක. ඔහු
ලඟ කූඩාරම් තබාගනනවුන් සිමියොන්
ගේ ගෝත්‍රය වනෙන්ය. සූරිෂද්දයිගේ
පුත්‍රවූ ෂෙලුමියෙල් ඔවුන්ට අධිපති ව
13 නෙන්ය. ඔහුගේ සේනාවෙන් ගනන්ක
කරණලද්දවුන් පනස් නවදස් තුන්සිය
14 යක. ඔවුන් ලඟ ගද්ගේ ගෝත්‍රය වන්
නේය. රූවෙල්ගේ පුත්‍රවූ එලියාසප් ඔ
15 වුන්ට අධිපති වනෙන්ය. ඔහුගේ සේ
නාවෙන් ගනන්කරණ ලද්දවුන් හත
16 ලිස් පන්දස් හසිය පනසක. රූබෙන්
ගේ කඳවුරේ ඔවුන්ගේ සේනාවල් ලෙ
ස ගනන්කල සියල්ලන් එක්ලක්‍ෂ පනස්
එකදස් හාරසිය පනසක. ඔවුහුදු දෙ
17 වෙනි සමූහයව යනෙනෝය. එවිට සභා
මඩපය කඳවුර මැද සිට ලෙවීගේ කඳ
වුර සමග යන්නේය. ඔවුන් කූඩාරම්
තබාගනනා හැටියට සියල්ලෝ තමන්
ගේ ජයකොඩිය ලඟ සිට යනෙනෝය.
18 පැල දිසාවේ ඔවුන්ගේ සේනාවල්
ලෙස එප්‍රායිම්ගේ කඳවුරේ ජයකොඩිය
වනෙන්ය. අම්මිහූද්ගේ පුත්‍රවූ එලිෂම එ
ප්‍රායිම්ගේ පුත්‍රයන්ට අධිපති වනෙන්ය.
19 ඔහුගේ සේනාවෙන් ගනන්කරණලද්ද
20 වුන් හතලිස්දස් පන්සියයක. ඔහු ලඟ
මනස්සෙස්ගේ ගෝත්‍රය වන්නේය පෙ
දඃසූර්ගේ පුත්‍රවූ ගමාලියෙල් ඔවුන්ට අ
21 ධිපති වන්නේය. ඔහුගේ සේනාවෙන්
ගනන්කරණ ලද්දවුන් තිස්දෙදස් දෙ
22 සියයක. ඔවුන් ලඟ බෙන්යමින්ගේ
ගෝත්‍රය වනෙන්ය. ගිඩියොනිගේ පුත්‍ර
23 වූ අබිදන් ඔවුන්ට අධිපති වනෙන්ය. ඔ
හුගේ සේනාවෙන් ගනන්කරණලද්ද
24 වුන් තිස්පන්දස් හාරසියයක. එප්‍රායිම්

ගේ කඳවුරෙන් ඔවුන්ගේ සේනාවල්
ලෙස ගනන්කල සියල්ලන් එක්ලක්‍ෂ අ
ටදහස් එකසියයක. ඔවුන් තුන්වෙනි ස
මූහයව යන්නෝය.

25 ඔවුන්ගේ සේනාවල් ලෙස දන්ගේ
කඳවුරේ ජයකොඩිය උතුරු දිග වන්
නේය. අම්මිෂද්දයිගේ පුත්‍රවූ අහියෙසර්
26 දන්ගේ පුත්‍රයන්ට අධිපතිවන්නේය. ඔ
හුගේ සේනාවෙන් ගනන්කරණ ලද්ද
27 වුන් හැටදෙදහස් හත්සියයක. ඔහු ල
ග කුඩාරම් තබාගන්නාවුන් ආෂේර්ගේ
ගෝත්‍රය වන්නේය. ඔක්‍රන්ගේ පුත්‍රවූ පා
28 ගියෙල් ඔවුන්ට අධිපති වන්නේය. ඔහු
ගේ සේනාවෙන් ගනන්කරනලද්දවුන්
29 හතලිස් එක්දහස් පන්සියයක. ඔවුන් ල
ග නප්තලීගේ ගෝත්‍රය වන්නේය. ඒ
නන්ගේ පුත්‍රවූ අහිර ඔවුන්ට අධිපති ව
30 න්නේය. ඔහුගේ සේනාවෙන් ගනන්ක
රණලද්දවුන් පනස් තුන්දහස් හාරසියය
31 ක. දන්ගේ කඳවුරේ ගනන්කල සියල්
ලන් එක්ලක්‍ෂ පනස් හත්දහස් හසියයක.
ඔවුන් තමන්ගේ ජයකොඩි සමග පශ්චු
32 පස්සේ යන්නෝයයි වදාලසේක. ඊශ්‍රා
යෙල් පුත්‍රයන්ගෙන් තමන් පියවරුන්
ගේ වංශය හැටියට ගනන්කල තැනැත්
තන් මොවුන්ය. කඳවුරුවල තමන්ගේ
සේනාවල් ලෙස ගනන්කල සියල්ලන්
33 හලක්‍ෂ තුන්දහස් පන්සිය පනසක. එ
හෙත් යෙහෝවඃවහන්සේ මෝසෙස්ට
අනකල ලෙස ඊශ්‍රායෙල් පුත්‍රයන් අත
රෙන් ලෙවීයයෝ ගනන්කරනු නො
34 ලද්දෝය. යෙහෝවඃවහන්සේ මෝ
සෙස්ට අනකල සියල්ල ලෙස ඊශ්‍රායෙල්
පුත්‍රයෝද කලෝය. එසේම ඔවුනො
වුන්ගේ පවුල් සහ පියවරුන්ගේ වංශය
ලෙස කුඩාරම් තබාගත්තෝය. ගමන
ට නික්ම ගියෝය.

3. පරිච්ඡෙ. යෙහෝවඃවහන්සේ සී
නායි කන්දේදී මෝසෙස් සමග කථාකල
දවසෙහි ආරොන් සහ මෝසෙස්ගේ ප්‍ර
2 වෘත්තියනම් මෙය. ආරොන් පුත්‍රයන්
ගේ නම් කුළුඳුල් නාදබ්ද අබිහූද එලෙ
3 යාසර්ද ඉතාමර්ද වෙති. ආරොන් විසින්
පූජක තනතුරෙහි මෙහෙකරණ පිනි
ස පවිත්‍රකොට ආලේපකරණලද පූජක
යෝවූ ඔහුගේ පුත්‍රයන්ගේ නම් මෙය.
4 නාදබ් සහ අබිහූ සීනායි වනයෙහිදී යෙ
හෝවඃවහන්සේ ඉදිරියෙහි අශුද්ධ ගින්
න පූජාකල කල්හි යෙහෝවඃවහන්සේ
ඉදිරියෙහි මලෝය ඔවුන්ට දරුවෝද
නූවූවෝය. එලෙයාසර් සහ ඉතාමර් ත
මන් පියවූ ආරොන්ගේ ඇස් හමුයෙහි පූ
ජක තනතුරේ මෙහෙ කලෝය. යෙ
5 හෝවඃවහන්සේ මෝසෙස්ට වදාරණ
6 සේක් ලෙවී ගෝත්‍රය ලඟට කැඳවා පූ
ජකවූ ආරොන්ට මෙහෙකරන්ට ඔවුන්
7 ඔහු ඉදිරිපිටට ගෙනෙව. ඔවුන් මඩප
යෙහි මෙහෙවර කරණ පිනිස සභාමඩ
පය ඉදිරියෙහි සිට ඔහුටද සියළු සභාව
8 ටද උපස්ථායකයෝව සිටිනවා ඇත. ඔ
වුන් සභාමඩපයෙහි සියළු භාජන රක්‍ෂා
කොට මඩපයෙහි මෙහෙකරණ පිනිස
ඊශ්‍රායෙල් පුත්‍රයන්ට උපස්ථායකයෝව
9 සිටිනවා ඇත. ලෙවීවරුන් ආරොන් ස
හ ඔහුගේ පුත්‍රයන්ට පාවාදෙව. ඔවුන්
සර්වප්‍රකාරයෙන් ඊශ්‍රායෙල් පුත්‍රයන් කෙ
10 රෙන් ඔහුට දෙනලද්දෝය. ආරොන් ස
හ ඔහුගේ පුත්‍රයන් පූජක තනතුරෙහි
වැඩකරන්ට නියමකරව. අන් වංශයෙක්
ඒ වැඩ කරණ පිනිස ලඟට පැමිනියොත්
ඔහු මරනු ලැබේයයි වදාලසේක.

11 යෙහෝවඃවහන්සේ මෝසෙස්ට වදා
12 රණසේක් සියළු කුළුඳුලෝ මාගේ නිසා
මම ඊශ්‍රායෙල් පුත්‍රයන් අතරෙහි ගැබ
විදහන කුළුඳුල් සියල්ලන් වෙනුවට ඊ
ශ්‍රායෙල් පුත්‍රයන් අතරෙන් ලෙවීවරුන්
13 ගතිමි එබැවින් ලෙවීවරු මාගේය. මිස
ර දේසයෙහි කුළුඳුල් සියල්ලන්ට මා වි
සින් පහර දුන් දවසෙහි ඊශ්‍රායෙල්හි ම
නුෂ්‍ය සිව්පා දෙවගෙහි සියළු කුළුඳුලන්
මට සුද්ධකල බැවින් ඔවුන් මගේම වන්
නෝය. යෙහෝවඃවහන්සේ මමයයි ව
දාලසේක.

14 තවද යෙහෝවඃවහන්සේ සීනායි ව
15 නයෙහිදී මෝසෙස්ට වදාරණසේක් ලෙ
වීගේ පුත්‍රයන් ඔවුන්ගේ පියවරුන්ගේ
පෙලපත් හා පවුල් වසයෙන් මසක් ව
යස්වූවන් පටන් ඊට වැඩිවූද සියළු පිරි
16 මින් ගනන්කරවයි වදාලසේක. මෝ
සෙස්ද යෙහෝවඃවහන්සේ තමාට අන
කල වචනය ලෙස ඔවුන් ගනන්කෙලේ
17 ය. නම් වසයෙන් ලෙවීගේ පුත්‍රයෝනම්
ගෙර්ෂෝන් කොහත්ද මෙරරීයාද වෙති.
18 පවුල් වසයෙන් ගෙර්ෂෝන් පුත්‍රයන්ගේ
19 නම් ලිබ්නිද සිමෙයිද වෙති. පවුල් වස
යෙන් කොහත්ගේ පුත්‍රයෝනම් අම්රම්
ද ඉසෙහර්ද හෙබ්‍රොන්ද උසියෙල්ද යනා

ගෙන් පවිත්‍ර ස්ථානයෙහි ෂෙකෙල් ගන
නට ෂෙකෙල් එක්දස් තුන්සිය හැට ප
51 හක් මුදල ගෙන ඒ මුදලු ලැබූවන්ගේ
මුදල යෙහෝවාවහන්සේ ඔහුට අනක
ල ලෙස ආරොන්ටද ඔහුගේ පුත්‍රයන්
ටද දුනෙන්ය.

4. පරිච්ඡ. යෙහෝවාවහන්සේ මෝ
2 සෙස්ටද ආරොන්ටද වදාරණසේක් ලෙ
වීගේ පුත්‍රයන් කෙරෙන් ඔවුන්ගේ ප
වුල් හා පියවරුන්ගේ වශ ලෙස තිස් අ
වුරුදු පටන් පනස් අවුරුදු දක්වා ව
3 යස් ඇතිව සභාමඩපයෙහි කර්මාන්ත
කරණ පිනිස සභාවට ඇතුල්වෙන
කෝහත්ගේ පුත්‍රයන්ගේ ගනන ගනිව්.
4 අති පවිත්‍රවූ දේවල් ගැන සභාමඩපයෙ
හි කෝහත්ගේ පුත්‍රයන්ගේ මෙහෙය
5 නම් මේය. කඳවුර ගෙනියන කල්හි ආ
රොන් සහ ඔහුගේ පුත්‍රයෝ අවුත් තිර
ය පහකොට සාක්ෂි පෙට්ටිය එයින් ව
6 සාගෙන නිල් පාට සමින්වූ වැස්ම එහි
පිට දමා නිල්මයවූ වස්ත්‍රයක් එහි පිට අ
7 තුර එහි පොළු තබනවා ඇත. පිදූ රො
ටි දමන මේසේ පිට නිල්මයවූ වස්ත්‍රයක්
අතුර තලිද හැඳිද තැටිද එහි වැසුම්ද
ඒ පිට තබනවා ඇත. නිතරම පවතින
8 රොටි එහි පිට වනෙන්ය. ඔවුන් ඒවා
පිට රත්වන් වස්ත්‍රයක් අතුර නිල් පාට
සමින්වූ වැස්මකින් ඒවා වසා එහි පො
9 ළු තබනවා ඇත. ඔවුන් නිල්වූ වස්ත්‍ර
යක් ගෙන පහන් රුකද එහි පාන අඩු
ද තැටිද එහි ඔවුන් මෙහෙකරනනාවූ
සියළු තෙල් භාජනද වසාගනනවා ඇ
10 ත. ඔවුන් ඒකද එහි සියළු භාජනද නිල්
පාට සමින්වූ වැස්මෙන් වසා ඒක දඬක්
11 පිට තබනෙනාය. රන්මයවූ පූජාසන පි
ට නිල්වූ වස්ත්‍රයක් අතුර නිල්පාට සමින්
12 වූ වැස්මකින් ඒක වසා එහි පොළු තබා
පවිත්‍ර ස්ථානයෙහි මෙහෙයට ගනනා සි
යළු දේවල් නිල්වූ වස්ත්‍රයක් පිට තබා
නිල්පාට සමින්වූ වැස්මකින් ඒවා වසා
18 දඬක් පිට තබනවා ඇත. ඔවුන් පූජාස
නයෙන් අළු පහකොට පූජාසනය පිට
14 දම්වන්වූ වස්ත්‍රයක් අතුර ඒ ලඟදී සේ
වයකර සියල්ලද ඒනම් දුම් භාජනද
මස් කොකක්ද හැඳිද කුසලානද පූජ
සනයෙහි සියළු භාජනද එහි පිට තබා
නිල්පාට සමින්වූ වැස්මක් එහි පිට අතු
15 ර එහි පොළු තබනවා ඇත. කඳවුර
යාත්‍රාව තිබෙන කල්හි ආරොන් සහ
ඔහුගේ පුත්‍රයෝ පවිත්‍ර ස්ථානය සහ පවි
ත්‍ර ස්ථානයෙහි සියළු භාජනද වසාගත්
පසු කෝහත්ගේ පුත්‍රයෝ ඒක ධරණ
පිනිස එනවා ඇත. එහෙත් ඔවුන් නො
නස්නා පිනිස කිසි පවිත්‍ර දෙයක නො
හැපෙති. මේ දේ සභාමඩපයෙහි කෝ
හත්ගේ පුත්‍රයන්ගේ භාරය වනෙන්ය.
16 පවිත්‍ර ස්ථානය සහ එහි භාජනවල එලි
යට තෙල්ද දවන සුගන්ධයද දවස්පතා
භෝජන පූජාවද ආලේප තෙල්ද මඩප
ය හා එහි තිබෙන සියල්ල බැලීම පූජ
කවූ ආරොන්ගේ පුත්වූ එලියාසර්ගේ භා
නතුරට අයිතිවනෙන්යයි කීසේක.
17 තවද යෙහෝවාවහන්සේ මෝසෙස්
18 සහ ආරොන්ට වදාරණසේක් කෝහතී
වරුන්ගේ වංශය ලෙවියයන් කෙරෙන්
19 පහනොකරව්. එහෙත් ඔවුන් අති පවි
ත්‍රවූ දේවලට එළඹ නොනස්නා පිනිස
ඔවුන්ට මෙසේ කරව් ආරොන් සහ ඔහු
ගේ පුත්‍රයෝ ඇතුල්ව ඔවුන් එකිනෙ
කා තමතමාගේ මෙහෙයටද බරටද නි
20 යමකරණවා ඇත. එහෙත් පවිත්‍රවූ දේ
වස්තු ලබන කල්හි ඔවුන් නොනස්නා
පිනිස බලන්ට ඇතුල් නොවනෙනාය
21 යි කීසේක. යෙහෝවාවහන්සේ මෝ
22 සෙස්ට වදාරණසේක් ඔවුන්ගේ පියව
රුන්ගේ වංශ හා පවුල් හැටියට ගැ
ර්ෂෝන්ගේ පුත්‍රයන්ගෙන් තිස් අවුරුද්ද
පටන් පනස් අවුරුදු දක්වා වයස් ඇති
23 ව සභාමඩපයෙහි වැඩ කරණ පිනිස
ඇතුල්වෙනනාවූ සියල්ලන් ගනන්කර
24 ව. ගැර්ෂෝනිවරුන්ගේ වංශවල වැඩනම්
25 මෙහෙකිරීම හා බර බැරීමය. ඔවුන් ම
ඩපයෙහි තිරද සභාමඩපයද එහි වැස්
මද උඩ තිබෙන නිල්පාට සමින්වූ වැස්
26 ම හා සභාමඩප දොරටුවේ තිරයද මළු
වෙහි තිරයද මඩප ලඟ පූජාසන වට
කර තිබෙන මළු දොරටුවේ තිරයද එ
හි ලණුද එහි සියළු මෙහෙවර භාජන
ද එයට සෑදූ සියල්ලද ඔවුන් ධරණවා
27 ඇත. ඔවුන්ගේ මෙහෙය මෙසේය. ආ
රොන් සහ ඔහුගේ පුත්‍රයන්ගේද නි
යෝගය හැටියට ගැර්ෂෝන්වරුන්ගේ
මෙහෙය සහ බරද තිබෙනෙන්ය. තො
පි ඔවුන්ගේ සියළු මෙහෙය ඔවුන්ට නි
28 යමකරණවා ඇත. සභාමඩපයෙහි ගැ
ර්ෂෝන් පුත්‍රයන්ගේ වංශවල වැඩ මේ
ය. ඔවුන්ගේ වැඩ පූජකවූ ආරොන්ගේ

පුත්වූ ඉතාමර්ගේ අත යටතෙහි වන්නේය.

29 මෙරාරිගේ පුත්‍රයන් ඔවුන්ගේ පවුල් හා පියවරුන්ගේ වංශ හැටියට ගනන් 30 කරව. සභාමඬපයෙහි වැඩකරණ පිනිස ඇතුල්වෙනනාවූ සියල්ලන් තිස් අවුරුදු පටන් පනස් අවුරුදු දක්වා වයස් 31 ඇත්තන් ගනන්කරව. සභාමඬපයෙහි ඔවුන්ගේ සියළු වැඩ හැටියට ඔවුන් විසින් කටයුතු දේ මේය. මඬපයෙහි ලෑලිද අහුල් පොළුද කනුද විළිද මළුව වටේට කනුද එහි විළිද ඇනද ලනුද එ 32 හි වැඩට සියළු ආයුධද ඔවුන්ගේ වැඩට අයිති සියළු ආයුධද යන මේවා නම් 33 කියමින් ගනන්කරව. පූජකවූ ආරොන්ගේ පුත්වූ ඉතාමර්ගේ අත යටතෙහි සභාමඬපයෙහි ඔවුන්ගේ සියළු වැඩ ප්‍රකාරයට මෙරාරි පුත්‍රයන්ගේ වංශවල මෙහෙය මේයයි කීසේක.

34 මෝසෙස්ද ආරොන්ද සභාවෙහි ප්‍රධානියෝද කෝහත්ගේ පුත්‍රයන් තමන් පවුල් හා පියවරුන්ගේ පෙලපත් හැටි 35 යට තිස් අවුරුදු පටන් පනස් අවුරුදු දක්වා වයස් ඇතිව සභාමඬපයෙහි මෙහෙය පිනිස ඇතුල්වෙනනාවූ සියල්ලන් 36 ගනන්කලෝය. ඔවුන්ගේ පවුල් ලෙස ඔවුන්ගෙන් ගනන්කල සියල්ලෝ දෙ 37 දුස් සත්සිය පනහක් වූවෝය. කෝහත්වරුන්ගේ පවුල්වලින් සභාමඬපයෙහි වැඩකරන්ට හැකිවූ මෝසෙස් ලවා යෙහෝවාවහන්සේ අනකල ලෙස මෝසෙස් සහ ආරොන් විසින් ගනන්කල සි 38 යල්ලෝ මොවුන්ය. ගෙර්ෂොන් පුත්‍රයන්ගෙන් ඔවුන්ගේ පවුල් හා පියවරුන්ගේ 39 පෙලපත් හැටියට තිස් අවුරුදු පටන් පනස් අවුරුද්ද දක්වා වයස් ඇතිව සභාමඬපයෙහි මෙහෙය පිනිස ඇතුල් 40 වෙනනාවූ පවුල් හා පියවරුන්ගේ පෙලපත් වශයෙන් ගනන්කල සියල්ල දෙදුස් 41 හසිය තිහක් වූවෝය. සභාමඬපයෙහි වැඩකරන්ට හැකිවූ යෙහෝවාවහන්සේගේ අන ලෙස ගෙර්ෂොන් පුත්‍රයන්ගේ වංශවලින් මෝසෙස් සහ ආරොන් ගනන්කලාවූ සියල්ලෝ මොවුන්ය.

42 මෙරාරි පුත්‍රයන්ගේ වංශවලින් ඔවුන් 43 ගේ පවුල් හා පියවරුන්ගේ පෙලපත් හැටියට තිස් අවුරුද්ද පටන් පනස් අවුරුදු දක්වා වයස් ඇතිව සභාමඬප 44 යෙහි මෙහෙය පිනිස ඇතුල්වෙනනාවූ පවුල් වශයෙන් ගනන්කල සියල්ලෝ 45 තුන්දහස් දෙසියයක් වූවෝය. මෙරාරි පුත්‍රයන්ගේ වංශවලින් යෙහෝවාවහන්සේගේ අන ලෙස මෝසෙස් සහ ආ 46 රොන් ගනන්කලවුන් මොවුන්ය. ඔවුන්ගේ පවුල් හා පියවරුන්ගේ පෙලපත් 47 ලෙස තිස් අවුරුදු පටන් පනස් අවුරුදු දක්වා වයස් ඇතිව සේවයෙහිද සභාමඬපයෙහිද වැඩකරණ පිනිස ආවාවූ 48 ලෙවිවරුන්ගෙන් මෝසෙස් සහ ආරොන්ද ඊශ්‍රායෙල් ප්‍රධානීන් විසින් ගනන්කල සියල්ලෝ අටදහස් පන්සිය අසූවක් වූ 49 වෝය. ඔවුන් සියල්ලෝම තමතමන්ගේ මෙහෙය හා බර හැටියට යෙහෝවාවහන්සේගේ අන ලෙස මෝසෙස් අතින් ගනන්කරනු ලැබුවෝය. යෙහෝවාවහන්සේ මෝසෙස්ට අනකල ලෙස ඔවුන් මෙසේ ගනන්කරනු ලැබුවෝය.

5. පරිච්ඡේ. තවද යෙහෝවාවහන් 2 සේ මෝසෙස්ට වදාරණසේක් සියළු කුෂ්ඨ රෝගීන් සියළු ප්‍රමේහ රෝගීන් මළකඳවලින් අපවිත්‍රවූ සියල්ලන්ද කඳවුරෙන් බැහැරකරන්ට ඊශ්‍රායෙල් පුත්‍ර 3 යන්ට අණකරව. මම සිටින කඳවුර ඔවුන් අපවිත්‍ර නොකරණ පිනිස අපවිත්‍ර පිරිමි සහ ගෑනුද කඳවුරෙන් බැහැරක 4 රව්යයි වදාලසේක. ඊශ්‍රායෙල් පුත්‍රයෝද එසේ කොට ඔවුන් කඳවුරෙන් බැහැරකලෝය. යෙහෝවාවහන්සේ මෝසෙස්ට කී ලෙස ඊශ්‍රායෙල් පුත්‍රයෝ ක 5 ලෝය. යෙහෝවාවහන්සේ මෝසෙස් 6 ට වදාරණසේක් යෙහෝවාවහන්සේට විරුඬව මනුෂ්‍යයන් විසින් කරණලදපා පවලින් පුරුෂයෙක්වත් ස්ත්‍රියෙක්වත් යම් පාපයක් කොට වරදට පත්වෙන 7 කල්හි ඔවුන් කල පාපය කියාදී තමාගේ අපරාධයෙහි මුල්වූ දෙයට පහෙන් කොටසක් එක්කොට අපරාධ විඳි තැනැත්තාට දී ඔහුගේ අපරාධය හිලව් ක 8 රනෙන්ය. එහෙත් අපරාධය හිලව්කිරීමට ඒ මනුෂ්‍යයාට නෑයෙක් නැත්නම් තමා උදෙසා ශාන්තියක් කරණ ශාන්තියෙහි බැටළුවා හැර ඒ අපරාධය යෙහෝවාවහන්සේ වෙනුවට පූජකයාට 9 හිලව්කරනු ලැබේවා. ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ පවිත්‍ර දේවලින් පූජකයා වෙතට ගෙනෙන සියළු පූජාවල් පූජකයාට 10 වනෙන්ය. සියළු මනුෂ්‍යයන්ගේ පවිත්‍ර

දේවල් ඔහුගේ වන්නේය. යම් මනුෂ්‍ය
යෙක් විසින් පූජකයාට දුන් සියළු දේ
පූජකයාට වන්නේයයි ඊශ්‍රායෙල් පුත්‍ර
යන්ට කියවයි වදාලසේක.

11 යෙහෝවාවහන්සේ මෝසෙස්ට වදා
12 රණසේක් ඊශ්‍රායෙල් පුත්‍රයන්ට කථාක
රමින් යම් මනුෂ්‍යයෙකුගේ ස්ත්‍රී මන්මූ
ලාව ගොස් පුරුෂයාට විරුඬව අපරාධ
13 යක් කොට මනුෂ්‍යයෙක් සමග සයනය
කිරීමෙන් කිළුටුවිනම් ඒක ඇගේ පුරු
ෂයාගේ ඇස්වලින් සඟවා රහසින් පැ
වැත්තුවොත් ඇට විරුඬව සාක්ෂිකාර
යෙක් නොසිටියේනම් ඇද අල්ලානො
14 ගතොත් ඔහු රෝෂබවට පැමිණ ත
මාගේ ස්ත්‍රී ගැන රෝෂවූනොත් ඇද කි
15 ළුටු වූවත් නොකිළුටු වූවත් ඒ මනුෂ්‍ය
යා තමාගේ ස්ත්‍රී පූජකයා වෙතට ගෙන
ඇ උදෙසා පූජාවක් කොට යව පිටි ඒ
ඵාවෙන් දස කොටසින් කොටසක්ද
ගෙන එන්නේය. ඒක රෝෂ පූජාවක්
16 හා අශුතුකම සිහිකරණ පිනිස සිහිවීමේ
පූජාවක් නිසා ඔහු ඒ පිට කිසි තෙලක්
වත්නොකොට තුවරලාද ඒ පිට නොද
මන්නේය. පූජකයාද ඇ ලඟට කැඳවා
ගෙන යෙහෝවාවහන්සේ ඉදිරියෙහි
17 ඇ සිටුවා මැටි භාජනයෙක් පවිත්‍ර වතු
ර ගෙන මණ්ඩප භූමියේ දූවිල්ලෙන් ගෙ
18 න ඒක වතුර තුලෙහි ලා යෙහෝවාව
හන්සේ ඉදිරියෙහි ඒ ස්ත්‍රී සිටුවා ඇගේ
හිස් වැස්ම හැර සිහිවීමේ පූජාවනම්
රෝෂ පූජාව ඇගේ අතට භාරදී නපුරු
19 සාප උපදවන තික්ත වතුර ඔහුගේ අ
තෙහි තිබා ඇ දිවුරවමින් ඇට අන
කොට කිසි පුරුෂයෙක් තී සමග සයන
ය නොකලේනම් තිගේ පුරුෂයා හැර
අන් තැනැත්තෙකු සමග අපවිත්‍රකමට
මන්මූලාව නොගියානම් නපුරු සාප උ
පදවන තික්ත වතුරෙන් නිදහස්වව.
20 එහෙත් තිගේ පුරුෂයා හැර මන්මූලාව
අපවිත්‍රව තිගේ පුරුෂයා හැර යම් මනු
ෂ්‍යයෙක් තී සමග සයනය කලේනම්
21 යෙහෝවාවහන්සේ තිගේ කලවය කු
ණුකොට තිගේ බඩ ඉදිමෙන්ට සලස්
නකල්හි යෙහෝවාවහන්සේ තිගේ ජ
නයන් අතරෙහි සාපයක්ද දිවුරුමක්ද
22 වෙන්ට තී සලස්නසේක්වා. බඩ ඉදි
මෙන පිණිසද කලවය කුණුවෙන පිණිස
ද සාප උපදවනහාවූ වතුර තිගේ බඩ
වැල තුලෙහි යන්නේයයි සාපයෙහි දිවු
රුමකින් ඒ ස්ත්‍රීට අනකොට කියන්නේ
ය. ස්ත්‍රීද ආමෙන් ආමෙන් කියන්නීය.
23 පූජකයාද මේ සාපවල් පොතක ලියා
තික්ත වතුරෙන් ඒවා මකා සාප උපද
වන තික්ත වතුර ඒ ස්ත්‍රීට බොන්ට
24 සලස්වන්නේය. සාප උපදවන වතුර ඇ
කෙරෙහි ඇතුල්ව තික්ත වන්නේය.
25 එවිට පූජකයා රෝෂ පූජාව ස්ත්‍රීගේ අ
තින් ගෙන යෙහෝවාවහන්සේ ඉදිරිපි
26 ට තේවකොට පූජාසනය පිට ඒක පූජා
කොට පූජාවෙන් එහි සිහිවීමක් කොට
මිටක් රැගෙන පූජාසනය පිට දවන්නේ
ය ඉන්පසු ඒ ස්ත්‍රීට වතුර බොන්ට ස
27 ලස්වන්නේය. ඔහු ඇට වතුර බොන්න
ට සැලැස්වූ කල්හි ඇ කිළුටුවූනොත්
ඇගේ පුරුෂයාට විරුඬව අපරාධ ක
ලොත් සාප උපදවන වතුර ඇ කෙරෙ
හි ඇතුල්වන්නේය ඇගේ බඩ ඉදිමෙ
න්නේය ඇගේ කලවයද කුණුවෙන්නේ
ය. ඒ ස්ත්‍රීද ඇගේ ජනයන් අතරෙහි
28 සාපයක් වන්නේය. ඒ ස්ත්‍රී කිළුටු නො
ව පවිත්‍රවූනොත් එවිට නිදහස්ව ගර්භි
29 නි වන්නීය. ස්ත්‍රියක් ඇගේ පුරුෂයා
හැර අන් තැනැත්තෙකු ලඟට මන්මූලා
30 ව ගොස් අපවිත්‍රවන කල්හි නොහොත්
පුරුෂයෙකු කෙරෙහි රෝෂ හිත පැමි
න ඔහු තමාගේ ස්ත්‍රී ගැන රෝෂව යෙ
හෝවාවහන්සේ ඉදිරිපිට ඒ ස්ත්‍රී සිටෙව්
කල්හි පූජකයා මේ මුළු පනත ප්‍රකාරය
ට ඇ කෙරෙහි කරණ කල්හි ඒ ගැන
31 රෝෂ පනතනම් මේය. එවිට ඒ පුරු
ෂයා අශුතුකමෙන් නිදොස් තැනැත්
තෙක් වන්නේය. මේ ස්ත්‍රී ඇගේ අශුතු
කම ඔරන්නීයයි කීසේක.

6. පරිච්. තවද යෙහෝවාවහන්
2 සේ මෝසෙස්ට වදාරණසේක් ඊශ්‍රා
යෙල් පුත්‍රයන්ට කථාකරමින් ඔවුන්ට
මෙසේ කියව ස්ත්‍රීයෙක්වත් පුරුෂයෙක්
වත් යෙහෝවාවහන්සේ උදෙසා නාස
3 රීයයකුගේ ගිවිසිමක් ගිවිසගැනීමට
වෙන්වූ කල්හි මුද්‍රිකපානයෙන් මද්‍යපා
නයෙන් වෙන්වන්නේය. මුද්‍රික කාඩිද
මද්‍යපාන කාඩිද නොබොන්නේය. මිදි
ඵලවල කිසි බීමක්ද නොබොන්නේය.
අමුදූවත් වියලිවූවත් මිදිඵල නොකන්
4 නේය. ඔහු වෙණව සිටින සියළු දවස්වල
මදුළු පටන් හුඹුළු දක්වා මුද්‍රික ගහෙන්
5 කල කිසිවක් නොකන්නේය. වෙණව සිටි

ම පිණිස ඔහුගේ ශිවිසීමෙහි සියළු දවස්ව
ලදී ඔහුගේ හිසට කරකැත්තක් ලන්
නොකරනේය. ඔහු යෙහෝවඃවහන්
සේ උදෙසා වෙන්වෙන දවස් සම්පූර්ණ
වෙනතුරු ඔහු පවිත්‍රව ඔහුගේ හිසකෙ
6 සක් වැඩෙන්ට හරිනේය. ඔහු යෙ
හෝවඃවහන්සේ උදෙසා වෙන්ව සිටින
සියළු දවස්වලදී මල සැරීරයක් ළඟට
7 නොගොස් ඔහුගේ පියාවත් මවුවත් ස
හෝදරයාවත් සහෝදරීවත් මැරුණ
කල්හි ඔහුගේ දෙවියන්වහන්සේගේ ශි
විසීම ඔහුගේ හිසපිට තිබෙනහෙයින් ඔ
8 වුන් උදෙසා අපවිත්‍රකර නොගනේය.
ඔහු වෙන්ව සිටින සියළු දවස්වල යෙහෝ
9 වඃවහන්සේට සුබවනේය. ඉදින් ම
නුෂ්‍යයෙක් අහඹෙන් ඔහු ළඟ මියෙනොත්
නම් ඔහු තමාගේ ශිවිසීමේ හිස අපවිත්‍ර
කෙලේනම් ඔහු තමා පවිත්‍රවෙන දව
සෙහි තමාගේ හිසකේ බාන්නේය.
10 සත්වෙනි දවසෙහි හිසකේ බානේය.
අටවෙනි දවසෙහි කොබෙයියන් දෙ
දෙනෙකුවත් පරවිපැටියන් දෙදෙනෙ
කුවත් පූජකයා වෙතට සභාමඩප දොර
11 කඩට ගෙනෙන්නේය. පූජකයාද එ
කෙක් පව් නසන පූජාවකටත් අනිකා
දවන පූජාවකටත් පූජාකර ඔහු මලවූන්
නිසා පව්කල බැවින් ඔහු උදෙසා ශාන්
තියක්ද කොට එම දා ඔහුගේ හිස පවි
12 ත්‍රකරන්නේය. ඔහු වෙන්ව සිටින දවස්
යෙහෝවඃවහන්සේ උදෙසා පවිත්‍රකො
ට අපරාධ නසන පූජාවක් පිණිස එක් අ
වුරුදු බැටළු වස්සෙක් ගෙනෙන්නේ
ය. එහෙත් ඔහුගේ වෙන්වීම කිළුටුවූ නි
සා පලමු දවස් නැතිවන්නේය.
13 නාසරියයාගේ පනත මෙය. ඔහු වෙ
න්ව සිටින දවස් සම්පූර්ණවූ කල්හි ඔහු
සභාමඩප දොරකඩට ගෙනවුත් ලැබ ද
14 වන පූජාවක් පිණිස නොකැලල් එක්අ
වුරුදු බැටළු වස්සෙක්ද පව් නසන
පූජාවක් පිණිස නොකැලල් එක්අවුරු
දු බැටළු වැස්සියක්ද ශාන්ති පූජාවක්
පිණිස නොකැලල් බැටළුවෙක්ද ඇඹුල්
15 පිටි නුමුසු රොටි පෙට්ටියක්ද උතුම් පි
ටියෙන් තෙල් මුසු කැවිලිද ඇඹුල්පිටි
නුමුසු තෙල් ගා කුඩා රොටිද එහි බෝ
ජන පූජාව සහ බොන පූජාවල්ද යෙ
16 හෝවඃවහන්සේට පූජාකරන්නේය. පූ
ජකයාද ඒවා යෙහෝවඃවහන්සේ ඉදිරි
යට ගෙනවුත් ඔහුගේ පව් නසන පූජාව
සහ දවන පූජාව පූජාකොට යෙහෝවඃ
17 වහන්සේට ශාන්තිපූජාවල යාගයක් පි
ණිස ඇඹුල්පිටි නුමුසු රොටි පෙට්ටිය ස
මග බැටළුවාද පුදා ඔහුගේ බෝජන පූ
ජාව සහ බොන පූජාවත් පූජාකරන්නේ
18 ය. නාසරියයාද සභාමඩප දොරකඩදී
තමාගේ වෙන්වීමෙහි ඉසකේ බා තමා
ගේ වෙන්වීමෙහි ඉසකෙස් ගෙණ ශාන්
ති පූජා යාගයට තිබෙන ගින්නෙහි දම
19 න්නේය. පූජකයාද තැම්බූ බැටළු උර
ය සහ පෙට්ටියෙන් ඇඹුල් පිටි නුමු
සු රොටියක්ද ඇඹුල්පිටි නුමුසු කුඩා
රොටියක්ද ගෙන ඒවා නාසරියයාගේ
වෙන්වීමෙහි කෙස් බෑවායින් පසු ඔහු
20 ගේ අත්පිට තිබා ඒවා යෙහෝවඃවහන්
සේ ඉදිරියෙහි තේව පූජාවක් පිණිස තේ
ව කරන්නේය. මේක තේව ලැපැයෙන ස
හ ඔසවන උරය සමග පූජකයාහට පවිත්‍ර
වන්නේය. ඉන්පසු නාසරියයා විසින් මු
21 දිකපානය බොනනට යුතුය. ශිවිසගත්
නාසරියයාගේ පනත හා ඔහු සපයාදුන්
දෙය හැර ඔහුගේ වෙන්වීම ගැන යෙ
හෝවඃවහන්සේට කරණ ඔහුගේ පූජා
වද මේය. ඔහු ශිවිසගත් ශිවිසීම ලෙසට
තමාගේ වෙන්වීමෙහි පනත හැටියට
ඔහු විසින් කටයුතුයයි වදාලසේක.
22 තවද යෙහෝවඃවහන්සේ මෝසෙස්
23 ට වදාරණසේක් ආරොන් සහ ඔහුගේ පු
ත්‍රයන්ට කථාකොට තොපි ඊශ්‍රායෙල් පු
ත්‍රයන්ට මේ ප්‍රකාර කියමින් ආශීර්වා
කරවියයි ඔවුන්ට කියව. කෙසේද යෙ
24 හෝවඃවහන්සේ තට ආශීර්වාදකොට තා
25 රක්‍ෂාකරණසේක්වා. යෙහෝවඃවහන්
සේ තමන්වහන්සේගේ මුහුන තා කෙ
රෙහි ආලෝකකොට තට කරුණාක
26 රණසේක්වා. යෙහෝවඃවහන්සේ තම
න්වහන්සේගේ මුහුන තා කෙරෙහි ඔස
27 වා තට සමාදානය දෙනසේක්වා. ඔවු
හුදු මාගේ නාමය ඊශ්‍රායෙල් පුත්‍රයන් පි
ට තබනවා ඇත. මමද ඔවුන්ට ආශීර්වා
ද කරනෙනම්යි වදාලසේක.

7. පරිච්ඡෙ. මෝසෙස්ද මඩපය පි
හිටුවා ඒක ආලේපකරමින්
පවිත්‍රකොට සියළු ආයුධ සමග පූජාස්ථා
ය හා එහි සියළු භාජනද ගා ඒවා ප
2 ත්‍රකලාවූ දවසෙහිදී ගනන්කරණ
වූන් පිටට නියමකල ඊශ්‍රායෙල්
යෝවූ තමතමන්ගේ පියවරුන්ගෙ

3 වල හා කුලවල අධිපතියෝ පූජාකොට
4 අධිපතිවරු දෙනනාව ගැලක්ද එකි
නෙකාට ගොනෙක්ද යන වැසි තිබුන
ගැල් සයක්ද ගවයන් දොළසක්ද මඬප
ඉස්සරහට යෙහෝවාවහන්සේගේ ඉදි
5 රියෙහි ගෙනාවෝය. යෙහෝවාවහන්
සේ මෝසෙස්ට වදුරණසේක් සභාමඬ
පයෙහි වැඩකිරීම පිණිස ඒ පූජාව ඔවුන්
ගෙන් ගනුව. ඔවුන් ලෙවියයන්ට තම
තමන්ගේ වැඩ හැටියට දෙනනාහියයි
6 වදාලසේක. මෝසෙස්ද ගැල් සහ ගව
යන් ගෙන ලෙවියයන්ට දුන්නේය.
7 ගැල් දෙකක් හා ගවයන් සතර දෙ
නෙක්ද ගැර්ෂොන්ගේ පුත්‍රයන්ට ඔවුන්
8 ගේ වැඩ හැටියට දුනනෝය. පූජකවූ අ
රොන්ගේ පුත් ඉතාමර්ගේ අත යටතෙ
හිටි මෙරාරිගේ පුත්‍රයන්ට ඔවුන්ගේ වැ
ඩ ප්‍රකාරයට ගැල් සතරක් හා ගවයන්
9 අට දෙනෙක්ද දුනෙන්ය. එහෙත් කෝ
හත්ගේ පුත්‍රයන්ට අයිතිව තිබුනු පවිත්‍ර
ස්ථානයෙහි වැඩනම ඔවුන්ගේ කරින්
බර ඉසිලීම නිසා ඔවුන්ට කිසිවක් නුදු
10 න්නේය. පූජාසනය අලේපකරනු ලැබූ
දවසෙහිදී ඒක පවිත්‍රකරණ පිණිස අධිප
තියෝ පුදා පූජාසන ඉදිරියෙහි ඔවුන්
11 ගේ පූජාව පූජාකලෝය. යෙහෝවාව
හන්සේ මෝසෙස්ට වදාරණසේක් පූජා
සනය පවිත්‍ර කෙරීම පිණිස සියළු අධිප
තියෝ තමන් දවසෙහිදී පූජාකරණවා
ඇතැයි වදාලසේක.

12 පළමුවෙනි දවසෙහිදී පූජාකලාවූ තැ
නැතත්නම් යූදාගේ වංශයෙහි අම්නා
13 දබ්ගේ පුත්වූ නාහෂොන්ය. ඔහු කල පූ
ජාවනම් ආහාර පූජාව පිණිස තෙල් මිශ්‍රවූ
වූ උතුම් පිටිවලින් පූර්ණවූ ෂෙකෙල් එ
කසිය තිහක බර රිදී තලියක් සහ පවි
ත්‍ර ස්ථානයෙහි ෂෙකෙල් ගනනට ෂෙ
කෙල් හැත්තෑවකින් රිදී පාත්‍රයක්ද සු
14 වඳ ද්‍රව්‍යයෙන් පූර්ණවූ ෂෙකෙල් දස
යෙන් රන් හැන්දක්ද දවන පූජාවක් පි
15 ණිස නාඹු ගොනෙක්ද බැටළුවෙක්ද
එක් අවුරුදු බැටළු වස්සෙක්ද පව් න
16 සන පූජාවක් පිණිස එළුවස්සෙක්ද ශාන්
17 ති පූජාවල යාගයක් පිණිස ගොන් දෙ
දෙනෙක්ද බැටළුවන් පස්දෙනෙක්ද
එළුවන් පස්දෙනෙක්ද එක් අවුරුදු බැ
ටළු වස්සන් පස්දෙනෙක්ද යන මේවා
ය. අම්නාදබ්ගේ පුත්වූ නාහෂොන්ගේ
පූජාවනම් මේය.

18 දෙවෙනි දවසෙහිදී ඉස්සාකර්ගේ අ
ධිපතිවූ සුවර්ගේ පුත් නෙතානියෙල් පූ
19 ජාකලේය. ඔහු කල පූජාවනම් ආහාර පූ
ජාවක් පිණිස තෙල් මිශ්‍රවූ උතුම් පිටිව
ලින් පූර්ණවූ ෂෙකෙල් එකසිය තිහක
බර රිදී තලියක් සහ පවිත්‍ර ස්ථානයෙහි
ෂෙකෙල් ගනනට ෂෙකෙල් හැත්තෑව
20 කින් රිදී පාත්‍රයක්ද සුවඳ ද්‍රව්‍යයෙන් පූ
21 ර්ණවූ ෂෙකෙල් දසයෙන් රන් හැන්දක්
ද දවන පූජාවක් පිණිස නාඹු ගොනෙක්
ද බැටළුවෙක්ද එක් අවුරුදු බැටළුවස්
22 සෙක්ද පව් නසන පූජාවක් පිණිස එළු
23 වස්සෙක්ද ශාන්ති පූජාවල යාගයක් පි
ණිස ගොන් දෙදෙනෙක්ද බැටළුවන්
පස් දෙනෙක්ද එළුවන් පස් දෙනෙක්
ද එක් අවුරුදු බැටළුවස්සන් පස්දෙ
නෙක්ද යන මේවාය. සුවර්ගේ පුත් නෙ
තානියෙල්ගේ පූජාව මේය.

24 තුන්වෙනි දවසෙහි සෙබුලොන්ගේ
අධිපතිවූ එලොන්ගේ පුත් එලියබ් පූජා
25 කෙලේය. ඔහු කල පූජාවනම් ආහාර පූ
ජාව පිණිස තෙල් මිශ්‍රවූ උතුම් පිටිවලින්
පූර්ණවූ ෂෙකෙල් එකසිය තිහක බර
රිදී තලියක් සහ පවිත්‍ර ස්ථානයෙහි ෂෙ
කෙල් ගනනට ෂෙකෙල් හැත්තෑවකින්
රිදී පාත්‍රයක්ද සුවඳ ද්‍රව්‍යයෙන් පූර්ණ
26 වූ ෂෙකෙල් දසයෙන් රන් හැන්දක්ද දව
27 න පූජාවක් පිණිස නාඹු ගොනෙක්ද
බැටළුවෙක්ද එක් අවුරුදු බැටළු වස්
28 සෙක්ද පව් නසන පූජාවක් පිණිස එළු
29 වස්සෙක්ද ශාන්ති පූජාවල යාගයක් පි
ණිස ගොන් දෙදෙනෙක්ද බැටළුවන්
පස් දෙනෙක්ද එළුවන් පස් දෙනෙක්
ද එක් අවුරුදුවූ බැටළුවස්සන් පස් දෙ
නෙක්ද යන මේවාය. එලොන්ගේ පුත්
එලියබ්ගේ පූජාව මේය.

30 හතරවෙනි දවසෙහි රූබෙන් පුත්‍ර
යන්ගේ අධිපතිවූ ෂෙදේවුර්ගේ පුත්
31 එලිසූර් පූජාකෙලේය. ඔහු කල පූජාව
නම් ආහාර පූජාව පිණිස තෙල් මිශ්‍රවූ උ
තුම් පිටිවලින් පූර්ණවූ ෂෙකෙල් එකසි
ය තිහක බර රිදී තලියක් සහ පවිත්‍ර ස්ථා
නයෙහි ෂෙකෙල් ගනනට ෂෙකෙල් හැ
32 ත්තෑවකින් රිදී පාත්‍රයක්ද සුවඳ ද්‍රව්‍ය
33 යෙන් පූර්ණවූ ෂෙකෙල් දසයෙන් රන්
හැන්දක්ද දවන පූජාවක් පිණිස නාඹු
ගොනෙක්ද බැටළුවෙක්ද එක්අවුරුදු
34 බැටළු වස්සෙක්ද පව් නසන පූජාවක් පි
35 ණිස එළුවස්සෙක්ද ශාන්ති පූජාවල යා

ගයක් පිනිස ගොන් දෙදෙනෙක්ද බැටළුවන් පස් දෙනෙක්ද එළුවන් පස් දෙනෙක්ද එක් අවුරුදු බැටළු වස්සන් පස් දෙනෙක්ද යන මේවාය. ෂෙදේවූර්ගේ පුත් එලිසූර්ගේ පූජාව මේය.

36 පස්වෙනි දවසෙහි සිමියොන් පුත්‍රයන්ගේ අධිපතිවූ සූරිෂද්දයිගේ පුත් සෙ 37 ළුමියෙල් පූජාකෙලේය. ඔහු කල පූජාවනම් ආහර පූජාව පිනිස තෙල් මිශ්‍රවූ උතුම් පිටිවලින් පූර්ණවූ ෂෙකෙල් එකසිය තිහක බර රිදී තලියක් සහ පවිත්‍ර ස්ථානයෙහි ෂෙකෙල් ගනනට ෂෙකෙල් හැත්තෑවකින් රිදී පාත්‍රයක්ද සුවඳ ද්‍රව්‍ය 38 යෙන් පූර්ණවූ ෂෙකෙල් දසයෙන් රන් 39 හැඳක්ද දවන පූජාවක් පිනිස නාඹු ගොනෙක්ද බැටළුවෙක්ද එක් අවුරුදු 40 බැටළු වස්සෙක්ද පව් නසන පූජාවක් 41 පිනිස එළු වස්සෙක්ද ශාන්ති පූජාවල යාගයක් පිනිස ගොන් දෙදෙනෙක්ද බැටළුවන් පස් දෙනෙක්ද එළුවන් පස් දෙනෙක්ද එක් අවුරුදු බැටළු වස්සන් පස්දෙනෙක්ද යන මේවාය. සූරිෂද්දයිගේ පුත් ෂෙළුමියෙල්ගේ පූජාව මේය.

42 සවෙනි දවසෙහි ගද් පුත්‍රයන්ගේ අ 43 ධිපතිවූ රූවෙල්ගේ පුත් එලියාසප් පූජාකෙලේය. ඔහු කල පූජාවනම් ආහර පූජාව පිනිස තෙල් මිශ්‍රවූ උතුම් පිටිවලින් පූර්ණවූ ෂෙකෙල් එකසිය තිහක බර රිදී තලියක් සහ පවිත්‍ර ස්ථානයෙහි ෂෙකෙල් ගනනට ෂෙකෙල් හැත්තෑවකින් 44 රිදී පාත්‍රයක්ද සුවඳ ද්‍රව්‍යයෙන් පූර්ණවූ 45 ෂෙකෙල් දසයෙන් රන් හැඳක්ද දවන පූජාවක් පිනිස නාඹු ගොනෙක්ද බැටළුවෙක්ද එක් අවුරුදු බැටළු වස්සෙක් 46 ද පව් නසන පූජාවක් පිනිස එළු වස් 47 සෙක්ද ශාන්ති පූජාවල යාගයක් පිනිස ගොන් දෙදෙනෙක්ද බැටළුවන් පස් දෙනෙක්ද එළුවන් පස්දෙනෙක්ද එක් අවුරුදු බැටළු වස්සන් පස් දෙනෙක්ද යන මේවාය. රූවෙල්ගේ පුත් එලියාසප්ගේ පූජාව මේය.

48 සත්වෙනි දවසෙහි එප්‍රායිම් පුත්‍රයන්ගේ අධිපතිවූ අම්මිහුද්ගේ පුත් එලිසා 49 මා පූජාකෙලේය. ඔහු කල පූජාවනම් ආහර පූජාව පිනිස තෙල් මිශ්‍රවූ උතුම් පිටිවලින් පූර්ණවූ ෂෙකෙල් එකසිය තිහක බර රිදී තලියක් සහ පවිත්‍ර ස්ථානයෙහි ෂෙකෙල් ගනනට ෂෙකෙල් හැත්තෑ 50 වකින් රිදී පාත්‍රයක්ද සුවඳ ද්‍රව්‍යයෙන් 51 පූර්ණවූ ෂෙකෙල් දසයෙන් රන් හැඳක්ද දවන පූජාවක් පිනිස නාඹු ගොනෙක්ද බැටළුවෙක්ද එක් අවුරුදු බැටළු වස් 52 සෙක්ද පව් නසන පූජාවක් පිනිස එළු 53 වස්සෙක්ද ශාන්ති පූජාවල යාගයක් පිනිස ගොන් දෙදෙනෙක්ද බැටළුවන් පස් දෙනෙක්ද එළුවන් පස් දෙනෙක්ද එක් අවුරුදු බැටළු වස්සන් පස් දෙනෙක්ද යන මේවාය. අම්මිහුද්ගේ පුත් එලිසාමාගේ පූජාව මේය.

54 අටවෙනි දවසෙහි මනස්සෙස් පුත්‍රයන්ගේ අධිපතිවූ පෙදෑසූර්ගේ පුත් ගමාලියෙල් පූජාකෙලේය. ඔහු කල පූජා 55 වනම් ආහර පූජාව පිනිස තෙල් මිශ්‍රවූ උතුම් පිටිවලින් පූර්ණවූ ෂෙකෙල් එකසිය තිහක බර රිදී තලියක් සහ පවිත්‍ර ස්ථානයෙහි ෂෙකෙල් ගනනට ෂෙකෙල් 56 හැත්තෑවකින් රිදී පාත්‍රයක් සුවඳ ද්‍රව්‍ය 57 යෙන් පූර්ණවූ ෂෙකෙල් දසයෙන් රන් හැඳක්ද දවන පූජාවක් පිනිස නාඹු ගොනෙක්ද බැටළුවෙක්ද එක් අවුරුදු 58 බැටළු වස්සෙක්ද පව් නසන පූජාවක් පි 59 නිස එළු වස්සෙක්ද ශාන්ති පූජාවල යාගයක් පිනිස ගොන් දෙදෙනෙක්ද බැටළුවන් පස් දෙනෙක්ද එළුවන් පස් දෙනෙක්ද එක් අවුරුදු බැටළු වස්සන් පස් දෙනෙක්ද යන මේවාය. පෙදෑසූර්ගේ පුත් ගමාලියෙල්ගේ පූජාව මේය.

60 නවවෙනි දවසෙහි බෙන්යමින් පුත්‍රයන්ගේ අධිපතිවූ ගිඩියොනිගේ පුත් අ 61 බිදන් පූජාකෙලේය. ඔහු කල පූජාවනම් ආහර පූජාව පිනිස තෙල් මිශ්‍රවූ උතුම් පිටිවලින් පූර්ණවූ ෂෙකෙල් එකසිය තිහක බර රිදී තලියක් සහ පවිත්‍ර ස්ථානයෙහි ෂෙකෙල් ගනනට ෂෙකෙල් හැත්තෑ 62 වකින් රිදී පාත්‍රයක්ද සුවඳ ද්‍රව්‍යයෙන් 63 පූර්ණවූ ෂෙකෙල් දසයෙන් හැඳක්ද දවන පූජාවක් පිනිස නාඹු ගොනෙක්ද 64 බැටළුවෙක්ද එක් අවුරුදු බැටළු වස් 65 සෙක්ද පවු නසන පූජාවක් පිනිස එළු වස්සෙක්ද ශාන්ති පූජාවල යාගයක් පිනිස ගොන් දෙදෙනෙක්ද බැටළුවන් පස් දෙනෙක්ද එළුවන් පස් දෙනෙක්ද එක් අවුරුදු බැටළු වස්සන් පස් දෙනෙක්ද යන මේවාය. ගිඩියොනිගේ පුත් අබිදන්ගේ පූජාව මේය.

66 දසවෙනි දවසෙහි දන් පුත්‍රයන් 67 ගේ අධිපතිවූ අම්මිෂද්දයිගේ පුත් අහියෙසර් පූජාකෙලේය. ඔහු කල පූජා

වනම් ආහර පූජාව පිනිස තෙල් මිශ්‍රවූ උ
තුම් පිටිවලින් පූර්ණවූ ශෙකෙල් එකසි
ය තිහක බර රිදී තලියක් සහ පවිත්‍ර ස්ථා
නයෙහි ශෙකෙල් ගනනට ශෙකෙල් හැ
68 ත්තෑවකින් රිදී පාත්‍රයක්ද සුවඳ ද්‍රව්‍ය
69 යෙන් පූර්ණවූ ශෙකෙල් දසයෙන් රන්
හැඳක්ද දවන පූජාවක් පිනිස නාඹු
ගොනෙක්ද බැටළුවෙක්ද එක් අවුරුදු
70 බැටළු වස්සෙක්ද පව් නසන පූජාවක්
71 පිනිස එළු වස්සෙක්ද ශාන්ති පූජාවල
යාගයක් පිනිස ගොන් දෙදෙනෙක්ද
බැටළුවන් පස් දෙනෙක්ද එළුවන් පස්
දෙනෙක්ද එක් අවුරුදු බැටළු වස්සන්
පස් දෙනෙක්ද යන මේවාය. අම්මිෂද්
දයිගේ පුත් අහියෙසර්ගේ පූජාව මේය.

72 එකොළොස්වෙනි දවසෙහි ආෂෙර් පු
ත්‍රයන්ගේ අධිපතිවූ ඕක්‍රාන්ගේ පුත් පාගි
73 යෙල් පූජාකෙලේය. ඔහු කල පූජාවනම්
ආහර පූජාව පිනිස තෙල් මිශ්‍රවූ උතුම් පි
ටිවලින් පූර්ණවූ ශෙකෙල් එකසිය තිහ
ක බර රිදී තලියක් සහ පවිත්‍ර ස්ථානයෙ
හි ශෙකෙල් ගනනට ශෙකෙල් හැත්තෑ
74 වකින් රිදී පාත්‍රයක්ද සුවඳ ද්‍රව්‍යයෙන්
75 පූර්ණවූ ශෙකෙල් දසයෙන් රන් හැන්
දක්ද දවන පූජාවක් පිනිස නාඹු ගො
නෙක්ද බැටළුවෙක්ද එක් අවුරුදු බැ
76 ටළු වස්සෙක්ද පව් නසන පූජාවක් පිනි
77 ස එළු වස්සෙක්ද ශාන්ති පූජාවල යාග
යක් පිනිස ගොන් දෙදෙනෙක්ද බැට
ළුවන් පස් දෙනෙක්ද එළුවන් පස් දෙ
නෙක්ද එක් අවුරුදු බැටළු වස්සන් පස්
දෙනෙක්ද යන මේවාය. ඕක්‍රාන්ගේ
පුත් පාගියෙල්ගේ පූජාව මේය.

78 දොළොස්වෙනි දවසෙහි නප්තලී පු
ත්‍රයන්ගේ අධිපතිවූ ඒනන්ගේ පුත් අහි
79 ර පූජාකෙලේය. ඔහු කල පූජාවනම් ආ
හර පූජාව පිනිස තෙල් මිශ්‍රවූ උතුම් පිටි
වලින් පූර්ණවූ ශෙකෙල් එකසිය ති
හක බර රිදී තලියක් සහ පවිත්‍ර ස්ථාන
80 යෙහි ශෙකෙල් ගනනට ශෙකෙල් හැ
ත්තෑවකින් රිදී පාත්‍රයක්ද සුවඳ ද්‍රව්‍ය
යෙන් පූර්ණවූ ශෙකෙල් දසයෙන් රන්
81 හැන්දක්ද දවන පූජාවක් පිනිස නාඹු
ගොනෙක්ද බැටළුවෙක්ද එක් අවුරු
82 දු බැටළු වස්සෙක්ද පව් නසන පූජා
83 වක් පිනිස එළු වස්සෙක්ද ශාන්ති පූ
ජාවල යාගයක් පිනිස ගොන් දෙදෙ
නෙක්ද බැටළුවන් පස් දෙනෙක්ද එක්
අවුරුදු බැටළු වස්සන් පස් දෙනෙක්ද
යන මේවාය. ඒනන්ගේ පුත් අහිරගේ
පූජාව මේය.

84 ඊශ්‍රායෙල් අධිපතීන් විසින් පූජාසනය
ආලේපකල දවසෙහි එහි පවිත්‍රකෙරීම
මේය. රිදී තලි දොළසක. රිදී පාත්‍රා දො
85 ළසක. රන් හැඳි දොළසක්ය. එක එක
රිදී තලියක් ශෙකෙල් එකසිය තිහකි
ද. එක එක පාත්‍රයක් ශෙකෙල් හැත්
තෑවකිද විය. සියළු රිදී භාජන පවි
ත්‍ර ස්ථානයෙහි ශෙකෙල් ගනනට ශෙ
කෙල් දෙදහස් හාරසියයක. පවිත්‍ර ස්ථාන
86 යෙහි ශෙකෙල් ගනනට වෙන්වසයෙන්
ශෙකෙල් දසයකින් සුවඳ ද්‍රව්‍යයෙන්
පිරූ රන් හැඳිදොළසක් විය. හැඳිවල සි
87 යළු රන් ශෙකෙල් එකසිය විස්සක. ඒ
වායේ ආහරපූජාවල් ඇතිව දවන පූජා
වෙහි සියළු නාඹු ගොන් දොළසක බැට
ළුවෝ දොළසක එක් අවුරුදු බැටළු වස්
88 සෝ දොළසක්ය. පව් නසන පූජාව පිනි
ස එළු පැටවුන් දොළසක්ද ශාන්ති පූජා
89 යාගය පිනිස සියළු නාඹු ගොන් විසිහ
තරක්ද බැටළුවෝ සැටක්ද එළුවෝ සැ
ටක්ද එක් අවුරුදු බැටළු වස්සෝ සැ
ටක්ද වූවෝය.පූජාසනය ආලේපකල ප
සු එහි පවිත්‍රකෙරීම මේය. මෝසෙස් දෙ
වියන්වහන්සේ සමග කථාකරණ පිනි
ස සභාමණ්ඩපය ඇතුලට ගියකල්හි කෙ
රූබිම් දෙක අතරෙන් සාක්ෂි පෙට්ටිය
පිට කරුණාසනයෙන් ඔහුට කථාකරණ
කෙනෙකුගේ හඬ ඇසිය. ඔහුද උන්ව
හන්සේට කථාකෙලේය.

8. පරිච්ඡේ. යෙහෝවාවහන්සේ මෝ
2 සෙස්ට වදාරණසේක් ආරොන්හට කථා
කරමින් තෝ පහන් දල්වන කල්හි ප
හන්රූක ඉදිරිපිට පහන් සතක් එලිය
දෙනේයයි කියවයි වදාලසේක. ආ
3 රොන්ද එසේ කලේය. යෙහෝවාවහන්
සේ මෝසෙස්ට අනකල ලෙස පහන් රූ
4 ක ඉදිරිපිට පහන් දල්වූයේය. පහන් රූ
කෙහි කර්මාන්තය තලතලද රනින් වි
ය එහි කඳ පටන් එහි මල් දක්වා ත
ලන කර්මාන්තය වූයේය. යෙහෝවා
වහන්සේ මෝසෙස්ට පෙන්වූ ආදර්ශය
ලෙස පහන් රූක සෑදූයේය.

5 යෙහෝවාවහන්සේ මෝසෙස්ට වදා
6 රණසේක් ඊශ්‍රායෙල් පුත්‍රයන් කෙරෙන්
ලෙවියයන් රැගෙන ඔවුන් පවිත්‍රකරව.
7 ඔවුන් පවිත්‍රකරණ පිනිස මෙසේ කරව.

පවිත්‍රකරණ වතුර ඔවුන් පිට ඉසුව. ඔ
වුන් තමන් මුළු ශරීර බුබුකොට තමන්
ගේ වස්ත්‍ර සෝදා තමන්ම පවිත්‍ර කෙරෙ
8 ත්වා. එවිට ඔවුන් ගොන් වස්සෙකු සහ
එහි ඇහර පූජාවට තෙල් මිශ්‍රවූ උතුම්
පිටිද ගනිත්වා. තෝ පව් නසන පූජාව
පිණිස අනික් නාඹු ගොනෙක්ද ගෙන
9 සභාමඬපය ඉදිරිපිටට ලෙවියයන් කැඳ
වාගෙන ඊශ්‍රායෙල් පුත්‍රවූ මුළු සමූහය
10 රැස්කරව. තෝද යෙහෝවාවහන්සේ
ඉදිරියට ලෙවියයන් ගෙනෙව ඊශ්‍රායෙල්
පුත්‍රයෝද තමන් අත් ලෙවියයන් මතු
11 යෙහි තබනෙතාය. අරොන්ද ලෙවිය
යන් යෙහෝවාවහන්සේගේ වැඩ කර
ණ පිණිස ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ පූජා
වක් කොට යෙහෝවාවහන්සේගේ ඉදි
12 රියෙහි පූජාකරනෙතාය. ලෙවියයෝ ත
මන් අත් ගොන් වස්සන්ගේ ඔළු පිට ත
බනෙතාය. තෝ ලෙවියයන් උදෙසා
ශාන්තියක් කරණ පිණිස පව් නසන පූ
ජාවක් නිසා එකෙක්ද දවන පූජාවක්
13 නිසා අනිකෙක්ද පූජාකරව. තෝ අ
රොන් සහ ඔහුගේ පුත්‍රයන්ද ඉදිරිපිට
ලෙවියයන් සිටුවා ඔවුන් පූජාවක් පිණි
14 ස යෙහෝවාවහන්සේට පූජාකරව. එ
සේ ඊශ්‍රායෙල් පුත්‍රයන් කෙරෙන් ලෙවි
යයන් වෙන්කරව ලෙවියයෝ මාගේ
15 වෙති. ඉන්පසුද ලෙවියයෝ සභාමඬප
යෙහි වැඩ කරණ පිණිස ඇතුල්වෙති.
ඊශ්‍රායෙල් පුත්‍රයන් කෙරෙන් ඔවුන් මු
16 ළුමනෙන්ම මට දෙනු ලැබෙති. ඊශ්‍රා
යෙල් පුත්‍රයන්ගේ කුළුඳුලන් හිලව්වට
ඔවුන් මට ගත් බැවින් ඔවුන් පවිත්‍රකො
17 ට මට පූජාවක් පිණිස පූජාකරව. මනුෂ්‍ය
යන්ගෙනුද මෘගයන්ගෙනුද ඊශ්‍රායෙල් පුත්‍ර
යන්ගේ සියළු කුළුඳුලන් මාගේය. මිස
ර දේසයෙහි සියළු කුළුඳුලන්ට පහර
දුන් දවසේ මට ඔවුන් පවිත්‍ර කෙලෙමි.
18 මමද ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ සියළු කුළු
ඳුලන් හිලව්වට ලෙවියයන් ගෙන ඊශ්‍රා
යෙල් පුත්‍රයන් පවිත්‍ර ස්ථානය ළඟට එන
කල ඔවුන් අතරෙහි වසංගතයක් නො
19 වෙන ලෙස සභාමඬප තුලේ ඊශ්‍රායෙල්
පුත්‍රයන්ගේ වැඩ කරණ පිණිසද ඊශ්‍රා
යෙල් පුත්‍රයන් උදෙසා ශාන්තියක් කර
ණ පිණිසද ඊශ්‍රායෙල් පුත්‍රයන් කෙරෙන්
ලෙවියයන් අරොන්හටද ඔහුගේ පුත්‍ර
20 යන්ටද දුනිමියි වදාලසේක. මෝසෙස්
සහ අරොනුද ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ මු
ළු සභාවද යෙහෝවාවහන්සේ ලෙවි
යන් ගැන මෝසෙස්ට අනකල සියලු
ලෙස ලෙවියයන්ට කලෝය. ඊශ්‍රායෙල්
21 පුත්‍රයෝ එසේ ඔවුන්ට කලෝය. තවද
ලෙවියයෝ පවිත්‍රකරනු ලැබ ඔවුන්ගේ
වස්ත්‍ර සෝදාගනෙතාය. අරොනුද ඔවුන්
පූජාවක්කොට යෙහෝවාවහන්සේ ඉදි
රිපිට පුදා ඔවුන් පවිත්‍රකරණ පිණිස ඔ
වුන් උදෙසා ශාන්තියක් කෙලේය.
22 ඉන්පසු ලෙවියයෝ සභාමඬප තුලෙහි
අරොන් ඉදිරිපිටද ඔහුගේ පුත්‍රයන් ඉදි
රිපිටද ඔවුන්ගේ වැඩකිරීම පිණිස ඇ
තුල්වූවෝය. යෙහෝවාවහන්සේ ලෙ
වියයන් ගැන මෝසෙස්ට අනකල ලෙ
ස ඔවුන් ලෙවියයන්ට කලෝය.
23 යෙහෝවාවහන්සේ මෝසෙස්ට වද
24 රණසේක් ලෙවියයන් ගැන කාරණ
නම් මේය. විසිපස් අවුරුද්දට වඩා ව
යස් ඇතෙතෝ සභාමඬපයෙහි වැඩකර
25 ණ පිණිස ඇතුල්වෙනවා ඇත. පනස්
අවුරුදු වයස පටන් ඔවුන් තවත් වැඩ
නොකොට එහි සේවයකිරීමෙන් නැව
26 ති භාරය රක්ෂාකරණ පිණිස සභාමඬප
ය තුලෙහි ඔවුන්ගේ සහෝදරයන් සම
ග සේවයකරණවා ඇත. ඔවුන් තවත්
වැඩ නොකරණවා ඇත. ලෙවියයන්ට
ඔවුන්ගේ භාරය ගැන මෙසේ කරවයි
වදාලසේක.

9. පරිච්ඡේ. තවද යෙහෝවාවහන්
සේ ඔවුන් මිසර දේසයෙන් පිටත් ව
පසු දෙවෙනි අවුරුද්දේ පලමුවෙනි ම
ස සීනායි වනයෙහිදී මෝසෙස්ට වද
2 ණසේක් ඊශ්‍රායෙල් පුත්‍රයෝ උපරිගම
න මගල්‍යය නියමවූ කාලයෙහි පැවැත්
3 වූවාවෙත්. මේ මස දහහතරවෙනි දව
සෙහි සවස එයට නියමවූ කාලයෙහි ඒ
ක පවත්වව්. එහි සියළු ක්‍රමයනුද නියෝ
ගයනුද ලෙස ඒක පවත්වව්යයි වදාලසේ
4 ක. මෝසෙස්ද ඊශ්‍රායෙල් පුත්‍රයන්ට උ
පරිගමන මගල්‍යය පවත්වන්ට කීයේය.
5 ඔවුන් පලමුවෙනි මස දහහතරවෙනි දි
න සවස සීනායි වනයෙහිදී උපරිගමන
මගල්‍යය පැවැත්වූවෝය. යෙහෝවාව
හන්සේ මෝසෙස්ට අනකල සියලු
ලෙස ඊශ්‍රායෙල් පුත්‍රයෝ කලෝය.
6 මලකඳකින් අපවිත්‍රවූ එහි සිටි මනු
ෂ්‍යයෝ සමහරෙකුට ඒ දවසෙහි උප
ගමන මගල්‍යය පවත්වන්ට නොහැකිව

ඔවුන් ඒ දවසෙහි මෝසෙස් සහ අ
7 රොන් ඉදිරියට ආවෝය. ඒ මනුෂ්‍යයෝ
ද අපි මිනිසකුගේ මලමිනියකින් කිළුටු
වීවූව අප ඊශ්‍රායෙල් පුත්‍රයන් අතරෙහි
යෙහෝවාවහන්සේගේ පූජාවක් උන්
වහන්සේ නියමකල කාලයෙහි පූජාකි
රීමෙන් වැලකුනේ කුමක්හෙයින්දැයි
8 මෝසෙස්ට කීවෝය. මෝසෙස්ද සිටප
ල්ලාය යෙහෝවාවහන්සේ තුබලා ගැ
න කුමක් අනකරණසේක්දැයි මම අස
9 නතාමියි ඔවුන්ට කිය. එවිට යෙහෝ
වාවහන්සේ මෝසෙස්ට වදාරණසේක්
10 නොපගෙනවත් නොපගෙන් පැවත එ
නනන්ගෙනවත් කිසිවෙක් මලකදකින්
අපවිත්‍රව සිටිනෙත් තුබුත් දුර ගමනක
සිටිනෙත් තුබුත් යෙහෝවාවහන්සේට
උපරිගමන මගල්‍යය පවත්වනෙත්යයි ඊ
11 ශ්‍රායෙල් පුත්‍රයන්ට කියව. ඔවුන් දෙවෙ
නි මස දසසතරවෙනි දින සවස ඒක ප
වත්වා ඇඹුල් පිටි තුබුනු රොටි සහ තික්
12 ත පලා සමග ඒක කනවා ඇත. ඔවුන්
එයින් කිසිවක් උදයට ඉතුරු නොකර
එහි ඇටයක්ද නොබිඳිනනෝය. උපරි
ගමන මගල්‍යයෙහි සියළු නියෝග හැ
13 ටියට ඒක පවත්වව්. එහෙත් ගමනක
නොසිටින පවිත්‍ර මනුෂ්‍යයෙක් උපරිගම
න මගල්‍යය පැවැත්විමෙන් වලකිනෙත්
නම් එම ප්‍රානය තමන් ජනයන් කෙ
රෙන් පහකරනු ලැබේ. යෙහෝවාව
හන්සේගේ පූජාව උන්වහන්සේ නියමක
ල කාලයෙහි නොගෙනා බැවින් තමා
14 ගේ පාපය ධරනෙත්ය. නොප අතරෙ
හි සිටින විදේශියෙක් යෙහෝවාවහන්
සේට උපරිගමන මගල්‍යය පවත්වනු කැ
මැතෙත්නම් එහි නියෝගයද ක්‍රමයද
ලෙස ඒක පැවැත්විය යුතුය. විදේශියා
වද දේසයෙහි උපන් තැනැත්තාවද ඒ
ක නියෝගය වනෙත්යයි වදලසේක.

15 තවද මඩපය ගොඩනැගු දවසෙහි
වලාපටලයක් මඩපය එනම් සාක්ෂියෙහි
කූඩාරම වසාගතෙත්ය. සවස මඩපය ම
තෙහි උදයවනතුරු ගිනන තිබෙන්
16 නාක්මෙන් පෙනුනේය. මෙලෙසින් ද
වහල් ඒක වලාකුලෙන් වැසී තිබීමද රා
ත්‍රියෙහි ගිනන පෙනීමද නිතරම විය.
17 වලාකුල මඩපයෙන් පහවූ කල්හි ඊශ්‍රා
යෙල් පුත්‍රයෝ ගමන් ගියෝය. වලාකු
ල රඳන තැන්හි කූඩාරම් තැබුවෝය.
18 ඊශ්‍රායෙල් පුත්‍රයෝ යෙහෝවාවහන්සේ
ගේ ආඥාව පිට ගමන්ගතෙත්ය යෙ
හෝවාවහන්සේගේ ආඥාව පිට නවා
තැන් ගතෙත්ය. මඩපය මුදුනෙත් වලාකු
ල රඳා සිටිනකල් ඔවුන් තමන්ගේ කූඩා
19 රම්වල සිටියෝය. වලාකුල මඩපය පිට
බොහෝ දවස් රඳා සිටි කල්හි ඊශ්‍රායෙල්
පුත්‍රයෝ යෙහෝවාවහන්සේගේ නි
යෝගය රක්ෂාකොට ගමන් නොගියෝ
20 ය. වලාකුල මඩපය පිට ස්වල්ප දවසක්
රඳා සිටිකල්හිද ඔවුන් යෙහෝවාවහන්
සේගේ අන ලෙස තමන්ගේ කූඩාරම්ව
ල සිටියෝය. යෙහෝවාවහන්සේගේ
21 අන ලෙසම ගමන් ගතෙත්ය. සවස ප
ටන් උදය දක්වා රඳා සිටියාවූ වලාකුල
උදය පහව ගියවිට ඔවුන් ගමන් ගත්
තෝය. දවහල්වත් රාත්‍රියෙහිවත් වලාකු
22 ල පහව ගියවිට ඔවුන් ගමන්ගතෙත්ය.
වලාකුල දෙදවසක්වත් මසක්වත් අවු
රුද්දක්වත් මඩපය පිට රඳා සිටියවිට ඊ
ශ්‍රායෙල් පුත්‍රයෝ ගමන් නොගෙන ත
මන්ගේ කූඩාරම්වල සිටියෝය. එහෙත්
ඒක පහව ගියකල්හි ඔවුන් ගමන් ගත්
23 තෝය. යෙහෝවාවහන්සේගේ ආඥාව
ලෙස ඔවුන් තමන්ගේ කූඩාරම්වල රැ
දුනෝය. යෙහෝවාවහන්සේගේ අඥා
ව ලෙස ගමන්ගතෙත්ය. මෝසෙස් ල
වා යෙහෝවාවහන්සේ ආඥාකරවූ උන්
හන්සේගේ නියෝගය ඔවුන් රක්ෂාක
ලෝය.

10. පරිච්ඡේ. තවද යෙහෝවාවහන්
2 සේ මෝසෙස්ට වදාරණසේක් සමූදව
කැඳවීම සහ කඳවුර ගමන් යාම පිනිස
ඒක පූරුකෙන් රිදී හොරනෑ දෙකක්
3 සාදගනුව. ඔවුන් ඒවා පිඹිනකල්හි සිය
ළු සභාව සභාමඩප දොරකඩ තා ලඟට
4 රැස්වෙනවා ඇත. ඔවුන් එක් හොරනෑ
වක් පිඹිනනානුනම් ඊශ්‍රායෙල්හි සහස්‍ර
පතියෝවූ අධිපතිවරු තා ලඟට රැසෙව
5 නවා ඇත. නාද පවත්වා පිඹින කල්හි
පූර්විදිගින් සිටින කඳවුරු ගමන් ගන්
6 නෝය. දෙවෙනි වරට නාද පවත්වා පි
ඹින කල්හි දකුනෙහි සිටින කඳවුරු ග
මන් ගනෙනාය. ඔවුන්ගේ ගමන් යාම
පිනිස ඔවුන් නාද පවත්වා පිඹිනවා ඇ
7 ත. සභාව රැස්වෙන්ට ඕනෑවිට නෙපි
පිඹින නුමුත් නාද පවත්වා නොපිඹින්
8 නෝය. පූජකයෝවූ ආරොන්ගේ පුත්‍ර
යෝද හොරනෑ බිඹිනවා ඇත. ඒවා

තොපගේ පරම්පරවල සදාකල්වූ පන
9 තක් පිනිස වන්නේය. තොපි තොප
ගේ දේසයෙහි තොපට පීඩාකරනාවූ
සතුරාට විරුඬව යුඬයට යනාහුනම්
එවිට තොපි හොරනෑ නාද පවත්වා පි
ඹිනවා ඇත. තොපි තොපගේ දෙවිවූ
යෙහෝවඃවහන්සේ ඉදිරියෙහි සිහිකර
නු ලැබ තොපගේ සතුරන්ගෙන් රක්‍ෂා
10 කරනු ලබනවා ඇත. තොපගේ ප්‍රීති ද
වසෙහිද සුබ දවස්වලදීද මාසාරම්භවල
දීද තොපගේ දවන පූජාවලටද ශාන්ති
පූජාවලටද ඒවා තොපගේ දෙවියන්ව
හන්සේ ඉදිරියෙහි සිහිවීමක් වෙන පිනි
ස හොරනෑ පිඹිනවා ඇත. මම තොප
ගේ දෙවිවූ යෙහෝවඃවහන්සේයයි ව
දාලසේක.
11 තවද දෙවෙනි වරුෂයෙහි දෙවෙනි
මස විසිවෙනි දින වලාකුල සාක්‍ෂි මඬප
12 යෙන් ඉහල ගියේය. ඊශ්‍රායෙල් පුත්‍රයෝ
සීනායි වනයෙන් ගමන්ගත්තෝය. වලා
13 කුල පාරන් වනයෙහි නැවැත්තේය. ඔ
වුහුද මෝසෙස් ලවා යෙහෝවඃවහන්
සේ අනකල ලෙස පලමුකොට ගමන්
14 ගත්තෝය. යුදඃ පුත්‍රයන්ගේ කඳවුරෙහි
කොඩිය තමන්ගේ සේනාව හැටියට ප
ලමුකොට ගියේය. ඔහුගේ සේනාවට
අම්නාදබ්ගේ පුත්වූ නාශොන් අධිපති
15 විය. ඉස්සාඛර්ගේ පුත්‍රයන්ගේ ගෝත්‍ර
යෙහි සේනාවට සූවර්ගේ පුත්වූ නෙතා
16 නියෙල් අධිපති විය. සෙබුලොන්ගේ පු
ත්‍රයන්ගේ ගෝත්‍රයෙහි සේනාවට හෙ
ලොන්ගේ පුත්වූ එලියබ් අධිපති විය.
17 මඬපයද ලිහාලා තිබුණේය ගැෂොන්
ගේ පුත්‍රයෝද මෙරාරිගේ පුත්‍රයෝද ම
18 ඬපය උසුලාගෙණ පසුව ගියෝය. රූ
බෙන්ගේ කඳවුරෙහි කොඩිය තමන්
ගේ සේනාවල් හැටියට ගියේය. ඔහු
ගේ සේනාවට ශෙදේවුර්ගේ පුත්වූ එ
19 ලිසූර් අධිපතිවිය. සිමියොන් පුත්‍රයන්
ගේ ගෝත්‍රයෙහි සේනාවට සූරිෂද්දයි
20 ගේ පුත්වූ එලියාසර් අධිපති විය. ගද්
පුත්‍රයන්ගේ ගෝත්‍රයෙහි සේනාවට රූ
21 වෙල්ගේ පුත්වූ එලියාසප් අධිපති විය.
කෝහතියයෝ පවිත්‍ර ස්ථානය උසුලා
ගෙණ ගියෝය. සෙස්සෝද ඔවුන් එන්
ට පලමුවෙන් මඬපය පිහිටෙව්වෝය.
22 පසුව එප්‍රායිම් පුත්‍රයන්ගේ කඳවුරෙහි
කොඩිය තමන්ගේ සේනාවල් හැටිය
ට ගියේය. ඔහුගේ සේනාවට අම්මි
23 හූත්ගේ පුත් එලිසාමා අධිපතිවිය. මනස්
සෙස් පුත්‍රයන්ගේ ගෝත්‍රයෙහි සේනාව
ට පෙදඃසූර්ගේ පුත් ගමාලියෙල් අධිප
ති විය. බෙන්යමින් පුත්‍රයන්ගේ ගෝ
24 ත්‍රයෙහි සේනාවට ගිඩියොනිගේ පුත්
25 අබිදන් අධිපති විය. සේනාවල සියල්ල
ඳුවුරුවලින් ඉතා පසුවූ දන් පුත්‍රයන්
ගේ කඳවුරෙහි කොඩිය ගියේය. ඔහු
ගේ සේනාවට අම්මිෂද්දයිගේ පුත් අ
26 හියෙසර් අධිපති විය. ආෂෙර් පුත්‍රයන්
ගේ ගෝත්‍රයෙහි සේනාවට ඔක්‍රන්ගේ
27 පුත්වූ පාගියෙල් අධිපති විය. නප්ත
ලී පුත්‍රයන්ගේ ගෝත්‍රයෙහි සේනාව
28 ට ඒනන්ගේ පුත් අහිරා අධිපති විය.
තමන්ගේ සේනාවල් හැටියට යන ක
ල ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ ගමන් පි
ළිවෙළ විය.
29 මෝසෙස්ද මිදියන්හිවූ මෝසෙස්ගේ
මයිලණුවූ රගුයෑල්ගේ පුත්වූ හෝබබ්හ
ට කියනුයේ මම තොපට ඒක දෙනෙ
මියි යෙහෝවඃවහන්සේ කී ස්ථානයට ය
මුව. යෙහෝවඃවහන්සේ ඊශ්‍රායෙල් ගැ
න යහපතක් කථාකල හෙයින් අප සම
ග වරෙනන අපිද නුඹට යහපතක් කර
30 මුයයි කියේය. ඔහුද මම නොයනෙමි
මාගේම දේසයටද මාගේ නෑයින් වෙ
31 තටද යනෙනම්යි කීය. මෝසෙස්ද අප
විසින් වනයෙහි කඳවුර තැබිය යුතු ස්ථාන
ව දනනා නිසා ඇස් හිලව්වට අපට වන
පිනිස අපගෙන් හැරී නොයන මෙන් ඉ
32 ලමි. අප සමග යනෙනහිනම් යෙහෝ
වඃවහන්සේ අපට කරණ යහපත්කම්
ලෙසම අපි නුඹට කරමුයයි කියේය.
33 ඔවුන් යෙහෝවඃවහන්සේගේ කන්
දෙන් තුන් දිනක ගමන් ගියෝය. යෙ
හෝවඃවහන්සේගේ ගිවිසුම් පෙට්ටියද
ඔවුන්ට නිවාඩු තැනක් සොයන පිනිස
ඔවුන් ඉස්සරට ඒ තුන් දිනක ගමන ගි
34 යේය. තවද ඔවුන් කඳවුරෙන් යනකල්
හි යෙහෝවඃවහන්සේගේ වලාපටලය
35 දවහල් ඔවුන් පිට විය. පෙට්ටිය ඉස්ස
රට යන කල මෝසෙස්ද යෙහෝවඃව
හන්ස නැගුටුන මැනව ඔබවහන්සේ
36 ගේ සතුරෝ ඉසිර යෙත්වා. ඔබවහන්
සේට වෛරකරනෝ ඔබවහන්සේ ඉදි
රියෙන් පලා යෙත්වා. ඒක නැවති සිටි
න කල්හිද යෙහෝවඃවහන්ස බොහෝ
දහස් ගනන් ඊශ්‍රායෙල්වරුන් වෙතට
හැරුණමැනවයි කියේය.

11. පරිච්ඡ. තවද සෙනග අවලාද
කල කල්හි යෙහෝවඃවහන්සේ ඒ අසා
නොසතුටුව තමන්වහන්සේගේ ක්‍රෝ
ධය ඇවිළුනේය. යෙහෝවඃවහන්සේ
ගෙන් ගිනි ඔවුන් අතරේ ඇවිල කඳවු
රේ සීමාවෙහි සිටිනහන් නාස්තිකෙලේ
2 ය. ජනයෝ මෝසෙස්ට හඬගෑහුවෝ
ය. මෝසෙස්ද යෙහෝවඃවහන්සේට
3 යාඥකල කල්හි ගිනි නිවී ගියේය. යෙ
හෝවඃවහන්සේගෙන් ගිනි ඔවුන් අත
රේ ඇවිළුන බැවින් ඒ තැනට තබේරඃ
4 යන නාමය තැබුයේය. ඔවුන් අතරේ සි
ටින මිශ්‍රවූ සමූහයෝ අශුභ ආසාවලට පැ
මිනියෝය. ඊශ්‍රායෙල් පුත්‍රයෝ නැවත
හඬා මස් කන්නට අපට දෙනෙත් කවු
5 ද? මිසර දේසයෙහිදී අපි කැමති ලෙස
කෑවාවූ මාළුද තියඹරද කොමඩුද කුඩා
6 ළූනුද ළූනුද සුදුළූනුද සිහිකරමුව. එ
හෙත් දැන් අපේ ප්‍රානය වියළුනේය.
මේ මනනා මිසක් කිසි දෙයක් අපේ ඇස්
7 ඉදිරියෙහි නැතෙත්යයි කිවෝය. ඒ ම
නනා මෙනේරියට සමාන විය එහි පැ
8 හැය ගුගුල් පැහැය ලෙස විය. ජනයෝ
ද ගොස් ඒ රැස්කොට ඇඹරුන් ග
ලෙන් අඹරා නොහොත් වංගේ ලා කො
ටා සැලියක ලා බැද කැවිලි සෑදුවෝය.
9 එහි රසද අළුත් තෙල් ලෙස විය. රෑ ක
ඳවුර පිට පිනි වැටුනු කල මනනා ඒ පි
ට වැටුනේය.
10 එවිට මෝසෙස් ජනයන් තමන් කූ
ඩාරම් දොරකඩ ලඟ සිට තමන්ගේ ප
වුල් සමග අඬන බව ඇසුයේය. යෙහෝ
වඃවහන්සේගේ ක්‍රෝධය අතිසයින් දි
ලිහුනේය. මෝසෙස්ද නොසතුටුවිය.
11 මෝසෙස්ද යෙහෝවඃවහන්සේට කිය
හුයේ ඔබවහන්සේගේ මෙහෙකරුවා
ට කුමක් පිනිස පීඩාකලසේක්ද? මම ඔ
බවහන්සේගෙන් කරුණාව නොලැබු
යෙම්ද? මේ සියළු ජනයන්ගේ බර මා
පිට කුමක්හෙයින් තැබූසේක්ද? මම
12 මේ සියළු ජනයන් ඉපදවූයෙම්ද? මා වි
සින් ඔවුන් ඉපදවූ බැවින් ඔබවහන්සේ
ඔවුන්ගේ පියවරුන්ට දිවිල දේසයට ව
ඩන පියෙක් කිරි බොන දරුවා දරන්
නාක්මෙන් ලයෙහි ඔවුන් උසුලාගෙන
13 යවයි මට වදාලසේක්ද? මේ සියළු ජන
යන්ට දෙන්ට කොතනින් මාෂ ලබම්
ද? මස් කන්ට අපට දෙවයි කියා ඔවුන්
14 මා ලඟ සිට අඬනෝය. තනිව මේ සි
යළු ජනයන් දරන්ට නොහැකිවෙම් ඒ
15 ක මට ඉතා බරය. ඔබවහන්සේ මට
මෙසේ කරණසේක්නම් ඔබවහන්සේ
ගෙන් කරුණාව ලැබුනෙම්නම් මාගේ
අසරණකම නොදැනෙන පිනිස එක
නෙහිම මා මැරුවමැනවයි කිය.
16 තවද යෙහෝවඃවහන්සේ මෝසෙස්
ට වදාරණසේක් ඊශ්‍රායෙල් මහල්ලන් අ
තරෙන් ඒනම් සෙනග අතරෙහි මහ
ල්ලන් සහ අධිපතිව සිටින තෝ දැන
ගත් මනුෂ්‍යයන් හැත්තෑ දෙන මා ලඟ
ට රැස්කරවා සභාමඩප දොරකඩ ලඟ
තා සමග සිටින පිනිස එහි ගෙනෙව.
17 මමද බැස එහිදී තා සමග කථාකොට
තා කෙරෙහි තිබෙන ආත්මභාවයෙන්
රැගෙණ ඔවුන් කෙරෙහි තබනෙනම්.
තා විසින් තනිව ජනයන්ගේ බර නො
දරණ පිනිස ඔවුන් තා සමග ඒ දරණ
18 වා ඇත. තවද සෙනගට කථාකොට
තොපි හෙට දවසට තොපම පවිත්‍රකර
ගනිව් තොපි මාෂය කනවා ඇත. අපට
කන්ට මාෂය දෙනොත් කවුද? මිසරයෙ
හිදී අපට යහපත්වීයයි කියමින් යෙහෝ
වඃවහන්සේගේ කණවලට ඇසෙන්ට ඇ
ඬූ බැවින් යෙහෝවඃවහන්සේ මාෂය
තොපට දෙනසේක තොපි කනවා ඇ
19 ත. තොප අතරේ වැඩ සිටින යෙහෝ
වඃවහන්සේට නින්දාකොට අපි මිසර
යෙන් කුමක් පිනිස ආමුදැයි කියමින්
යෙහෝවඃවහන්සේ ඉදිරියෙහි ඇඬූ නි
සා එක දවසක් දෙදවසක් පස් දවසක්
දස දවසක් විසි දවසක් නොව මසක් මු
20 ළුල්ලෙහි තොපගේ නාස්පුඩුවලින් නික්
මෙනතුරු තොපට අප්‍රියවෙනතෙක් ක
නවා ඇතැයි ජනයන්ට කියවයි වදාල
21 සේක. මෝසෙස් මා ලඟ සිටින පයින්
යන ජනයෝ සලක්ෂයෙක. ඔබවහන්
සේද ඔවුන්ට මසක් මුළුල්ලෙහි කන්ට
22 මාෂය දෙනෙනම්යි වදාලසේක. ඔවුන්
සෑහීමට පමුනුවන පිනිස බැටළුවෝද
ගවයෝද ඔවුන් උදෙසා මරනු ලබන්
නෝද නොහොත් ඔවුන් සෑහීමට පමු
නුවන පිනිස මූදේ සියළු මාළුන් ඔවුන්
උදෙසා රැස්කරනු ලබන්නෝදැයි කිය.
23 යෙහෝවඃවහන්සේගේ අත එහුබුව්ද
මාගේ වචනය ලෙස වේද නොවේදැයි
තෝ දක්නෙහියයි යෙහෝවඃවහන්
සේ මෝසෙස්ට වදාලසේක.
24 . තවද මෝසෙස් පිටත ගොස් යෙහෝ

2 ඒවා සිහිකොට තුඹේ දෙවිවූ යෙහෝ
වඃවහන්සේ දෙසට හැරී අද මා විසින්
අනකරණ සියල්ල ලෙස තුඹද තුඹේ
පුත්‍රයෝද මුළු හෘදයෙනුත් මුළු ආත්ම
යෙනුත් උන්වහන්සේගේ හඬට කීකරු
3 වෙනොත්නම් තුඹේ දෙවිවූ යෙහෝවඃ
වහන්සේ තුඹ බන්ධනයෙන් මුදා තුඹ
ට අනුකම්පාකොට උන්වහන්සේ තුඹ
විසිරෙව් සියළු වර්ගයන් කෙරෙන් තු
ඹ එක්කොට නැවත ගෙනෙනසේක.
4 තුඹෙන් කිසිවෙක් අහසේ කෙලවරට
පන්නනු ලැබූ නුමුත් තුඹේ දෙවිවූ යෙ
හෝවඃවහන්සේ එතනින් එකතුකොට
5 ගෙනෙනසේක. තුඹේ දෙවිවූ යෙහෝ
වඃවහන්සේ තුඹේ පියවරු හිමිවූ දේශ
යට තුඹ ගෙනෙනසේක තුඹද ඒක හි
මිවන්නෙහිය. උන්වහන්සේ තුඹට යහ
පත කොට තුඹේ පියවරුන්ට වඩා තු
6 ඹ වැඩිකරණසේක. තුඹේ දෙවිවූ යෙ
හෝවඃවහන්සේ තුඹ ජීවත්වෙන පිනි
ස තුඹේ මුළු හෘදයෙන්ද මුළු ආත්මයෙන්
ද තුඹේ දෙවිවූ යෙහෝවඃවහන්සේට
ප්‍රේමකරන්ට තුඹේ සිතද තුඹේ පුත්‍ර
යන්ගේ සිතද චර්මඡේදන කරණසේක.
7 තුඹේ දෙවිවූ යෙහෝවඃවහන්සේද මේ
සියළු සාපවල් තුඹේ සතුරන් පිටද තුඹ
ට පීඩාකල තුඹට වෛරවූවන් පිටද ත
8 බනසේක. තුඹ හැරී යෙහෝවඃවහන්
සේගේ හඬට කීකරුව අද මා විසින් අ
නකරණ උන්වහන්සේගේ සියළු ආඥා
9 වල් පවත්වන්නෙහිය. ඉදින් තුඹ මේ
ව්‍යවස්ථා පොතෙහි ලියනලද තුඹේ දෙ
විවූ යෙහෝවඃවහන්සේගේ ආඥාවන්ද
පනත්ද රක්ෂාකරන්ට උන්වහන්සේගේ
හඬට කන් යොමා තුඹේ මුළු හෘදයෙන්ද
මුළු ආත්මයෙන්ද තුඹේ දෙවිවූ යෙහෝ
වඃවහන්සේ දෙසට හැරෙන්නෙහිනම්
10 එවිට තුඹේ දෙවිවූ යෙහෝවඃවහන්සේ
තුඹේ සියළු හස්ත කර්මාන්තයෙන්ද තු
ඹේ ශරීර ඵලයෙන්ද සිව්පාවුන්ගේ ඵල
යෙන්ද දේශයෙහි ඵලයෙන්ද වනාකොට
තුඹ වර්ධනය කරමින් උන්වහන්සේ තු
ඹේ පියවරුන්ට සතුටුවූ ලෙස නැවත
තුඹ කෙරෙහි සතුටුව තුඹට හොඳකම්
11 කරණසේක. අද මා විසින් අනකරණ
මේ ආඥාව තුඹ කෙරෙන් නොසැඟවෙ
12 න්නේය. දුර නොවන්නේය. අපි ඒක අ
සා පවත්වනතට අප උදෙසා ස්වර්ගයට
ගොස් ඒක අපට ගෙනෙන්නේ කව
රෙක්දැයි කියනතට ඒක ස්වර්ගයෙහි
13 නොවේය. අපි ඒක පවත්වන්ට අප උ
දෙසා මුහුදින් එතර ගොස් අපට ඒක
ගෙනෙන්නේ කවරෙක්දැයි කියනතට
14 ඒක මුහුදින් එතරද නොවේය. එහෙත්
ඒ වචන තුඹට ඉතා ලංවන්නේය. ඒක
පවත්වන්ට තුඹේ කටෙහිද හෘදයෙහිද
තිබෙන්නේය.

15 තුඹ ජීවත්ව වර්ධනවෙන පිනිසද තුඹ
16 හිමිවෙන්ට යන දේශයෙහිදී තුඹේ දෙ
විවූ යෙහෝවඃවහන්සේ විසින් ආශීර්වාද
කරනු ලබන පිනිසද තුඹේ දෙවිවූ යෙ
හෝවඃවහන්සේට ප්‍රේමකර උන්ව
හන්සේගේ මාර්ගවල හැසිර උන්වහන්
සේගේ ආඥාවල්ද විනිශ්චයවල්ද පනත
වල්ද රක්ෂාකරන්ට තුඹට අනකිරීමෙන්
තුඹ ඉදිරියෙහ් ජීවත්වීම සහ යහපතද
මරණය සහ නපුරද මා විසින් අද තබ
17 නලද්දේය. එහෙත් නොඅසන තරම්
තුඹේ හෘදය හැරී ගොස් අන් දෙවිවරුන්
ට නමස්කාර මෙහෙවර කරන්ට පොල
18 ඹනු ලබන්නෙහිනම් සැබවින් තුඹලා
විනාසවෙන බවද යොර්දන් එතරට හිමි
වෙන්ට යන දේශයෙහිදී තුඹලාගේ ද
වස් වැඩිනොවන බවද අද තුඹලාට ද
19 න්වන්නෙමි. මා විසින් තුඹලා ඉදිරියෙහි
ජීවත්වීම සහ මැරීමද ආශීර්වාදය සහ සා
පයද තැබූ බවට අද තුඹලාට විරුද්ධව
ස්වර්ගයට සහ භූමියට සාක්ෂි පිනිස හඬ
20 ගසමි. එබැවින් තුඹද තුඹේ වංශයද ජී
වත්ව තුඹේ දෙවිවූ යෙහෝවඃවහන්සේ
ට ප්‍රේමකර උන්වහන්සේගේ හඬට
කීකරුව උන්වහන්සේට ඇළුම්ව යෙ
යෙහෝවඃවහන්සේ තුඹේ පියවරුවූ අ
බ්‍රහම්ටද ඊසාක්ටද යාකොබ්ටද දෙන්
ට දිවූල දේශයෙහි වාසයකරණ පිනි
ස ජීවිතය තෝරාගනිල්ලාය. උන්වහන්
සේගෙන් තුඹේ ජීවිතයද තුඹේ දීර්ඝා
යුසද වේ.

31. පරිච්ඡේ. මෝසෙස් සියළු ඊශ්‍රා
යෙල්වරුන් ළඟට ගොස් මේ වචනවල්
2 කීයේය. මම මේ දවසට එසිය විසි අවු
රුදු වයස් ඇතිවීමි දැන් පිටට යන්ටත්
ඇතුලට එන්ටත් නොහැක්කෙමි. යෙ
හෝවඃවහන්සේත් තෝ මේ යොර්දා
නෙන් එතරට නොයන්නෙහියයි මට කී
3 සේක. තුඹේ දෙවිවූ යෙහෝවඃවහන්
සේ තුඹට පලමුවෙන් එතරට ගොස්

තුබ ඉදිරියෙන් මේ වර්ගයන් විනාසක
රණ්සේක තුබද ඒවා උරුමවනෙනාහි
ය. යෝෂුවාද යෙහෝවාඃවහන්සේ කි
ලෙස තුබ ඉදිරියෙහි එතරට යනෙත්
4 ය. යෙහෝවාඃවහන්සේද තමන්වහන්
සේ අමෝරි දරුවන්වූ සිහොන්ට සහ
ඔග්වද විනාසකලාවූ ඔවුන්ගේ භූමියට
5 ද කල ලෙස ඔවුන්ට කරමින් මා විසින්
තුබලාට අනකල සියළු අඥාවල් හැටිය
ට ඔවුන්ට කරන්ට හැකිවෙන පිනිස
6 තුබලාට ඔවුන් පාවාදෙනසේක. ශක්
තිමත්ව සිත් දැඩිව නිර්භීතවෙයනා ඔ
වුන්ට භය නොවෙනා. තුබේ දෙවිවූ
යෙහෝවාඃවහන්සේ තුබ සමග යනසේ
ක. උන්වහන්සේ තුබ අත්හැර තුබට
නොවරද්දනසේකැයි ඔවුන්ට කීයේය.

7 මෝසෙස්ද යෝෂුවා කැඳවා සියළු ඊ
ශ්‍රායෙල් ඉදිරියෙහි ඔහුට කථාකොට
ශක්තිමත්ව ධෛර්‍ය්‍යමත් වෙයනා යෙ
හෝවාඃවහන්සේ ඔවුන්ගේ පියවරුන්ට
දෙන්ට දිව්ල දේසයට මේ ජනයන් සම
ග ගොස් ඒක ඔවුන්ට උරුමයක්කොට
8 දෙනෙනාහිය. යෙහෝවාඃවහන්සේද තු
බට පලමුවෙන් ගොස් තුබ සමග සිට
තුබ අත්හැර තුබට නොවරද්දනසේ
ක. භයනොවෙනා නැතිනොගනින්
9 නැයි කීයේය. මෝසෙස් මේ ව්‍යවස්ථා
ව ලියා යෙහෝවාඃවහන්සේගේ ගිවිසුම්
පෙට්ටිය උසුලන ලෙවීගේ පුත්‍රවූ පූජක
යින්ටද ඊශ්‍රායෙල්ගේ සියළු වැඩිමහල්
10 ලන්ටද ඒක බාරකොට මුළු සත් අවුරුද්
දේ කෙලවරදී මිදීමෙහි නියම අවුරුද්
දේදී කූඩාරම් මගුල්‍යය පවත්නා කල්හි
11 තුබේ දෙවිවූ යෙහෝවාඃවහන්සේ තෝ
රාගන්නා ස්ථානයෙහිදී උන්වහන්සේ ඉ
දිරියෙහි පෙනෙන්ට සියළු ඊශ්‍රායෙල් අ
විට අසමින් සිටිනාවූ සියළු ඊශ්‍රායෙල්
ඉදිරිපිට මේ ව්‍යවස්ථාව කියවාපනා.
12 ඔවුන් අසාගෙන තුබේ දෙවිවූ යෙහෝ
13 වාඃවහන්සේට භයවෙන පිනිසද ඔවුන්
ගේ නොදනනා ළදරුවන් අසා තුබලා
ගේ දෙවිවූ යෙහෝවාඃවහන්සේට භය
වෙන්ට ඉගනගන්නා පිනිසද තුබලා
යොර්දානෙන් එතරට උරුමවෙන්ට යන
දේසයෙහි ජීවත්වෙනතුරු මේ ව්‍යව
ස්ථාවෙහි සියළු වචනවල් පවත්වන පිනි
සද ස්ත්‍රී පුරුෂ ළදරු යන සමූහවද තු
බේ දොර තුල වසන විදේසියාද රැස්ක
රපල්ලායයි කියමින් අඥාකෙලේය.

14 යෙහෝවාඃවහන්සේද මෝසෙස්ට ක
ථාකොට නට මියයුතු දවස් ලංවිය යෝ
ෂුවා කැඳවාගෙන මා විසින් ඔහුට අඥා
වක් දෙන පිනිස තොපි සභාමඩපයෙහි
සිටිව්යයි වදාලසේක. එවිට මෝසෙස්ද
යෝෂුවාද ගොස් සභාමඩපයෙහි ඉදිරි
15 පිට සිටියෝය. යෙහෝවාඃවහන්සේ මඩ
පයෙහි වලාකුල් කණුවෙක්හි පෙනුනු
සේක. වලාකුල් කණුවද මඩප දොර පි
16 ට පිහිටියේය. තවද යෙහෝවාඃවහන්
සේ මෝසෙස්ට වදාරණසේක් නාගේ පි
යවරුන් සමග තෝ සැතපෙනෙනාහිය
මේ ජනයාද වෙශ්‍යාකම් කරණ ලෙස
ඔවුන්ගේ වශ නොවූ ඔවුන් යන දේස
යෙහි වැසියන්ගේ දේවතාවන් පස්සේ
ගොස් මා අත්හැර ඔවුන් සමග කල මා
17 ගේ ගිවිසුමද කඩකරණවා ඇත. ඒ ද
වසෙහි ඔවුන්ට විරුඩව මාගේ ක්‍රෝධ
ය දිළිහි මම ඔවුන් අත්හැර ඔවුන් කෙ
රෙන් මාගේ මූහුන සඟවනෙනාම්. එ
කල්හි ඔවුන් විනාසව බොහෝ දුක් සහ
වේදනාවල්ද විඳිනවා ඇත. ඔවුහු ඒ
දවසෙහි අප අතරෙහි අපගේ දෙවියන්
වහන්සේ නොසිටින බැවින් අප පිටට
මේ සියළු දුක් නොපැමිනියාහුදැයි කිය
18 නවා ඇත. ඔවුන් අන් දෙවිවරුන්ට
හැරීමෙන් කල සියළු දුෂ්ටකම් නිසා ඒ
දවස්හි මාගේ මූහුන සැබවින් සඟවන්
19 නෙම්. එබැවින් මේ ගීතිකාව ලියාගන
20 ඊශ්‍රායෙල් දරුවන්ට උගණවව. මා විසින්
ඔවුන්ගේ පියවරුන්ට දිව්ල කිරෙන්
හා මීයෙන් උතුරණ දේසයට ගෙනා
කල්හි සෑහෙන ලෙස කා තරවූවිට අන්
දෙවිවරුන්ට හැරී ඔවුන්ට වැඩ කරමින්
මා කෝපකරවා මාගේ ගිවිසුම කඩකර
ණ බැවින් මේ ගීතිකාව මා නිසා ඊශ්‍රා
යෙල් පුත්‍රයන්ට විරුඩව සාක්ෂියක් පිනි
21 ස ඔවුන්ගේ කටේ තබව. ඔවුන්ට බො
හෝ දුක්ද වේදනාවල්ද පැමිනි කල්හි
මේ ගීතිකාව ඔවුන්ගේ වශයෙහි කට
වලින් නැතිනොවන බැවින් ඒක ඔ
වුන්ට විරුඩව සාක්ෂිකාරයෙක් මෙන්
සාක්ෂි කියනෙනාය. මා විසින් දිව්ල දේ
සයට ඔවුන් ගෙනයන්ට මනෙතාන්ම ඔ
වුන් සිතන ඔවුන්ගේ කල්පනාව මම ද
22 නිම්යි කීසේක. එබැවින් මෝසෙස් එම
දවසෙහි මේ ගීතිකාව ලියා ඊශ්‍රායෙල්
23 පුත්‍රයන්ට ඉගැන්වූයේය. උන්වහන්සේ
නූන්ගේ පුත් යෝෂුවාට අඥාවක් දෙ

මින් ශක්තිමත් වෙව සිත්දැඩි වෙව මා
විසින් ඔවුන්ට දිවුල දේශයට ඊශ්‍රායෙල්
පුත්‍රයන් ගෙන් යන්නෙහිය. මම
තා සමග වන්නෙමියි වදාලසේක.

24 තවද මෝසෙස් මේ ව්‍යවස්ථාවෙහි ව
25 චනවල් කම්මුතුවෙනතුරු ලියා නිමක
ල කල්හි යෙහෝවාවහන්සේගේ ගිවි
26 සුම් පෙට්ටිය උසුලන ලෙවීයයන්ට අන
දි මේ ව්‍යවස්ථාවෙහි පොත රැගෙණ ඒ
ක නුබට විරුඬව සාක්ෂියෙක් වෙන්ට නු
බලාගේ දෙවිවූ යෙහෝවාවහන්සේ
27 ගේ ගිවිසුම් පෙට්ටියේ පැත්තක තබාප
නන. මම නුබේ කැරලිගැසීමද දැඩිවූ
ගෙලද දනිමි. මම මේ දවසෙහි නුබලා
සමග ජීවත්ව සිටිනකල්හි යෙහෝවාව
හන්සේට විරුඬව නුබලා කැරලි ගැසූ
වෝය. මාගේ මරණයට පසු කොපමන
28 වඩා නොකෙරෙද්ද? නුබලා මාගේ මර
ණයෙන් පසු ඉතාම නරක නුබලාට අන
කල මාර්ගයෙහු හැරී යෙහෝවාවහන්
සේගේ ඉදිරියෙහි නපුරුකම් කරමින්
නුබලාගේ හස්ත කර්මාන්තවලින් උන්
හන්සේ කෝපකරවා අන්තිම දවස්වල
29 දී නුබලා කෙරේ නපුර පමුනුවන බව ම
ම දැනගත් හෙයින් නුබලාගේ ගෝත්‍රව
ල වැඩිමහල්ලන්ගේද මූලාදැනින්ගේද
කන්වලට මේ වචනවල් කියමින් ඔවුන්ට
විරුඬව අහසද පොලවද සාක්ෂිකොට
30 කැඳවන පිණිස ඔවුන් රැස්කරපල්ලායයි
කීයේය. මෝසෙස්ද සියළු ඊශ්‍රායෙල් ස
භාව අසමින් සිටිද්දි මේ ගීතිකාවේ වච
නවල් නිමවෙනතුරු කීයේය.

32. පරිච්ඡෙ. ස්වර්ගයෙනි කන්
දෙව් මමද කථාකරන්නෙමි. භූමිය මා
2 ගේ මුඛයෙහි වචන අසව මාගේ ඉගැන්
වීම වරුෂාව මෙන් වැහෙන්නේය මා
ගේ කථාව පිනිමෙන් මොලොක්වූ පැ
ල පිට වැසිපොද මෙන්ද තනකොල පි
3 ට වැසිමෙන් වැටෙන්නේය. යෙහෝවා
වහන්සේගේ නාමය ප්‍රකාශකරන්නෙ
මි අපේ දෙවියන්වහන්සේට මහත්
4 කම අයිතිය. උන්වහන්සේ පර්වතයය උ
න්වහන්සේගේ කර්මාන්තය සම්පූර්ණ
ය උන්වහන්සේගේ සියළු මාර්ගවල් සා
ධාරණය. සත්‍යවාදිවූ නිර්දෝසවූ දෙවිකෙ
නෙක්ය උන්වහන්සේ ධර්මිෂ්ඨව යුතුව
5 සිටිනසේක. ඔවුන් තමන්ම නිවකරගත්
තෝය. ඔවුන් උන්වහන්සේගේ දරුවෝ
නොවෙති. ඔවුන් කැලැල් ඇත්තෝය
ඔවුන් අකීකරුවූ සිත් දැඩි පරම්පරවක්
6 ය. මෝඩවූ නුවන නැති ජනයෙනි නු
බලා යෙහෝවාවහන්සේට මෙසේ කෙ
රෙද්ද? උන්වහන්සේ නුබ මවා නුබ ස
විකොට නුබ අයිතිකරගත් නුබේ පියා
7 නෝ නොවේද? පූර්වකාලයෙහි දවස්
සිහිකොට බොහෝ පරම්පරවල වරු
ෂයන් කල්පනාකරමින් නුබේ පියා
ගෙන් අසාපන්න. ඔහු නුබට පෙන්වන්
නේය. නුබේ වැඩිමහල්ලන්ගෙන් අසා
8 පන්න ඔවුන් නුබට කියනවා ඇත. අ
ති උත්තමයානන්වහන්සේ ඔවුන්ගේ උ
රුමය වර්ගයන්ට බෙදදී ආදම්ගේ පුත්‍ර
යන් වෙන්කල කල්හි උන්වහන්සේ ඊ
ශ්‍රායෙල් පුත්‍රයන්ගේ ගනන හැටියට ජ
9 නයන්ගේ සීමාවන් තැබූසේක. මක්නි
සාද යෙහෝවාවහන්සේගේ කොඨාස
යනම් තමන් ජනයෝය උන්වහන්සේ
ගේ උරුමයෙහි කොඨාසයනම් යා
කොබ්ය. උන්වහන්සේට වනාන්තර දේ
10 සයෙහිදීත් ශූන්‍යවූ වනලකාන්තාරයෙ
හිදීත් ඔහු සම්බ ඔහුට මග පෙන්වා උ
ගන්වා තමන් ඇසෙහි කළුරුවාව මෙන්
11 ඔහු රක්ෂාකලසේක. ගිජුලිහිණිදෙනුව
ඇගේ කැදැල්ල අවුස්සා ඇගේ පැටියන්
පිට තටුගසමින් ඇගේ පියාපත් පලල්
කොට විදහා උන් රැගෙණ ඇගේ පියා
පත් පිට දරන්නාක්මෙන් යෙහෝවාව
12 හන්සේ කිසි අන් දෙවියෙක් නැතුව ඔ
13 හු ගෙනගොස් කෙතෙහි ඵල කන පි
ණිස භූමියෙහි උස්වූ ස්ථානවල් පිටට
14 නංගවා පර්වතයෙන් මීද ගිනිගල් පර්වත
යෙන් තෙල්ද දෙනුන්ගෙන් ගිතෙල්ද
බැටළුවන්ගෙන් කිරිද බැටළු වස්සන්
ගෙනුත් බාෂාන්හි උපන් බැටළුවන්ගෙ
නුත් එළුවන්ගෙනුත් තෙල්ද ගෝධුම
කරල්වල තෙලද ඔහුට පෙවූසේක.
නුබද මිදිඵලයෙහි මිශ්‍රනොවූ රස බී
යෙහිය.

15 එහෙත් ජෙෂුරුන් ස්ථූලව පයින් ඇ
න්නේය. නුබ ස්ථූලව තරව ස්ථූලක
මෙන් වැසී සිටිනෙහිය. එවිට ඔහු මැ
වූ දෙවියන්වහන්සේ අත්හැර ඔහුගේ
ගැලවීම නැමති පර්වතය නොසැලකුයේ
16 ය. අන් දේවතාවුන්ට පූජාකොට උන්
හන්සේගේ ක්‍රෝධයද පිලිකුල්වලින් උ
17 න්වහන්සේට කෝපද උපදවා දෙවියන්ව
හන්සේට නොව ඔවුන් හැඳිනනොග

තුනාවූ තුඹලාගේ පියවරු භයනූවූ අළු
තෙන් නැගී ආ අළුත් දේවතාවන්වූ ය
18 කුන්ට පූජාකළෝය. තුඹ ඉපදවූ පර්වත
සිහිනොකොට තුඹ මැවූ දෙවියන්වහන්
19 සේද මතකනැතිකෙළෙහිය. යෙහෝ
වාවහන්සේ ඒ දැක තමන් පුත්‍රයන්ගේ
ද දූවරුන්ගේද අප්‍රියකම නිසා ඔවුන්ට
20 පිළිකුල්කළසේක. තවද උන්වහන්සේ
කථාකොට ඔවුන් අතිශයින් අකීකරු
පරම්පරාවක්වූ අවිශ්වාස දරුවන් බැ
වින් මාගේ මුහුණ ඔවුන් කෙරෙන් සඟ
වා ඔවුන්ගේ අන්තිමය කෙසේ වේදැයි
21 බලන්නෙමි. දෙවි නොවූවන් ගැන මා
ගේ ක්‍රෝධය නිෂ්ඵල දේවලින් මාගේ
කෝපයද ඉපදෙවූවෝය මමත් මාගේ
සෙනඟ නොවූ මනුෂ්‍යයන් ලවා ඔවුන්
ට ඊර්ෂ්‍යාවද නුවණ නැති මනුෂ්‍යයන් ල
22 වා කෝපයද උපදවන්නෙමි. මාගේ
ක්‍රෝධ ගින්නක් දල්වා ඉතා යට නරක
ය දක්වා දවා භූමියත් එහි වර්ධනයත්
විනාශකොට පර්වතයන්ගේ අත්තිවාර
23 ම දවන්නේය. මම ඔවුන් පිට නපුර ගො
ඩකොට මාගේ ඊතල ඔවුන්ට විදින්න
24 මි. ඔවුන් බඩගින්නෙන් දවනුලැබ දව
න ග්‍රීෂ්මයෙන්ද කෲරවූ විනාශයෙන්ද
නාස්තිවෙති. මෘගයන්ගේ දත් හා දූලි
සර්පයාගේ විස ඔවුන් දෙස එවන්නෙමි.
25 පිටතින් කඩුවත් ඇතුළතින් භයත් ත
රුණයාද තරුණිද කිරි බොන්නා සහ
පැසුනු කෙස් ඇත්තාද විනාශකරන්නේ
ය. මන්ත්‍රනය නැති වර්ගයෙක්වූ ඔවුන්
කෙරෙහි බුද්ධි නැති බැවින් උඩඟුලෙස
26 හැසිර අපේ අත උසස් තිබෙනබවද
යෙහෝවාවහන්සේ මේ සියල්ල නො
කළ බවද කියන්නාවූ ඔවුන්ට විරුද්ධව
සිටින්නාවූ ඔවුන්ගේ සතුරාගේ ක්‍රෝධ
27 ය නොවීනම් ඔවුන් කොණවලට විසුරු
වන්නෙමි ඔවුන්ගේ සිහිවීම මනුෂ්‍යයන්
අතරෙන් නැතිකරන්නෙමියි කියෙමියි
උන්වහන්සේ වදාළසේක.
28 ඔවුන් නුවණ ඇතිව මේක තේරුම්
29 ගෙන ඔවුන්ගේ අන්තිම විපරම් කරන්
30 නාහුනම් යහපත. අපේ සතුරන්ගේම
කල්පනාව හැටියට ඔවුන්ගේ පර්වත අ
පේ පර්වත මෙන් නොවන බැවින් ඔවුන්
ගේ පර්වත ඔවුන් නොවික්කේනම් යෙ
හෝවාවහන්සේ ඔවුන් බාරනොකළේ
නම් සතුරන් ගෙන් එකෙක් දහසක්ද
දෙදෙනෙක් දසදහසක්ද එලවන්ට පුළු
31 වන් කොහොමද? එහෙත් ඔවුන්ගේ මි
දිවැල ගොමෝරා කෙතවල සොදොම්හි
මිදිවැල මෙන්ය. ඔවුන්ගේ මිදි ඵලද
තිත්තවැනි ඵලය. ඔවුන්ගේ වළුද තිත්
32 තය. ඔවුන්ගේ මිදි රස සර්පයාගේ විස
33 මෙන්ද පොළඟාගේ කෲර විසමෙන්ද වේ
34 යි. මේවා මාගේ ධන අතරෙහි මාගේ
භාණ්ඩාරයෙහි මුද්‍ර ගසා නොතිබේනන්
ද? පළිගැනීමද විපාක දීමද මට අයිති
35 ය. නියම කාලයෙහි ඔවුන්ගේ පය ලිස්
සනේය. ඔවුන්ගේ විපත්තියෙහි දව
ස ළඟය ඔවුන්ට පැමිණෙන දේ ඉක්මන්
36 ය. එසේවී තුමූත් යෙහෝවාවහන්සේ
තමන් ජනයන් විභාගකොට ඔවුන්ගේ
බලය නැති බවද කිසිවක් රක්ෂාවෙලා
වත් ඉතුරුවෙලාවත් නැති බවද දැක
උන්වහන්සේගේ මෙහෙකරුවන්ට හැ
37 රුනුසේක. උන්වහන්සේ කථාකොට ඔ
38 වුන්ගේ යාගවල තෙල කෑවාවූ ඔවුන්
ගේ බොන පූජාවල මිදි රස බීවාවූ ඔවුන්
විශ්වාසකල පර්වතය වැනි ඔවුන්ගේ දේ
වතාවෝ කොතැන්හිද? ඔවුන් නැගිට
තොපට උපකාරකොට තොපගේ ආර
39 ක්ෂාව වෙත්වා. බලව මා හැර දෙවි කෙ
නෙක් නැත්තේය. මම්ම උන්වහන්සේ
ය. මම්ම මරමි ජීවත්කරමි තුවාල ක
රමි සුවකරමි. මාගේ අතින් ගලවාගන්
40 ට හැකිවූ කිසිවෙක් නැත. මාගේ අත
ස්වර්ගයට ඔසවා නිතර ජීවත්වෙමියි කි
41 යමින් මාගේ දිලිහෙන කඩුව මුවගත්
කොට මාගේම අතින් විනිශ්චය ඉඩක
රන්නේනම් මාගේ සතුරන්ගෙන් පළි
ගන්නෙමි. මට වෛරවෙන්නන්ට විපා
42 ක දෙන්නෙමි. සතුරන්ගෙන් වැස්මක්
නැති හිසින් හා මැරූවන්ගේද අසුවූ
වන්ගේද ලෙයින් මාගේ ඊතල මත්කර
න්නෙමි. මාගේ කඩුව මාංශය කන්නේය
43 යි වදාරණසේක. වර්ගයෙනි උන්වහන්
සේගේ ජනයන් සමඟ ප්‍රීතිවව්. මක්නි
සාද උන්වහන්සේ තමන් මෙහෙකරු
වන්ගේ ලේ නිසා පළිගෙන තමන්ගේ
සතුරන්ට විපාක දී තමන්ගේ දේශය
ටත් ජනයන්ටත් සමාදානයක් කරණ
සේක.

44 මෝසෙස්ද නූන්ගේ පුත් ඔෂෙයාද
අවුත් මේ ගීතිකාවෙහි සියළු වචන ජ
45 නයන් ඉදිරිපිට කීවෝය. මෝසෙස්ද සි
යළු ඊශ්‍රායෙල්ට මේ සියළු වචන කියා
46 නිමවා රක්ෂාකරන්ට තුඹලාගේ දරු

වන්ට අනුකරනනාවූ මේ ව්‍යවස්ථාවෙ
හි සියළු වචනවල්වූ මේ දවසෙහි මා වි
සින් නුබලාට එලිදරව්කරණ සියළු ව
චනවලට නුබලාගේ සිත් යොමුකරපල්
47 ලාය. ඒක නුබලාට නිස්ඵල නොව නු
බලාගේ ජීවත්වීම වේ. මේ දෙය කර
ණකොටගෙණ හිමිවෙන්ට යොර්දන් එ
තරව යන දේසයෙහිදී නුබලාගේ ද
48 වස් වැඩිකරතියි කීයේය. එම දවසෙහි
49 යෙහෝවාවහන්සේ මෝසෙස්ට කථා
කොට යෙරිකෝ ඉදිරියෙහි මෝවබ් දේ
සයෙහි තිබෙන නෙබෝ යන අබාරිම්
කන්දට ගොස් උරුමයක් පිනිස ඊශ්‍රා
යෙල් පුත්‍රයන්ට මා විසින් දෙන කානාන්
50 දේසය බලා සින් වනයෙහි මැරිබා කා
දෙශ් වතුර ලඟදී ඊශ්‍රායෙල් පුත්‍රයන් අ
තරෙහි මට විරුඬව අපරාධකොට ඊශ්‍රා
යෙල් පුත්‍රයන් මැද මා පවිත්‍රනොකල
බැවින් හෝර් නගින කන්දේදී මැරී තා
ගේ සහෝදරවූ ආරොන් හෝර් කන්
දේදී මැරී තමන් ජනයන්ට එකතුවූ
නාක්මෙන් තාගේ ජනයන්ට එකතුවන්
51 නෙහිය. එසේවී නුමුත් තෝ දේසය දක්
52 නෙහිය. එහෙත් මා විසින් ඊශ්‍රායෙල් පු
ත්‍රයන්ට දෙන දේසයට නොයනෙහි
යයි වදාලසේක.

33. පරිච්ඡේ. තවද දෙවියන්වහන්සේ
ගේ මනුෂ්‍යයාවූ මෝසෙස් තමන්ගේ ම
රණයට පලමුවෙන් ඊශ්‍රායෙල් පුත්‍රයන්
2 ට කල ආශිර්වාදය මේය. ඔහු කියනුයේ
යෙහෝවාවහන්සේ සීනායෙන් අවුත්
සීර් කෙරෙන් ඔවුන්ට පෙනී පාරන් ක
න්දෙන් බබලා සුඬවූ දේවදූතයන් දස
දහසක් පිරිවරා දිලිහුනුසේක. උන්වහන්
සේගේ දකුනතින් ව්‍යවස්ථා නැමති ගි
නනක් ඔවුන් කෙරෙහි දිලිහුනේය. සැ
බවින්ම උන්වහන්සේ තමන්ගේ මනුෂ්‍ය
යන්ට ආදරකොට තමන්ගේ සියළු සුඬ
3 යන්ට ආශිර්වාද කලසේක. ඔවුන් උන්ව
හන්සේගේ පාමුල වැටී තමන් වචනවල්
4 ඒත්තුකරගනෝය. උන්වහන්සේ යා
කොබ් සමූහයාගේ උරුමයක්වූ ව්‍යව
5 ස්ථාවක් අපට අනකොට ජනයන්ගේ ප්‍ර
ධානීන් සහ ඊශ්‍රායෙල්වරුන්ගේ ගෝත්‍ර
යන්ද රැස්වූවිට යෙසුරන්හි රජවූසේක.
6 රූබෙන් නොනැසී ජීවත්වේවා ඔහු
ගේ මනුෂ්‍යයෝද බොහෝ වේවා.
7 යෙහෝවාවහන්ස යූදාගේ හඬ අසා
ඔහුගේ ජනයන් ලඟට ඔහු ගෙනයිය
මැනව ඔහුගේ බලය ඔහුට සෑහේවා
ඔහුගේ සතුරන්ට විරුඬව ඔහුට උපකා
ර කලමැනවයි යූදා ගැන කීය.
8 ඔහුගේ දෙමව්පියන්ට ඔහු නුදුටුවෙ
මියි කීවාවූ ඔහුගේ සහෝදරයන් පිලි
නොගෙන තමන් දරුවන් නොසැලකු
වාවූ ලෙවී මස්සායෙහිදී නුබ පරීක්ෂාක
9 ලාවූ මෙරිබාහි වතුර ලඟදී විවාද කලා
වූ නුබේ සුඬවන්තයා සමග නුබේ ඌ
රිම් සහ තුම්මිම්ද වේවා. ඔවුන් ඔබව
10 හන්සේගේ වචනවල් සලකා ඔබගේ
ගිවිසුම රක්ෂාකොට යාකොබ්ට ඔබගේ
පනතවල්ද ඊශ්‍රායෙල්ට ඔබගේ ව්‍යව
ස්ථාවද උගන්වා ඔබ ඉදිරියෙහි සුවඳ ධූ
මයද දැවූ මුළු යාගයද ඔබගේ පූජාසන
11 ය පිට තබති. යෙහෝවාවහන්සේ ඔ
හුගේ වස්තුවට ආශිර්වාදකොට ඔහුගේ
හස්ත කර්මාන්තයන් පිලිගනුමැනව ඔහු
ට විරුඬව නැගිටිනනන්ටද ඔහුට වෛ
රවූවන්ටද ඔවුන් නැවත නොනැගිටී
න ලෙස ඔවුන්ගේ තුනටිවලට පහර
දුනමැනවයි ලෙවී ගැන කීය.
12 යෙහෝවාවහන්සේගේ සෝභවන්
තයා උන්වහන්සේ වෙත ප්‍රවේසමෙන්
වසනේය. උන්වහන්සේ දවස මුළුල්
ලෙහිම ඔහු වසාගෙන ඔහුගේ උරය
මැද වසනසේකැයි බෙන්යමින් ගැන
කීය.
13 අහසෙහි අනඝී දේද හිමද යට තිබෙ
14 න ගැඹුරද ඉර සඳින් උපදවන අනඝී
දේවල්ද පුරාණ පර්වතයන්ගේ ප්‍රධාන
15 දේවල්ද පවත්නාවූ කඳුවල අනඝී දේ
වල්ද භූමියෙහි සහ එහි සම්පූර්ණක
මෙහි අනඝී දේවල්ද ගැන ඔහුගේ දේ
සය යෙහෝවාවහන්සේ කෙරෙන් ආ
16 ශිර්වාද ලැබේවා. පඳුරෙහි විසූ උන්වහන්
සේගේ ආදරය යෝසැප්ගේ ඉස පිටද
ඔහුගේ සහෝදරයන්ගෙන් වෙන්වූ තැ
17 නැත්තාගේ ඉස පිටද වේවා. ඔහුගේ ම
හිමය ගොනුන්ගේ කුළුඳුලන් මෙන්ය.
එප්‍රායිම්ගේ දසදහසද මනස්සෙස්ගේ
දහසදවූ ඔහුගේ අං කගවෙහෙනාගේ
අඟ මෙන්ය. එයින් ඔහු රටෙහි කෙල
වර දක්වා පැහැර දමනේයයි යෝසැප්
ගැන කීය.
18 සෙබුලොන් ගැන සෙබුලොන් නුබේ
පිටත්වීමෙහිදී හා ඉස්සාඛර් නුබේ කූ
19 ඩාරම්වලදී ප්‍රීතිවෙයල්ලාය. ඔවුන් සමූ

ද්‍රයෙහි සම්පූර්ණකමෙන් හා වැලි යට
සැඟවී තිබෙන වස්තුවෙන් කන බැවින්
ජනයන් පර්වතයට කැඳවති. එහිදී ඔ
වුන් ධර්මිෂ්ඨ යාගයන් පූජාකරතියි කීය.

20 ගද් වර්ධනයකරන්නාට ආශීර්වාද වේ
වා. ඔහු සිංහයෙක් මෙන් වාසයකරමින්
21 බාහුව හා හිස්මුදුන ඉරනේය. පළමු
පංගුව සපයාගෙන ව්‍යවස්ථාව දෙන්නා
ගෙන් රක්ෂාකරපු වාසස්ථානයක් ප්‍රීති
යෙන් ලැබ ජනයන්ගේ ප්‍රධානීන් කැටු
ව ගොස් යෙහෝවඃවහන්සේගේ පන
තවල් හා ධර්මිෂ්ඨකම ඊශ්‍රායෙල්වරුන්
සමග ඉෂ්ටකෙළේයයි ගද් ගැන කීය.

22 දන් සිංහ පැටියෙක ඔහු බාශන් සිට
පනිනේයයි දන් ගැන කීයේය.

23 ආදරයෙන් සෑහීමට පැමුණුනාවූ යෙ
හෝවඃවහන්සේගේ ආශීර්වාදයෙන් සම්
පූර්ණවූ නප්තලී බස්නාඉර හා දකුණු
දිගද බුත්තිවිඳියයි නප්තලී ගැන කී
යේය.

24 ආෂේර්ට පුත්‍රාශීර්වාදයද ඔහුගේ ස
හෝදරයන්ට ප්‍රීතිවීමද ඔහුගේ පාදය
25 තෙලෙහි ගැලීමද වේවා. නුඹේ වහන්
යකඩද පිත්තලද වෙති නුඹේ දවස්ලෙ
ස නුඹේ ශක්තිය වන්නේයයි ආෂේර්
ගැන කීයේය.

26 නුඹට උපකාර කරන්ට ස්වර්ග මතු
යෙහි සහ තමන් උතුම්කමේ අහස මතු
යෙහි දුවන්නාවූ යෙෂුරුන්ගේ දෙවිය
න්වහන්සේට සමානවූ කිසිවෙක් නැත්
27 තේය. නුඹේ රක්ෂා ස්ථානයනම් සදාකා
ලවූ දෙවියන්වහන්සේය. නුඹ යටතෙහි
සදාකාලවූ හස්තයෝ වෙති. උන්වහන්
සේ සතුරන් නුඹ ඉදිරියෙන් පහකොට
28 ඔවුන් විනාශ කරවයි කියනසේක. එවි
ට ඊශ්‍රායෙල්වරු එකලාව ආන්ත්‍රාවක්
නැතිව වසති. ධාන්‍ය හා මිදිරස ඇති
දේසයෙහි යාකොබ්ගේ උල්පත වන්
නේය. ඔහුගේ අහසද හිම වගුරුවති.
29 ඊශ්‍රායෙල් නුඹ වාසනාවන්තයෙක නුඹ
සමාන කවරෙක්ද? නුඹේ උපකාරයෙ
හි පලිහද නුඹේ උතුම්කමෙහි කඩුවද
වූ යෙහෝවඃවහන්සේ විසින් ගලවන
ලද මනුෂ්‍යයෙනි නුඹේ සතුරෝ නුඹ
ඉදිරියෙහි බොරුකාරයෝව සිටිති නු
ඹ ඔවුන්ගේ උස්වූ ස්ථානවල මුදුන් පා
ගනෙනහිය.

34. පරිච්ඡේ. මෝසෙස් මෝවබ් සම
භූමිවලින් නෙබෝ කන්දවූ යෙරිකෝ ඉ
2 දිරිපිට පිස්ගඃ මුදුනට නැගුනේය. යෙ
හෝවඃවහන්සේද ඔහුට දන් දක්වා සිය
ළු ගිලෙයද් දේසයද සියළු නප්තලියද
3 එප්‍රායිම් සහ මනස්සෙස්ගේ දේසයද
අන්තිමවූ සමුද්‍රය දක්වා යුදඃගේ සියළු
දේසයද දකුණු දෙසද ඉඳිරුක් නුවරවූ
යෙරිකෝ නිම්නස්ථානයෙහි සමතලාව
4 සෝවර් දක්වා දැක්වූසේක. යෙහෝවඃ
වහන්සේ මා විසින් ආබ්‍රහම්ටද ඊසාක්
ටද යාකොබ්ටද තාගේ වංශයට දෙන්
නෙමියි කියා දිවූ දේසය මේය. ඒක
තාගේ ඇස්වලින් බලන්ට සැලැස්වීමි
එහෙත් එහි නොයන්නෙහියයි ඔහුට ව
දාළසේක.

5 යෙහෝවඃවහන්සේගේ මෙහෙකරු
වූ මෝසෙස් යෙහෝවඃවහන්සේ කී
ලෙස මෝවබ් දේසයෙහිදී නැසුනේය
6 උන්වහන්සේද මෝවබ් දේසයෙහි බෙත්
පෙයෝර් ඉදිරිපිට නිම්නස්ථානයෙහි ඔ
හු තැන්පත් කළසේක. එහෙත් කිසි
වෙක් අද දක්වා ඔහුගේ සොහොන්පල
7 නොදන්නේය. මෝසෙස් නැසෙනකල
එකසිය විසි අවුරුදු වයස් විය. ඔහුගේ
ඇස් අඳුරු නොවිය ඔහුගේ ශරීර බල
8 යද අඩු නොවිය. ඊශ්‍රායෙල් පුත්‍රයෝද
මෝවබ් සමබිම්වලදී මෝසෙස් උදෙසා
තිස් දවසක් ඇඬුවෝය. මෝසෙස් උ
දෙසා ඇඬීමෙහි වැලපීමෙහි දවස් කෙ
ළවරවිය

9 මෝසෙස් තමාගේ අත් නුන්ගේ පුත්
යෝෂුවා පිට තැබූ බැවින් ඔහු නුවනින්
සම්පූර්ණ විය. ඊශ්‍රායෙල් පුත්‍රයෝද ඔ
හුගේ බසට කන් දී යෙහෝවඃවහන්සේ
10 මෝසෙස්ට අනකල ලෙස කළෝය. එ
තැන් පටන් ඊශ්‍රායෙල්හි යෙහෝවඃව
11 හන්සේ මුහුනට මුහුන ලා කථාකළාවූ
මිසර දේසයෙහිදී සියළු ලකුණුවල්ද
ආශ්චර්යවල්ද කරන්ට ඵාරවෝ සහ ඔ
හුගේ සියළු මෙහෙකරුවන් වෙතටත්
ඔහුගේ සියළු දේසයටත් යෙහෝවඃව
12 හන්සේ පිටත්කර හැරියාවූ සියළු ඊශ්‍රා
යෙල් ඉදිරියෙහි මෝසෙස් දැක්වූ සියළු
බලවත් අතිලින්ද සියළු මහත් භයංකාර
වලින්ද යුක්තවූ මෝසෙස් සමාන අනාග
තවක්තෘ කෙනෙක් නොනැගිටියේය.

# යෝෂුවාගේ පොතය.

1\. පරිච්ඡෙදය යෙහෝවඃවහන්සේගේ මෙහෙකරුවූ මෝසෙස් මැරුණු පස්සු මෝසෙස්ගේ මෙහෙකරුවූ නූන්ගේ පුත් යෝෂුවාට යෙහෝවඃවහන්සේ කථාකොට 2 මාගේ මෙහෙකරුවූ මෝසෙස් මැරුණ බැවින් ඊශ්‍රායෙල්ගේ පුත්‍රයන්ට මා විසින් දෙන දේශයට තෝත් සියළු ජනයොත් මේ යොර්දනෙන් එතරට 3 යන්ට නැගිටිව්. තොපේ පයින් පාගන සියළු තැන් මෝසෙස්ට මා විසින් කී ලෙ 4 ස තොපට දුනිමි. වනාන්තරයද මේ ලෙබනොන් පටන් මහත් ප්‍රාත් ගංගාව දක්වා හිත්තීයයන්ගේ සියළු දේශයද බස්නාඉර මහමුහුදද දක්වා තොපගේ මායිම වන් 5 නේය. තාගේ ජීවිතයේ සියළු දවස්වලදී තට එදිරිව සිටින්ට කිසිවෙක් නොහැකිවෙයි. මම මෝසෙස් සමග සිටි ලෙසම තා සමගත් සිටිනෙමි. තා වරද් 6 දු අත්නොහරිනෙමි. ඔවුන්ගේ පියවරුන්ට දෙන පිණිස දිවුල දේශය උරුමයක් කොට මේ ජනයන්ට තෝ බෙ 7 දන නිසා වීර්‍යවත්ව සිත් දැඩිවෙව. මාගේ මෙහෙකරුවූ මෝසෙස් තට අඥාකල සියළු ව්‍යවස්ථාව ලෙස කරණ පිණිස වීර්‍ය ඇතිව ඉතා සිත් දැඩි වෙව. තෝ යන තැනදී දියුණුවෙන ලෙස මෙයින් දකුනටවත් වමටවත් නොහැරී මේ ව්‍යව 8 ස්ථා පොත තාගේ මුඛයෙන් තොර නොව එහි ලියා තිබෙන සියල්ල කරණ පිණිස රෑ දවල් කල්පනාකරව. එවිට තාගේ 9 මාර්ගය සඵලව තට සුභසිද්ධවෙයි. තෝ යන සෑම තැනම තාගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ තා සමග නිසා වීර්‍යවත්ව සිත් දැඩිව භයනොව උත්සාහ අඩුනොකර සිටුවයි මා විසින් අන නුදුනිම්දැයි වදාලසේක.

10 එවිට යෝෂුවා ජනයන්ගේ මූලාදෑ 11 නින්ට අඥා දෙමින් සේනාව අතරේ ඇවිද නුඹලා තුන් දවසක් ඇතුලත නුඹලාගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ නුඹලාට උරුමයක්කොට දෙන දේශය ලබාගන්නා පිණිස යොර්දනෙන් එතරට යන නිසා කෑම සාදගනිල්ලායයි කියා ජ 12 නයන්ට අන දීපල්ලායයි කීයේය. යෝෂුවා රූබෙන්වරුන්ටද ගද්වරුන්ටද මනස්සෙස්ගේ අඩ ගෝත්‍රයටද කථාකො 13 ට නුඹලාගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ නුඹලාට නිවාඩුවත් මේ දේසයත් 14 දුන්සේක. නුඹලාගේ ස්ත්‍රීන්ද ලදරුවන්ද සතුන්ද මෝසෙස් දුන් යොර්දනේ මෙගොඩ රටේ සිටිනෝය. එහෙත් යෙහෝවඃවහන්සේ නුඹලාට නිවාඩු දුන් ලෙස නුඹලාගේ සහෝදරයන්ට නිවාඩු දෙනතුරු සියළු බලවත්වූ වික්‍රමවූ මනුෂ්‍යයෝ සැරහී නුඹලාගේ සහෝදරයන්ට උපකාර පිණිස ඔවුන් ඉදිරිපිට 15 ගොස් නුඹලාගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ ඔවුන්ට දෙන දේසය ඔවුහුත් උරුමවූ විට නුඹලාගේ යෙහෝවඃවහන්සේගේ මෙහෙකරුවූ මෝසෙස් නැගෙණහිර යොර්දන් මෙගොඩෙන් නුඹලාට දුන් උරුමවූ දේසයට හැරී ඒක බුත්තිවිදිනවා ඇතැයි කියා යෙහෝවඃවහන්සේගේ මෙහෙකරුවූ මෝසෙස් අඥාකල වචන සිහිකරපල්ලායයි කීයේ 16 ය. ඔවුන් යෝෂුවාට උත්තර දෙමින් නුඹ අපට අනකරණ සියල්ල කොට නුඹ 17 යවන තැනකට අපි යන්නෙමුව. මෝසෙස් කී සියළු කාරණවල් අපි ඇසූ ලෙස නුඹ කී දේත් අසන්නෙමුව. නුඹේ දෙවිවූ යෙහෝවඃවහන්සේ මෝසෙස් සමග සිටි ලෙසම නුඹ සමගත් සිටින 18 සේක්වා. නුඹේ අනට විරුද්ධව අකීකරුව නුඹ අනකරණ සියළු වචනවලට කන් නොදෙන අය මරණයට පත්කරනු ලබනෙන්ය. වීර්‍යවත්ව දැඩි සිත් ඇතිවූවමැනවයි කීවෝය.

2\. පරිච්ඡෙ. නූන්ගේ පුත් යෝෂුවා රහසින් ඔත්තු බලන පිණිස ෂිටිම් සිට මිනිස්සුන් දෙදෙනෙක් පිටත්කර යෙරිකෝ දේශය බලන්ට පලයල්ලායයි කීයේය. ඔවුන් ගොස් රාහබ්නම් වෙශ්‍යා ස්ත්‍රීගේ 2 ගෙට වැද එහි නවාතැන් ගත්තෝය. එවිට දේසය සොයන්ට ඊශ්‍රායෙල් පුත්‍රයන්ගෙන් අද රෑ මිනිස්සු ආවෝයයි යෙරි 3 කෝ රජහට කියනලද්දේය. යෙරිකෝ රජද රාහබ් වෙතට මිනිසුන් යවා නුඹේ

ගෙට වැද සිටින මිනිස්සු සියළු දේසය
සොයන්ට ආ නිසා ඔවුන් පිටතට ගෙ
4 නෙනනැයි කීයේය. එවිට ස්ත්‍රී ඒ මිනි
සුන් දෙදෙනා සඟවාගෙණ මනුෂ්‍යයෝ
මා වෙතට ආවෝය එහෙත් ඔවුන් කො
5 තනින් ආවෝදැයි නොදනෙනම්. කළුව
රවී දොරටුව වසන වේලාවට ඒ මනුෂ්‍ය
යෝ පිටතට ගොස් කොතන ගියෝදැයි
නොදනිමි. ඉක්මනින් ඔවුන් පස්සේ ප
ලයල්ලාය. එවිට නුඹලාට ඔවුන් අහුවෙ
6 තියි කීවාය. එහෙත් ඈ ඔවුන් ගෙයි පි
යස්ස උඩට ගෙනගොස් එහි සැදූ හන
7 විටි යට ඔවුන් සැගෙව්වාය. මනුෂ්‍යයෝ
ද ඔවුන් යොදීන් මගින් තොටුපල දක්
වා එලවාගනෙනනාය. ඔවුන් නික්මුනු වි
8 වම දොරටුව වැහුවෝය. බුදියෙන්ට ප
ලමුවෙන් ඈ පියස්ස උඩ ඔවුන් වෙත
9 ට ඇවිත් යෙහෝවඃවහන්සේ දේසය
නුඹලාට දී නුඹලාගේ භය අප පිට වැ
ටී නුඹලා නිසා දේසයේ සියළු වැසියෝ
10 කලාන්තවෙන බව දනිමි. මක්නිසාද
නුඹලා මිසරයෙන් එනකල යෙහෝවඃ
වහන්සේ නුඹලා ගැන සූප් යන මුදේ
වතුර සිඳවූ බවද යොදීන් එගොඩ සිටි
ය මුළුමනෙම්ම විනාසකල සිහොන්ද
ඔග්ද යන අමෝරීයයන්ගේ රජුන් දෙ
නනාට නුඹලා කලේ කිමෙක්ද අපි ඈ
11 සිමුව. නුඹලාගේ දෙවිවූ යෙහෝවඃව
හන්සේ උඩ ස්වර්ගයෙහිත් පාත භූමි
යෙහිත් දෙවියන්වහන්සේ නිසා අප වි
සින් ඒ දේ ඇසූ කෙනෙහිම අපේ හෘද උ
නුව ගොස් නුඹලා නිසා කිසිවකුට සිත්
12 දැඩිකම නොතිබුනේය. මා විසින් නුඹ
ලාට හොඳකම් කල බැවින් නුඹලා විසි
නුත් මාගේ පියාගේ ගෙට හොඳකම්
පෙන්වන පිනිස සැබෑවූ ලකුනක් මට දී
13 මාගේ පියාද මව්ද සහෝදරයන්ද සහෝ
දරීන්ද ඔවුන්ට ඇති සියල්ලද නුඹලා ර
ක්ෂාකොට අපේ ප්‍රාණවල් මරණයෙන්
ගලවන ලෙස යෙහෝවඃවහන්සේ ගැ
න මට දිවුරුම් දියල්ලායයි කියා නුඹලා
ට යාඥාවෙමියි ඒ මනුෂ්‍යයන්ට කීවාය.
14 එවිට ඒ මනුෂ්‍යයෝ මේ අපේ කාරණ
ව නුඹලා එළිදරව් නොකරතොත් නු
ඹලාගේ ප්‍රාණයට අපේ ප්‍රාණය යේවා.
යෙහෝවඃවහන්සේ දේසය අපට දෙ
න කල අපි නුඹට යහපත්කමත් සැබෑ
කමත් පෙන්වමුයයි ඈට උත්තර දී කී
15 වෝය. එවිට පව්ර පිට වාසයකරනනාවූ
ඈ පව්ර පිට තිබෙන ඈගේ ගෙයි කවු
16 ළුවෙන් ලනුවකින් ඔවුන් බස්සවා එ
ලෙව් අය නුඹලාට සම්භනොවෙන්ට
කඳුවලට දිව ගොස් එලෙව් අය නැව
ත එනතුරු එහි තුන් දවසකට සැඟවී
සිට ඉන්පසු නුඹලාගේ ගමන යන්ට පු
17 ළුවනැයි ඔවුන්ට කීවාය. ඒ මනුෂ්‍යයෝ
ඈට කථාකොට නුඹ අප දිවුරෙව් මේ
නුඹේ දිවුරුම ගැන අපි නිදොස්වනෙනා
18 මුව. අප දේසයට එන කල නුඹ අප
බැස්සෙව් මේ රතු නූල් ලනුව කවුළුවෙ
හි බැඳ නුඹේ පියාද මව්ද සහෝදරය
න්ද පියාගේ සියළු ගෙයි වැසියන්ද නුඹ
19 වෙතට ගෙනෙනනා. එවිට කවරෙකුත්
ගෙදරින් පිටවී විදියට ගියොත් ඔහුගේ
ලේ තමන් හිස පිටය අපි නිදොස්වමුව.
නුඹ සමග කවරෙක් නුමුත් ගෙයි සිටි
යොත් ඔහු පිට යම් අතක් තිබෙතොත්
20 ඔහුගේ ලේ අපේ හිස පිටය. නුඹ මේ
අපේ කාරණාව එළිදරව් කලොත් නුඹ
අප දිවුරෙව් දිවුරුමෙන් නිදහස්වමුයයි
21 කීවෝය. ඈ නුඹලාගේ වචන ලෙස
වේවයි කියා ඔවුන් පිටත යැව්වාය ඔවු
න් පිටත්ව ගියෝය. ඈද රතු ලනුව ක
22 වුළුවේ බැන්දය. ඔවුන් ගොස් කඳුට ඇ
විත් එලෙව් අය හැරී යනතුරු තුන් දව
සක් එහි සිටියෝය. එලෙව් අය පාර දි
23 ගටම සොයා ඔවුන් නුදුටුවෝය. මෙසේ
ඒ මිනිස්සු දෙදෙන හැරී කඳෙන් බැස
එතරට ගොස් නූන්ගේ පුත් යෝෂුවා
ලඟට ඇවිත් ඔවුන්ට සිඳවුන සියළු දේ
24 ඔහුට කියා දේසයෙහි සියළු වැසියෝ අ
ප ගැන කලාන්තවූ බැවින් සත්‍ය ලෙස
යෙහෝවඃවහන්සේ අපේ අතලට සිය
ළු දේසය පාවාදුන්සේකැයි කීවෝය.

3. පරිච්ඡේ. අති උදය යෝෂුවා නැ
ගිට ඔහුද සියළු ඊශ්‍රායෙල් පුත්‍රයෝද ෂි
ට්ටිම් සිට පිටත්ව යොදීනට ඇවිත් එතර
2 යන්ට පලමුවෙන් එහි සිටියෝය. තුන්
දවසකට පසු මූලාදෑනියෝ සේනාව මැ
3 දින් ගොස් නුඹලාගේ දෙවිවූ යෙහෝ
වඃවහන්සේගේ ගිවිසුම් පෙට්ටිය ලෙවි
පූජකයන් උසුලනවා දකිනවිට නුඹලා
ගේ ස්ථානයෙන් පිටත්ව ඒ පස්සේ පල
4 යල්ලාය. එහෙත් නුඹලා ලඟ සිට ඊට
විම්මෙන් රියන් දෙදහසක් ඉඩම වන්
නේය. මීට පලමුවෙන් මේ මාර්ගයෙන්
නුඹලා නොගිය බැවින් නුඹලාට යන්ට

නිසි මාර්ගය දැනගන්නා පිනිස ඒක ළ
ඟට නොයල්ලායයි ජනයන්ට කියා අන
5 කලෝය. හෙට යෙහෝවාවහන්සේ නු
ඹලා අතරෙහි විස්මවල් කරණ නිසා නු
ඹලාම පවිත්‍ර වෙයල්ලායයි යෝෂුවා ජ
6 නයන්ට කීයේය. යෝෂුවාද ගිවිසුම්
පෙට්ටිය රැගෙන ජනයන්ට ඉස්සරව එ
තරට පලයල්ලායයි පූජකයන්ට කථා
කොට කීයේය. ඔවුන් ගිවිසුම් පෙට්ටිය
රැගෙන ඉස්සරව ගියෝය.

7 එවිට යෙහෝවාවහන්සේ මම මෝ
සෙස් සමග සිටියාක්මෙන් තා සමග සි
ටින බව සියළු ඊශ්‍රායෙල්වරු දැනගන්
නා පිනිස ඔවුන් ඉදිරිපිට මේ දවසෙහි
8 තා උසස්කරන්ට පටන්ගනිමි. තෝ ගි
විසුම් පෙට්ටිය උසුලන පූජකයන්ට අ
නකොට ඔවුන් යොදීන් වතුර ළඟට
ආකල යොදීනේ සිටින්ට කියවයි යෝ
9 ෂුවාට කීසේක. යෝෂුවාද නුඹලාගේ
දෙවිවූ යෙහෝවාවහන්සේගේ වචන අ
සන්ට මෙහි වරෙල්ලායයි ඊශ්‍රායෙල් පුත්‍ර
10 යන්ට කීය. නැවත මුළු පොලවෙහි යෙ
11 හෝවාවහන්සේගේ ගිවිසුම් පෙට්ටිය
නුඹලාට ඉස්සරව යොදීන් එතරට ගෙ
නයන නිසා ජීවමාන දෙවියන්වහන්සේ
නුඹලා අතරෙහි වසන බවත් උන්වහන්
සේ සැක නැතුව නුඹලා ඉදිරියෙන් ක
නානිවරුද හිත්තීවරුද හිව්වරුද පැ
රිසිවරුද ගිර්ගාසිවරුද අමෝරිවරුද
ජෙබුසිවරුද දුරුකරණ බවත් නුඹලා
12 දැනගන්නෝය. එබැවින් එක එක ගෝ
ත්‍රයෙන් එක එකා බැගින් ඊශ්‍රායෙල්ගේ
ගෝත්‍රවලින් දොළොස් දෙනෙක් ගණි
13 ල්ලාය. යෙහෝවා වන මුළු පොලවෙහි
ස්වාමිනුවහන්සේගේ ගිවිසුම් පෙට්ටිය උ
සුලන පූජකයන්ගේ පතුල් යොදීනේ
වතුර පිට තබන විට ඉහලින් එන වතු
රෙන් යොදීනේ වතුර බෙදී රැස්ව ති
බෙයයි කීයේය.

14 ජනයන් යොදීන් එතරට යන්ට ඔ
වුන්ගේ කූඩාරම්වලින් නික්ම ගියවිට
ගිවිසුම් පෙට්ටිය උසුලන පූජකයෝද පෙ
රටුව ගොස් ඔවුන් යොදීනට ඇවිත් ගි
15 විසුම් පෙට්ටිය උසුලන පූජකයන්ගේ ප
තුල් ගඟ අද්දර වතුරේ ගැළුනකල ඉහ
16 ලින් එන වතුර නැවතී සෙරෙතන් ළඟ
තිබෙන අදම් නුවරට ඉතා දුරින් රැස්ව
ගොඩක්ව සමතලාවේ මුහුද එනම් කර
දිය මුහුද දෙසට එන වතුර නැවතී බෙදී
ගියේය. ජනයෝද යෙරිකෝ ඉදිරිපිටට
එතරවූවෝය. ගොයම් කපන කාලය
මුළුල්ලේ යොදීන් සියළු ගං ඉවුරු උතු
17 රමින් තිබුණේය. එවිට යෙහෝවාව
හන්සේගේ ගිවිසුම් පෙට්ටිය උසුලන පූ
ජකයෝ යොදීන් මැද වියලි බිම සවි
ලෙස සිටියෝය. යොදීන් එතරට යන
තුරු සියළු ඊශ්‍රායෙල්වරු වියලි බිම පි
ට ගියෝය.

4. පරිචෙ. සියළු ජනයන් යොදී
2 නින් එතරට පැමිනිකල ගෝත්‍රවලින්
එකෙක් බැගින් ජනයන්ගෙන් මිනිසුන්
දොළොස් දෙනෙකු ගෙන ඔවුන්ට මෙ
3 තන යොදීන් මැද පූජකයන් පය ගසා
සිටි තැනින් ගල් දොළසක් ගෙන තො
ප සමග එතර ගෙනගොස් ඒවා අද රෑ
නවාතැන් සිටින තැන දමනනට අනක
රවයි කියා යෙහෝවාවහන්සේ යෝෂු
4 වාට වදාලසේක. එවිට යෝෂුවා ගෝත්‍ර
වලින් එකෙක් බැගින් ඊශ්‍රායෙල් පුත්‍ර
යන්ගෙන් නියමකල මිනිසුන් දොළොස්
දෙන කැඳවා නුඹලාගේ දෙවිවූ යෙ
හෝවාවහන්සේගේ පෙට්ටිය ඉදිරියෙ
5 හි යොදීන් මැදට ගොස් නුඹලා එකි
නෙකා ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ ගෝත්‍රව
ල ගනන ලෙස තමතමාගේ කර පිටින්
ගලක් බැගින් නුඹලා අතරෙහි ලකු
6 නක් පිනිස ගනිල්ලාය. නුඹලාගේ දරු
වන් ඔවුන්ගේ පියවරුන්ගෙන් මේ
7 ගල් කුමකටදැයි මතු ඇසූවිට යෙහෝවා
වහන්සේගේ ගිවිසුම් පෙට්ටිය ඉදිරියෙ
හිද ඒක යොදීන් එතරට යන කලද
යොදීන් වතුර බෙදී ගියේය. මේ ගල්ද
ඊශ්‍රායෙල් පුත්‍රයන්ට සදාකාල සිහිවීමක්
පිනිසයයි ඔවුන්ට උත්තර දෙනවා ඇතැ
8 යි කීයේය. ඊශ්‍රායෙල් පුත්‍රයෝද යෙ
හෝවාවහන්සේ යෝෂුවාට අන දුන්
ලෙස යෝෂුවා අනකල හැටිම කොට
ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ ගෝත්‍රවල ගන
න ලෙස යොදීන් මැදින් ගල් දොළසක්
රැගෙන ඒවා ඔවුන් එතර නවාතැන්
සිටි තැනට ගෙනගොස් එහි තැබුවෝ
9 ය. යෝෂුවාද ගල් දොළස යොදීන් මැ
ද ගිවිසුම් පෙට්ටිය උසුලු පූජකයන් පය
ගසා සිටි තැන තැබීය. ඒවා අද දක්
10 වා එතන තිබෙනෝය. යෙහෝවාව
හන්සේ ජනයන්ට කථාකරණ පිණිස
යෝෂුවාට අනකල සියළු දෙය කොල

වර වෙනතුරු මෝසෙස් විසින් යෝෂු
වාට අනකල සියල්ල ලෙස පෙට්ටිය ඉ
සුළු පූජකයෝ යොර්දන් මැද සිටියෝ
ය. ජනයෝද ඉක්මනව එතරවූවෝය.
11 සියළු ජනයෝම එතරවූකල යෙහෝවඃ
වහන්සේගේ පෙට්ටියද පූජකයෝද ජ
12 නයන් ඉදිරියෙහි එතරවූවෝය. රූ
බෙන් පුත්‍රයෝද ගද් පුත්‍රයෝද මනස්
සෙස්ගේ අඩ ගෝත්‍රයද මෝසෙස් ඔ
වුන්ට කී ලෙස ඊශ්‍රායෙල් දරුවන් ඉදිරි
13 යෙහි සැරහී එතර ගියෝය. යුඩයට සැ
රසුනෝ සතලිස් දහසක් පමන යෙ
හෝවඃවහන්සේ ඉදිරියෙහි යෙරිකෝ
සමතලාවට යුඩයට එතරව ගියෝය.
14 එදවසෙහි යෙහෝවඃවහන්සේ සිය
ළු ඊශ්‍රායෙල් ඉදිරියෙහි යෝෂුවා උතුම්
කලසේක. ඔවුන් මෝසෙස්ට භයව සි
ටියාක්මෙන් ඔහුගේ ජීවිතයෙහි සියළු
15 දවස්වලදී ඔහුට භයවූවෝය. තවද යෙ
හෝවඃවහන්සේ සාක්ෂි පෙට්ටිය උසුල
16 න පූජකයන්ට යොර්දනින් එගොඩට
එන්ට අනකරවයි යෝෂුවාට වදාලසේ
17 ක. යෝෂුවා යොර්දනින් නික්ම වරෙල්ලා
18 යයි පූජකයින්ට අනකෙලේය. යෙහෝ
වඃවහන්සේගේ ගිවිසුම් පෙට්ටිය ඉසුළු
පූජකයෝ යොර්දන් මැදින් නික්ම ඇ
විත් පූජකයන්ගේ පතුල් ගොඩට ඔසවා
ගත්කල යොර්දන් වතුර තිබූන තැන්ව
ලට හැරී පලමු ලෙස ගං ඉවුර උතුරා
ගියේය.
19 ජනයෝද පලමුවෙනි මස දසවෙනි
ද යොර්දනින් නික්ම ඇවිත් යෙරිකෝ
පෙරදිග සීමාවෙහි ගිල්ගල්හි අන්දයම්
20 බැන්දෝය. යෝෂුවා ඔවුන් යොර්දනින්
ගත් ඒ ගල් දොලස ගිල්ගල්හි තබා ඊ
21 ශ්‍රායෙල් පුත්‍රයන්ට කියනුයේ තුබලාගේ
දරුවන් ඔවුන්ගේ පියවරුන්ගෙන් මේ
22 ගල් කුමකටදැයි මතු ඇසූවිට තුබලා ඊ
ශ්‍රායෙල්වරු මේ යොර්දනින් වියලි බිම
පිට ආවෝයයි තුබලාගේ දරුවන්ට
23 දන්විය යුතුය. මක්නිසාද පොලවේ සි
යළු ජනයන්ට යෙහෝවඃවහන්සේගේ
හස්තය බලවත් බව දැනෙන පිනිසත්
24 තුබලාගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ
ට තුබලා නිතර භයවෙන පිනිසත් තු
බලාගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ අ
ප එතරවෙනතෙක් සූප් මුහුද වියලෙව්
ලෙස තුබලා එතරට යනතුරු තුබලා
ගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ යොර්ද
නේ වතුර තුබලා ඉදිරියෙහි වියලෙව්
සේකැයි කීයේය.

5. පරිච්ඡ. යොර්දනේ බස්නාඉර දිග
වසන සියළු අමෝරීය රජවරුද මුහුද
ලඟ වසන සියළු කනානීය රජවරුද ඊ
ශ්‍රායෙල් දරුවන් එතරට යනතුරු යෙ
හෝවඃවහන්සේ ඔවුන්ගේ ඉදිරියෙන්
යොර්දනේ වතුර වියළු බව ඇසූකල ඔ
වුන්ගේ හිත් උණුව ගොස් ඊශ්‍රායෙල් ද
රුවන් නිසා තවත් ඔවුන්ට හිත් දැඩික
2 මක් නොවූයේය. එකල සිහුම් පිහියා ත
නාගෙන නැවත ඊශ්‍රායෙල් දරුවන් ච
ර්මච්ඡේදනය කරවයි යෙහෝවඃවහන්සේ
3 යෝෂුවාට වදාලසේක. යෝෂුවාද සිහුම්
පිහියා තනාගෙන ඊශ්‍රායෙල් දරුවන්ගේ
4 ලිඟු අග චර්මච්ඡේදනය කෙලේය. යෝෂු
වා යම් කාරණයක් නිසා මෙසේ කලේ
ද ඒ කාරණව මෙසේ විය. මිසරයෙන්
ආ යුඩයෙහි සියළු පුරුෂයෝ මිසරයෙන්
ඈ පසු වනාන්ත්‍ර මාර්ගයේදී නැසුනෝ
5 ය. නික්ම ආ සියළු ජනයෝ චර්මච්ඡේදන
ය ලැබූවෝය. එහෙත් මිසරයෙන් එද්දී
වනාන්ත්‍ර මාර්ගයෙහි උපන් සියළු ජන
යෝ චර්මච්ඡේදනය නොකරණලද්දෝය.
6 මක්නිසාද ඊශ්‍රායෙල් දරුවෝ මිසර
යෙන් ආ සියළු යුඩකාර ජනයෝ යෙ
හෝවඃවහන්සේගේ හඩට කීකරු නූන
නිසා ඔවුන් විනාසවෙනතුරු සතලිස් අ
වුරුද්දක් වනයෙහි හැසුරුනෝය. අප
ට දෙන පිනිස යෙහෝවඃවහන්සේ ඔ
වුන්ගේ පියවරුන්ට දිව්ල කිරෙනු මී
යෙනු උතුරණ දේසය ඔවුන්ට නොපෙ
න්වමියි උන්වහන්සේ ඔවුන්ට දිවිලසේක.
7 උන්වහන්සේ ඔවුන් වෙනුවට ඉපදෙව්
දරුවන් මාර්ගයේදී චර්මච්ඡේදනය නො
ලැබූ අචර්මච්ඡේදනයන් බැවින් යෝෂුවා
8 ඔවුන් චර්මච්ඡේදනය කෙලේය. සියළු ජ
නයන් චර්මච්ඡේදනයකොට නිමවූකල ඔ
වුන්ට සුවවෙනතුරු අන්දයමේ ඔවුන්
9 ගේ තැන්වල විසූවෝය. එවිට යෙහෝ
වඃවහන්සේ අද තුබලාගෙන් මිසරයෙ
හි නින්දව අහකට පෙරළුයෙමියි යෝ
ෂුවාට වදාලසේක. ඉන්නිසා එතනට
මේ දවස දක්වා ගිල්ගල්යයි නම්විය.
10 ඊශ්‍රායෙල් දරුවෝද ගිල්ගල්හි අන්ද
යම් බැඳගෙන මාසේ දහහතරවෙනි ද
සවස යෙරිකෝවෙහි සමතලාවල උප
11 රිගමන මඟුල්‍යය පැවැත්වූවෝය. ඊට

පසුව ද දේසයෙහි පරණ ගොයමෙන
මුහුන් නොදැමූ රොටිද විලදද කෑවෝ
12 ය. දේසයෙහි පරණ ගොයමෙන් ඔවුන්
කෑවාට පසුව ද මනනා නැවතුනේය.
ඊස්‍රායෙල් දරුවන්ට තවත් මනනා නො
ලැබුනේය. එහෙත් ඔවුන් කනාන් දේ
13 සයෙහි ඵල ඒ අවුරුද්දේ කෑවෝය. ත
වද යෝෂුවා යෙරිකෝ ලඟ සිටිද්දී ත
මන්ගේ ඇස් ඔසවා බැළූ කල මනුෂ්‍ය
යෙක් කඩුව අතින් ගෙන තමන් ඉදිරි
යෙහි සිටියේය. යෝෂුවාද ඔහු ලඟට
ගොස් නුඹ අපට එකතුද නොහොත්
අපේ සතුරන්ට එකතුදැයි ඔහුට කීයේ
14 ය. උන්වහන්සේ නැත මම යෙහෝවාව
හන්සේගේ සේනාපතියෙක අමිසි කී
යේය. එවිට යෝෂුවා මුහුනින් බිම වැ
ටී නමස්කාරකොට මාගේ ස්වාමීන්වහන්
ස ඔබගේ මෙහෙකරුවාට කුමක් වදාර
15 ණසේක්දැයි කීයේය. යෙහෝවාවහන්
සේගේ සේනාපතියාද නුඹ සිටින තැ
න පවිත්‍ර නිසා පයින් වහන් ගලවාපන්
නැයි යෝෂුවාට කීයේය. යෝෂුවාද එ
සේ කෙලේය.

6. පරිච්ඡේ. තවද ඊස්‍රායෙල් දරුවන්
නිසා යෙරිකෝ තදින් වසනු ලැබුවාය.
කිසිවෙකුට පිටතට යන්ටවත් ඇතුල්
2 වෙන්ටවත් නොහැක්කේය. යෙහෝ
වාවහන්සේද යෝෂුවාට කථාකොට
යෙරිකෝද එහි රජද යෝධයන තගේ
3 අතට පාවාදුනිමි. යුඩකාරයෝවූ තොපි
සියල්ලෝ නුවර වටකොට එක් වරක්
නුවර වට යනෙනාය සදවසක් තා්‍වි
4 සින් මෙසේ කලයුතුය. පූජකයෝ සත්
දෙනෙක් එළු අං හොරනෑ සතක් ගිවි
සුම් පෙට්ටිය ඉස්සරහට ධරනෙනාය ස
තවනි දවසේද තොපි සත් වරක් නුව
5 ර වට යනෙනාය. පූජකයෝද හොර
නෑ පිඹිනෙනාය. තවද ඔවුන් බොහෝ
වේලාවක් එළු අං හොරනෑ පිඹින ශබ්
දය තොප අසනකල සියළු ජනයෝ ම
හත් ශබ්දයකින් හඬගසනෙනාය. එවි
ට නුවර භිත්තිය පැතත වැටී ජනයෝද
එකිනෙකා තමතමන් ඉදිරියෙහි නගි
නෙනායයි කීසේක.
6 එවිට නූන්ගේ පුත් යෝෂුවා පූජක
යන් කැඳවා ගිවිසුම් පෙට්ටිය ගෙණ යෙ
හෝවාවහන්සේගේ පෙට්ටිය ඉදිරිපිට
පූජකයෝ සත් දෙනෙක් එළු අං හොර
නෑ සතක් ධරගෙන යෙත්වයි කියාද
7 ජනයන් පෙරටුව ගොස් නුවර වටළූක
ල ආයුධ ඇති තැනැත්තෝ යෙහෝවාව
හන්සේගේ පෙට්ටිය ඉදිරිපිට යෙවයි
8 කියාද කීයේය. යෝෂුවා ජනයන්ට ක
ථාකොට නිමවූකල පූජකයෝ සත් දෙ
නෙක් එළු අං හොරනෑ සතක් ධරමින්
යෙහෝවාවහන්සේ ඉදිරියෙහි පෙරටු
ව යමින් හොරනෑ පිඹෝය. යෙහෝවා
වහන්සේගේ ගිවිසුම් පෙට්ටිය ඔවුන්
9 පස්සේ ගියේය. ආයුධ ධරන්නෝ හො
රනෑ පිඹ පූජකයන් ඉදිරිපිට ගියෝය.
පස්සේ යන සේනාව පෙට්ටියට පසුව ගි
යෝය. පූජකයෝ පෙරටුව යමින් හො
10 රනෑ පිඹෝය. යෝෂුවාද ජනයන්ට අ
නකොට ඔල්වර හඬක් පවත්වන්ට මා
විසින් නුඹලාට අනකරණ දවස දක්වා
ඔල්වර හඬවත් හඬින් කිසි ශබ්දයකත්
කිසි වචනයක්වත් නුඹලාගේ කටින්
නොකියල්ලාය. අනකලාම ඔල්වර හඬ
11 ගසාපල්ලායයි කීයේය. මෙසේ යෙහෝ
වාවහන්සේගේ පෙට්ටිය එක් වරක් නු
වර වටකොට ගියේය. ඔවුන් අඬයමට
ඇවිත් එහි නවාතැන් ගතෙතාය.
12 යෝෂුවා ඉතා උදය නැගුටුනේය පූජ
කයෝද යෙහෝවාවහන්සේගේ පෙට්
13 ටිය ගත්තෝය. පූජකයෝ සත් දෙ
නෙක් එළු අං හොරනෑ සතක් ධර යෙ
හෝවාවහන්සේගේ පෙට්ටිය ඉදිරිපිට
යමින් කඩනැතුව හොරනෑ පිඹෝය. ආ
යුධ ධරනෙනා ඔවුන්ට පෙරටුව ගියෝ
ය පස්සේ යන්නෝද යෙහෝවාවහන්
සේගේ පෙට්ටියට පසුව ආවෝය. පූජ
කයෝ පෙරටුව යමින් හොරනෑ පිඹෝ
14 ය. දෙවෙනි දවසෙහිද නුවර එක් ව
රක් වටකොට අඬයමට හැරී ආවෝය.
15 සදවසක් ඔවුන් එසේ කලෝය. සතව
නි දවස ඔවුන් මහ උදය වේලාසනින්
නැගිට නුවර සතරක් එම ලෙස වටක
ලෝය. එදා පමනක්ම නුවර සතරක් ව
16 ටකලෝය සතවනි වර පූජකයන් හො
රනෑ පිඹකල යෝෂුවා ජනයන්ට කථා
කොට යෙහෝවාවහන්සේ නුඹලාට නු
17 වර දුන් නිසා ඔල්වර හඬගසාපල්ලා
ය. නුවරත් එහි සියල්ලත් යෙහෝවාව
හන්සේ නිසා විනාසයට පත්වනෙනය.
රාහබ් වෙශ්‍යා ස්ත්‍රී අපි එවූ ඔත්තුකාර
යන් සඟවාගත් බැවින් ඈද ඈ සමග
18 ගෙයි සිටින සියල්ලද ජීවත්වනෙනාය.

නුබලා විනාසයට පත්වූ දෙයින් ගෙන
ඊශ්‍රායෙල් අඳුයමට සාපයක් දුකක් ප
මුනුවන පිනිසද නුබලාට සාපනොවෙ
19 න පිනිසද සාපලත් දෙයින් ප්‍රවේසම්වෙ
යල්ලාය. සියළු රිදි රත්‍රන්ද පිත්තල යක
ඩ භාජනද යෙහෝවාවහන්සේට පවි
ත්‍රව උන්වහන්සේගේ භාණ්ඩාරේ තබාප
ල්ලායයි කීයේය.

20 තවද පූජකයන් හොරනෑ පිඹකල ජ
නයෝ බල්වරහඬ ගෑසුවෝය. ජනයන්
හොරනෑ ශබ්දය අසා මහත් ශබ්දය
කින් බල්වරහඬ ගෑසූකල භිත්තිය පෑ
තත වැටුනේය. ජනයෝ තමතමන් ඉ
දිරියේ නැගී නුවර අල්ලා නුවර සිටි සි
21 යළු පුරුෂයන්ද ස්ත්‍රීන්ද තරුණයින්ද මහල්
ලන්ද ගවයින්ද බැටළුවන්ද කොටළුවන්ද ක
22 ඩුවහතින් මැරුවෝය. එහෙත් දේස
ය සෙවූ දෙන්නාට වෙශ්‍යා ස්ත්‍රීගේ ගෙ
ට වැද නුබලා ඈට දිවූල ලෙස ඒ ස්ත්‍රී
ද ඈට තිබෙන සියල්ලද පිටතට ගෙ
නෙල්ලායයි යෝෂුවා කීයේය. එවිට ඔත්
23 තුකාර තරුණයෝ ඇතුලට ගොස් රා
හබ්ද ඇගේ පියාද මව්ද සහෝදරයන්ද
ඈට තිබුනු සියල්ලද ඇගේ සියළු නෑයි
න්ද පිටත ගෙනවුත් ඊශ්‍රායෙල් අන්දය
24 මෙන් පිටත ඔවුන් සිටෙවූවෝය. රිදි
රත්‍රන්ද පිත්තල යකඩ භාජනද යෙහෝ
වාවහන්සේගේ ගෘහයෙහි භාණ්ඩාරේ ත
බා නුවරද එහි තිබුනු සියල්ලද ගින්
25 නෙන් දැව්වෝය. රාහබ් වෙශ්‍යා ස්ත්‍රී
යෙරිකෝව සොයන්ට යෝෂුවා යවූ දූ
තයන් සඟවාගත් නිසා ඈද ඇගේ පියා
ගේ පවුලද ඈට තිබුනු සියල්ලද පනපි
ටින් යෝෂුවා රක්ෂාකලසේක. ඈ ඊශ්‍රා
26 යෙල් මැද අද දක්වා වසන්නීය. තවද
මේ යෙරිකෝ නුවර ගොඩනැගීමට නැ
ගිටින මනුෂ්‍යයාට යෙහෝවාවහන්සේ
ඉදිරියෙහි සාපවේවා ඔහුගේ කුළුදුලා
උපන්කල එහි අත්තිවාරම ලා ඔහුගේ
බාලයා උපන්කල එහි දොර තබනේන්
27 ය කියා යෝෂුවා ඔවුන් දිවුරවූයේය.
මෙසේ යෙහෝවාවහන්සේ යෝෂුවා ස
මඟ සිටිසේක. ඔහුගේ කීර්තිය දේසය
මුළුල්ලෙහි පතලවිය.

7. පරිච්ඡෙ. එහෙත් යූදා ගෝත්‍රයෙ
හි සෙරාගේ පුත්‍රවූ ශබ්දිගේ පුත් කම්මි
ගේ පුත් ආඛන් සාප ලත් දෙයින් ගත් නි
සා ඊශ්‍රායෙල් දරුවෝ සාප ලත් දෙයින්
අපරාධකලෝය. යෙහෝවාවහන්සේ
ගේ ක්‍රෝධයද ඊශ්‍රායෙල් පුත්‍රයන්ට වි
2 රුඬව ඇවිළුනේය. යෝෂුවාද නුබලා
ගොස් රට බලාපල්ලායයි කියා බෑතැල්
ට නැගෙන ඉර තිබෙන බෑතාවන් ලඟ
ආයි නුවර දෙසට යෙරිකෝවෙන් මනු
3 ෂ්‍යයන් යැව්වේය. ඒ මනුෂ්‍යයෝ ආයි දෙ
සට ගොස් රට බලා යෝෂුවා වෙත දෙ
වනු ඇවිත් ඒ නුවරුන් ස්වල්ප නිසා සි
යළු සෙනග ගොස් වෙහෙසගන්ට න
මක් නැත. දෙදාහක් නොහොත් තුන්දා
හක් පමන මනුෂ්‍යයෝ ගොස් ආයි රටට
4 පහර දෙත්වයි කීවෝය. ඒ නිසා සේනා
වෙන් තුන්දාහක් පමන මනුෂ්‍යයෝ එත
නට ගියෝය. ඔවුන් ආයි නුවරේ මනුෂ්‍ය
5 යන් ඉදිරියෙන් දිව්වෝය. ආයි වැසියෝ
දොරටුවේ සිට ශෙබාරිම් දක්වා එලවමින්
ඔවුන් බසිනවිට පහරදී ඔවුන්ගෙන්
තිස් හයදෙනෙක් පමන මැරුවෝය. ඉන්
නිසා ජනයන්ගේ සිත් උනුව දියමෙන්
6 විය. යෝෂුවාද තමාගේ වස්ත්‍ර ඉරා ඊශ්‍රා
යෙල් නායකයන් සමඟ යෙහෝවාව
හන්සේගේ ගිවිසුම්පෙට්ටිය ඉදිරියෙහි
සවස්වෙනතුරු මුහුනින් බිම වැටී ත
මන්ගේ හිස් මතුයෙහි දූවිලි ලාගතෙත්
7 ය. යෝෂුවාද අහෝ දෙවිවූ යෙහෝවා
වහන්ස අප විනාසකරන්ට අමෝරිව
රුන්ගේ අතලට භාරදීම පිනිස මේ ජ
ජනයන් යොර්දනෙන් මෙතරට ඔබව
8 හන්සේ ගෙනාවේ මක්නිසාද? යොර්දා
නෙන් එතර සිටියෙමුනම් යහපත. අ
හෝ යෙහෝවාවහන්ස ඊශ්‍රායෙල්වරු
තමන් සතුරන්ට පිටපානවිට මම කුමක්
9 කියම්ද? කනානිවරුද දේසයේ සියළු
වැසියෝද ඒ අසා අප වටලා අපේ නා
මය පොලවෙන් සිඳදමනවා ඇත එවිට
ඔබවහන්සේගේ මහත් නාමයට ඔබව
හන්සේ කරනෙන් කීමෙක්ද?

10 එවිට යෙහෝවාවහන්සේ යෝෂුවාට
වදාරනසේක් නැගිටිව මුහුනින් මෙසේ
11 වැතිරෙනෙන් මක්නිසාද? ඊශ්‍රායෙල්ව
රු සාපලත් දෙයින් ගෙන සොරකම්
කොට ඒවා වචාවෙන් තමන්ගේව බ
ඩු සමඟ ලා මා විසින් අනකල මාගේ ගි
12 විසුම කඩකොට පව්කලෝය. එබැවින්
ඊශ්‍රායෙල් පුත්‍රයෝ තමන් සතුරන් ඉදිරි
යෙහි සිටින්ට නොහැකිව ඔවුන් සාප
ලත් බැවින් ඔවුන්ගේ සතුරන් ඉදිරිපිට
දී තමන් පිට පෑවෝය සාපලද්දවුන්

තොපගෙන් විනාශනොකලොත් තො
ප සමග මම කිසි කලෙකත් නොවන්
13 නෙමි. නැගිට ජනයන් පවිත්‍රකරව ඔ
වුන්ට කථාකොට පහන්වෙන්ට මත්
තෙන් පවිත්‍රවෙයව්. ඊශ්‍රායෙල් තොප අ
තරේ සාපලත් දෙයක් තිබෙනෙන්ය.
සාපලත් දෙය තොප අතරෙන් පහකර
ණතුරු තොපේ සතුරන් ඉදිරිපිට සිටින්
නට නොහැක්කේයයි ඊශ්‍රායෙල් දෙ
විවූ යෙහෝවාවහන්සේ වදාරණසේක.
14 උදය කාලයෙහි තොපගේ ගෝත්‍ර වශ
යෙන් එති යෙහෝවාවහන්සේ ගන්නා
ගෝත්‍රය පවුල් වශයෙන් එති යෙහෝ
වාවහන්සේ ගන්නා පවුලද ගෙවල් වශ
යෙන් එති යෙහෝවාවහන්සේ ගන්
නා ගෙයද මනුෂ්‍යයෙක් බැගින් එති.
15 සාපලත් දෙය ගත් තැනැත්තෝ යෙහෝ
වාවහන්සේගේ ගිවිසුම කඩකොට ඊ
ශ්‍රායෙල්හි දුශ්ඨකම් කල නිසා තමා සහ
තමාගේ සියල්ලම ගිනෙනන් දවනු ල
බනෙන්යයි වදාලසේක.
16 එවිට යෝෂුවා අති උදය නැගිට ඊශ්‍රා
යෙල්වරු ගෝත්‍ර වශයෙන් ගෙනායේ
ය යූදාගේ ගෝත්‍රයද ගන්නාලද්දේය.
17 යූදාගේ පවුල ගෙනායේය ශර්හිවරුන්
ගේ පවුලද ගතෙන්ය. ශර්හිවරුන්ගේ
පවුල එකින් එකා බැගින් ගෙනායේය
18 ශබ්දිද අල්වාගන්නාලද්දේය. ගෙයි වැ
සියන් එක එකා බැගින් ගෙනායේය.
යූදාගේ ගෝත්‍රයේ සේරාගේ පුත්‍රවූ ශබ්
දිගේ පුත් කර්මිගේ පුත් ආඛන් අල්ලනු
19 ලැබුයේය. යෝෂුවා ආඛන්ට කියනුයේ
මාගේ පුත්‍රය ඊශ්‍රායෙල්ගේ දෙවිවූ යෙ
හෝවාවහන්සේට මහත්තත්වය දී උන්
වහන්සේට ඇත්ත කියා නුබ කල දේ
නොසඟවා මට කියාපනැයි කීයේය.
20 ආඛන්ද සැබෑය යෙහෝවාවහන්සේට
විරුඬව මම පව් කෙලෙම් මෙසේ මෙ
21 සේ මම කෙලෙම්. කොල්ලගත් දෙය අ
තරෙහි සෝභන බබිලෝනිය වස්ත්‍රයක්
ද රිදී ශෙකෙල් දෙසියයක්ද ශෙකෙල්
පනහක බර රන් පේනුවක්ද මම දුටුවි
ට ඒවාට ආසාව ගතෙතමි. ඒවා මාගේ
කූඩාරම මැද බිමේ තබා ඊ යට රිදී ස
ඟවා තිබෙනෙන්යයි යෝෂුවාට උත්තර
22 දී කීය. යෝෂුවා පනිවිඩකාරයන් හැරි
යේය ඔවුන් කූඩාරමට දිව ඒක සඟවා
23 රිදී එකි යට තිබුනේය. ඔවුන් කූඩාරම
මැදින් ඒවා යෝෂුවා වෙතද සියළු ඊශ්‍රා
යෙල්වරු වෙතද ගෙනවිත් යෙහෝවා
24 වහන්සේගේ ඉදිරියෙහි තැබුවෝය.
යෝෂුවාද සියළු ඊශ්‍රායෙල්ද සේරාගේද
පුත් ආඛන්ද රිදීද වස්ත්‍රද රත්‍රන් පේනුවද
ඔහුගේ පුත්‍රයන්ද දූවරුන්ද ගොනුන්ද කො
ටළුවන්ද බැටළුවන්ද කූඩාරමද ඔහුට ති
බුනු සියල්ලද ආබෝර්හි මිටියාවතට
25 ගෙනවිත් නුබ අපට වෙහෙස කලේ
මක්නිසාද? යෙහෝවාවහන්සේ මේ ද
වසෙහි නුබට වෙහෙස කරණසේකැයි
යෝෂුවා කීය. එවිට සියළු ඊශ්‍රායෙල්ව
රු ඔහුට ගල්ගැසුවෝය. ඔවුන් ගල්ගැ
26 සුවායින් පසු ගිනෙනන් දැවුයේය. ඔහු
පිට ඔවුන් නැගූ මහත් ගල් ගොඩ අද
දක්වා තිබෙනෙන්ය. එවිට යෙහෝවා
වහන්සේ තමන්ගේ භයානකවූ උදහ
සෙන් හැරුනුසේක. එබැවින් ඒ ස්ථාන
යට මේ දවස දක්වා ආබෝර් මිටියාවත
යයි නම් විය.

8. පරිච්ඡේ. එවිට යෙහෝවාවහන්
සේ යෝෂුවාට කියනසේක් භයනොව
තැති නොගෙන සියළු යුඬ සමූහව තා
සමග ගෙන නැගිට ආයි දේසයට යව
මා විසින් ආයි රජුත් ඔහුගේ සමූහවත්
නුවරත් දේසයත් තාගේ අතට දුනිම්.
2 තෝ යෙරිකෝවටත් එහි රජුටත් කල
ලෙස ආයි දේසයටත් එහි රජුටත් කරව.
එහි කොල්ලයත් සිව්පාවුන්නුත් තොපට
බුත්තිවිදිමට ගනිව්. නුවරට අසලින් සේ
3 නාවක් රහසේ සිටුවවයි කීසේක. එවි
ට යෝෂුවාද සියළු යුඬ සමූහවද ආයි
දේසයට යන්ට නැගිට්යෝය. යෝෂුවා
වික්‍රමවූ යුඬකාරයන් තිස්දහසක් තෝරා
4 ගෙන රාත්‍රියේ ඔවුන් යවා නුබලා නුවර
ට විරුඬව ගොස් නුවරට අසලින් සැඟ
වී සිට නුවරින් ඉතා දුර නොගොස් නු
බලා සියල්ලෝ සැදී සිටිල්ලායයි අන
5 කොට මමද මා සමග සිටින සියළු සමූහ
වද නුවර ලඟට ගොස් ඔවුන් අප අඛි
වාගන එනකල අපි ඔවුන් ඉදිරියෙන්
6 පලමු ලෙස පලායමුව එවිට ඔවුන් අප
පස්සේ එනවා ඇත. අපි ඔවුන් නුවරින්
පිටතට ගන්නාතෙක් පලමු ලෙස ඔවුන්
ඉදිරිපිටින් පලායමුව. මක්නිසාද ඔවුන්
අප ඉදිරිපිටින් පලමු ලෙස පලා යෙතියි
ආයි වැසියෝ කියනවා ඇත. එබැවින්
7 අපි ඔවුන් ඉදිරිපිටින් සැඟවී යමුව. එවිට
නුබලාගේ දෙවිවූ යෙහෝවාවහන්සේ

නුවර නුබලා අතට පාවාදෙන නිසා නු
බලා සැඟවුනු තැනින් නැගිට ඒක අල්
8 වාගනිල්ලාය. යෙහෝවාවහන්සේගේ
ආඥාව ලෙස නුවර අල්වාගෙන ඒක ගි
නිලාපල්ලායයි මම නුබලාට අන කෙ
9 ලෙම්යි කීයේය. ඔවුන් යෝෂුවා විසින්
යවනලදුව සැංගෙන තැන රැක සිටින්
ට ගොස් ආයි නුවරට බස්නාඉරින් බෙ
තැල් නුවරටත් ආයි නුවරටත් අතරේ සි
10 ටියෝය. එහෙත් යෝෂුවා ඒ රාත්‍රිය ස
මූදුව අතරේ නවාතැන් ගෙන අති උ
දය නැගිට සමූදුව ගනන්කොට ඊශ්‍රා
යෙල් මූලාදෑනීන් සමග සමූදුවට පෙර
11 වූව ආයි දේසයට ගියේය. ඔහු සමග සි
ටි සියළු යුධ සමූදුවද ලංව නුවර ඉදිරිය
ට ඇවිත් ආයි නුවරට උතුරු දිගින් අ
ඤයම් බැඳගතෝය. ඔවුන්ටත් ආයි
නුවරටත් අතරෙහි මිටියාවතක් තිබු
12 නේය. ඔහුද පඤහසක් පමන මනුෂ්‍ය
යන් ගෙන ඔවුන් බෙතැලටත් ආයි නු
වරටත් අතරේ ආයි නුවරට බස්නාහිර
දිගින් සැඟවෙන තැන සිටෙව්වේය.
13 යෝෂුවා නුවරට උතුරෙන්වූ සියළු සේ
නාවත් නුවරට බස්නාහිරින්වූ එහි රැක
වළුනුත් සිටුවා එදා රෑ මිටියාවත මැදට
14 ගියේය. ආයි නුවර රජ ඒ දැක ඉක්මන්
කොට අති උදය නැගිට ඔහුද ඔහුගේ
සියළු සමූදුවද නුවර වැසියෝද නියම
කාලට ඊශ්‍රායෙල්ට විරුඬව යුධකරන්ට
මිටියාවතට ගියෝය. නුවර පස්සේ ඔහු
ට විරුඬව සැංගෙන තැන රැක උන්
15 නෝ සිටි බව නොදතෝය. යෝෂුවා
ද සියළු ඊශ්‍රායෙල්වරුද ඔවුන් ඉදිරියෙ
හි පැරදුනාක්මෙන් බෑදි මගින් සැඟවී
16 ගියෝය. ආයි නුවර සියළු සමූදුවද ඔ
වුන් පස්සේ එලවන්ට එක්ව යෝෂුවා
17 පස්සේ එලවා නුවරින් දුරුවූනෝය. ඔ
වුන් නුවර හැර ඊශ්‍රායෙල් පස්සේ එල
වා ගියෝය. ආයි නුවරද බෙතැල්හිද ඊ
ශ්‍රායෙල් පස්සේ නොඑලෙව් එක මනු
18 ෂ්‍යයෙකුත් නොසිටියේය. යෙහෝවාව
හන්සේ යෝෂුවාට කථාකොට තාගේ
අත තිබෙන හෙල්ලය ආයි දෙසට දිගු
කරව මා විසින් ඒක තාගේ අතට දෙම්
යි වදාලසේක. යෝෂුවා ඔහු අත තිබුන
19 හෙල්ලය නුවර දෙසට දිගුකලේය. එවි
ට රැක සිටියෝ තමන් සිටි තැනින් ඉක්
මනින් නැගිට ඔහු අත දිගුකල කෙ
නෙහිම දිව නුවරට වැද ඒක අල්ලා ඉක්
20 මනින් ගිනි ඇවෝය. ආයි නුවර වැසි
යෝ ආපසු බලා නුවර දුම අහසට නැං
ගේයයි දැක මේ මගින්වත් ඒ මගිනවත්
සැඟවී යනනට බලයක් නැතුව සිටියෝ
ය. බෑද්දට සැඟවී ගිය සමූදුව එලවා ගි
21 යවුන් දෙසට ආපසු හැරුනෝය. යෝ
ෂුවාද සියළු ඊශ්‍රායෙල්වරුද රැක සිටිය
වුන් නුවර අල්ළු බවත් එහි දුම නැගු
නු බවත් දැක නැවත හැරී ආයි නුවර
22 මිනිසුන් මැරුවෝය. සෙස්සෝ ඔවුන්ට
විරුඬව නුවරින් පිට ඇවිත් මේ පැත්තෙ
නුත් ඒ පැත්තෙනුත් ඊශ්‍රායෙල්ට මැදිව
සිටිනනාවූ ඔවුන්ගෙන් එකෙකුවත් ගැල
වී ඉතුරුවෙනනට නෑර ඔවුන් මරා ආයි
23 නුවර රජ පනපිටින් අල්වා යෝෂුවා ල
24 ගට ගෙනාවෝය. ඊශ්‍රායෙල්වරු තමන්
පස්සේ එලවා ආ සියළු ආයි නුවර වැසි
යන් බෑද්දේදීත් සමතලාවේදීත් මරා තී
ඤුකල පසුද ඔවුන් සියල්ලෝම නාසති
වෙනතුරු කඩු මුවහතින් වැටුනු පසුද
සියළු ඊශ්‍රායෙල්වරු ආයි දේසයට හැරී
ගොස් ඊට කඩුමුවහතින් පහර දුනෝ
25 ය. එදා වැටුන ආයි නුවර වැසි සියළු ස්ත්‍රී
26 පුරුෂයෝ දොලොස් දහසක. යෝෂුවා
හෙල්ලය දිගුකල ඔහුගේ අත සියළු ආයි
නුවර වැසියන් මුළුමනෙම්ම විනාසකර
27 ණතුරු ඇද නොගතෝය. ඒ නුවර සි
වූපාවුනද කොල්ලයද යෙහෝවාවහන්
සේ යෝෂුවාට අනකල ලෙස ඊශ්‍රායෙල්
වරු තමන්ට බුත්තිවිඳින්ට ගත්තෝ
28 ය. යෝෂුවා ආයි නුවර ගිනිලා ඒක මේ
දවස දක්වා නිතර පවතින ගොඩකු
29 පාළු කලේය. ආයි නුවර රජුද සවස්
වෙනතුරු ගහක එල්ලා ඉරබට කෙ
නෙහිම යෝෂුවා ඔහුගේ මලකද ග
සින් බා නුවර දොරකඩ දමා මේ දවස
දක්වා තිබෙන මහත් ගල් ගොඩක් එහි
නගන්ට අනකෙලේය.

30 එවිට යෝෂුවා යෙහෝවාවහන්සේ
ගේ මෙහෙකරුවූ මෝසෙස් ඊශ්‍රායෙල්
31 පුත්‍රයන්ට අනකල ලෙසද මෝසෙස්ගේ
ව්‍යවස්ථා පොතේ ලියා තිබෙන ලෙසද
කිසිවෙක් යකඩයක් නොපෙව් නොක
පනලද ගලින්ම කල පූජාසනයක් ඊශ්‍රා
යෙල්හි දෙවිවූ යෙහෝවාවහන්සේට
ඒබල් පර්වතයේ ගොඩනැගුවේය. එහි
ඔවුන් යෙහෝවාවහන්සේට දවනපූජ
වල්ද ශාන්ති පූජාවල්ද පූජාකලෝය.
32 මෝසෙස් ඊශ්‍රායෙල් පුත්‍රයන් ඉදිරියෙහි

ලිවූ ව්‍යවස්ථාව එහි ගල් පිට යෝෂුවා
33 ලිවූයේය. සියළු ඉශ්‍රායෙල්වරුද ඔවුන්
ගේ නායකයෝද මූලාදෑනිද නඩුකාර
නායකයෝද ඔවුන් අතරේ උපන් තැ
නැත්තන්සේම විදේශියෝද යෙහෝවඃ
වහන්සේගේ ගිවිසුම් පෙට්ටිය උසුලන
ලෙවි පූජකයන් ඉදිරියෙහි ගිවිසුම් පෙට්
ටිය දෙපැත්තේ සිටියෝය. යෙහෝවඃව
හන්සේගේ මෙහෙකරුවූ මෝසෙස් ප
ලමු අනකල ලෙස ඉශ්‍රායෙල් සමූදුවට
ආශිර්වාද කරන්ට ඔවුන්ගෙන් භාගයක්
ගෙරිසිම් පර්වතයද භාගයක් ඒබල් පර්
34 වතයද ඉදිරිපිටින් සිටියෝය. ඉන්පසු ඔ
හු ව්‍යවස්ථා පොතේ ලියනලද සියල්ල
ලෙස ආශිර්වාදත් නපුරු සාපත් ඇති සි
35 යළු ව්‍යවස්ථා වචන කියවීය. ස්ත්‍රීන්ද ළද
රුවනුද ඔවුන් අතරෙහි සිටින විදේශිය
න්ද සමග සියළු ඉශ්‍රායෙල් සමූදුව ඉදිරිපි
ට යෝෂුවා මෝසෙස් අනකල සියල්
ලෙන් නොකියෙවූ වචනයක් නැත.

9. පරිච්ජෙ. තවද යොර්දනට මෙහො
බ කඳුවලද දෙනිවලද ලෙබනොන් ඉ
දිරිපිට මහමුදේ සියළු සීමාවලද වසන
හිත්තිය අමෝරිය කනානිය පෙරිසිය හිවි
ය යෙබූසිය සියළු රජ දරුවෝ ඒ කාර
2 ණ අසා එක්සිත්ව යෝෂුවා සහ ඉශ්‍රා
යෙල් සමග සටන්කරන්ට රැස්වූවෝය.
3 ගිබියොන් වැසියෝ යෝෂුවා යෙරි
කෝවටත් අයිටත් කල දෙය ඇසූවිට ඔ
4 වුන් ප්‍රයෝගයෙන් හැසිර තානාපති
යන් මෙන් පරණ ගෝනිද පරණ ඉරීගි
ය මුද්‍රිකපානය තිබූ භාජනද ඔවුන්ගේ
කොටළුවන් පිට බැඳ පරණ අංඩ තිබූ ව
5 හන් පයලා පරණ වස්ත්‍රද මගට වේලිච්
ච පූස් බැඳුන සියළු කෑමද අරගෙණ ගි
6 යෝය. ගිල්ගල්හි අඩයමේ සිටි යෝෂු
වා වෙතට ගොස් ඔහුටත් ඉශ්‍රායෙල් මනු
ෂ්‍යයන්ටත් අප දුරු රටකින් ආ බැවින්
තුඹලා අප සමග පොරොන්දුවක් කරපල්
7 ලායයි කීවෝය. ඉශ්‍රායෙල් මනුෂ්‍යයෝ
හිවියයන්ට තුඹලා සමහරවිට අප අත
රේ වසති. අපි තුඹලා සමග පොරොන්දුව
8 කෙසේ කරමුදැයි කීවෝය. ඔවුන් යෝ
ෂුවාට අපි තුඹේ මෙහෙකරුවෝයයි කී
වෝය. එවිට යෝෂුවා තුඹලා කවුරුද
9 කොතැනින් ආවෝදැයි ඔවුන්ට කීයේය.
ඔවුහු උත්තර දෙමින් තුඹේ මෙහෙක
රුවූ අපි තුඹේ දෙවිවූ යෙහෝවඃවහන්
සේගේ කීර්තියත් උන්වහන්සේ මිසරයේ
10 දී කල සියල්ලත් යොර්දනෙන් එතර හෙෂ්
බොන්හි සිහොන් රජය ඇස්තාරොත්හි
විසූ බසන්හි ඔග් රජය යන අමෝරිව
රුන්ගේ රජ දෙනාට කල සියල්ලත්
අසා ඉතා දුරු රටක සිට උන්වහන්සේ
11 ගේ නාමය නිසා ආවෙමුය. එබැවින් අ
පේ නායකයෝද සියළු රටවැසියෝද තු
ඹලාට ගමනට කෑම ගෙණ ඔවුන් ලඟ
ට ගොස් අපි තුඹලාගේ මෙහෙකරු
වෝයයි කියාද අප සමග පොරොන්දුවක්
කරපල්ලායයි කියාද ඔවුන්ට කියාපල්ලා
12 යයි අපට කීවෝය. තුඹලා ලඟට එන්ට
අප නික්ම ආ දවසේදී අපේ ගෙවල්ව
ලින් මගට වියදමට උණුහුම්ව තිබෙද්දී
මේ රොටි ගත්තුමුත් දැන් ඒවා වේලී පූස්
13 බැඳුනේය. අප විසින් අළුත් සම් භාජන
වල මුද්‍රිකපානය පූරවාගත්තුමුත් දැන්
ඒවා ඉරී ගියෝය. ඉතා දුර ගමන නිසා
මේ අපේ වස්ත්‍රද වහනුද දිරුනේයයි කී
14 වෝය. ඉශ්‍රායෙල්වරු ඔවුන්ගේ කෑම
ගෙණ යෙහෝවඃවහන්සේගෙන් දැන
15 මුතුකම් නොවිචාලෝය. යෝෂුවා ඔ
වුන් සමග සමාදානව ඔවුන් ජීවත්වෙන
ලෙස පොරොන්දුවක් කලේය. සභාවේ
16 නායකයෝ ඔවුන්ට දිවුරුම් දුනෝය.
ඔවුන් සමග පොරොන්දුවුනු තුන් දවසක
ට පසුව ඔවුන් තමන්ගේ අසල්වාසියෝ
17 ව තමන් අතරෙහි වසන බව ඇසූවෝ
ය. ඉශ්‍රායෙල් පුත්‍රයෝද පිටත්ව තුන්වෙ
නි දින ඔවුන්ගේ නුවරවලට ආවෝය. ඔ
වුන්ගේ නුවරවල්නම් ගිබියොනුද කෙපි
18 රාද බෙරොත්ද කිර්ජත් ජෙයාරිම්ද යන
මේය. සභාවේ නායකයෝ ඉශ්‍රායෙල්
ගේ දෙවිවූ යෙහෝවඃවහන්සේගෙන්
ඔවුන්ට දිවුරුම් දුන් නිසා ඉශ්‍රායෙල් පුත්‍ර
යෝ ඔවුන් විනාසනොකලෝය. සියළු ස
19 භාවද නායකයන්ට විරුඩව කොඳුලෝ
ය. සියළු නායකයෝ කථාකොට අපි ඉ
ශ්‍රායෙල්ගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ
ගැන ඔවුන්ට දිවුරුම් දුන් බැවින් ඔවුන්
20 අල්ලන්ටනොහැකිවමුව. අපි ඔවුන්ට දි
වුල දිවුරුම නිසා අපට උදහස නොපැමි
21 ණෙන පිනිස ඔවුන් නොමරා මෙසේ කර
මුව. ඔවුන් ජීවත්වෙත්වා එහෙත් නාය
කයන් විසින් ඔවුන්ට දුන් පොරොන්දුව
ලෙස ඔවුන් සියළු සභාවට දර කපන්
නෝද දියඅදින්නෝද වෙත්වායි මුළු සභා
22 වට කීවෝය. යෝෂුවාද ඔවුන් කැඳවා

නුඹලා අප අතරේ සිටිද්දී අපි නුඹලා
ගෙන් ඉතා දුර සිට ආමුයයි කියා අපට
23 වංචාකලේ මන්ද? ඉන්නිසා නුඹලා නපු
රුසාප ලැබ දාසකමෙනුත් මාගේ දෙවි
යන්වහන්සේගේ මන්දිරයට දර කැපී
මෙනුත් දිය ඇදීමෙනුත් නුඹලාගෙන්
කිසිවෙක් නොගැලවෙනෙන්යයි කීයේ
24 ය. ඔවුන් යෝෂුවාට උත්තරදෙමින් නු
ඹේ දෙවිවූ යෙහෝවඃවහන්සේ නුඹලා
ට සියළු දේසය දෙන්ටත් නුඹලා ඉදිරි
යෙන් දේසයේ සියළු වැසියන් විනාසක
රන්ටත් උන්වහන්සේගේ මෙහෙකරුවූ
මෝසෙස්ට අනාඥා දුන් බව නුඹේ මෙ
හෙකරුවන්ට සැබවින් කියා තිබුන බැ
වින් අපි නුඹලා නිසා අපේ ජීවිතවල්
25 ගැන ඉතා භයව මේ දේ කලෙමුව. අපි
දූන් නුඹේ අතට අසුවූනිමුව. අපට කා
රන්ට නුඹට පෙනෙන ලෙස හරි සුදුසු
26 දේ කලමැනවයි කීවෝය. යෝෂුවා ඔ
වුන්ට එලෙසම කොට ඊශ්‍රායෙල් පුත්‍ර
යන් ඔවුන් නොමරණ පිනිස ඔවුන් අ
27 තින් ගලවාගතෙත්ය. ඔවුන් ඒ දවස ප
ටන් මේ වෙනතුරු සභාවටත් යෙහෝ
වඃවහන්සේ තෝරාගත් ස්ථානයෙහි පූ
ජාසනයටත් දර කපනන්නන් දිය අදින්නා
න් කොට නියමකලේය.

10. පරිච්ඡ. තවද යෝෂුවා ආයි අල්
වා මුලින්ම ඒක විනාසකොට යෙරිකෝ
වටද එහි රජුටද ඔහු කල ලෙස ආයිටද
එහි රජුටද කල බවත් ගිබියොන් වැසි
යෝ ඊශ්‍රායෙල් සමග සමාදානව ඔවුන්
අතරේ සිටින බවත් යෙරුසලමෙහි රජ
වූ අදෝනිසෙදෙක් අසා ඉතා භයපත්වි
2 ය. මක්නිසාද ගිබියොන් නුවර රජුන්
සතු නුවරක් මෙන් මහත්විය. ආයි නුව
රට වඩා මහත් නුවරක්ව තිබුනේය එහි
3 මනුෂ්‍යයෝ බලවන්තයෝය. එබැවින්
යෙරුසලම්හි රජවූ අදෝනිසෙදෙක්
හෙබ්‍රොන්හි රජවූ හෝහම්ටද යර්මූත්හි
රජවූ පිරම්ටද ලාකිෂ්හි රජවූ ජපෙයාටද
එග්ලොන්හි රජවූ දෙබීර්ටද පණිවිඩකා
4 රයන් යවා ගිබියොන් නුවර යෝෂුවාද
ඊශ්‍රායෙල් පුත්‍රයන් සමග සමාදානකල නි
සා ඒක නසන පිනිස නුඹලා මා වෙතට
ඇවිත් මට උපකාර වෙයල්ලයයි කීයේ
5 ය. එවිට යෙරුසලම්හි රජද හෙබ්‍රොන්
හි රජද යර්මූත්හි රජද ලාකිෂ්හි රජද
එග්ලොන්හි රජද යන අමෝරියයන්
ගේ රජ පස් දෙනා එකතුව ඔවුන්ගේ සි
යළු සේනාවත් සමග ගොස් ගිබියොන්
නුවර ඉදිරියෙහි අන්දයම් බැඳ ඊට විරු
6 ඩව යුඩ කලෝය. එවිට ගිබියොන් නුව
ර වැසියෝ පණිවිඩකාරයන් යවා කඳුව
ල වසන අමෝරියයන්ගේ සියළු රජව
රු අපට විරුඩව රැස්ව සිටිති. ඒ නිසා
නුඹේ මෙහෙකරුවන් අත්නැර අප වෙ
තට හනික ඇවිත් අප ගලවා අපට උප
කාර වෙයන්නා කියා ගිල්ගල් අන්දයමේ
7 සිටි යෝෂුවාට කීයේය. එවිට යෝෂුවා
සියළු යුඩකාරයන් සියළු බලවත් යෝධ
යන් සමග ගිල්ගල් සිට පිටත්ව ගියේය.
8 එවිට යෙහෝවඃවහන්සේ තාගේ අ
තට ඔවුන් පාවාදුනිමි ඔවුන්ගෙන් කිසි
වකුට තා ඉදිරියෙහි සිටින්ට බැරි නිසා
ඔවුන්ට භය නොවේවයි යෝෂුවාට වදා
9 ලසේක. එබැවින් යෝෂුවා ගිල්ගල්හි
සිට රාත්‍රි මුළුලෙල් ගොස් හදිස්සියෙන්
10 ඔවුන් වෙතට පැමිනියේය. යෙහෝවඃ
වහන්සේද ඊශ්‍රායෙල් ඉදිරියෙහි ඔවුන්
පරදවා මහත් විනාසයෙන් ගිබියොන්
ලගදී ඔවුන් මරා බෙත්හොරොන්ට ය
න මාර්ගයෙහි ඔවුන් පස්සේ එලවා
ගන ගොස් අසේකාඃ හා මක්කේදාඃ දක්
11 වා ඔවුන් නැසුසේක. ඔවුන් ඊශ්‍රායෙල්
ඉදිරියෙන් පලාගොස් බෙත්හොරොන්
ට බසින කල යෙහෝවඃවහන්සේ ම
හත් ගල් ඔවුන් පිට අහසෙන් අසේකාඃ
දක්වා හෙළුසේක. ඔවුන්ද නැසුනෝය.
ගල් වැස්සෙන් නැසුනු අය ඊශ්‍රායෙල්
පුත්‍රයන් විසින් කඩුවෙන් මැරූ අයට
12 වඩා බොහෝවිය. එවිට යෙහෝවඃව
හන්සේ ඊශ්‍රායෙල් පුත්‍රයන් ඉදිරියෙහි
අමෝරියයන් පාවාදුන් දවසේදී යෝෂු
වා යෙහෝවඃවහන්සේට කථාකොට
සූර්‍ය්‍යය නුඹ ගිබියොන් පිටද චන්ද්‍රය
නුඹ අජලොන් මිටියාවත පිටද සිටිලා
යයි ඊශ්‍රායෙල් ඉදිරියෙහි කීයේය. එවි
13 ට ජනයෝ ඔවුන්ගේ සතුරන්ගෙන් ප
ලිගන්නා තුරු සූර්‍ය්‍යාද චන්ද්‍රයාද නැවැ
තුනෝය. යාෂර්ගේ පොතේ මේකාර
ණාව ලියා තිබෙනෙත් නැද්ද? මෙසේ
සූර්‍ය්‍යා අහස මැද සිට දවස මුළුල්ලේම
14 බසින්ට ඉක්මන් නොකලේය. ඊට
පලමුවෙන්වත් පසුවවත් යෙහෝවඃව
හන්සේ මනුෂ්‍යයෙකුගේ හඩ අසා ඊශ්‍රා
යෙල් වෙනුවට සටන් කල නිසා ඒ ආකා
15 ර දවසක් නොවිය. යෝෂුවාද ඔහු සමග

සියළු ඊශ්‍රායෙල්ද ගිල්ගල්හි අන්දයමට
16 හැරී ගියෝය. එහෙත් රජ්ජුන් පස් දෙන
පලාගොස් මක්කේදාහි ගුහාවක සැඟ
17 වුනෝය. ඒ රජ්ජුන් පස්දෙනා මක්කේදා
හි ගුහාවක සැඟවී සිටින බව යෝෂුවා
18 ට ආරංචිවිය. යෝෂුවා ගුහාවේ දොරක
ඩ ලොකු ගල් පෙරලා ඔවුන්ට මුර හි
ටින්ට මිනිසුන් තබා තුබලාගේ දෙවිවූ
19 යෙහෝවාවහන්සේ තුබලා අතට ඔ
වුන් පාවාදුන් නිසා තුබලා පමානොව
සතුරන් එලවාගණගොස් පස්සේ සිටින්
නන්ට පහරදී ඔවුන්ගේ නුවරවලට ඇ
තුල්වෙනතට නොදෙල්ලායයි කීයේය.
20 යෝෂුවාද ඊශ්‍රායෙල් පුත්‍රයෝද ඔවුන් වි
නාසවෙනතුරු ඉතා මහත් නැසීමකින්
ඔවුන් මරා නිමකලායින් පසු ඔවුන්
ගෙන් ඉතිරි අය ආරක්‍ෂා ඇති නුවරවල
21 ට ඇතුල්වුනෝය. සියළු ජනයෝ මක්
කේදාහි අඩයමේ සිටි යෝෂුවා වෙත
ට සමාදානයෙන් හැරුනෝය. ඊශ්‍රායෙල්
පුත්‍රයන්ගෙන් කිසිවෙකුට විරුධව කට
22 රෙක්වත් කතිකා නොකලේය. එවිට
යෝෂුවා ගුහාවේ දොර ඇර ඒ රජ්ජුන්
පස් දෙනා ගුහාවෙන් පිටත මා වෙතට
23 ගෙනෙල්ලායයි කීයේය. ඔවුන් එසේ
කොට යෙරුසලම් රජද හෙබ්‍රොන් රජ
ද යර්මුත් රජද ලාබිෂ් රජද එග්ලොන්
රජද යන රජ්ජුන් පස් දෙනා ගුහාවෙන්
24 පිටත ඔහු වෙතට ගෙනාවෝය. ඔවුන්
ඒ රජ්ජුන් යෝෂුවා වෙතට ගෙනා කල
යෝෂුවා ඊශ්‍රායෙල් සියළු මනුෂ්‍යයන්
කැඳවා ලඟට ඇවිත් තුබලාගේ කකුල්
මේ රජ්ජුන්ගේ බෙල්ල පිට තබාපල්ලා
යයි ඔහු සමග ගිය සේනාධිපතියන්ට
කීයේය. ඔවුන්ද ලංව ඔවුන්ගේ ක
කුල් ඔවුන්ගේ බෙල්ල පිට තැබුවෝ
25 ය. යෝෂුවා ඔවුන්ට කියනුයේ තුබලා
ට විරුධව යුධකරණ තුබලාගේ සියළු
සතුරන්ට යෙහෝවාවහන්සේ මෙසේ
කරණ නිසා භය නොව තැති නොගෙ
න බලවත්ව සිත්දැඩි වෙයල්ලායයි කීයේ
26 ය. ඉන්පසු යෝෂුවා ඔවුන්ට පහරදී මරා
ගස් පසක එල්ලුයේය. ඔවුන් සවස්වෙ
27 නතුරු ගස්වල එල්ලී තිබුනෝය. ඉර බ
සින කල ඔවුන් ගස්වලින් බා ඔවුන් සැ
ඟවී සිටිය ගුහාවේ දමා අද දක්වා තිබෙ
න මහත් ගල් ඒ ගුහා දොරකඩ තබාප
28 නන කියා යෝෂුවා අණකෙලේය. ඒ ද
වසෙහි යෝෂුවා මක්කේදා අල්වා කඩු
මුවහතින් ඒකට පහරදී එහි රජ්ජුද කිසි
වෙකුවත් ඉතුරු නොකොට සියළු ප්‍රානී
න් මුලින්ම විනාසකොට යෙරිකෝ රජ්ජු
ට කලාක්මෙන් මක්කේදා රජ්ජුටත් ක
29 ලේය. එවිට යෝෂුවා සියළු ඊශ්‍රායෙල්
සමග මක්කේදා පටන් ලිබ්නා දක්වා
ගොස් ලිබ්නාට විරුධව යුධකලේය.
30 යෙහෝවාවහන්සේද ඒ නුවරත් එහි ර
ජත් ඊශ්‍රායෙල්ගේ අතට පාවාදුන්සේක.
ඔහුද ඒකටද එහි සියළු ප්‍රානීන්ටද කඩු
මුවහතින් පහරදී එහි තුල කිසිවකු ඉ
තුරු නොකොට යෙරිකෝ රජ්ජුට කලාක්
31 මෙන් එහි රජ්ජුටත් කලේය. යෝෂුවාද
සියළු ඊශ්‍රායෙල් සමග ලිබ්නා පටන් ලා
බිෂ් දක්වා ගොස් අඩයම් බැඳ ඊට විරු
32 ධව යුධකෙලේය. යෙහෝවාවහන්සේ
ද ලාබිෂ් ඊශ්‍රායෙල් අතට පාවාදුන්සේ
ක. ඊශ්‍රායෙල්ද දෙවෙනි දවස ඒක ගෙ
න කඩුමුවහතින් ඒකටත් එහි සිටින සි
යළු ප්‍රානීන්ටත් ලිබ්නාට කල සියල්ල
33 ලෙස පහර දුන්නේය. එවිට ගේසර්හි
රජවූ හෝරම් ලාබිෂ්ට උපකාරවෙන්ට
ආයේය. යෝෂුවාද ඔහුටද ඔහුගේ ජන
යන්ටද කිසිවෙක් ඉතුරු නොවෙනතු
34 රු පහර දුනෝය. යෝෂුවාද සියළු ඊ
ශ්‍රායෙල් සමග ලාබිෂ් පටන් එග්ලොන්
දක්වා ගොස් අඩයම් බැඳ ඊට විරුධව
35 යුධකලෝය. ඔවුන් ඒ දවස ඒක ගෙන
ඒකද එහි සිටි සියළු ප්‍රානීන් ලාබිෂ්ට ක
ල සියල්ල ලෙස කඩුමුවහතින් එදවස්හි
36 ම මුලින්ම විනාස කලෝය. යෝෂුවාද
සියළු ඊශ්‍රායෙල් සමග එග්ලොන් පටන්
37 හෙබ්‍රොන් දක්වා ගොස් ඊට විරුධව යුධ
කොට ඒක ගෙන ඒකටද එහි රජ්ජුටද
එහි සියළු නුවරවලටද එහි සිටි සියළු
ප්‍රානීන්ටද කඩුමුවහතින් පහරදී එග්
ලොන්ට කල සියල්ල ලෙස කිසිවකු ඉතු
රු නොකොට ඒකද එහි සිටි සියළු ප්‍රානී
38 න් මුලින්ම විනාසකෙලේය. යෝෂුවා සි
යළු ඊශ්‍රායෙල් සමග දේබිර්ට විරුධව යු
39 ධකොට ඒකද එහි රජ්ජුද එහි සියළු නුවර
වල්ද අල්ලාගෙන කඩුමුවහතින් ඔවුන්
ට පහරදී එහි සියළු ප්‍රානීන් මුලින්ම වි
නාසකලේය. ඔහු හෙබ්‍රොන්ටත් එහි ර
ජ්ජුටත් ලිබ්නාටත් කලාක්මෙන් කිසිවකු
ඉතුරු නොකොට දේබිර්ටද එහි රජ්ජුට
ද කලේය.

40 මෙසේ යෝෂුවා මුළු පර්වත දේසයටද
දකුණු දිග දේසයටද නිම්නස්ථාන දේස

යටද උල්පත් දේසයටද එහි සියළු රජුන්
ටද පහරදී එහි කිසිවෙකු ඉතුරු නො
කොට ඊශ්‍රායෙල් දෙවිවූ යෙහෝවාව
හන්සේ අනකල ලෙස හුස්ම අරින සිය
41 ල්ල මුලින්ම විනාශ කෙලේය. යෝෂුවා
ද කාදෙෂ්බර්ණියා පටන් ගාසා දක්වා
ද ගිබියෝන් දක්වාද ගෝෂෙන් දේසය
42 මුළුල්ලට පහරදී ඊශ්‍රායෙල්ගේ දෙවිවූ
යෙහෝවාවහන්සේ ඊශ්‍රායෙල් වෙනුව
ට යුඬකල නිසා ඒ සියළු රජුන්ද දේසයද
43 එක වරම ගෙන සියළු ඊශ්‍රායෙල් සමග
ගිල්ගල්හි අන්ඩයමට හැරී ගියේය.

11. පරිචෙඡ. ඉන්පසු හාසෝර්හි රජ
වූ ජාබින් මේ දේ ඇසූවිට මාදොන්හි ර
ජවූ ජෝබබ්ටද ශිම්රෝන්හි රජුටද අ
2 ක්ෂාප්හි රජුටද කඳුවල උතුරු පැත්තෙ
හිද කින්නෙරෙත්හි දකුණු දිග සමභූමියෙ
හිද මිටියාවතෙහිද බස්නාහිර දෝර්හි
3 තීරයෙහිද සිටින රජවරුන්ටද පූර්වදිග
සහ බස්නාහිර දිග කනානීයයන්ටද අ
මෝරීයයන්ටද හිත්තීයයන්ටද පෙරිසිය
යන්ටද කඳුවල සිටින ජෙබුසීයයන්ටද
මිස්පා දේසයෙහි හෙර්මොන් යටතෙහි
හිව්වීයයන්ටද පණිවිඩකාරයන් යවූයේ
4 ය. ඔවුහු තමන්ගේ සියළු සමූහයෝද
වෙරළේ වැලි මෙන් බොහෝ ජනයෝද
අශ්වයන්ද රථද සමග පිටත ගියෝය.
5 මේ සියළු රජුන්ම එක්ව ඊශ්‍රායෙල්වරුන්
ට විරුඬව යුඬකරන්ට මේරොම්හි ගිල්ම
6 ළඟට ඇවිත් රැස්ව සිටියෝය. යෙහෝ
වාවහන්සේ යෝෂුවාට කථාකොට හෙ
ට මේ පමන වේලාවට ඊශ්‍රායෙල් ඉදිරි
යෙහි ඔවුන් සියල්ලන් මරා පාවාදෙන්
නෙමි ඒ නිසා ඔවුන් ගැන භය නොව
ව. ඔවුන්ගේ අශ්වයන්ගේ කුදි කපා ඔ
වුන්ගේ රථ ගිණෙතාන් දවව්යයි වදාල
7 සේක. එවිට යෝෂුවාද සියළු යුඬ සමූහ
වද මේරොම්හි ගිල්ම ළඟ ඔවුන්ට විරු
ඬව හදිස්සියෙන් ඇවිත් ඔවුන් මැදට
8 වැදුනෝය. යෙහෝවාවහන්සේද ඊශ්‍රා
යෙල්ගේ අතට ඔවුන් පාවාදුන්සේක.
ඔවුහු ඔවුන්ට පහරදී මහත්වූ සීදොන්
දක්වාද මිස්රෙපොත් මායිම් දක්වාද නැ
ගෙනහිර මිස්පැක්හි මිටි තැන දක්වාද
ඔවුන් එලවා ඔවුන්ගෙන් කිසිවෙක් ඉ
9 තුරු නොකොට මැරුවෝය. යෝෂුවා
ද යෙහෝවාවහන්සේ ඔහුට අනකල
ලෙස ඔවුන්ගේ අශ්වසින්ගේ කුදි කපා
10 රථ ගිනෙතාන් දැවූයේය. පූර්වයෙන් ඒ
සියළු රාජ්‍යවලට හාසෝර් රජ ප්‍රධාන
හෙයින් යෝෂුවා එවේලෙහි අපසු හැ
රී හාසෝර් අල්වාගෙන එහි රජුට කඩු
11 වෙන් පහරදී එහි වසන සියළු ප්‍රාණීන්ට
කඩුමුවහතින් පහරදී ඔවුන් මුලින්ම වි
නාශ කෙලේය. හුස්ම එලන කිසිවෙක්
ඉතුරුව නොතිබුනේය. හාසෝර්ද ගි
12 නෙතාන් දැවූයේය යෝෂුවා මේ සියළු
රජුන්ගේ නුවරවල්ද සියළු රජුන් අල්
වා යෙහෝවාවහන්සේගේ මෙහෙක
රුවූ මෝසෙස් අනකල ලෙස කඩුමුවහ
තින් ඔවුන්ට පහරදී ඔවුන් මුලින්ම වි
13 නාශ කලේය. යෝෂුවා හාසෝර් පම
නක් දැවූයේය. ශක්තිමත්ව තිබුන අ
නික් නුවරවලින් කිසි නුවරක් ඊශ්‍රා
14 යෙල්වරු නොදැවූවෝය. මේ නුවරවල
සියළු කොල්ල බඩුද සිව්පාවුන්ද ඊශ්‍රා
යෙල් පුත්‍රයෝ තමන්ටම ගොදුරු පිනි
ස ගෙන සියළු මනුෂ්‍යයන් කඩුමුවහතින්
පහරදී හුස්ම එලන කිසිවෙක් ඉතුරු
15 නොකොට විනාශ කලෝය. යෙහෝවා
වහන්සේ තමන් මෙහෙකරුවූ මෝ
සෙස්ට අනකල ලෙස මෝසෙස් යෝ
ෂුවාට අනකෙලේය. යෝෂුවාද එසේ
කොට යෙහෝවාවහන්සේ මෝසෙස්ට
අනකල සියල්ලෙන් කිසිවක් නොකො
16 ට හැරියේ නැත. යෝෂුවාද සිර් දෙසට
17 යන පාරේ හලක් පර්වතය පටන් හැ
ර්මොන් පර්වතය ළඟ ලෙබනොන්හි මි
ටි තැන බාල්ගද් දක්වා කඳුද දකුණු දිග
සියළු රටද සියළු ගෝෂෙන් දේසයද මි
ටි තැන්ද සමභූමියද ඊශ්‍රායෙල්ගේ පර්වත
යද එහි මිටි තැනද යන සියළු දේසය
අල්වාගෙන එහි රජුන් අල්වා ඔවුන්ට
18 පහරදී මැරුයේය. යෝෂුවාද ඒ සියළු
රජුන් සමග බොහෝ කල් යුඬ කෙලේ
19 ය. ගිබියෝන්හි වසන හිව්වීයයන් හැර
ඊශ්‍රායෙල් පුත්‍රයන් සමග සමාදාන කල
නුවරක් නොතිබුනේය. ඔවුන් අන් සි
20 යල්ල යුඬයේදී අල්වාගත්තෝය. ඔවුන්
කෙරෙහි අනුකම්පා නොකොට යෙ
හෝවාවහන්සේ මෝසෙස්ට අනකල
හැටියට ඊශ්‍රායෙල්තවරුන් විසින් ඔවුන්
මුලින්ම විනාශකරනු ලබන පිනිස ඊශ්‍රා
යෙල්වරුන්ට විරුඬව යුඬයට එන ලෙ
ස යෙහෝවාවහන්සේ ඔවුන්ගේ සිත්
දැඩිකලසේක.
21 එවලේම යෝෂුවා කන්දෙනුත් හෙ

බ්‍රොන්ගෙනුත් දෙබීර්ගෙනුත් අනබ්
ගෙනුත් යූදාහි ඊශ්‍රායෙල්හි සියලු කඳුව
ලිනුත් අනාකියයන් ඔවුන්ගේ නුවරවල්
22 සමග මුලින්ම විනාශ කෙළේය. ගාසාහි
ද ගත්හිද අෂ්දොද්හිද හැර ඊශ්‍රායෙල්
පුත්‍රයන්ගේ දේශයෙහි අනාකියවරුන්
ගෙන් කිසිවෙකුත් ඉතුරු නුවූයේය.
23 යෙහෝවාවහන්සේ මෝසෙස්ට කී සිය
ල්ල ලෙස ඒ මුළු දේශය යෝෂුවා අල්
වාගෙන ගෝත්‍රවල බෙදීම් හැටියට ඊ
ශ්‍රායෙල්වරුන්ට ඒක උරුමයක් කො
ට දුන්නේය. දේශය යුද්ධයෙන් නිවාඩු
වූයේය.

12. පරිච්ඡේ. නැගෙණහිරින් අ
ර්ණොන් ගංගාව පටන් හෙර්මොන් ප
ර්වතයද පෙර දිග සියලු සමතලාවල්ද ද
ක්වා යොදීන් එතරින් ඊශ්‍රායෙල් පුත්‍ර
යන් පහරදී තිබ්බූ දේශයෙහි රජුන් මෙ
2 ය. අර්ණොන් ගංගා ඉවුරේ අරොඒර්
ද ගංගාවේ මැදද ගිලියද් භාගයක්ද ප
ටන් අම්මොන් පුත්‍රයන්ගේ සීමාව වන
3 යබ්බොක් ගඟ දක්වාද සම්බිවෙ පටන්
නැගෙණහිර කිනෙරෙත් මුහුදද බෙත්
ජෙසිමොතට යන මඟ නැගෙණහිර
සම්බිවෙහිවූ ලුණු මුහුද දක්වාද දකුණු දි
ගින් අස්දොත් පිස්ගා පහළ ආන්ඩුකල
හෙශ්බොන්හි විසූ අමෝරිවරුන්ගේ සී
4 හොන් රජුද හෙර්මොන් පර්වතයෙහිද
සල්කායෙහිද ගෙෂූරිවරුන්ගේ සහ මා
ඛාතිවරුන්ගේ සීමාව දක්වා සියලු බශන්
5 හිද හෙශ්බොන්හි සිහොන් රජගේ සී
මාව වන ගිලියද් දේශයෙන් භාගයක්
හිද රජකම් කලාවූ අෂ්තාරොත් සහ එ
ද්‍රෙයිහි විසූ යෝධයන්ගෙන් ඉතිරිවූ බ
ශන්හි ඔග් රජුගේ සීමාවද යන මොවුන්
6 ට යෙහෝවාවහන්සේගේ මෙහෙකරු
වූ මෝසෙස්ද ඊශ්‍රායෙල් පුත්‍රයෝද පහ
ර දුන්නෝය. යෙහෝවාවහන්සේගේ
මෙහෙකරුවූ මෝසෙස් ඒ රට රූබෙන්
වරුන්ටත් ගද්වරුන්ටත් මනස්සෙස්
ගේ අඩ ගෝත්‍රයටත් උරුමකොට දුන්
නේය.
7 ලෙබනොන් මිටිතැන බාල්ගද් පටන්
සීර් දෙසට යන මඟ හළක් පර්වතය ද
ක්වා බස්නාහිරින් යොදීන් මෙගොඩ
යෝෂුවා හා ඊශ්‍රායෙල් පුත්‍රයන් විසින්ද
පහර දුන්නාවූ ඊශ්‍රායෙල් ගෝත්‍රවලට ඔ
වුන්ගේ බෙදීම් ලෙස යෝෂුවා උරුම
කොට දුන්නාවූ රටේ රජවරු මොවුන්
8 ය. කඳුවලද මිටිතැන්වලද සමබිම්වලද
උල්පත්වලද වනාන්තරවලද දකුණු දේ
සයේද සිටි හිත්තිවරුද අමෝරිවරුද කා
නානිවරුද පෙරිසිවරුද හිව්වරුද ජෙ
9 බුසිවරුද යන මොවුන්ය. යෙරිකෝවේ
රජ එකෙක. බෙතැල් අසල ආයි රජ එ
10 කෙක. යෙරුසලම්හි රජ එකෙක. හෙ
11 බ්‍රොන්හි රජ එකෙක. යර්මුත්හි රජ
12 එකෙක. ලාකිෂ්හි රජ එකෙක. එග්
ලොන්හි රජ එකෙක. ගෙසෙර්හි රජ
13 එකෙක. දෙබීර්හි රජ එකෙක. ගෙ
14 දෙර්හි රජ එකෙක. හොර්මාහි රජ එ
15 කෙක. අරද්හි රජ එකෙක. ලිබ්නාහි
රජ එකෙක. අදුලම්හි රජ එකෙක.
16 මක්කේදාහි රජ එකෙක. බෙතෙල්හි
17 රජ එකෙක. තප්පුවාහි රජ එකෙක. හෙ
18 ෆෙර්හි රජ එකෙක. අපෙක්හි රජ එ
19 කෙක. ලෂරොන්හි රජ එකෙක. මා
දොන්හි රජ එකෙක. හසෝර්හි රජ එ
20 කෙක. සිම්රොන් මෙරොන්හි රජ එකෙ
21 ක. අක්ෂාප්හි රජ එකෙක. තානක්හි රජ
22 එකෙක. මෙගිද්දෝ රජ එකෙක. කෙ
දෙෂ්හි රජ එකෙක. කර්මෙල්හි යොක්
23 නියම් රජ එකෙක. දෝර් අන සීමාවේ
දෝර් රජ එකෙක. ගිල්ගල්හි වශීකවල
24 රජ එකෙක. තිර්සාහි රජ එකෙක. සිය
ලු රජදරුවෝ එක් තිස් දෙනෙක.

13. පරිච්ඡේ. යෝෂුවාද වයස්ගතව
මහලුවූ කල යෙහෝවාවහන්සේ ඔහුට
කථාකොට වයස්ගතව තෝ මහලුව සි
ටිනෙහිය. හිමිවෙන්ට තවත් නො
2 යෙක් රටවල් තිබෙනේය. තවම ඉ
තුරුව තිබෙන රට මෙය. පිලිස්තියයන්
ගේ සියලු සීමාද මුළු ගෙෂූරියද මිසර
යෙහි ඉදිරිපිට තිබෙන සීහෝර් පටන්
3 උතුරෙන් කනානිවරුන්ට අයිති එ
ක්‍රොන්හි සීමාව දක්වාද ගාසත්වරුද
අෂ්දොදිවරුද එෂ්කලොන්වරුද ගිති
වරුද එක්‍රොන්වරුදයි පිලිස්තිවරුන්
ගේ ස්වාමිවරු පස්දෙනාද ආවිවරුද ද
4 කුණෙන් කනානිවරුන්ගේ සියලු රට
ද සිදොනිවරුන්ට ලංවූ මිරා පටන් අ
ෆෙක්ද අමෝරිවරුන්ගේ සීමා දක්වාද
5 ගිබ්ලිවරුන්ගේ රටද නැගෙණහිර මුළු
ලෙබනොනද හෙර්මොන් පර්වතය පහළ
බාල්ගත් පටන් හමත්ට ඇතුල්වෙන තැ
6 න දක්වාද ලෙබනොන් පටන් මිස්‍රෙපොත්

මායිම්ද මූළු සිදෝනිය දක්වා කඳු රට සි
යළු වැසියෝද යන මොවුන් ඊශ්‍රායෙල්
පුත්‍රයන්ගේ ඉදිරියෙන් අඬවනෙනෙමි.
මා විසින් තට අනදුන් ලෙස ඒවා කො
ටස් වශයෙන් ඊශ්‍රායෙල්වරුන්ට උරුම
7 යක් කොට බෙදව. එබැවින් දැන් මේ
දේශය ගෝත්‍ර නවයටත් මනස්සෙස්ගේ
අඩ ගෝත්‍රයටත් බෙදවයි වදාලසේක.
8 මනස්සෙස්ගේ අඩ ගෝත්‍රයද රූබෙනව
රූද ගද්වරූද නැගෙනහිර යොර්දන් එ
තර යෙහෝවඃවහන්සේගේ මෙහෙක
9 රුවූ මෝසෙස් ඔවුන්ට දුන් අර්නෝන්
ගංගාවේ ඉවුරු පිට තිබෙන අරොවේර්ද
ගඟ මැද තිබෙන නුවරද මේදිබාහි සි
යළු තලාවද පටන් දිබොන් දක්වාද හෙෂ්
10 බොන්හි ආන්ඩුකල අමෝරිය රජවූ සි
හොන්ගේ සියළු නුවරවල් පටන් අම්
මොන් පුත්‍රයන්ගේ සීමාවල් දක්වාද ගි
11 ලියද්ද ගෙෂූරියන්ගේද මාඛාතීන්ගේ
ද සීමාවද සියළු හෙර්මෝන් පර්වතයද සි
යළු බශානු පටන් සල්කාඃ දක්වාද අස්තා
12 රොත්හිද එද්‍රෙයිහිද රජකල යෝධයන්
ගෙන් ඉතුරුව සිටි බශාන්හි ඔග්ගේ සි
යළු රාජ්‍යයද යන මේ රට තමන් උරුම
යක්කොට ඔවුන් පිලිගත්තෝය. මක්නි
සාද මේවාට මෝසෙස් පහරදී ඔවුන් බැ
13 හැර කෙලේය. ඊශ්‍රායෙල් පුත්‍රයෝ ගෙ
ෂූරියනුත් මාඛාතීයනුත් බැහැර නො
කොට ගෙෂූරියයෝද මාඛාතීයයෝද
ඊශ්‍රායෙලිතවරුන් අතරේ මේ දවස
14 දක්වා වාසයකරති. ලෙවී ගෝත්‍රයට
පමනක් ඔහු කිසි උරුමයක් නුදුන්
නේය ඔවුන්ට කී ලෙස ඊශ්‍රායෙල්
ගේ දෙවිවූ යෙහෝවඃවහන්සේට ගින්
නෙන් කරණ යාගවල් ඔවුන්ගේ උරු
මය විය.

15 මෝසෙස්ද රූබෙන් පුත්‍රයන්ගේ
ගෝත්‍රයට ඔවුන්ගේ පවුල් ලෙස උරුම
16 කොට දුන්නේය. ඔවුන්ගේ සීමාව අ
ර්නෝන් ගං ඉවුර පිට තිබෙන අරෝ
17 වේර් පටන් ගඟ මැද තිබෙන නුවරද
මේදිබා ලඟ සියළු තලාවද හෙෂ්බොනු
තලාවේ තිබෙන සියළු නුවරවල්ද දි
බොනු බමොත්බාල්ද බෙත්බාල්මියො
18 නු ජාසාද කෙදිමොත්ද මෙපාත්ද කිර
19 ජතයින්ද සිබ්මාද දෙනියේ පර්වතයෙ
20 හිවූ සෙරෙත්ෂහර්ද බෙත්පියෝර්ද අස්
21 දොත් පිස්ගාඃද බෙත්ජෙසිමොත්ද තලා
වේ සියළු නුවරවල්ද සිහොන් රටේ සේ
නාධිපතිවූ මිදියනීය එවී රෙකෙම් සූරි
හූර් රෙබාහි යන ප්‍රධානීවරුන් සමග
මෝසෙස් පහර දුන්නාවූ හෙෂ්බොන්හි
රජකල අමෝරිය රජහුගේ සියළු සි
22 හොන් රජ දක්වා විය. ඊශ්‍රායෙල් පුත්‍ර
යෝ මැරූවන් අතරේ සිටි බෙයෝර්ගේ
පුත් බාලම් විජ්ජාකාරයා කඩුවෙන් මැ
23 රූවෝය. රූබෙන් පුත්‍රයන්ගේ සීමාව
යොර්දන් එහි තීරය විය. රූබෙන් පුත්‍ර
යන්ගේ පවුලේ උරුමවූ නුවරවල්ද ගම්
ද මේය.

24 මෝසෙස් ගද් ගෝත්‍ර දරුවන්ගේ
පවුල් ලෙස ඔවුන්ට උරුමයක් දුන්නෝ
25 ය. ඔවුන්ගේ සීමාව ජාසර්ද ගිලියද්හි
සියළු නුවරවල්ද රබ්බ ඉදිරියෙහි අරෝ
වේර් දක්වා අම්මොන් පුත්‍රයන්ගේ ර
26 ටේ පංගුවද හෙෂ්බොන් පටන් රමත්
මිස්පෙඃ සහ බෙතොනිම් දක්වාද මහනෙ
27 සිම් පටන් දිබර් සීමාව දක්වාද දෙනි
යෙහි බෙත්අරම්ද බෙත්නිම්රාද සුක්
කොත්ද හෙෂ්බොන් රජුගේ සිහොන්
රාජ්‍යයෙන් ඉතුරු සපොන් දක්වාද යො
ර්දනු එහි සීමාව පටන් පෙර දිගින් යො
ර්දනෙන් අනික් පැත්තේ කිනෙරෙත් මු
28 දේ වෙරල දක්වාද විය. නුවරවල්ද
ගම්ද ගද් පුත්‍රයන්ගේ පවුල් ලෙස උ
රුමය මේය.

29 තවද මෝසෙස් මනස්සෙස්ගේ අඩ
30 ගෝත්‍රයට උරුමයක් දුන්නේය. ඔවුන්
ගේ සීමාව මහනෙසිම්ද සියළු බශානු බ
ශාන්හි ඔග් රජුගේ සියළු රාජ්‍යයද ජායීර්
ගේ සියළු බශාන්හි නුවරවල් හැටද ගි
31 ලියද් දේශයෙන් භාගයක්ද අස්තා
රොත්ද එද්‍රෙයිද මනස්සෙස්ගේ පුත් මඛීර්
පුත්‍රයන්ගෙන් භාගයකට ඔවුන්ගේ ප
වුල් ලෙස තිබිවූ බශාන්හි ඔග්ගේ රාජ්‍ය
යෙහි නුවරවල් දක්වා මනස්සෙස් පුත්‍ර
32 යන්ගේ පවුල් ලෙස උරුම විය. මෝ
සෙස් විසින් යෙරිබෝවට නැගෙනහි
ර යොර්දනේ අනික් පැත්තේ මෝවබ්
ගේ තලාවලදී උරුමයක් කොට බෙදූ
33 රටවල් මේය. එහෙත් ලෙවී ගෝත්‍රයට
කිසි උරුමයක් නුදුන්නේය. ඊශ්‍රායෙල්
ගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ තමන්
වහන්සේ ඔවුන්ට කී ලෙස ඔවුන්ගේ
උරුමය විය.

14. පරිච්ඡේ. පූජකවූ එලියාසර්ද නූන්
ගේ පුත් යෝෂුවාද ඊශ්‍රායෙල් පුත්‍රයන්

ගේ ගෝත්‍රවල පියවරුන්ගේ මූලාදෘනි
වරුද උරුම පිනිස බෙදූ කනාන් දේස
යෙහි ඊශ්‍රායෙල් පුත්‍රයන්ට උරුම මේය.
2 ගෝත්‍ර නවයකටත් ගෝත්‍ර භාගයකටත්
යෙහෝවඃවහන්සේ මෝසෙස් ලවා අ
ණකල ලෙස ඇදූ ඇට දැමීමෙන් උරුම
3 විය. මෝසෙස් ගෝත්‍ර දෙකකටත් ගෝ
ත්‍ර භාගයකටත් යොර්දානෙන් එගොඩ
4 උරුමය දුනෙන්ය. යෝසෙප්ගේ පුත්‍රවූ
මනස්සෙද එප්‍රායිම්ද ගෝත්‍ර දෙකක්වූ
බැවින් ඔවුන් අතරෙහි ලෙවියයන්ට
කිසි උරුමයක් නොදී ඔවුන්ගේ හිඳිමට
නුවරවල්ද ඔවුන්ගේ සිවුපාවුන්ට හිවින්
ටත් දේපල තබන්ටත් පිට නුවරවල්ද
ලෙවියයන්ට දුන්නා මිස දේසයෙහි
5 කොටසක් නුදුනෙනාය. යෙහෝවඃව
හන්සේ විසින් මෝසෙස්ට අණකල ලෙ
ස ඊශ්‍රායෙල් පුත්‍රයෝ දේසය බෙදුවෝ
6 ය. එවිට යූදාගේ පුත්‍රයෝ ගිල්ගල්හි සි
ටි යෝෂුවා වෙතට ආවෝය. කෙනේසිය
වූ යෙපුනේගේ පුත් කාලෙබ් කථාකො
ට යෙහෝවඃවහන්සේ දෙවියන්වහන්
සේගේ මනුෂ්‍යෘවූ මෝසෙස්ට කාදෙෂ්බ
ර්ණියාවෙහි මාත් නුඹත් ගැන කී දේ
7 නුඹ දන්නෙහිය. යෙහෝවඃවහන්සේ
ගේ මෙහෙකරුවූ මෝසෙස් දේසය ඔත්
තු බලන්ට කාදෙෂ්බර්ණියා හිට මා ය
වූ කල සතලිස් අවුරුද්දක් වයස් ඇතිවි
මි. මගේ සිතේ තිබුන ලෙස ඔහුට ආරංචි
8 ගෙනායෙමි. නුමුත් මා සමග ගිය මාගේ
සහෝදරයෝ ජනයන්ගේ සිත් මලානි
ක කලෝය. මම මාගේ දෙවිවූ යෙහෝ
වඃවහන්සේ කැටුව සම්පූර්ණ ලෙස ගි
9 යෙමි. මෝසෙස් එදා දිවුරමින් මාගේ
දෙවිවූ යෙහෝවඃවහන්සේ කැටුව නුඹ
සම්පූර්ණ ලෙස ගිය නිසා සැබවින් නුඹ
පයින් පෑගූ දේසය නුඹෙත් නුඹේ පුත්‍ර
යන්ගේත් සදාකාල උරුමය වනෙන්යයි
10 කීයේය. යෙහෝවඃවහන්සේ තමන් කී
ලෙස ඊශ්‍රායෙල් පුත්‍රයන් වනයෙහි හැසු
රුණු මේ සතලිස් පස් අවුරුද්ද මුළුල්ලෙ
හි උන්වහන්සේ මෝසෙස්ට මේ වචන
කී දා සිට මා පනපිටින් රක්‍ෂාකලසේක.
මේ දවසෙහි මට අසූපස් අවුරුද්දක් ව
11 යස් ඇත. මෝසෙස් මා එවූ දවස මෙන්
මේ දවසේ මම බලවත්යෙමි යුඬය පිනි
ස පිටතට යන්ටත් ඇතුලට එන්ටත් මා
ගේ බලය එකල තිබුනාක්මෙන් දැනුත්
12 ඇතෙත්ය. එබැවින් යෙහෝවඃවහන්
සේ ඒ දවස කී මේ පර්වතය මට දියනාන.
ඒ දවස එහි අනාකිම්වරුන් සිටි බවද ඒ
නුවරවල් මහත් පවුරුවලින් වටව තිබු
ණු බවද නුඹ ඇසූයෙහිය. නුමුත් යෙ
හෝවඃවහන්සේ මා සමග සිටිනසේක්
නම් උන්වහන්සේ කී ලෙස ඔවුන් අඹ
13 වන්ට හැකිවෙමියි කීයේය. යෝෂුවාද
ඔහුට ආශීර්වාදකොට යෙපුනේගේ පුත්
කාලෙබ්ට හෙබ්‍රොන් උරුමයක් කොට
14 දුනෙන්ය. එබැවින් කෙනේසියවූ යෙපු
නේගේ පුත් කාලෙබ් ඊශ්‍රායෙල්ගේ දෙ
විවූ යෙහෝවඃවහන්සේ කැටුව සම්පූ
ර්ණ ලෙස ගිය නිසා හෙබ්‍රොන් මේ ද
15 වස දක්වා ඔහුගේ උරුමය විය. පලමු
වෙන් හෙබ්‍රොන්ගේ නම කිර්ජත්අර්බා
විය. අර්බා අනාකිම්වරුන් අතරෙහි ශ්‍රෙ
ෂ්ඨයෙක් විය. දේසයද යුඬයෙන් නිවා
ඩු ලැබුයේය.

15. පරිච්ජ. යූදා පුත්‍රයින්ගේ පවුල
ලෙස ඒ ගෝත්‍රයෙහි උරුමය මේය. ඒ
දෝම්හි තීරය දක්වා දකුණු දිගින් කෙල
2 වරට ඉම සීන් යන වනාන්තරය වේ. දකු
ණෙන් පෙනෙන වරයත් එනු මූද වෙර
3 ලත් ඔවුන්ගේ දකුණු මායිම විය. ඒක
මාලඃ අක්‍රබිම්ටත් සීන් දේසයටත් කා
දෙෂ් බර්ණියාවෙහි දකුණු පැත්තට
නැගී දකුණු දිගට නික්ම ගියේය. ඒක
ඇස්රොන් හිට අදූර් දක්වා ගොස් කකී
4 වෙට ගියේය. එතැන් පටන් අස්
මොන් දිසාව පසුකොට මිසරයෙහි ගං
ගාව දක්වා නික්ම ගියේය. ඒ වෙරලෙ
හි කෙලවර මූදට තිබුනේය. නුඹේ ද
5 කුණු වෙරල මේය. යොර්දාන් කෙලවර
දක්වා ලුණු මූද නැගෙනහිර මායිම විය.
යොර්දාන් ඉවුරේ ඉතා දුරුවූ පැත්තේ මූ
දු වරයෙන් ඔවුන්ගේ උතුරු දිග ඉවුර
6 විය. බෙත්හර්බෘහි උතුරු දිග පසුකො
ට බෙත්හොග්ලාවද ඒ ඉවුර ගියේය. ඒ
තීරය රූබෙන් පුත්‍රවූ බොහම්ගේ ගල
7 දක්වා නැගී ගියේය. ගසේ දකුණු පැත්
තේ අදුම්මිම්ට ඉදිරිපිට තිබෙන ආඛෝර්
හි මිටියාවතින් ගිල්ගල් දිගින් පෙනෙ
න උතුරු දිග දෙබිර් දිසාවටද ඒ තීරය
ගියේය. ඇන්ෂෙමෙෂ්හි ගිල්ම දිසාවට
ඒ සීමාව ගොස් එහි කෙලවර ඇන්රෝ
8 ගල්හි විය. යෙරුසලම් වන යෙබූසිය
යාගේ දකුණු පැත්තට හින්නොම්ගේ
පුත්‍රයාගේ මිටියාවත ලඟින් ඒ සීමාව

ගියේය. හිනෝම්ගේ මිටියාවත ඉදිරි
පිටින් බස්නාහිර දිසාවටත් යෝධයාගේ
මිටියාවත කෙළවර උතුරු දිසාවෙහි ක
9 ඳු මුදුනටත් ඒ සීමාව ගියේය. ඒක ක
ඳු මුදුනෙන් නැප්තෝවඃහි දිය උල්ප
ත දක්වාම ඇදී එප්‍රොන් කන්දේ නුවර
වලට ගියේය. බාලඃ වන කිර්ජත් ජියා
10 රිම්ට ඒ සීමාව ඇදී තිබුණේය. බාලඃ ප
වත් බස්නාහිර සීර් කඳ දක්වා ඒ සීමාව
කරකැවී ජෙයාරිම් කන්ද නම් කෙසා
ලොන් පැත්තෙන් උතුරු දිගට ගොස්
බෙත්ශෙමෙෂ්ටත් බැස තිම්නාවත් ගියේ
11 ය. ඒ තීරය එක්‍රොන් උතුරු පැත්ත ද
ක්වා පිටතට ගියේය. සික්‍රොන්වද ඒ සී
මාව ඇඳුණේය. බාලඃහි කඳු පසුකොට
ජබ්නීල්ද පිටත ගියේය. ඒ තීරයෙහි
12 කෙළවර මූදට තිබුණේය. මහ මූදටත්
වෙරළටත් බස්නාහිර සීමාව තිබුණේ
ය. ජූදඃ පුත්‍රයන්ගේ පවුල් ලෙස වටේට
තිබුණු ඔවුන්ගේ වෙරළ මේය.
13 යෙහෝවඃවහන්සේ යෝෂුවාට අන
කළ ලෙස ජූදඃහි පුත්‍රයන් අතරේ යෙපු
න්නේගේ පුත්‍රවූ කාලෙබ්ටත් කොටසක්
වූ අනක්ගේ පියවූ අර්බාගේ නුවරනම්
14 හෙබ්‍රොන් නුවර දුන්නේය. කාලෙබ්
ශෙෂායිද අහිමන්ද තල්මායිද යන අනක්
ගේ පුත්‍රයන් තුන් දෙන එතැනින් එළෙ
15 ව්වේය. ඔහුද එතැනින් දෙබීර් වැසියන්
වෙතට ගියේය. පළමුවෙන් දෙබීර්ගේ
16 නාමය කිර්ජත් සෙපෙර් විය. කාලෙබ්ද
කිර්ජත් සෙපෙර්ට පහරදී ඒක අල්ලනතා
ට අක්සානම් මාගේ දුව භාර්යාවකොට
17 දෙනෙමියි කීය. කාලෙබ්ගේ සහෝ
දරවූ කෙනෙස්ගේ පුත්‍රවූ ඔත්නියෙල්
ඒක අල්වාගත්තේය. ඔහු තමන් දුවූ
අක්සා ඔහුට භාර්යාවකොට දුන්නේය.
18 ඈද ඔහු ළඟට ආවිට ඇගේ පියාගෙන්
කුඹුරක් ඉල්ලන්ට ඔහුට සැළැස්සුවාය.
එවිට ඈ කොටළුවා පිටින් බැස්සවිට නු
ඹට ඕනෑ කිමෙක්දැයි කාලෙබ් ඇට කී
19 ය. ඈ මට ආශීර්වාදයක් දෙවයි උත්තර
දුන්නාය. නුඹ දකුණු දේසය මට දුන්
නේය දිය උල්පතක්ද මට දෙවයි කීවා
ය. එවිට ඔහු උඩ උල්පතද යට උල්ප
20 තද ඈට දුන්නේය. ජූදඃ පුත්‍රයන්ගේ ප
වුල් ලෙස ගෝත්‍රයෙහි උරුමය මේය.
21 ජූදඃ පුත්‍රයන්ගේ ගෝත්‍රයෙහි ඉතා දුරු
වූ නුවරවල්නම් දකුණෙහි එදෝම්හි මා
22 යිම් දිසාව කබ්සීල්ද එදෙර්ද ජාගූර්ද කි

23 නාද දිමෝනාද අදාදාද කෙදෙෂ්ද හාසෝර්
24 ද ඉත්නාන්ද සීප්ද තෙලෙම්ද බෙලොත්
ද හාසෝර්ද හදත්තාද කිරියොත්ද හෙස්
25 රොන්නම් හාසෝර්ද අමම්ද ශේමාද
26 මෝලාදාද හාසර්ගද්දාද හෙෂ්මොන්ද
27 බෙත්පාලෙත්ද හසර් ෂුවල්ද බේර්ශෙ
28 බාද බිස්ජොත්ජාද බාලඃද එයිමද අ
29 සෙම්ද එල්තොලද්ද බෙසිල්ද හෝර්මාඃ
30 ද සික්ලග්ද මද්මන්නාද සන්සන්නාද
ලෙබාඔත්ද සිල්හිම්ද ආයින්ද රිමොන්ද
31 යන සියලු නුවරවල්ද එහි ගම්ද විසින
32 වයක් විය
33 මිටියාවතේ එෂ්තායොල්ද සොරෙආඃ
34 ද අෂ්නාද සානොවාද එන්ගනිම්ද තප්පු
35 වාද ඒනම්ද ජර්මූත්ද අදුලම්ද සො
36 කෝද අසේකාද ශරායිම්ද අදිතායිම්ද
ගෙදේරාද ගෙදෙරොතායිම්ද යන නුවර
37 වල්ද එහි ගම්ද දහහතරක් විය. සෙනා
38 න්ද හදාෂාද මිග්දල්ගද්ද දිලියාන්ද මිස්පාඃ
39 ද ජොක්තීල්ද ලාකීෂ්ද බොස්කත්ද එග්
40 ලොන්ද කබ්බොන්ද ලාමම්ද කිත්ලිෂ්ද
41 ගෙදෙරොද බෙත්දාගොන්ද නාමාද මක්
කේදාද යන නුවරවල්ද එහි ගම්ද දහ
42 සයක. ලිබ්නාද ඒතෙර්ද ආෂාන්ද ජිප්තාඃ
43 ද අෂ්නාද නෙසිබ්ද කීලාද අක්සීබ්ද ම
44 රේෂාද යන නුවරවල්ද එහි ගම්ද නව
45 යක. එක්‍රොන්ද එහි නුවරවල්ද ගම් ස
46 මගය. අෂ්දෝද් ළඟ තිබෙන සියලු නුව
රවල්ද එහි ගම්ද එක්‍රොන් පටන් මූද
47 දක්වා තිබෙන්නේය. අෂ්දෝද්ද එහි නු
වරවල් සහ ගම්ය. මිසරයෙහි ගංගාවත්
මහ මූද වෙරළත් දක්වා තිබෙන ගාසාද
එහි නුවරවල්ද ගම්ද වෙයි.
48 කඳුවල ෂමීර්ද ජත්තීර්ද සොකෝද ද
49 න්නාද කිර්ජත්සන්නාඃනම් දෙබීර්ද අ
50 නබ්ද ඇෂ්තෙමෝද අනීම්ද ගොෂෙන්ද
51 හොලොන්ද ගිලෝද යන එකොළොස්
52 නුවරවල්ද එහි ගම්ද වෙයි. අරබ්ද දූ
53 මාද එෂෙයාන්ද ජනුම්ද බෙත්තප්පුවාද අ
54 ෆෙකාද හුම්තාද කිර්ජත්අර්බානම් හෙ
බ්‍රොන්ද සීයෝර්ද යන නුවරවල්ද එහි
55 ගම්ද නවයක. මාඔන්ද කර්මෙල්ද
56 සීප්ද ජූතාද ජෙස්රීල්ද ජොක්දෙයම්ද සා
57 නෝවාද කායින්ද ගිබියාද තිම්නාද යන
58 නුවරවල්ද එහි ගම්ද දසයක. හල්හුල්
59 ද බෙත්සූර්ද ගෙදෝර්ද මාරත්ද බෙත්අ
නොත්ද ඇල්තෙකොන්ද යන නුවරවල්ද
60 එහි ගම්ද හයක්ය. කිර්ජත්බාල්නම් කි
ර්ජත් ජියාරිම්ද රබ්බාද යන දෙනුවරද

61 එහි ගම්ද වෙයි. වනාන්තරයෙහි බෑත්
62 අරබෑද මිදින් සෙකාකෑද නිබ්සන් එ
ලූ නුවරද ඒන්ගෙදිද යන නුවරවල්
63 ද එහි ගම්ද හයක. එහෙත් යෙරූසලම්
වෑසි යෙබූසියයන් යූදා පුත්‍රයෝ පිටත
එලවන්ට නොහෑකිවූවෝය. මේ දවස
දක්වා යෙබූසියයෝ යෙරූසලමෙහි යූදා
පුත්‍රයන් සමග වෙසෙති.

16. පරිච්ඡෙ. යෝසෑප් පුත්‍රයන්ගේ
භාගය යෙරිබෝ ළඟ යොර්දන් පටන්
නෑගෙණහිර යෙරිබෝ ගිල්මත් යෙරි
බෝවෙන් බෑතෑල් පර්වතය මෑදින් යන්
2 නාවූ වනාන්තරයටත් බෙතෑලින් එස් දේ
සයට යනනාවූ අර්බියෙහි සීමාවලටත්
3 අතාරෙතට ගොස් බස්නාහිර යප්ලෙ
ති සීමාවටත් පහළ බෙත්හොරෝන් සී
මාවටත් ගෙසෙරි දෙසටත් යන වනාන්
තරයද දක්වා විය. එහි කෙළවරවල් සමු
4 ද්‍රය දක්වා විය. යෝසෑප් පුත්‍රවූ මනස්
සෙස්ද එප්‍රායිම්ද මෙසේ තමන්ගේ උ
රුමය ගත්තෝය.

5 එප්‍රායිම් පුත්‍රයන්ගේ උරුමයෙහි සී
මාව ඔවුන්ගේ පවුල් ලෙස නෑගෙනහිර
අතාරෙත් අද්දර පටන් ඉහළ බෙත්හො
6 රෝන් දක්වා විය. සීමාව මුහුද දෙසට උතු
රුදිග මික්මෙතා දක්වා ගියේය. ඒ සීමා
ව නෑගෙණහිර පටන් තානත්ශිලෝ ද
ක්වා ගොස් පූර්විදිග යානොආ දක්වා ගියේ
7 ය. ඒක යානොහා පටන් අතාරෙත්ද
නාරත්ද දක්වා ගොස් යෙරිබෝවට ඈ
8 විත් යොර්දන් දක්වා ගියේය. සීමාව ත
ප්පූවා පටන් බස්නාහිර කනා ගඟ දක්වා
ගොස් එහි කෙළවරවල් මුහුද දක්වා විය.
එප්‍රායිම් පුත්‍රයන්ගේ පවුල් ලෙස ගෝත්‍ර
9 වල උරුමය මේය. එප්‍රායිම් පුත්‍රයන්ට
වෙන නුවරවල්ද ගම් සමග සියළු නුවර
වල්ද මනස්සෙස් පුත්‍රයන්ගේ උරුමය අ
10 තරේ විය. ඔවුහුත් ගෙසෙර්හි විසූ කනා
නිවරුන් නොඑලෙව්වෝය. ඔවුන් මේ
දවස දක්වා එප්‍රායිම් අතරෙහි වසමින්
ශුංගං දෙමින් සේවයකරති.

17. පරිච්ඡෙ. මනස්සෙස් යෝසෑප්
ගේ කුළුඳුලා බෑවින් ඔහුගේ ගෝත්‍රය
ටත් කොටසක් විය. ඒනම ගිලියද්ගේ
පියවූද මනස්සෙස්ගේ කුළුඳුල්වූද මාඛීර්
යුධ දක්ෂයෙක්වූ බෑවින් ගිලියද්ද බාශාන්
2 ලෑබූයේය. මනස්සෙස්ගේ සෙසු පුත්‍ර
යෝ වන අබියෙසර්ගේ පුත්‍රයන්ටද හෙ
ළෙක් පුත්‍රයන්ටද අස්‍රියෙල් පුත්‍රයන්ටද
සෙකෙම්ගේ පුත්‍රයන්ටද හෙපේර්ගේ
පුත්‍රයන්ටද ෂෙමිදගේ පුත්‍රයන්ටද ඔ
වුන්ගේ පවුල් ලෙස එහි කොටසක් විය.
මොවුන් යෝසෑප්ගේ පුත්වූ මනස්සෙස්
ගේ පිරිමි දරුවන්ගේ පවුල්වලින් පෑව
3 ත ආවෝය. එහෙත් මනස්සෙස්ගේ පු
ත්‍රවූ මාඛීර්ගේ පුත්‍රවූ ගිලියද්ගේ පුත්‍රවූ
හෙපෙර්ගේ පුත්‍රවූ සෙලෝපේහද්ට දූව
රු මිස පුත්‍රයෝ නෑත්තෝය. ඔහුගේ දූ
වරුන්ගේ නම් මේය. මාලාය නොවාය
4 හොග්ලාය මිල්කාය තිර්සාය. ඔවුහු එ
ලියාසර් පූජකයාගේද නූන්ගේ පුත්
යෝෂුවාගේද ප්‍රධානීන්ගේද ඉදිරිපිටට
ඈවිත් යෙහෝවාවහන්සේ අපේ සහෝ
දරයන් අතරේ අපට උරුමයක් දෙන්ට
මෝසෙස්ට අනදුන්සේකෑයි කීවෝය.
එබෑවින් ඔහු යෙහෝවාවහන්සේගේ
ආඥාව ලෙස ඔවුන්ගේ පියාගේ සහෝ
දරයන් අතරේ උරුමයක් ඔවුන්ට දුන්
5 නේය. යොර්දනෙන් එගොඩ ගිලියද්ද
බාශාන් හෑරමනස්සෙස්ට කොටස් දස
6 යක් ලෑබුනේය. මක්නිසාද මනස්සෙස්
ගේ දූවරුන්ටඔහුගේ පුතුන් අතරේ උ
රුමයක් ඈත්තේය. මනස්සෙස්ගේ
සෙසු පුත්‍රයන්ටත් ගිලියද් දේසය ඈත්
තේය.

7 මනස්සෙස්ගේ සීමාව අෂෙර් පටන්
සෙකෙම් ඉදිරියෙහි තිබෙන මික්මෙතා
දක්වා විය. ඒ සීමාව දකුනතින් එන්තප්
8 පූවා වාසීන් දක්වා ගියේය. මනස්සෙස්ට
තප්පූවා රට ලෑබුනේය නුමුත් මනස්
සෙස්ගේ සීමාවෙහි තප්පූවා එප්‍රායිම් පු
9 ත්‍රයන්ට හිමිවිය. ඒ සීමාව කනා ගංගාව
දක්වා ගංගාවේ දකුණු පෑත්තෙන් බෑස්
සේය. එප්‍රායිම්ගේ මේ නුවරවල් මනස්
සෙස්ගේ නුවරවල් අතරේ වෙත්. මනස්
සෙස්ගේ සීමාව ගංගාවේ උතුරු පෑත්
තේද එහි කෙළවර මුහුදුවෙරළද දක්වා
10 ගියේය. ඒප්‍රායිම්ගේ දකුණු පෑත්තද ම
නස්සෙස්ගේ උතුරු පෑත්තද මුහුද සීමාව
ද උතුරෙන් අෂෙර්හි සහ පෙර දිගින්
11 ඉසකර්හිද එකතුවිය. මනස්සෙස්ට ඉ
සකර්හි සහ අෂෙර්හි බෙත්ෂියන් එහි ද
නව්ද ඉබ්ලියම්ද එහි දනව්ද දෝර් වෑ
සියන්ද එහි දනව්ද එන්දෝර් වෑසියන්
ද එහි දනව්ද තානක් වෑසියන්ද එහි ද
නව්ද මෙගිද්දෝ වෑසියන්ද එහි දනව්ද

12 යන රට තුන ලැබුනේය. මනස්සෙස් පු
ත්‍රයෝ ඒ නුවරවල වැසියන් එලවන්ට
නොහැකිවූවෝය. කනානියවරු ඒ දේ
13 සයෙහි විසූවෝය. තවද ඊශ්‍රායෙල් පු
ත්‍රයෝ ශක්තිමත්වූකල ඔවුන් කනානි
වරු ඝුංගන් දෙන්ට නියමකලෝය එ
හෙත් ඔවුන් කම්මුතුවටම නොඑලෙව්
වෝය.

14 යෝශප්ගේ පුත්‍රයෝ යෝෂුවාට කථා
කොට යෙහෝවෘවහන්සේ මේ දක්වාම
මට ආශීර්වාදකල බැවිනු මම මහත් සමූ
දුවක් බැවිනු උරුමවෙන්ට එක කොට
සක්ද එක පංගුවක්ද පමනක් මට දුන්
15 නේ මක්නිසාදැයි කීවෝය. එවිට යෝ
ෂුවා උත්තර දෙමින් මහත් ජනයෙක්වූ
නුබට එප්‍රායිම් පර්වතය කුඩානම් පෙරිසි
යයන්ගේද යෝධයින්ගේද දේසයෙහි
කැලෑවට ගොස් කපාගනිතැයි කීයේ
16 ය. යෝසැප්ගේ පුත්‍රයෝ පර්වතය අපට
මදිය සමතලාවේ සිටින සියළු කනාණිව
රුන්ට ඒනම් බෙත්ෂෙයනෑ එහි දනව්
වෙහි වැසියන්ටද ජෙස්‍රිල් තලාවේ වැසි
යන්ටද යකඩ රථ ඇතැයි කීවෝය.
17 යෝෂුවා එප්‍රායිම්ද මනස්සෙස්ද යන
යෝසැප්ගේ වංශයට කියනුයේ නුබ ම
හත් බල ඇති මහත් ජනයෙක එහෙ
යින් නුබට එක් කොටසක් පමනක්
18 නොවනෙන්ය. එහෙත් පර්වතය නුබට
වන්නේය ඒක කැලෑවක්ය නුබ ඒක ක
පා හෙළනෙන්ය එහි ඉම් නුබට වනෙන්
ය කනානියයෝ යකඩ රථ ඇතුව ශක්ති
මත්ව සිටින නුමුත් නුබ ඔවුන් එලවන්
නෙහියයි කීයේය.

18. පරිචෙඡ. තවද ඊශ්‍රායෙල් පුත්‍ර
යන්ගේ සියළු සභාව ශීලෝහි රැස්ව සභා
වේ මඩපය එහි නැගුවේය දේසය ඔවුන්
2 ට යටත්විය. ඊශ්‍රායෙල් පුත්‍රයන් අතරේ
තමන්ගේ උරුමය නොලැබූ ගෝත්‍ර ස
3 තක් ඉතුරුවූනේය. යෝෂුවා ඊශ්‍රායෙල්
දරුවන්ට කථාකොට නුබලාගේ පියව
රුන්ගේ දෙවිවූ යෙහෝවෘවහන්සේ නු
බලාට දුන් දේසය හිමිවෙන්ට නුබලා
යන්ට පරක්කුවෙනෙන් කොපමන කල්
4 ද? නුබලා අතරෙන් එක එක ගෝත්‍රය
කින් තුන්දෙනෙක් බැගින් දීපල්ලාය.
මමද ඔවුන් යවනෙනම් ඔවුනුත් නැගි
ට දේසය මැදින් ගොස් තමන්ගේ ගෝ
ත්‍රවල උරුමය හැටියට සටහන්කොට
මා වෙතට නැවත එනවා ඇත. ඔවුනුත්
ඒක සත් කොටසකට බෙදනවා ඇත.
5 යුදෘවරු තමන්ගේ සීමාව දකුණුදිග සිටි
ති යෝශප්ගේ වංශය ඔවුන්ගේ සීමාවට
6 උතුරුදිග සිටිති. එබැවින් නුබලා දේස
ය සත් කොටසකට සටහන්කොට අප
ගේ දෙවිවූ යෙහෝවෘවහන්සේ ඉදිරි
යෙහි නුබලා වෙනුවට මා විසින් දදු ඇට
මෙහි දැමීම පිනිස ඒ සටහන්කිරීම මා වෙ
7 තට ගෙනෙල්ලාය. ලෙවීයයන්ට නුබලා
අතරේ කොටසක් නැතෙන්ය යෙහෝ
වෘවහන්සේගේ පූජක තනතුර ඔවුන්
ගේ උරුමය වේ. ගද්ද රූබෙනු මනස්
සෙස්ගේ අඩ ගෝත්‍රයද යෙහෝවෘව
හන්සේගේ මෙහෙකරුවූ මෝසෙස් වි
සින් ඔවුන්ට දුන් නැගෙණහිර දෙස
යොර්දන් එතර තමන්ගේ උරුමය ලබා
ගතෙතාය්යයි කීයේය.

8 ඒ මනුෂ්‍යයෝද නැගිට පිටත්ව ගියෝ
ය. යෝෂුවාද දේසය සටහන්කරන්ට ගි
ය අයට අනකරමින් නුබලා ගොස් දේ
සය මැදින් ඇවිද ඒක සටහන්කොට මෙ
හි ශීලෝහි යෙහෝවෘවහන්සේ ඉදිරි
යෙහි නුබලා උදෙසා මා විසින් දදු ඇට
දැමීම පිනිස නුබලා මා වෙතට නැවත
9 වරෙල්ලායයි කීයේය. ඒ මනුෂ්‍යයෝද
ගොස් දේසය මැදින් ඇවිද නුවරවල්
වසයෙන් සත් කොටසකට පොතක ස
ටහන්කොට ශීලෝහි සේනාව සිටින
10 තැන යෝෂුවා වෙතට ආවෝය. යෝ
ෂුවාද ඔවුන් උදෙසා ශීලෝහි යෙහෝ
වෘවහන්සේ ඉදිරියෙහි දදුඇට දැමුවේ
ය. යෝෂුවාද එහිදී තමන්බෙදීම් ලෙ
ස ඊශ්‍රායෙල් පුත්‍රයන්ට දේසය බෙදා දු
නෙන්ය

11 බෙන්යමින් පුත්‍රයන්ගේ ගෝත්‍රයෙ
හි කොටස තමන්ගේ වංශ ලෙස පිටතට
ගතෙතය ඔවුන්ගේ කොටසෙහි සීමාව
යුදෘ පුත්‍රයන් අතරේද යෝශප් පුත්‍රයන්
12 අතරේද පැමිනුනේය. ඔවුන්ගේ සීමාව
උතුරු දිගින් යොර්දන් පටන් තිබුනේය
සීමාවද උතුරු දිගින් යෙරිකෝ පැ
තෙන් ගොස් බස්නාහිර දිගින් කඳු ම
දින් ගියේය. එහි කෙලවර බෙත්ආ
13 වෙන් වනයෙහි විය. සීමාවද එහි සි
එස් දේසයට ඒනම් දකුනෙහි බෙතෑල
නම් එස් පැත්තට ගියේය. සීමාවද අ
ළ බෙත්හොරෝන් දකුනු පැත්තෙහි
බෙන හෙළ ලඟ අතාරොත් අදර් ද

14 බැස්සේය. සීමාවද එහි පටන් අඳිනු ලැ
බ දකුණු පැත්තේ තිබෙන බෙත්හො
රොන් ඉදිරියෙහිවූ හෙළ පටන් දකුණු
දෙස තිබෙන මූද කොන වට ගියේය.
යූදා පුත්‍රයන්ගේ නුවරක්වූ කිර්ජත්ජීයා
රිම් එනම් කිර්ජත් බාල්හි කෙලවර විය.
15 බස්නාහිර භාගය මේය. දකුණු භාගය
කිර්ජත්ජීයාරිම් පටන් විය. සීමාවද බස්
නාහිර දිගින් නෙප්තෝවාහි දිය උල්ප
16 ත දක්වා ගියේය. සීමාවද යෝධයන්ගේ
මිටියාවතේ උතුරු පැත්තේ තිබෙන හි
න්නොම්ගේ පුත්‍රයාගේ මිටියාවත ඉදිරි
යෙහි තිබෙන කන්දේ කෙලවර දක්වා ඇ
විත් හින්නොම්ගේ මිටියාවතට ඒනම්
දකුණු ජෙබූසි පැත්තට බැස එන්රෝ
17 ගෙල් දක්වාද බැස්සේය. උතුරු දිගින්
ඇදලා එන්ෂෙමෙෂ්ට ඇවිත් අදුම්මි
ගොබැල්ල ඉදිරියෙහි ගිලිලොත් දේසය
ට ගොස් රූබෙන්ගේ පුත්වූ බෝහන්
18 ගේ ගල දක්වා බැස්සේය. උතුරු දිගින්
අරබා ඉදිරියෙහි පැත්තත් ගොස් අර
19 බා දක්වා බැස්සේය. සීමාව උතුරුදිග
බෙත්හොග්ලා පැත්තට ගියේය. සීමා
වේ කෙලවරවල් යොදීන් දකුණු පැත්
තේ එනු මූදේ උතුරු වරායෙහි තිබුණේ
20 ය. දකුණු භාගය මේය. පෙරදිග යො
දීන් එහි සීමාව තිබුණේය. වටකර ති
බෙන සීමාවල් ලෙසද තමන්ගේ වංශ
ලෙසද බෙන්ජමින් පුත්‍රයන්ගේ උරුම
21 ය වෙයි. බෙන්ජමින් පුත්‍රයන්ගේ ගෝ
ත්‍රයෙහි නුවරවල් තමන්ගේ පවුල් ලෙස
මෙසේ විය. යෙරිකෝද බෙත්හොග්ලාඃ
22 ද කෙසිස් තලාවද බෙතාරබාඃද සෙම
23 රායිම්ද බෙතැල්ද අවිම්ද පාරාඃද ඔප්‍රාඃද
24 බෙපර්හම්මොනායිද ඔප්නිද ගබාද යන
25 ගම් සහිත නුවරවල්ද දොළසක. ගිබි
26 යෝනද රාමාඃද බියෙරොත්ද මිස්පෙඃද කෙ
27 පිරාද මොසාඃද රෙකෙම්ද ඉර්පිල්ද තර
28 ලාද සේලාද ඒලෙප්ද යෙරුසලම් නම්
වූ ජෙබූසියද ගිබියත්ද කිර්ජත්ද යන
ගම් සහිත නුවරවල් දහ සතරක. තමන්
ගේ පවුල් ලෙස බෙන්ජමින් පුත්‍රයන්
ගේ උරුමය මේය.

19 පරිච්ඡේ. දෙවෙනි කොටස සිමි
යොන්ටත් සිමියොන්ගේ පුත්‍රයන්ගේ
පෙලපතටත් ඔවුන්ගේ පවුල් ලෙස පැ
මුණුණේය. ඔවුන්ගේ උරුමයද යූදා පුත්‍ර
2 යන්ගේ උරුමය අතරේ විය. ඔවුන්ගේ
3 උරුමයෙහි බීර්ෂෙබාද ෂෙබාද මොල
4 දාද හසර්ෂුවල්ද බාලාද අසෙම්ද එල්තූ
5 ලද්ද බෙත්හුල්ද හොර්මාඃද සික්ලග්ද
6 බැත්මාකබොත්ද අසාර්සූසාද බැත්ලෙ
බායොත්ද සරුහෙන්ද යන ගම් සහිත නු
7 වරවල් දහතුනක. ඇයින්ද රෙමොන්ද ඒ
ශර්ද අශාන්ද යන ගම් සහිත නුවරවල් ස
8 තරක. දකුණෙහි රාමාද බාලාබීර්ද දක්
වා මේ නුවරවල් වටේට තිබෙන සියළු
ගම්ද ඔවුන්ට විය. සිමියොන්ගේ ගෝ
ත්‍රයෙහි පුත්‍රයන්ගේ පවුල් ලෙස ඔවුන්
9 ගේ උරුමය මේය. යූදා පුත්‍රයන්ට තිබු
ණු කොටස ඔවුන්ට වැඩි බැවින් යූදා පු
ත්‍රයන්ගේ උරුමයෙන් සිමියොන් පුත්‍ර
යන්ගේ උරුමය විය. ඔවුන්ගේ උරුම
ය අතරේ සිමියොන් පුත්‍රයන්ගේ උරුම
ය තිබුණේය.

10 සෙබුලොන්ගේ පුත්‍රයන්ට ඔවුන්ගේ
පවුල් ලෙස තුන්වෙනි කොටස පැමුණු
ණේය. සාරිත් දක්වා ඔවුන්ගේ උරුම
11 යෙහි සීමාව විය. ඔවුන්ගේ සීමාව සමු
ද්‍රයටද මරලාටද ගොස් දබෙසෙත්ටද
ජොක්නියම් ඉදිරිපිට තිබෙන ගංගා ද
12 ක්වා පැමිණ සාරිද් පටන් පෙරදිගට හැ
රී කිස්ලොත් තාබෝර් සීමාව දක්වා
ගොස් එතනින් දබෙරත්ටද යපියාවට
13 ද ගියේය. එතනින් පෙරදිග්හි ගිත්තා
හෙපර්ටද ඉත්තාඃ කාසින්ටද ගොස්
රෙම්මොන් මෙතොවර්ටද නියාටද ගි
14 යේය. සීමාවද උතුරු දෙසින් හන්නා
තොන් දක්වා වටේට ගියේය. එහි කෙ
ළවරද ජිප්තාඃයේල් මිටියාවතේ තිබෙන්
15 නේය. කත්තාද නහලල්ද සිම්රොන්ද
ඉදලාද බැත්ලෙහෙම්ද යන ගම් සහිත
16 නුවරවල් දොළසක. සෙබුලොන් පුත්‍ර
යන්ගේ පවුල් ලෙස ඔවුන්ගේ උරුමය
මේ නුවරවල්ද ගම්ද වේ.

17 සතරවෙනි කොටස ඉස්සාබර් ඒනම්
ඉස්සාබර්ගේ පුත්‍රයන්ට තමන් පවුල්
18 ලෙස පැමිණුණේය. ඔවුන්ගේ සීමාව ජෙ
19 සරීල්ද කෙසුලොඃද සූනෙම්ද හප්‍රායින්
20 ද සියොන්ද අනහරත්ද රබ්බීඃද කිෂි
21 යොන්ද ඒබෙස්ද රෙමෙත්ද එන්ගනීන්ද
එන්හද්දාද බැත්පසේස් දක්වා තිබුණේ
22 ය. ඒ සීමාව තාබෝර්ද ෂහසීමාද බැත්
ෂෙමෙෂ් දක්වා යන්නේය. ඔවුන්ගේ
සීමාවෙහි කෙලවර යොදීන්හි වූයේ
23 ය. ගම් සහිත නුවරවල් දහසයක. ඉස්සා
බර් පුත්‍රයන්ගේ ගෝත්‍රයෙහි ඔවුන්ගේ

පවුල් ලෙස උරුමය මේ නුවරවල්ද එ
හි ගම්ද වෙයි.

24 ආශෙර් පුත්‍රයන්ගේ ගෝත්‍රයට ඔවුන්
ගේ පවුල් ලෙස පස්වෙනි කොටස පැමි
25 ණියේය. හැල්කාද හලිද බැතැන්ද අ
26 ක්ෂාප්ද අලම්මෙලෙක්ද අමද්ද මිසියෙල්
ද යන මේ ඔවුන්ගේ සීමාවය. ඒක බස්
නාඉර කමේල්ටත් සිහොර් ලිබ්නාෘටත්
27 පැමුනුණේය. ඒක නැගෙනහිර බෙත්දා
ගොන් දෙසට හැරී සෙබුලොන්ටත් බැ
තෙමෙක් උතුරුදිග ජප්තායෙල් මිටියා
28 වතටත් නියෙල්ටත් පැමිණ වම් පැත්
තේ කබුල්ද හෙබ්‍රොන්ද රේහොබ්ද හ
මොනු කනාද මහ සිදොනු දක්වා යන්
29 නේය. එයින් රමාවත් බලවත්වූ තීර් නු
වරටත් හෝසාටත් තිබෙනේය. එහි
කෙලවර සීමාව පටන් අක්සීබ් දක්වා මූද
30 ට තිබෙනේය. උම්මාද අපෙක්ද රි
හොබ්ද ගම් සහිත නුවරවල් විසි දෙක
31 ක. ආශෙර් පුත්‍රයන්ගේ ගෝත්‍රයේ ප
වුල් ලෙස උරුමය මේ නුවරවල්ද එහි
ගම්ද වෙයි.

32 හයවෙනි කොටස නප්තලිගේ පුත්‍රයන්
ට ඒනම් ඔවුන්ගේ පවුල් ලෙස ඔවුන්ට
33 ආයේය. ඔවුන්ගේ සීමාව හිලෙප්ද අ
ලොන්ද පටන් සානන්නිම්ද අදමිද නි
කෙබ්ද ජබ්නීල්ද ලකුම්ද දක්වා එහි
34 කෙලවර යොර්දානේම විය. එයින් ඒ සී
මාව බස්නාඉර දෙස අස්නොත් තාබෝර්
ට හැරී එතැන් පටන් හුකොක්ටද දකු
ණු දිග සෙබුලොන්ටද පැමිණ බටහිර
දිග ආශෙර් දක්වාද පෙරදිග යොර්දාන්හි
35 යූදෘ දක්වාද යනේය. ආරක්ෂා ඇති නු
වරවල්නම් සිඩිම්ද ශෙර්ද හමත්ද ර
36 කත්ද කිනෙරෙත්ද අදමාද රමාද හා
37 සෝර්ද කෙදෙස්ද එද්‍රෙයිද එන්හසෝර්ද
38 අයිරෙනූ මිග්දලෙල්ද හොරෙනු බෙත්
හනාෘද බෙත්ෂෙමෙෂ්ද යන ගම් සහිත
39 නුවරවල් දහනවයක. නප්තලිගේ ගෝ
ත්‍රයෙහි පවුල් ලෙස උරුමය මේ නුවර
වල්ද එහි ගම්ද වෙයි.

40 හත්වෙනි කොටස දන්ගේ පුත්‍රයන්
ගේ ගෝත්‍රයට ඔවුන්ගේ පවුල් ලෙස ආ
41 යේය. ඔවුන්ගේ උරුමයෙහි සීමාවනම්
42 සොරාද එෂ්තායොල්ද ඉර්ෂෙමෙෂ්ද ෂා
43 ලබ්බිනු අජලොනු යෙත්ලාද එලොනු
44 තිම්නාතාද එක්රොන්ද එල්තකෙද ගි
45 බ්තොන්ද බාලත්ද යෙහුද්ද බෙනෙ
46 බැරක්ද ගත්රිමොනු මේජර්කොනු රක්
කොනු ජපෝ ඉදිරිපිට තිබෙන සීමාව
47 සමග වෙයි. දන් පුත්‍රයන්ගේ සීමාව ඔ
වුන්ට අඩු නිසා ඔවුන් ලෙෂෙම්ට විරුද්ධ
ව යුද්ධකරන්ට ගොස් ඒක අල්වාගෙන
කඩුමුවහතින් ඊට පහරදී ඒක බුත්තිවි
ඳිමින් වාසයකොට ඔවුන්ගේ පියානන්
48 වූ දන්ගේ නම එයට තැබුවෝය. දන් පු
ත්‍රයන්ගේ ගෝත්‍රයෙහි පවුල් ලෙස උ
රුමය මේ නුවරවල්ද එහි ගම්ද වෙයි.

49 ඊශ්‍රායෙල් පුත්‍රයෝ උරුමකොට සීමා
ව ලෙස දේශය බෙදා නිමකලවිට නූන්
ගේ පුත් යෝෂුවාට ඔවුන් අතරේ උරු
50 මයක් දුනෝය. යෙහෝවාවහන්සේ
ගේ වචනය ලෙස ඔහු ඉල්ලූ එප්‍රායිම්
කන්දේ තිම්නාසෙරාෘ නුවර ඔහුට දුන්
නෝය. ඔහු එහි නුවරක් ගොඩනගා
51 විසුවේය. පූජකවූ එලියාසර්ද නූන්ගේ
පුත් යෝෂුවාද ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ
ගෝත්‍රයෙහි පියවරුන්ගේ නායකයෝ
ද සභාමඬපයේ දොරටුව ලඟදී ෂිලෝහි
යෙහෝවාවහන්සේගේ ඉදිරියෙහි උ
රුමය පිනිස ඉදු ඇට දමා බෙදූ උරුම
වල් මේය. එසේ ඔවුන් දේශය බෙදා
නිමකලෝය.

20. පරිච්ඡේ. යෙහෝවාවහන්සේ
2 යෝෂුවාට වදාරණසේක් ඊශ්‍රායෙල් පුත්‍ර
යන්ට කථාකොට මා විසින් මෝසෙස්
ලවා තොපට කියෙව් හැටියට යමෙක්
කල්පනාවක් නැතිව නොදැනෙන ලෙ
3 ස කිසිවෙක් මරණවානම් ඔහුගේ ප
ලායාම පිනිස ගැලවෙන නුවරවල් නිය
මකරව්. ඒවා තොපට ලේවල පලිග
න්නාගෙන් ගැලවෙන ආරක්ෂා තැන් ව
4 නේයයි කියව්. එයින් නුවරකට සැඟ
වී යන්නා නුවර දොරටුවට ඇතුල්වූවිට
ඒ නුවර වැඩිමහලුන්ගේ කණවලට ත
මාගේ කාරණාව දන්වනේය. ඔවුහුත්
නුවරට ඔවුන් ලඟට ඔහු ගෙනවුත් ඔ
වුන් අතරේ සිටින්ට තැනක් ඔහුට දෙ
5 නවා ඇත. ඔහු පලමුවෙන් වෛර නො
වී නොකැමති ලෙස තමාගේ අසල්වාසි
යාට පහර දුන් නිසා ලේවල පලිගන්නා
ඔහු පස්සේ එලවා එනවිට මිනී මැරූ ඔ
හු පලිගන්නාට බාර නොදෙනවා ඇ
6 ත. ඔහුද නඩු අසනු ලැබීමට සභාව ඉදි
රිපිට සිටිනතුරුද ඒ දවස්වල සිටින නා
යක පූජකයා නසිනතුරුද ඒ නුවර ව
සනේය. ඉන්පසු මිනීමරුවා නැවත

තමන් නුවරේ තමාගේ ගෙට හැරී ය
නොත්යයි කීසේක.

7 ඔවුහු නප්තලී කන්දේ ගලිලයෙහි
කෙදෙෂ්ද එප්‍රායිම් කන්දේ ෂෙඛෙම්ද
යූදා කන්දේ හෙබ්‍රොනනම් කිර්ජත් අර්
8 බාද රූබෙන් ගෝත්‍රයෙන් යොර්දන් එ
ගොඩ පෙරදිග යෙරිකෝ ලඟින් සමබි
ම වනාන්තරයේ බෙසෙර්ද ගද් ගෝත්‍ර
යෙන් ගිලියද්හි රාමොත්ද මනස්සෙස්
ගේ ගෝත්‍රයෙන් බාෂන්හි ගොලාන් නි
9 යමකලෝය. නොදැන කිසිවකු මැරූ සි
යළු ඉශ්‍රායෙල් පුත්‍රයන්ටද ඔවුන් අතරේ
වසන විදේශියන්ටද පලාගොස් සභාව
ඉදිරිපිට සිටිනතුරු ලේවල පලිගන්නා
අතින් නොමියන පිනිස නියමකල නුව
රවල් මේය.

21. පරිච්ඡේ. එවිට ලෙවීයයන් පියව
රුන්ගේ නායකයෝ එලියාසර් පූජකයා
වද නූන්ගේ පුත් යෝෂුවාටද ඉශ්‍රායෙල්
පුත්‍රයන්ගේ ගෝත්‍රවල පියවරුන්ගේ
2 නායකයන්ටද ලඟාවී අපට වසනනට නු
වරවල්ද අපේ සිවුපාවුන්ට පිට නුවරවල්
ද දෙනනට කියා යෙහෝවාවහන්සේ
මෝසෙස් ලවා අඥාකෙරෙව්සේකැයි ක
3 නාන් දේශේ ෂිලෝහිදී කීවෝය. ඉශ්‍රා
යෙල් පුත්‍රයෝ යෙහෝවාවහන්සේගේ
අඥාව ලෙස තමන්ගේ උරුමවලින් ලෙ
වියයන්ට මේ නුවරවල්ද පිට නුවරවල්ද
4 දුන්නෝය. කොහාතිවරුන්ගේ පවුල්ව
ලට දාදු ඇට වැටුනේය. ලෙවීයවූ අ
රොන් පූජකයාගේ පුත්‍රයෝ යූදා ගෝත්‍ර
යෙන් සිමියොන් ගෝත්‍රයෙන් බෙන්ය
මින් ගෝත්‍රයෙන් නුවරවල් දහතුනක්
5 දාදු දැමීමෙන් ලැබුවෝය. කොහාත් පුත්‍ර
යන්ගෙන් ඉතිරි අයවල් එප්‍රායිම් ගෝ
ත්‍රයෙහි පවුල්වලින් දන් ගෝත්‍රයෙන්
මනස්සෙස්ගේ අඩ ගෝත්‍රයෙන් නුවර
වල් දසයක් දාදු දැමීමෙන් ලැබුවෝය.
6 ගෙර්ෂොන් පුත්‍රයෝ ඉස්සාඛර් ගෝත්‍ර
යෙහි පවුල්වලින් අෂෙර් ගෝත්‍රයෙන්
නප්තලී ගෝත්‍රයෙන්ද බාෂාන්හි මනස්
සෙස් අඩ ගෝත්‍රයෙන් නුවරවල් දහතු
7 නක් දාදු දැමීමෙන් ලැබුවෝය. මෙරාරි
ගේ දරුවෝ ඔවුන්ගේ පවුල් ලෙස රූ
බෙන් ගෝත්‍රයෙන් ගද් ගෝත්‍රයෙන්ද
සෙබුලොන් ගෝත්‍රයෙන් නුවරවල් දො
8 ලහක් ලැබුවෝය. ඉශ්‍රායෙල් පුත්‍රයෝ
යෙහෝවාවහන්සේ විසින් මෝසෙස්
ලවා අනකල ලෙස මේ නුවරවල්ද එහි
තිබෙන පිට නුවරවල්ද ලෙවීයයන්ට
දාදු දැමීමෙන් දුන්නෝය.

9 ලෙවී පුත්‍රයන්ගෙන් කොහාතිවරුන්
10 ගේ පවුල්වලින් අරොන්ගේ දරුවන්ට
ලැබුනු යූදා පුත්‍රයන්ගේ ගෝත්‍රයෙන් සි
මියොන් පුත්‍රයන්ගේ ගෝත්‍රයෙන් මෙ
හි නම් සඳහන්කල නුවරවල් ඔවුන් දු
න්නෝය. මක්නිසාද පළමුවෙනි කො
11 ටස ඔවුන්ට විය. ඔවුහු අනක්ගේ පිය
වූ අර්බාගේ නුවර එනම් යූදයෙහි කඳු
රටේ තිබෙන හෙබ්‍රොන් නුවරද එහි
වට පිට නුවරවල්ද ඔවුන්ට දුන්නෝය.
12 එහෙත් ඔවුන් නුවර කුඹුරුද එහි ගම්ද
යෙපුන්නෙගේ පුත් කාලෙබ්ට උරුම
13 යක්කොට දුන්නෝය. එසේ ඔවුන් මිනී
මරුවාට ගැලවීමෙහි නුවරක් වෙන පි
නිස අරොන් පූජකයාගේ දරුවන්ට
හෙබ්‍රොන් එහි පිට නුවරවල්ද දුන්නෝ
ය. තවද ඔවුන් ලිබ්නාද එහි පිට නුවර
14 වල්ද ජත්තිර්ද එහි පිට නුවරවල්ද එෂ්ති
15 මොයාද එහි පිට නුවරවල්ද හොලො
න් එහි පිට නුවරවල්ද දිබිර්ද එහි පිට
16 නුවරවල්ද අයින්ද එහි පිට නුවරවල්ද
යුත්තාද එහි පිට නුවරවල්ද බෙත්ෂෙ
මෙෂ්ද එහි පිට නුවරවල්ද යන ඒ දෙ
ගෝත්‍රයෙන් මේ නුවරවල් නමයද දුන්
17 නෝය. බෙන්යමින් ගෝත්‍රයෙන් ගිබි
යොන් එහි පිට නුවරවල්ද ගෙබාද එ
18 හි පිට නුවරවල්ද අනතොත්ද එහි පිට
නුවරවල්ද අල්මොන්ද එහි පිට නුවර
වල්ද යන මේ නුවර සතරද දුන්නෝ
19 ය. පූජක වන අරොන් පුත්‍රයන්ගේ පිට
නුවරවල් සහිත සියළු නුවරවල් දහතු
නක්ය.

20 කොහාත් දරුවන්ගේ පවුල් නම්වූ
කොහාත් දරුවන්ගෙන් ඉතුරු ලෙවිව
රු ඔවුන්ගේ කොටසේ නුවරවල් එප්‍රා
21 යිම්ගේ ගෝත්‍රයෙන් ලැබුවෝය. ඔවුන්
මිනීමරුවාට ගැලවීමෙහි නුවරක් වෙ
න පිනිස එප්‍රායිම් කන්දේ ෂෙඛෙම්ද එ
22 හි පිට නුවරවල්ද දුන්නෝය. තවද ගෙ
සෙර්ද එහි පිට නුවරවල්ද කිබ්සායිම්ද
එහි පිට නුවරවල්ද බෙත්හොරොන් එ
හි පිට නුවරවල්ද යන මේ නුවරවල් ස
23 තරද දුන්නෝය. දන් ගෝත්‍රයෙන් එල්
තෙකේද එහි පිට නුවරවල්ද ගිබ්බෙ
24 තොන් එහි පිට නුවරවල්ද අය්යාලො
න් එහි පිට නුවරවල්ද ගත්රිම්මොන්ද

එහි පිට නුවරවල්ද යන මේ නුවරවල්
25 සතරද දුනෙනෝය. මනස්සෙස්ගේ අඩ
ගෝත්‍රයෙන් තානක්ද එහි පිට නුවර
වල්ද ගත්රිම්මොනද එහි පිට නුවරවල්
ද යන මේ දෙනුවරද ඔවුන්ට දුනෙනෝ
26 ය. කොහත්ගේ ඉතුරු දරුවන්ගේ ප
වුල්වලට දුන් පිට නුවරවල් සහිත මේ
සියළු නුවරවල් දහයක.

27 ලෙවීවරුන්ගේ පවුල්වල ගෙර්ෂොන්
ගේ පුත්‍රයන්ට මිනීමරුවාගේ ගැලවීමෙ
හි නුවරක්වූ බාෂන්හි ගොලන්ද එහි පි
ට නුවරවල්ද බිෂ්තෙරාද එහි පිට නුව
රවල්ද යන මේ දෙනුවර මනස්සෙස්
28 ගේ අඩ ගෝත්‍රයෙන් දුනෙනෝය. ඉස්
සාඛර්ගේ ගෝත්‍රයෙන් කිෂොනද එහි පි
ට නුවරවල්ද දබරෙද එහි පිට නුවර
29 වල්ද ජර්මූත්ද එහි පිට නුවරවල්ද එන්
ගන්නිම්ද එහි පිට නුවරවල්ද යන මේ
30 නුවර සතර දුන්නෝය. ආෂෙර්ගේ
ගෝත්‍රයෙන් මිෂල්ද එහි පිට නුවරවල්
ද අබ්දොනද එහි පිට නුවරවල්ද හෙල්
31 කත්ද එහි පිට නුවරවල්ද රෙහොබ්ද
එහි පිට නුවරවල්ද යන මේ නුවරවල්
32 සතර දුනෙනෝය. නප්තලී ගෝත්‍රයෙන්
මිනීමරුවාට ගැලවීමෙහි නුවරක්වූ ග
ලිලයෙහි කෙදෙෂ්ද එහි පිට නුවරවල්
ද හම්මොත්දෝර්ද එහි පිට නුවරවල්ද
කර්ටාන්ද එහි පිට නුවරවල්ද යන මේ
33 නුවරවල් තුනද ඔවුන් දුනෙනෝය. ගෙ
ර්ෂොන්වරුන්ගේ සියළු නුවරවල් ඔවුන්
ගේ පවුල් ලෙස පිට නුවරවල් සහිත
නුවරවල් දහ තුනක.

34 තවද ලෙවීවරුන්ගෙන් ඉතුරු මෙරා
රිගේ පුත්‍රයන්ගේ පවුල්වලට සෙබු
ලොන්ගේ ගෝත්‍රයෙන් ජොක්නියම්ද
එහි පිට නුවරවල්ද කර්තාද එහි පිට නු
35 වරවල්ද දිම්නාද එහි පිට නුවරවල්ද න
හලල්ද එහි පිට නුවරවල්ද යන මේ නු
36 වර සතර දුනෙනෝය. රූබෙන් ගෝත්‍ර
යෙන් බෙසෙර්ද එහි පිට නුවරවල්ද ය
හසාද එහි පිට නුවරවල්ද කෙදෙමොත්
37 ද එහි පිට නුවරවල්ද මෙපාත්ද එහි පි
ට නුවරවල්ද යන මේ නුවර සතර දුන්
38 නෝය. මිනීමරුවාට ගැලවීමෙහි නුව
රක්වූ ගිලියද්හි රමොත්ද එහි පිට නුව
රවල්ද මහනායිම්ද එහි පිට නුවරවල්ද
39 හෙෂ්බොනද එහි පිට නුවරවල්ද ජසෙර්
ද එහි පිට නුවරවල්ද යන නුවර සතර
40 ගද් ගෝත්‍රයෙන් දුන්නෝය. මෙසේ
ලෙවීවරුන්ගේ පවුල්වලින් ඉතිරි ඔ
වුන්ගේ පවුල්වලින් පැවත ආ මෙරාරි
ගේ දරුවන්ට හිමිවූ සියළු නුවරවල් ඔ
වුන්ගේ කොටස් ලෙස නුවරවල් දොළ
41 සක. ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ උරුමය ඇ
තුලත පිට නුවරවල් සහිත ලෙවීවරුන්
42 ගේ සියළු නුවරවල් හතලිස් අටක. මේ
සියළු නුවරවල් වටේට පිට නුවරවල් වි
ය. මේ සියළු නුවරවල් මෙසේ විය.

43 යෙහෝවාඃවහන්සේද ඊශ්‍රායෙල්ව
රුන්ගේ පියවරුන්ට දෙන්ට දිවිලාවූ ස
යළු දේසය දුන්සේක ඔවුන් ඒක හිමිව
44 එහි විසූවෝය. යෙහෝවාඃවහන්සේ ඔ
වුන්ගේ පියවරුන්ට දිවිල සියල්ල ලෙස
ඔවුන් වටේට නිවාඩුදුන්සේක. ඔවුන්
ගේ සියළු සතුරන්ගෙන් කිසිවෙක් ඔ
වුන්ට විරුඬව සිටින්ට නුපුළුවන්විය.
යෙහෝවාඃවහන්සේ ඔවුන්ගේ සියළු ස
45 තුරන් ඔවුන් අතට පාවාදුන්සේක. යෙ
හෝවාඃවහන්සේ ඊශ්‍රායෙල් වංශයට කී
යහපත් දෙයින් කිසිවක් අඩුනොව සිය
යල්ලම සිඬවිය.

22. පරිච්ඡෙ. එවිට යෝෂුවා රූබෙ
න්වරුන්ද ගද්වරුන්ද මනස්සෙස්ගේ අඩ
ගෝත්‍රයද කැඳවා යෙහෝවාඃවහන්සේ
2 ගේ මෙහෙකරුවූ මෝසෙස් විසින් අණ
කල සියල්ල තුබලා රක්ෂාකොට මා වි
සින් තුබලාට අණකල සියල්ල ගැණ මා
3 ගේ හඬට කීකරුව බොහෝ දවස් ප
ටන් මේ දවස දක්වා තුබලාගේ සහෝ
දරයන් අත්නෑර තුබලාගේ දෙවිවූ යෙ
හෝවාඃවහන්සේගේ ආඥාවේ බාරය ර
4 ක්ෂාකලෝය. දැනුත් තුබලාගේ දෙවිවූ
යෙහෝවාඃවහන්සේ තුබලාගේ සහෝ
දරයන්ට පොරොන්දුවූ ලෙස නිවාඩුදුන්
සේක. එබැවින් දැන් හැරී තුබලාගේ
කූඩාරම්වලටත් යෙහෝවාඃවහන්සේ
ගේ මෙහෙකරුවූ මෝසෙස්විසින් යො
ර්දන් එගොඩ තුබලාට දුන් උරුම දේස
5 යටත් පලයල්ලාය. එහෙත් යෙහෝවාඃ
වහන්සේගේ මෙහෙකරුවූ මෝසෙස්
තුබලාට ආඥාකල තුබලාගේ දෙවි
වූ යෙහෝවාඃවහන්සේට සෙනෙහවෙන්
ටත් උන්වහන්සේගේ සියළු මාර්ගවල
හැසිරෙමින් උන්වහන්සේගේ ආඥාවල්
රක්ෂාකරන්ටත් උන්වහන්සේට ඇළුම්ව
සිටින්ටත් තුබලාගේ මුළු හෘදයෙනුත් මු
ළු ආත්මයෙනුත් උන්වහන්සේට මෙහෙ

කරන්ටත් ආඥාවත් ව්‍යවස්ථාවත් පවත්
වන්ට බොහෝසෙයින් ප්‍රවේසම් වෙයල්
6 ලායයි කීයේය. මෙසේ යෝෂුවා ඔවුන්ට
ආශීර්වාදකොට ඔවුන් හැරියේය. ඔවුන්
7 තමන් කූඩාරම්වලට ගියෝය. මෝ
සෙස්ද මනස්සෙස්ගේ අඩ ගෝත්‍රයට
බාෂාන්හි උරුමය දුන්නේය. එහෙත්
යෝෂුවා අනිත් අඩ ගෝත්‍රයට තමන්
ගේ සහෝදරයන් අතරේ බස්නාහිර
යොර්දන් මෙගොඩ උරුමය දුන්නේය.
තවද යෝෂුවා ඔවුන්ගේ කූඩාරම්වලට
8 ඔවුන් හරිනකල ඔවුන්ට ආශීර්වාදකො
ට බොහෝ ධනයත් බොහෝ සිවුපාවූ
න්ත් රිදී රං පිත්තල යකඩත් බොහෝ
වස්ත්‍රත් ඇතුව නුඹලාගේ කූඩාරම්වල
ට හැරී නුඹලාගේ සතුරන්ගේ කොල්ල
ය නුඹලාගේ සහෝදරයන් සමග බෙදා
9 ගනිල්ලායයි ඔවුන්ට කීයේය. තවද රූ
බෙන් පුත්‍රයෝද ගද් පුත්‍රයෝද මනස්
සෙස්ගේ අඩ ගෝත්‍රයද හැරී කනාන්
දේසයෙහි සීලෝ පටන් ඊශ්‍රායෙල් පුත්‍ර
යන් වෙතින් පිටත්ව මෝසෙස් ලවා අ
ණකල යෙහෝවාවහන්සේගේ වචනය
ලෙස ඔවුන් හිමි උරුමවූ ගිලියද් දේස
10 යට යන්ට ගියෝය. රූබෙන් පුත්‍රයෝ
ද ගද් පුත්‍රයෝද මනස්සෙස්ගේ අඩ
ගෝත්‍රයද කනාන් දේසේ යොර්දන් සීමා
වලට ඇවිත් යොර්දන් ලඟ පූජාසනයක්
ගොඩනැගුවෝය. ඒක මහත්ව පෙනෙ
න පූජාසනයක.

11 එවිට රූබෙන් පුත්‍රයෝද ගද් පුත්‍ර
යෝද මනස්සෙස්ගේ අඩ ගෝත්‍රයද ක
නාන් දේසය ඉදිරියෙහි යොර්දනේ සීමා
වල ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ තොටුපලෙ
හි පූජාසනයක් ගොඩනැගුවෝයයි ඊශ්‍රා
2 යෙල් පුත්‍රයන්ට ආරංචි විය. ඊශ්‍රායෙල්
පුත්‍රයෝද එපවත් අසා තමන්ගේ මුළු
සභාව ඔවුන්ට විරුඩව යුඩයට යන්ට ෂී
3 ලෝහි රැස්කලෝය. ඊශ්‍රායෙල් පුත්‍රයෝ
ද ගිලියද් දේසේ රූබෙන් පුත්‍රයන්ටත්
ගද් පුත්‍රයන්ටත් මනස්සෙස්ගේ අඩ
4 ගෝත්‍රයටත් පූජකවූ එලියාසර්ගේ පුත්
පීනෙහස්ද ඊශ්‍රායෙල් සියළු ගෝත්‍රව
ලින් එක එක ප්‍රධාන වංශයකින් අධිපති
වන අධිපතිවරුන් දස දෙනෙක්ද යැව්
වෝය. ඔවුන් එකිනෙකා ඊශ්‍රායෙල් ද
හස්ගනන් අතරේ තමන් පියවරුන්ගේ
5 පෙලපතේ අධිපතියෝය. ඔවුන් ගිලි
යද් දේසයේ රූබෙන් පුත්‍රයන්ද ගද් පුත්‍ර

යන්ද මනස්සෙස්ගේ අඩ ගෝත්‍රයද ලඟ
16 ට ඇවිත් කියනෙනා නුඹලා යෙහෝවා
වහන්සේට විරුඩව මේ දවසේ කැරලි
ගසන්ට පූජාසනයක් ගොඩනගා යෙ
හෝවාවහන්සේ කෙරෙහි ඇදහිම මේ
දවස අත්හැරීමෙන් ඊශ්‍රායෙල් දෙවියන්
වහන්සේට විරුඩව නුඹලා කවර පාප
17 යක් කලෝද? පෙයෝර්ගේ වරද නිසා
යෙහෝවාවහන්සේගේ සභාව මැද ව
සංගත රෝගයක් තිබුන නුමුත් ඒ වර
දෙන් අපි මේ වෙනතුරු පවිත්‍ර නොවී
මුව. ඒ වරද අපට මදි බව කල්පනා
18 කොට මේ දවස යෙහෝවාවහන්සේ
කෙරෙහි ඇදහිම අත්හරින්ට හුතුද?
නුඹලා අද යෙහෝවාවහන්සේට විරු
ඩව කැරලිගසන හෙයින් උන්වහන්සේ
ඊශ්‍රායෙල් මුළු සභාව සමග කෝපවන
19 සේක. නුඹලාගේ උරුම දේසය අපවි
ත්‍රනම් යෙහෝවාවහන්සේගේ මඩ්පය
තිබෙන උන්වහන්සේගේ උරුම දේසය
ට එගොඩව අප අතරේ උරුමය ගනිල්
ලාය. එහෙත් අපගේ දෙවිවූ යෙහෝ
වාවහන්සේගේ පූජාසනය හැර නුඹලා
ටම පූජාසනයක් ගොඩනැගීමෙන් යෙ
හෝවාවහන්සේටත් අපටත් විරුඩව
20 කැරලි නොගසල්ලාය. සෙරාගේ පුත් ආ
ඛන් සාපලත් දෙය ගැන වරද කල නි
සා ඊශ්‍රායෙල් මුළු සභාවට උදහස පැමු
නුනේ නැද්ද? ඒ මනුෂ්‍යයා තමාගේ
අධර්මිෂ්ඨකමෙන් තනිව විනාස නොවූ
යේයයි යෙහෝවාවහන්සේගේ මුළු ස
භාව කියතියි ඔවුන්ට කීවෝය.

21 එවිට රූබෙන් පුත්‍රයෝද ගද් පුත්‍ර
යෝද මනස්සෙස්ගේ අඩ ගෝත්‍රයද ඊ
ශ්‍රායෙල් දහස් ගනන් අධිපතීන්ට උත්ත
22 ර දෙමින් දෙවිවරුන්ගේ දෙවිවූ යෙ
හෝවාවහන්සේ දෙවිවරුන්ගේ දෙවි
වූ යෙහෝවාවහන්සේම දන්නාසේක.
ඊශ්‍රායෙල්ද දන්නවා ඇත. ඒක කැරලි
ගැසීමෙන්වත් යෙහෝවාවහන්සේට වි
රුඩව වරද කෙරීමෙන්වත් පවතීනම්
23 මේ දවස අපට ක්ෂමා නොවී යෙහෝවා
වහන්සේ කෙරෙහි ඇදහිම අත්හරින්
ටවත් එහි පිට දවන හෝජන ශාන්ති
පූජාවල් පුදන්ටවත් අපි වෙනම පූජාස
නයක් ගොඩ නැගුවුනම් යෙහෝවාව
24 හන්සේම පලිගන්නාසේක්වා. ඒ ඇරත්
එන කාලේදී නුඹලාගේ පුත්‍රයෝ අපේ
පුත්‍රයන්ට කථාකොට ඊශ්‍රායෙල් දෙවිවූ

යෙහෝවාවහන්සේගෙන් තුඹලාට කම්
25 කිම්ද? රූබෙන් සහ ගද් පුත්‍රයෙනි අ
පත් තුඹලාත් අතරේ යෙහෝවාවහන්
සේ යොර්දන් සීමාවක් කොට තැබූ නි
සා යෙහෝවාවහන්සේ වෙත තුඹලාට
කොටසක් නැතැයි සමහරවිට කියන
වා ඇතැයි සිතිමුව. මෙසේ කීවොත් තු
ඹලාගේ පුත්‍රයෝ යෙහෝවාවහන්සේ
කෙරෙහි අපේ පුත්‍රයන්ගේ ඇති භය
26 නවත්වනවා ඇත. එබැවින් දවන පූජ
27 වටවත් යාග පූජවටවත් නොව අපේ
දවන පූජවලිනුත් යාගවලිනුත් ශාන්ති
පූජවලිනුත් යෙහෝවාවහන්සේ ඉදිරි
යෙහි උන්වහන්සේට මෙහෙකරන්ට අ
පට යුතුව තිබෙන බවට අපත් තුඹලාත්
අපට පසු අපේ පරම්පරාවලුත් අතරේ
සාක්ෂියක් වන පිණිසද එන කාලේදී යෙ
හෝවාවහන්සේ වෙත තුඹලාට කොට
සක් නැතැයි තුඹලාගේ පුත්‍රයන් විසින්
28 අපේ පුත්‍රයන්ට නොකියන පිණිසද එ
න කාලේදී ඔවුන් අපටවත් අපේ පරම්
පරාවලටවත් එසේ කියතොත් අපි ඔ
වුන්ට උත්තර දී දවන පූජවලටවත් යා
ග පූජවලටවත් නොව අපත් තුඹලාත්
අතරේ සාක්ෂියක්ව අපේ පියවරු සෑදූ
යෙහෝවාවහන්සේගේ පූජාසනයෙහි
ආදර්ශය බලාපල්ලායයි කියන්ට හැකිවෙ
න පිණිසද පූජාසනයක් ගොඩනගන්ට
29 සෑදීමුයයි කීමුව. එහෙත් අපේ දෙවිවූ
යෙහෝවාවහන්සේගේ මණ්ඩපය ඉදිරි
යෙහි උන්වහන්සේගේ පූජාසනය හැර
දවන පූජවලටවත් භෝජන පූජවලට
වත් යාගවලටවත් පූජාසනයක් ගොඩ
නැඟීමෙන් යෙහෝවාවහන්සේට විරු
ද්ධව කැරලිගසා මේ දවසේ යෙහෝවා
වහන්සේ කෙරෙහි ඇදහීම අත්හරින
ලෙස දෙවියන්වහන්සේ අප වලක්වන
සේක්වයි කීවෝය.

30 එවිට රූබෙන් සහ ගද් පුත්‍රයන්ගේද
මනස්සේගේ පුත්‍රයන්ගේද වචන අසා
පූජකවූ පිනෙහස්ද ඔහු සමග සිටි සභා
වේ අධිපතියෝද ඉශ්‍රායෙල් දහස් ග
31 නන් අධිපතියෝද සතුටුවූවෝය. පූජ
කවූ එලියාසර්ගේ පුත් පිනෙහස් රූ
බෙන් පුත්‍රයන්ටත් ගද් පුත්‍රයන්ටත් ම
නස්සේ පුත්‍රයන්ටත් කියනුයේ තුඹ
ලා මේ වරද යෙහෝවාවහන්සේට වි
රුද්ධව නොකල නිසා යෙහෝවාවහන්
සේ අප අතරේ වසනසේකැයි මේ දව
සෙහි අපට පෙනෙනේය. දැන් තුඹ
ලා ඉශ්‍රායෙල් පුත්‍රයන් යෙහෝවාවහන්
සේගේ අතින් ගලවාගතෙනේයයි කී
32 වේය. පූජකවූ එලියාසර්ගේ පුත් පිනෙ
හස්ද අධිපතියෝද රූබෙන් පුත්‍රයන්ද
ගද් පුත්‍රයන්ද වෙතින් ගිලියද් දේසයේ
සිට කනාන් දේසයේ ඉශ්‍රායෙල් පුත්‍රයන්
වෙතට හැරී ගොස් ඔවුන්ට ආරංචි කී
33 වෝය. එසිත ඉශ්‍රායෙල් පුත්‍රයෝ සතුටු
ව දෙවියන්වහන්සේට ස්තුතිකොට රූ
බෙන් සහ ගද් පුත්‍රයන් විසූ දේසය වි
නාසකරණ පිණිස ඔවුන්ට විරුද්ධව යුද
34 කරන්ට කල්පනා නොකලෝය. රූ
බෙන් පුත්‍රයෝද ගද් පුත්‍රයෝද යෙ
හෝවාවහන්සේම දෙවියන්වහන්සේ බ
වට අප අතරේ සාක්ෂියක් වන නිසා එද්
යන නාමය ඒ පූජාසනයට තැබුවෝය.

23. පරිච්. තවද යෙහෝවාවහන්
සේ ඉශ්‍රායෙල්වරුන්ට වටකර සිටි සිය
ලු සතුරන්ගෙන් නිවාඩු දුන් බොහෝ
කලකට පසු යෝෂුවා වයස්ගතව මහලු
2 විය. යෝෂුවා සියලු ඉශ්‍රායෙල්වරුන්ද ඔ
වුන්ගේ නායකයන්ද ප්‍රධානීන්ද විනිශ්චය
කාරයන්ද මූලාදෑනීන්ද කැඳවා මම වයස්
3 ගතව මහලුවීමි. තුඹලා උදෙසා තුඹලා
ගේ දෙවිවූ යෙහෝවාවහන්සේ මේ සි
යලු ජාතීන්ට කල සියල්ල දුටුවෝය.
තුඹලා වෙනුවට යුද්ධකල උන්වහන්සේ
තුඹලාගේ දෙවිවූ යෙහෝවාවහන්සේ
4 ය. යොර්දන් පටන් බස්නාහිර දිග මහ
මුහුද දක්වා මා විසින් නැසුවාවූ සියලු ජ
ාතීන්ද ඉතිරිවූ වෙන ජාතීන්ද තුඹ
ලාගේ ගෝත්‍රවලට උරුමවෙන්ට දඬු
5 ඇට දමා තුඹලාට බෙදා දුනිමි. තුඹ
ලාගේ දෙවිවූ යෙහෝවාවහන්සේ තු
ඹලාට නොපෙනෙන ලෙස තුඹලා ඉදි
රියෙන් ඔවුන් එලවනසේක. තුඹලා
ගේ දෙවිවූ යෙහෝවාවහන්සේ තුඹ
ලාට දුන් පොරොන්දු ලෙස ඔවුන්ගේ
6 දේසය තුඹලා හිමිවෙනවා ඇත. තුඹ
ලා මෝසෙස්ගේ ව්‍යවස්ථා පොතේ ලි
යා තිබෙන සියල්ලෙන් දකුණටවත් ව
මටවත් නොහැරී වියසීවත්ව ඒවා ර
7 ක්ෂාකරපල්ලාය. තුඹලා අතරේ තවම ඉ
තුරුව සිටින මේ ජාතීන්ට එකතු
නොවෙල්ලාය. ඔවුන්ගේ දේවතාවුන්
ගේ නාමය සඳහන් නොකොට ඔවුන්
ගැන නොදිවුරා ඔවුන්ට මෙහෙයවත්

වැළඳමවත් නොකොට මේ දවස දක්වා
8 කලාක් මෙන් තුබලාගේ දෙවිවූ යෙ
හෝවඃවහන්සේට ඇළුම් වෙයල්ලාය.
9 මක්නිසාද යෙහෝවඃවහන්සේ මහත්
බලවත්වූ වර්ගයන් තුබලා ඉදිරියෙන්
පිටත එලෙව්සේක. තවද මේ දවස ද
ක්වා තුබලා ඉදිරිව සිටින්ට කිසි මනුෂ්‍ය
10 යෙක් නොහැකිවිය. තුබලාගේ දෙවිවූ
යෙහෝවඃවහන්සේ තුබලාට දුන් පො
රොන්දු ලෙස තුබලා වෙනුවට යුඩක
රන නිසා තුබලාගෙන් එක් මනුෂ්‍ය
11 යෙක් දහසක් එලවනෙත්ය. එබැවින්
තුබලාගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ
ට සෝහකරන්ට ඉතා ප්‍රවේසම් ගනිල්
12 ලාය. කොයි ප්‍රකාරයකිණවත් පසුබටව
යනොත් තුබලා අතරේ සිටින මේ ඉති
රි වර්ගයන්ට ඇළුම්ව ඔවුන් සමග විවා
හකොට ඔවුන් අතරට යනොත් ඔවුන්
13 තුබලා අතරට එනොත් තුබලාගේ දෙ
විවූ යෙහෝවඃවහන්සේ තුබලා ඉදිරි
යෙන් කිසි කලෙකත් මේ වර්ගයන්
ගෙන් කිසිවෙක් නොඑලවනසේක. එ
හෙත් තුබලාගේ දෙවිවූ යෙහෝවඃව
හන්සේ තුබලාට දුන් මේ යහපත් දේ
සයෙන් තුබලා විනාසවෙනතුරු ඔවුන්
තුබලාට මලපත්ද උගුල්ද ඇලපතට ක
සද ඇස්වලට කටුද වෙනවා ඇතැයි සැ
14 බෑවටම දැනගනිල්ලාය. මුළු පොලවේ
සියල්ලන් යනාක්මෙන් අද මම යෙමි.
තුබලාගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ
තුබලා ගැණ වදල සියළු යහපත් දේ
වල්වලින් එක් දෙයක්වත් වැරදුනේ
නැතැයි තුබලා සියල්ලන්ගේ ආත්මව
ලින්නුත් හෘදවලින්නුත් දනිති. ඒ සියල්ල තු
බලාට සිදුව එයින් එකකවත් වැරදුනේ
15 නැත. එබැවින් තුබලාගේ දෙවිවූ යෙ
හෝවඃවහන්සේ තුබලාට අනකල ගිවි
සුම තුබලා කඩකොට අන් දෙවිවරුන්
වෙත ගොස් ඔවුන්ට මෙහෙයවත් වැඳි
මවත් කල විට තුබලාගේ දෙවිවූ යෙ
හෝවඃවහන්සේ පොරොන්දුවූ සියළු ය
හපත් දේ පැමිණියාක්මෙන් තුබලාගේ
දෙවිවූ යෙහෝවඃවහන්සේ තුබලාට
දුන් මේ යහපත් දේසයෙන් තුබලා වි
නාසකරණ තුරු සියළු නපුරු දේවල්
16 තුබලාට පමුණුවනසේක. යෙහෝවඃ
වහන්සේගේ උදහස තුබලාට විරුඩ
ව ඇවිලෙනෙත්ය. උන්වහන්සේ තු
බලාට දුන් යහපත් දේසයෙන් තුබලා
ඉක්මනින් විනාසවෙනවා ඇතැයි කී
සේය.

24. පරිච්ඡේ. තවද යෝෂුවා සියළු
ඊශ්‍රායෙල් ගෝත්‍රයන් ෂෙකෙම්ට රැස්
කොට ඊශ්‍රායෙල් වැඩිමහල්ලන්ද ප්‍රධානීන්ද
විනිශ්චයකාරයන්ද මුලාදෑනීන්ද කැඳවිය.
ඔවුන්ද දෙවියන්වහන්සේ ඉදිරිපිට රැස්වූ
2 වෝය. යෝෂුවාද සියළු සෙනගට කථා
කොට ඊශ්‍රායෙල්ගේ දෙවිවූ යෙහෝවඃ
වහන්සේ මෙසේ වදරණසේක. කෙ
සේද? පූර්ව කාලයෙහි තොපේ පියවරු
ඒනම් ආබ්‍රහම්ගේ නාහෝර්ගේ පියවූ
තෙරඃ ගඟෙන් එතර විසුවෝය. ඔවුන්
3 අන් දෙවිවරුන්ට මෙහෙකලෝය. මම
ද ගඟ එතරින් තොපේ පියානන්වූ ආබ්‍ර
හම් කැඳවා කනාන් දේසය මුළුල්ලේ ඔ
හු ගෙනගොස් ඔහුගේ වංශය වැඩිකො
ට ඔහුට ඊසාක්ද දී ඊසාක්ට යාකොබ්ද
4 එසව්ද දුනිමි. එසව්ට සේයීර් පර්වතය උරුම
යට දුනිමි. එහෙත් යාකොබ්ද ඔහුගේ
5 පුත්‍රයෝද මිසරයට ගියෝය. මම මිසරය
ට මෝසෙස් සහ ආරොන් යවා මිසර වැ
6 සියන්ට පීඩා කෙලෙමි. ඉන්පසු තොප
ඒ රටින් ගෙනායෙමි. මම තොපේ පිය
වරුන් මිසරයෙන් පිට ගෙණයෙමි.
තොප සූප් මූද ලඟට ආවාම මිසර වැසි
යෝ රථද අසරුවන්ද සමග තොපේ පි
7 යවරුන් පසුපස්සේ එහුබැඳ එලවාගෙ
ණ ඒ මූද ලඟට ආවෝය. ඔවුන් යෙහෝ
වඃවහන්සේට අඬගැසූ කල උන්වහන්
සේ තොපටත් මිසර වැසියන්ටත් අත
රේ අඳුරුකොට මූද ඔවුන් පිටට නගා
වැසූසේක. මා විසින් මිසරයේදී කල දෙ
ය තොපේ ඇස්වලින් දුටුවෝය. තො
8 ප වනාන්තරයෙහි බොහෝ කලක් විසූ
වෝය. මමද තොප යොර්දන් එතර සිටි
න අමෝරිවරුන්ගේ දේසයට ගෙණ
යෙමි. ඔවුන් තොප සමග යුඩකලෝය.
ඔවුන්ගේ දේසය හිමිවෙන්ට ඔවුන්
තොප අතට පාවාදී තොප ඉදිරියෙන්
9 ඔවුන් විනාසකෙලෙමි. එකල මෝවබි
හි රජවූ සිප්පෝර්ගේ පුත් බලක් ඊශ්‍රා
යෙල්ට විරුඩව යුඩකොට තොපට සා
ප කරණ පිනිස බේයෝර්ගේ පුත් බා
10 ලම්ට අඬගසා යැවීය. එහෙත් මම බාලම්
ට ඇහුන්කන් දෙන්ට නොකමැතිවිමි.
එබැවින් ඔහු තොපට ආශීර්වාද කෙලේ
ය. මෙසේ මම ඔහු අතින් තොප හැල

11 ව්මි. තොපි යොර්දන් එතරට ගොස් යෙ
රිකෝවට ආවෝය. එහි වසූනායෝ වූ
හ අමෝරිවරුද පෙරිසිවරුද කනානි
වරුද හිතිවරුද ගිර්ගාසිවරුද හිව්වරු
ද යෙබුසිවරුද තොපට විරුඬව යුඬක
ලෝය. මම ඔවුන් තොප අතට පාවාදු
නිමි. මමද තොප ඉදිරියෙහි දෙබරුන්
12 යැව්මි. උන් අමෝරිවරුන්ගේ රජුන්
දෙදෙන තොප ඉදිරිපිටින් එලවූවෝය.
ඒත උනේ තොපේ කඩු දුනුවලින්
13 නොවේය. තොප වෙහෙසනොහී නැ
තුව දේසයක්ද තොප ගොඩ නොනැගූ
නුවරවල්ද තොපට දුනිමි තොපි එහි ව
සති. තොපි වැව්වේ නැති මිදි වතුවලි
ඳ ඔලිව වතුවලිඳ කතිපි වදලසේක.
14 එබැවින් යෙහෝවාවහන්සේට භය
ව අවංකකම්හුත් සැබෑකම්හුත් උන්ව
හන්සේට මෙහෙකරපල්ලාය. ගඟ එතර
දිත් මිසරයේදිත් නුඹලාගේ පියවරු සේ
වයකල දෙවිවරුන් අත්හැර යෙහෝවා
15 වහන්සේට සේවයකරපල්ලාය. යෙහෝ
වාවහන්සේට මෙහෙකිරීම නපුරුයයි
නුඹලා සිතත්නම් ගඟ එගොඩ නුඹලා
ගේ පියවරු මෙහෙකල දෙවිවරුන් අ
තරෙනුත් නුඹලා වසන දේසයේ විසූ
අමෝරිවරුන්ගේ දෙවිවරුන් අතරෙ
නුත් නුඹලා මෙහෙකරන්ට කැමති කෙ
නෙක් අදම තෝරාගනිල්ලාය. නුඹිත් ම
මද මාගේ පවුලද යෙහෝවාවහන්සේ
16 ට මෙහෙකරමුයයි කීයේය. සියළු ජන
යෝ ඔහුට උත්තර දෙමින් අපගේ දෙ
17 විවූ යෙහෝවාවහන්සේ අපද අපේ පි
යවරුඳ මිසර දේසයෙනුත් වාල්කමේ
ගෙයින් පිටත ගෙනවුත් අප ඉදිරිපිට
මහත් ලකුණුකොට අප ගිය සියළු මාර්ග
වලදීද අප පසුකර ගිය ජනයන් අත
රේදීද අප අරක්ෂාකල නිසා යෙහෝවා
වහන්සේ අත්හැර අන් දෙවිවරුන්ට
මෙහෙකිරීමට දෙවියන්වහන්සේ අප
18 නාරිණසේක්වා. දේසයෙහි විසූ අමෝ
රිවරු යන ජනයන් යෙහෝවාවහන්
සේ අප ඉදිරියෙන් එලෙව් බැවිඳ උන්ව
හන්සේ අපගේ දෙවියන්වහන්සේ වන
බැවිඳ අපි යෙහෝවාවහන්සේට මෙ
19 හෙකරමුයයි කීවෝය. යෝසුවාද සෙ
නඟට කථාකොට යෙහෝවාවහන්සේ
ශුඬවූ ජ්වලිතවූ දෙවි කෙනෙක් නිසා උ
න්වහන්සේට මෙහෙකරන්ට නුඹලාට
20 නුපුළුවන. නුඹලා උන්වහන්සේ හැර
අන් දෙවිවරුන්ට මෙහෙකලොත් උන්ව
හන්සේ නුඹලාට පලමුවෙන් යහපත්
කම් කල නුමුත් නුඹලාගේ පාපවල්ද අ
පරාධවල්ද කමානොකොට පීඩාකොට
21 විනාස කරණසේකැයි කීයේය. සෙනඟ
ද අපි එසේ නොකොට යෙහෝවාව
හන්සේට මෙහෙකරමුයයි යෝසුවාට
22 කීවෝය. යෝසුවාද නුඹලා යෙහෝවා
වහන්සේට මෙහෙකිරීම තෝරාගත් බ
වට නුඹලාට විරුඬව සාක්ෂිව සිටිතියි ජ
23 නයන්ට කීය. ඔවුන්ද අපි සාක්ෂිවෙමුයයි
කීවෝය. එසේනම් අන් දෙවිවරුන් නු
ඹලාගෙන් අහක්කොට ඊශ්‍රායෙල්ගේ
දෙවිවූ යෙහෝවාවහන්සේට නුඹලා
ගේ සිත් යොමුකරපල්ලායයි ඔහු කීයේ
24 ය. ජනයෝ අපගේ දෙවිවූ යෙහෝවා
වහන්සේට අපි සේවයකොට උන්වහන්
සේගේ හඬට කීකරුවමුයයි යෝසුවා
25 ට කීවෝය. මෙසේ යෝසුවා එදා ජන
යන් සමග ගිවිසුමක් කොට ෂෙකෙම්හි
දී ඔවුන්ට පනතක් සහ නියෝගයක්ද
26 තැබීය. යෝසුවාද මේ වචන දෙවියන්
වහන්සේගේ ව්‍යවස්ථා පොතේ ලියා ම
හත් ගලක් ගෙන ඒක යෙහෝවාවහන්
සේගේ පවිත්‍ර ස්ථානය ලඟ තිබුන අ
27 ලොන් ගසක් යට තබා යෙහෝවාව
හන්සේ අපට වදල උන්වහන්සේගේ සි
යළු වචනවල් මේ ගලට ඇසුනු නිසා ඒ
ක අපට සාක්ෂියක් පිනිස වනේය. ඒ
බැවින් නුඹලාගේ දෙවියන්වහන්සේ එ
පානොකරණ පිනිස ඒක නුඹලාට සාක්ෂි
යක් වනේයයි සියළු සෙනඟට කීයේ
28 ය. මෙසේ යෝසුවා සියළු සෙනඟ තමන්
ගේ උරුමයට පිටත්කර හැරියේය.
29 මේ සියළු කාරණවලින් පසු යෙහෝ
වාවහන්සේගේ මෙහෙකරුවූ නූන්ගේ
පුත් යෝසුවා එකසිය දස අවුරුදු වයස්ව
30 මලේය. ඔවුන් ගාෂ් කඳුව උතුරු දි
ග එප්‍රායිම් පර්වතයේ තිම්නාත් සෙරාහි ත
මන් උරුම සීමාවෙහි ඔහු තැන්පත්ක
31 ලෝය. ඊශ්‍රායෙල්වරු යෝසුවාගේද
යෙහෝවාවහන්සේ ඊශ්‍රායෙල් උදෙසා
කර වදල උන්වහන්සේගේ සියළු ක්‍රියා
වල් දැනගත් යෝසුවාට පසුව සිටි වැඩි
මහල්ලන්ගේද සියළු දවස්වලදී යෙහෝ
32 වාවහන්සේට මෙහෙකලෝය. තවද ඊ
ශ්‍රායෙල් පුත්‍රයෝ යෝසෙප්ගේ ඇට මිස
රයෙන් ගෙනවුත් යාකොබ් ෂෙකෙම්
ගේ පියවූ හාමෝර් පුත්‍රයන්ගෙන් රිදී

සියයකට මිලේට ගත් බිං කෑල්ලක ශෙ
ඛැම්හි තැන්පත්කළෝය. ඒක යෝ
33 සැප් පුත්‍රයන්ගේ උරුමය විය. ආරොන්
ගේ පුත් එලියාසර්ද මළේය. ඔහුගේ
පුත් පිනේහස්ට අයිතිවූ එප්‍රායිම් පර්වත
යෙහි ඔහුට දුන් හෙලක ඔහු තැන්පත්
කළෝය.

# වි නි ශ් ච ය කා ර ය න් ගේ පො ත ය.

1. පරිච්ඡේදය. තවද යෝෂුවා මැරු
ණු පසු කනානිවරුන්ට විරුද්ධව යුද්ධක
රන්ට නායකව යන්නේ කවරෙක්දැයි
ඊශ්‍රායෙල් පුත්‍රයෝ යෙහෝවාවහන්සේ
2 ගෙන් ඇසුවෝය. යෙහෝවාවහන්සේ
ද මම යූදාගේ අතට දේශය පාවාදුනිමි
3 ඔහු යන්නේයයි කීසේක. යූදාද තමන් ස
හෝදර සිමියොන්ට අපි කනානිවරුන්
ට විරුද්ධව සටන්කිරීමට මාගේ කොට
සට මා සමග වරෙනත මමත් එසේ නු
ඹ සමග නුඹේ කොටසට යම්යි කීයේය.
4 සිමියොනුද ඔහු සමග ගියේය. යූදා ගිය
කල යෙහෝවාවහන්සේ කනානිවරු
න්ද පෙරිසිවරුන්ද ඔවුන්ගේ අතට පාවා
දුන්සේක. ඔවුන් බෙසෙක්හිදී දසදහ
5 සක් මනුෂ්‍යයන් මැරුවෝය. අදොනි
බෙසෙක් බෙසෙක්හිදී ඔවුන්ට අසුවූ
යේය. ඔවුන් ඔහුට විරුද්ධව සටන්කො
ට කනානිවරුන්ද පෙරිසිවරුන්ද මැරූ
6 වෝය. අදොනිබෙසෙක් සැඟවී ගියේ
ය. ඔවුනුද ඔහු පස්සේ එලවා ඔහු අල්වා
ගෙන අත පය මාපට ඇඟිලි කපාදැමූ
7 වෝය. අදොනිබෙසෙක්ද කථාකොට අ
ත පය මාපට ඇඟිලි කපාදැමූ රජුන් සැ
ත්තෑ දෙන තමන්ගේ කෑම මාගේ මේ
සේ යටට එකතුකළෝය. මා කල ලෙස
දෙවියන්වහන්සේ මට විපාක දුන්සේකැ
යි කීයේය. ඔවුන්ද ඔහු යෙරුසලමට
ගෙන ගියෝය. ඔහු එතනදී මළේය.
8 යූදා පුත්‍රයෝ යෙරුසලමට විරුද්ධව යුද්ධ
කොට ඒක අල්ලාගෙන ඊට කඩුමුවහ
තින් පහරදී නුවර ගිනි තිබුවෝය.
9 ඉන්පසු යූදා පුත්‍රයෝ කඳුත් දකුණු
දිගත් මිටියාවතෙත් සිටින කනානිව
රුන්ට විරුද්ධව සටන්කරන්ට ගොස්
10 පෙර කිර්ජත් අර්බානම්වූ හෙබ්‍රොන්
නම් ලත් නුවර සිටින කනානිවරුන්ට
විරුද්ධව සටන්කොට ශෙසායිද අහිමන්
11 තල්මායිද මැරුවෝය. එතනින් පෙර
කිර්ජත් සෙපර්නම්වූ දෙබීර් නම් ලත්
12 නුවර වැසියන්ට විරුද්ධව ගියේය. එවිට
කාලෙබ් කියන්නේ කිර්ජත් සෙපර්ට ප
හරදී ඒක අල්වාගන්නාට මාගේ අක්සා
13 නම් දූ භාර්යාකොට දෙමියි කීය. කා
ලෙබ්ගේ බාල සහෝදරවූ කෙනෙස්
ගේ පුත් ඔත්නියෙල් ඒක අල්වාගත්තේ
ය. ඔහු තමාගේ දූ අක්සා ඔහුට භාර්යා
14 කොට දුන්නේය. ඈද ඔහු ලඟට ආවාම
ඈගේ පියාගෙන් කුඹුරක් ඉල්ලන්ට ඔ
හුගෙන් අවසර ගෙන කොටළුවාගෙන්
15 බැස්සාය. කාලෙබ් නුඹ කුමක් කැමති
දැයි ඇසීය. ඈද මට ආශීර්වාදයක් දුන
මැනව. නුඹ මට දකුණු දිග දේශයක් දු
න්නේය. මට දිය උල්පතුත් දුනමැනව
යි කීවාය. කාලෙබ්ද උඩ පහළ උල්පත්
ද දුන්නේය.
16 තවද මෝසෙස්ගේ මාමා වන කෙනි
යයාගේ පුත්‍රයෝ යූදා පුත්‍රයන් සමග ඉ
ඳිගස් නුවරින් නික්ම දකුණු දිග අරද්හි
යූදාගේ වනාන්තරයට ගොස් මිනිසුන් අ
17 තරේ විසූවෝය. යූදාද තමන් සහෝද
රවූ සිමියොන් සමග ගොස් සෙපත් වැ
සිවූ කනානිවරුන් මරා ඒක මුලින්ම වි
නාසකළෝය. ඒ නුවර හොර්මානම් වි
18 ය. යූදාද ගාසාද එහි සීමාවද අස්කෙ
ලෝනද එහි සීමාවද එක්‍රොනද එහි සීමා
වද ගත්තේය. යෙහෝවාවහන්සේද යූ
19 දා සමග සිටිසේක. ඔහුද කන්දේ වැසි
යන් ඇලෙව්වේය. එහෙත් සමතලාවේ
වැසියන්ට යකඩ රථ තිබුණු නිසා ඔවුන්
20 අඩවන්ට නොහැකිවිය. ඔවුන්ද මෝ
සෙස් කී ලෙස කාලෙබ්ට හෙබ්‍රොන් දු
න්නෝය ඔහුද අනාක්ගේ පුත්‍රයන් තුන්
21 දෙනා එතනින් එලෙව්වේය. බෙන්ය
මින් පුත්‍රයෝ යෙරුසලම් වාසිවූ යෙබුසි
වරුන් නොඑලෙව්වෝය. ඔවුන් බෙන්
යමින් පුත්‍රයන් සමග යෙරුසලමෙහි
මේ දවස දක්වා වසති.
22 යෝසැප්ගේ පෙලපතත් ඇත්තෝද
බෙතැල්ට විරුද්ධව ගියෝය. යෙහෝවා

23 වහන්සේද ඔවුන් සමග සිටිසේක. යෝ
සැප් පෙලපතේ ඇතෙතෝ පලමු ලූස්
දූන් බෙතැල් නම්වූ නුවර සොයන්ට ය
24 වූවෝය. ඔත්තුකාරයෝද නුවරින් එන
මනුෂ්‍යයෙක් දැක නුවර ඇතුලට යන
මග අපට පෙණාපනනා එවිට අපි නුබට
25 කරුණාව පෙණවමුයයි කීවෝය. ඔවුන්
ට නුවරට ඇතුල්වෙන පාර පෙන්වූ කා
ල ඔවුන් කඩුමුවහතින් නුවරට පහරදී
ඒ මනුෂ්‍යයාටත් ඔහුගේ සියළු පවුලටත්
26 යන්ට අවකාස දුනෝය. ඒ මනුෂ්‍යයා
ද හිතිය දේසයට ගොස් නුවරක් සාද
ඊට ලූස් නම් තැබූයේය. මේ දවස දක්
වා ඒ නුවරට ලූස් නම තිබෙනේය.
27 මනස්සෙස් බෙත්ශෙයන්ද ඊට අයිති
නුවරවල වැසියනු තානක්ද ඊට අයිති
වූ නුවරවල වැසියනු දෝර්ද ඊට අයිති
නුවරවල වැසියනු ඉබ්ලියම්ද ඊට අයිති
නුවරවල වැසියනු මෙගිද්දෝද එහි නු
වරවල වැසියන්ද නොඑලවූවෝය. කා
නානිවරු ඒ දේසයේ වසන්ට කැමති
28 වූවෝය. ඊශ්‍රායෙල්වරු බලවත්වූ කල
කනානිවරුන්ට අඳුයම් තබා ඔවුන් මු
29 එමනෙත් නොඑලවූවෝය. එප්‍රායිම්ද
ගෙසෙර්හි විසූ කනානිවරුන් නොඑල
වූවෝය. එහෙත් කනානිවරු ගෙසෙර්
30 හි ඔවුන් අතරේ විසූවෝය. සෙබුලො
නු කිත්‍රොන් වැසියනු නහලොල් වැසි
යනු නොඑලවූවෝය. කනානිවරු අඳු
යම් දෙමින් ඔවුන් අතරේ විසූවෝය.
31 ආශෙර්ද අක්කෝ වැසියනු සිදොන් වැ
සියන්ද අහලබ්වරුනු අක්සිබ්වරුන්ද
හෙල්බාවරුනු අක්පිවරුනු රෙහොබ්
32 වරුන්ද නොඑලවූවෝය. එහෙත් ආ
ශෙර් පුත්‍රයෝ ඒ දේසවාසි කනානිව
රුන් නොපනනා ඔවුන් අතරේ විසූවෝ
33 ය. නප්තලීද බෙත්ශෙමෙශ් වැසියන්ද
බෙත්අනත් වැසියනු නොපනනා දේස
වාසිවූ කනානිවරුන් අතරේ විසූවෝය.
නුමුත් බෙත්ශෙමෙශ් වැසියෝද බෙත්
අනත් වැසියෝද ඔවුන්ට අඳුයම් දුන්
34 නෝය. අමෝරිවරු දන් පුත්‍රයන්ට බ
ලාත්කාරකොට කඳුට පනනා සමතලා
වට බසිනනට ඔවුන්ට අවකාස නුදුන්
35 නෝය. අමෝරිවරු අයියාලොන්හිද
හෙරෙස් කන්දේද ෂාල්බිම්හිද විසූවෝ
ය. යෝසැප්ගේ පෙලපතේ ඇතතන්
ගේ අත ජයගෙන ඔවුන් අඳුයම් ගෙ
36 වීමට පත්කලෝය. අමෝරිවරුන්ගේ
සීමාව අක්‍රබ්බිම් පර්වතයේ සිට ඉහළට
යන පාර තිබුනේය.

2. පරිච්. තවද යෙහෝවාවහන්
සේගේ දූතයෙක් ගිල්ගල්හි සිට බො
ඛිම්ට ඇවිත් මිසරයෙන් තොප කැඳවා
තොපගේ පියවරුන්ට දෙන්ට දිවූ
දේසයට ගෙනායෙමි. තොප සමග මා
ගේ ගිවිසුම කිසි කලෙකත් නොබිඳිමියි
2 කියාද තොපද මේ දේසයේ වැසියන්
සමග කිසි එක්වීමක් නොකොට ඔවුන්
ගේ පූජාසන පෙරලාදමව්‍යයි කියාද කී
මි. තොපි මාගේ හඬට කීකරුව සිටි
3 යේ නැත. මෙසේ කොලේ මන්ද? එසේ
කල නිසා තොප ඉදිරියෙන් මම ඔවුන්
නොඑලවනෙනමි. ඔවුන් තොපගේ ඇ
ලපත්වල අනින කටු මෙන් වෙති. ඔ
වුන්ගේ දේවතාවෝ තොපට මලපත්ද
4 වෙතියි කීමි. යෙහෝවාවහන්සේගේ
දූතයා මේ සියළු වචන ඊශ්‍රායෙල් දරු
වන්ට කීවිට ජනයෝ මහ හඬින් හැඬු
5 වෝය. ඔවුනු ඒ ස්ථානයට බෝඛිම්යයි
නම් තබා එහිදී යෙහෝවාවහන්සේට
යාග කලෝය.
6 යෝෂුවා ජනයන්ට යන්ට හැරියාම
ඊශ්‍රායෙල් පුත්‍රයෝ දේසය හිමිව තමත
7 මන්ගේ උරුමවලට ගියෝය. යෝෂුවා
ගේද යෙහෝවාවහන්සේ ඊශ්‍රායෙල්
වෙනුවට කල පුදුම ක්‍රියාවල් දුටු යෝෂු
වාට පසු සිටි වැඩිමහල්ලන්ගේද සියළු
දවස්වල යෙහෝවාවහන්සේට මෙහෙ
8 කලෝය. යෙහෝවාවහන්සේගේ මෙ
හෙකරුවූ නූන්ගේ පුත් යෝෂුවාද එක
සිය දහ අවුරුද්දක් ජීවත්ව සිට මෙලේ
9 ය. ගාස් කඳුට උතුරුදිග ඒප්‍රායිම් හෙ
ළපිට තිම්නත් හෙරෙස්නම් ඔහුගේ උ
10 රුම මායිමේ ඔහු තැන්පත්කලෝය. ඒ
සියළු පරම්පරාවද තමන් පියවරුන් වෙ
තට රැස්වූවෝය. ඔවුන්ට පසු යෙහෝ
වාවහන්සේවත් ඊශ්‍රායෙල් වෙනුවට උ
න්වහන්සේ කල ක්‍රියාවල්වත් නොදත්
11 වෙන පරම්පරාවක් නැගිටුනේය. යෙ
හෝවාවහන්සේ ඉදිරියෙහි ඊශ්‍රායෙල්
12 දරුවෝ නපුරුකම්කොට බාලම්ට මෙ
හෙකරමින් ඔවුන් මිසරයෙන් ගෙනා ත
මන් පියවරුන්ගේ දෙවිවූ යෙහෝවාව
හන්සේ අත්හැර ඔවුන් වටකර සිටින්
නන්ගේ දේවතාවුන්ට එක්ව ඔවුන්ට
නමස්කාරකොට යෙහෝවාවහන්සේ

13 උදහස්කරවූවෝය. ඔවුන් යෙහෝවාව
හන්සේ අත්හැර බාලිම්ටත් අෂ්ටාරෙත්
14 වත් මෙහෙකලෝය. යෙහෝවාවහන්
සේගේ උදහස ඊශ්‍රායෙල් කෙරෙහි ඇවි
ළුනේය. උන්වහන්සේ ඔවුන් වැනසූ කා
ෂකාරයන් අතට පාවාදී ඔවුන්ගේ ස
තුරන් ඉදිරියෙහි සිටින්ට බැරිවෙන
ලෙස වටකර සිටි ඔවුන්ගේ සතුරන්ට
15 පාවාදුන්සේක. ඔවුන් ගිය ගිය තැන
යෙහෝවාවහන්සේ ඔවුන්ට කියාදිවූල
ලෙස උන්වහන්සේගේ අත ඔවුන්ට විරු
ඞව නපුරු පිණිස වූයේය ඔවුන් තද හිං
16 සාවට පත්වූනෝය. නමුත් ඔවුන් වැන
සූවන් අතින් ගලවාගත් විනිශ්චයකාර
යන් යෙහෝවාවහන්සේ නැගිටවූසේ
17 ක. ඔවුන් ඒ විනිශ්චයකාරයන්ට අකීක
රුව අන් දේවතාවන්ට එකතුව මිථ්‍යාචා
ර කරමින් ඔවුන්ට නමස්කාර කලෝය.
යෙහෝවාවහන්සේගේ ආඥාවලට කී
කරුව සිටි තමන් පියවරුන් ලෙස නො
කොට ඔවුන්ගේ මාර්ගයෙන් ඉක්ම
18 නින් අහක්ව ගියෝය. යෙහෝවාවහන්
සේ ඔවුන්ට විනිශ්චයකාරයන් නැගිට
වූකල උන්වහන්සේ විනිශ්චයකාරයා ස
මග සිට ඔහුගේ සියළු දවස් තමන් සතු
රන්ගේ අතින් ගලවාගත්සේක. ඔවුන්
ට වෙහෙසකොට පීඩාකලවුන්ගේ හිං
සාව නිසා ඔවුන්ගේ කෙඳිරිගෑමට යෙ
හෝවාවහන්සේ කනගාටුවූසේක. වි
19 නිස්චයකාරයා මැරුණම ඔවුන් අන්
දේවතාවන්ට එකතුව මෙහෙකොට ව
දිමින් තමන් පියවරුන්ට වඩා තමන්ම
කිළුටුකරගත්තෝය. තමන්ගේම ක්‍රියා
වලින්වත් දුෂ්ට මාර්ගයෙන්වත් නොහැ
20 රුනෝය. යෙහෝවාවහන්සේගේ උද
හසද ඊශ්‍රායෙලිතවරුන්ට විරුඞව ඇවි
ළ මේ ජනයන් තමන්ගේ පියවරුන්ට
මා විසින් අණකල ගිවිසුම කඩකොට
21 මාගේ හඬ නොඇසූ බැවින් තමන් පිය
22 වරු යෙහෝවාවහන්සේගේ මාර්ගය
රක්ෂාකල ලෙස ඔවුහුත් ඒ මාර්ගය ර
ක්ෂාකොට පවතිද්ද නොපවත්වද්ද කි
යා ඊශ්‍රායෙල් පරීක්ෂාකරණ පිණිස යෝ
ෂුවා නසිනවිට ඉතිරිවූ වර්ගයන්ගෙන්
කිසි වර්ගයෙක් මින්පසු නොපනනන්
23 නෙම්යි වදාලසේක. එබැවින් යෙහෝ
වාවහන්සේ ඒ වර්ගයන් යෝෂුවාගේ
අතට පාවා නොදී ඔවුන් ඉක්මනින්
නොපනනා ඉතුරුකලසේක.

3. පරිච්. කනාන්හි සියළු යුඞවල්
යුදුවූ ඊශ්‍රායෙල්වරුන් පරීක්ෂාකරණ පි
ණිසද ඊශ්‍රායෙල්වරුන්ගේ පරම්පරාව
2 ල පලමු යුඞකරන්ට නොදනනාවූන්ට
යුඞ උගන්වන පිණිසද යෙහෝවාවහන්
3 සේ ඉතිරිකල වර්ගයෝ මෙය. පිලිස්ති
වරුන්ගේ ස්වාමිවරු පස්දෙනත් සියළු
කනානිවරුත් සිදෝනිවරුත් බාල් හැ
ර්මොන් කන්දෙන් හාමත්ට ඇතුල්වෙ
නතුරු ලෙබානොන් කන්දේ වසන හි
4 විවරුත්ය. යෙහෝවාවහන්සේ මෝ
සෙස් ලවා ඔවුන්ගේ පියවරුන්ට අණ
කල උන්වහන්සේගේ ආඥාවල් අසද්ද
නැද්දැයි දැනගන්නා පිණිස මේ වර්ග
5 යෝ ඔවුන් පරීක්ෂාකරමින් සිටියෝය. ඊ
ශ්‍රායෙල් පුත්‍රයෝ කනාණිවරුද හිත්ති
වරුද අමෝරිවරුද පෙරිසිවරුද හි
විවරුද ජෙබුසිවරුද අතරෙහි වැස
6 ඔවුන්ගේ දූවරුන් භාර්‍යාවන්කොට
ගෙණ තමන් දූවරුන් ඔවුන්ගේ පුත්‍ර
යන්ට දී ඔවුන්ගේ දෙවිවරුන්ට මෙහෙ
7 කලෝය. ඊශ්‍රායෙල් පුත්‍රයෝ යෙහෝ
වාවහන්සේ ඉදිරියෙහි නපුරුකම් කො
ට තමන්ගේ දෙවිවූ යෙහෝවාවහන්
සේ සිහිනොකොට බාලිම්ටත් චෛත්‍ය
8 වලටත් මෙහෙකලෝය. එබැවින් යෙ
හෝවාවහන්සේගේ උදහස ඊශ්‍රායෙල්
කෙරෙහි ඇවිල මෙසොපොතාමේ චූ
ෂන්රිෂාතායිම් රජුගේ අතට උන්වහන්
සේ ඔවුන් පාවාදුන්සේක. ඊශ්‍රායෙල් පු
ත්‍රයෝ චූෂන්රිෂාතායිම්ට අට අවුරුද්
9 දක් මෙහෙකලෝය. ඊශ්‍රායෙල් පුත්‍ර
යෝ යෙහෝවාවහන්සේට හඬගෑසූවිට
උන්වහන්සේ ඊශ්‍රායෙල් පුත්‍රයන්ට ගැ
ලවුන්කාරවූ කාලෙබ්ගේ බාල සහෝද
රවූ කෙනෙස්ගේ පුත් ඔත්නියෙල් නැගි
10 ටවූසේක. යෙහෝවාවහන්සේගේ ආත්
මය ඔහු කෙරෙහි පැමින ඊශ්‍රායෙල්ව
රුන් විනිශ්චයකොට යුඞකරන්ට පිටත්
ව ගියේය. යෙහෝවාවහන්සේ මෙ
සොපොතාමේ චූෂන්රිෂාතායිම් රජ ඔ
හු අතට බාරදුන්සේක. ඔහුගේ අත චූ
11 ෂන්රිෂාතායිම්ගෙන් ජයගත්තෝය. ඒ
දේසයට සතලිස් අවුරුද්දක් නිවාඩු ලැ
බුනේය. කෙනෙස්ගේ පුත් ඔත්නියෙල්
මැරුනේය.

12 එවිට ඊශ්‍රායෙල් පුත්‍රයෝ යෙහෝවා
වහන්සේ ඉදිරියෙහි නැවතත් නපුරු
කම් කලෝය. ඊශ්‍රායෙල්වරු යෙහෝ

වාවහන්සේ ඉදිරියෙහි නපුරුකම් කල
නිසා උන්වහන්සේ ඔවුන්ට විරුඬව මෝ
වබිහි රජවූ එග්ලොන් බලවත් කලසේ
13 ක. ඔහුද අම්මොන්ගේද අමලෙක්ගේ
ද පුත්‍රයන් එකතුකොට ගොස් ඊශ්‍රායෙල්
ට පහරදී ඉඳිගස් නුවර බුත්තිවින්දේය.
14 එසේ ඊශ්‍රායෙල් පුත්‍රයෝ මෝවබිහි රජ
වූ එග්ලොන්ට දහඅට අවුරුද්දක් මෙ
15 හෙකලෝය. ඊශ්‍රායෙල් පුත්‍රයෝ යෙ
හෝවාවහන්සේට අඬගැසුවෝය. එවි
ට යෙහෝවාවහන්සේ බෙන්යමින්ගේ
ගෝත්‍රයේ වමත් හුරු මනුෂ්‍යයෙක්වූ
ගෙරාගේ පුත් ඒහුද්නම් ගැලවුන්කාර
යෙක් නැගිටවූසේක. ඊශ්‍රායෙල් පුත්‍ර
යෝද මෝවබිහි රජවූ එග්ලොන්ට ඒ
16 හුද්ගේ අතින් තෑග්ගක් යැවූවෝය. ඒ
හුද්ද රියනක් දිග ඇති දෙමුවහත් කඩු
වක් තමන්ටම සාදාගෙණ ඒක උතුරු
සළුව යටකොට තමන් දකුණු කලවය
පිට බැඳගෙන මෝවබිහි රජවූ එග්
17 ලොන් ලඟට ඒ තෑග්ග ගෙනාවේය.
18 එග්ලොන්ද ඉතා තර මනුෂ්‍යයෙක. ඒ
හුද් ඒ තෑග්ග දුන් විට තෑග්ග ඉසුළු ම
19 නුෂ්‍යයන් පිටත්කර ඇරියේය. ඔහුම
ගිල්ගල්හි ගල් කපන තැනදී නැවත හැ
රී රජ්ජුරුවනි ඔබට දන්වන්ට රහස්වූ ප
ණිවිඩයක් මට ඇතැයි කීය. රජ්ජුරුවෝ
ද නිශ්ශබ්දවවයි කියා ඔහු වෙත සිටි සි
20 යල්ලන්ම අහක්කෙලේය. රජ්ජුරුවෝ
තමන් ප්‍රාසාදයෙහි ඉඳිනොත්ය එවිට ඒ
හුද් ඔහු ලඟට ඇවිත් දෙවියන්වහන්සේ
ගෙන් ඔබට දන්වන්ට පණිවිඩයක් මට
ඇතැයි කීය. රජද උන් අස්නෙන් නැ
21 ගුටුනේය. ඒහුද්ද තමන් වමත දිගුකො
ට දකුණු කලවෙන් කඩුව රැගෙණ රජු
ගේ බඩට ඇන තලේ සහ මිටත් ඇතුල්
22 කෙලේය. තලය ඇතුල්ව මසින් වැසු
ණු බැවින් තමන් බඩෙන් කඩුව අදින්ට
23 නොහැකිව කුණු පිටත්වීය. එවිට ඒහුද්
වාසල්කඩින් පිටත ගොස් රජ්ජුරුවන්
ඇතුල්කොට දොරවල් වසා යතුරු ලෑ
24 යේය. ඔහු පිටත්ව ගියාම රජුගේ මෙ
හෙකරුවෝ ඇවිත් ප්‍රාසාදයෙහි දොර
වල් වැසූබව දැක තමන් ප්‍රාසාදයෙහි ත
මන් පය වහගන ඉන්නවාහේමයි කී
25 වෝය. රාජපුෂිෂයෝ තමන් ලැජ්ජාවනතු
රු නැවතී රජු ප්‍රාසාදේ දොරවල් නො
හැරිය බැවින් ඔවුන් යතුරක් ගෙන ඒ
වා ඇර ඔවුන්ගේ ස්වාමියා බිම වැටී
26 මැරුණු බව දුටුවෝය. ඔවුන් නැවතුණු
කල ඒහුද් සැඟවී ගල් කපන තැනින්
27 ඈත ගැලවී සේරත්ට ගියේය. ඔහු ආ
කල ඒප්‍රායිම් කන්දේදී හොරනෑවක්
පිඹ ඊශ්‍රායෙල් පුත්‍රයන් ඔහු සමග කන්
දෙන් පහළට බැස්ස කල ඔහු ඉස්සර
28 සිට යෙහෝවාවහන්සේ නුඹලාගේ ස
තුරුවූ මෝවබිවරුන් නුඹලා අතට බා
රදුන් නිසා මා එක්ක වරෙල්ලායයි ඔ
වුන්ට කීය. ඔවුන් ඔහු එක්ක ගොස්
මෝවබ් දේසයේ යොර්දන්හි පාවන්වැ
ලල අල්වාගෙණ කිසිවෙකුටත් එගො
29 ඩ යන්ට ඉඩ නොහැර එවෙලේම මෝ
වබිගේ බලවත් වියසීවන්තවූ දසදහ
සක් පමන මනුෂ්‍යයන් එකෙකුත් ඉතු
30 රු නොකොට මැරුවෝය. එදවස ඊශ්‍රා
යෙල් අතට මෝවබ් අසුවීය. එවිට අසූ
31 අවුරුද්දක් ඒ දේසයට නිවාඩු විය. ඔහු
ට පසු පිලිස්තියයන්ගෙන් හසියයක් ම
නුෂ්‍යයන් හරක් කෙවිටෙන් මැරූ අ
නත්ගේ පුත්වූ ෂම්ගාර් සිට ඊශ්‍රායෙල්
ගැලවීය.

4. පරිච්ජ. තවද ඒහුද් නැසුනුක
ල යෙහෝවාවහන්සේ ඉදිරියෙහි ඊශ්‍රා
යෙල් දරුවෝ නැවතත් නපුරුකම් ක
2 ලෝය. යෙහෝවාවහන්සේද හාසෝර්
හි ආන්ඩුකල කනාන්හි රජවූ යබීන් අ
තට ඔවුන් පාවාදුන්සේක. ඔහුගේ සේ
නානායකයා පරදේසීන්ගේ හරොෂෙත්
3 හි විසූ සිසෙරා විය. ඔහු යකඩ රථ නව
සියයක් ඇතිව ඊශ්‍රායෙල් පුත්‍රයන්ට වි
සි අවුරුද්දක් ඉතා වෙහෙස කලේය.
ඒ නිසා ඔවුන් යෙහෝවාවහන්සේට අ
4 ඬගැසුවෝය. ඒ කාලයේ ලපිදොත්ගේ
භාර්‍යාවූ දෙබොරානම් අනාගත වචන
කියන්නියෙක් ඊශ්‍රායෙල් විනිශ්චය ක
5 ලාය. ඈ එප්‍රායිම් කන්දේ රාමහ් සහ
බෙතැල් අතරේ දෙබොරාගේ හිඳි ග
සක් යට විසුවාය. ඊශ්‍රායෙල් දරුවෝ
6 ඈ ලඟට විනිශ්චය පිනිස ආවෝය. ඈ
කෙදෙස් නප්තාලියෙන් අබිනොවම්
ගේ පුත් බාරක් කැඳවා ඔහුට කියන්නී
තාබෝර් කන්ද ලඟට ගොස් නප්තාලී පු
ත්‍රයන්ගෙනුත් සෙබුලොන් පුත්‍රයන්ගෙ
නුත් දසදහසක් මනුෂ්‍යයන් නුඹ කැටු
7 ව ගනිතන කිෂොන් ගඟ ලඟට සිසෙ
රානම් යබීන්ගේ සේනානායකයාද ඔ
හුගේ රථ සහ සමූදුවද ලංකොට නුඹේ

අතට පාවාදෙනෙනමියි කියමින් ඊශ්‍රා
යෙල් දෙවිවූ යෙහෝවඃවහන්සේ අන
8 නොකලසේක්දැයි කිවාය. එවිට බාරක්
තුබ මා සමග යතොත් මමත් යෙමි තු
බ මා සමග නොයතොත් මමත් නො
9 යෙමියි ඈට කීයේය. ඈද සැබවින් මම
තුබ සමග යෙමි තුමුත් තුබ යන ගමන
තුබේ ගෞරවයට නොවනෙන්ය. මක්
නිසාද යෙහෝවඃවහන්සේ ස්ත්‍රියකුගේ
අතට සිසෙරා බාරදෙනසේකැයි කිවාය.
දෙබොරාද නැගිට බාරක් සමග කෙ
10 දෙස් දෙසට ගියාය. බාරක් සෙබුලො
නූ නප්තාලිද කෙදෙසට කැඳවා දසදහ
සක් මනුෂ්‍යයන් සමග ගියේය. දෙබො
11 රාද ඔහු සමග ගියාය. මෝසෙස්ගේ මා
මා වන හොබබ් පුත්‍රයන්ගෙන්වූ කෙ
නිය හෙබෙර් කෙනිවරුන්ගෙන් වෙන්
ව කෙදෙස් ලඟ සානායිම් සමබිමේ ඔ
12 හුගේ කූඩාරම තබාගතෙන්ය. එවිට අ
බිනොවම්ගේ පුත් බාරක් තබෝර් ක
13 න්ට ගිය බව සිසෙරාට දැන්වූවෝය. සි
සෙරා නවසියයක් පමන ඔහුගේ සියළු
යකඩ රථද පරදේශීන්ගේ හරෙසෙත්
පටන් කිෂොන් ගඟ දක්වාද තමාට අයි
14 ති සියළු සමූහද රැස්කෙලේය. එවිට
දෙබොරා බාරක්ට කථාකොට නැගිට
පනන යෙහෝවඃවහන්සේ සිසෙරා තු
බේ අතට පාවාදුන් දවස මේය. යෙ
හෝවඃවහන්සේ තුබ ඉදිරියෙහි නො
ගියසේක්දැයි කිවාය. එවිට බාරක්ද ඔ
හු කැටුව දසදහසක් මනුෂ්‍යයෝද ත
15 බෝර් කන්දෙන් බැස ගියෝය. යෙහෝ
වඃවහන්සේද සිසෙරාද ඔහුගේ සියළු ර
ථද සියළු සේනාවද කඩුමුවහතින් බා
රක් ඉදිරියෙහි පැරදවූ බැවින් සිසෙරා
තමාගේ රථයෙන් පැන පයින් පලා ගි
16 යේය. එහෙත් බාරක් රථද සේනාවද
පරදේශීන්ගේ හරෙෂෙත් දක්වා එලවා
ගියේය. සිසෙරාගේ සියළු සේනාව එ
කෙකුත් ඉතුරු නොවෙන ලෙස කඩුමු
17 වහතින් මැරුන් කෑවෝය. තුමුත් හ
සෝර්හි රජවූ යබින්ද කෙනියාවූ හෙ
බෙර්ගේ ගෙයි වැසියනු අතරේ සමාද
නය වූ බැවින් සිසෙරා කෙනියා හෙ
බෙර්ගේ භාර්‍යාවූ යායෙල්ගේ කූඩාරම
18 ට පයින් පලාගියේය. යායෙල්ද සිසෙරා
පෙරමගට ගොස් මාගේ ස්වාමිනි භය
නොවී ඇතුලට හැරී මා ලඟට අවමැන
වයි ඔහුට කිවාය. ඔහුද ඈගේ කූඩාර
මට හැරී ගිය කල ඈ රෙද්දකින් ඔහු
19 වැසුවාය. මට ඉතා පිපාසය වතුර ටිකක්
දියනැයි කීයේය. ඈ කිරි බඳුනක්
හැර ඔහුට බොනනට දී ඔහු වැසුවාය.
20 කූඩාරමේ දොරටුවේ සිට කිසිවෙක් ඈ
විත් තුබෙන් මෙහි කිසි මනුෂ්‍යයෙක්
ඇද්දැයි ඇසූ කල නැත කියාපනනැයි
21 ඈට කීයේය. එවිට හෙබෙර්ගේ භා
ර්‍යාවූ යායෙල් කූඩාරමෙන් ඇනයකුත්
මිටියකුත් අතින් ගත්තාය. වෙහෙසව
තද නින්දෙන් උන් ඔහු ලඟට හෙමින්
ගොස් ඇනය ඔහුගේ කන්මුල ගසා ඒ
ක බිමට සවිකලාය. එසින් ඔහු මෙලේ
22 ය. බාරක් සිසෙරා එලවාගෙන ආකල යා
යෙල් ඔහු පෙරමගට ඇවිත් වරෙනන
තුබ සොයන මනුෂ්‍යයා තුබට පෙනවමි
යි ඔහුට කිවාය. ඔහුද ඈගේ කූඩාරම
ට ආකල ඇනය බැම කෙලවර වැදී සි
23 සෙරා මැරුනු බව දුටුයේය. දෙවියන්
හන්සේ ඒ දවස කනාන්හි රජවූ යබින්
ඊශ්‍රායෙල් පුත්‍රයන් ඉදිරියෙහි යටත්කල
24 සේක. ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ අතද දිනූ
තුව කනාන්හි රජවූ යාබින් විනාසකර
ණතුරු කනාන්හි රජවූ යාබින්ට එදිරි
ව ජයගතෙන්ය.

5. පරිච්ඡේ. ඒ දවස දෙබොරාද අබි
නොවම් පුත් බාරක්ද ගීතිකා කියමින්
2 ජනයෝ කැමැතෙතන් යුඩයට ගියෝ
ය. එකල ඊශ්‍රායෙල් නිසා පලිගත් යෙ
හෝවඃවහන්සේට සතුති කරපල්ලාය.
3 රජ දරුවනි අසාපල්ලාය කුමාරයෙනි
කන් දියපල්ලාය. මම්ම යෙහෝවඃවහන්
සේට ගීතිකා කියනෙනමි ඊශ්‍රායෙල් දෙ
විවූ යෙහෝවඃවහන්සේට සතුති කරන්
4 නෙමි. යෙහෝවඃවහන්ස ඔබවහන්සේ
සීර්ගෙන් නික්මුනු කල්හිද ඔබවහන්
සේ එදෙම්ගේ කෙතෙන් පිටතට වැඩි
ය කල්හිද පොලොව කම්පාවිය. අහ
සෙන් වැසි වැස වලාකුල්වලින් දියර බි
5 න්දු වැගුරුනේය. පර්වතවල් යෙහෝවඃව
හන්සේ ඉදිරියෙනු සිනයි පර්වතය පවා
ඊශ්‍රායෙල් දෙවිවූ යෙහෝවඃවහන්සේ
6 ඉදිරියෙන්ද උනුවිය. අනත්ගේ පුත්වූ
ෂම්ගාර්ගේද ජයෙල්ගේද දවස්වලදී ම
හ මාවත කිසිවෙක් නොගොස් ගමන්
යනෙනෝ වෙන මාවත්වලින් ගියෝය.
7 ඊශ්‍රායෙල්ගේ මව්වූ දෙබොරානම් මා
නැගිටිනතුරු ඊශ්‍රායෙල් ගම් නටඩුනව

8 පාළුවූවෝය. ඔවුන් අළුත් දේවතාවන්
තෝරාගත්තෝය. එවිට දොරටුවල යුද්ධ
ය තිබුණේය. ඊශ්‍රායෙල්හි සිටි හතලිස්
දහක් මිනිසුන් අතරේ පලිහක්වත් හෙ
9 ල්ලයක්වත් තිබුනා දුටුවෝද? ජනයන්
අතරේ කැමැත්තෙන් යුද්ධයට ගිය ඊශ්‍රා
යෙල්ගේ අධිපතීන්ට මාගේ හිත නැ
මෙනේය. යෙහෝවඃවහන්සේට ස්තු
10 තිකරපල්ලාය. සුදු කොටළුවන් පිට ය
න විනිශ්චයට හිඳින මාවත ඇවිදින තු
11 බලා කථාකරපල්ලාය. ලින් පැන් තො
ටවලදී වැද්දන්ගේ ශබ්දයෙන් ගැලවී
සිටිනෝ ඊශ්‍රායෙල් ගම් වැසියන් වෙ
ත යෙහෝවඃවහන්සේගේ ධර්මිෂ්ඨකම්
එළිදරව් කෙරෙති. එකල යෙහෝවඃව
හන්සේගේ ජනයෝ දොරටුවලට බසි
12 නෝය. නැගිටු නැගිටු දෙබොරා නැ
ගිටු නැගිටු ගීතිකාවක් කියාපන්න. අ
බිනොවම් පුත් බාරක් නුඹ නැගිට ජය
13 ගත්තන් ජයගනින්න. උන්වහන්සේ ඉති
රි අය ජනයන් අතරේ වශවතුන් කෙ
රෙහි මූලාදෑනිකමට පත්කලසේක. යෙ
හෝවඃවහන්සේ බලවතුන් කෙරෙහි
14 මූලාදෑනිකමට මා පත්කලසේක. බෙන්
යමින් නුඹට පසු නුඹේ ජනයන් අත
රේ අමලෙක්ට විරුඬව එප්‍රායිම්ගෙන්
පෙලපතක්ද මකීර්ගෙන් මූලාදෑනීහුද
සෙබුලොන්ගෙන් ලියන්නාගේ පන්හි
ද පාවිච්චිකරන්නෝද පැමුණුනෝය.
15 ඉස්සාඛර්ගේ කුමාරයෝවන ඉස්සාඛර්
ද බාරක්ද දෙබොරා එක්ක සිටියෝය.
බාරක් මිටියාවතට පයින් යවනු ලැබී
ය. එවිට රූබෙන් වෙන්වූනාට බො
16 හෝ සිත් සැකව තිබුණේය. නුඹ බැටළු
රැලවල අඬ අසා බැටළු පට්ටියේ මක්
නිසා සිටියෙහිද? රූබෙන් වෙන්වූනා
17 ට බොහෝ සිත් සැකව තිබුණේය. ගි
ලියද් යොර්දාන් එතර විසුවේය. දන් නැ
වුවල කුමට වසනේද? ආෂෙර් මුහුදු
වෙරළේ හැසිර ඔහුගේ බිඳගිය තැන්ව
18 ල විසුවේය. සෙබුලොනුද නප්තලීද කෙ
තෙහි උස් තැන්වලදී ඔවුන් මැරෙන්නතු
19 රු අන්තරා නොසලකන සමූහවක. රජ
වරු ඇවිත් සටන්කල විට මෙගිද්දෝ
ගිල්ම ලඟ තානාක්හි කනාන් රජවරු
සටන්කොට මුදලෙන් ප්‍රයෝජන නො
20 ලැබුවෝය. අහස යුඬකලේය. තාරකා
වෝ ඔවුන්ගේ මාර්ගවල සීසෙරාට විරු
21 ඬව සටන්කලෝය. කීශොන් යන පුරා
ණ ගංගාවේ ඔවුන් පාවූනෝය. අහෝ
මාගේ ආත්මය නුඹ බලවතුන් පෑගුයෙ
22 හිය. අශ්වයන්ගේ පැනනැගීමෙන් ඔවුන්
ගේ බලවතුන්ගේ පැනුම නිසා කුරය
23 කැබුණේය. යෙහෝවඃවහන්සේට උප
කාර කරන්ටද බලවතුන්ට විරුඬව යෙ
හෝවඃවහන්සේට උපකාර කරන්ටද
නා බැවින් මෙරොස් සහ එහි වැසියන්
ටද බොහෝ සෙයින් සාපකරපල්ලායයි
යෙහෝවඃවහන්සේගේ දූතයා කීයේ
24 ය. වෙන ස්ත්‍රීන්ට වඩා කෙනියා හෙ
බෙර්ගේ භාර්යාවූ ජායෙල්ට ආශීර්වාද ව
නේය. කූඩාරමෙහි ස්ත්‍රීන්ට වඩා ඇට
25 ආශීර්වාද වනේය. සීසෙරා වතුර ඉල්ලූ
විට ඈ ඔහුට කිරි දුන්නිය. ඈ අනර්ඝ
26 තලියකින් වෙඬරු ගෙනාවාය. ඇගේ
අතින් ඇනය ගෙන දකුනතින් කම්ක
රුවාගේ මිටිය අරන් සීසෙරාට ගසා බැ
ම කෙලවර ඇනයකින් හිල්කොට ඔහු
27 ගේ හිස කැපීය. ඔහු නැමී ඇගේ පාමු
ල වැටී වැතුරුණේය. ඇගේ පාමුල නැ
මී වැටුණේය නැමී වැටුණු තැනම මැරු
28 ණේය. සීසෙරාගේ මව් කවුළුවකින් බ
ලා සුළු කවුළුවෙන් හඬා ඔහුගේ රථය
මෙපමන පමාව එනෙන් මන්ද? ඔහුගේ
රථයක් සුනඛවෙනෙන් මන්දැයි කීවාය.
29 ඇගේ නුවණැති වශවත් ස්ත්‍රීන් ඇට උ
30 ත්තර දුනෝය. එසේම ඈ තමාටම
උත්තර දෙන්නී ඔවුන්ට සුව සිදුව ඔ
වුන් එකිනෙකාට තරුණියන් එකෙක්
දෙන්නෙක් බැගින් සීසෙරාට නො
යෙක් පාට ඇති හිඳි කර්මාන්තයෙන්
නොයෙක් වර්ණකල කොල්ලකන්නන්
ගේ බෙල්ලට සුදුසු දෙපැත්තෙන් හිඳි ක
ර්මාන්තයෙන් නොයෙක් වර්ණකල
කොල්ල කෑ දෙයක් බෙදාගතෙත් නැද්
31 දැයි කීවාය. යෙහෝවඃවහන්ස ඔබගේ
සියළු සතුරෝ විනාසවෙත්වා. උන්වහන්
සේට ප්‍රේම වෙනෝ අනුභාවයෙන්
යන්නාවූ සූර්යයා මෙන් වෙත්වයි කියා ගී
තිකා කලාය. එයින් දේසයට සතලිස් අ
වුරුද්දක් නිවාඩු වීය.

6. පරිච්ඡේ. නැවත ඊශ්‍රායෙල් පුත්‍ර
යෝ යෙහෝවඃවහන්සේ ඉදිරියෙහි න
පුරුකම් කලෝය. යෙහෝවඃවහන්සේ
ද ඔවුන් මිදියන් අතට සත් අවුරුද්දක්
2 ට පාවාදුන්සේක. මිදියන්ගේ අතද ඊ
ශ්‍රායෙල්ට විරුඬව ජයගත්තේය. මිදියන්

වරුන් නිසා ඊශ්‍රායෙල් පුත්‍රයෝ පර්වත
වලද ගුහාවලද නොගියහැකි තැන ති
3 බෙන බිම්ගෙවල්ද සෑදුවෝය. ඊශ්‍රා
යෙල්වරුන් වපුල පසු මිදියන්වරුද අම
ලෙක්වරුද පෙරදිග මිනිස්සුද යන මො
4 වුන් ඔවුන්ට එදිරිව ආවෝය. ඔවුන්ට
විරුඬව අඳුයම් බැඳ ගාශාවට යන තැ
න දක්වා පොළොවේ සශ්‍රීක විනාසකො
ට ඊශ්‍රායෙල්ට රක්ෂාවවත් බැටළුවෙක්වත්
ගවයෙක්වත් කොටළුවෙක්වත් ඉතුරු නො
5 කළෝය. ඔවුන් තමන්ගේ සිව්පාවුන්ද
කූඩාරම්ද ගෙනවුත් ඔවුන්ද තමන්ගේ
ඔටුවෝද ගනන් නැතුව පලඟැටියන්
මෙන් බොහෝසේ ඇවිත් දේශය විනා
6 සකරන්ට ඇතුල්වූනෝය. ඊශ්‍රායෙල්ද
මිදියන්වරුන් නිසා ඉතා දිළිඳුව යෙහෝ
7 වඃවහන්සේට හඬගෑසුවෝය. ඊශ්‍රායෙල්
පුත්‍රයෝ මිදියන්වරුන් නිසා යෙහෝවඃ
8 වහන්සේට හඬගෑසූ කල යෙහෝවඃව
හන්සේ අනාගත වචන කියනෙනෙක්
ඊශ්‍රායෙල් පුත්‍රයන් වෙතට එවූසේක. ඔ
9 හු කියනුයේ මිසරයෙන් තොප ගෙන
වුත් වාල්කමේ ගෙයින්ද මිසරියයන්ගේ
අතින්ද තොපට වෙහෙසකල සියල්ලන්
ගේ අතින්ද ගලවා තොප ඉදිරියෙන් ඔ
10 වුන් පන්නා ඔවුන්ගේ දේශය තොපට
දුන් මම තොපගේ දෙවිවූ යෙහෝවඃව
හන්සේය කියාද තොපි සිටින දේශයේ
අමෝරිවරුන්ගේ දේවතාවුන්ට භය
නොවෙල්ලාය කියාද කීයෙමි. එහෙත්
මාගේ හඬට කීකරු නූනෝයයි ඊශ්‍රා
යෙල් දෙවිවූ යෙහෝවඃවහන්සේ වදා
ළසේකැයි කීයේය.

11 යෙහෝවඃවහන්සේගේ දූතයෙක් ඇ
විත් අබියෙස්රිවූ යොවාස්ට අයිති ඔප්‍රා
හි අලොන් ගසක් යට හිඳ මිදියන්ව
රුන්ගෙන් ගෝධුම සඟවාගන්නා පිනි
ස මිදි පැස ලඟ ගෝධුම මඩිමින් සිටි
12 යොවාස්ගේ පුත් ගිඩියොන්ට පෙනී වි
යසී ඇති බලවත් මනුෂ්‍යය යෙහෝවඃව
13 හන්සේ තුබ සමගයයි කීය. ගිඩියොන්
ඔහුට කථාකොට මාගේ ස්වාමිනි යෙ
හෝවඃවහන්සේ අප සමග නම් මේ සි
යල්ල අපට සිදුවූයේ මක්ද? යෙහෝවඃ
වහන්සේ අප මිසරයෙන් නොගෙනා
සේක්දැයි කියා අපේ පියවරු අපට කිව්
උන්වහන්සේගේ සියලු පුදුමවල් කො
තනද? එහෙත් දැන් යෙහෝවඃවහන්
සේ අප අත්හැර මිදියන්වරුන්ගේ අත්
14 වලට පාවාදුන්සේකැයි කීයේය. යෙ
හෝවඃවහන්සේද ඔහු බලා මේ තාගේ
බලයෙන් ගොස් මිදියන්වරුන්ගේ අ
තින් ඊශ්‍රායෙල් ගලවාගනුවයි කියාද ම
ම තා නොයැවීමිදැයි කියාද වදාළසේක.
15 මාගේ ස්වාමිනි මම ඊශ්‍රායෙල් ගලවාග
නෙන් කෙසේද? මාගේ පවුල මනස්
සේහි දිළිඳුය මමද මාගේ පියාගේ
ගෙයි ඉතා කුඩාවූයෙමියි උන්වහන්සේ
16 ට කීය. යෙහෝවඃවහන්සේද සැබවින්
මම තා සමග සිටිමි. තෝද මිදියන්වරුන්
ට එක්කෙනෙකුට මෙන් පහර දෙන්
17 නෙහියයි වදාළසේක. එවිට ගිඩියොන්
දැන් ඔබවහන්සේ ඉදිරියෙහි කරුණාව
ලැබුයෙම්නම් ඔබවහන්සේ මා සමග
කථාකරණ බවට ලකුනක් මට පෙන්නු
18 වමැනව. මම ඔබවහන්සේ වෙතට මා
ගේ පූජාව පිටත ගෙනවුත් ඔබවහන්
සේ ඉදිරියෙහි තබනතුරු මෙතැනින්
නොයන ලෙස ඉල්ලමියි කීයේය. උන්ව
හන්සේද තා නැවත එනතුරු මම සිටි
19 මියි කීසේක. ගිඩියොන්ද ඇතුලට ගොස්
එළු වස්සෙක්ද ඒපා එකක පිටිවලින්
තුම්බූ රොටි සාදා මස් පෙට්ටියක දමා
මස් සොදි භාජනයකද වත්කොට ඇ
ලොන් ගහ යට සිටි උන්වහන්සේ වෙත
20 ට ගෙනවුත් පිදූයේය. දෙවියන්වහන්
සේගේ දූතයා මස් සහ තුම්බූ රො
ටිද මේ ගල පිට තබා මස් සොදි වත්ක
රවයි ඔහුට කීය. ඔහුද එසේ කල විට
21 යෙහෝවඃවහන්සේගේ දූතයා තමා
ගේ අත තිබූ සැරයටියේ අග දිගුකො
ට මස්වලටද තුම්බූ රොටිවලටද තට්ටු
කෙලේය. එවිට ගලෙන් ගිනි නැගී
මස්ද තුම්බූ රොටිද දා ගියේය. එකල
යෙහෝවඃවහන්සේගේ දූතයා ඔහු ඉදි
22 රියෙන් නොපෙනී ගියේය. ඔහු යෙ
හෝවඃවහන්සේගේ දූතයෙක් බව ගි
ඩියොන් දැක අහෝ දෙවිවූ යෙහෝවඃ
වහන්ස යෙහෝවඃවහන්සේගේ දූත
යෙකු මුහුනින් මුහුන ලා දුටිමියි කීයේ
23 ය. යෙහෝවඃවහන්සේද තට ශාන්ති
වේවා භයනොවව නොනසිනෙනෙහිය
24 යි ඔහුට වදාළසේක. එවිට ගිඩියොන්
යෙහෝවඃවහන්සේට පූජාසනයක් එහි
ගොඩනගා යෙහෝවඃ ෂාලොම් නම
ඊට තැබුයේය. අලයෙස්‍රියවරුන්ට අයි
තිව තිබෙන ඔප්‍රාහි ඒක අද දක්වා ති
බෙනෝය.

25 එදවම රෑ යෙහෝවාවහන්සේ තාගේ
පියාගේ සත් අවුරුදු වයස් ඇති දෙවෙ
නි තරුණ ගොනා ගෙන තාගේ පියාට
අයිති බාල්ගේ පූජාසනය කඩාදමා ඒ
ලඟ තිබෙන චෛත්‍ය කැලය කපා මේ
26 ගල මුදුනේ නියම තැන තාගේ දෙවි
වූ යෙහෝවාවහන්සේට පූජාසනයක්
ගොඩනගා දෙවෙනි ගොනා ගෙන තා
කපන චෛත්‍ය කැලේ ලීවලින් දවන
27 යාගයක් පූජාකරවයි වදාළසේක. එවි
ට ගිඩියොන් තමන් මෙහෙකරුවන්
ගෙන් දස දෙනෙක් ගෙණ යෙහෝවා
වහන්සේ ඔහුට කී ලෙස කෙළේය. ඔ
හු පියාගේ ගෙයි වැසියන්ටත් නුවර වැ
සියන්ටත් භයෙන් දවහල් ඒක කරන්ට
28 බැරුව රාත්‍රියේ ඒක කෙළේය. නුවර
වැසියෝ මා උදය නැගිට බාල්ගේ පූජා
සනය කඩාදමා ඊලඟ තිබුන චෛත්‍ය
කැලයද කපා ගොඩනැගූ පූජාසනද පි
ට දෙවෙනි ගොනා පූජාකරණලද්දේ
29 යයි දැක මේක කෙළේ කවුදැයි ඔවුනො
වුන්ට කියා සොයා ඇසූ කල යෝවාස්
ගේ පුත්වූ ගිඩියොන් මේක කෙළේයයි
30 ඔවුන්ට කීවෝය. එවිට නුවර වැසියෝ
යෝවාස්ට කථාකොට නුඹේ පුතා බාල්
ගේ පූජාසනය කඩා ඊලඟ තිබුන චෛ
ත්‍ය කැලය කැපූ නිසා ඔහු මරන්ට පිට
31 තට ගෙනෙනවායි කීවෝය. යෝවාස්
ද නුඹලා බාල් වෙනුවට කථාකොට ඔ
හු ගලවාගන්ට කැමතිද ඔහු වෙනුවට
කථාකරන්ට කැමති අය දැන් උදයම ම
රනු ලැබෙති. බාල්ගේ පූජාසනය කි
සිවෙක් කඩාදැමූ නිසා ඔහු දෙවි කෙ
නෙක්නම් තමන් වෙනුවට කථාකෙරෙ
32 වයි කියා විරුද්ධව සිටියන්ට කීයේය. එ
බැවින් ඒ දවස යෙරුබ්බාල්නම් ගිඩි
යොන්ට දී ඔහු බාල්ගේ පූජාසනය කඩා
දැමූ නිසා බාල්ම ඔහුට විරුද්ධව වග කි
යාවයි කීයේය.

33 එවිට සියළු මිදියන්වරුද අමලෙකවරු
ද පෙරදිග මිනිස්සුද රැස්ව එතර ගොස්
යෙස්‍රියෙල් සමතලාවේ අන්දයම් බැන්
34 දෝය. එහෙත් යෙහෝවාවහන්සේගේ
ආත්මය ගිඩියොන් වෙත පැමිනියේය.
ඔහු හොරනෑවක් පිඹිය අබියේසර්ද
35 ඔහුට එකතුවිය. ඔහුට එකතුව සිටි ම
නස්සෙස්හි සියළු තැනටත් ආෂෙර්ටත්
සෙබුළුන්ටත් නප්තලිටත් දූතයන් යැවී
වෝය. ඔවුන් ඔහුගේ පෙරමගට ආ
36 වෝය. ගිඩියොන් ඔබවහන්සේ කී ලෙ
37 ස මාගේ අතින් ඊශ්‍රායෙල් ගලවනසේක්
නම් කමතේ බැටළුවකුගේ ලොම් තබ
නෙනම්. සියළු බිම වියලී ලොම් පිට ප
මනක් පිනි තිබේනම් ඔබවහන්සේ කී
ලෙස මාගේ අතින් ඊශ්‍රායෙල් ගලවන
සේකැයි දනිම්යි දෙවියන්වහන්සේට කී
38 යේය. ඒ එසේ සිද්ධවූනේය. ඔහු පසුව
දා මා උදය නැගිට ලොම් එක්කර එයින්
පිනිදිය පුරම භාජනයක් මිරිකුයේය.
39 තවද ගිඩියොන් දෙවියන්වහන්සේට ක
ථාකොට ඔබවහන්සේගේ උදහස මට
විරුද්ධව නොදිලිහුනාවේ මේ වර පම
නක්ම කථාකරම් මේ වරට පමනක්ම
ලොමින් ඔබවහන්සේ පරීක්ෂාකරන්ට
අවසර දෙන ලෙස ඔබවහන්සේට යාඥා
වෙමි ලොම් පමනක් පිට වියලී සියළු බි
40 ම පිට පිනි තිබේවයි කීයේය. දෙවියන්
වහන්සේද ඒ රාත්‍රියේ එසේ කලසේක.
ලොම් පිට පමනක් වියලී සියළු බිම පි
ට පිනි තිබුනේය.

7. පරිච්ඡේ. යෙරුබ්බාල්නම ගිඩි
යොන්ද ඔහු සමග සිටි සෙනගද මා උද
ය නැගිට හාරෝත්හි ළිඳ ලඟ අන්දයම්
බැන්දෝය. ඔවුන්ට උතුරු පැත්තේ මි
2 දියන්වරුන්ගේ සමූදුව මිවියාවතේ මො
රේ කන්ද ලඟ සිටියෝය. එවිට යෙහෝ
වාවහන්සේ ගිඩියොන්ට කියනසේක්
තා සමග සිටින සෙනග බොහෝය. එ
බැවින් ඊශ්‍රායෙල්වරු මට විරුද්ධව අහං
කාර ලෙස කථාකරමින් අපේ බලයෙන්
ම අපි ගැලවුනෙමුයයි නොකියන පිනි
ස ඔවුන්ගේ අතට මිදියන්වරුන් පාවා
3 නොදෙමි. එබැවින් ගොස් කිත් භය ඇ
ති කවරෙකුත් ගිලියද් කන්දෙන් කල්
ඇතුව හැරී යේවයි ජනයන්ට ඇසෙන්
ට ප්‍රසිද්ධකරවයි කීසේක. එවිට සේනා
වෙන් විසි දෙදහසක් හැරී ගොස් දසදහ
4 සක් ඉතුරුව සිටියෝය. යෙහෝවාව
හන්සේ සේනාව තව බොහෝය ඔවුන්
වතුර ලඟට ගෙණවුත් එහිදී තා වෙනු
වට පරීක්ෂාකරනෙනම්. තා සමග යන්ට
මා විසින් කියන අයවල් යනෙනෝය තා
සමග නොයන්ට මා විසින් කියන අය
වල් නොයනෙනෝයයි ගිඩියොන්ට කී
5 සේක. ඔහු වතුර ලඟට සේනාව ගෙනා
යේය. යෙහෝවාවහන්සේද බලෙලකු
මෙන් තමන් දිවෙන් වතුර බොනනාද

වෙනම තබාගනුව බොන්ට තමන් දන
ගසන සියල්ලන්ටද එසේම කරවයි ගිඩි
6 යොන්ට කීයේක. තමාගේ අත කට ත
බා වතුර බිව් මිනිස්සු තුන්සියයක. ඉ
7 තිරි අයවල් දනගසා නැමී බීවෝය. යෙ
හෝවඃවහන්සේද දිවෙන් වතුර බිව් මි
නිසුන් තුන්සියේ ලවා තොප ගලවා මි
දියණ්වරුන් තා අතට පාවාදෙනෙනම් අ
නික් සියල්ලෝ තමන්ගේ ඉඩම්වලට
8 යත්වයි ගිඩියොන්ට කීයේක. ජනයෝ
කෑමත් හොරනෑවළුත් ගතෙතෝය. ගිඩි
යොන් ඒ තුන්සියේ ලග සිටුවාගෙණ අ
නික් සියළු ඊශ්‍රායෙල්වරු තමන් කූඩා
රම්වලට යවිය. මිදියන් සමූදුව ඔහුට ප
හල මිටියාවතේ සිටියේය.

9 එම රෑ යෙහෝවඃවහන්සේ ඔහුට කි
යනසේක් නැගිට පහළ සිටින සමූදුව
වෙතට යව සමූදුව තා අතට බාරදුනි
10 මි. තෝ පහළ යන්ට හයනම් තගේ
මෙහෙකරුවූ පූරා සමග සමූදුවට බසිව
එවිට ඔවුන් කියනෙත් කිමෙක්දූයි අෑ
සුවාම සමූදුව වෙතට යන්ට තගේ අත්
11 බලවත්වේයයි කීයේක. ඔහුද සමූද
වේ ආයුධ ඇති මිනිසුන් පිටිපසින් ත
මන් මෙහෙකරුවූ පූරා සමග ගියේය.
12 මිදියණ්වරුද අමලෙකවරුද පෙරදිග සි
යළු මිනිස්සුද මිටියාවතේ පැතිර පොල
ගැටි මෙන් බොහෝව සිටියෝය. ඔවුන්
ගේ ඔටුවෝ ගනනක් නැතුව මුහුදු වෙර
13 ලේ වැලිමෙන් බෝවූවෝය. ගිඩියොන්
ඇවිට එක් මනුෂ්‍යයෙක් ස්වප්නයක් තමා
ගේ යහළුවාට කියමින් මම ස්වප්නයක්
දුටිමි යව රොටියක් මිදියන් සමූදුව මැ
ද වැටී කූඩාරමකට ලංව ඒක වැටෙන්
ට පහර දුනෙන්ය. ඒ කූඩාරම පෙරලී
14 වැතිර තිබුනේයයි කීයේය. ඔහුගේ ය
හළුවා උත්තර දෙමින් මේක ඊශ්‍රායෙල්
මනුෂ්‍යයෙක්වූ යෝවස්ගේ පුත් ගිඩි
යොන්ගේ කඩුව මිස වෙන දෙයක්
නොවේය දෙවියණ්වහන්සේ ඔවුන්ගේ
අතට මිදියනූ සියළු සමූදුවද පාවාදුන්
15 සේකැයි කීයේය. ගිඩියොන් මේ ස්වප්
නයත් එහි තේරුමත් අසා නමස්කාර
කොට ඊශ්‍රායෙල් සමූදුව ලගට හැරී
ගොස් යෙහෝවඃවහන්සේ මිදියන් සමූ
දුව නුබලා අතට පාවාදුන් නිසා නැගි
16 ටිල්ලායයි කීය. ඔහු ඒ මනුෂ්‍යයන් තුන්
සියේ කොඨාස තුනකට බෙදා එක එකා
අතට හොරනෑවක්ද හිස් කලයක්ද එ
17 හි තුල පහනක්ද බැගින් දී මා දෙස බ
ලා මා විසින් කරණ ලෙස කරපල්ලාය.
අන්දුයම පිටිපසට මා එනවිට මා විසින්
18 කරණ හැටි නුබලාත් කරපල්ලාය. මාත්
මා සමග සිටින සියල්ලන්හුත් හොරනෑ පි
ඹින විට මුළු අන්දුයමේ හැම පැතිවල
ම නුබලාත් හොරනෑ පිඹ යෙහෝවඃව
හන්සේගේද ගිඩියොන්ගේද කඩුවයයි
19 කෑගසා කියාපල්ලායයි ඔවුන්ට කීය. එ
විට ගිඩියොනූ ඔහු සමග සිටි මිනිස්සු සි
යයද මද්දිම යාමේ මුලදී ඔවුන් අළුත්
රැකවළුන් තැබූ විට අන්දුයමේ පිටිපස
ට ඇවිත් හොරනෑ පිඹ තමන් අත තිබූ
20 කලගෙඩි බින්දෝය. කොඨාස තුනම
හොරනෑ පිඹ කලගෙඩි බිඳ වමතින් ප
හන් අල්වා දකුනත් ඔසවා හොරනෑ පි
ඹ යෙහෝවඃවහන්සේගේද ගිඩියොන්
21 ගේද කඩුවයයි හඬගසා අනූයම වටේ
ට සියල්ලෝම තමන්ට නියම තැන්වල
සිටියෝය. සියළු සමූදුව කෑගසමින් දිව
22 පලාගියෝය. ඒ තුන්සියේ හොරනෑ පි
ඹෝය. යෙහෝවඃවහන්සේ සියළු සමූ
දුවේ මිනිසුන්ගේ කඩු තමන් යහළුවන්
ට විරුඬව හරවා සියළු සමූදුව ශරීරත්
හි බැත්සිතෘටද අබෙල් මෙහොලෘහි සි
23 මාවේ තබ්බටද දිව පලාගියෝය. ඊශ්‍රා
යෙල්වරු නප්තලියෙනූ ආශේර්රියෙනූ
සියළු මනස්සෙසනූ රැස්ව මිදියන් පසු
24 පස්සේ එලවා ගියෝය. ගිඩියොනූ එප්‍රා
යිම් කන්දේ සෑම තැනට පනිවිඩකාර
යන් යවා මිදියන්ට විරුඬව පහලට ඇ
විත් බැත්බාරුත්හිද යොදීන්හිද තො
ටූපලවල් ඔවුන්ට ඉස්සරෙන්ම ගනිල්ලා
යයි කීය. එප්‍රායිම්හි සියළු මිනිස්සු රැස්ව
බැත්බාරුත්හිද යොදීන්හිද තොටූපල
25 වල් ගතෙතෝය. ඕරෙබ්ද සිබ්ද යන මි
දියණ්වරුන්ගේ රජදරුවන් දෙනනා අල්
වාගෙණ ඕරෙබ් ගල මුදුනේ ඕරෙබ්
මරා සිබ්හි මිදි පැස ලගදී සිබ් මරා මිදි
යන් එලවා ඕරෙබ්ගේද සිබ්ගේද හිස්
යොදීන් එගොඩ ගිඩියොන් වෙතට
ගෙනාවෝය.

8. පරිච්ඡෙ. එප්‍රායිම් මනුෂ්‍යයෝ ගිඩි
යොන්ට කථාකොට මිදියණ්වරුන් සමග
යුඬයට නුබ යන කල අපට අඩනොග
සා මෙසේ කලේ මක්නිසාදූයි කියා
ඔහු සමග රෞද්‍ර ලෙස විවාද කලෝය.
2 ඔහුද නුබලා කල දේට සමවෙන්ට මම

දූන් කලේ මොකද? එප්‍රායිම්ගේ මිදි එ
ල අවුලාගැනීම අබියෙසර්ගේ මිදිඵල
නෙලාගැනීමට වඩා යහපත් නොවේ
3 ද? දෙවියන්වහන්සේ මිදියන්හි රජවූ ඔ
රෙබ්ද සීබ්ද තුබලාගේ අතට පාවාදුන්
සේක. තුබලා කල දේට සමවෙන්ට ම
ට කරන්ට පිලිවන් කිමෙක්දැයි ඔවුන්
ට කීය. එසේ කී කල ඔහු ගැන තිබුන
4 ඔවුන්ගේ කෝපය සංසිඳුනේය. ගිඩි
යොන්ද යොර්දනට ඇවිත් එතරව ඔහුද
ඔහු සමග සිටි මිනිස්සු තුන්සියයද ඔවුන්
පසුපස්සේ එලුබැද ගොස් ක්ලාන්තවූ
5 වෝය. ඔහු සුකොත්හි මූලාදෑනීන්ට ක
ථාකොට මා විසින් මිදියන් රජවූ සෙබා
ද සල්මුන්නාද එලවාගන මා සමග එන
මිනිසුන් ක්ලාන්ත බැවින් ඔවුන්ට කෑම
දෙන ලෙස ඉල්ලමියි සුකොත්හි මනුෂ්‍ය
6 යන්ට කීයේය. සුකොත්හි මූලාදෑනියෝ
තුබේ සේනාවට අප විසින් කෑම දෙන්
නට සෙබාද සල්මුන්නාද දැන් තුබට අ
7 හුවිදැයි කීවෝය. ගිඩියොන් යෙහෝවා
වහන්සේ සෙබාද සල්මුන්නාද මාගේ
අතට පාවාදුන් විට තුබලාගේ මස් මම
බැද්දේ කටුවලින්ද වේරැනවලින්ද ඉරන්
8 නෙමියි කීය. එතනින් පෙනූවෙල්ට
ගොස් ඔවුන් සමග එසේම කථාකල විට
එහි මනුෂ්‍යයෝ සුකොත්හි මනුෂ්‍යයන්
9 කී ලෙසම කීවෝය. ඔහුද මම නැවත
සැපසේ ආකල මේ කොටුව බිඳ හෙළමි
10 යි පෙනූවෙල්හි මනුෂ්‍යයන්ට කීය. සෙ
බාද සල්මුන්නාද ඔවුන් සමග නැගෙන
හිර මිනිසුන්ගේ සියළු සේනාවලින් ඉති
රි අයගෙන් පහලොස් දහසක් පමන
සේනාවද කර්කොර්හි සිටියෝය. මක්
නිසාද එකසිය විසිදහසක් පමන ක
11 ඩුගත් මනුෂ්‍යයෝ නැසුනෝය. ගිඩි
යොන් නොබාටද යොග්බෙහාටද පෙ
රදිගින් කූඩාරම්වල වසන්නන්ගේ පා
රෙන් ගොස් සැලකිමක් නැතුව සිටි මේ
12 සේනාවට පහර දුනේය. සෙබාද සල්
මුන්නාද පලාගිය කල ඔවුන් එලවා සෙ
බාද සල්මුන්නාද යන මිදියන් රජුන් දෙ
දෙන අල්වාගෙණ සියළු සේනාව පරා
දකලේය.

13 යොවස්ගේ පුත් ගිඩියොන් ඉර උදා
වෙන්ට ඉස්සරින් යුධයෙන් හැරී ඇවිත්
සුකොත්හි තරුණයෙක් අල්වාගෙණ
14 ඔහුගෙන් ඇසුවාම සුකොත්හි අධිපති
න් මූලාදෑනීන් සැත්තෑ හත් දෙනෙක් ඔ
15 හුට පෙණුවා දුනේය. ඔහුද සුකොත්හි
මනුෂ්‍යයන් ලඟට ඇවිත් තුබේ ක්ලාන්
තවූ මිනිසුන්ට අප විසින් කෑම දෙන්ට
සෙබාද සල්මුන්නාද දැන් තුබට අහුවිදැ
16 යි කියා මට කවටකම් කලෝය. සෙබා
ද සල්මුන්නාද බලාපල්ලායයි කියා නුව
ර ප්‍රධානීන් අල්වා බැද්දේ කටුවලිනුත්
වේරැනවලිනුත් සුකොත්හි මිනිසුන්ට
17 දඬුවම් දුනේය. පෙනූවෙල්හි කොටුව
ද බිඳ හෙළා නුවර මිනිසුන්ද මැරීය.
ඉන්පසුව තුබලා තබෝර්හිදී මැරූ මිනි
18 සුන් කෙබඳු මනුෂ්‍යයෝදැයි සෙබාගෙ
න් සල්මුන්නාගෙන් ඇසුවිට ඔවුන් තුබ
ලෙසය එකිනෙකා රජෙකුගේ දරුවන්
19 ට සමානයයි උත්තර දුනෝය. ඔහුද
ඔවුන් මාගේ සහෝදරයෝය. මාගේ
මෑණියන්ගේ පුත්‍රයෝය. යෙහෝවාව
හන්සේ ජීවමානසේක්නම් තුබලා ඔ
වුන් නොමරා හැරියොත් මම තුබලා
නොමරමියි කීය. ඔහු තමන් කුළුඳුල්
යෙතෙර්ට නැගිට ඔවුන් මරාපන්නැයි
20 කීය. එහෙත් ඒ තරුණයා බාල නිසා බ
21 යින් කඩුව නොඇද සිටියේය. එවිට
සෙබාද සල්මුන්නාද තුබම නැගිට අප
ට ගසාපන්න. මක්නිසාද මනුෂ්‍යයාගේ
පමනට ශක්තිය ඇතැයි කීවෝය. ගිඩි
යොන් නැගිට සෙබාද සල්මුන්නාද මරා
ඔවුන්ගේ ඔටුවන් කර තිබුනු ආභරණ
ද ගත්තේය.

22 එකල ඊශ්‍රායෙල් මනුෂ්‍යයෝ මිදියන්
ගේ අතින් අප ගලවාගත් නිසා තුබත්
තුබේ පුත්‍රයොත් මුනුබුරෙත් අප ආන්
23 ඩුකෙරෙව්වයි ගිඩියොන්ට කීවෝය. ඔ
හුද මමවත් මාගේ පුත්‍රයෝවත් තුබලා
ආඩු නොකරමුව. යෙහෝවාවහන්සේ
තුබලා ආන්ඩුකරණසේකැයි ඔවුන්ට
24 කීය. ගිඩියොන්ද කථාකොට මොවුන්
ඉෂ්මායෙල්වරුන් බැවින් ඔවුන්ට රන්
කණ්ණාභරණ තිබුනේය. තුබලා සියල්
ලෝ කොල්ලගත් කණ්ණාභරණ මට දෙ
න ලෙස තුබලාගෙන් ඉල්වන්ට කැමැ
25 ත්තෙමියි ඔවුන්ට කීය. ඔවුන් අපි ඒවා
කැමැත්තෙන් දෙමුයයි උත්තරදී වස්ත්‍ර
යක් අතුට සියල්ලෝ තම තමන් කොල්
26 ලගත් කණ්ණාභරණ එහි දැමුවෝය. මි
දියන්හි රජුන් ඇඟ තිබුන ආභරණද
බෙල්ලේ ආභරණද අඳුන්වන් වස්ත්‍රද
ඔටුවන් කර වට තිබුන මාලද හැර ඔහු
ඉල්වාගත් රන් කණ්ණාභරණවල බර

27 ෂෙකෙල් එක්දස් හත්සියයක. ගිඩියො
ඈ එයින් එෆොදක්කොට ඒක තමන්
නුවර ඔප්‍රාහි තැබුවේය. සියළු ඊශ්‍රා
යෙල් මිථ්‍යාචාරයෙන් ඊපස්සේ ගියෝ
ය. ඒ දෙය ගිඩියොන්ටත් ඔහුගේ පවුල
28 ටත් මලපතක් විය. මෙසේ ඊශ්‍රායෙල් පු
ත්‍රයන් ඉදිරියෙහි මිදියන්වරු යටහත්ව
තමන්ගේ ඉස් තවත් නොඑසවුවෝය.
රටද ගිඩියොන්ගේ දවස්වලදී සතලිස්
අවුරුද්දක් සමාදානව තිබුනේය.
29 යොවස්ගේ පුත් යෙරුබ්බාල් තමා
30 ගේ ගෙයිම විසුයේය. ගිඩියොන් බො
හෝ භාර්‍යාවන් ඇතිව සිටි නිසා ඔහුට
ජාතක පුත්‍රයන් සැත්තෑ දෙනෙක් විය.
31 ෂෙකෙම්හි සිටි ඔහුගේ උපභාර්‍යාවද
ඔහුට පුත්‍රයෙකු වැදුවාය. ඔහුට අබිමෙ
32 ලෙක් නම තැබිය. යෝවස්ගේ පුත් ගි
ඩියොන් හොඳ මහළු වයසේදී මැරී අ
බිඑස්‍රිවරුන්ගේ ඔප්‍රාහි තමාගේ පියවූ
යෝවස්ගේ සොහොන් ගෙයි තැන්පත්
33 කරනු ලැබිය. ගිඩියොන් මල කෙනෙ
හිම ඊශ්‍රායෙල් පුත්‍රයෝ නැවත මිථ්‍යාචා
රයෙන් බාලිම් පස්සේ ගොස් බාල්බෙ
34 රිත් තමන්ට දෙවිකොට ගත්තෝය. ඊ
ශ්‍රායෙල් පුත්‍රයෝද වටකර සිටි සියළු ස
තුරන් අතින් ඔවුන් ගැලවූ තමන්ගේ
දෙවිවූ යෙහෝවාවහන්සේත් සිහිනො
35 කොට යෙරුබ්බාල්නම් ගිඩියොන් ඊ
ශ්‍රායෙල්ට කල සියළු යහපත්කම් හැටි
යට ඔහුගේ පවුලට උපකාරද නොක
ලෝය.

9. පරිච්. තවද යෙරුබ්බාල්ගේ
පුත් අබිමෙලෙක් තමන් මව්ගේ සහෝ
දරයන් සිටින ෂෙකෙම්ට ගොස් ඔවුන්ද
තමන් මව්ගේ පිය වංශෙ සියළු පවුල්ද
2 සමග කථාකොට යෙරුබ්බාල්ගේ පුත්‍ර
යෝ හැත්තෑ දෙනම තුඹලාට මූලාදෘ
නිකම් කරත්නම් ඒ කිරීමවත් එක්කෙ
නෙක් තුඹලාට මූලාදෘනිකම් කෙරේ
නම් ඒ කිරීමවත් තුඹලාට වැඩිය හොඳ
කිමෙක්ද? මා තුඹලාගේ ඇට මාංශ බ
ව සිහියට ගෙන ෂෙකෙම්හි සියළු මනු
ෂ්‍යයන්ට කථාකරණ පිනිස මම තුඹලා
3 ට යාඥාවෙමියි කියේය. තමන් මව්ගේ
සහෝදරයෝ ෂෙකෙම්හි සියළු මනුෂ්‍ය
යන්ට මේ සියළු වචනවල් ඔහු ගැන කී
වෝය. ඔහු අපේ සහෝදරයාය කියා
ඔවුන්ගේ සිත් අබිමෙලෙක් වෙතට
4 නැමුනේය. ඔවුන්ද බාල්බෙරිත්ගේ ගෙ
යින් රිදී හැත්තෑවක් ඔහුට දුන්නෝය.
අබිමෙලෙක් තමන් කැටුව ගිය කම්මැ
ලි නිකම් මිනිසුන්ට එයින් කුලී දුන්නේ
5 ය. ඔහුද ඔප්‍රාහි තමන් පියාගේ ගෙට
ගොස් යෙරුබ්බාල්ගේ පුත් තමන් ස
හෝදරයන් හැත්තෑ දෙන ගලක් පිටදී
මැරුවේය. එයින් යෙරුබ්බාල්ගේ බා
6 ල පුත් යෝතන් සැඟවී ඉතුරුවිය. ෂෙ
කෙම්හි සියළු මිනිස්සුද මිල්ලෝගේ සිය
ළු පවුලද එක්ව ගොස් ෂෙකෙම්හි තිබූ
න කනුතලාව ලඟදී අබිමෙලෙක් රජ
7 කමට පත්කලෝය. ඔවුන් ඒක යෝ
තන්ට කිව්විට ඔහු ගෙරිසිම් පර්වතය මුදු
නේ සිට හයියෙන් අඬගසා ෂෙකෙම්හි
මනුෂ්‍යයෙනි දෙවියන්වහන්සේ තුඹලා
ට කන් දෙන පිනිස මට කන් දියල්ලා
8 ය. එක් කලක ගස් තමන්ට රජෙක් අ
භිෂේක කරන්ට එකතුව තුඹ අපට ර
ජකම් කලමැනවයි ඔලීව ගසට කීවෝ
9 ය. ඔලීව ගසද දෙවියන්වහන්සේටත් ම
නුෂ්‍යයාටත් ගෞරව කරණ මගේ ස්වර
ස හැර ගස්වලට රජවෙන පිනිස යම්දැ
10 යි ඔවුන්ට කිය. එවිට ගස් තුඹ අපට ර
ජකම් කරනතට අවමැනවයි අත්තික්
11 කා ගසට කීවෝය. අත්තික්කා ගහ මා
ගේ මිහිරිකමද යහපත් ඵලද හැර ගස්
වලට රජවෙන පිනිස යම්දැයි ඔවුන්ට
12 කිය. එවිට ගස් තුඹ අපට රජවෙන්ට අ
13 වමැනවයි මිදිවැලට කීවෝය. මිදි වැල
ද දෙවියන්වහන්සේත් මනුෂ්‍යයාත් සතු
ටු කරණ මාගේ මිදි රස හැර ගස්වලට
14 රජවෙන පිනිස යම්දැයි ඔවුන්ට කිය. එ
විට සියළු ගස් තුඹ අපට රජවෙන්ට අව
15 මැනවයි වේරැන වැලට කීවෝය. වේ
රැන වැලද තුඹලා මා රජකමට අභිෂේ
ක කරණවා සැබෑනම් මාගේ සෙවනෙ
හි තුඹලාගේ විශ්වාසය තබාපල්ලාය.
නැත්නම් වේරැන වැලින් ගිනි නැගී
ලෙබානොන්හි කිහිරි ගස් අළුකෙරෙව
16 යි කිය. මාගේ පියානෝ තුඹලා නිසා
යුඩකොට තමන් ජීවිතය මහත් උපද්‍ර
17 වට පත්ව මිදියන් අතින් තුඹලා ගැලෙ
18 වූයේය. තුඹලාත් මේ දවස මාගේ පිය
වංශයට විරුඬව නැගිට ඔහුගේ පුත්‍රයන්
හැත්තෑ දෙන ගලක් පිටදී මරා ඔහුගේ
මෙහෙකාරියගේ පුත් අබිමෙලෙක් තුඹ
ලාගේ සහෝදරයාය කියා ෂෙකෙම් ම
නුෂ්‍යයන් කෙරෙහි රජකමට පත්ක

ලෝය. එබැවින් නුඹලා අබිමෙලෙක්
සැබවින් ඇදහැති ලෙස රජ්‍යයට පමු
19 නුවා යෙරුබ්බාල්ටත් ඔහුගේ පවුල
ටත් යහපත්කොට ඔහුගේ වට්නාකම
ලෙස කලෝනම් නුඹලා මේ දවස යෙ
රුබ්බාල් සහ ඔහුගේ වංශය කෙරෙහි
රුචවිලි නොව සැබෑ ලෙස පැවැත්
තෝනම් නුඹලා අබිමෙලෙක් කෙරෙ
හි ප්‍රීති වෙයල්ලාය. ඔහුත් නුඹලා කෙ
20 රෙහි ප්‍රීතිවේවා. නැත්නම් ෂෙකෙම්
මිනිසුන්ද මිල්ලෝගේ පවුලද විනාසවෙ
න ලෙස අබිමෙලෙක්ගෙන් ගිනි පැමි
ණේවා අබිමෙලෙක් විනාසවෙන ලෙ
ස ෂෙකෙම් මිනිසුන්ගෙන්ද මිල්ලෝගේ
21 පවුලෙන්ද ගිනි පැමිණේවයි කීය. යෝ
තාම් තමන් සහෝදරවූ අබිමෙලෙක්ට
හයින් බීර්ට පලාගොස් එහි විසුයේය.
22 අබිමෙලෙක් ඊශ්‍රායෙල් කෙරෙහි
23 තුන් අවුරුද්දක් රජ්‍යය කල පසු යෙ
රුබ්බාල්ගේ පුත්‍රයන් හැත්තෑවට කලා
24 වූ හිංසාව නිසා ඔවුන්ගේ ලේ ඔවුන්
මැරූ තමන් සහෝදරවූ අබිමෙලෙක්
පිටද ඔහුගේ සහෝදරයන් මැරීමෙහි
ඔහුට උපකාර කලාවූ ෂෙකෙම් මනුෂ්‍ය
යන් පිටද එන පිනිස දෙවියන්වහන්සේ
අබිමෙලෙක්ද ෂෙකෙම් මනුෂ්‍යයන්ද මැ
දට දුෂ්ඨාත්මයක් යැවූසේක. ෂෙකෙම්
මනුෂ්‍යයෝද අබිමෙලෙක්ට වංචාකම්
කොට ඔහු අල්ලන්ට කඳු මුදුනෙහි මු
25 ර සිටෙව්වෝය. ඔවුන්ද ඒ මග යන සිය
ල්ලන්ගේ බඩු කොල්ලකෑවෝය. ඒ බ
26 ව අබිමෙලෙක්ට ආරංචිවිය. ඇරත් ඒ
බෙද්ගේ පුත් ගාල් තමන් සහෝදර
යන් සමග ෂෙකෙම්ට ගියේය. ෂෙකෙම්
මනුෂ්‍යයෝ ඔහු කෙරෙහි විශ්වාසවූ
27 හෝය. ඔවුන්ද කෙත්වලට ගොස් මිදිව
තුවලින් මිදි ඵල රැස්කොට මැඩ තමන්
දේවතාවුන්ගේ ගෙට ඇතුල්ව කා බී
28 සතුටුව අබිමෙලෙක්ට සාපකලෝය. ඒ
බෙද්ගේ පුත් ගාල් කථාකොට අබිමෙ
ලෙක් කවුද? ෂෙකෙම් කවුද? අපි ඔහු
ට වැඩ කරමුද? ඔහු යෙරුබ්බාල්ගේ පු
තා නොවේද? ඔහුගේ සේනාපති සෙ
බුල් නොවේද? ෂෙකෙම්ගේ පියවූ හා
මෝර්ගේ මිනිසුන්ට මෙහෙකරපල්ලාය
අපි ඔහුට මක්නිසා මෙහෙකරනෙනමු
29 ද? අහෝ මේ මිනිස්සු මා යටතේනම්
අබිමෙලෙක් අහක්කරනෙනම්යි කියා
නුඹේ යුධසේනාව වැඩිකරගන නික්
30 මෙයනතැයි අබිමෙලෙක්ට කීය. නුවර
මූලාදණිවූ සෙබුල් ඒබෙද්ගේ පුත්ගාල්
ගේබස් අසා ඔහුගේ ක්‍රෝධය ඇවිල ර
31 හසින් පනිවිඩකාරයන් අබිමෙලෙක්
වෙත යවා ඒබෙද්ගේ පුත් ගාල්ද ඔහු
ගේ සහෝදරයෝද ෂෙකෙම්ට ඇවිත්
ඔවුන් නුඹට විරුඬව නුවර සවිකරති එ
32 බැවින් රාත්‍රියේ නුඹත් නුඹ සමග සිටින
මිනිස්සුත් නැගිට කෙතෙහි සැඟවී සිට
උදය ඉර උදාවෙනකොටම කලින් නැ
33 ගිට නුවරට විරුඬව සටන්කරපල්ලාය.
ඔහුද ඔහු සමග සිටින්නන්ද නුඹට විරු
ඬව ආකල කරනනට ලැබුනු දෙයක් ඔ
34 වුන්ට කරපනනැයි කීයේය. අබිමෙ
ලෙක්ද ඔහු සමග සිටි සියළු මිනිස්සුද
රාත්‍රියෙහි නැගිට සතර කොඨාසයකට
35 බෙදී ෂෙකෙම්ට විරුඬව රැකසිටියෝ
ය. ඒබෙද්ගේ පුත් ගාල්ද නික්ම ගොස්
නුවර වාසල් දොරටුල සිටියේය. අබි
මෙලෙක්ද තමන් සමග සිටි මිනිස්සුද
36 රැකලුන් තැනින් නැගිට ගියෝය. ගාල්
ඔවුන් දැක මිනිස්සු කඳු මුදුනෙන් බැ
ස එනෙනෝයයි සෙබුල්ට කීයේය. සෙ
බුල්ද කඳුවල සෙවනැල්ල මිනිසුන් වා
ගේ නුඹට පෙනෙනෙනේයයි ඔහුට කීය.
37 නැවතත් ගාල් කියනුයේ මිනිස්සු දේ
සය මැදින් බැස එනෙනෝය වෙන සමාග
මක් මෙයොනිනිම් තලාවෙන් එනෙනෝ
38 යයි කීය. එවිට සෙබුල් නුඹ අබිමෙ
ලෙක් කවුද අපි ඔහුට මෙහෙකරමුදැයි
කී නුඹේ වචන දැන් කොතනද? මේ නු
ඹ විසින් නිඥාකල මිනිස්සු නොවෙත්
ද? ගොහින් ඔවුන් සමග සටන්කරන්ට
39 ඉල්ලම්යි කීය. ගාල්ද ෂෙකෙම් මනුෂ්‍ය
40 යන් ඉදිරිපිටට ගොස් අබිමෙලෙක් සම
ග සටන්කෙලේය. අබිමෙලෙක්ද ඔහු
පාරේ එලෙව්වාම ඔහු පලාගියේය.
බොහෝ දෙන වාසල් දොර තුල දක්වා
41 වැටී තුවාලවූනෝය. අබිමෙලෙක්ද අ
රුමාහි විසුයේය. සෙබුල්ද ෂෙකෙම්හි
වසන්ට ගාල් සහ ඔහුගේ සහෝදරයන්
ට අවසර නොදී ඔවුන් අහක්කෙලේය.
42 පසුවදා මිනිස්සු කෙතට ගියෝය ඒක අ
43 බිමෙලෙක්ට ආරංචිවිය. ඔහු මිනිසුන් රැ
ගෙන කොඨාස තුනකට බෙද කෙතෙ
හි සැඟවී සිටියේය. ඔහු මිනිසුන් නුව
රින් නික්ම ආ බව දැක ඔවුන්ට විරුඬ
44 ව නැගිට ඔවුන්ට පහරදී ඔහුද ඔහු ස
මග සිටි කොඨාසයද ඉක්මනින් දුව

ගොස් නුවර දොර සිටියෝය. අනික්
කොඨාස දෙකද කෙතවල සිටි සියළු මි
45 නිසුන් එලවා මැරුවෝය. අබිමෙලෙක්
ද නුවරට විරුඞව ඒ දවස මුළුල්ලෙහි
සටන්කොට නුවර අල්ලාගෙන එහි සිටි
සමූදුව මරා නුවර බිඳ හෙළා එහි ලුණු
46 වැපිරවිය. ෂෙකෙම් කොටුවේ සිටි සිය
ළු මනුෂ්‍යයෝ ඒ අසා බෙරිත් දේවතා
වාගේ සව් ගෙයකට ඇතුල්වූනෝය.
47 නැවත ෂෙකෙම් කොටුවේ සියළු මනු
ෂ්‍යයන් රැස්වූ බව අබිමෙලෙක්ට ආරං
48 චිව ඔහුද ඔහු සමග සිටි සියළු මිනිස්සුද
සල්මොන් කන්දට නැගී ගියෝය. අබි
මෙලෙක් අතින් පොරවක් ගෙන ගස
කින් අත්තක් කපා තමන් කරපිට තබා
ගෙන නුබලා මා කල දෙය බලා ඉක්
මනින් එලෙස කරපල්ලායයි ඔහු සමග
49 සිටි සියළු මිනිසුන්ට කීයේය. සියළු මි
නිස්සුද එසේම එකිනෙකා අත්තක් බෑ
ගින් කපාගෙන අබිමෙලෙක් පස්සේ
ගොස් ඒවා බලකොටුවේ දමා ගිනි ති
බුවෝය. එවිට ෂෙකෙම් කොටුවේ දහ
සක් පමන ගෑනු පිරිමි සියළු මිනිස්සු
මලෝය.

50 අබිමෙලෙක්ද තෙබෙස්ට ගොස් ඊට
විරුඞව අණ්ඩයම් බැඳ ඒක අල්ලාගත්
51 තේය. ඒ නුවර තුල තිබෙනී බලකො
ටුවකට සියළු ස්ත්‍රී පුරුෂයෝද නුවර වැ
සියෝද පලාගොස් එහි දොරවල් වසා
52 කොටුව මුදුනට නැගී සිටියෝය. අබි
මෙලෙක්ද කොටුවට ඇවිත් ඊට විරුඞ
ව සටන්කොට කොටු දොර ගිනිලන්ට
53 ලංවූයේය. එක් ස්ත්‍රියක් ඇඹරුම් ගල
ක කැබෙල්ලක් අබිමෙලෙක්ගේ හිස්
54 කබොල්ල බිඳෙන්ට හිස පිට දැමීය. එ
කෙනෙහි තමන් ආයුධ ගෙන යන ත
රුණයා කැඳවා මා ස්ත්‍රියකුගේ අතින්
මැරුන්කෑ බව මිනිසුන් නොකියන පි
නිස කඩුව ඇද මා නසාපනනැයි කීය.
55 තරුණයාද ඔහුට ඇන මැරුයේය. ඊ
ශ්‍රායෙල් මනුෂ්‍යයෝද අබිමෙලෙක් මල
බව දැක ඔවුන් සියල්ලෝම තමතමන්
56 ගේ ඉඩමවලට ගියෝය. මෙසේ දෙවි
යන්වහන්සේ තමන් සහෝදරයන් හැ
ත්තෑවක් මරා තමන් පියාට කල දෙ
ය ගැන අබිමෙලෙක්ගේ දුශ්ඨකමට වි
57 පාක දුන්සේක. යෙරුබ්බාල්ගේ පුත්
යොතම්ගේ ඇවිම ෂෙකෙම්ගේ මිනිස්
සුන් කෙරෙහි පැමිණියේය. දෙවියන්ව
හන්සේ ඔවුන්ගේ සියළු නපුරුකම ඔ
වුන්ගේ ඉස්පිට විපාක දුන්සේක.

10. පරිච්ඡේ. තවද අබිමෙලෙක්
ගෙන් පසු ඉස්සාඛර්හි දෝදෝගේ පුත්
පූවාගේ පුත්වූ තෝලා ඊශ්‍රායෙල් රක්ෂා
2 කිරීමට පත්වූනේය. ඔහුද එප්‍රායිම් කන්
දේ සමිර්හි වැස විසිතුන් අවුරුද්දක් ඊ
ශ්‍රායෙල් විනිශ්චයකොට නැසීගොස් ස
3 මිර්හි තැන්පත්කරනු ලැබිය. ඔහුට පසු
ව ගිලියද්හි ජායිර් නැගිට විසි දෑවුරුද්
4 දක් ඊශ්‍රායෙල් විනිශ්චය කෙලේය.
කොටළු වස්සන් තිහක් පිට යන පුත්‍ර
යන් තිස් දෙනෙක් ඔහුට ඇතිවිය. ගි
ලියද් දේශයෙහි අද දක්වා හාවොත්
ජායිර්යයි කියනලද නුවරවල් තිහක්
5 ඔවුන්ට තිබූනේය. ජායිර්ද නැසී කා
6 මොන්හි තැන්පත්කරනු ලැබිය. ඊශ්‍රා
යෙල් දරුවෝද බාලිම්ද අෂ්තාරෙත්
ද සිරියායේත් සිදෝන්හිත් මෝවබ්හිත්
අම්මොන් පුත්‍රයන්ගේත් පිලිස්තිවරුන්
ගේත් දේවතාවුන්ට සේවයකොට යෙ
හෝවාවහන්සේ අත්හැර උන්වහන්සේ
ට මෙහෙනොකොට උන්වහන්සේ ඉදිරි
7 යෙහි දුශ්ඨකම් කලෝය. යෙහෝවාව
හන්සේගේ උදහසද ඊශ්‍රායෙල්ට විරුඞ
ව ඇවිල පිලිස්තිවරුන්ටද අම්මොන් පු
8 ත්‍රයන්ටද ඔවුන් පාවාදුන්සේක. ඔවුනු
ඒ වෂීයේ පටන් දහඅට අවුරුද්දක් යො
ර්දාන් එතර අමෝරියයන්ගේ දේශයේ
ගිලියද්හි විසූ සියළු ඊශ්‍රායෙල් පුත්‍රයන්ට
9 වෙහෙසකොට පීඩාකලෝය. තවද අ
ම්මොන්ගේ පුත්‍රයෝ යූදාටත් බෙන්ය
මින්ටත් එප්‍රායිම් වංශයටත් විරුඞව යුඞ
කරන්ට යොර්දාන් එතරට ගිය හෙයින්
10 ඊශ්‍රායෙල් ඉතා පීඩිතවූනෝය. ඔවුන්
යෙහෝවාවහන්සේට කෑගසා අපි දෙ
වියන්වහන්සේ අත්හැර බාලිම්ට මෙහෙ
කල හෙයින් ඔබවහන්සේට විරුඞව ප
11 වූ කලෙමුයයි කිව්වෝය. යෙහෝවාව
හන්සේ ඊශ්‍රායෙල් දරුවන්ට කියන
සේක් මිසරවාසීන්ගෙනුද අමෝරියයන්
ගෙනුද අම්මොන් පුත්‍රයන්ගෙනුද පිලිස්
තීන්ගෙන්ද මම තොප ගලවා නොග
12 තිම්ද? සිදෝන්වරුනු අමලෙක්වරුනු
මායොනිවරුනු තොපට පීඩාකල විට
තොපි මට කෑගැසුවෝය. මමද ඔවුන්
13 අතින් තොප ගලවාගතිමි. නුමුත් තො
පි මා අත්හැර අන් දේවතාවුන්ට මෙ

හෙකල බැවින් තොප තවත් ගලවා
14 නොගනිමි. තොපි තෝරාගත් දේවතා
වුන්ට කෑගසව්. තොපගේ පීඩා කාලේ
දී ඔවුන් තොප ගලවාගන්නා වේවායි
15 කීසේක. ඊශ්‍රායෙල් දරුවෝ යෙහෝ
වාවහන්සේට කථාකොට අපි පව් කෙ
ළෙමුව ඔබවහන්සේට යහපත්ව පෙ
නෙන ලෙස අපට කලමැනව. එහෙත්
මේ දවසෙහි අප ගලවාගතමැනවයි කී
16 වෝය. ඔවුහු තමුන් අතරෙන් අන් දේ
වතාවුන් පහකොට යෙහෝවාවහන්
සේට මෙහෙකලෝය. උන්වහන්සේගේ
ආත්මයද ඊශ්‍රායෙල්ගේ අසරණය නිසා
17 සෝකවිය. එවිට අම්මොන් පුත්‍රයෝ රැ
ස්ව ගිලියද්හි අඳුයම් බැන්දෝය. ඊශ්‍රා
යෙල් පුත්‍රයෝද රැස්ව මිස්පෙහි අඳු
18 යම් බැන්දෝය. එවිට ගිලියද් මිනිස්සුත්
අධිපතියොත් අම්මොන්ගේ පුත්‍රයන්ට
විරුඬව යුඬකරන්ට පටන්ගන්නේ කව
රෙක්ද? ඔහු ගිලියද්හි සියළු වැසියන්
කෙරෙහි මූලාදෑනි වේයයි ඔවුනොවුන්
ට කීවෝය.

11. පරිච්ඡේ. ගිලියද්හි යැප්තානම්
බලවත් වීයසී ඇති මනුෂ්‍යයෙක් විය.
ඔහු ගිලියද් නිසා උපන් වේශ්‍යා ස්ත්‍රිය
2 කුගේ පුත්‍ර විය. ගිලියද්ගේ භාර්‍යාව ඔ
හු නිසා පුත්‍රයින් වැදුවාය. භාර්‍යාවගේ
පුත්‍රයෝ වැඩිවිය පැමිණ තෝ අන් ස්ත්‍රි
යෙකුගේ පුතෙක අපේ පියානන්ගේ
ගෙදර උරුමක්කාරයෙක් නොවන්නෙ
3 හිය කියා යැප්තා පිටත දැමූවෝය. යැප්
තාද ඔහුගේ සහෝදරයන් ළඟින් සැඟ
වී ගොස් තොබ් රටේ සිටියේය. එහිදී
නිකම් මිනිස්සු යැප්තා ළඟට රැස්ව ඔ
4 හු සමග ඇවිද්දෝය. කල්යාමෙන් අම්
මොන් පුත්‍රයෝ ඊශ්‍රායෙල්ට විරුඬව යු
5 ඬ කලෝය. අම්මොන් පුත්‍රයන් ඊශ්‍රා
යෙල්ට විරුඬව යුඬකල විට ගිලියද්හි
නායකයෝ තොබ් රටෙන් යැප්තා ගෙ
6 නෙන්ට ගොස් අම්මොන් පුත්‍රයන්ට වි
රුඬව යුඬකරණ පිනිස අපට අධිපති
වෙන්ට වරෙන්නැයි යැප්තාට කීවෝ
7 ය. යැප්තාද තුඹලා මා කෙරේ වෛර
බැඳ මාගේ පියාගේ ගෙයින් මා පිටත
නොදැමූවෝද? දැන් තුඹලාගේ දුකෙ
හිදී මක්නිසා මා වෙතට ආවෝදැයි ගි
8 ලිගද් නායකයන්ට කීය. එවිට ගිලියද්
නායකයෝ අම්මොන් පුත්‍රයන්ට විරුඬ
ව යුඬකර සියළු ගිලියද් වැසියන්ට අධි
පති වෙන පිනිස අප සමග යන්ට නැ
වත තුඹ වෙත ආමුයයි යැප්තාට කී
9 වෝය. යැප්තාද අම්මොන් පුත්‍රයන්ට
විරුඬව යුඬකරන්ට තුඹලා මා නැවත
රටට ගෙනාවාම යෙහෝවාවහන්සේ
මා ඉදිරියෙහි ඔවුන් භාරදෙනසේක්
නම් මා තුඹලාගේ අධිපතියා කරගනිද්
10 දැයි ගිලියද් නායකයන්ට කීය. ගිලියද්
නායකයෝද අප විසින් තුඹේ කීම ලෙ
ස කරණ බවට යෙහෝවාවහන්සේ අ
පට සාක්ෂිවනසේකැයි යැප්තාට කීවෝ
11 ය. එවිට යැප්තාද ගිලියද් නායකයන්
සමග ගියේය. මනුෂ්‍යයෝද ඔහු තමන්
ගේ අධිපතියාද මූලාදෑනියාද කලෝය.
යැප්තාද මිස්පේදී යෙහෝවාවහන්සේ
ඉදිරියෙහි තමන්ගේ සියළු වචන කීය.
12 එවිට යැප්තා අම්මොන් පුත්‍රයන්ගේ
රජු වෙතට පණිවිඩකාරයන් යවා තුඹ
මාගේ දේසයට පැමිණ මා සමග යුඬක
13 රන්ට මක්නිසා එනෙන්දැයි කීය. අම්
මොන් පුත්‍රයන්ගේ රජ යැප්තාගේ පණි
විඩකාරයන්ට උත්තර දෙමින් ඊශ්‍රායෙල්
මිසරයෙන් පිටත්ව ඇවිත් අර්නෝන්
පටන් යබ්බොක්ද යොර්දන් දක්වා මා
ගේ දේසය අල්වාගත්තෝය. ඒ නිසා ඒ
රටවල් සමාදානයෙන් දීපන්නැයි කීයේ
14 ය. යැප්තාද අම්මොන් පුත්‍රයන්ගේ ර
ජුට පණිවිඩකාරයන් නැවත යැවූයේය.
15 ඔවුන් කථාකොට යැප්තා මෙසේ කියන්
නේය. ඊශ්‍රායෙල් මෝවබ්හි දේසයවත්
අම්මොන් පුත්‍රයන්ගේ දේසයවත් අල්
16 වානොගත්තෝය. එහෙත් ඊශ්‍රායෙල් මි
සරයෙන් අවුත් සුප් මුහුද පටන් කා
දෙස් දක්වා වනාන්තර මැදින් යන කල
17 ඊශ්‍රායෙල් ඒදොම් රජු වෙතට පණිවිඩ
කාරයන් යවා තුඹේ දේසය මැදින් යන්
ට අවසර ඉල්ලමියි කීය. එහෙත් ඒදොම්
රජ ඒක නොඇසුයේය. එසේම මෝ
වබ් රජුටත් ඔවුන් යැව්වෝය ඔහුද අම
නාපවිය. ඊශ්‍රායෙල්වරු කාදෙෂ්හි වා
18 සය කලෝය. පසුව වනාන්තර මැදින්
ගොස් ඒදොම් දේසයත් මෝවබ් දේස
යත් වටකරින් මෝවබ් දේසේ නැගෙ
න ඉරින් අවුත් මෝවබ් සීමාව ඇතුල
ට නොඇවිත් අර්නෝන් එගොඩ සිටි
යෝය. අර්නෝන් මෝවබ්හි සීමාව
19 තිබුණේය. ඊශ්‍රායෙල් හෙෂ්බොන්හි අ
මෝරිවරුන්ගේ සිහොන් රජුට පණිවිඩ

කාරයන් යවා ඊශ්‍රායෙල් නුඹේ දේසය
මැදින් තමන් ඉඩමට යන්ට අවසර ඉ
20 ල්ලමියි කිය. සීහොන් ඔහුගේ දේසය
මැදින් ඊශ්‍රායෙල්වරුන්ට යන්ට අවසර
දෙන්ට විශ්වාස නොකොට තමාගේ සි
යළු ජනයන් රැස්කොට ජහස්හි කඳු
යම් බැඳ ඊශ්‍රායෙල්ට විරුඬව යුඬකෙ
21 ළේය. ඊශ්‍රායෙල්ගේ දෙවිවූ යෙහෝවඃ
වහන්සේද සීහොන් සහ ඔහුගේ සියළු
ජනයන් ඊශ්‍රායෙල්ගේ අතට පාවාදුන්
සේක ඊශ්‍රායෙල්වරු ඔවුන්ට පහරදී ඒ
දේසයෙහි වැසි අමෝරිවරුන්ගේ සියළු
22 රට හිමිව අර්ණෝන් පටන් යබ්බොක්
දක්වාද වනාන්තරය පටන් යොර්දාන් දක්
වාද අමෝරිවරුන්ගේ සියළු රටවල් හි
23 මිවූවෝය. මෙසේ ඊශ්‍රායෙල්ගේ දෙවිවූ
යෙහෝවඃවහන්සේ තමන් ඊශ්‍රායෙල්
ජනයන් ඉදිරියෙන් අමෝරිවරුන් අහි
24 මියන් කලසේක. නුඹ විසින් ඒක හිමිවි
ය යුතුද? නුඹේ දෙවිවූ කෙමොෂ් නුඹ
ට බුත්ති විඳින්ට දුන් දෙය නුඹ බුත්ති
නොවිඳිනෙහිද? අපගේ දෙවිවූ යෙ
හෝවඃවහන්සේ අප ඉදිරියෙන් අහක්
කරණ සෙනගගේ දේසයක් අපි බුත්ති
25 විඳිනෙමුව. මෝවබ්හි රජවූ සිප්පො
රගේ පුත් බලාක්ට වඩා නුඹ කුමකින්
යහපත්ද? ඔහු ඊශ්‍රායෙල්ට විරුඬව කි
සි කලෙක අවුල්වත් යුඬවත් කලාද?
26 ඊශ්‍රායෙල් හෙෂ්බොන්හිද එහි නුවර
වල්හිද අරොඒර්හිද එහි නුවරවල්හිද
අර්ණෝන්හි සීමාව ලඟ තිබෙන සියළු
නුවරවල්හිද තුන්සියයක් අවුරුදු විසූ
කල් ඒවා නැවත නුඹලා විසින් අල්වා
27 නොගතෙත් මන්ද? එබැවින් නුඹට වි
රුඬව වරදක් නොකලෙමි නුඹ මට වි
රුඬව යුඬකිරීමෙන් මට වරදක් කරන්
නෙහිය. විනිශ්චයකාරවූ යෙහෝවඃව
හන්සේ ඊශ්‍රායෙල් පුත්‍රයන් අතරෙහිද
අම්මොන් පුත්‍රයන් අතරෙහිද මේ දව
සෙහි විනිශ්චයකාර වනසේක්වයි කිය.
28 එහෙත් අම්මොන් පුත්‍රයන්ගේ රජ යැප්
තා තමාට කියා එව් බස් නොඇසිය.
29 එවිට යෙහෝවඃවහන්සේගේ ආත්ම
ය යැප්තා කෙරෙහි පැමිණ ඔහු ගිලියද්
මනස්සේද ගිලියද්හි මිස්පේද දිගින්
ගොස් ගිලියද්හි මිස්පේ සිට එතරව අම්
30 මොන් පුත්‍රයන් වෙතට ගියේය. යැප්
තා යෙහෝවඃවහන්සේට කියනුයේ ඔ
බවහන්සේ නොවරදී අම්මොන් පුත්‍ර
31 යන් මාගේ අතට පාවා දෙනොත් සම
ගිතාවෙන් අම්මොන් පුත්‍රයන් වෙතින්
හැරී එන කල මාගේ ගෙයින් පිටත්ව
ඉස්සරහට එන මොකෙක් නුමුත් සැබ
වින් යෙහෝවඃවහන්සේගේ වන්නේය
ඒක මා විසින් දවන පූජාවක්කොට පු
දමියි † යන පොරොන්දුවක් කෙලේය.
32 එවිට යැප්තා අම්මොන් පුත්‍රයන්ට විරු
ඬව යුඬකරන්ට එතරට ගියේය. යෙ
හෝවඃවහන්සේද ඔහුගේ අතට ඔවුන්
33 පාවාදුන්සේක. ඔහුද අරොඒර් පටන්
මින්නිත් දක්වා නුවර විස්සෙහිත් මිදි ව
නතුත් සමඩිමේදිත් බොහෝසෙයින් ඔ
වුන් නැසුවේය. මෙසේ ඊශ්‍රායෙල් පුත්‍ර
යන්ට අම්මොන් පුත්‍රයෝ යටත්කරනු
ලැබුවෝය.
34 යැප්තාද මිස්පේහි තමාගේ ගෙට ය
නකොට තමන් දු තාලම් ගසගසා නට
මින් ඉස්සරට ආවාය. ඈ ඔහුගේ එකම
දුවනියෝය වෙන දූදරු කෙනෙක් ඔ
35 හුට නැත. ඈ දුටුවිට තමන් වස්ත්‍ර ඉරා
අනේ මාගේ දුවනියෙනි නුඹ මට කෙ
ලේ ඉතා සෝකයක මා වෙහෙසන එ
කක. යෙහෝවඃවහන්සේට මාගේ කා
වින් කී දේ වෙනස්කරන්නට බැරියයි
36 ඈට කිය. ඈද කියන්නී මාගේ පියාන
නි යෙහෝවඃවහන්සේ නුඹේ සතුරුවූ
අම්මොන් පුත්‍රයන්ගෙන් පලිගත් හෙ
යින් නුඹේ කටින් යෙහෝවඃවහන්සේ
ට කී පොරොන්දුව ලෙස මට කරපනැ
37 යි කීවාය. මට මාගේ යෙහෙලින් සම
ඟ කඳු පිට ඇවිද මාගේ කන්‍යාකම ගැ
න වැලපෙන්ට දෙමසක් අවකාසදියන්
38 නැයි තමන් පියාට කීවාය. ඔහුද පලය
නැයි කියා ඈ දෙමසකට ඇරියේය.
ඈ යෙහෙලින් සමග කඳු පිට ගොස්
ඈගේ කන්‍යාකම ගැන වැලපුනාය දෙ
මසකින් පසු ඈගේ පියා වෙතට හැරී
39 ආවාය. ඔහු කල පොරොන්දුව ලෙස ඈ
ට කෙලේය. කිසි පුරුෂයෙකු ඈ කරා
40 නොපැමිණියේය. ගිලියද්හි යැප්තාගේ
දුව සිහිකිරීම පිණිස අවුරුද්දකට සතර ද
වස බැගින් අවුරුදු පතා ඊශ්‍රායෙල්ගේ
දූවරුන්ගේ යෑම ඊශ්‍රායෙල් අතරේ සිරි
තක්ව තිබුනේය.

† හෙවත්.—යෙහෝවඃවහන්සේට කැප
කරනු ලබනේය නැතහොත් දවන
පූජාවක්කොට පුදනෙමි.

12. පරිච්ඡේ. තවද එප්‍රායිම් මනුෂ්‍ය
යෝ එක්ව උතුරු දිගට ගොස් නුඹ අම්
මොන් පුත්‍රයන්ට විරුඬව යුඬකරන්ට
යනවිට නුඹ සමග යන්ට අප කැඳවා
නොගත්තේ මන්ද? අපි නුඹේ ගෙය ගිනි
2 ලවුයයි යැප්තාට කීවෝය. එවිට යැප්
තා මමත් මාගේ ජනයොත් අම්මොන්
පුත්‍රයන් සමග මහත් සටනකින් සිටියෙ
මුව මම නුඹලාට අඬගැසූයෙම් නුඹූත්
ඔවුන්ගේ අතින් නුඹලා මා ගැලෙව්වේ
3 නැත. මා ගැලෙව්වේ නැති බව දැක
අම්මොන් පුත්‍රයන්ට විරුඬව ගොස් මා
ගේ ප්‍රාණය අන්තරාවට පැමිනෙව්යෙමි
යෙහෝවාවහන්සේ ඔවුන් මා අතට පා
වාදුන්සේක. නුඹූත් නුඹලා අද මට වි
රුඬව යුඬකරන්ට ආවේ මක්නිසාදැයි
4 ඔවුන්ට කීයේය. යැප්තා ගිලියද්හි සිය
ළු මිනිසුන් රැස්කොට එප්‍රායිම් සමග යු
ඬකෙලේය. එප්‍රායිම් මනුෂ්‍යයන් නුඹ
ලා එප්‍රායිම්වරුන්ද මනස්සේවරුන්ද අ
තරේ පාදඩයෝයයි ගිලියද්වරුන්ට කී
බැවින් ගිලියද් මනුෂ්‍යයෝ එප්‍රායිම්ට
5 පහර දුන්නෝය. ගිලියද්වරු එප්‍රායිම්ව
රුන්ට ඉස්සරින් යොර්දන් තොටුපලවල්
අල්වාගෙන ගැලවී ගියෝය. එප්‍රායිම්
කෙනෙක් මට එතර යන්ට අවසර දිය
ලායයි කී කල ගිලියද් මනුෂ්‍යයන් නු
ඹ එප්‍රායිම් මිනිහෙක්දැයි ඔහුට කීවිට
6 නැතැයි කීවොත් ඔවුන් සිබ්බොලෙත්
කියාපනහැයි ඔහුට කීවෝය. ඔහුද ඒ
ක හොඳ හැටි ශබ්දකරන්ට බැරුව
සිබ්බොලෙත් කීයේය එවිට ඔවුන් ඔහු
අල්වා යොර්දන් තොටුපලවල් ළඟදී
මැරූවෝය. ඒ කාලේ එප්‍රායිම්වරුන්
ගෙන් හතලිස් දෙදහක් මැරුන්නෝ
7 වෝය. යැප්තා අවුරුදු හයක් ඊශ්‍රායෙල්
විනිශ්චය කෙලේය. ගිලියද්හි යැප්තා
නැසී ගිලියද්හි නුවරක තැන්පත්කරනු
ලැබීය.

8 ඔහුට පසුව බැත්ලෙහෙම්හි ඉබ්සන්
9 ඊශ්‍රායෙල් විනිශ්චය කෙලේය. ඔහුට පු
තුන් තිහක්ද දූවරුන් තිහක්ද ඇතිවූ
වෝය. දූවරුන් පිටත හැර පුත්‍රයන්ට
පිටතින් දූන් තිස් දෙනෙක් ගෙනත්තේය.
10 ඔහුද සත් අවුරුද්දක් ඊශ්‍රායෙල් විනිශ්
චයකොට මැරී බැත්ලෙහෙම්හි තැන්
11 පත්කරනු ලැබීය. ඔහුට පසුව සෙබු
ලොනියෙක්වූ එලොන් ඊශ්‍රායෙල් දස
12 අවුරුද්දක් විනිශ්චය කෙලේය. සෙබු
ලොනිය එලොන්ද මැරී සෙබුළුන් රටේ
අයිජලොන්හි තැන්පත්කරනු ලැබීය.
13 ඔහුට පසුව පිරතොනිය හිලෙල්ගේ
පුත් අබ්දොන් ඊශ්‍රායෙල් විනිශ්චය කෙ
14 ලේය. කොටළු නාඹන් හැත්තෑවක් පි
ට නැඟුන පුතුන් සතලිසක්ද බෑනාව
රුන් තිසක්ද ඔහුට වූවෝය. ඔහු අට
අවුරුද්දක් ඊශ්‍රායෙල් විනිශ්චය කෙලේ
15 ය. පිරතොනිය හිලෙල්ගේ පුත් අබ්
දොන්ද මැරී එප්‍රායිම් දේශේ අමලෙක්ව
රුන්ගේ පර්වතයේ පිරතොන්හි තැන්
පත්කරනු ලැබීය.

13. පරිච්ඡේ. ඊශ්‍රායෙල් පුත්‍රයෝ යෙ
හෝවාවහන්සේ ඉදිරියෙහි නැවතත් දු
ෂ්ටකම් කලෝය. උන්වහන්සේ ඔවුන් පි
ලිස්තියන්ගේ අතට හතලිස් අවුරුද්දක
2 ට පාවාදුන්සේක. තවද දන්ගේ පවුලෙ
හි මනෝවානම් සෝරාහි එක් මනුෂ්‍ය
යෙක් විය. ඔහුගේ භාර්යාව දරුවන්
3 නොලැබ වඳිවූවාය. යෙහෝවාවහන්
සේගේ දූතයාද ඒ ස්ත්‍රීට පෙනී ඇට නුඹ
වඳිව නොවැදූ නුමුත් නුඹ ගර්භිනිව පු
4 තෙක් වදන්නීය. ඉන්නිසා මිදිරසත් තද
5 බීමත් නොබී අපවිත්‍ර දෙයක් නොකා
ප්‍රවේසම්වෙයනන මක්නිසාද නුඹ ගර්භි
නිව පුතෙක් වදන්නීය. ඒ දරුවා ගර්භ
යෙහි පටන් දෙවියන්වහන්සේට නාසරිය
යෙක්ව ඔහුගේ ඉසේ කඩකැත්තක් තබ
නු නොලැබේ ඔහුද පිලිස්තියන්ගේ අ
තින් ඊශ්‍රායෙල් ගලවන්ට පටන්ගන්නේ
6 යයි කීයේය. එවිට ඒ ස්ත්‍රී හිමියා වෙත
ට අවුත් දෙවියන්වහන්සේගේ මනුෂ්‍ය
යෙක් මා ළඟට ආයේය. ඔහුගේ මූහුන
ද දේවදූතයකුගේ මූහුනක් මෙන් ඉතා
භයානකවිය. එහෙත් මම ඔහු කොහ
ින්දැයි නොඇසීමි ඔහුද තමාගේ න
7 ම මට නොකීයේය. එහෙත් ඔහු මට කි
ඊකොට නුඹ ගර්භිනිව පුතෙකු වදන
බැවින් මිදිරසත් තද බීමත් නොබී ක්ෂි
අපවිත්‍ර දෙයක් නොකනන මක්නිසාද
ඒ දරුවා ගර්භයෙහි පටන් මැරෙණ ද
වස දක්වා දෙවියන්වහන්සේට නාසරිය
8 යෙක් වන්නේයයි කියයි කීවාය. එවිට
මනෝවා යෙහෝවාවහන්සේට යාඥා
කරමින් ස්වාමීන්වහන්ස උපදිනනාවූ ළද
රුවාට අප විසින් කරනනට ඕනෑ දෙය
අපට උගන්වන්ට ඔබවහන්සේ අප වෙ
ත එවූ දෙවියන්වහන්සේගේ මනුෂ්‍යයා

9 නැවතත් එවුවමැනවයි කීයේය. දෙවියන්වහන්සේ මනෝවාගේ ශබ්දයට කන්දී ඒ ස්ත්‍රිය කෙතෙහි උන් කල ඈ ලඟට දේවදූතයා නැවත එවූසේක. ඈගේ පුරුෂයාවූ මනෝවා ඈ ලඟ නොසිටියේය. 10 ස්ත්‍රියද ඉක්මනින් දුව තමන් හිමියාට දන්වන්නී එදා මා වෙත ආ මනුෂ්‍යයා මට පෙනුනේයයි කීවාය. 11 මනෝවාද නැගිට තමාගේ භාර්‍ය්‍යාවට පස්සෙන් ගොස් ඒ මනුෂ්‍යයා ලඟට අවුත් මේ ස්ත්‍රිට කථාකල මනුෂ්‍යයා නුඹදැයි ඔහුගෙන් ඇසීය. ඔහුද මමයයි කීයේය. 12 මනෝවා දුන් නුඹේ වචන සිදුවේවා. දරුවා අප විසින් ඇතිකරනෙතත් ඔහුට කරණ හැටිත් කොහොමදැයි කීය. 13 යෙහෝවාවහන්සේගේ දූතයාද මා විසින් ස්ත්‍රිට කී සියල්ලෙන් ඈ ප්‍රවේසම් වේවා. 14 මිදි වැලෙන් කිසි දෙයක් නොකා මිදි රසවත් තද බීමවත් නොබී කිසි අපවිත්‍ර දෙයක් නොකා සිටිය යුතුයයි ඈට අනදුන් සියල්ල ඈ රකීවයි මනෝවාට කීයේය.

15 මනෝවාද යෙහෝවාවහන්සේගේ දූතයාට කියනුයේ අපි නුඹට එළු පැටියෙක් සාදනතුරු පමාවෙන්ට නුඹෙන් ඉල්ලමුයයි කීය. 16 යෙහෝවාවහන්සේගේ දූතයාද මනෝවාට කථාකොට මා පමාකරණ නුමුත් නුඹේ කෑමෙන් නොකනෙතම් දවන පූජාවක් පූජාකරන්ට කැමතිනම් යෙහෝවාවහන්සේට පූජාකල යුතුයයි කීයේය ඔහු යෙහෝවාවහන්සේගේ දූතයෙක් බව මනෝවා 17 නොදතෙත්ය. මනෝවා යෙහෝවාවහන්සේගේ දූතයාට කියනුයේ නුඹේ වචන සම්පූර්ණවෙනකල අප විසින් නුඹට ගෞරවකරන්ට නුඹේ නම කොහොමදැයි කීය. 18 යෙහෝවාවහන්සේගේ දූතයාද මාගේ නම අසනෙත් මක්නිසාද? 19 ඒක රහසයයි කීයේය. එවිට මනෝවා කෑම පූජාවකුත් එළු පැටියෙකුත් ගෙණ යෙහෝවාවහන්සේට ගලක් පිටදී පූජාකලේය. එකල දේවදූතයා පුදුමයක් කලේය මනෝවාද තමන් භාර්‍ය්‍යාවද දුටුවෝය. 20 ගිනිදැලක් පූජාසනයෙන් නික්ම ස්වර්ගය දෙසට නැගී ගිය කල යෙහෝවාවහන්සේගේ දූතයා පූජාසනේ ගිනිදැලෙහි නැගී ගියේය. එකල මනෝවාද තමන් භාර්‍ය්‍යාවද ඒ දැක මුහුණින් බිම වැටුනෝය. 21 එහෙත් යෙහෝවාවහන්සේගේ දූතයා තවත් මනෝවා සහ ඔහුගේ භාර්‍ය්‍යාවට නොපෙනුනේය. එවිට මනෝවා ඔහු යෙහෝවාවහන්සේගේ 22 දූතයෙක් බව දැනගෙණ තමන් භාර්‍ය්‍යාවට අපි දෙවියන්වහන්සේ දුටු නිසා සැබවින් නසිනෙනමුයයි කීයේය. 23 එහෙත් ඔහුගේ භාර්‍ය්‍යාව ඔහුට කියන්නී යෙහෝවාවහන්සේ අප මරන්ට කැමතිනම් අපේ අතින් දවන පූජාවත් කෑම පූජාවත් පිලිනොගන්නාසේක. ඇරත් උන්වහන්සේ මේ කාලේ මේ ආකාර දේවල් අපට ප්‍රකාශ නොකරණසේකැයි කීවාය. 24 ඒ ස්ත්‍රිද පුතෙක් වදා ඔහුට සම්සොන්යයි නම් තැබුවාය. ලදරුවාද වැඩුනේය. යෙහෝවාවහන්සේද ඔහුට ආශීර්වාදකලසේක. 25 සමහර කාලවලදී සෝරාද එෂ්තාඕල්ද අතරේ තිබෙන දන්ගේ අඬෑයමේදී යෙහෝවාවහන්සේගේ ආත්මය ඔහු ලවා ක්‍රියාකරවන්ට පටන්ගත්සේක.

14. පරිච්ඡේ. සම්සොන් තිම්නත්නුවරට ගොස් පිලිස්තිවරුන්ගේ දූන්ගෙන් ස්ත්‍රියෙක් එහිදී දැක නැවත අ 2 වුත් පිලිස්තිවරුන්ගේ දූන්ගෙන් ස්ත්‍රියක් තිම්නත්හිදී දුටිමි ඈ භාර්‍ය්‍යාකොට මට ලබාදුනමැනවයි තමන් දෙමව්පි 3 යන්ට කීයේය. එවිට ඔහුගේ දෙමව්පියෝ කථාකොට නුඹේ සහෝදරයන්ගේ දූවරුන්ද මාගේ සියළු ජනයන්ද අතරේ ස්ත්‍රියක් නැති නිසා අචර්මඡෙදූවූ පිලිස්තිවරුන්ගෙන් ස්ත්‍රියක් පාවාගන්නට නුඹ යනවාදැයි ඔහුට කීවෝය. සම්සොන්ද ඈ මට ප්‍රිය නිසා ලබාදුනමැනවයි පියාට කීය. 4 එවේලෙහි පිලිස්තිවරුන්ට ඊශ්‍රායෙල් කෙරෙහි අධිපතිකම තිබුන නිසා මොහු විසින් පිලිස්තිවරුන්ට විරුඬව කාරණවක් සොයනලෙස මේ දේ යෙහෝවාවහන්සේ අභිප්‍රාකලසේකැයි ඔහුගේ දෙමව්පියෝ දැනනොගතෙතාය. 5 පසුව සම්සොන් තමන් මව්පියන් සමග තිම්නත්ට ගොස් තිම්නත්හි මිදි වතුවලට ආයේය. තරුණ සිංහයෙක් ඔහුට විරුඬව නාදකෙලේය. 6 එවිට යෙහෝවාවහන්සේගේ ආත්මය ඔහු කෙරෙහි බලවත් ලෙස පැමින අත කිසිත් නැතුවම එළුපැටවෙක් ඉරාදමනලෙස ඒ සිංහයා ඉරාදැමුයේය. එහෙත් ඔහු කල දෙය තමාගේ මව්පියන්ට

7 නොකීයේය. ඔහුද ගොස් ඒ ස්ත්‍රී සමග
කථාකළේය ඈද ඔහුට ඉතා ප්‍රිය වූවා
8 ය. ඉන්පසු ඈ පාවාගන්ට යද්දී සිංහයා
ගේ කුණපය බලන්ට හැරී බලා මීමැස්
සෝද මීද සිංහයාගේ කුණපයේ තිබු
9 ණේය. ඔහුද එයින් අතට ගෙන කකා
ගොස් තමන් මව්පියන්ට ලංව ඔවුන්
ටත් දුන්නේය. ඔවුහු කෑවෝය. නුමුත්
ඒ මී සිංහයාගේ කුණපයෙන් ගත් බව
10 ඔවුන්ට නොකීයේය. ඔහුගේ පියානෝ
ඒ ස්ත්‍රී ලඟට ගියේය. සම්සොනු තරුණ
යින්ගේ සිත් ලෙස මඟුලයක් එහි සෑ
11 දුවේය. ඔවුහු ඔහු දැක ඔහු සමග සිටින්
ට යහළුවන් තිස් දෙනෙක් ගෙන්නු
වෝය.

12 සම්සොනු මම දූන් නුබලාට තේරවි
ල්ලක් කියම් මඟුල් සත් දවස ඇතුලතදී
නුබලා ඒ තේරවිල්ල දැන මට අනුමාන
නැතුව තෝරා කියන්ට පුළුවනනම් මම
රෙදි තිහක්ද ඇඳුම් කුට්ටම් තිහක්ද
13 දෙනෙනම්. නුබලාට ඒක මට තෝරා කි
යන්ට බැරිවුනොත් නුබලාගෙන් රෙදි
තිහක්ද ඇඳුම් කුට්ටම් තිහක්ද මට දෙ
නනට ඕනෑයයි කීයේය. ඔවුන් අපට අ
සනනට නුබේ තේරවිල්ල කියාපනනෑයි
14 කීවෝය. ඔහුද කන්නාගෙන් කෑමද
ශක්තිවන්තයාගෙන් මිහිරිකමද නික්
මුනෝයයි ඔවුන්ට කීය. ඔවුන් තුන් දව
සක් ඇතුලතදී ඒ තේරවිල්ල තෝරා කි
15 යන්ට නොහැකි වූවෝය. සත්වෙනි ද
වසේ සම්සොන්ගේ ස්ත්‍රීයට ඔවුන් කිය
නනා නුබත් නුබේ පියාගේ ගේත් අ
ප විසින් ගිනෙනන් නොදවන පිනිස
තේරවිල්ල අපට කියාදෙන්ට නුබේ පු
රුෂයා පොලඹාපනන. අපට තිබෙන
දේ ගන්ට නුබලා අප කැඳෙව්වෝ නො
16 වේදැයි කීවෝය. සම්සොන්ගේ ස්ත්‍රීද ඔ
හු ඉදිරියේ අඬමින් නුබ මට අප්‍රියව ආද
ර නොකොට මාගේ ජනයන්ගේ පුත්‍ර
යන්ට නුබ තේරවිල්ලක් ගෙණහැරදක්
වා ඒක මට නොකීයේයයි කීවාය. ඔහු
ද මාගේ මව්පියන්ටවත් නොකී එක නු
17 බට කියම්දැයි ඈට කීයේය. ඔවුන්ගේ
මඟුල පවතින සත් දවසම ඔහු ඉදිරියේ
ඇඬුවාය. ඈ බොහොම කරච්චල් කර
ණ නිසා සත්වෙනි දවස ඔහු ඒක ඈට
කීය. ඈද තමාගේ ජනයන්ගේ පුත්‍ර
යන්ට තේරවිල්ල කීවාය. සත්වෙනි දින
18 ඉර බසින්ට පලමුවෙන් නුවර වැසියෝ
මීයට වඩා මිහිරි දෙය කිමෙක්ද? සිංහ
යෙකුට වඩා ශක්ති ඇතෙත් කවරෙක්
දැයි ඔහුට කීවෝය. ඔහුද නුබලා මාගේ
එලදෙන් හැඹිගෙන් නොසෑවානම් මා
ගේ තේරවිල්ල නුබලා නොදනිතියි
19 ඔවුන්ට කීයේය. යෙහෝවාවහන්සේ
ගේ ආත්මය ඔහු කෙරෙහි පැමිනියේය.
ඔහු අෂ්කෙලොන් නුවරට වැදමිනිසුන්
තිස් දෙනෙක් මරා ඔවුන්ගෙන් කොල්ල
කාගෙන උපමාව තෝරා කී වුන්ට ඇ
ඳුම් කුට්ටන් දුන්නේය. ඔහුගේ තරහ
ඇවිලී තමන් පියාගේ ගෙට ගියේය.
20 සම්සොන්ගේ ස්ත්‍රී ඔහු මිත්‍රකමකල ඔහු
ගේ යහළුවාට දෙනලද්දීය.

15. පරිචෙඡ. එහෙත් ටික කලකට
පසු ගෝධුම කපන කාලේදී සම්සොන්
එළුපැටවෙක් ගෙණ තමන් අඹු බලන්
ට ගොස් ඇතුල් ගෙයි ඈ ලඟට යෙමියි
කීය. ඈගේ පියා ඇතුලට යන්ට ඔහුට
2 අවකාස නොදී නුබ ඈට ඉතා අප්‍රියව
සිටියේයයි සිතා නුබේ යහළුවාට ඈ පා
වාදුනිමි නුබේ භාර්යාවගේ නගා ඈට
වඩා හොද නැද්ද? ඈ නුබේ භාර්යාව
වෙනුවට පාවාගනනා ලෙස නුබට යාඥ
3 වෙමියි කීය. සම්සොනු පිලිස්තියයන්ට
යම් නපුරක් මම කරණ නුමුත් ඔවුන්ට ව
4 ඩා නිදෙස්වෙමියි ඔවුන් ගැන කීය. සම
සොනු ගොස් හිවල්ළු තුන්සියයක් අල්
වා උනෙන් වල්ගා දෙක දෙක එකට
බැඳ හුළු ගෙණ ඒ වල්ගා දෙක මැද හු
ලක් බැගින් තබා ගිනි අවුලා පිලිසතිව
රුන්ගේ නොපැසුනු ගොයමට උන් හැ
ර කැපූ ගොයමද නොපැසුනු ගොයමද
මිදිවතුද ඔලීව ගස්ද යන සියල්ල පිලිස්
5 සුවේය. පිලිසතිවරු මේක කලේ කවුදැ
යි ඇසුවෝය. ඔවුහු තිම්නතියයාගේ
බෑනාවූ සම්සොන් තමාගේ භාර්යාව
තමාගේ යහළුවාට පාවාදෙනලද නිසා
6 මේක කෙලේයයි කීවෝය. පිලිස්තිය
යෝද අවුත් ඈත් ඈගේ පියාත් ගින්
7 නෙන් පිලිස්සුවෝය. එවිට සම්සොන්
නුබලා මේක කල නුමුත් නුබලාගෙන්
පලිගනෙනනම් ඉන් පසු නවතිනෙනමියි
8 ඔවුන්ට කීය. ඔහු මහත් නැසීමකින් ඈ
ත මැත ඔවුන්ට පහරදී එයින් ගොස් ඒ
තම් නම් පර්වත මුදුනේ විසුයේය.
9 පිලිසතියයෝද පිටත්ව ලිහයි රටේ
10 පැතිර යුදහි අනුයම බැන්දෝය. යුද

මනුෂ්‍යයෝද නුබලා අපට විරුඬව ආ
වේ මක්නිසාදැයි කීවෝය. ඔවුන්ද සම්
සොන් බැඳ ඔහු අපට කල ලෙස ඔහු
ටත් කරනනට ආමුයයි උතතර දුනෙතා්
11 ය. එවිට යූදාහි තුන් දහසක් මනුෂ්‍ය
යෝ එතම් පර්වත මුදුනට ගොස් පිලිස්
තියයන් අපේ ආඥකාරයන් බව නුබ ද
නෙත් නැද්ද? නුබ අපට කල දේ කි
මෙක්දැයි සම්සොන්ට කීවෝය. ඔහුද
ඔවුන් මට කල ලෙසම මමත් ඔවුන්ට
12 කෙලෙම්යි කිය. ඔවුහු නුබ බැඳ පිලි
ස්තියයන්ගේ අතට පාවාදෙන්ට අපි ආ
වෙමුයයි ඔහුට කීවෝය. සම්සොනු නු
බලාම මට පහර නොදෙන ලෙස දිවිර
13 පල්ලායයි ඔවුන්ට කිය. ඔවුහු නුබ සවි
ලෙස බැඳ ඔවුන්ගේ අතට පාවාදෙන
වා මිස නුබ නොමරමුයයි කියා අළුත්
ලනු දෙකකින් ඔහු බැඳ පර්වතයෙන්
ගෙනාවෝය.

14 ලේහයි රටට ආවිට පිලිස්තියයෝ ඔ
හුට විරුඬව ඔල්වර හඬගෑහුවෝය යෙ
හෝවාවහන්සේගේ ආත්මය බලවත්
ලෙස ඔහු කෙරෙහි පැමින ඔහුගේ අත්
පිට තිබුනු ලනු ගිනෙතන් පිලිස්සුන හ
15 න මෙන් විය. ඔහුගේ අතවල බැඳුම් ලි
හුනේය. ඔහුද කොටළුවකුගේ අළුත්
හකු ඇටයක් සම්භව අත දිගුකොට ඒ
ක ගෙන එයින් මිනිහුන් දහසක් මැරු
16 යේය. සම්සොනු කොටළු හකු ඇටෙන්
දහසක් මනුෂ්‍යයන් මරා ගොඩ පිට
17 ගොඩ කෙලෙම්යි කිය. ඔහු මෙසේ කි
පසු ඔහුගේ අත තිබුනු හකු ඇටය විසි
කොට එතැනට රමා ලෙහියයි නම් තැ
18 බිය. එවිට ඔහු ඉතා පිපාසව යෙහෝවා
වහන්සේට හඬගසමින් ඔබවහන්සේ
ගේ මෙහෙකරුවා අතව මේ මහත් ගැ
ලවීම දුන්සේක දැන් මම පිපාසයෙන්
නැයි අචර්මඡේදයයන්ගේ අතට අහු
19 වෙම්දැයි කිය. දෙවියන්වහන්සේ ලෙහි
තිබුන වලක් බිඳුවූසේක එයින් වතුර
නික්මුනේය. ඔහු වතුර බිව්කල ශක්ති
ලැබ ප්‍රාණවත් විය. එබැවින් ඔහු ලෙහි
දි අද දවස දක්වා තිබෙන තැනට එන්
20 හක්කෝරියයි නම් තැබිය. ඔහුද පිලිස්
තිවරුන්ගේ අවස්ථාලදී විසි අවුරුද්දක්
ඊශ්‍රායෙල්වරුන් විනිශ්චය කෙලේය.

16. පරිචේ. එකල සම්සොන් ගාසා
වට ගොස් එහි වේශ්‍යාවක් දැක ඈ
2 වෙතට ගියේය. ගාසා වැසියෝද සම්
සොන් එහි ආ බව අසා ඔහු වටකොට
මුළු රාත්‍රියේ ඔහු උදෙසා නුවර දොර රැ
ක සිට උදය පාන්වූ කල අපි ඔහු මරමු
යයි කියා මුළු රෑ නිශ්ශබ්දව සිටියෝය.
3 සම්සොනු මහ රෑ වෙනකල් නිදාගෙන
මහ රෑ නැගිට නුවර වාසල් දොරත් උ
එවහු දෙකත් ඒක සමග අගුලත් යන
සියල්ල කර පිට තබාගෙන හෙබ්‍රොන්
4 ඉදිරිපිට හෙළක් මුදුනට ගියේය. ඉන්
පසු ඔහු සොරෙක්නම් මිටියාවතේ සිටි
න දෙලිලානම් ස්ත්‍රියකට සෙනේහ වූයේ
5 ය. පිලිස්තියයන්ගේ ස්වාමිවරුද ඈ ල
ඟට අවුත් ඔහු පොලඹා ඔහුගේ මහත්
වෙර කුමකින්දැයි කියාද ඔහු පරදවා
බැඳ ඔහුට පීඩාකරන්ට පුළුවන් කො
හොමදැයි කියාද දැනගනිනන. අපි සි
යල්ලෝ එකිනෙකාගෙන් රිදී එකො
ලොස් සියයක් බැගින් නුබට දෙමුයයි
6 ඈට කීවෝය. දෙලිලාද නුබේ මහත්
වෙර මොකකිනු? නුබ බැඳ පීඩාකරන්
ට කොසේ පුළුවන්දැයි මට කියන්ට ඉල්ල
7 මියි සම්සොන්ට කීවාය. එවිට සම්සොන්
නොවියළුන අමු වැල් සතකින් මා බැන්
දොත් මම බෙලහීනව වෙන මිනිහෙක්
8 මෙන් වෙම්යි ඈට කිය. එවිට පිලිස්ති
යයන්ගේ අධිපතිවරු නොවියළුන අමු
වැල් සතක් ඈට ගෙනත් දුනෙතා්ය.
ඈද එයින් ඔහු බැඳ සම්සොන් පිලිස්
තිවරු නුබට ලංවෙතියි ඔහුට කීවාය.
9 මනුෂ්‍යයෝද ඈ සමග ඇතුල් ගෙයි එ
වකට සැංගී සිටියෝය. ඔහු ඒ වැල් හ
න පටක් ගිනෙතහි තවරා කඩන ලෙස
කැඩුවේය. මෙසේ ඔහුගේ සවිය දැන
10 නොගනෙතා්ය. දෙලිලාද නුබ මා රවටා
බොරු කීයෙහිය. නුබට යාඥාවෙමි නු
බ මොහොකින් බඳිනනට පුළුවන්ද කි
යා දැන් මට කියාපනනැයි සම්සොන්ට
11 කීවාය. ඔහුද පාවිච්චි නොකල අළුත්
කඹවලින් ඔවුන් මා බැඳෙතුත් මම බෙ
ලහීනව වෙන මිනිහෙක් මෙන් වෙම්යි
12 ඈට කිය. එබැවින් දෙලිලා අළුත් කඹ
ගෙන එයින් ඔහු බැඳ සම්සොන් පිලිස්
තිවරු නුබ ලඟට එතියි ඔහුට කීවාය.
මුරකාරයෝද ඇතුල් ගෙයි සැංගී සිටි
යෝය. ඔහුද ඒවා තමන් අතින් නූල්ප
13 ටක් මෙන් කැඩුවේය. දෙලිලාද මෙප
මන කල් නුබ මා රවටා මට බොරු කී
වාය. මොහොකින් නුබ බඳිනනට පුළු

වන්දැයි මට කියාපනනැයි සම්සොන්ට
කීවාය. ඔහුද නුඹ මාගේ ඉසේ සැඩප
ළු සතක් නූල් වියමනක් සමග ගෙතු
14 වොත් පුළුවනැයි ඇට කීය. ඇද ඉද්ද
කින් ඒක තදින් බැඳ සම්සොන් පිලිස්
තිවරු නුඹ වෙත එතියි ඔහුට කීවාය.
ඔහුද නින්දෙන් පිබිද යොත් දඬත් නූල්
15 වියමනත් අරගෙන ගියේය. එවිට ඇ
නුඹේ සිත මා වෙත නැතිකොට නුඹ
මට ප්‍රේමකරණවාය කියනෙන් මක්නි
සාද? නුඹ දැන් තුන් වරක් මා රවටා
නුඹේ මහත් සවිය තිබෙන තැන මට
16 නොකීයේයයි ඔහුට කීවාය. ඉත්පසු
ඇගේ බණවලින් දවස්පතා ඔහුට කරද
රකොට ඔහුගේ ප්‍රානය මරණභානි ව
න තරම් ඔහුට ගිජ්සාකල විට ඔහුගේ
17 සිතේ තිබුන සියල්ලම ඇට කීය. මම
මව් ගැබ පටන් දෙවියණ්වහන්සේට නා
සරියයෙක් නිසා කඩකැපතක් මාගේ
හිසේ තැබුවේ නැත. මා හිස මුඩුක
ලොත් මාගේ සවිය නැතිවී මම බෙල
හීනව වෙන මිනිහෙක් මෙන් වනෙන
18 මියි ඇට කීය. දෙලිලාද ඔහුගේ සිතේ
තිබුන සියල්ලම ඇට කී බව දැන පිලිස්
තියයන්ගේ අධිපතිවරුන්ට අඬගසා
ඔහුනේ සිතේ තිබෙන සියල්ල මට කී
නිසා මේ වතාව පමනක් වරෙල්ලායකි
යා ඇරියාය. එවිට පිලිස්තියයන්ගේ අ
ධිපතිවරු අතේ මුදල අරගෙන ඇ ලඟ
19 ට ආවෝය. ඇගේ උකුල පිට ඔහුට නි
දන්ට සලස්වා මිනිහෙක් කැඳවා ඔහු
ගේ ඉසේ හැඩපළු හත මුඩුකෙරෙව්වා
ය. ඇද ඔහුට පීඩාකරන්ට පටන්ගත්තා
20 ය. ඔහුගේ සවියද පිරිහුනේය. ඇද සම්
සොන් පිලිස්තිවරු නුඹ වෙත එතියි කී
වාය. ඔහුද නින්දෙන් පිබිද පලමු වතා
වල මෙන් පිටත ගොස් සෙල්වෙමියි කී
ය. යෙහෝවඃවහන්සේ ඔහුගෙන් අහ
21 ක ගිය බව නොදනෙත්ය. එහෙත් පිලි
ස්තිවරු ඔහු අල්වා ඇස් උගුලා ගාසාව
ට ගෙනවුත් පිත්තල දම්වලින් බැන්දෝ
22 ය. ඔහුද හිරගෙයි ඇඹරුයේය. ඔහු මුඩු
කලාට පසු ඔහුගේ ඉසකෙස් වැඩෙන්
23 ට පටන්ගතෙත්ය. එකල පිලිස්තියයන්
ගේ අධිපතිවරු අපේ දෙවියෝ අපේ
සතුරුවූ සම්සොන් අප අතට පාවාදුන්
නෝය කියා තමන්ගේ දෙවිවූ දාගොන්
ට මහත් යාගයක් කොට ප්‍රීතිවෙන්ට
24 එකතුවූනෝය. සමූදුවද ඔහු දැක අපේ
දෙවියෝ අපෙන් බොහෝදෙන මැරූ
අපේ රට විනාසකල සතුරා අපේ අත
ලට බාරදුනෙනෝය කියා තමන් දෙවි
25 යන්ට ප්‍රසංසාකලෝය. ඇරත් ඔවුන්ගේ
සිත් සතුටුව අපට කෝලමක් කරන්ට
සම්සොන්ට අඬගසමුයයි කියා හිරගෙ
සින් පිටතට සම්සොන් අඬගහගතෙතෝ
ය. ඔහුද ඔවුන්ට කෝලමක් කලේය.
ඔවුහු ඔහු කනු අතරේ සිටෙව්වෝය.
26 සම්සොනු ඔහුගේ අත අල්වා සිටි යෞ
වනයාට මම හාත්සිවෙන්ට ගෙය දර
ණ කනු අල්වාගනනට ඉඩ හැරපනනැ
27 යි කීය. ඒ ගෙය ස්ත්‍රී පුරුෂයන්ගෙන්
පිරී තිබුනේය. පිලිස්තියන්ගේ සියළු අ
ධිපතිවරුද එතන සිටියෝය. සම්සොන්
කෝලම පානකල එහි පලය පිට ස්ත්‍රී පු
රුෂයෝ තුන්දහසක් පමන සිටියෝය.
28 සම්සොනු යෙහෝවඃවහන්සේට යාඥා
කොට යෙහෝවඃ දෙවියන්වහන්ස මා
සිහිකලමැනව. දෙවියණ්වහන්ස මාගේ
ඇස් දෙක ගැණ පිලිස්තිවරුන්ගෙන්
එක වරක් පලිගන්නට පුළුවන්වෙන
ලෙස මෙ වරටත් මා සිහිකලමැනවයි
29 කීය. සම්සොන් ගෙය දරණ ගෙය පිහි
ටා තිබෙන මැද කනු දෙක එකක් දකු
නතිනු එකක් වමතිනු අල්වාගෙන ම
30 ම පිලිස්තිවරුන් සමග නසිම්යි කියා ඔ
හුගේ මුළු සවියෙන් නැඹුරුවූනේය. එ
විට ගෙය අධිපතිවරුන් සහ එහි සිටි සි
යළු සමූදුව පිට වැටුනෙය. මෙසේ ඔහු
ගේ මරණයේදී ඔහු මැරූ අය පනපිටින්
31 සිටිද්දී මැරූ අයට වැඩිය. එවිට ඔහුගේ
සහෝදරයෝද පියාගේ ගෙයි වැසියෝ
ද ඇවිත් ඔහු ගෙනගොස් සෝරාද එෂ්
තාවොල්ද අතරේ තිබෙන තමන් පිය
වූ මනෝවාගේ සොහොන් බිමේ ඔහු
තැන්පත්කලෝය. ඔහුද විසි අවුරුද්
දක් ඊස්‍රායෙල් විනිශ්චය කෙලේය.

17. පරිචෙ. තවද එප්‍රායිම් කන්දේ
2 මීකානම් මනුෂ්‍යයෙක් සිටියේය. ඔහුද
තමන් මවට කථාකොට රිදී ෂෙකෙල්
එක්දහස් එකසියයක් කෙනෙක් මා
ගෙන් ගතෙත්යයි කියා මට ඇසෙන
ලෙස නුඹ සාපකලාය. ඒවා මා ලඟය
මම ඒවා ගතෙතමියි කීය. ඔහුගේ මව්
ද මගේ පුත නුඹට යෙහෝවඃවහන්සේ
3 ගෙන් ආශිර්වාද වේවයි කීවාය. ඔහු තා
මාගේ මව්ට රිදී ෂෙකෙල් එක්දහස් එක

සියය බාරදුන්විට ඔහුගේ මව් මාගේ පුත්‍රයා උදෙසා කැපූ රූපයකුත් වාත්තු රූපයකුත් සාදන්ට මේ රිදී යෙහෝවඃවහන්සේට මගේ අතින් කම්මුතුවටම කැපකෙලෙමි. දැන් ඒවා තුබට බාරකරමි කීවාය. 4 තුමුත් ඔහු ඒ මුදල තමන් මවුට බාරදුනේය. ඔහුගේ මව්ද රිදී ශෙකෙල් දෙසියයක් ගෙන බඩාලාට දුන්නිය ඔහුද කැපූ රූපයකුත් වාත්තු රූපයකුත් සෑදුයේය. ඒ රූපවල්ද මීකාගේ ගෙයි තිබුණේය. 5 මීකානම් මනුෂ්‍යයාට දේවාලයක් තිබුණේය. එඵොදක් සහ තෙරිපිම්ද කොට පූජකයෙක් වෙනතාව තමාගේ පුත්‍රයන්ගෙන් එකෙක් 6 කැපකලේය. ඒ දවස්වලදී ඊශ්‍රායෙල්හි රජෙක් නොසිටියේය. සියළු මනුෂ්‍යයෝ තමතමන්ගේ ඇස්වලට මනාප හැටි කලෝය.

7 බෙත්ලෙහෙම් යුදනි යුදගේ පෙලපතේ ලෙවියයෙක්වූ තරුණයෙක් විසූයේය. 8 ඒ මනුෂ්‍යයාද හිටිනාට තැනක් සම්භවෙන්ට බෙත්ලෙහෙම් යුද නුවරින් පිටත්ව මග යමින් එප්‍රායිම් කන්දේ 9 මීකාගේ ගෙට ආයේය. මීකා තුබ කොතනින් ආවාදැයි ඔහුට කීය. ඔහුද මම බෙත්ලෙහෙම් යුදනි ලෙවියයෙක් වෙමි මට හිටින්ට තැනක් සම්භවෙන්ට යෙමියි කීය. 10 එවිට මීකා මා සමග සිට මට පිය කෙනෙක්ද පූජකයෙක්ද වෙයන්න මමත් තුබට අවුරුදුපතා රිදී ශෙකෙල් දසයකුත් ඇඳුම් කුට්ටමකුත් කෑමත් දෙමියි ඔහුට කීයේය. 11 එවිට ලෙවියයා ඇතුල්ව ඒ මනුෂ්‍යයා සමග සිටින්ට සතුටුවිය. ඒ තරුණයාද ඔහුට පුත්‍රයන්ගෙන් එකෙක් මෙන් විය. 12 මීකාද ලෙවියයා කැපකලේය. තරුණයාද ඔහුගේ පූජකයා වෙලා මීකාගේ ගෙයි සිටියේය. 13 එවිට මීකා පූජකකමට ලෙවියයෙක් සිටින නිසා යෙහෝවඃවහන්සේ මට යහපතක් කරණසේකැයි දැන් දනිමියි කීය.

18. පරිච්ජේ. එදවස්වලදී ඊශ්‍රායෙල්හි රජෙක් නොසිටියේය. එදවස්වලදීද දාන් ගෝත්‍රය තමන්ගේ පදිංචිය පිනිස ස්ථානයක් සෙවුවේය. මක්නිසාද ඒ දවස දක්වා ඊශ්‍රායෙල් ගෝත්‍රවල් අතරේ තමන්ට සම්පූර්ණ උරුමය නොලැබුනේය. 2 දාන් පුත්‍රයෝද තමන් පෙලපතෙන් තමන් ඉඩම්වලින් බලවත් මනුෂ්‍යයන් පස් දෙනෙක් දේශය ඔත්තු බලා සොයන්ට සෝරාද එෂ්තායොල්ද සිට යවමින් දේශය සොයන්ට පලයල්ලායයි ඔවුන්ට කීවෝය. ඔවුහු එප්‍රායිම් කන්දේ මීකාගේ ගෙට අවුත් එහි නවාතැන් ගත්තෝය. 3 ඔවුන් මීකාගේ ගෙට ලංව තරුණවූ ලෙවියයාගේ හඬ දැනගත් කල එහි ඇතුල්ව තුබ මෙහාට ගෙනාවේ කවුද? මෙතන තුබ කරන්නේ කිමෙක්ද? මෙහි තුබට තිබෙන්නේ කිමෙක්දැයි කීවෝය. 4 ඔහුද මීකා මට මෙලෙස කොට මා කුලියට ගෙන මම ඔහුගේ පූජකයා වෙමියි ඔවුන්ට කීය. 5 ඔවුහුත් අපි යන ගමන යහපත් වේදෝ අපි දැනගන්නට දෙවියන්වහන්සේගෙන් අහන්ට තුබට යාඥාවෙවූයයි කීවෝය. 6 පූජකයාද සැපසේ පලයල්ලාය තුබලා යන ගමන යෙහෝවඃවහන්සේ ඉදිරියෙහි තිබෙනේයයි කීය. 7 එවිට ඒ පස්දෙන පිටත්ව ගොස් ලායිෂ්ට අවුත් එහි වැසියන් සීදෝන් වැසියන් මෙන් අප්‍රවේසම්ව නිශ්චලව නොසලකා විසූ බව දුටුවෝය. කිසිවක් ගැන ඔවුන් ලැජ්ජාවට පමුනුවන්ට නඩුකාර මූලාදෙනියෙක් ඒ රටේ නොසිටියේය. ඔවුහුත් සීදෝන් වැසියන්ගෙන් දුරව කිසිවෙක් සමග ගනුදෙනු කිරීමක් නැත්තෝය. 8 ඔත්තුකාරයෝ සෝරාහිද එෂ්තායොල්හිද තමන්ගේ සහෝදරයන් වෙතට ආවෝය. තමන්ගේ සහෝදරයෝද තුබලා කියනේ කිමෙක්දැයි ඔවුන්ගෙන් ඇසුවෝය. 9 ඔවුන් කථාකොට අපි රට දුටිමුව ඒක ඉතා යහපත් නිසා අපි ඔවුන්ට විරුඬව යන්ට පිටත්වෙමුව තුබලා නිකන් ඉන්නවාද? තුබලා රටට ඇතුල්ව ඒක හිමිකරගන්නට කම්මැලිනොවෙල්ලාය. 10 තුබලා යනකොට නොසලකන මිනිස්සුන්වත් මහත්වූ රටකවත් තුබලා එනේනෝය. ඇරත් දෙවියන්වහන්සේ තුබලාගේ අතට ඒක දුන්සේක. පොලොවේ තිබෙන කිසි දෙය කිසිවත් අඩුනැති තැනකැයි ඔවුන්ට කීවෝය. 11 තවද එතන සිට සෝරාහිද එෂ්තායොල්හිද දාන්ගේ ගෝත්‍රයෙන් යුඬායුධයෙන් සැරසුනාවූ හයසියයක් මනුෂ්‍යයෝ ගියෝය. 12 ඔවුන්ද පිටත්ව ගොස් යුදනි කිර්ජාත් ජෙයාරිම්හි අෂූයම් බැන්දෝය. ඉන්නිසා එතනට අද දක්වා

මාහෙනේදන්යයි නම් තැබුවෝය. ඒක
කිර්ජත් ජෙයාරිම්ට පස්සෙන් තිබෙයි.
13 ඔවුහු එතැනින් එප්‍රායිම් කඳුට ගොස්
14 මීකාගේ ගෙට ආවෝය. එවිට ලායිෂ් ර
ට ඔත්තු බලන්ට ගිය පස්දෙනා තමන්
ගේ සහෝදරයන්ට කථාකොට මේ
ගෙවල්වල ඒපොදක්ද තේරපිම්ද කැ
පූ රූපයකුත් වාත්තු රූපයකුත් තිබෙ
න බව තුඹලා දන්නවාද? දැන් තුඹලා
කරන්ට ඕනෑ දෙයක් කල්පනා කරප
15 ල්ලායයි කීවෝය. ඔවුහු එහාට හැරී ත
රුණ ලෙවීයයා සිටින මීකාගේ ගෙට
16 ඇවිත් ඔහුට ආචාරකොට යුද්ධායුධයෙන්
සැරසුනාවූ දාන් පුත්‍රයන්ගෙන් හසිය
යක් මනුෂ්‍යයෝ දොර ලඟ සිටියෝය.
17 දේශය ඔත්තු බලන්ට ගිය පස්දෙනා එ
හි ඇතුල්ව කැපූ රූපයද ඒපොද්ද තෙ
රපිම්ද වාත්තු රූපයද ගත්තෝය. පූජ
කයාද යුද්ධායුධයෙන් සැරසුනාවූ මනු
ෂ්‍යයන් හසිය සමග දොර ලඟ සිටියේය.
18 මොවුන් මීකාගේ ගෙට ඇතුල්ව කැපූ
රූපයද ඒපොද්ද තෙරපිම්ද වාත්තු
රූපයද පිටතට ගෙනාවෝය. එවිට පූ
ජකයා ඔවුන්ට තුඹලා මක්කරණවාදැයි
19 කීය. ඔවුන්ද නිශ්ශබ්දව අතින් කට ව
සාගන අප සමග වරෙන්න අපට පි
යෙක්ද පූජකයෙක්ද වෙයන්න ඊශ්‍රා
යෙල්හි ගෝත්‍රයකටද පෙලපතකටද පූ
ජකයෙක් වීමට වඩා තනි මනුෂ්‍යයෙකු
ගේ ගෙට පූජකයෙක් වීම තුඹට යහ
20 පත්දැයි ඔහුට කීවෝය. එවිට පූජකයා
ගේ හිත සතුටුවීය. ඔහුද ඒපොද්ද තෙ
රපිම්ද කැපූ රූපයද ගෙන මිනිසුන්
21 මැද ගියේය. මෙසේ ඔවුන් හැරී පිටත්ව
ගොස් බාලයින්ද සිව්පාවුන්ද ගැල්ද ඉස්ස
22 රකලෝය. මීකාගේ ගෙයින් විකක් දුර
ගියකල මීකාගේ ගෙට ලඟ ගෙවල්වල
මිනිස්සු එකතුව දාන් පුත්‍රයන් පස්සෙන්
23 එලවා ලංව ඔවුන්ට අඬගැසුවෝය. ඔවු
හු හැරී මෙපමන සමූහයක් ගෙන එන්
24 නේ මක්නිසාදැයි මීකාට කීවෝය. ඔහු
ද මා විසින් සාදගත් මාගේ දේවතාවුන්ද
පූජකයාද තුඹලා ගෙනගියෝය. තවත්
මට මොකවත් නැතිකොට ඕනෑ මො
කදැයි යන වචනය තුඹලා මට කියන්
25 නේ මන්දැයි ඔවුන්ට කීය. එවිට දාන්
පුත්‍රයෝද තරහකාරයන් තුඹට ගසා තු
ඹේ සහ තුඹේ ගෙයි මිනිස්සුනේත් ප්‍රා
නවල්ද නැති නොවෙන පිනිස තුඹේ
හඬ අපට නොඇසේවයි ඔහුට කීවෝ
26 ය. දාන් පුත්‍රයෝද තමන්ගේ ගමන ගි
යෝය. මීකාද තමාට වඩා ඔවුන් බල
ඇති බව දැක ආපසු හැරී ගෙට ගියේ
27 ය ඔවුහු මීකා සෑදූ දේවාලයත් ඔහුට
සිටිය පූජකයාත් ගෙන ලායිෂ් නුවරේ
නිස්කලංක නොසලකන මිනිසුන් වෙ
තට ඇවිත් කඩුමුවහතින් ඔවුන්ට පහර
28 දී නුවර ගින්නෙන් පිලිස්සුවෝය. ඒ
ස්ථානය සිදොන්ගෙන් දුරුව කිසිවෙකු
සමග ගනුදෙනු නැති නිසා ඒක ගල
වන්ට කිසිවෙක් නොසිටියේය. ඒ ස්ථා
නයද බෙත්රෙහොබ් ලඟ තිබෙන මිටි
යාවතේ තිබුනේය. ඔවුහු එහි නුවරක්
29 ගොඩනගා විසුවෝය. ඊශ්‍රායෙල් නිසා
උපන් තමන් පියවූ දාන්ගේ නම ඒ නු
වරට තැබුවෝය. නුමුත් ඒ නුවරට පල
30 මුවෙන් ලායිෂ් නම්විය. දාන් පුත්‍රයෝද
කැපූ රූප තබාගෙන මනස්සෙස්ගේ
පුත් ගැර්ෂොන්ගේ පුත් යොනාතන්ද ත
මන් පුත්‍රයෝද දේශය වාල්කමට පැමි
නි දවස දක්වා දාන් ගෝත්‍රයට පූජකා
31 යෝ වූනෝය. ඔවුහු දෙවියන්වහන්සේ
ගේ මඬපය ශිලෝහි තිබුන සියළු කාල
යෙහි මීකා විසින් සෑදූ කැපූ රූපය තා
බාගත්තෝය.

19. පරිච්ජ. තවද ඒ දවස්වල ඊශ්‍රා
යෙල්හි රජෙක් නැතිවිට එප්‍රායිම් කඳු
පැත්තේ එක ලෙවීයයෙක් වැස බෙත්
ලෙහෙම් යුදාවෙන් උපභාර්යාවක් පා
2 වාගත්තේය. ඔහුගේ ස්ත්‍රී ඔහු හැර වේ
ශ්‍යාකම් කොට ඔහුගෙන් වෙන්ව බෙත්
ලෙහෙම් යුදාහි ඇගේ පියාගේ ගෙට
3 ගොස් එහි පූර්ණ හාර මසක් විසුවාය. එ
විට ඇගේ පුරුෂයා තමන් මෙහෙකරු
වාද කොටඑවන් දෙනෙනෙක්ද සමග පි
ටත්ව ඇට මිත්‍රකමෙන් කථාකොට නැ
වත ඈ ගෙනෙන්ට ඈ පසු ගියේය. ඈ
ද තමාගේ පියාගේ ගෙට ඔහු ගෙනා
වාය. තරුණියගේ පියාද ඔහු දැක ඔහු
4 සම්භවෙන්ට සතුටුවීය. ඔහුගේ මාමා
වන තරුණියගේ පියා ඔහු නවත්වාගත
බැවින් ඔහුද තුන් දවසක් ඔහු සමග වි
සිය එසේ ඔවුන් එහි කා බී සිටියෝය
5 පසුව ඔවුන් සතරවෙනි දා අති උදය
නැගුටුනුවිට ඔහු පිටත්ව යන්ට හැදුවේ
ය. තරුණියගේ පියාද කෑම විකකින් තු
ඹේ හිත සනසාගන පසුව තුඹලාගේ

ගමන පලයල්ලායයි ඔහුගේ බෑනාට
6 කීය. එවිට තරුණියගේ පියානෝ සතුටු
ව මුළු රාත්‍රියේම සිට තුඹේ හෘදය ප්‍රසන්
න කරගනිතනෑයි තුඹට යාඥාවෙමියි
ඒ මිනිහාට කී නිසා ඔවුන් හිඳගෙන
7 දෙතන එක්ක කා බී සිටියෝය. ඒ ම
නුෂ්‍යයාද පිටත්වෙන්ට හැදූවිට ඔහුගේ
මාමා සිටින්ට ඉල්ළු නිසා ඔහු නැවත එ
8 හි විසීය. පස්වෙනි දා අති උදය පිටත්
වෙන්ට ඔහු නැගිට්ටේය තරුණියගේ පි
යානෝද තුඹේ හෘදය ප්‍රසන්න කරගනි
තනෑයි තුඹට යාඥාවෙමියි කීය. ඔවුහු
සවස්වෙනතුරු පමාව ඔවුන් දෙතනම
9 කෑවෝය. ඔහුද තමාගේ ස්ත්‍රීද මෙහෙ
කරුවාද පිටත්වෙනනට නැගුටුනුවිට
තමාගේ මාමා වන තරුණියගේ පියා
නෝ දූනට සවස්වේගන එනාන්ය තු
ඹලා මුළු රාත්‍රියම සිටින්ට තුඹට යාඥා
වෙමියි කියා දවස කෙලවරවෙන්ට පැ
මිනෙනනේය තුඹේ හෘදය ප්‍රසන්නව
මෙහි වාසයකොට ගෙදර යන්ට හෙට
උදයම තුඹලාගේ ගමන පලයල්ලායයි
10 ඔහුට කීය. එහෙත් ඒ මනුෂ්‍යයා ඒ රාත්‍රි
යෙහි සිටින්ට නොකැමතිව සැරසූ කො
ටළුවන් දෙතනත් සමඟ තමාගේ ස්ත්‍රීද
කැඳවාගෙන යෙබුස්නම් යෙරුසලම් ල
11 ඟට ආවෝය. ඔවුන් යෙබුස්ට ළඟාවූවිට
දවස කෙලවරවෙන්ට ලංවිය. මෙහෙ
කරුවාද යෙබුසිවරුන්ගේ මේ නුවරට
හැරී එහි වසන්ට අවමැනවයි ඔබට යා
12 ඥාවෙමියි තමන් ස්වාමියාට කීය. ඔහු
ගේ ස්වාමියාද ඊශ්‍රායෙල් පුත්‍රයන් නැති
අන්රට වැසියන්ගේ නුවරට නොහැරී
13 ගිබියාට අපි යමුයයි කීය. ගිබියාහිවත්
රාමාහිවත් තිබෙන මේ තැන්වලින් එක
කට මුළු රෑ වසන්ට ළඟාවමුයයි තමන්
14 මෙහෙකරුවාට කීය. ඔවුහු තමන් ග
මන් පසුකොට ගොස් බෙන්යමින්ට අ
යිති ගිබියාට ළඟාවූවිට ඉර බැස්සේය.
15 ඔවුන් ගිබියාහි නවාතැන් ගන්ට හැරී
ගියෝය. ඔහුද එහි ඇතුල්ව නවාතැන
ට කවුරුවත් ඔවුන් කැඳවා නොගත් නි
16 සා නුවර වීදියක හිඳගනෙනනෝය. එප්‍රා
යිම් කන්දේ මහළු මිනිහෙක් වෙලේ
වැඩකොට සවස ආයේය ඔහුද ගිබියා
හි විසීය. එහෙත් ඒ මනුෂ්‍යයෝ බෙන්
17 යමින්වරුය. ඔහු ඇස් ඔසවා බලා නුවර
වීදියේ මගයන මනුෂ්‍යයෙකු දුටීය. මහ
ළු මනුෂ්‍යයාද තුඹ කොයිබට යනවාද?
18 කොයිබ සිට එනවාදැයි ඔහුට කීය. ඔහු
ද බෙත්ලෙහෙම්හි යූදා සිට මම සිටින
එප්‍රායිම් කන්ද දෙසට අපි යමුව. බෙත්
ලෙහෙම් යූදාට ගියෙමි දැන් යෙහෝවඃ
වහන්සේගේ ගෙට යෙමි. ගෙට මා ග
19 න්නා කෙනෙක් නැත. එහෙත් අපේ
කොටළුවන්ට පිදුරුත් කෑමත් මටත්
තුඹේ වැඩකාරීටත් තුඹේ මෙහෙකරු
වන් සමග සිටින තරුණයාටත් රොටිත්
මිදිරසත් තිබෙනෙන්ය කිසි දෙයකින්
20 අඩුවක් නැතෙන්නයයි කීයේය. ඒ මහළු
මනුෂ්‍යයා තුඹට සුභවේවා තුඹේ සියළු
ඕනෑකම් මා පිටට වෙත්වා වීදියේ සිටි
21 න්නට එපායයි ඔහුට කීය. එවිට ඔහු ඔ
වුන් ගෙට ගෙනැත් කොටළුවන්ට කෑ
ම දුනෙන්ය. ඔවුන්ගේ කකුල් සෝදා
ගන කා බී සිටියෝය.
22 ඔවුන්ගේ සිත් ප්‍රීතිකරණවිට නුවර ස
මහර දුශ්ඨ මනුෂ්‍යයෝ ගේ වටකර දෙ
රට ගසා ගෙයි ස්වාමිවූ මහළු මනුෂ්‍යයා
ට කථාකොට තුඹේ ගෙය තුලට ආ ම
නුෂ්‍යයා කාන් එලඹෙන පිනිස ඔහු පිට
23 තට ගෙනෙනනෑයි කීවෝය. එවිට ගේ
අයිති මනුෂ්‍යයා ඔවුන් වෙතට ගොස්
සහෝදරයෙනි එයාකාර අධර්මිෂ්ඨකම
නොකරල්ලාය. මේ මනුෂ්‍යයා මාගේ
ගෙට පැමුනුන නිසා මේ නීච ක්‍රියාව
24 නොකරල්ලාය. මෙහි සිටින කන්‍යාවූ මා
ගේ දුවත් ඔහුගේ ස්ත්‍රීත් පිටතට ගෙ
නෙනනම් තුඹලා ඔවුන්ට අවනඹු
කොට තුඹලාට මනාපයක් ඔවුන්ට කර
පල්ලාය. එහෙත් එබඳු නීචකමක් මේ
25 මනුෂ්‍යයාට නොකරල්ලායයි ඔවුන්ට කී
ය. එහෙත් ඒ මනුෂ්‍යයෝ ඔහුට කන්
නුදුනෝය. එවිට ඒ මනුෂ්‍යයා තමා
ගේ ස්ත්‍රී ගෙයින් පිටත ඔවුන් ළඟට ගෙ
නායේය. ඔවුහු ඇ වෙත පැමින පාන්
වෙනතුරු මුළු රාත්‍රියම ඇට නපුරුකම්
26 කොට එලිවෙන වේලේ ඇ අත්හැරි
යෝය. එවිට ඒ ස්ත්‍රී පාන්වෙන වේලේ
ඇගේ ස්වාමියා සිටි ගෙට ඇවිත් දොර
27 ලඟ වැටී එලිවෙනතුරු උන්නාය. ඇ
ගේ ස්වාමියාද අළුයම නැගිට ගෙයි දො
ර හැර ගමන යන්ට පිටතට ගියේය. ත
මාගේ උපභාර්‍ය්‍යා වන ඒ ස්ත්‍රී ගෙයි දො
ර ලඟ වැටී ඇගේ අත් එලිපත්ත උඩ
28 තිබුනෝය. ඔහු නැගිට අපි යමුයයි ඇ
ට කීය. එහෙත් කිසි උත්තරයක් නුදුන්
නාය. එවිට ඒ මනුෂ්‍යයා ඇ ඔසවා කො

ටළුවා පිට තබාගෙන තමාගේ ස්ථානය
29 ට ගියේය. තමන් ගෙය තුලට පැමුනු
නායින් පහු පිහියක් ගෙන තමාගේ
ස්ත්‍රී අල්ලාගෙන ඇගේ මස් සහ ඇට
දෙළොස් පංගුවට බෙදා ඊශ්‍රායෙල්හි සි
30 යළු තැනවලට යැවීය. ඒ දුටු සියල්ලෝ ඊ
ශ්‍රායෙල් පුත්‍රයන් මිසර දේශයෙන් පිටත්
වුනු තැන් පටන් මේ දවස දක්වා මෙබ
දු දෙයක් උනේවත් දුටුවේවත් නැත.
ඉන්නිසා ඒක කල්පනාකොට විමසා බ
ලා නුබලාගේ කල්පනා කියාපල්ලායයි
කීවෝය.

20. පරිච්. එවිට සියළු ඊශ්‍රායෙල්
පුත්‍රයෝ පිටත්ව ගොස් දන් පටන් ගිලි
යද් දේශය සමග බීර්සෙබා දක්වා සිට ස
මූදුව එකෙක් මෙන් මිස්පේහි යෙහෝ
2 වාවහන්සේ වෙතට රැස්වූවෝය. ඊශ්‍රා
යෙල්හි සියළු ගෝත්‍රවල සියළු ජනයන්
ගේ ප්‍රධානීහු දෙවියන්වහන්සේගේ සමූ
හය වන කඩුගත් සාරලක්ෂයක් පාබල
3 සේනාවට පැමිණියෝය. ඊශ්‍රායෙල් පුත්‍ර
යෝ මිස්පේට ගිය බව බෙන්යමින් පු
ත්‍රයන්ට ආරංචිය. ඊශ්‍රායෙල් පුත්‍රයෝද
මේ නපුර උනහැටි අපට කියාපනැයි
4 කීවෝය. එවිට මැරුණ ස්ත්‍රීගේ ස්වාමිපු
රුෂවූ ලෙවියා උත්තර දෙමින් මමත්
මාගේ ස්ත්‍රීත් නවාතැන් සිටින්ට බෙන්
5 යමින්ට අයිති ගිබෙයාට ආවෝය. ගි
බෙයායෙහි මනුෂ්‍යයෝද මට එදිරිව රා
ත්‍රියේ මම සිටි ගේ වටලා මා මරන්ට සි
තුවෝය. මාගේ ස්ත්‍රීට ඈ මැරෙණ තරම්
6 ඔවුන් බලාත්කාර කලෝය. මමද මා
ගේ ස්ත්‍රී ගෙන ඈ කැබලි කපා ඊශ්‍රා
යෙල්ව උරුම සියළු රටට හැරියෙමි මක්
නිසාද ඔවුන් ඊශ්‍රායෙල්හි අනාචාරයක්
7 ද නිවකමක්ද කලෝය. නුබලා සියල්
ලෝ ඊශ්‍රායෙල් පුත්‍රයෝය. මේ කාරණ
ව ගැන දැනමුතුකමත් නුවනත් කියාදි
8 යල්ලායයි කීය. එවිට සියළු මිනිස්සු එක්
සිට අපෙන් කවුරුවත් අපේ කූඩාරමට
නොයමුව කවුරුවත් ගෙට නොහැරෙ
9 මුව. එහෙත් අපි ගිබෙයාට මෙසේ කර
මුව. දදු ඇට දමා ඊට විරුඬව යමුව.
10 බෙන්යමින්ගේ ගිබෙයාහි මනුෂ්‍යයන්
විසින් ඊශ්‍රායෙල්හි කල සියළු නිවකම්
ලෙස ඔවුන්ට කරණපිනිස සෙනග ඒ නු
වරට යනකල අපි සියළු ඊශ්‍රායෙල් ගෝ
ත්‍රවලින් සියයකින් දස දෙනෙක්ද දහ
සින් සියයක්ද දසදහසකින් දහසක්ද මිනි
සුන්ට කෑම ගෙනෙන්ට ගනිමුයයි කී
11 වෝය. මෙසේ සියළු ඊශ්‍රායෙල් මනුෂ්‍ය
යෝ ඒ නුවරට විරුඬව රැස්ව එක මනු
ෂ්‍යයෙක් මෙන් එකතුවූනෝය.
12 ඊශ්‍රායෙල් ගෝත්‍රයෝ බෙන්යමින්
ගේ මුළු ගෝත්‍රයට මිනිසුන් යවා නුබලා
13 අතරේ කල මේ දුෂ්ඨකම මොකද? අ
පි ඒ මිනිසුන් මරා ඊශ්‍රායෙල්ගෙන් නපු
ර පහකරන්ට ගිබෙයාහි ඒ දුෂ්ඨ මනු
ෂ්‍යයන් අපට පාවාදියල්ලායයි කීවෝය.
එහෙත් බෙන්යමින් පුත්‍රයෝ තමන් ස
හෝදර ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ හඬට
14 කන් නොදී ඊශ්‍රායෙල් පුත්‍රයන්ට විරුඬ
ව යුඬකරන්ට නුවරවලින් පිටත්ව ගිබෙ
15 යාට රැස්වූවෝය. ගිබෙයාහි මනුෂ්‍ය
යන්ගෙන් තෝරාගත් සත්සියයක් හැ
නුවරවලින් පිට ඒ කාලේ ගණ
බෙන්යමින් පුත්‍රයෝ කඩුගත්තාවූ
16 හදහසක් මනුෂ්‍යයෝය. මේ සමූදුවෙ
තෝරාගත් වමත හුරු මනුෂ්‍යයෝ සත්
සියයක් වූනෝය. ඔවුන් සියල්ලන්ට
කෙසකට නමුත් නොවරදවා ගල් පටි
යකින් ගල්ගසන්ට පුළුවන.
17 ඊශ්‍රායෙල් මනුෂ්‍යයෝද බෙන්යමින්
හැර සාරලක්ෂයක් කඩුගත් මනුෂ්‍යයෝ
ගනන් ගත්තෝය මේ සියල්ලෝ යුඬකා
18 රයෝය. ඊශ්‍රායෙල් පුත්‍රයෝද පිටත්ව දෙ
වියන්වහන්සේගේ මඩපයට ගොස් දෙ
වියන්වහන්සේගෙන් උපදෙස් විචාරා
බෙන්යමින් පුත්‍රයන්ට විරුඬව සටනට
අපෙන් පලමුකොට යනෙන් කවුදයි කී
වෝය. යෙහෝවාවහන්සේද යූදා පල
19 මුකොට යනෙන්යයි වදාලසේක. ඊශ්‍රා
යෙල් පුත්‍රයෝ උදය නැගිට ගිබෙයාට
20 විරුඬව අන්දයම් බැඳගත්තෝය. ඊශ්‍රා
යෙල් මනුෂ්‍යයෝ බෙන්යමින්ට විරුඬ
ව යුඬයට ගොස් ගිබෙයා වැසියන් සම
ග යුඬකරන්නට පෙලට සිටියෝය.
21 බෙන්යමින් පුත්‍රයෝද ගිබෙයෙන් පිට
ත්ව අවුත් එදා ඊශ්‍රායෙල්වරුන්ගෙන් විසි
22 දෙදහසක් මනුෂ්‍යයන් මරාදැම්මෝය. ජ
නයෝ වන ඊශ්‍රායෙල්වරු වියසී වඩා ප
ලමු දවසේ ඔවුන් පෙලට සිටි තැන යුඬ
යට නැවත තමන්ම පෙලට සිටවෙව්වෝ
23 ය. ඊශ්‍රායෙල් පුත්‍රයෝ යෙහෝවාවහන්
සේගේ ඉදිරියෙහි සවස්වනතුරු අඬා
අපේ සහෝදර බෙන්යමින්ට විරුඬව
යුඬයට නැවත යනෙනමුදයි කියා යෙ

හෝවඃවහන්සේගෙන් උපදෙස් ඇසූවෝය. යෙහෝවඃවහන්සේද ඔහුට විරුඬව පලයව්යයි කීසේක. 24 ඊශ්‍රායෙල් පුත්‍රයෝ දෙවෙනි දා බෙන්යමින් පුත්‍රයන්ට විරුඬව ළංවූනෝය. 25 බෙන්යමින්ද දෙවෙනි දා ඔවුන්ට විරුඬව ගිබෙයායෙන් පිටත්ව ගොස් ඊශ්‍රායෙල් පුත්‍රයන්ගෙන් නැවත දහඅටදහසක් මනුෂ්‍යයන් මරාදැම්මෝය. මේ සියල්ලෝ කඩුගත්තෝය.

26 එකල සියළු ඊශ්‍රායෙල් පුත්‍රයෝද සියළු සමූහයාද පිටත්ව දෙවියන්වහන්සේගේ මඩපයට ඇවිත් අඬා යෙහෝවඃවහන්සේ ඉදිරියෙහි සිට සවස්වනතුරු එදා නොකා යෙහෝවඃවහන්සේ ඉදිරියෙහි දවන පූජාවල්ද ශාන්ති පූජාවල්ද පිදුවෝය. 27 ඊශ්‍රායෙල් පුත්‍රයෝ මම නැවතත් 28 මාගේ සහෝදර බෙන්යමින් පුත්‍රයන්ට විරුඬව යුඬයට යන්නෙමද නොයන්නෙමදැයි යෙහෝවඃවහන්සේගෙන් විචාළෝය. ඒ දවස්වලදී දෙවියන්වහන්සේගේ ගිවිසුම් පෙට්ටිය එහි තිබුණේය. ආරොන් පුත් එලියාසර්ගේ පුත්‍රවූ පිනෙහාස්ද එහි ඉදිරිපිට සිටියේය. යෙහෝවඃවහන්සේද යව හෙට ඔවුන් නාගේ අතට පාවාදෙන්නෙමියි වදාළසේක. 29 ඊශ්‍රායෙල්ද ගිබෙයා වටකර මුරකාරයන් සඟවා සිටෙව්වෝය. 30 ඊශ්‍රායෙල් පුත්‍රයෝ තුන්වෙනි දා බෙන්යමින් පුත්‍රයන්ට විරුඬව ගොස් වෙන වතාවලදී මෙන් ගිබෙයාට විරුඬව පෙළට සිටියෝය. 31 බෙන්යමින් පුත්‍රයෝද ජනයන්ට විරුඬව ගොස් නුවරින් පිට ඇවිත් වෙන වතාවල මෙන් සමූහයාට පහරදෙන්නට පටන්ගෙණ දෙවියන්වහන්සේගේ මඩපයටත් කෙනෙක් ගිබෙයාටත් යන මහමාවත්වලදී තිහක්පමන ඊශ්‍රායෙල් මනුෂ්‍යයන් මැරුවෝය. 32 බෙන්යමින් පුත්‍රයෝ පලමු ලෙස ඔවුන් අප ඉදිරියෙහිදී පැරදුනෝයයි කීවෝය. එහෙත් ඊශ්‍රායෙල් පුත්‍රයෝ අපි පලාගොස් ඔවුන් නුවරින් මහමාවත්වලට ඇදගනිමුයයි කීවෝය. 33 සියළු ඊශ්‍රායෙල් මනුෂ්‍යයෝ තමන් සිටි තැනින් නැගිට බාල්තමර්හි පෙළට සිටගත්තෝය. ඊශ්‍රායෙල්ගේ මුරකාරයෝද තමන් සිටි ගිබෙයා පිට්ටනිවලින් නැගී ආවෝය. 34 ගිබෙයාට විරුඬව සියළු ඊශ්‍රායෙල්ගෙන් තෝරාගත් මනුෂ්‍යයෝ දසදහසක් ආවෝය. යුඬය කුරුවිය. එහෙත් බෙන්යමියයෝ නපුර තමන්ට ළංවූ බව නොදත්තෝය. 35 යෙහෝවඃවහන්සේද ඊශ්‍රායෙල් ඉදිරියෙහි බෙන්යමින් පැරදවූසේක. ඊශ්‍රායෙල් පුත්‍රයොත් එදා බෙන්යමියයන්ගෙන් කඩුගත් එකසිය පස්විසිදහසක් මනුෂ්‍යයන් විනාසකළෝය. 36 මෙසේ බෙන්යමින් පුත්‍රයෝ තමන් පැරදුන බව දුටුවෝය. මක්නිසාද ඊශ්‍රායෙල් මනුෂ්‍යයෝ ගිබෙයා අසල තමන් සඟවා සිටෙව් මුරකාරයන් විශ්වාසකළ නිසා 37 බෙන්යමින්වරුන්ට ඉඩ දුන්නෝය. මුරකාරයෝද ඉක්මණ ගිබෙයාට කඩන් ආවෝය. ඔවුන් ගිබෙයාට ඇවිත් සියළු නුවර වැසියන්ට කඩුමුවහතින් පහර දුන්නෝය. 38 ඊශ්‍රායෙල් මනුෂ්‍යයන්ද මුරකාරයන්ද අතරේ නියමකළ ලකුණක් තිබුණේය. ඒනම් නුවරින් නගින දුම් සමග මහත් ගිනි කඳක් දැක්වීමය. 39 ඊශ්‍රායෙල් මනුෂ්‍යයෝ යුඬකරකර පසුබහින කල බෙන්යමින් ඊශ්‍රායෙල් මනුෂ්‍යයෝ පළමු ලෙස අප ඉදිරියෙහි පැරදුනෝයයි කියා ඊශ්‍රායෙල් මනුෂ්‍යයන්ට පහර දෙන්නට පටන්ගෙන තිහක් පමන මිනිසුන් මැරුවෝය. 40 එහෙත් දුම් කනුවක්ද ගිනි කඳක්ද නුවරින් නගින්නට පටන්ගත් කල බෙන්යමින්වරු පසු හැරීබැලුවෝය. නුවරින් ගිනි කඳ අහසට නැංගේය. 41 ඊශ්‍රායෙල් මනුෂ්‍යයන් නැවත හැරී ආකල බෙන්යමින් මනුෂ්‍යයෝ නපුර ඔවුන් පිටට පැමිනි බව දැක පුදුමවූනෝය. 42 ඉන්නිසා ඔවුන් ඊශ්‍රායෙල් මනුෂ්‍යයන්ට පිටපා බෑදි මගට හැරුනෝය. එහෙත් යුඬයට අසුව නුවරවලින් පිටත ආවුන් ඔවුන් මැද විනාස කළෝය. 43 මෙලෙස ඔවුන් බෙන්යමින්වරුන් වටලා නැගෙනහිර ගිබෙයා ඉදිරිපිටදී ඔවුන් පස්සේ එලවා ලේසියෙන් ඔවුන් මැඩ පැවැත්වූවෝය. 44 බෙන්යමින්ගෙන් දහඅට දහසක් මිනිසුන් එහි වැටි මැරුනෝය. 45 ඔවුන් සියල්ලෝ යුඬ දක්ෂයෝය. ඔවුහු වනය දිසාවට හැරී රිම්මොන් ගලට පලාගියෝය. ඔවුන් මහමාවත්වලදී ඔවුන්ගෙන් පස්දහසක් මනුෂ්‍යයන් අල්වා ඔවුන් පස්සෙන් ගිදෙම් දක්වා තදින් එලවා දෙදහසක් මිනිසුන් මැරුවෝය. 46 මෙසේ බෙන්යමින්ගෙන් එදා වැටුන සියල්ලෝ පස්විසිදහසක් කඩු ගත් මනුෂ්‍යයෝය. 47 ඔවුන් සියල්ලෝ යුඬ දක්ෂයෝය.

එහෙත් හයසියයක් මනුෂ්‍යයෝ වනයට
හැරී රිම්මොන් ගලට පලාගොස් හාරමා
48 සයක් රිම්මොන් ගලේ සිටියෝය. ඊශ්‍රා
යෙල් මනුෂ්‍යයෝ නැවතත් බෙන්ය
මින් පුත්‍රයන් දෙසට හැරී නුවර මිනිසුන්ද
සිවුපාවුන්ද දක්වා අතට පත් සියල්ලන්ට
කඩුමුවහතින් පහර දුන්නෝය. ඔවුන්
ගිය ගිය නුවරවල්ද ගිනිලෑවෝය.

21. පරිච්ඡේ. ඊශ්‍රායෙල් මනුෂ්‍යයෝ
අපෙන් කවුරුවත් අපේ දුවක් බෙන්ය
මින්ට භාර්‍ය්‍යාකොට නොදෙමුයයි කියා
2 මිස්පේදී දිවුලෝය. මිනිස්සුද දෙවියන්ව
හන්සේගේ මඩපයට ඇවිත් සවස්වෙන
තුරු දෙවියන්වහන්සේ ඉදිරියෙහි හිඳග
3 න ශබ්ද පවත්වා මහත් හඬින් හඬා ඊ
ශ්‍රායෙල්ගේ දෙවිවූ යෙහෝවාවහන්ස
අද ඊශ්‍රායෙල්ගෙන් ගෝත්‍රයක් නැතිවි
ය මේක ඊශ්‍රායෙල්හි උනේ මක්නිසාදැ
4 යි කීවෝය. පසුව ද මිනිසුන් කලින් නැ
ගිට පූජාසනයක් ගොඩනගා දවන පූ
5 ජාවල්ද ශාන්ති පූජාවල්ද පිදුවෝය. ඊ
ශ්‍රායෙල් පුත්‍රයෝද සියළු ඊශ්‍රායෙල් වංශ
ය අතරේ සභාවෙන් යෙහෝවාවහන්
සේ වෙතට නාවේ කවුදැයි කීවෝය.
මක්නිසාද ඔවුන් යෙහෝවාවහන්සේ
වෙත නා අය සැබවින් මැරිය යුතුයයි කි
යා ඔහු ගැන මහත් දිවුරුමක් කලෝය.
6 නුමුත් ඊශ්‍රායෙල් පුත්‍රයෝ තමන්ගේ ස
හෝදරවූ බෙන්යමින් ගැන කනගාටුව
මේ දවස ඊශ්‍රායෙල්ගෙන් ගෝත්‍රයක්
7 නැතිවූනේය. අපි ඉතුරුව සිටිනාන්ට
භාර්‍ය්‍යාවන් පිනිස මක්කරමෝද? අපේ
දූවරුන් ඔවුන්ට භාර්‍ය්‍යාකොට නොදෙ
නෙනාමුයයි යෙහෝවාවහන්සේ ගැන
8 දිවුලෙමුයයි කීවෝය. යෙහෝවාවහන්
සේ වෙත මිස්පේට ඊශ්‍රායෙල් ගෝත්‍රව
ලින් නාවේ කවුදැයි කීවෝය. යාබෙෂ්
ගිලියද්ගෙන් අන්දයමේ සභාවට කිසි
9 වෙක් නොආයේය. මක්නිසාද සමූදුව
ගනන්කලාම යාබෙෂ් ගිලියද් වැසියන්
10 ගෙන් කවුරුවත් එහි නොසිටියේය. ස
භාවද නිර්භීත මනුෂ්‍යයන් දොලොස් දා
හක් එතනට යවා ස්ත්‍රීන්ද ලදරුවන්ද සම
ග යාබෙෂ් ගිලියද් වැසියන්ට කඩුමුවහ
11 තින් පහරදීපලාය. සියළු පුරුෂයන්ද පු
රුෂයා සමග සයනයකල සියළු ස්ත්‍රීන්ද
නුබලා මුළුමනෙම්ම නාසතිකරපලාය
12 යි කියා ඇරියෝය. පුරුෂයන් සමග
සයනය නොකල තරුණ කන්‍යාවන් හා
රසියයක් යාබෙෂ් ගිලියද්වැසියන් අත
රේ ඔවුන්ට සම්භවූනෝය. ඔවුන්ද කා
නාන් දේසයේ ෂීලෝහි අන්දයමට ඒ
13 කන්‍යාවන් ගෙනාවෝය. සියළු සභාවද
රිම්මොන්ගල සිටින බෙන්යමින් පුත්‍ර
යන් සමාදනයෙන් අඬගහගන එන්ට
සමහරෙක් යවූයේය. එවිට බෙන්යමින්
14 නැවත ආයේය. ඔවුන්ද යාබෙෂ් ගිලියද්
හි ස්ත්‍රීන්ගෙන් ජීවත්ව ඉතුරුවූවන් ඔ
වුන්ට භාර්‍ය්‍යාකොට දුන්නෝය. එහෙත්
15 ඔවුන්ට නොසෑහුනේය. යෙහෝවාව
හන්සේ ඊශ්‍රායෙල් ගෝත්‍රවල් අඩු කල
නිසා මිනිස්සු බෙන්යමින් ගැන කනගා
ටු වූනෝය.
16 එවිට සභාවේ නායකයෝ අපි ඉතිරි
අයට භාර්‍ය්‍යාවන් ලැබෙන්ට මක්කරමු
ද? බෙන්යමින්ගෙන් ස්ත්‍රීයෝ විනාසවූ
17 නෝයයි කීවෝය. ඔවුන්ද ඊශ්‍රායෙල්
ගෙන් ගෝත්‍රයක් නැතිනොවෙන ලෙ
ස බෙන්යමින්හි ගැලවී සිටිනාන්ට උ
18 රුමයක් තිබෙන්ට ඕනෑය. කොහොම
නුමුත් ඊශ්‍රායෙල් පුත්‍රයෝ බෙන්යමින්ට
භාර්‍ය්‍යාවක් දෙනනාට නපුරුසාප වේව
යි කියා දිවුල බැවින් අපේ දූවරුන් ඔ
වුන්ට භාර්‍ය්‍යාකොට දෙන්ට අපට බැරි
19 ය. එහෙත් බෙතෙල්ට උතුරුදිග බෙ
තෙල් සිට ෂෙකෙම්ට යන මගට නැගෙ
නහිර ලබෝනාට දකුනේ තැනක ෂී
ලෝහි යෙහෝවාවහන්සේට අවුරුදුප
20 තා මංගල්‍යයක් ඇතැයි කීවෝය. ඉන්නි
සා ඔවුන් බෙන්යමින් පුත්‍රයන්ට නුබලා
21 ගොස් මිදිවතුවල රැක සිටිල්ලාය. ෂීලෝ
හි දූවරු නටන්ට පිටත්ව ආවොත් නුබ
ලා මිදිවතුවලින් පිටව ඇවිත් සෑම දෙ
නම තමන්ට ස්ත්‍රියන්කොට ෂීලෝහි දූ
වරුන් අල්වාගෙන බෙන්යමින් දේස
22 යට පලයල්ලාය. ඔවුන්ගේ පියවරුවත්
සහෝදරයෝවත් අප වෙතට තබ්බ කි
යන්ට අවිනම් අපි යුඩයේදී එක්කෙනෙ
කුගේ ස්ත්‍රියක්වත් ඉතුරුනොකල නිසා
අප නිසා ඔවුන්ට උපකාරවෙයල්ලා මක්
නිසාද නුබලා වරදකාරයෝ වෙන්ට
මේ කාලයෙහි ඔවුන්ට නුදුන්නෝයයි අ
23 පි ඔවුන්ට කියමුයයි කීවෝය. බෙන්ය
මින් පුත්‍රයෝද එසේ කොට නටන්නා
වුන්ගෙන් තමන් ගනන ලෙස ඇල්ලු
වන් තමන්ට භාර්‍ය්‍යා කොට ගෙන තා
මන් උරුමයට හැරී ගොස් නුවරවල්

කවුකොහොල් හරවා අළුත්වැඩියාකො
24 ට එහි විසූවෝය. එකල ඊශ්‍රායෙල් පුත්‍ර
වූ සියළු මනුෂ්‍යයෝ තමතමන්ගේ ගෝ
ත්‍ර සහ පවුල් ලෙස එතනින් පිටත්ව සි
යල්ලෝම තමතමන්ගේ උරුමවලට ගි
25 යෝය. ඒ දවස්වල ඊශ්‍රායෙල්හි රජෙක්
නැතුව සියළු මනුෂ්‍යයෝ තමතමන්ට
හොඳට පෙනෙන දෙයක් කලෝය.

# රූත්ගේ පොතය.

1. පරිච්ඡෙදය. තවද විනිශ්චයකාර
යන් ආඥකරණ දවසේ රටේ සාගතයක්
විය. බෑත්ලෙහෙම් යුදහි මනුෂ්‍යයෙක්
තමාගේ ස්ත්‍රීද පුත්‍රයන් දෙදෙනාත්ද ස
මග මෝවබ් දේසයේ වසනාට ගියේ
2 ය. ඒ මනුෂ්‍යයාගේ නම එලිමෙලෙක්ය.
ස්ත්‍රීගේ නම නයෝමිය. පුත්‍රයන් දෙන්
නාගේ නම මහලොන් ඛිලියොන් විය.
ඔවුන් බෑත්ලෙහෙම් යුදහි ඒප්‍රාත්වරු
ය. ඔවුන් මෝවබ් දේසයට ඇවිත් එහි
3 විසූවෝය. නයෝමිගේ පුරුෂයාවූ එලි
මෙලෙක් මැරී ඈද ඇගේ පුත්‍රයෝ දෙ
4 නාද ඉතුරුව සිටියෝය. ඔවුන් මෝ
වබ්හි ස්ත්‍රීන්ගෙන් භාර්‍ය්‍යාවන් පාවාගත්
තෝය. එකියකුගේ නම ඔර්පාද අනි
කිගේ නම රූත්ද විය. ඔවුන් අවුරුදු
5 දහයක් පමන එහි විසූවෝය. තවද ම
හලොන් ඛිලියොන් යන දෙනාම මැ
රුනෝය. ඒ ස්ත්‍රීද ඇගේ පුත්‍රයන් දෙන්
6 නාද පුරුෂයාද නැතිව තනිවූනාය. එවි
ට ඈ මෝවබ් දේසයේ සිටිද්දී යෙහෝ
වාවහන්සේ තමන් මිනිසුන් බලා ඔවුන්
ට කෑම දුන් බව අසා තමාගේ ලේලිව
රුන් සමග මෝවබ් දේසයෙන් පිටත්ව
7 යන්ට සෑදුවාය. ඈද ඇගේ ලේලිවරු
දෙනාද තමන් සිටි තැනින් පිටත්ව
ගොස් යුදා දේසයට යන මගට පැමුනු
8 නෝය. නයෝමිද ඇගේ ලේලීන් දෙ
නාට කථාකොට තුබලා හැරී තුබලා
ගේ මැනියන්ගේ ගෙවල්වලට පලයල්
ලාය. තුබලා මලවුන්ටත් මටත් යහපත්
කම් කල ලෙස යෙහෝවාවහන්සේ තු
9 බලාටත් කරුණාකරණසේක්වා. තුබලා
පුරුෂයන් ලැබ ඔවුන්ගේ ගෙයි සුවසේ
සිටින්ට යෙහෝවාවහන්සේ සලස්වන
10 සේක්වයි කියා ඔවුන් සිඹගත්තාය. ඔවු
න්ද තමන්ගේ ශබ්ද නගා අඬ අඬා සැබ
වින් අපි තුබ සමග තුබේ මිනිසුන් වෙ
11 තට යමුයයි ඈට කීවෝය. නයෝමිද
මාගේ දූවරුනි පස්සට හැරී පලයල්ලාය.
මා සමග යනෙන් මන්ද? තුබලාට පුරු
ෂයෝ වෙන්ට මාගේ ගැබේ තවත් පු
ත්‍රයෝ ඇද්ද? දූවරුනි හැරී පලයල්ලා
12 ය. මක්නිසාද පුරුෂයකු පාවාගන්ට ම
ට වයස වැඩිය. ඇරත් මට බලාපො
රොත්තුවීම තිබෙනවාය කියා මේ රාත්‍රි
යේම මට පුරුෂයකු ලැබී පුත්‍රයන් වැදූ
13 නුමුත් ඔවුන් වැඩෙනතුරු තුබලා පු
රුෂයන් නොගෙන ඔවුන් නිසා පො
රොත්තුවෙනවාද? එසේ නොවේය.
මාගේ දූවරුනි යෙහෝවාවහන්සේගේ
අත මට විරුද්ධව තිබෙන නිසා තුබලා
ගැන මම ඉතා කනගාටුවෙමියි කීවාය.
14 ඔවුන් තමන්ගේ හඬ නගා නැවත හැඬු
වෝය. ඔර්පාද ඇගේ නැන්දනිය සිඹග
15 ත්තාය. රූත්ද ඈට ඇළුනාය. නයෝමි
ද කථාකොට තුබේ ලේලි තමාගේ මි
නිසුන්ද දේවතාවුන්ද වෙතට හැරී ගියා
ය. තුබේ ලේලිට පසුව හැරී පලයන්
16 නැයි කීවාය. රූත්ද තුබ සමග නො
ගොස් හැරී යන්ට මගෙන් ඉල්ලන්ට එ
පාය තුබ යන තැනට මමත් යෙමි තුබ
සිටින තැන මමත් සිටිමි තුබේ මිනිස්සු
මාගේ මිනිස්සුද වන්නෝය. තුබේ දෙවි
යන්වහන්සේ මාගේ දෙවියන්වහන්සේද
17 වනසේක. තුබ නසින තැන මමත් නැ
සී එතනම තැන්පත්කරනු ලබමි මා මැ
රීමෙන් මිස තුබෙන් වෙන්වූනොත් යෙ
හෝවාවහන්සේ මට ඒ ගැන විපාක
18 දෙනසේක්වයි කීවාය. එවිට රූත් ඈ ස
මග යන්ට සිතින් නියමකරගත් බව දැ
19 ක නයෝමි තවත් කථානොකලාය. ඔ
වුන් දෙදෙන බෑත්ලෙහෙම්ට එනකල්
ගියෝය. ඔවුන් බෑත්ලෙහෙම්ට ආකල
මුළු නුවර ඔවුන් ගැන පුදුමව මේ න
20 යෝමි නොවේදැයි කිව්වෝය. ඈද ම
හෝත්තමයානන්වහන්සේ මට ඉතා
තික්තකල නිසා මට නයෝමි නොකී
21 යා මාරායයි කියාපලලාය. මම සම්පූර්ණ
ව පිටත් ගියෙමි යෙහෝවාවහන්සේද

මා නැවත හිස්ව ගෙනාසේක. යෙහෝ
වාවහන්සේ මට විරුද්ධව සාක්ෂිදී මහෝ
තත්මයානන්වහන්සේ මට පීඩාකල බැ
වින් තුඹලා මට නයෝමි කියනෙන්
22 මන්දැයි කීවාය. මෙසේ නයෝමිද ඈ
ගේ ලේලිවූ මෝවබ් දේසයෙන් ආ
මෝවබ්හි රූත්ද ඇවිත් යව සස්‍ය ප
වන්ගැම්මේදී බෑත්ලෙහෙම්ට ආවෝය.

2. පරිච්ඡ. තවද නයෝමිගේ පුරු
ෂයාට නෑවූ එලිමෙලෙක්ගේ පවුලේ
බොහෝ සම්පත් ඇති බෝවස්නම් ම
2 නුෂ්‍යයෙක් සිටියේය මෝවබ්හි රූත්ද
කථාකොට මා කෙරෙහි කරුණාව ඇති
කෙනෙක් පස්සේ කරල් අවුලන්ට වෙ
ලට යන්ට අවසර දියනෑයි නයෝමිට
3 කීවාය ඈද මාගේ දුවනියෙනි පලයන්
නැයි කීවාය. ඈද ගොස් වෙලේ ගො
යම් කපන්නන් පස්සේ කරල් ඇවුළුවා
ය. එලිමෙලෙක්ගේ නෑවූ බෝවස්ට අ
4 යිති වෙලේ පංගුවට ඈ පැමුනුනාය.
බෝවස් බෑත්ලෙහෙම් සිට අවුත් යෙ
හෝවාවහන්සේ තුඹලා සමග වේවයි
ගොයම් කපන්නන්ට කීය. ඔවුන්ද යෙ
හෝවාවහන්සේ තුඹට ආශීර්වාද කරණ
5 සේක්වයි ඔහුට උත්තර දුන්නෝය. එවිට
බෝවස් මේ තරුනී කාගේදැයි ගොයම්
6 කප්පවන තමන් මෙහෙකරුවාට කීය.
ගොයම් කප්පවන මෙහෙකරුවා මෝ
වබ් දේසයෙන් හැරී ආ නයෝමි සමග
7 ආවාවූ මෝවබ්හි තරුනී මේය. ඈද
ගොයම් කපන්නන් පස්සේ ගොයම් මිටි
අතරේ අවුලා එකතුකරන්ට අවසර ලැ
බෙන්ට ඉල්ලමියි කීවාය. ඈ අවුත් ගෙයි
ස්වල්ප වේලක් ප්‍රමාදවූනාත් ඈර උදය
8 පටන් දැන් දක්වාම සිටියායයි උත්තරදු
න්නේය. බෝවස්ද මාගේ දුවනියෙනි
තුඹට ඇහෙනවාද මෙතනින් වෙන වෙ
ලකට අවුලන්ට නොගොස් මෙහි මාගේ
9 වැඩකාරියන් ලඟ සිටපන්න. ඔවුන් කප
න වෙල බලා ඔවුන් පස්සේ පලයන්න.
තුඹට මොකවත් නොකරන්ට තරුණ
පුරුෂයන්ට අන නොකෙලෙම්ද? තුඹ
ට පිපාස වූනාම භාජන ලඟට ගොස් තරු
ණ පුරුෂයන් ඇද තිබෙන වතුර බීපන්
10 නැයි රූත්ට කීයේය. එවිට ඈ මූනින්
වැටි බිමට නැමී තුඹ පිට රටවාසිවූ මා
සලකන තරම් කරුණාව තුඹ ඉදිරියේ
මට ලැබුනේ මක්නිසාදැයි ඔහුට කීවාය.
11 බෝවස්ද උත්තර දෙමින් තුඹේ පුරුෂ
යා නැසුනු පසු තුඹේ නැන්දට කල සිය
ල්ලත් තුඹේ පියානන්ද මෑණියන්ද ජම්ම
දේසයද අත්හැර ඉස්සර නොහඳුනන
මිනිසුන් වෙතට ආ බවත් මට සේරම
12 ආරංචි වූනේය. යෙහෝවාවහන්සේ තු
ඹේ ක්‍රියාව නිසා විපාක දී තමන්වහන්
සේගේ අත්තෑන්ද යට විශ්වාසයෙන් සි
ටින්ට ආ බැවින් ඊශ්‍රායෙල්ගේ දෙවියන්ව
හන්සේගෙන් තුඹට සම්පූර්ණ විපාක
13 ලැබේවයි ඈට කීය. එවිට ඈ මාගේ
ස්වාමිනි තුඹේ වැඩකාරියෙක් මෙන්
නොවන තුමූත් තුඹේ වැඩකාරිට මිත්‍ර
කමෙන් කථාකල නිසාත් තුඹ මා සැනසූ
නිසාත් තුඹෙන් මට කරුණාව ලැබේ
14 වයි ඔහුට කීවාය. බෝවස්ද කන වේ
ලේ මෙතනට ඇවිත් රොටියෙන් කා තු
ඹේ කෑල්ල කාඩියේ පොවාපන්නෑයි ඈ
ට කීය. ඈද ගොයම් කපන්නන් ලඟ ඉ
දගත්තාය. ඔහුද බැදි ධාන්‍යය ඈට දුන්
15 නේය. ඈ කා සෑහී ඉතුරුත්කලාය. ඈ
අවුලන්ට නැගිට්ට විට බෝවස් තමන්
තරුණ මනුෂ්‍යයන්ට මෑ මිටි අතරේ ඈ
16 වුළුවාවේ ඈට නින්දා නොකොට ඈ නි
සා සමහර අහුරුත් එලා ඒවා ඈට අවු
ලන්ට අත්හැර ඈට තරවටු නොකරල්
17 ලායයි අනකෙලේය. එසේ සවස්වෙන
තුරු වෙලේ අවුලා ඈ ඇවුළු කරල් ඈ
ටකොට යවවලින් එඵාවක් පමන තිබු
18 නේය. ඈද ඒවා ගෙණ නුවරට ගියාම
ඈගේ නැන්දද ඈගින්දුවූ ඒවා දුටුවා
ය. ඈද ඈට සෑහී ඉතිරී ඒවා පිටතට
19 ගෙන නයෝමිට දුන්නිය. ඈගේ නැන්
ද අද ඇවුළුවේ කොතැන්හිද? තුඹ වැ
ඩකලේ කොතැන්හිද? තුඹ සැලකූ අ
යට ආශීර්වාද වේවයි ඈට කීවාය. ඈ අ
ද මම වැඩකලේ බෝවස්නම් මනුෂ්‍යයා
සමගයයි කියා ඈගේ නැන්දට පෙන්නු
20 වාය. නයෝමිද ජීවත්වෙනනවුන්ටත්
මලවුන්ටත් තමන් කරුණාව අත්නො
හැරි අයට යෙහෝවාවහන්සේගෙන් ආ
ශීර්වාද වේවයි කියාද ඒ මනුෂ්‍යයා අපට
ඉතා කිට්ටු නෑයෙකැයි කියාද තමාගේ
21 ලේලිට කීවාය. එවිට මෝවබ්හි රූත්
මාගේ සියළු ගොයම් කපා නිමවනතුරු
මාගේ තරුණ පුරුෂයන් ලඟ සිටින්ට
22 ඔහු මට කීයේයයි කීවාය. නයෝමිද
මාගේ දුවනියෙනි වෙන වෙලකදී තුඹ
ට ඔවුන් සඬනොවෙන පිනිස ඔහුගේ

වැඩකාරීන් සමග යන්ට යහපතැයි ඈ
23 ගේ ලේලිවූ රූත්ට කීවාය. ඈද යව ක
පන කාලයත් ගෝධුම කපන කාලයත්
අන්තිමවෙනතුරු බෝවස්ගේ වැඩකා
රියන් ලඟ සිට ඇවුළුවාය. ඈ තමාගේ
නැන්ද සමග සිටියාය.

3. පරිච්ඡෙ. එවිට ඈගේ නැන්දවූ න
යෝමී මාගේ දුවනියෙනි තුබට හො
දක් වෙන ලෙස සැනසිල්ලක් නොසො
2 යම්ද? තුබ සමග සිටි වැඩකාරියන්ගේ
ස්වාමිවූ ඔහු අපේ නෑවූ බෝවස් නො
වේද? ඔහු අද රෑ කලවිටේ යව පුලන්
3 ගසනෙන්ය. ඉත්නිසා ඈග සෝදා ආ
ලේපකොට වස්ත්‍ර ඇඳ කලවිටට පලය
න්න. ඒ මනුෂ්‍යයා කා බී නිමවනතුරු
4 ඔහුට දැනෙන්ට නොදෙන්න. ඔහු හාන්
සිවූනවිට හාන්සිවූ තැන බලා ඇතුලට
ගොස් ඔහුගේ පා වැසුම හැර හාන්සි
වෙයන්න. එවිට තුබ කරන්නට ඕනෑ
දේ ඔහු තුබට කියනවා ඇතැයි කීවා
5 ය. ඈද තුබ මට කියන සියල්ල කරම්යි
6 කීවාය. ඈ කලවිටට ගොස් ඈගේ නැ
න්ද ඈට අනකල සියල්ල ලෙස කලාය.
7 බෝවස්ද කා බී ඔහුගේ සිත ප්‍රීතිව
හාන්සිවෙන්නට වී ගොඩේ කෙලවරට
ගියේය. ඈද හෙමින් ඇවිත් ඔහුගේ ප
8 ය වැසුම හැර හාන්සිවූනාය. මැදි රෑ ඒ
මනුෂ්‍යයා භයින් හැරී ස්ත්‍රියෙක් ඔහු පා
මුල හාන්සිවූනායයි දැන තුබ කවුදැයි
9 කීයේය. ඈද මම තුබේ දාසිවූ රූත්ය
එබැවින් තුබේ දාසිය තුබේ වස්ත්‍රයෙන්
පෙරෙව්වමැනව මක්නිසාද තුබ කිට්ටු
10 නෑයෙකැයි උත්තර දුන්නිය. ඔහුද මා
ගේ දුවනියෙනි දිලිදු තුමූත් ධනවත් තු
මූත් තරුණයන් නොසෙව්මෙන් පටන්
ගැම්මට වඩා කෙලවරදී වැඩි දයාව
පෙන්වූවාය යෙහෝවාවහන්සේගේ ආ
11 ශීර්වාදය තුබට වේවා. දූන් මාගේ දුව
නියෙනි භයනොවෙන්න තුබ ඉල්ලන
සියල්ල තුබට දෙනෙන්මි මාගේ නුවර
සියළු මනුෂ්‍යයෝ තුබ ගුණවන්තියක්
12 බව දනිති. මම තුබේ කිට්ටු නෑයෙක්
බව සැබෑය තුමූත් මට වඩා කිට්ටු නෑ
13 යෙක් ඇතෙත්ය. මේ රෑට පමාවෙයන්
න උදය ඔහු නෑයෙකුගේ යුතුකම තු
බට කලොත් යහපත ඔහු නෑයකුගේ
යුතුකම කෙරේවා. එහෙත් ඔහු නෑයකු
ගේ යුතුකම තුබට නොකලොත් එවිට
යෙහෝවාවහන්සේ ජීවමානසේක්නම්
මම නෑයකුගේ යුතුකම තුබට කරම්
පහන්වෙනතුරු හාන්සිවෙයන්නැයි කී
14 ය. ඈද පහන්වෙනතුරු ඔහුගේ පාමු
ල හාන්සිව එකෙකුට එකෙක් ඇඳින
ගන්ට මත්තෙන් නැගිට්යාය. ඔහුද ගෑ
නියක් කමතට ආ බව නොදැනවන්නැයි
15 කියා තුබ පැලඳි ඔහොරිය ගෙන ඒක
අල්ලාපන්නැයි කීය. ඈද ඒක ඇල්ලූ ක
ල යව නැලි සයක් මැන ඈ පිට තැබී
16 ය. ඈද නුවරට ගොස් ඈගේ නැන්ද ල
ඟට ආවාම මාගේ දියනියනි තුබ කවුදැ
යි කීවාය. එවිට ඈ ඒ මනුෂ්‍යයා කල සි
17 යල්ල නැන්දට කියා ඔහු මේ යව නැලි
හය මට දී තුබේ නැන්ද ලඟට හිස්ව
18 නොයන්නැයි මට කීවාය. එවිට ඈ මා
ගේ දියනියෙනි කාරණාව සිදුවෙනෙත්
කෙසේද කියා දැනගන්නාතුරු විකක්
සිටපන්න මක්නිසාද ඒ මනුෂ්‍යයා අද
මේ දේ නිමවනතුරු නිස්කලංක නො
ගනෙන්යයි කීවාය.

4. පරිච්ඡෙ. බෝවස්ද වාසල් දොර
ලඟට ගොස් එහි උනෙන්ය. බෝවස්
කී ඒ නෑයා ඔහු ලඟින් ආයේය. බෝ
වස්ද ඔහුට පිණවත හැරී ඇවිත් මෙහි හි
දින්නැයි කීය. ඔහුද හැරී ගොස් හුන්
2 නේය. බෝවස්ද නුවර ප්‍රධානීන්ගෙන්
දස දෙනෙක් කැඳවාගෙන තුබලාත්
මෙහි හිඳිල්ලායයි කීය ඔවුන්ද හිඳගත්
3 තෝය. ඔහු ඒ නෑයාට කථාකොට
මෝවබ් රටින් ආ නයෝමී අපේ සහෝ
දරවූ එලිමෙලෙක්ට තිබුනු බිම කොට
4 ස විකුනන්නිය. මමද නුවර වැසියන්ද
මාගේ ජන ප්‍රධානීන්ද ඉදිරියෙහි ඒක මි
ලේට ගන්නට තුබට දන්වන්ට කල්පනා
කෙලෙම් ඒක ගලවාගන්ට කැමතිනම්
ගලවාගනින්න ඒක ගලවාගන්ට අක
මැතිනම් දැනගන්නා පිනිස මට කියාප
න්න ඒක ගලවන්ට තුබ ඇර කිසිවෙක්
නැතෙත්ය මම තුබට දෙවෙනියායයි
කීයේය. ඔහුද ඒක මම ගලවාගනිම්යි
5 කීය. එවිට බෝවස් තුබ නයෝමීගේ
අතින් ඒ බිම මිලේට ගන්නා දවසේදී
සියළු උරුමයට මැරුණ අයගේ නම
පවතින පිනිස මැරුණ අයගේ භාර්‍ය්‍යා
වූ මෝවබ්හි රූත්ගෙනුත් ඒක මිලදී ග
6 න්නුතුයයි කීය. නෑයාද මාගේ උරුමය
නරක්නොවෙන ලෙස ඒක මටම ගල

චාගන්නට බැරිය මට ඒක ගලවාගන්ට
බැරි නිසා තුඹම මාගේ හුදුන්ස ගලවා
7 ගනුමැනවයි කීය. ඉස්සරදී සියළු දෙය
සව්කරන්ට මිදීමද ආරුමාරු කිරීමද ගැ
න ඊශ්‍රායෙල්හි මේ සිරිත විය. මනුෂ්‍ය
යෙක් තමාගේ වහන් ගලවා තමන් අ
8 සල්වාසියාට දුනේය. මේක ඊශ්‍රායෙල්
හි සාක්ෂියක් විය. ඒ නිසා නෑයා බෝ
වස්ට ඒක තුඹ මිලදී ගනිනුමැයි කියා
තමාගේ වහන් ගැලවීය.

9 බෝවස්ද ප්‍රධානීන්ටත් සියළු ජනයන්
ටත් මම එලිමෙලෙක්ටත් කිලියොන්
ටත් මැලොන්ටත් තිබුණු සියල්ල නයෝ
මි අතින් මිලදී ගත් බවට තුඹලා අද
10 සාක්ෂිකාරයෝය. ඇරත් තමන් උරුම
යට මල අයගේ නම පවතින පිණිසද
තමන් සහෝදරයන්ගෙනුද තමාගේ නු
වර දොරකඩින්ද මල අයගේ නම සිඳ
නොදමන පිණිසද මැලොන්ගේ භාර්‍ය්‍යා
වූ මෝවබ්හි රූත් මාගේ භාර්‍ය්‍යාකොට
මා විසින් මිලේට ගත් බවට තුඹලා අද
11 සාක්ෂිකාරයෝයයි කීය. දොරටුවේ සිටි
සියළු ජනයෝද ප්‍රධානීයෝද අපි සාක්ෂි
කාරයෝය යෙහෝවාවහන්සේ තුඹගේ
ගෙට එන මේ ස්ත්‍රීය ඊශ්‍රායෙල්හි ගෙ
ය ගොඩනැගූ රාකෙල්ද ලේයාද යන
ස්ත්‍රීන් දෙදෙනා මෙන් කරණසේක්වා. තු
ඹත් එප්‍රාතාහි ගෞරව ලෙස කොට
12 බැත්ලෙහෙම්හි උතුම්වෙයනන. යෙ
හෝවාවහන්සේ තුඹට දෙන මේ තරු
ණ ස්ත්‍රීගේ වංශය හුදුව තාමර් වැදූ පා
රෙස්ගේ වංශය මෙන් වේවයි කීවෝය.
13 එවිට බෝවස් රූත් තමාගේ භාර්‍ය්‍යාව
කොට පාවාගත්තේය. ඔහු ඇ කරා එ
ළඹුනු කල යෙහෝවාවහන්සේ ඇට ග
14 ර්භෝත්පත්තිය දුන්සේක. ඇ පුත්‍ර
යෙක් වැදුවාය. ස්ත්‍රීයෝද කථාකොට
අද තුඹ ඊශ්‍රායෙල්හි උතුම් නාමය ඇත්
තාවූ නෑයෙක් නැතුව නොසිටින ලෙ
ස හැලෑස්නුවාවූ යෙහෝවාවහන්සේට
15 ස්තුතිවේවා. ඔහු ජීවිතදායකයෙක්ද තු
ඹේ මහළු වයසේදී සංග්‍රහකෙනෙක්ද ව
නේය මක්නිසාද තුඹට ශ්‍රේෂ්ඨ වෙ
නාවූ පුත්‍රයන් සත් දෙනෙකුට වඩා
තුඹට උතුම්වූ තුඹේ ලේලි ඔහු වැ
16 දුවායයි කීවෝය. නයෝමිද දරුවා ත
මන් ළය හොවාගෙන ඔහු ඇතිකළාය.
17 ඇගේ අසල්වාසි ස්ත්‍රීයෝද නයෝමිට
පුතෙක් උපනේයයි කියා ඔබෙද් යන
නම ඔහුට තැබුවෝය. ඔහුද දාවිත්ගේ
18 පියවූ යෙස්සේගේ පියා වූයේය. ඵාරෙස්
ගේ පරම්පරාව මේය. ඵාරෙස් හෙස්‍රොම්
ඉපදවීය හෙස්‍රොම් රම් ඉපදවීය රම් අම්
19 නාදබ් ඉපදවීය අම්නාදබ් නාසොන් ඉ
පදවීය නාසොන් සල්මොන් ඉපදවීය
20 සල්මොන් බෝවස් ඉපදවීය බෝවස් ඕ
21 බෙද් ඉපදවීය ඕබෙද් යෙස්සේ ඉපදවී
22 ය යෙස්සේ දාවිත් ඉපදවීය.

# සා මු වෙ ල් ගේ ප ළ මු වෙ නි පො ත ය.

1. පරිච්ඡේදය. එප්‍රාතීය සූප්ගේ පුත්
තොහුගේ පුත් එලිහුගේ පුත් යෙරො
හම්ගේ පුත් එල්කනානම් මනුෂ්‍යයෙක්
එප්‍රායිම් කන්දේ රමාතායිම් සොපිම්හි
2 සිටියේය. ඔහුට භාර්‍ය්‍යාවෝ දෙදෙනෙක්
වූවෝය එකියකුගේ නම හන්නාය අ
නිකිගේ නම පෙනින්නාය. පෙනින්නා
ට දරුවෝ ඇත්තෝය හන්නාට දරු
3 වෝ නැත්තෝය. මේ මනුෂ්‍යයා සිලෝ
හිදී සේනාවන්ගේ යෙහෝවාවහන්සේ
ට නමස්කාර කරන්ටත් යාගකරන්ටත්
අවුරුදු පතා තමාගේ නුවරින් පිටත්ව
ගියේය. යෙහෝවාවහන්සේගේ පූජක
වූ හොප්නිද පිනිහස්ද යන එලීගේ පු
4 ත්‍රයෝ දෙදෙනා එහි සිටියෝය. එල්ක
නාගේ පූජා කාලය පැමිණිකල තමන්
ගේ භාර්‍ය්‍යාවූ පෙනින්නාටත් ඇගේ සි
5 යළු දූ පුතුන්ටත් කොටස් දී හන්නාට
ශ්‍රේෂ්ඨවූ බැවින් ඇට වටිනා කොට
සක් දුනේය. නුමුත් යෙහෝවාවහන්
6 සේ ඇගේ ගර්භාය වදකලසේක. ඇගේ
සැතිරිද යෙහෝවාවහන්සේ ඇගේ ග
ර්භාය වදකල බැවින් ඇ කනගාටුකරන්
ට ඇට බොහෝ සෙයින් කරදර කලා
7 ය. එල්කනා අවුරුදු පතා කල ලෙස
ඇ යෙහෝවාවහන්සේගේ මඩපයට ය
න කල ඇට කරදරකල නිසා ඇ නො
8 කා හැඬුවාය. එවිට ඇගේ ස්වාමි පුරුෂ
වූ එල්කනා හන්නාට කථාකොට තුඹ
හඬහඬා නොකා දුක් විඳිනේ මන්ද!

මම නුඹට පුත්‍රයන් දසදෙනෙකුට වඩා
උතුම් නොවෙම්දැයි කීය.
9 එවිට හන්නා ෂිලෝහිදී ඔවුන් කෑ බී
පසු නැගිට්ටාය. ඒලී පූජකයාද යෙහෝ
වාවහන්සේගේ මඩපයෙහි කණුවක්
10 ළඟ ආසනයක් පිට හුන්නේය. ඈ මහත්
සේ දෙම්නසව දුකින් හඬා යෙහෝවා
වහන්සේට යාඥාකළාය. ඈ ද සේනා
වන්ගේ යෙහෝවාවහන්ස ඔබගේ දාසි
යගේ දුක සැබවින් බලා මා සිහිකර ඔ
බගේ දාසිය සිහියෙන් නොහැර නොකො
11 ට ඔබගේ දාසියට පිරිමි දරුවෙක් දෙ
වා වදාළසේක්නම් ඔහුගේ ජීවිතයේ
සියළු දවස්වල යෙහෝවාවහන්සේට ඔ
හු බාරකොට ඔහුගේ හිසට කඩතෑක්
තක් ලංනොවන්නේයයි ශිවිසුමක් ක
12 ළාය. ඈ යෙහෝවාවහන්සේ ඉදිරියෙ
හි යාඥාව පවත්වන කල ඒලී ඈගේ මූන
13 බැළුවේය. හන්නා සිතින් කථාකරමින්
තොල් පමනක් සෙලවූ බැවින් ඈගේ
ශබ්දය නොඇසුනේය. ඒ නිසා ඈ වෙ
14 රිවූවායයි ඒලී කල්පනා කෙළේය. ඒලී
ද ඈට නුඹ කොපමන කල් වෙරිවී සි
ටින්නෙද? නුඹේ සුරාපානය නුඹෙන් අ
15 හක දමාපනැයි කීය. හන්නා මාගේ
ස්වාමිනි එසේ නොව දෙම්නසින් පිරු
නු ස්ත්‍රියක් වෙමි. මම සුරාපානයවත් ත
ද බීමකවත් නොබීමි යෙහෝවාවහන්
සේ ඉදිරියෙහි මාගේ ආත්මය වැගුරු
16 යෙමි. මාගේ බොහෝ දුක්හුත් කන
ගාටුවෙනුත් කථාකල නිසා දැන් නුඹේ
දාසි බෙලියෙල්ගේ දුවකැයි නොසිතුව
17 මැනවයි කීවාය. එවිට ඒලී නුඹ සැප
සේ පලයනන. ඊශ්‍රායෙල්ගේ දෙවියන්ව
හන්සේ නුඹ ඉල්ලූ දෙය නුඹට දෙන
18 සේක්වයි කීය. ඈද නුඹේ දාසිට නුඹේ
ඉදිරියෙහි කරුණාව ලැබේවයි කීවාය.
මෙසේ ඒ ස්ත්‍රී ගොස් කා එතැන් පටන්
කාංසා නුවූවාය.
19 ඔවුහු අති උදයම නැගී සිට යෙහෝ
වාවහන්සේ ඉදිරියෙහි නමස්කාරකො
ට හැරී රාමාහී තමන්ගේ ගෙට ගියෝ
ය. එල්කනාද තමන් භාර්‍යාවූ හන්නා
සාර පැමිනියේය. යෙහෝවාවහන්සේ
20 ද ඈ සිහිකලසේක. හන්නා ගර්භිනිව
වදන කාලය පැමින පුත්‍රයෙක් වැදුවා
ය. යෙහෝවාවහන්සේගෙන් ඔහු ඉල්
ලූ බැවින් ඔහුට සාමුවෙල්යයි නම් තැබූ
21 වාය. එල්කනා මනුෂ්‍යයාද තමන් සියළු
ගේ වැසියෝද අවුරුදු පතා යාගයත්
පොරොන්දුවත් කරන්ට යෙහෝවාව
හන්සේ වෙතට ගියෝය. හන්නා නො
22 ගියාය. මම දරුවා කිරි වරණතුරු නො
යමි එවිට මම ඔහු යෙහෝවාවහන්සේ
ඉදිරියෙහි පෙනෙන්ටත් එහි නිතරම
වසන්ටත් ඔහු ගෙනියනෙනමියි ඈගේ
23 පුරුෂයාට කීවාය. ඈගේ ස්වාමිවූ එල්ක
නාද නුඹට යහපතැයි පෙනෙන දෙ
යක් කොට ඔහු කිරෙන් වරණතුරු සි
ට යෙහෝවාවහන්සේගේ වචනය පම
නක් සවිවේවයි කීය. මෙලෙස ස්ත්‍රී ඔ
හු කිරි වරණතුරු පුත්‍රයාට කිරි දෙමින්
විසුවාය.
24 ඔහු කිරෙන් වැරූ කල ගොන් තුන්
දෙනෙක්ද ගෝධුම පිටි ඒඵාවක්ද මුද්‍රි
කපාන භාජනයක්ද අරන් බාල දරුවා
කැඳවාගෙන ෂිලෝහි යෙහෝවාවහන්
25 සේගේ මඩපයට ගියාය. ඔවුන්ද ගො
නෙක් මරා ඒලී ලඟට ළදරුවා ගෙනා
26 වෝය. ඈද කථාකොට මාගේ ස්වාමිනි
නුඹේ ආත්මය ජීවත්වන ලෙස මාගේ
ස්වාමිවූ නුඹ ලඟ සිට යෙහෝවාවහන්
සේට යාඥාකල ස්ත්‍රී මමය. මේ ළදරුවා
27 ගැන යාඥාකෙළෙමි. යෙහෝවාවහන්
සේද උන්වහන්සේගෙන් ඉල්ලූ මාගේ
28 ඉල්ලීම මට දුන්සේක. එබැවින් මමත්
ඔහු යෙහෝවාවහන්සේට නැවත බාර
කෙරෙමි ඔහු පනපිටින් සිටිනකල් යෙ
හෝවාවහන්සේට බාරවේයයි කීවාය.
ඔහුද එතැනදී යෙහෝවාවහන්සේට
නමස්කාර කෙළේය.

2. පරිච්ඡ. හන්නා යාඥාකොට කි
යන්නී ඔබවහන්සේගේ ගැලවීමෙහි ම
ම සතුටුවෙමි එබැවින් යෙහෝවාව
හන්සේ කෙරෙහි මාගේ හෘදය ප්‍රීතිවන්
නේය. යෙහෝවාවහන්සේ කෙරෙහි
මාගේ බලය උසස් වෙනෙන්ය. මාගේ ස
තුරන්ට එදිරිව මාගේ බස් බොහෝය.
2 යෙහෝවාවහන්සේ මෙන් පවිත්‍රවූ කිසි
වෙක් නැත්තේය ඔබවහන්සේ හැර කි
සිවෙක් නැත්තේය. අපගේ දෙවියන්ව
හන්සේ මෙන් කිසි පර්වතයකුත් නැත්
3 තේය. යෙහෝවාවහන්සේ ක්‍රියාවල්
කිරා බලන දැනීමෙහි දෙවි කෙනෙක්
නිසා නුඹේ කටින් ගරුතම නොකියන්
න ඉතා උඩඟු ආකාර තවත් කථානො
4 කරනු. බලවන්තයන්ගේ දුනු බිඳු

නේය. දුර්වලයෝ බලයෙන් සැරසුනෝ
5 ය. කෑමෙන් සෑහුන අය කෑම පිනිස
කුලියට වැඩකලෝය. බඩගිනි ඇත්
තෝද සෑහීමට පැමුනුනෝය. එලෙස
වඳ ස්ත්‍රිය සත් දෙනෙක් වැදුවාය. බො
හෝ දරුවන් ඇත්තීද පිරිහීමට පැමිනි
6 යාය. යෙහෝවෑවහන්සේ මරණසේක
ජීවත්කරණසේක. සොහොන් ගෙට
හෙළනසේක එයිනුත් ගොඩනගනසේ
7 ක. යෙහෝවෑවහන්සේ දුප්පත්කරණ
සේක පොහොසත් කරණසේක. පහත්
8 කරණසේක උසස් කරණසේක. රජ කු
මාරවරුන් අතරේ සිටින පිනිසද ඓ
ශ්වර්‍ය්‍ය නැමති සිංහාසනය උරුමකර
දෙන පිනිසද උන්වහන්සේ දුප්පතුන් දූ
විලෙන් නැගුටුවා කසලගොඩෙන් සි
ඟන්නන් නගනසේක. මක්නිසාද පො
ළොවෙහි කනු යෙහෝවෑවහන්සේගේ
ය. උන්වහන්සේද ලෝකය ඒවා පිට තැ
9 බූසේක. උන්වහන්සේගේ පවිත්‍රයන්ගේ
පාදයන් රක්ෂාකරණසේක. දුෂ්ටයෝද
අන්ධකාරයෙහි නිඃශබ්දව සිටින්නෝ
ය. බලයෙන් කිසිවෙක් ජය නොග
10 න්නේය. යෙහෝවෑවහන්සේගේ සතු
රෝ කෑලිකොට බිඳිනු ලබති. අහ
සෙන් උන්වහන්සේ ඔවුන්ට අකුණු ග
සවනසේක. යෙහෝවෑවහන්සේ පො
ළොවේ කෙලවරවල් විනිශ්චයකරණ
සේක. උන්වහන්සේ තමන් රජහට බල
ය දී තමන්ගේ අභිෂේක ලත් තැනැත්
තාගේ බලය උසස්කරණසේකැයි කි
11 වාය. එල්කනාද රමාගෙහි තමන් ගෙ
ට ගියේය. ළදරුවාද එලීනම් පූජකයා
ඉදිරියෙහි යෙහෝවෑවහන්සේට සේව
ය කෙලේය.

12 එලීගේ පුත්‍රයෝ දුෂ්ටවූ මනුෂ්‍යයෝ
ය ඔවුන් යෙහෝවෑවහන්සේ නොඅඳු
13 නන්නෝය. ජනයන් සමග පූජකයාගේ
ව්‍යවහාරනම් යම් මනුෂ්‍යයෙක් යාගය
පූජාකරණ කල මස් තම්බන විට පූජකයා
ගේ වැඩකාරයා තමාගේ අතින් දත්
14 තුනක් ඇති මස් කොක්කක් ගෙන භා
ජනේවත් සැලියේවත් කටාරමේවත්
කලයේවත් දමා මස් කොක්කෙන් ගත්
සියල්ල පූජකයා තමාටම ගත්තේය. ඔ
වුන් ෂිලෝවට පැමිනි සියළු ඊශ්‍රායෙල්
15 වරුන්ට මෙසේ කලෝය. තෙල දවන්
ට පලමුවෙන් පූජකයාගේ වැඩකාරයා
ඇවිත් පූජකයාට පුළුස්සන්ට මාංශ දියන්
න ඔහු තොපෙන් අමුවා මිස පිසපු මස්
පිලිගන්නේ නැතැයි යාග කල මනුෂ්‍ය
16 යාට කීය. යමෙක් ඔහුට කථාකොට
තෙල් දවන්ට ඔවුන් පමාගු නොවෙත්
වා පසුව කැමති හැටි අරගනිනන කියා
කිවොත් එසේ නොවෙයි තොප මට දැන්
ම දියනන නැත්නම් බලාත්කාරයෙන්
17 ගනිමියි ඔහු කීය. ඒ නිසා ඒ තරුණ
යන්ගේ පාපය යෙහෝවෑවහන්සේ ඉ
දිරියෙහි ඉතා මහත්විය. මක්නිසාද මනු
ෂ්‍යයෝ යෙහෝවෑවහන්සේගේ පූජාව
ට අකමැති වූනෝය.

18 එහෙත් සාමුවෙල් ළදරුවෙක්ව ඒ
පොද් වස්ත්‍රයකින් බැඳ යෙහෝවෑව
19 හන්සේ ඉදිරියෙහි මෙහෙකෙලේය. ඇ
රත් ඔහුගේ මෑනියෝ ඇගේ පුරුෂයා
සමග අවුරුදු පතා යාග පූජාවට එන
කල පුංචි හැට්ටයක් සාදා ඔහුට අවුරුද්
20 දෙන් අවුරුද්ද ගෙනාවාය. එලීද එල්
කනා සහ ඔහුගේ අඹුවට ආශීර්වාදකො
ට යෙහෝවෑවහන්සේට දුන්නාවූ දීම
නිසා යෙහෝවෑවහන්සේ තොපට මේ
ස්ත්‍රීගෙන් වංශයක් දෙනසේක්වායි කීයේ
21 ය. ඔවුහු ගෙදරට ගියෝය. යෙහෝවෑ
වහන්සේද හන්නාට පිහිටවූසේක. ඇ
ගර්භිනීව පුත්‍රයන් තුන් දෙනෙකුත්
දූන් දෙදෙනෙකුත් වැදුවාය. සාමුවෙල්
ළදරුවාද යෙහෝවෑවහන්සේ ඉදිරියෙ
හි වැඩුනේය.

22 එලීද ඉතා මහළුව තමාගේ පුත්‍රයන්
සභාමඩප දොරට රැස්වූ ස්ත්‍රීන් සමග ස
යනය කල බවත් සියළු ඊශ්‍රායෙල්වරුන්
23 ට කල සියල්ලත් ආරංචිවූනේය. ඔහුද
තොපලා මේ දේවල් කරන්නේ මන්ද?
මේ සියළු මිනිසුන්ගෙන් තොපලාගේ න
24 පුරු ක්‍රියාවල් අසමි. මාගේ පුත්‍රයෙනි
එසේ නොකරල්ලාය. තොපලා ගැන මා
විසින් අසන ආරංචිය යහපත් නොවන්
නේය. තොපලා යෙහෝවෑවහන්සේගේ
25 මනුෂ්‍යයන් අපරාධයට පමුනුවති. යම්
මනුෂ්‍යයෙක් වෙන කෙනෙකුට එදිරිව
වරද කෙලේනම් විනිශ්චයකාරයා ඔහු
විනිශ්චය කරන්නේය. එහෙත් යම් මනු
ෂ්‍යයෙක් යෙහෝවෑවහන්සේට විරුද්ධ
ව පව් කරන්නේනම් ඔහු ගැන වග කි
යන්නේ කවුදැයි කීය. තුමුත් තමන් පි
යානන්ගේ වචනයට ඇහුන්කන් නු
දුන් නිසා යෙහෝවෑවහන්සේ ඔවුන්
26 මරන්ට සිතුසේක. සාමුවෙල් ළදරුවා

ප්‍රයෝජනව රක්‍ෂාකෙළෙම්. ඔහුද යහ
22 පතට අයහපත මට කෙළේය. ඔහුගේ
සියළු පිරිමින්ගෙන් එකෙක්වත් එළි
වෙන්ට පළමුවෙන් ඉතුරුකළෙම්නම්
දෙවියන්වහන්සේ දාවිත්ගේ සතුරන්ට
එසේද ඊට වැඩියද කරණසේක්වයි කී
23 ය. අබිගායෙල් දාවිත් දැක ඉක්මනින්
24 කොටළුවාගෙන් බැස දාවිත් ඉස්සරහ
ඔහුගේ පාමුල මුනින් බිම වැටී වැඳ මා
ගේ ස්වාමිනි තුබේ දාසිවූ මා පිටම මේ
වැරදි වේවා තුබේ දාසිට තුබට ඇසෙ
න ලෙස කථාකරන්ට අවසර දුනමැන
ව. තුබේ දාසිගේ වචන අසනනට තුබ
25 ට යාඥාවෙමි. මාගේ ස්වාමිනි නාබල්
නම් මේ බෙලියැල්ගේ මනුෂ්‍යයා කල
කාරණව හිතේ නොතබනනට තුබට
යාඥාවෙමි. ඔහුගේ නම හැටියටම ඔහු
වනෙත්ය. ඔහුගේ නම නාබල්ය මෝ
ඩකම ඔහුට එකතුය. තුමුත් මාගේ ස්වා
26 මිවූ තුබ එවූ ඉලන්දාරීන් නුදුටිමි. එබැ
වින් මාගේ ස්වාමිනි යෙහෝවාවහන්
සේ ජීවත්වනසේක්නම් තුබේ ප්‍රාණය
ජීවත්වනොත්නම් තුබ අතින්ම ලේ වගු
රුවා පළිගනනා පිනිස තුබේ එන ඊම
යෙහෝවාවහන්සේ වැළැක්වූසේක. ඒ
නිසා මාගේ ස්වාමිවූ තුබට නපුරු ක
රන්ට සොයන සතුරෝද නාබල් මෙන්
27 වෙත්වා. තුබේ දාසිවූ මා විසින් මාගේ
ස්වාමිට ගෙනා මේ තෑග්ග මාගේ ස්වා
මි එක්ක යන ඉලන්දාරීන්ට දෙනු ලැ
28 බේවා. තුබේ දාසිගේ වරදට කමාවෙ
න ලෙස තුබට යාඥාකරමි මක්නිසාද
මාගේ ස්වාමිවූ තුබ යෙහෝවාවහන්
සේගේ යුද්ධවල සටන්කරණ බැවින් තු
බේ සියළු දවස්වල තුබ කෙරේ නපුරු
කමක් සම්භවූන බැවින් යෙහෝවාව
හන්සේ සැබවින් මාගේ ස්වාමිට පවත්
29 නාවූ වංශයක් දෙනසේක. තුබ එළවා
තුබේ ප්‍රාණය නසනනට මිනිහෙක් නැ
ගිටිවේය එහෙත් මාගේ ස්වාමිවූ තුබේ
ප්‍රාණය තුබේ දෙවිවූ යෙහෝවාවහන්
සේ සමග ජීවිත මිටියෙහි බඳිනු ලබන
වත්හැර උන්වහන්සේ තුබේ සතුරන්ගේ
ප්‍රාණවල් ගල්පටියෙන් විසිකලාක්මෙන්
30 පිටතට විසිකරණසේක. යෙහෝවාව
හන්සේ තුබ ගැන කී සියළු යහපත්කම්
ලෙස මාගේ ස්වාමිට ඊශ්‍රායෙල් මූලාදෑනි
31 කමට පත්කල පසු කමක් නැතුව ලේ
වගුරුවා මාගේ ස්වාමියා පළිගත් කාර
ණවෙන් මාගේ ස්වාමිට හෘද පීඩාවක්ද
දුකක්ද නොවේවා. එහෙත් යෙහෝ
වාවහන්සේ මාගේ ස්වාමිට යහපතක්
කරණ කල තුබේ දාසිද සිහිකලමැන
වයි කීවාය.
32 දාවිත්ද අද තුබ මට සම්භවෙන්ට එ
වූ ඊශ්‍රායෙල්ගේ දෙවිවූ යෙහෝවාව
33 හන්සේට ස්තුතිවේවා. තුබේ දැනිමිති
කම ගැන තුබට ආශීර්වාද වේවා අද ලේ
වගුරුවනනට යාමෙනුද මා අතින් පළි
ගැනීමෙනුද රක්‍ෂාකලාවූ තුබටද ආශීර්වා
34 ද වේවා. මක්නිසාද තුබට හිංසාකිරී
මෙන් මා වැළැක්වූ ඊශ්‍රායෙල්ගේ දෙවි
වූ යෙහෝවාවහන්සේ ජීවත්වනසේක්
නම් තුබ ඉක්මනින් මට සම්භවෙන්ට
නාවානම් සියළු පිරිමින්ගෙන් කවුරු
වත් එළිවෙන්ට පළමුවෙන් නාබල්ට
35 ඉතුරුනොවනෙත්යයි කීයේය. මෙසේ
දාවිත් තමාට ගෙනා දේ ඈගේ අතින්
පිළිගෙන තුබේ ගෙට සමාදානයෙන් ප
ලයනනා තුබේ ශබ්දයට මම ඇහුන්
කන් දී තුබ පිළිගතිමියි ඈට කීය.
36 අබිගායෙල්ද නාබල් ළඟට ඇවාය.
ඔහුද තමන් ගෙයිදී රජ මඟුලක් මෙන්
මඟුලක් පැවැත්වූයේය. නාබල්ද ඉතා
බී මත් නිසා තමන් හිත සතුටුවිය. ඒ
නිසා ඈ එළිවෙනතුරු කිසිවක් ඔහුට
37 නොදැන්වූවාය. අළුයම නාබල්ගේ මත
ඇරුණ කල ඔහුගේ භාර්යාව ඔහුට
මේ කාරණ දැන්වූවාය. එවිට ඔහුගේ
හිත ඔහු තුල මලානිකව ගලක් මෙන්
38 විය. දස දවසකින් පමණ පසු යෙහෝ
වාවහන්සේ නාබල්ට පහරදුන්සේක.
39 ඔහුද නැසුනේය. දාවිත්ද නාබල් මැරු
නු බව අසා නාබල් අතින් මට උනු නි
න්දාවට යුක්තක් කල නිසාත් උන්වහන්
සේගේ මෙහෙකරුවා නපුරෙන් රක්‍ෂා
කල නිසාත් යෙහෝවාවහන්සේට ස්තු
ති වේවා. මක්නිසාද යෙහෝවාවහන්
සේ නාබල්ගේ නපුරුකම් ඔහු හිස පි
ටට හැරවූසේකැයි කීය. දාවිත්ද තමන්
ට භාර්යාකොට ගන්ට අබිගායෙල් සම
40 ග කථාකරන්ට යැවීය. දාවිත්ගේ මෙහෙ
කාරයෝ කර්මෙල්හි අබිගායෙල් ළඟ
ට ඇවිත් දාවිත් තුබ භාර්යාකොට ගන්
නට තුබ ළඟට අප එවූයේයයි ඈට කී
41 වෝය. ඈද නැගිට මුහුනින් බිම වැටී
තුබලාගේ දාසි මාගේ ස්වාමිගේ මෙහෙ
කාරයන්ගේ පා සෝදන්ට මෙහෙකාරි

42 යක් වේවයි කීවාය. අබිගායෙල්ද ඉක්
මනින් නැගිට කොටළුවෙක් පිට නැගී
ඈ පස්සේ යන තරුණියන් පස් දෙ
නෙක් සමග ගියාය. ඈද දාවිත්ගේ ප
නිවිඩකාරයන් එක්ක ගොස් ඔහුගේ
43 භාය්‍යාව වූනාය. දාවිත්ද යෙස්‍රීල්හි ඇහි
නෝවම් ගනෙත්ය. ඔවුන් දෙදෙනාම ඔ
44 හුගේ භාය්‍යා වූනෝය. සාවුල් දාවිත්ගේ
භාය්‍යාවූ තමන් දූ මීකල් ගල්ලිම්හි විසූ
ලායිස්ගේ පුත් ඵල්තිහට දුනෙත්ය.

26. පරිච්ඡෙ. තවද සීප් වැසියෝ ගි
බියාහි සාවුල් ලඟට ඇවිත් යෙසිමොන්
ඉදිරියේ හකිලානම් පර්වතයෙහි දාවිත්
හැංගී සිටිනවා නොවේදැයි කීවෝය.
2 එවිට සාවුල් පිටත්ව ඊශ්‍රායෙල්ගෙන්
තෝරාගත් මිනිසුන් තුන්දාහක් එක්ක
දාවිත් සොයනතට සීප්නම් වනයට ගි
3 යේය. සාවුල්ද පාරට ලඟ යෙසිමොන්
ඉදිරිපිට හකිලානම් පර්වතයෙහි අඬයම්
බැන්දේය. දාවිත්ද වනයෙහි සිටියේය.
4 තමන් පස්සේ සාවුල් ආබව දාවිත්ට ආ
රංචි ලැබ වනයට ඔත්තු බලනතන් ය
වා සාවුල් සැබෑ ලෙසම ආබව දැනගත්
5 තේය. දාවිත්ද පිටත්ව සාවුල් අඬයම්
බැඳ තැනට ඇවිත් සාවුල්ද තමන් සෙ
නගට මූලාදැනිවූ නෙර්ගේ පුත් අබි
නෙර්ද සිටි තැන දුටුවෝය. සාවුල්ද අ
ගලෙහි සිටියේය මිනිස්සු ඔහු වටකර
6 අන්දයම් බැඳගනෙත්තෝය. එවිට දාවිත්
හිට්ටියෙහි ආහිමෙලෙක්ටද යෝවබි
ගේ සහෝදරවූ සෙරුවාගේ පුත්‍රවූ අබි
ෂයියාටද කථාකොට සාවුල් ලඟ අඬය
මට මා එක්ක යනෙන් කවුදැයි ඇසීය.
අබිෂයියාද මම නුබ එක්ක යමියි කීය.
7 දාවිත්ද අබිෂයියාද රාත්‍රියෙහි මිනිසුන්
ලඟට ඇවිත් සාවුල් තමන් හෙල්ලය
කොට්ටේ ලඟ හිටුවා අගල තුල නිදා
ගත් බවත් අබ්නෙර්ද මිනිසුන්ද ඔහු වට
8 කොට නිදාගත් බවත් දුටුවෝය. එකල
අබිෂයියා දෙවියන්වහන්සේ අද නුබේ
සතුරා නුබ අතට පාවාදුන්සේක. ඒ නි
සා ඔහුට හෙල්ලයෙන් එක පාරෙන් බි
මටම ඇනිනතට මට අවසර දියනත ඔ
හුට පාර දෙකක් නොගසමියි දාවිත්ට
9 කීයේය. දාවිත් ඔහු නොමරනත යෙ
හෝවාවහන්සේගෙන් අභිෂේකය ලැබූ
අයට එදිරිව අත පෙව් කිසි කෙනෙක්
10 නිදෙස්වනෙන්දැයි අබිෂයිට කීය. තවද
දාවිත් කථාකොට යෙහෝවාවහන්සේ
ජීවත්වනසේක්නම් උන්වහන්සේ ඔහුට
පහරදෙනසේක. නැත්නම් ඔහුගේ නි
යම දවස පැමිණෙනෙන්ය නොහොත්
11 යුඬයට ගොස් එයින් නසිනෙන්ය. යෙ
හෝවාවහන්සේගෙන් අභිෂේකය ලැ
බූ අයට එදිරිව මාගේ අත පෙව්මෙන්
යෙහෝවාවහන්සේ මා වලක්වනසේක්
වා. නුඹුත් ඔහුගේ කොට්ටේ ලඟ ති
බෙන හෙල්ලයද වතුර භාජනයද අර
12 ගෙන යමුයයි කීය. මෙසේ දාවිත් සාවුල්
ගේ කොට්ටය ලඟ තිබුන හෙල්ලයද ව
තුර භාජනයද ගනෙත්ය ඔවුන් අහක
ගියෝය. යෙහෝවාවහන්සේ ඔවුන් තා
ද නිදිමතකට පත්කල නිසා සියල්ලෝ
ම නිදාගනෙත්තෝය. ඒ කාරණාව කවුරු
වත් දුටුවේවත් දැනෙන්වත් නැත පිබිදු
13 නෙත් නැත. දාවිත්ද ඈත ගොස් කන්
දක් මුදුනේ සිටියේය. ඔවුන් අතරේ ම
14 හත් අවකාසයක් තිබුනේය. දාවිත්ද මි
නිසුන්ටත් නෙර්ගේ පුත් අබ්නෙර්ටත්
කථාකොට අබ්නෙර් නුඹ උත්තර නො
දෙනෙනහිදැයි කෑගසා කීය. අබ්නෙර්
ද රජ්ජුරුවන්ට කථාකරනෙන් කවුදැයි
15 ඇසීය. දාවිත්ද නුඹ බලවත් මනුෂ්‍ය
යෙක් නොවේද? ඊශ්‍රායෙල්හි නුඹ වා
ගේ කෙනෙක් කවුද? නුබේ ස්වාමිවූ
රජ්ජුරුවන් රක්ෂානොකලේ මන්ද? නු
බේ ස්වාමිවූ රජ්ජුරුවන් මරනතට මිනි
සුන්ගෙන් එකෙක් ඇතුලට ආයේය.
16 නුඹ කල මේ දෙය යහපත් නොවෙයි.
යෙහෝවාවහන්සේගෙන් අභිෂේකය
ලැබූ නුබලාගේ ස්වාමියා රක්ෂානොක
ල නිසා යෙහෝවාවහන්සේ ජීවත්වන
සේක්නම් නුබලා මරන්ට යුතුය. රජ්ජු
රුවන්ගේ කොට්ටේ තිබුනු හෙල්ලයද
වතුර භාජනයද මේ බලාපල්ලායයි කී
17 ය. සාවුල්ද දාවිත්ගේ අඬ ඇඳින පුත දා
18 විත් මේ නුබේ හඬදැයි කීය. දාවිත්ද එ
සේය මාගේ ස්වාමිවූ රජ්ජුරුවන්වහන්ස
ඔබගේ වැඩකාරයාට පස්සේ මෙසේ අ
ඹවන්ට කම මොකද? මා විසින් කලේ
කිමෙක්ද? මාගේ අත වරද මොකද?
19 මාගේ ස්වාමිවූ රජ්ජුරුවන්වහන්ස ඔබ
ගේ වැඩකාරයාගේ වචන ඇහුවමැන
ව. යෙහෝවාවහන්සේ ඔබ මට එදිරි
කොරෙව්සේක්නම් උන්වහන්සේ පූජා
වක් පිලිගනනාසේවා. ඔවුන් මනුෂ්‍ය
දරුවෝනම් යෙහෝවාවහන්සේ ඉදිරි

යෙහි සාප ලබන්නා මක්නිසාද ඔවුන් අ
ද යෙහෝවාවහන්සේගේ උරුමයෙහි
සිටින්ට නොදී අන් දෙවියන්ට මෙහෙ
කරනහට කියා මා අහකට යවුවෝය.
20 යෙහෝවාවහන්සේගේ ඉදිරිපිට මාගේ
ලේ බිම නොවැටේවා. ඉශ්‍රායෙල් රජ්ජු
රුවෝ පර්වතවල වලිකුකුළෙක් එළවා
යන කෙනෙක් මෙන් බැලිමක්කෙක්
21 සොයනහට පිටත්වූනේයයි කීය. එවිට
සාවුල් මම පව් කෙළෙමි මාගේ පුත දා
විත් හැරී වරෙන.. මාගේ ප්‍රාණය අද
තුබේ ඇහැට අනඝවූ නිසා තුබට ත
වත් හිංසා නොකරමි මම මෝඩකමක්
22 කොට ඉතාමත් මූලාවූනෙමියි කීය. දා
විත්ද උත්තර දෙමින් රජ්ජුරුවන්ගේ
හෙල්ලය බලාපනන. ඉලන්දාරී මිනිසුන්
ගෙන් එකෙක් ඒක ගනහට මෙතනට
23 එවා. යෙහෝවාවහන්සේ සෑම දෙනාට
තමන්ගේ ධර්මිෂ්ඨකමේද විශ්වාසකමේ
ද හැටියට විපාක දෙනසේක්වා. යෙ
හෝවාවහන්සේ අද තුබ මාගේ අතට
පාවාදුන් නුමුත් මම යෙහෝවාවහන්
සේගේ අභිෂේකය ලැබූ අයට එදිරිව
මාගේ අත පොවන්ට කැමති නූනෙමි.
24 ඇරත් අද තුබේ ජීවිතය මාගේ ඇහැ
ට අනඝව තිබුන ලෙස මාගේ ජීවිතයද
යෙහෝවාවහන්සේගේ ඇස් ඉදිරිපිට
අනඝ වේවා. උන්වහන්සේද සියළු වේ
දනාවලින් මා ගලවනසේක්වයි කීයේ
25 ය. එවිට සාවුල් මාගේ පුත දාවිත් තුබ
ට ආශීර්වාද වේවා. තුබ මහත් දේ කො
ට තවත් ජයගන්නෙහියයි දාවිත්ට කීය.
පසුව දාවිත් තමන් ගමන ගියේය. සා
වුල්ද තමන්ගේ ඉඩමට හැරී ගියේය.

27. පරිච්ඡේ. තවද දාවිත් සිතන්නේ
මම දවසක සාවුල්ගේ අතින් නැතිවන්
නෙමි පිලිස්තියන්ගේ දේශයට හැංගී
යාමට වඩා හොඳක් නැත්තේය. සාවුල්
ද ඉශ්‍රායෙල් රටවල මින් මතු මා සොය
නහට කල්පනා නොකරන්නේය.. මෙ
සේ ඔහුගේ අතින් මම ගැලවෙනෙමි
2 යි සිතුවේය. දාවිත්ද පිටත්ව තමා සමග
සිටි හයසියයක් මිනිසුන් එක්ක ගාත්හි
රජවූ මයෝගේ පුත් ආකිෂ් ලඟට ගියේ
3 ය. දාවිත්ද තමන් මිනිස්සුද තමන්ගේ
පවුල්ද යෙස්‍රීල්හි අහිනොවම් සහ නා
බල්ගේ ස්ත්‍රීවූ කාර්මෙල්හි අබිගායෙල්
යන දාවිත්ගේ භාර්යා දෙනාද ගාත්හි
4 ආකිෂ් ලඟ පදිංචිවූනෝය. දාවිත් ගාත්
හැංගී ගිය බව සාවුල්ට ආරංචිව ඔහු
වත් නොසෙවීය. දාවිත්ද ආකිෂ්ට ක
5 කොට ඔබගේ ඇස් ඉදිරිපිට කාරුණ
ව මට ලැබුනානම් දනව්වේවත් තුම
කවත් හිටින්ට මට තැනක් නියමකර
වා. ඔබගේ වැඩකාරයා ඔබ එක්ක ර
6 තුවර වසන්නේ කුමකටදැයි කීය. ආ
කිෂ්ද එදා සික්ලග් ඔහුට දුන්නේය.
නිසා සික්ලග් අද දක්වා යූදාහි රජ
7 රුන්ට අයිතිය. දාවිත් පිලිස්තියන්ගේ
රටේ පුරාම එක් අවුරුදු හාර මාසය
සිටියේය.
8 දාවිත්ද තමන්ගේ මිනිස්සුද ගෙ
ගෙෂූරිවරුන්ද ගෙස්රිවරුන්ද අමාලිකව
රුන්ද වෙතට පැමින යුධකළෝය. එ
නිසාද සූර්ට යන මාවත මිසර දේස
දක්වා ඒ වර්ගයෝ රටේ පුරාතන වැසි
9 යෝය. දාවිත්ද ස්ත්‍රී පුරුෂයන් පස
වින් නැර රටට පහරදී ඇඳුම්ද බැ
වන් හරකුන් කොටළුවන් ඔටුවන්ද අ
10 ගෙන හැරී ආකිෂ් ලඟට ආයේය. ආකි
ද අද තුබලා ගියේ කොතනටදැයි ඇ
සිය. දාවිත්ද යූදාහි දකුණු පැත්තටද යෙ
රම්ලිවරුන්ගේ දකුණු පැත්තටද කෙ
නීවරුන්ගේ දකුණු පැත්තටද එදිරිව
11 යි කීය. දාවිත් මෙසේ කෙළේයයි කිය
ද පිලිස්තියන්ගේ රටේ සිටිනතුරු ඔහු
ගේ අන්දම මෙසේ වන්නේයයි කියාද
ගාත්ට ගොස් අපට එදිරිව ඒ පැවැත
නොකියන පිණිස දාවිත් පුරුෂයෙකුත්
ස්ත්‍රියෙකුත් පනපිටින් නොහැරියේය.
12 ආකිෂ්ද දාවිත් විශ්වාසකරගෙන ඔහු
මාගේ ඉශ්‍රායෙල් මිනිසුන් තමා කෙ
හි වෛරකරවාගත් බැවින් ඔහු නිත
මාගේ වැඩකාරයා වන්නේයයි කීයේය.

28. පරිච්ඡේ. තවද ඒ දවස්වලදී පි
ස්තියෝ ඉශ්‍රායෙල් සමග යුධකරන්ට ය
වුන්ගේ සේනාවල් රැස්කළෝය. ආකි
ද තුබද තුබේ මිනිසුන්ද මා සමග යුධ
ට යන බව සැබෑවට දැනගනිනැයි
2 දාවිත්ට කීය.. දාවිත්ද ඔබගේ වැඩකාර
යාට කරන්ට පුළුවන් දෙය සැබවින් ඔ
බට දැනෙනවා ඇතැයි කීය. ආකිෂ්
තුබ සෑම දම මා රක්ෂාකරනහා කරමි
3 කීය. මේ කාලයට ඉස්සරව සාමුවෙල්
මැරුණේය. සියළු ඉශ්‍රායෙල්වරුද ඔහු
ගැන අඬා වැලප තමන් නුවරවූ රාමා

ඔහු තැන්පත්කලෝය. සාවුල්ද පේන
කියනන්ද මායාකාරයන්ද රටින් පිට දු
4 වූයේය. පිලිස්තියෝද එකතුව ෂූනම්හි
අඳුයම් බැඳගත්තෝය. සාවුල්ද සියළු
ඊශ්‍රායෙල්වරුන් එකතුකලේය. ඔවු
හු ගිල්බෝවාහි අඳුයම් බැඳගත්තෝ
5 ය. සාවුල්ද පිලිස්තියන්ගේ සේනාව දැ
ක භයවීය. තමාගේ හෘදය ඉතාමත් වෙ
6 වුළුණේය. සාවුල් යෙහෝවඃවහන්සේ
ගෙන් විචාල කල යෙහෝවඃවහන්සේ
සිහිනෙකින් ඌරීමෙකින් අනාගතවක්
තෘන් ලවාවත් ඔහුට උත්තර නුදුන්සේ
7 ක. එවිට සාවුල් තමාගේ වැඩකාරයන්
ට කථාකොට ඈ ලඟට ගොස් විචාරණ
පිණිස මට පේන කියන්නියක් සොයා
දියල්ලායයි කීයේය. තමන් වැඩකාර
යෝද එන්දෝර්හි පේන කියන්නියක්
8 සිටිනවායයි ඔහුට කීවෝය. සාවුල්ද අ
මුතු වස්ත්‍ර හැඳ වෙස් මාරුකරගෙන මිනි
සුන් දෙදෙනෙක් සමග ගොස් රාත්‍රියෙ
හි ඒ ස්ත්‍රී වෙතට ආයේය. ඔහුද මා කි
යන අය නැඟුටුවා මා ලඟට ගෙනත්
පේන කියවනනට නුඹට යාඥාවෙමියි
9 කිය. ස්ත්‍රීද සාවුල් රටින් පේන කියන්
නන්ද මායාකාරයන්ද නැතිකල හැටි නුඹ
දන්නවාය. ඒ නිසා නුඹ මා මරණට පත්
වෙන ලෙස මාගේ ප්‍රාණයට උගුලක්
10 තබන්නේ මන්දැයි ඔහුට කීවාය. සාවුල්
ද යෙහෝවඃවහන්සේ ජීවත්වනසේක්
නම් මේ කාරණාව ගැන නුඹට කිසි අව
වුවක් නොවේයයි ඈට කියා යෙහෝ
11 වඃවහන්සේ ගැන දිව්වේය. එවිට ඒ
ස්ත්‍රී නුඹට කවුරු නැඟුටුවා ගෙනෙම්දැ
යි කීවාය. ඔහුද සාමුවෙල් මට නැඟුටු
12 වා ගෙනෙනැයි කිය. ස්ත්‍රීද සාමුවෙල්
දුටුකල මහත් ශෝකාවකින් හඬගසා
නුඹ මා මක්නිසා රැවටුවේද? නුඹ සා
13 වුල්යයි ඔහුට කීවාය. රජ්ජුරුවෝද භ
යනොවෙනන නුඹ දුටුවේ මොනවාදැ
යි ඈට කිය, ස්ත්‍රීද මම පොළොවෙන්
පිටවෙන දෙවියන් දුටිමියි සාවුල්ට කී
14 වාය. ඔහුද ඔහුගේ හැටි කොහොමදැයි
ඈට කිය. ඈද පොරවන රෙද්දක් ව
සා නාකි මනුෂ්‍යයෙක් නැගිටිවේයයි
කීවාය. සාවුල්ද ඒ සාමුවෙල් බව දැන
බිමට තමන් මූන නැමුවේය.

15 සාමුවෙල්ද නුඹ මා නැඟුටුවා වෙහෙ
සෙව්වේ මක්නිසාදැයි ඇසීය. සාවුල්ද
මම ඉතාමත් දුක සිටිමි පිලිස්තියෝ මට
එදිරිව සටන්කෙරෙති දෙවියන්වහන්
සේද අනාගතවක්තෘන් ලවාවත් සිහිනෙ
කින් මට නොදන්වා මාගෙන් අහක්වූ
සේක ඒ නිසා මා විසින් කටයුතු දේ
මට දන්වාදෙන්ට නුඹ අඬගැස්වීමියි උ
16 ත්තර දුනේය. එවිට සාමුවෙල් නු
ඹෙන් යෙහෝවඃවහන්සේ අහක්ව නුඹ
ට සතුරුවූ බව දැනත් මාගෙන් අහන්
17 නේ මක්නිසාද? යෙහෝවඃවහන්සේ
මා ලවා කියෙව් ලෙස කලසේක. යෙ
හෝවඃවහන්සේ නුඹ අතින් රාජ්‍යය
පැහැරගෙන නුඹේ අසල්වාසිවූ දාවිත්
18 ට දුන්සේක. නුඹ යෙහෝවඃවහන්සේ
ගේ වචනයට අකීකරුව උන්වහන්සේ
ගේ බලවත් උදහස අමලෙක් කෙරෙ
හි ඉෂ්ටනොකල බැවින් යෙහෝවඃව
හන්සේ අද දවසේ නුඹට මේක කල
19 සේක. යෙහෝවඃවහන්සේ පිලිස්තියන්
අතට ඊශ්‍රායෙල්වරුන්ත් නුඹත් පාවා
දෙනසේක. හෙට නුඹත් නුඹේ පුත්
තුත් මා එක්ක සිටිනවා ඇත. යෙහෝ
වඃවහන්සේත් පිලිස්තියන් අතට ඊශ්‍රා
යෙල් සේනාව පාවාදෙනසේකැයි කී
20 ය. එවිට සාවුල් සාමුවෙල්ගේ වචනයට
ඉතාමත් භයව එවේලේම බිම වැතිරග
ත්තේය. එදා දවස මුළුල්ලේ කෑම නො
21 කෑ නිසා ඔහුට සවි නොතිබුනේය. ස්ත්‍රී
ද සාවුල් ලඟට ඇවිත් ඔහු ඉතා වෙහෙ
සයෙන් ඉන්න බව දැක ඔබගේ දාසිවූ
මම ඔබගේ ශබ්දයට යටත්ව මාගේ ප්‍රා
ණයට ආන්තරා පමුනුවා ඔබ කී වචන
22 ඇසිමි. ඒ නිසා ඔබගේ දාසියගේ වචනත්
අසා ඔබ ඉදිරිපිට රොටි කෑල්ලක් තිබ
න්නට මට අවසර දුනමැනව. ඔබ ගම
න යන කල ඔබ සවිවෙන පිණිස ඒක
කන ලෙස ඔබට යාඥාවෙමියි කීවාය.
23 නුමුත් ඔහු අකමැතිව නොකම්යි කිය.
එහෙත් තමන් වැඩකාරයෝද ස්ත්‍රීද
ඔහුට පෙරැත්තකලෝය. ඔහුද ඔවුන්
ගේ වචන අසා බිමින් නැගිට ඇඳේ
24 හුනේය. ස්ත්‍රීද ගෙයි සිටි තර වස්
සෙක් ඉක්මනින් මරා පිටි අරන් අනා
25 ඇඹුල් පිටි නුමුසු රොටි පුළුස්සා සාවුල්
ද තමන් වැඩකාරයන්ද ඉදිරිපිට තැබුවා
ය. ඔවුන්ද කා නැගිට ඒ රෑම පිටත්ව
ගියෝය.

29. පරිච්ඡේ. පිලිස්තියෝ තමන්ගේ
සියළු සේනාවල් ආපෙක්ට එක්කාසුක

ලෝය. ඊශ්‍රායෙල්වරුද යෙස්‍රීල්හි උල්
2 පතක් ලඟ අනුයම් බැන්දෝය. පිලිස්
තියන්ගේ ප්‍රධානියෝ සිය ගනන්ද
හස් ගනනින්ද ගියෝය. එහෙත් දාවිත්ද
තමන් මිනිස්සුද ආකිෂ් සමග ඔවුන්
3 පස්සේ ගියෝය. එවිට පිලිස්තියන්ගේ
ප්‍රධානියෝ මේ හෙබ්‍රෙව්වරු මෙහි මක්
කරණවාදැයි කීවෝය. ආකිෂ්ද මා සමග
මේ දවස්වලද අවුරුදුවලද වසන මේ
දාවිත් ඊශ්‍රායෙල්හි රජවූ සාවුල්ගේ මෙ
හෙකරුවා නොවේද? ඔහු මා ලඟට
ආ තැන් පටන් අද දක්වා ඔහුගේ කිසි
4 දොසයක් නුදුටිමියි කීය. පිලිස්තියන්ගේ
ප්‍රධානියෝද ආකිෂ්ට තරහව යුධයේදී
අපට සතුරෙක් නොවෙන පිනිස සට
නට අප සමග ඔහු නොයේවා නුඹ වි
සින් පත්කල තැනටම මේ මිනිහා නැ
වත හැරපනන ඔහු නැවත තමන් ස්වා
මියා සමග විශ්වාසවෙනෙත් මේ මිනි
5 සුන්ගේ හිස්වලින් නොවේද? සාවුල් ද
හස් ගනනක්ද දාවිත් දසදහස් ගනනක්
ද මැරුවෝයයි ඔවුන් නටනටා එක එ
කාට ගීතිකා කිවුවේ මේ දාවිත්ට නො
6 වේදැයි කීවෝය. එවිට ආකිෂ් දාවිත්ට
අඬගසා සැබෑවට යෙහෝවාවහන්සේ
ජීවත්වනසේක්නම් නුඹ ඇද නැති ලෙ
ස කල් කෙලේය සේනාව අතරේ මා ස
මග ඇතුල පිට නුඹේ කල්කිරීම මාගේ
ඇසට යහපත්ය මා ලඟට නුඹ ආ දා ප
ටන් මේ වෙනතුරු නුඹේ නරකක් නු
දුටිමි. නුමුත් ප්‍රධානයෝ නුඹට කැමති
7 නැත. ඒ නිසා පිලිස්තියන්ගේ ප්‍රධානීව
රුන්ට අමනාප නොකරනනට සමාදා
8 නයෙන් පලයනනැයි කීය. දාවිත්ද මම
මොකක් කෙලෙම්ද? මාගේ ස්වාමිවූ
රජ්ජුරුවන්ගේ සතුරන්ට එදිරිව සටන
ට මා නොයන පිනිස ඔබ සමග අදවෙ
නකල්ම සිටින ඔබගේ මෙහෙකරුවා
කෙරෙහි ඔබ දුටුවේ මොකදැයි ආකිෂ්
9 ට කීය. ආකිෂ්ද උත්තර දෙමින් දෙවිය
න්වහන්සේගේ දූතයෙක් මෙන් නුඹ මා
ගේ ඇසට යහපත්යයි දනිමි නුමුත් පි
ලිස්තියන්ගේ ප්‍රධානියෝ මොහු අප ස
මග යුධයට යනෙත් නැතැයි නුඹ ගැන
10 කීවෝය. එබැවින් නුඹ සමග ආ නුඹේ
ස්වාමියාගේ මෙහෙකරුවන් සමග ඉ
තා අළුයම නැගිට එලිවෙනකොටම ප
11 ලයනනැයි කීය. දාවිත්ද තමාගේ මනු
ෂ්‍යයෝද පිලිස්තියන්ගේ රටට හැරී යන්
නට උදයම නැගිට්ටෝය. පිලිස්තියෝ
ද යෙස්‍රීල්ට ගියෝය.

30. පරිච්ඡෙ. තවද දාවිත්ද තමන් මි
නිස්සුද තුන්වෙනි දා සික්ලග්ට ආවෝ
ය. ඒ කාලයෙහි අමලකිවරු දකුණු දි
සාවටත් සික්ලග්ටත් ඇවිදින් සික්ලග්
2 ට පහරදී ගිනිලා එහි සිටි ස්ත්‍රීන් අල්ලා
ගත්තෝය. ඔවුන් ලොකු කුඩා කිසි කෙ
නෙක් නොමරා ඔවුන් අරගෙන ගියෝ
3 ය. පසුව දාවිත්ද තමන් මිනිසුන්ද නුවර
ට පැමුනුනාම ඒක ගිනිලා තිබුනු බවත්
ඔවුන්ගේ අඹුදරුවන් අල්ලාගනු ලැබූ
4 බවත් දුටුවෝය. එවිට දාවිත්ද ඔහු සම
ග සිටි මිනිස්සුද හඬන්ට බැරිවෙනකල්
5 බොහෝකොට ඇඬුවෝය. දාවිත්ගේ
ස්ත්‍රීන් දෙදෙන වන යෙස්‍රීල්හි අහිනො
වම්ද කර්මෙල්හි නාබල්ගේ ස්ත්‍රී අබිගා
යෙල්ද අල්ලා ගෙනියනු ලැබුවෝය.
6 තමතමන්ගේ දූදරුවන් නිසා සියළු මි
නිසුන්ගේ හිත් ශෝකව දාවිත්ට ගල්ග
සන්ට කථාකල බැවින් දාවිත් බොහෝ
සේ කනගාටුව සිටියේය. නුමුත් තමන්
දෙවිවූ යෙහෝවාවහන්සේ කෙරෙහි
7 විශ්වාසය වැඩුවේය. දාවිත්ද මෙහි මට
ඒඵොද් ගෙනෙනනැයි අහිමෙලෙක්
ගේ පුත් අබියාතර් පූජකයාට කීය. අබි
යාතර්ද දාවිත් ලඟට ඒඵොද් ගෙනාවේ
8 ය. දාවිත්ද මේ සේනග අඹවා අල්ලාග
නිම්දැයි යෙහෝවාවහන්සේගෙන් ඇසී
ය. උන්වහන්සේද තෝ සැබවින් ඔවුන්
අල්වා සැක නැතුව සියල්ල දෙවනු ල
බන නිසා අඹවවයි උත්තර දුන්සේක.
9 දාවිත්ද ඔහු සමග සිටි හසියයක් මිනිස්
සුද පිටත්ව බෙසෝර් ගංගාව ලඟට අ
වෝය එහි සමහරෙක් නැවතී සිටියෝ
10 ය. එහෙත් දාවිත්ද හාරසියයක් මිනිස්
සුද අඹවාගතෝය. වෙහෙස නිසා බෙ
සෝර් ගංගාවෙන් එගොඩ යන්ට බැරි
11 වූ දෙසියයක් පස්සේ නැවතුනෝය. ඔ
වුන්ද කෙතේ මිසර වැසියෙක් දැක දා
විත් ලඟට ඔහු ගෙනාවුත් ඔහුට රොටි
12 කවා බොනනට වතුරද රට අත්තික්
කා කැවිලි කෑල්ලක්ද වේලිච්ච මුද්‍රික
ඵල පොකුරු දෙකක්ද දුනෝය. ඔ
හුද කාපුවාම ඇඟට පන ආවේය. මක්
නිසාද ඔහු රෑ දවල් තුනක් රොටි නො
13 කා වතුරද නොබී සිටියේය. දාවිත්ද නු
ඹ කාට අයිතිද? කොහෙනින් ආයේදැ

ඇසීය. ඔහුද මම අමලෙකියයෙකුට වැ
ඩකාරවූ මිසරයෙහි තරුණයෙක. තුන්
දවසකට ඉස්සර මා ලෙඩවූන බැවින් මා
14 ගේ ස්වාමියා මා අත්හැරියේය. අපි කෙ
රෙතිවරුන්ගේ දකුණු පැත්තටත් යූදට
අයිති සීමාවටත් කාලෙබ්හි දකුණු පැ
ත්තටත් ඇතුලත්ව සික්ලග් ගිනිලෑවිමු
15 යයි කීය. දාවිත්ද ඒ සමාගමට මා ගෙනි
යන්ට හුබට පුළුවන්දැයි ඇසීය. ඔහුද
මා නොමරන්නටත් මාගේ ස්වාමියාගේ
අතට බාරනොදෙන්ටත් දෙවියන්වහන්
සේ ගැන මට දිවුරුම් දියන්න. එවිට ම
ම ඒ සමාගමට ඔබ ගෙනියමියි කීය.
16 තවද ඔහු ඔවුන් ගෙනාවිට අමලකි
වරු පිලිස්තියන්ගේ රටින්ත් යූදා රටි
න්ත් බොහෝ වස්තු කොල්ලගත් බැවින්
කා බී නටනටා පොලොව පිට ගැවසී
17 සිටියෝය. දාවිත්ද සවස පටන් පසුව දා
සවස දක්වා ඔවුන්ට පහරදුන්නේය. එහි
ද ඔටුවන් පිට්න් දිවූ ඉලන්දාරීන් හාරසි
යය හැර ඔවුන්ගෙන් කිසිවෙක් නො
18 ගැලවුනේය. දාවිත්ද අමලකිවරුන් වි
සින් ගෙනගිය සියල්ලත් භාර්යාවන් දෙ
19 දෙනාත් ගලවාගත්තේය. ඇරත් කුඩා
වූද මහත්වූද දූදරුවන්ද දේපලද කිසි අ
ඩුවක් නැතුවම ඔවුන්ට අයිති සියල්ල
20 දෙවනු අල්ලාගත්තෝය. දාවිත්ද සියළු
බැටළුවන්ද හරකුන්ද ගෙන අනික් සිවුපා
වුන්ට ඉස්සරින් දක්කමින් මේ දාවිත්ගේ
21 කොල්ලගත් වස්තුවයයි කීය. තවද දා
විත් වෙහෙස නිසා එක්ක යන්ට බැරු
ව බෙසෝර් ගංගාව ලඟ සිටි මිනිසුන්
දෙසිය ලඟට ආයේය. ඔවුන්ද දාවිත් ල
ඟටද ඔහු සමඟ සිටි මිනිසුන්ගේ පෙර
මගටද ගියෝය. දාවිත්ද මිනිසුන් ලඟට
22 ඇවිත් ඔවුන්ට ආචාරකෙලේය. එවිට
දාවිත් සමග ගිය සියළු ක්‍රූර දුෂ්ට මිනිස්
සු කථාකොට අප සමග නොගිය සියළු
මිනිසුන්ට තමතමන්ගේ අඹුදරුවන් අ
රන් යන්ට දෙනවා මිස අපි අල්ලාගත් ව
ස්තුවෙන් නොදෙමුයයි කීවෝය. එකල
23 දාවිත් මාගේ සහෝදරයෙනි අපට විරු
ඩව ආ සමාගම අප අතට පාවාදී අප ආර
ක්ෂාකල යෙහෝවාවහන්සේ අපට දුන්
24 දෙයට එසේ නොකරල්ලාය. මක්නිසා
ද තුබලා කියන මේ කාරණව අහනෙත්
කවුද? සටනට යන්නාගේ පංගුව ලෙස
බඩු ලඟ ප්‍රවේසමට සිටින අයටත් ලැබි
ය යුතුය. ඔවුන් එකහැටි බෙදාගන්නට
25 යුදුසුයයි කීය. ඔහු මේ කාරණව ඊශ්‍රා
යෙල් කෙරෙහි ආඥාවක් සහ සිරිතක්ද
වසයෙන් පිහිටවීය. ඒක එදා පටන් අද
දක්වා පවතිනේය.
26 දාවිත්ද සික්ලග්ට ඇවිදින් බෙතෙල්
27 හිද දකුණු රමොත්හිද යාත්තිර්හිද අ
රොවෙර්හිද සිප්මොත්හිද එස්තෙමෝ
28 වාහිද රාකල්හිද යෙරෑමිල්වරුන්ගේ
29 නුවරවලද කෙනිවරුන්ගේ නුවරවල
30 ද හොර්මාහිද කොරාශාන්හිද ආතක්හි
ද හෙබ්‍රොන්හිද දාවිත් හා තමන් මිනි
සුන් ඇවිදින සියළු තැන්වලද සිටින ත
මන් මිත්‍රවූ යුදෙහි නායකයන්ට කොල්ල
31 ගත් දෙයෙන් යවා යෙහෝවාවහන්සේ
ගේ සතුරන්ගෙන් කොල්ලගත් වස්තු
වෙන් තුබලාට තෑගියයි කීය.

31. පරිච්ඡ. තවද පිලිස්තියෝ ඊශ්‍රා
යෙල්වරුන්ට එදිරිව යුඩකලෝය. ඊශ්‍රා
යෙල් මිනිස්සුද පිලිස්තියන් ඉදිරියෙන්
දිව ගොස් ගිල්බෝවා කන්දේ වැටි ම
2 ලෝය. පිලිස්තියෝද සාවුල්ටත් ඔහුගේ
පුත්‍රයන්ටත් ඉක්මනින් අඹවා සාවුල්ගේ
පුත් යෝනතන්ද අබිනාදබ්ද මෙල්කිෂු
3 වාද මැරුවෝය. සටන සාවුල්ට එදිරිව
ඉතා වැඩිවී දුනුවායෝ ඔහුට විද්දෝය.
ඔහුද දුනුවායින්ගෙන් බොහෝ තුවාල
4 ලැබුවේය. එවිට සාවුල් තුබේ කඩුව ඇ
ද මේ අචණ්ඩජෙද්දුයන් මට අනින්ට ඇ
විදින් මට නින්දා නොකරණ ලෙස මට
ඇනපන්නැයි තමන් ආයුධ ගෙනයන්නා
ට කීය එහෙත් තමන් ආයුධ ගෙනයන්
නා ඉතා භයනිසා බැරිය කීය. එබැවින්
සාවුල් කඩුවක් අරගන ඊපිට වැටුනේ
5 ය. ඔහුගේ ආයුධ ගෙනයන්නාද සාවුල්
මැරුනුබව දැක තමන් කඩුවපිට වැටී ඔ
6 හු සමග මෙලේය. මෙලෙස සාවුල්ද ත
මන් පුතුන් තුන්දෙනාද ආයුධ ගෙනය
න්නාද තමන් සියළු මිනිස්සුද එදම මැ
7 රුනෝය. මිටියාවත අනික් පැත්තේ සි
ටින්නාවූද යොර්දාන් එගොඩ සිටින්නාවූ
ද ඊශ්‍රායෙල් මිනිස්සු ඊශ්‍රායෙල් සෙනග
දිවූ බවත් සාවුල්ද තමන් පුත්‍රයන්ද මැ
රුනු බවත් දැක නුවරවල් අත්හැර ගෑ
ලවී ගියෝය. පිලිස්තියෝද ඇවිත් එහි
8 පදිංචිවූනෝය. තවද පසුව දා පිලිස්ති
යෝ මලවුන්ගේ ඇඳුම් කොල්ලකන්න
ට ආකල සාවුල්ද තමන් පුතුන් තුන්දෙ
නාද ගිල්බෝවා කන්දේ මැරී තිබුනා

9 දුවූවෝය. ඔවුහු ඔහුගේ හිස කපා ආයු
ධ මුදු එපවත් තමන් දෙවියන්ගේ ගේ
වලද මිනිස්සු අතරේද ප්‍රසිද්ධකරණ පිනි
ස පිලිස්තියන්ගේ රට මුළුල්ලේ යැව්වෝ
10 ය. ඔවුහු ඔහුගේ ආයුධ අෂ්ටාරෙත්ගේ
ගෙට දමා ඔහුගේ ශරීරය බෙත්ෂාන්හි
තාප්පෙට තිබා බැන්දෝය. තවද යා
11 බෙෂ් ගිලියද් වැසියෝ පිලිස්තියන් වි
12 සින් සාවුල්ට කල දේ ඇසුවෝය. එවිට
සියළුම බල ඇති මිනිස්සු නැගිට මුළු ර
ත්‍රියේ ගොස් බෙත්ෂාන්හි තාප්පෙන් සා
වුල්ගේද තමන් පුත්‍රයන්ගේද ශරීරවල්
13 අරගෙන යාබෙෂ්ට ගෙනා එහිදී දවා
ඔවුන්ගේ ඇට අරගෙන යාබෙෂ්හි ෂ
සක් යට වලලා සත් දවසක් නිරාහාරව
උන්නෝය.

# සා මු වෙ ල් ගේ දෙ වෙ නි පො ත ය.

1. පරිච්ඡේදය. තවද සාවුල් මැරු
ණු පසු දාවිත් අමලකිවරුන් මරා ඇවි
2 දින් සික්ලග්හි දෙදවසක් සිටියේය. තු
නෙවනි දා ඉරුණ රෙදි ඇඳ හිසපිට දූවි
ලිද ඇති මිනිහෙක් සාවුල්ගේ අන්දූය
මෙන් ඇවිදින් දාවිත් ලඟට පැමින බිම
3 වැටී වැන්දේය. දාවිත්ද තුබ කොතන
සිට ආයෙහිදැයි ඇසීය. ඔහුද මම ඊශ්‍රා
4 යෙල්ගේ අන්දූයෙන් ගැලවී ආයෙම්
යි ඔහුට කීය. දාවිත්ද එහි කාරණ ඇති
හැටි මට කියාපනැයි කීය. ඔහුද මිනිස්
සු යුද්ධයෙන් දිව්වෝය මිනිසුන්ගෙන්
බොහෝ දෙනෙක් සාවුල්ද තමන් පුත්
යෝනාතන්ද මැරුනෝයයි උත්තර දුන්
5 නේය. දාවිත්ද තුබ සාවුල්ද තමන් පුත්
යෝනාතන් මල බව දන්නේ කොහො
6 මදැයි ඒ තරුණයාගෙන් ඇසීය. ඒ ත
රුණයා උත්තර දෙමින් මම ගිල්බෝවා
කන්දට නිකන් ගොස් සාවුල් තමන් හෙ
ල්ලය පිට හේත්තුවූන බවත් රථද අසරු
වන්ද ඔහු පසුපස්සේ තදින් එහුබදින බ
7 වත් දුටිම්. ඔහු පස්ස බලා මා දැක මට අ
ඬගැසුවේය. මමද මම මෙහියයි උත්තර
8 දුනිම්. ඔහුද තෝ කවුදැයි මට කීය මමද
9 අමලකියෙක් වෙමියි උත්තර දුනිම්. නැ
වත ඔහු කථාකොට මාගේ ප්‍රාණය තව
ම මා ඇතුලේ තිබෙන බැවින් මා බො
හෝ වේදනා විඳින බැවින් නැගී සිට මා
10 මරවයි කීය. එවිට ඔහු වැටුනු පසු ජීව
ත්වන්ට බැරි බව සත්‍යක ලෙස දැන ම
ම ඔහු පිට සිදගන මරා ඔහුගේ හිසේ
තිබුන ඔටුන්නද අතේ තිබුන වලල්ලද
අරගෙන මෙතන මාගේ ස්වාමි ලඟට
11 ගෙනායෙම්යි කීය. එවිට දාවිත්ද ඔහු ස
මඟ සිටි සියළු මිනිස්සුද තමන් වස්ත්‍ර අල්
12 වා ඉරා සාවුල්ද ඔහු පුත් යෝනාතන්ද යෙ
හෝවාවහන්සේගේ මිනිස්සුද ඊශ්‍රායෙල්
වංශයද කඩුවෙන් මැරුණු බැවින් ශෝ
කව හඬා සවස දක්වා නොකා සිටියෝ
13 ය. දාවිත්ද තෝ කොතනින්දැයි තරුණ
යාගෙන් ඇසීය. ඔහුද මම අමලකියෙක්
වූ දේසක්කාරයෙකුගේ පුතෙක් වෙමි
14 යි උත්තර දුනේය. දාවිත්ද යෙහෝවා
වහන්සේගෙන් අභිෂේකය ලත් තැනැ
ත්තා මරන්නට තාගේ අත දිගුකරන්
ට භයව නොසිටියෙහිදැයි ඔහුට කියා
15 ඉලන්දාරි මිනිසුන්ගෙන් එකෙකුට අඬ
ගසා ඔහු ලඟට ගොස් ගසාපනැයි කී
ය. ඔහුද ඔහුට නසිනතරම් පහර දුන්
16 නේය. දාවිත්ද කථාකොට යෙහෝවාව
හන්සේගෙන් අභිෂේක ලත් තැනැත්
තා මා විසින් මරණලද්දේයයි කියමින්
තට විරුද්ධව තාගේ කටින්ම සාක්ෂි දුන්
නෙහිය එබැවින් තාගේ ලේ තාගේ හි
සපිටයයි කීය.
17 දාවිත් සාවුල්ද ඔහුගේ පුත් යෝන
18 තන්ද ගැන මෙයාකාරයෙන් විලාප කියා
යූදාහි දරුවන්ට දුන්නනම් කවිය උග
න්වන්ට කීය. ඒක යෂෙර්ගේ පොතේ ලි
19 යනලද්දේය. අහෝ ඊශ්‍රායෙල්ගේ ශ්‍රීය
ව තිගේ උස්තැන්වල තී නසනලද්දිය.
20 අහෝ බලවන්තයෝ වැටුනෝය. පිලි
ස්තිවරුන්ගේ දූන් සතුටු නොවෙන පි
නිසද අචර්මඡේදයන්ගේ දූන් ප්‍රීතියට
නොපැමිනෙන පිනිසද එපවත් ගාත්හි
නොකියව අෂ්කෙලොන්හි විදිවල ඒ
21 ක ප්‍රකාස නොකරව. අහෝ ගිල්බෝවා
කඳුවල පිනිවත් වරුෂාවවත් අගස් ද
නෙට ගොයම් කුඹුරුවත් තුබලා පිට
නොවේවා. මක්නිසාද තෙලෙන් අභි

ෂේක නොලැබුණු කෙනෙකුගේ පලි
හ මෙන් බලවත්තවූ සාවුල්ගේ පලිහ
අගෞරව ලෙස එහි අහකදමා තිබෙන්
22 නේය මැරුන්කැවුන්ගේ ලෙයෙන්ද බ
ලවතුන්ගේ තෙලින්ද යෝනාතාන්ගේ දු
න්න පස්සට නොහැරුණේය. සාවුල්ගේ
කඩුවද නිෂ්ප්‍රයෝජනව නොහැරුණේ
23 ය. සාවුල්ද යෝනාතාන්ද ජීවත්ව සිටිද්දි
සෝභනයෙන් සහ ප්‍රීතියෙන් යුක්තව
සිටියෝය. ඔවුන් මරණයේදි වෙන් නු
නෝය. ඔවුන් රාජාලින්ට වඩා වේගව
ත්ව සිංහයන්ට වඩා ශක්තිමත්ව සිටියෝ
24 ය. ඊශ්‍රායෙල්ගේ දූවරුනි අලංකාර ස
හිත රතු වස්ත්‍රයෙන් නුඹලා හදවා වස්ත්‍ර
මතුපිට රත්‍රන් ආයිත්තමෙන් අලංකාර
25 කල සාවුල් ගැන හඬාපල්ලාය. අහෝ
සටනේදි බලවන්තයෝ වැටුණෝය. අ
හෝ යෝනාතාන් නුඹේ උස් තැනදී මැ
26 රුණේය. මාගේ සහෝදරවූ යෝනාතාන්
මම නුඹ ගැන දුක්ව සිටිමි නුඹ මට ඉතා
ප්‍රියව සිටියෙහිය ස්ත්‍රීන්ගේ ආදරයට
වඩා නුඹේ ආදරය මට ආශ්චර්යවීය.
27 අහෝ යුධායුධ නැතිවුණේය බලවන්ත
යෝ වැටුණෝය.

2. පරිච්. මින්පසු දාවිත් මම යූද
හි යම් නුවරකට යෙම්දැයි කියා යෙහෝ
වාවහන්සේගෙන් ඇසීය. යෙහෝවාව
හන්සේද යවයි ඔහුට කීසේක. දාවිත්ද
කොතනට යෙම්දැයි කීය. උන්වහන්සේ
2 ද හෙබ්‍රොන්ටයයි කීසේක.. එසේ දාවිත්
ද යෙස්‍රීල්හි අහිනොවම්ද කර්මෙල්හි
නාබල්ගේ ස්ත්‍රීවූ අබිගායෙල්ද යන ත
මන් භාර්යාවන් දෙදෙනාද එතනට ගි
3 යෝය. දාවිත්ද ඔහු එක්ව සිටි තමන් සි
යළු මිනිස්සුද තමන්ගේ පවුල් අරගෙන
ගොස් හෙබ්‍රොන් නුවරවල පදිංචිවුණෝ
4 ය. තවද යූදාහි මනුෂ්‍යයෝ ඇවිත් යූද
වංශයට රජකමට දාවිත් අභිෂේක ක
ළෝය. යාබෙෂ් ගිලියද්හි මිනිස්සුන් සා
වුල් තැන්පත්කල බව දාවිත්ට අරච්චි
5 ය. දාවිත්ද යාබෙෂ් ගිලියද් මිනිසුන් වෙ
තට පනිවිඩකාරයන් යවා නුඹලාගේ
ස්වාමිවූ සාවුල්ට මේ කරුණාව පෙන්වා ඔ
හු තැන්පත්කල බැවින් නුඹලා යෙහෝ
6 වාවහන්සේගෙන් ආශීර්වාදලද්දෝය. දැ
නුත් යෙහෝවාවහන්සේ නුඹලාට ක
රුණාවත් සැබෑවත් පෙන්වනසේක්වා
මමද නුඹලා ඒ දේ කල නිසා නුඹලාට
7 උපකාර කරන්නෙමි. ඒ නිසා නුඹලා
ගේ අත් සවිමත්වා නුඹලාත් බලවත්
ව සිටිල්ලාය නුඹලාගේ ස්වාමිවූ සාවුල්
මළේය. ඇරත් යූද වංශය තමන්ට ර
ජකමට මා අභිෂේක කළෝයයි ඔවුන්
ට කීය.
8 එහෙත් සාවුල්ගේ සේනාවේ මූලාදෑ
නියා වන නේර්ගේ පුත් අබ්නේර් සා
9 වුල්ගේ පුත් ඉෂ්බෝෂෙත් අරගෙන ම
හනයිම්ට ඇවිත් ගිලියද්ද අෂූරිවරුන්ද
යෙස්‍රීයෙල්ද එප්‍රායිම්ද බෙන්යමින්ද සි
යළු ඊශ්‍රායෙල්ද කෙරෙහි ඔහු රජකමට
10 තැබීය. සාවුල්ගේ පුත් ඉෂ්බෝෂෙත් ඊ
ශ්‍රායෙල්හි රජකම් කරන්ට පටන්ගත් කා
ල ඔහුට වයස් සතලිස් අවුරුද්දක් විය.
ඔහුද දෑවුරුද්දක් ආඬුකෙළේය. එ
හෙත් යූද වංශය දාවිත්ගේ අතට වූයේ
11 ය. දාවිත්ද යූද වංශයට රජව සිටි කාලය
12 සත්අවුරුදු හමාසයක්ය. තවද නේර්
ගේ පුත් අබ්නේර්ද සාවුල්ගේ පුත් ඉෂ්
බෝෂෙත්ගේ වැඩකාරයෝ මහනයිම්
සිට පිටත්ව ගිබියොන්ට ගියෝය. සෙ
13 රුවයිගේ පුත් යෝවාබ්ද දාවිත්ගේ වැඩ
කාරයෝද පිටත්ව ගිබියොන් පොකුන
ලඟට රැස්වූවෝය. එක් සෙනඟක් පො
කුණේ එක පැත්තකද අනික් සෙනඟ
පොකුණේ අනික් පැත්තේද හිඳගත්
14 තෝය. අබ්නේර්ද දූන් තරුණයෝ නැ
ගිට අප ඉදිරියෙහි සෙල්ලම් කෙරෙත්වයි
යෝවාබ්ට කීය. යෝවාබ්ද ඔවුන්ට නැ
15 ගිටිනනට කීය. එවිට සාවුල්ගේ පුත් ඉෂ්
බෝෂෙත්ට අයිති බෙන්යමින්වරුන්
ගෙන් ගනනින් දොළහක්ද දාවිත්ගේ
වැඩකාරයින් දොළහක්ද නැගිට එතර
16 ට ගියෝය. ඔවුන් සියල්ලෝම තමන් එ
දිරිකාරයින්ගේ හිස් අල්ලා හියල්වලට
කඩුවෙන් ඇන්නෝය. එසේ ඔවුන් එ
ක්ව මැරුණ නිසා එතනට ගිබියොන්හි
17 හැල්කත් හස්සුරිම්යයි නම් තැබුවෝය.
එදා ඉතා මහත් සටනක් විය. අබ්නේර්
ද ඊශ්‍රායෙල් මිනිස්සුද දාවිත්ගේ වැඩකා
18 රයන් ඉදිරියෙහි පහරකෑවෝය. යෝ
වාබ්ද අබිෂයිද අසායෙල්ද යන සෙරු
වයිගේ පුතුන් තුන්දෙනෙක් එහි සිටි
19 යෝය. අසායෙල් දඹුවෙක් ලෙස යුහු පා
ඇතිවීය. අසායෙල්ද අබ්නේර් අඹවා ග
මනේදි අබ්නේර් පසුපස්සේ එහුබැඳ
ගෙන දකුනටවත් වමටවත් නොහැරු
20 ණේය. එවිට අබ්නේර් පස්ස බලා නුඹ

ආසායෙල්දැයි කීය ඔහුද එසේයයි කීය.
21 අබ්නේර්ද දකුනටවත් වමටවත් හැරී
ඉලන්දරු මිනිසුන්ගෙන් එකෙක් අල්ලා
ඔහුගේ යුධායුධය අරගනුයි ඔහුට කී
ය. එහෙත් ආසායෙල් ඔහු පසුපස්සේ එහු
බැඳීමෙන් හැරෙන්ට නොකමැති විය.
22 නැවතත් අබ්නේර් මා ඇඹවීමෙන් හැ
රී පලයනුන මම තුබට පහරදී බිම හෙ
ළනෙත් කුමටද? ඉන්පසු තුබේ සහෝ
දරවූ යෝවබ්ගේ මූන බලන්නේ කෙ
23 සේදැයි ආසායෙල්ට කීය. එහෙත් ඔහු හැ
රෙන්ට අකමැතිවූ බැවින් අබ්නේර් හෙ
ල්ලේ පස්සේ කෙලවරින් පස්වෙනි ඉල
ඇටේ යටට ගැසීය හෙල්ලයද ඔහුගේ
පස්සෙන් නික්මුණේය ඔහුද වැටී එතන
ම මලේය. ඉන්පසු ආසායෙල් වැටී මැ
රුනු තැනට ආ සියල්ලෝම නැවතුනෝ
24 ය. යෝවබ්ද අබිෂයිද අබ්නේර් එලවා
ගියෝය. ඔවුන් ගිබියොන් වනයෙහි මා
ර්ගය ලඟ ගියඃ ඉදිරියෙහි අම්මඃනම් ක
25 න්ද ආසන්නයට ආ කල ඉර බැස්සේය. බෙන්යමින්
ගේ පුත්‍රයෝ අබ්නේර්ගේ පස්සෙන් රැ
ස්ව එක සේනාගකඩ කන්දක් මුදුනේ සිටි
26 යෝය. එවිට අබ්නේර් යෝවබ්ට අඬග
සා කඩුව නිතරම නැතිකරනෙන්ද එ
සින් අන්තිමේදී තික්ත උපදනේයයි
තුබ දනෙත් නැද්ද? එහෙනම් මිනිසුන්
ට තමන් සහෝදරයන් ඇඹවීමෙන් හැ
රී යන්ට අනනොකර කොපමන කල්
27 වනෙත්දැයි කීය. යෝවබ්ද දෙවියන්ව
හන්සේ ජීවත්වනසේක්නම් තුබ කථා
නොකලත් සැබවින් අලියම් වේලට සි
යළු මිනිසුන් තමන් සහෝදරයන් ඇඹ
වීමෙන් හැරී යන්ට තිබුනේයයි කීයේ
28 ය. එවිට යෝවබ් හොරනෑවක් පිම්බේ
ය සියළු මිනිස්සුද නැවතී සිට තවත් ඊ
ශ්‍රායෙල් ඇඹීමවත් සටනවත් නොක
29 ලෝය. අබ්නේර්ද ඔහුගේ මිනිස්සුද මු
ළු රෑ සමබිමින් ඇවිද යොර්දන් එගොඩ
මුළු බිත්රෝන් මැදින් ගොස් මහනයිම්
30 ට ආවෝය. යෝවබ්ද අබ්නේර් එලවී
මෙන් හැරුනේය. සියළු මිනිසුන් රැස්
කලවිට දාවිත්ගේ වැඩකාරයන්ගෙන් මි
නිසුන් දහනව දෙනෙකුත් ආසායෙළුත්
31 අඩුවිය. එහෙත් දාවිත්ගේ වැඩකාර
යෝ බෙන්යමින්ගෙන්ද අබ්නේර්ගේ මි
නිසුන්ගෙන්ද තුන්සිය හැටක් ගසා මැරූ
32 වෝය. ඔවුන් ආසායෙල් අරගෙන බෙත්
ලෙහෙමෙහි තමන් පියාගේ සොහොන්
ගෙයි තැන්පත්කලෝය. යෝවබ්ද ඔහු
ගේ මිනිස්සුද මුළු රෑ එමින් එලිවෙන
කොට හෙබ්‍රොන්ට පැමිනුනෝය.

3. පරිච්ඡ. තවද සාවුල්ගේ වංශයත්
දාවිත්ගේ වංශයත් අතරේ බොහෝ
2 කල් යුධය පැවතුණේය. දාවිත්ද වඩා බ
ලවත් විය සාවුල්ගේ වංශය අඩුබල විය.
හෙබ්‍රොන්හි දාවිත්ට පුත්‍රයෝ ඉපදුනෝ
ය. යෙස්‍රීල්හි අහිනෝවම්ගෙන් උපන්
3 අම්නොන් තමන්ගේ කුළුඳුල් පුත්‍රයා. ක
ර්මෙල්හි නාබල්ගේ ස්ත්‍රීවූ අබිගායෙල්
ගෙන් උපන් කිලියබ් දෙවෙනියාය. ගෙ
ශූර්හි රජවූ තල්මයිගේ දූවූ මාකාගෙන්
4 උපන් අබ්සලොම් තුන්වෙනියාය. හ
ගිත්ගේ පුත් අදොනිජඃ සතරවෙනියා
5 ය. අබිතල්ගේ පුත් ෂෙපාතියා පස්වෙ
නියාය. දාවිත්ගේ ස්ත්‍රී එග්ලාගෙන් උ
පන් ඉත්රියම් සවෙනියාය. මොවුන් හෙ
බ්‍රොන්හි දාවිත්ට උපනෝය.
6 පසුව සාවුල්ගේද දාවිත්ගේද වංශ අ
තරේ යුධය තිබුනුවිට අබ්නේර් සාවුල්
ගේ වංශය නිසා තමන්ම සවිකෙලේය.
7 අයඃගේ දූවූ රිස්පඃනම් උපභාර්‍යාවක්
සාවුල්ට විය. ඉෂ්බොෂෙත්ද තුබ මාගේ
පියානන්ගේ උපභාර්‍යාව වෙතට පැමි
8 නියේ මන්දැයි අබනේර්ට කීය. එවිට
අබ්නේර් ඉෂ්බොෂෙත්ගේ වචනයට ඉ
තා තරහවී යූදාට එදිරිව තුබේ පියාවූ
සාවුල්ගේ වංශයටත් ඔහුගේ සහෝදර
යන්ටත් මිත්‍රයන්ටත් කරුණාව පෙනා
දාවිත්ගේ අතට තුබ පාවා නුදුන් මා
බළු ඉසක් බව කල්පනාකර අද මේ
ස්ත්‍රී ගැන තුබ මට වරදක් තබනෙනහි
9 ද? සාවුල්ගේ වංශයෙන් රාජ්‍යය උදුරා
10 ගෙන දන් පටන් බෙයේර්ෂෙබා දක්වා ඊශ්‍රා
යෙල්ටත් යූදාටත් දාවිත්ගේ සිංහාසනය
උසස්කරනනට යෙහෝවාවහන්සේ දා
විත්ට දිවූ ලෙස මම ඔහුට නොක
ලෙම්නම් දෙවියන්වහන්සේ අබ්නේර්ට
එසේත් ඊට වඩාත් කරණසේක්වායි කී
11 ය. ඔහුද අබ්නේර්ට භයින් වචනයක්
12 වත් උත්තර නුදුනේය. අබ්නේර්ද ත
මන් වෙනුවට පණිවිඩකාරයන් දාවිත්
වෙතට යවා මේ රට කාගේද මා එක්
ක පොරොන්දුවෙයනන. එවිට සියළු ඊ
ශ්‍රායෙල්වරුන් තුබට හරවාගන්ට මා
13 අත ඔබ සමගයයි කීය. දාවිත්ද යහප
ත තුබ සමග පොරොන්දුවෙමි තුමුත්

නුඹෙන් දෙයක් ඉල්වමි ඒනම් නුඹ මා
ගේ මූන දකින්නට එනවිට සාවුල්ගේ
දූවූ මීකල් පලමුවෙන් නොගෙනායෙහි
නම් නුඹ මාගේ මූන නොදකින්නේය
14 යි කීය. එවිට දාවිත් සාවුල්ගේ පුත් ඉෂ්
බොෂෙත් වෙතට පනිවිඩකාරයන් යවා
පිලිස්තියන්ගේ ලිංගාග්‍ර චර්ම සියයකට
මා සරණ ගත් මාගේ භාර්‍යාවූ මීකල්
15 මට බාරදියන්නැයි කීය. ඉෂ්බොෂෙත්
ද යවා ඈගේ ස්වාමි පුරුෂවූ ලායිෂ්ගේ
පුත් පල්තියෙල්ගෙන් ඈ ගත්තේය.
16 ඈගේ ස්වාමි පුරුෂයාද බහුරිම්ට ඈ ස
මග පසුපස්සේ හඬහඬා ගියේය. එවිට
අබ්නෙර් හැරී පලයන්නැයි ඔහුට කීය.
ඔහුද ගියේය.

17 අබ්නෙර්ද ඊශ්‍රායෙල්ගේ මූලාදෑනීන්
සමග කථාකොට නුඹලා පසුගිය කාලේ
දාවිත් රජ කෙනෙක් කරගන්නට සෙව්
18 වෝය. මාගේ ඊශ්‍රායෙල් මිනිසුන් පිලිස්
තියන් අතින්ද ඔවුන්ගේ සියළු සතුරන්
අතින්ද මාගේ වැඩකාරවූ දාවිත් ලවා ම
ම ගලවමියි යෙහෝවාවහන්සේ දාවිත්
ගැන කීසේක. ඒ නිසා දැන් එසේ කර
19 පල්ලායයි කීය. අබ්නෙර්ද බෙන්යමින්ව
රුන්ට කථාකොට ඊශ්‍රායෙල්ටද බෙන්
යමින් වංශයටද හොඳව පෙනුන කාර
ණවල් දන්වන්ට හෙබ්‍රොන්ට ගියේය.
20 අබ්නෙර්ද මිනිසුන් විස්සක් සමග හෙ
බ්‍රොන්හි දාවිත් ලඟට ආවේය. දාවිත්ද
අබ්නෙර්ටත් ඔහු සමග සිටි මිනිසුන්
21 විස්සටත් මඟුල් පිලියෙල කලේය. එවි
ට අබ්නෙර් මම ගොස් සියළු ඊශ්‍රායෙල්
ඔබ සමග පොරොන්දුවක් කරගන ඔබ
ගේ හිතට කැමති සියල්ලත් ආඬුකරණ
පිනිස මාගේ ස්වාමිවූ රජ්ජුරුවන් වෙ
තට ඔවුන් රැස්කරමියි දාවිත්ට කීය. දා
විත්ද අබ්නෙර් යැවීය. ඔහුද සමාදාන
යෙන් ගියේය.

22 තවද දාවිත්ගේ වැඩකාරයෝද යෝ
වබ්ද යුධ-සේනාව අඬවා බොහෝ ව
ස්තු කොල්ලකාගෙන හැරී ආවෝය. එ
හෙත් දාවිත් අබ්නෙර් හැරිය නිසා ඔහු
හෙබ්‍රොන්හි දාවිත් සමග නොසිට සමා
23 දානයෙන් ගියේය. යෝවබ්ද ඔහු සම
ග සිටි සියළු සේනාගද ආවිට නේර්ගේ
පුත් අබ්නෙර් රජු ලඟට පැමිනියේය
උන්වහන්සේද ඔහු හැරියේය ඔහුද සමා
දානයෙන් ගියේයයි යෝවබ්ට ආරංචිවි
24 ය. යෝවබ්ද රජ්ජුරුවන්ට ලංව කථා
කොට ඔබ මක් කලාද? අබ්නෙර් ඔබ
වෙතට ආයේය ඔබද ඔහු හැරියේය ඔ
25 හුද කම්මුතුවටම ගියේය. මෙසේ කෙ
ලේ මක්නිසාද? නේර්ගේ පුත් අබ්
නෙර් ඔබ රවටා ඔබගේ යාම ඒමත් ඔ
බ කරණ සියල්ලත් දැනගන්නට ආ බව
26 ඔබ දන්නෙහියයි කීයේය. යෝවබ් දා
විත් ලඟින් පිටත ආවිට අබ්නෙර් පස්
සේ පනිවිඩකාරයන් යැවීය. ඔවුන් සිරා
හි තිබෙන ලිඳ ලඟින් ඔහු දෙවනු ගෙ
නාවෝය. එහෙත් දාවිත් ඒ බව නොද
27 න්නේය. අබ්නෙර් හෙබ්‍රොන්ට දෙවනු
ආකල යෝවබ් ඔහු එක්ක රහසින් ක
ථාකරන්ට දොරටුවෙන් පැත්තකට කැ
ඳවාගෙන තමන්ගේ සහෝදරවූ අසා
යැල්ගේ ලේ ගැන පස්වෙනි ඉලඇටේ
28 යටට ගසා මැරීය. ඉත්පසු දාවිත් ඒ අසා
මමත් මාගේ රාජ්‍යයත් යෙහෝවාවහන්
සේ ඉදිරියෙහි නේර්ගේ පුත් අබ්නෙර්
ගේ ලේ ගැන සදාකාලේටම නිදොස්ය.
29 ඒක යෝවබ්ගේ ඉසටත් තමන් පියා
ගේ මුළු වංශයටත් පැමිනේවා යෝවබ්
ගේ වංශයෙහි ප්‍රමේහ ඇති කෙනෙකු
ගෙන්ද කුෂ්ට රෝගකාරයන්ගෙන්ද හැර
මිටි වාරුවෙන් යන්නන්ගෙන්ද කඩු
වෙන් නසින්නන්ගෙන්ද හානි ඇති කෙ
30 නෙකුගෙන්ද අඩුනොවේයි කීය. එසේ
යෝවබ්ද තමන් සහෝදරවූ අබීෂෙද
අබ්නෙර් ගිබියොන්හි යුධයෙහිදී ත
මන්ගේ සහෝදරවූ අසායැල් මැරූ නි
31 සා ඔහු මැරුවෝය. දාවිත්ද යෝවබ්ටද
ඔහු සමග සිටි සියළු මිනිසුන්ටද කථා
කොට නුඹලාගේ ඇඳුම් ඉරා ගෝනි ඇ
ඳුමෙන් පෙරවාගෙන අබ්නෙර් ඉදිරියෙ
හි අඬාපල්ලායයි කීය රජවූ දාවිත්ද මි
නී ගෙනියන අයවල් පස්සේ ගියේය.
32 ඔවුන් හෙබ්‍රොන්හි අබ්නෙර් තැන්පත්
කලෝය. රජද තමන් හඬ උස්කර අබ්
නෙර්ගේ සොහොන්පල ලඟදී හැඬීය.
33 සියළු මිනිස්සුද ඇඬුවෝය. රජ්ජුරුවෝ
ද අබ්නෙර් නිසා විලාප කියමින් අබ්
34 නෙර් පිස්සෙකු ලෙස මැරුනේද? නු
ඹේ අත නොබැඳුනේය කකුල් දම්වැ
ලෙහි නොදමනු ලැබුවෝය නපුරු මි
නිසුන් ඉදිරිපිටට මිනිහෙක් වැටෙන
ලෙස නුඹ වැටුනේයයි කීය. සියළු මි
නිස්සුද ඔහු ගැන දෙවනු හැඬුවෝය.
35 සියළු මිනිසුන්ද දවාලට දාවිත්ට කෑම
දෙන්ට ආකල මම රොටිවත් වෙන දෙ

යඬත් ඉර බසිනකල් රස විඳෙමිනම්
එසේත් ඊට වඩාත් දෙවියන්වහන්සේ ම
36 ට කරණසේක්වයි කියා දිව්වේය. සියළු
මිනිස්සුද ඒ බව දැන ඊට මනාපවූනෝ
ය. රජ්ජුරුවන් කල කොයි දෙයට තු
37 මුත් සියළු මිනිස්සු මනාපවූනෝය. එද
සියළු සේනාවද සියළු ඊශ්‍රායෙල්ද නෙර්
ගේ පුත් අබ්නෙර් මරන්ට රජ්ජුරුවන්
38 අකමැති බව දැනගත්තෝය. රජ්ජුරු
වෝ තමාගේ වැඩකාරයන්ට කථාකො
ට අධිපතියෙක්ද මහත් මනුෂ්‍යයෙක්ද
ඊශ්‍රායෙල්හි අද වැටුනු බව තුබලා දන්
39 නේ නැද්දැයි කිය. ඇරත් මම රාජාභි
ෂේක වන තුමුත් අදම බෙලහීන වෙ
මි සෙරුවයිගේ පුත්‍ර වන මේ මනුෂ්‍ය
යෝ මට ඉතා වෙහෙසති. යෙහෝවඃ
වහන්සේ නපුරට තමාගේ නපුරුකම
ලෙස විපාක දෙනසේකැයි කියේය.

4. පරිච්ඡේ. තවද අබ්නෙර් හෙබ්‍රොන්
හිදී මරුනු බව සාවුල්ගේ පුත්‍රයා ඇසූ
විට තමන් අත් සවි මදිවිය. සියළු ඊශ්‍රා
2 යෙල්වරුද කලබගෑනි වූනෝය. සා
වුල්ගේ පුත්‍රයාට සේනාවේ මූලාදෑනිවූ
මිනිසුන් දෙදෙනෙක් විය. එකෙකුගේ
නම බානාය අනිකාගේ නම රෙකබ්ය.
ඔවුන් බෙන්යමින්ගේ පුත්‍ර වන බිරෙත්
හි රිම්මොන්ගේ පුත්‍රයෝය. මක්නිසාද
බිරෙත්වරු බෙන්යමින් ගනනට ගි
3 යෝය. බිරෙත්වරුද ගිත්තයිමට පලා
4 ගොස් අද දක්වා එහි පදිංචිවෙති. සාවුල්
ගේ පුත් යෝනාතන්ට කකුල් කොර පු
තෙක් විය. යෙස්‍රිල් සිට සාවුල්ද යෝනා
තන්ද ගැන ආරංචිය ලැබුනු කල ඔහුට
අවුරුදු පහක් වයසය. ඔහුගේ කිරි මව්
ද ඔහු අරගෙන දිව්වාය. ඈ ඉක්මනින්
පලායන අතර ඔහු වැටී කොරවූනේය.
5 ඔහුගේ නමද මෙපිබොෂෙත්ය. තවද
බිරෙත්හි රිම්මොන්ගේ පුත් රෙකබ්ද
බානාද ගොස් දවල් ඇඳක සැතපෙන
ඉස්බොසෙත්ගේ ගෙට ඉරමුදුන් වේ
6 ලෙහි ආවෝය. ඔවුහු ගෝධුම ගෙනය
න ලෙස ගෙට ඇතුල්ව ඔහුගේ පස්වෙ
නි ඉල ඇටය යටට ගැසුවෝය. රෙකබ්
ද තමන් සහෝදරවූ බානාද ගැලවූ
7 නෝය. මක්නිසාද ඔවුන් ගෙට ඇතුල්
වුනු විට ඔහු සැතපෙන සාලාවේ තමන්
ඇඳ පිට නිදාගෙනත්ය. ඔවුහු ඔහුට ග
සා මරා ඉස කපා අරගෙන මුළු රෑ සම
8 බිම්න් ගියෝය. ඔවුන් ඉස්බො
ගේ හිස හෙබ්‍රොන්හි දාවිත් ළඟට
නගොස් ඔබ මරන්ට උත්සාහකලාවූ
බගේ සතුරුවූ සාවුල්ගේ පුත් ඉස්බො
සෙත්ගේ හිස බැළුවමැනව ඔබගේ
තුරුවූ සාවුල්ගෙනුත් ඔහුගේ වංශ
නුත් අද මාගේ ස්වාමිවූ රජ්ජුරුවන් උ
සා යෙහෝවඃවහන්සේ පලිගත්සේ
9 යි රජුට කීවෝය. දාවිත්ද බිරෙත්
රිම්මොන්ගේ පුත් රෙකබ්ටද ඔහුගේ
සහෝදරවූ බානාටද උත්තර දෙමින් සි
යළු ආපත්තියෙන් මාගේ ප්‍රාණය ගළ
ගත් යෙහෝවඃවහන්සේ ජීවත්වනසේ
10 නම එකෙක් මට යහපත් ආරංචි
දුන්නුවේයයි සිතා සාවුල් මැරුණේ
කීවිට ඔහුගේ ආරංචිවලට තෑග්
මාගෙන් ලබන්ට සිතූ ඔහු අල්ලා සි
11 ලග්හිදී මැරීමි. නපුරු මිනිසුන් යහප
කෙනෙක් තමන් ගෙයි ඇඳ පිට වැරු
වාට කොපමන වැඩි නැද්ද? ඒ නිසා
මම දැන් තුබලාගේ අතින් ඔහුගේ ලේ
අයකර තුබලා පොලවෙන් මරා නොද
12 මම්දැයි කිය. දාවිත්ගෙන් අන ලැබූ තරු
ණ මිනිස්සු ඔවුන් මරා අත් පා කපා හෙ
බ්‍රොන්හි පොකුන ඉහලින් එල්ලා දැම්
මෝය. එහෙත් ඔවුන් ඉස්බොසෙත්ගේ
ඉස අරගන හෙබ්‍රොන්හි අබ්නෙර්ගේ
සොහොන් ගෙයි තැන්පත්කලෝය.

5. පරිච්ඡේ. එවිට සියළු ඊශ්‍රායෙල්
ගෝත්‍රයෝ හෙබ්‍රොන්හි දාවිත් ළඟ
ඇවිත් ඔහුට කථාකොට අපි ඔබගේ
2 වද මාංශයද වෙමුව. පසුගිය කාල
වුල් අපට රජවූ කල ඊශ්‍රායෙල් පිටතට
ඇතුලටත් ගෙනාවේ ඔබමය. යෙ
වඃවහන්සේද තුබ මාගේ ඊශ්‍රායෙල්
නිසුන් පෝෂ්‍යකරමින් ඊශ්‍රායෙල්
ලාදෑනියෙක් වනෙන්යයි ඔබට කී
3 කැයි කීවෝය. මෙලෙස සියළු ඊ
යෙල් නායකයෝ හෙබ්‍රොන්හි රජ්ජු
වන් ළඟට ආවෝය. දාවිත් රජද
බ්‍රොන්හි යෙහෝවඃවහන්සේ ඉදිරි
හි ගිවිසුමක් ඔවුන් සමග කෙලේ
ශ්‍රායෙල් කෙරෙහි රජවෙන්ට ඔවුන්
4 විත් අභිෂේක කලෝය. දාවිත් රජ
කරනතට පටන්ගත්තකොට තිස්
රුද්දක් වයස් විය. ඔහුද සතලිස්
5 රුද්දක් රාජ්‍යය කෙලේය. ඔහු
හෙබ්‍රොන්හි සත් අවුරුදු හමාසක්

6 කම් කලේය. යෙරුසලම්හිද සියළු ඊශ්‍රා
යෙල්ටත් යූදාටත් තිස්තුන් අවුරුද්දක්
රජකම් කලේය. ඇරත් රජද තමන් මි
නිස්සුද යෙරුසලම්හි වැසි ජෙබුසිවරුන්
ළඟට ගියෝය. ඔවුන් දාවිත්ට එහි ඇ
තුල්වෙන්ට බැරියයි සිතා නුඹ අන්ධය
න්ත් කොරුන්ත් අහක් නොකරතොත්
මෙහි ඇතුල් නොවෙනෙන්යයි දාවිත්ට
7 කීවෝය. නුමුත් සියොන්හි බලකොටු
ව දාවිත් අල්ලාගත්තේය. ඒ කොටුවනම්
8 දාවිත්ගේ නුවරය. දාවිත්ද එදා උමගින්
ගොස් ජෙබුසිවරුන්ටත් දාවිත්ගේ සිත
ට අප්‍රියවූ කොරුන්ටත් අන්ධයන්ටත්
පහර දෙනහා පලමු මූලාදෑනියා වනෙන්
යයි කීය. මක්නිසාද ඔවුන් අන්ධයෝද
කොරුද ගෙට ඇතුල් නොවෙතියි කී
9 වෝය. දාවිත්ද කොටුවෙහි පදිංචිව දාවිත්
ගේ නුවරයයි ඊට නම් තැබීය. දාවිත්ද
මිලෝ පටන් ඇතුලතින් වටේට ගො
10 ඩ නැගෙව්වේය. දාවිත්ද වැඩිදියුණුවූ
යේය. සේනාවන්ගේ දෙවිවූ යෙහෝ
11 වාවහන්සේද ඔහු සමග සිටිසේක. ත
වද තීර්හි රජවූ හිරම් පණිවිඩකාරයන්ද
කිහිරි ලීද වඩුවන්ද ගල් වඩුවන්ද දාවිත්
ළඟට යැවීය. ඔවුන්ද දාවිත්ට ගෙයක් සෑ
12 දුවෝය. දාවිත්ද ඊශ්‍රායෙල්හි රජෙක්
කොට යෙහෝවාවහන්සේ ඔහු පිහිටු
වා තමන් ඊශ්‍රායෙල් මිනිසුන් නිසා ඔහු
ගේ රාජ්‍යය උසස්කල බව දැනගත්තේ
13 ය. දාවිත් හෙබ්‍රොන්හි සිට ආ පසු යෙ
රුසලම් සිට තවත් භාර්යාවන් සහ උප
භාර්යාවන්ද ගත්තේය. තවත් දූදරුවෝ
14 ද ඔහුට උපන්නෝය. යෙරුසලම්හිදී
15 ඔහුට උපන්නන්ගේ නම් මේය. සම්මු
16 වාය ශෝබබ්ය නාතාන්ය සාලමොන්ය
ඉබ්හර්ය එලිෂුවාය නෙෆෙග්ය ජපියාය
එලිෂාමාය එලියාදය එලිපෙලෙත්ය.

17 එහෙත් ඊශ්‍රායෙල් කෙරෙහි දාවිත් ර
ජකොට අභිෂේකවූ බව පිලිස්තියෝ අ
සා දාවිත් සොයන්ට ආවෝය. දාවිත්ද
18 ඒ අසා ආරක්ෂා තැනට බැස්සේය. පිලි
ස්තියෝද ඇවිත් රෙපායිම් මිටියාවතේ
19 පැතිර සිටියෝය. දාවිත්ද පිලිස්තියන්
ළඟට මම යනෙනම්ද? ඔබවහන්සේ ඔ
වුන් මාගේ අතට පාවාදෙනසේක්දැයි
යෙහෝවාවහන්සේගෙන් ඇසීය. යෙ
හෝවාවහන්සේද යව අනුමාන නැතුව
පිලිස්තියන් හා අතට පාවාදෙමියි දාවිත්
20 ට කීසේක. දාවිත්ද බාල්පෙරසිම්ට ඇ
විත් එහිදීම ඔවුන්ට පහරදී යෙහෝවා
වහන්සේ සැඩ වතුර පාරක් මෙන් මා
ඉදිරියෙහි මාගේ සතුරන් බින්දසේකැයි
කීය. ඒ නිසා ඒ තැනට බාල්පෙරසිම්
21 නම් තැබීය. ඔවුන්ද තමන්ගේ රූපවල්
එහි අත්ඇරියෝය. දාවිත්ද තමන් මි
22 නිස්සුද ඒවා පිලිස්සුවෝය. පිලිස්තියෝ
ද තව වරක් ඇවිත් රෙපායිම් මිටියාව
23 තේ පැතිර ගියෝය. දාවිත්ද යෙහෝ
වාවහන්සේගෙන් ඇසූ කල උන්වහන්
සේ නොයව ඔවුන්ට පස්සෙන් වටකො
ට ඇඹිලල ගස් ළඟදී ඔවුන්ට ලංවෙව.
24 ඇඹිලල ගස් අග සෙලෙන ශබ්දයක්
ඇසුනු කල ඉක්මන් වෙව යෙහෝවාව
හන්සේ පිලිස්තියන්ගේ සේනාවට පහ
ර දෙනනට හා ඉදිරිපිට පිටතට යනසේ
25 කැයි කීසේක. දාවිත්ද යෙහෝවාවහන්
සේ අනකල ලෙස කෙලේය. ඔහු ගේ
බා පටන් ගාසර් දක්වා පිලිස්තියන්ට ප
හර දුනේය.

6. පරිච්ඡේ. තවද දාවිත් සියළු ඊශ්‍රා
යෙල්ගෙන් තෝරාගත් තිස් දහසක් මි
2 නිසුන් රැස්කලේය. ඔහුද ඔහු සමග සි
ටි සියළු මිනිසුන්ද කෙරුබිම් අතරේ වස
න සේනාවන්ගේ යෙහෝවා නම් ලත්
දෙවියන්වහන්සේගේ ගිවිසුම් පෙට්ටිය
ගෙනෙනනට යූදාහි බාලේ සිට පිටත්වූ
3 නෝය. ඔවුන්ද දෙවියන්වහන්සේගේ ගි
විසුම් පෙට්ටිය අළුත් ගැලක් පිට තබා
ගිබියාහි අබිනාදබ්ගේ ගෙයින් ගෙනා
වෝය. අබිනාදබ්ගේ පුත් උස්සාද අහි
4 යෝද ඒ අළුත් ගැල දක්කුවෝය. ඔවු
න් දෙවියන්වහන්සේගේ ගිවිසුම් පෙට්ටි
ය ගිබියාහි අබිනාදබ්ගේ ගෙයින් ගෙ
න ඒ සමග ගියෝය. අහියෝද ගිවිසුම්
5 පෙට්ටිය ඉදිරිපිට ගියේය. දාවිත්ද ඊශ්‍රා
යෙල් සියළු වංශයද වීනාවලින්ද කුඩා වී
නාවලින්ද එකැස් බෙරවලින්ද නලාවලි
න්ද අතතාලින්ද ලීවලින් සෑදූ තූර්යවලින්ද
යෙහෝවාවහන්සේ ඉදිරියෙහි ගායනා
6 කලෝය. ඔවුන්ද නාකොන්ගේ පාවරට
ආවාම දෙවියන්වහන්සේගේ ගිවිසුම්
පෙට්ටිය හරක් සෙල්ළු නිසා උස්සා ඊට
7 තමන් අත දිගුකොට ඇල්ලීය. යෙහෝ
වාවහන්සේගේ උදහසද උස්සාට විරු
ඩව ඇවිළුනේය. දෙවියන්වහන්සේ ඔහු
ගේ වරද නිසා එහිදී ඔහුට පහර දුන්
සේක. ඔහුද දෙවියන්වහන්සේගේ ගිවි

8 සුම් පෙට්ටිය ළඟම මලේය. යෙහෝ
වාවහන්සේ උස්සාට පහරදුන් හෙයින්
දාවිත් නොසතුටුව ඒ තැනට පෙරෙස්
උස්සා නම් තැබීය. ඒ නම අද දක්වා
9 පවතිනේය. එදා දාවිත්ද යෙහෝවා
වහන්සේට භයව යෙහෝවාවහන්සේ
ගේ ගිවිසුම් පෙට්ටිය මා ළඟට පැමිණෙ
10 නේ කොහොමදැයි කීය. ඒ නිසා දා
විත් යෙහෝවාවහන්සේගේ ගිවිසුම්
පෙට්ටිය දාවිත්ගේ නුවර තමන් වෙත
ට ගෙනෙන්ට අකමැතිව ඕබැඩිඩොම්
11 ගිත්තියාගේ ගෙට ගෙන ගියේය. යෙ
හෝවාවහන්සේගේ ගිවිසුම් පෙට්ටියද
ඕබැඩිඩොම් ගිත්තියාගේ ගෙයි තුන්
මාසයක් තිබුණේය. යෙහෝවාවහන්
සේද ඕබැඩිඩොම්ටත් ඔහුගේ සියළු ප
වුලටත් ආශීර්වාද කලසේක.

12 තවද දෙවියන්වහන්සේගේ ගිවිසුම්
පෙට්ටිය නිසා යෙහෝවාවහන්සේ ඕ
බැඩිඩොම්ටත් ඔහුට අයිති සියල්ලටත්
ආශීර්වාද කලසේකැයි දාවිත් රජුට අරංචි
විය. ඒ නිසා දාවිත් ඕබැඩිඩොම්ගේ
ගෙයින් දාවිත්ගේ නුවරට දෙවියන්ව
හන්සේගේ ගිවිසුම් පෙට්ටිය සතුටින්
13 ගෙනාවේය. යෙහෝවාවහන්සේගේ
ගිවිසුම් පෙට්ටිය උසුලන්නන් අඩි හයක්
තිබූ කල දාවිත් හරකුන් තර සිව්පාවුන්
14 පූජාකලේය. ඔහු කපු නූලෙන් සෑදූ ඒ
ඵොදක් පෙරවාගෙන යෙහෝවාවහන්
සේ ඉදිරියෙහි මුළු ශක්තියෙන් නැටූ
15 යේය. එසේ දාවිත්ද සියළු ඊශ්‍රායෙල් ව
ශයද ඔල්වර ශබ්දයෙන්ද හොරනෑ
ශබ්දයෙනුද යෙහෝවාවහන්සේගේ ගි
16 විසුම් පෙට්ටිය ගෙනාවෝය. යෙහෝ
වාවහන්සේගේ ගිවිසුම් පෙට්ටිය දාවිත්
ගේ නුවරට ගෙනෙද්දී සාවුල්ගේ දූවූ
මීකල් කවුළුවෙන් බලා යෙහෝවාව
හන්සේගේ ඉදිරියෙහි දාවිත් රජු පනි
නවාත් නටනවාත් දැක ඇගේ සිතින්
17 ඔහුට නින්දාකලාය. ඔවුහු යෙහෝවාව
හන්සේගේ ගිවිසුම් පෙට්ටිය ඇතුලට
ගෙනවුත් නියම ඉඩම ඒනම් දාවිත් ඊට
නැගූ මඩපය මැද තැබුවෝය. දාවිත්ද
යෙහෝවාවහන්සේ ඉදිරිපිට දවන පූජ
18 වල්ද ශාන්ති පූජවල්ද පිදුයේය. දාවිත්
ද දවන පූජවල්ද ශාන්ති පූජවල්ද පූ
ජකොට නිමවූ කෙනෙහිම සේනාවන්
ගේ යෙහෝවාවහන්සේගේ නාමින් මි
19 නිසුන්ට ආශීර්වාද කොලේය. ඔහුද සියළු
මිනිසුන්ට ඒනම් ඊශ්‍රායෙල් සියළු සමූ
හයේ ස්ත්‍රී පුරුෂයන්ට රොටියකුත් මස්
කැල්ලකුත් මිදිරස තැටියකුත් බැගින්
එක එකාට දුනේය. පසුව සියළු මි
නිස්සු තමතමන්ගේ ගේවලට ගියෝ
20 ය. එවිට දාවිත් තමාගේ ගෙයි වැසියන්
ට ආශීර්වාද කරන්ට හැරී ගියේය. සා
වුල්ගේ දූවූ මීකල්ද දාවිත්ගේ පෙරමග
ට අවුත් ලැජ්ජා නැති ලෙස නිචයෙක්
තමන්ම ඇඳුම් පහකරනනාක්මෙන් ත
මන් දාස දාසීන්ගේ ඉදිරිපිට තමන් ඇ
ඳුම් පහකල ඊශ්‍රායෙල්හි රජු අද කො
21 හොම ලක්ෂණව පෙනේදැයි කීවාය. දා
විත්ද නුඹේ පියාටත් ඔහුගේ වංශයටත්
වඩා යෙහෝවාවහන්සේගේ මිනිසුන්
වන සියළු ඊශ්‍රායෙල්ට ආඩුකරනෙනක්
කොට මා නියමකල යෙහෝවාවහන්
සේගේ ඉදිරියෙහි ඒ සිදුවූනේය. ඒ නි
සා මම යෙහෝවාවහන්සේ ඉදිරියෙහි
22 සෙල්ලම් කෙරෙමි. ඊට වඩා නිචව මා
ගේම ඇස් ඉදිරිපිට නිචව සිටිනෙමි.
නුඹ කී දාසීන්ගෙන් ගෞරව ලබමියි
23 මීකල්ට කීය. ඒ නිසා සාවුල්ගේ දූවූ මී
කල් තමාගේ මරණය දක්වා දරුවෙක්
නොලැබුවාය.

7. පරිච්ඡේ. තවද රජුගේ සියළු සතු
රන්ගෙන් යෙහෝවාවහන්සේ නිවාඩු
2 දුන්සේක. එකල රජ්ජුරුවෝ තමන්
ගෙදර සිට අනාගතවක්තෘවූ නාතන්ට
කථාකොට කිහිරි ලීවලින් සෑදූ ගෙය
ක වසමි එහෙත් දෙවියන්වහන්සේගේ
ගිවිසුම් පෙට්ටිය තිර ඇතුලේ තිබෙන්
3 නේයයි කීය. එවිට නාතන් යෙහෝවා
වහන්සේ ඔබ සමග නිසා ඔබගේ සි
තේ තිබෙන සියල්ල කලමැනවයි රජුට
4 කීය. එදා රෑ යෙහෝවාවහන්සේගේ ව
5 චන නාතන්ට පැමිණ කියනුයේ මාගේ
මෙහෙකරුවූ දාවිත් වෙතට ගොස් යෙ
හෝවාවහන්සේ මෙසේ කියනසේකැ
යි කියව තෝ මාගේ වාසය පිණිස ගෙ
6 යක් සාදන්නෙහිද? ඊශ්‍රායෙල් පුත්‍රයන්
මිසර දේසයෙන් ගෙනා දවස පටන් අ
ද දක්වා කිසි ගෙයක නොවැස කූඩාරම
7 කද මඩපයකද වැසිමි. සියළු ඊශ්‍රායෙල්
පුත්‍රයන් සමග ඇවිද්ද සෑම තැනකල මා
ගේ ඊශ්‍රායෙල් මිනිසුන් පෝෂ්‍ය කරන්
ට මම අනකල ඊශ්‍රායෙල් ගෝත්‍රවලින්
යමෙකුට මට කිහිරිවලින් ගෙයක්

නොසාදන්නේ මන්දැයි කියන වචන
8 යක් කීයෙම්ද? දැනට සේනාවන්ගේ
යෙහෝවාවහන්සේ මාගේ ඊශ්‍රායෙල්
මිනිසුන්ට මූලාදැනියෙක් වෙන්නාට බැ
ටළුවන් රකිද්දී හා බැටළු ගාලෙන් ග
9 තිමි. තා ගිය සෑම තැනම මම තා සමග
සිට තාගේ සතුරන් තා ඉදිරිපිටින් නැ
තිකොට පොලවේ ශ්‍රේෂ්ඨවූවන්ගේ නා
10 මය ලෙස තට මහත් නමක් තැබීමි. මා
ගේ මිනිසුන් ඊශ්‍රායෙල්ට ඉඩමක් නියම
කරමි ඔවුහු තමන්ගේම ඉඩමේ සිට ම
තු නොසෙල්ලෙන ලෙස මම ඔවුන් පි
11 හිටුවමි. තවද ඉස්සර මාගේ මිනිසුන් ව
න ඊශ්‍රායෙල්ට විනිශ්චයකාරයන් පත්
කල තැන් පටන් දුෂ්ට මනුෂ්‍යයන් ඔ
වුන්ට පීඩාකල ලෙස තවත් ඔවුන්ට පී
ඩා නොකරන්නෝය. තාගේ සියළු සතු
රන්ගෙන් තට නිවාඩු දුනිමි ඇරත් යෙ
හෝවාවහන්සේ තට ගෙයක් සාදන බ
12 ව උන්වහන්සේ කියනසේක. තවද තා
ගේ දවස් සම්පූර්ණවී තාගේ පියවරුන්
සමග තා නිදාගන්නාවිට තාගෙන් පැව
ත එන්නා තට පසු මම පිහිටුවා ඔහුගේ
13 රාජ්‍යය ස්ථිර කරන්නෙමි. ඔහුද මාගේ
නාමය උදෙසා ගෙයක් සාදන්නේය. ඔ
හුගේ රාජ්‍යයෙහි සිංහාසනයද සදාකල්
14 ම පිහිටුවන්නෙමි. මම ඔහුගේ පියා වෙ
මි ඔහු මාගේ පුත්‍රයා වන්නේය. ඔහු ව
රද කලොත් මිනිසුන්ගේ ව්‍යවහාරය
ලෙස වේවැලෙන්ද මනුෂ්‍ය පුත්‍රයන්ගේ
ව්‍යවහාරය ලෙස පහරවලින්ද ඔහුට අව
15 වූකරන්නෙමි. නුමුත් තට ඉස්සරින් අ
හක්කල සාවුල්ගෙන් මාගේ කරුණාව
අත්ඇරිය ලෙස ඔහුගෙන් ඒක අත්අරි
16 න්නේ නැත. තාගේ වශයද රාජ්‍යයද
තාගේ ඉදිරිපිට සදාකාලයෙහි පිහිටන්
17 නේය. තාගේ සිංහාසනයද සදාකාල
යෙහි පිහිටන්නේයයි කියනසේකැයි කි
ය. නාතන් මේ සියළු වචනද දැක්මද
ලෙස දාවිත්ට කීය.

18 එවිට දාවිත් රජ ඇතුල්ට ගොස් යෙ
හෝවාවහන්සේ ඉදිරියෙහි ඉඳ මාගේ
දෙවිවූ යෙහෝවාවහන්ස ඔබවහන්සේ
විසින් මේ වනතුරු රක්ෂාකරණලද්දවූ
19 මම කවුද? මාගේ වශය මොකද? දෙ
විවූ යෙහෝවාවහන්ස ඔබ ඉදිරියෙහි
මේක ස්වල්ප දෙයක මතු බොහෝ ක
ලකට ඔබගේ වැඩකාරයාගේ වශය ගැ
20 න කථාකලසේක. දෙවිවූ යෙහෝවාව
හන්ස මනුෂ්‍යයාගේ නියමය මෙහෙම
ද? දාවිත් ඔබවහන්සේට තවත් මක්කි
යන්නේද? දෙවිවූ යෙහෝවාවහන්ස
21 ඔබගේ වැඩකාරයා අඳුනනසේක. ඔබ
වහන්සේගේ වචනය නිසාත් ඔබවහන්
සේගේ හිත ලෙසත් ඔබවහන්සේගේ
වැඩකාරයාට මේවා දැනගන්නාට මේ සි
22 යළු මහත් දේවල් කලසේක. ඒ නිසා
දෙවිවූ යෙහෝවාවහන්ස ඔබවහන්සේ
මහත්වනසේක. අපේ කන්වලට ඇසුන
සියල්ල ලෙස ඔබවහන්සේ සමාන කිසි
වෙක් නැත. ඔබවහන්සේ හැර කිසි
23 දෙවි කෙනෙක් නැත්තේය. ඔබවහන්
සේගේ ඊශ්‍රායෙල් මිනිසුන් සමානවූ ලෝ
කේ කොයි ජම්මයක් සිටින්නේද? ඔබ
වහන්සේ මිසර දේසයෙන් මුදාගත් ඔබ
වහන්සේගේ මිනිසුන් ඉදිරියෙන් ජම්ම
වලින් ඔවුන්ගේ දේවතාවුන්නුත් එලවූ
සේක. තමන්වහන්සේගේ මිනිසුන් වෙ
න ලෙසට ඔවුන් ගලවා තමන්වහන්සේ
ට නම ප්‍රසිද්ධකරන්නාටද ඔවුන් නිසා ම
හත්වූ භයානකවූ දේ ඔවුන්ගේ රටේ
කරන්ටද දෙවියන්වහන්සේ වැඩියසේ
24 ක. ඔබවහන්සේගේ ඊශ්‍රායෙල් මිනිසුන්
ඔබවහන්සේට සදාකාලයෙහි වර්ගයක්
කරගත යෙහෝවාවහන්ස ඔබවහන්
සේ ඔවුන්ගේ දෙවියන්වහන්සේ වූසේ
25 ක. දැනුත් දෙවිවූ යෙහෝවාවහන්ස ඔ
බගේ වැඩකාරයාද ඔහුගේ වශයද ගැ
න ඔබවහන්සේ කී වචනය සදාකාලේ
ටම සවිකොට ඔබවහන්සේ කී ලෙස
26 කලමැනව. සේනාවන්ගේ යෙහෝවා
වහන්සේ ඊශ්‍රායෙල්හි දෙවියන්වහන්
සේයයි කියා ඔබවහන්සේගේ නාමයට
සදාකාලේටම ප්‍රශංසා වේවා. ඔබවහන්
සේගේ වැඩකාර දාවිත්ගේ වශයද ඔබ
27 ඉදිරියෙහි පිහිටාවා. මක්නිසාද ඊශ්‍රා
යෙල්ගේ දෙවිවූ සේනාවන්ගේ යෙ
හෝවාවහන්ස තට වශයක් උපදවමියි
ඔබගේ වැඩකාරයාට කී නිසා ඔබගේ
වැඩකාරයා ඔබට මේ යාඥාව කරන්ට
28 තමන් හිතට ගත්තේය. දැනුත් දෙවිවූ
යෙහෝවාවහන්ස ඔබ ඒ දෙවියන්වහන්
සේමය. ඔබගේ වචන සැබෑය. ඔබගේ
වැඩකාරයාට මේ යහපත්කම පොරෝ
29 න්දුවූසේක. ඒ නිසා ඔබගේ වැඩකාර
යාගේ වශය ඔබ ඉදිරියෙහි සදාකාලේ
ටම පවතින්නාට පුළුවන්වෙන ලෙස ආ
ශීර්වාද කරන්ට ඔබ කැමතිවනසේක්වා.

මක්නිසාද දෙවිවූ යෙහෝවාවහන්සේ ම
ඒක කීසේක. ඔබගේ ආශීර්වාදයෙන්
ඔබගේ වැඩකාරයාගේ වංශයට සදාකා
ලේට ආශීර්වාද වේවයි කීය.

8. පරිච්ඡෙ. මින්පසු දාවිත් පිලිස්ති
යන්ට ගසා පරදවා පිලිස්තියන් අතින්
2 මෙතෙග් අම්මා අල්වාගත්තේය. ඔහුද
මෝවබ්ට ගසා බිම හෙලා ලනුවකින්
මැන්නේය. ඒනම මරන්ට ලනු දෙක
කින්ද පනපිටින් රක්ෂාකරන්ට සම්පූර්ණ
ලනුවකින්ද මැන්නේය. මෝවබ්වරුද දා
3 විත්ට වාල්ව පඬුරු ගෙනාවෝය. තව
ද සොබාහි රෙහොබ්නම් රජ්ජුරුවන්
ගේ පුත් හදදේසර් ප්‍රාත්නම් ගංගාවේ
තමන්ගේ සීමාව නැවත ගන්නට ගියා
4 ම දාවිත් ඔහු පරදකොට රථ දහක්ද
අසරුවන් හත්සියයක්ද පාබල සෙනග
විසිදහක්ද ඔහුගෙන් අල්වාගෙන එක්
සියයක් රථ තබාගෙන ඉතුරුවා කඩා
5 දැමීය. දමස්කයෙහි සිරියවරුන් සොබා
හි රජවූ හදදේසර්ට උපකාර කරන්ට
ආකල දාවිත් සිරියවරුන්ගෙන් විසි දෙ
දහක් මිනිසුන් මරා සිරියවරුන්ගේ ද
6 මස්කුස් නුවර රැකවල් තැබීය. සිරියව
රුද දාවිත්ට වාල්ව පඬුරු ගෙනාවෝ
ය. දාවිත් ගියගිය තැනම යෙහෝවාව
7 හන්සේ ඔහු රක්ෂාකලසේක. දාවිත්ද හ
දදේසර්ගේ වැඩකාරයන්ගේ රත්‍රන් ප
ලිස් අරගෙන යෙරුසලමට ගෙනාවේය.
8 බෙතාද බෙරෝතයිද යන හදදේසර්
ගේ නුවරවලින් දාවිත් රජ බොහෝ පි
9 ත්තල ගත්තේය. දාවිත් හදදේසර්ගේ
සියළු සේනාව පැරදෙව් බව හාමත්හි
10 තොයි රජ අසා දාවිත් හදදේසර් සමග
සටන්කොට පැරදෙව් නිසා ඔහුට ආශී
ර්වාදයද ආචාරයද කරන්ට තමන් පුත්
යෝරම් දාවිත් රජු ලඟට යවීය. මක්නි
සාද හදදේසර් තොයි සමග යුඩ ඇතිව
සිටියේය. යෝරම්ද රන් රිදී භාජනද
11 පිත්තල භාජනද ගෙනාවේය. දාවිත් ර
12 ජද ජයගත් සියළු වංශවලින් ඒනම සි
රියයෙන්ද මෝවබ්ගෙන්ද අම්මොන් පුත්‍ර
යන්ගෙන්ද පිලිස්තිවරුන්ගෙන්ද අම
ලෙක්ගෙන්ද සෝබාහි රජවූ රෙහොබ්
ගේ පුත් හදදේසර්ගේ කොල්ලයෙන්ද
ගෙන කැපකල රන්රිදී සමග ඒවා යෙ
13 හෝවාවහන්සේට කැපකෙලේය. දා
විත් ළුණු බිම සිරියවරුන්ගෙන් දසඅට
දහක් පරදවා ආකල ඔහුගේ නම ප්‍රසිඩ
14 විය. ඔහුද ඒදෙම්හි කොටු බැන්දේය
ඒදෙම්හි සියළු තැනම කොටු බැන්දේ
ය. සියළු ඒදෙම්වරුද දාවිත්ට වාල්වූ
නෝය. යෙහෝවාවහන්සේ දාවිත් ගිය
15 සැම තැන රක්ෂාකලසේක. දාවිත්ද සිය
ළු ඊශ්‍රායෙල් කෙරෙහි දැහැමෙන් සෙ
16 මෙන් රජකම් කෙලේය. සෙරුවාගේ
පුත් යෝවබ් සේනාපතියාය අහිළුද්ගේ
17 පුත් යෙහොසාපත් ලේකම විය. අහි
තුබ්ගේ පුත් සාදෝක්ද අබියාතර්ගේ
පුත් අහිමෙලෙක්ද පූජකයෝය. සෙරි
18 යාද ලියන්නාය. යෙහොයාදාගේ පුත්
බෙනායා කෙරෙතිවරුන්ටත් පෙලෙත්
වරුන්ටත් මූලාදානියාය. දාවිත්ගේ පුත්‍ර
යෝද ප්‍රධාන මූලාදානියෝය.

9. පරිච්ඡෙ. තවද දාවිත් යෝනාතන්
නිසා මාගෙන් කරුණාව ලබන පිනිස
සාවුල්ගේ වංශයෙන් කිසි කෙනෙක් ඉ
2 තුරුව සිටිනෙන්දැයි කීය. තවද සාවුල්
ගේ ගෙදරින් සිබානම් වැඩකාරයෙක්
සිටියේය. ඔවුන් ඔහු දාවිත් ලඟට ගෙ
නා කල නුඹ සිබාදැයි රජ්ජුරුවෝ ඔහු
3 ගෙන් ඇසීය. ඔහුද එසේයයි කීය. රජ
ද මා විසින් දෙවියන්වහන්සේගේ යහ
පත්කම පෙන්වන්ට සාවුල්ගේ වංශයෙන්
කවුරුවත් සිටිනවාදැයි ඇසීය. සිබාද
කකුල් කොර පුත්‍රයෙක් යෝනාතන්ට
4 සිටිනේයයි රජහට කීය. රජ්ජුරුවෝ
ද ඔහු කොතනදැයි ඇසීය. සිබාද ලෝ
දෙබර්හි අම්මියල්ගේ පුත් මාකිර්ගේ
5 ගෙදර සිටිනේයයි රජහට කීය. එවිට
දාවිත් රජ මිනිසුන් යවා ලෝදෙබර්හි
අම්මියෙල්ගේ පුත් මාකිර්ගේ ගෙයි සි
6 ට ඔහු ගෙන්විය. සාවුල්ගේ පුත් යෝ
නාතන්ගේ පුත් මෙපිබෝසෙත් දාවිත්
ඉදිරිපිටට ඇවිත් මුනින් වැටී වැන්දේ
ය. දාවිත්ද මෙපිබෝසෙත්යයි කීය ඔහු
7 ද ඔබගේ දාසයා මෙහියයි කීය. දාවිත්ද
භයනොවෙන්න සැබෑවට නුඹේ පියවූ
යෝනාතන් නිසා නුඹට යහපත්කම්
කොට නුඹේ පියවූ සාවුල්ගේ සියළු
ගම්බිම් නුඹට දෙන්නෙමි. නුඹද මා
ගේ මේසයෙහි නිතර කෑම ලබන්නෙ
8 හියයි ඔහුට කීය. ඔහුද මල බල්ලෙක්
වැනිවූ ඔබගේ දාසවූ මා ඔබ සලකන්
9 නේ මන්දැයි කීය.එවිට රජ්ජුරුවෝ සා
වුල්ගේ වැඩකාරවූ සිබාට අඬගසා සා

වූල්ටත් තමන් වංශයටත් අයිති සියල්ල
10 තුඹේ ස්වාමීන්ගේ පුත්‍රයාට දුනිමි. එබැ
වින් තුඹද තුඹේ පුත්තුද වැඩකාරයෝ
ද ඔහු වෙනුවට ගොවිතැන් කොට තු
ඹේ ස්වාමීන්ගේ පුත්‍රයාට කනතට භෝ
ග ගෙනෙනෙනාය. තුමූත් තුඹේ ස්වා
මීන්ගේ පුත්‍රවූ මෙපිබෝශෙත් මාගේ
මේසයෙහි නිතරම කනෙන්නේයයි කීය.
සීබාටද පුත්තු පහළොසක්ද වැඩකාර
11 යෝ විස්සක්ද උනෝය. සීබාද මාගේ
ස්වාමිවූ රජ්ජුරුවෝ තමන් දාසයාට අන
කල සියල්ල ලෙස ඔබගේ දාසයා කරන්
නේයයි රජහට කීය. රජ්ජුරුවෝද මෙ
පිබෝශෙත් රජ පුත්‍රයෙක් මෙන් මා
12 ගේ මේසයෙහි කනෙන්නේයයි කීය. මෙපි
බෝශෙත්ටද මීකා නම් බාල පුත්‍රයෙක්
විය. සීබාගේ සියළු ගේ වැසියෝද මෙ
පිබෝශෙත්ට වැඩකාරයෝ වූනෝය.
13 මෙලෙස මෙපිබෝශෙත් යෙරුසලම්හි
විසීය මක්නිසාද ඔහු රජුගේ මේසයෙ
හි නිතර කෑවේය ඔහුගේ දෙපයද
කොරව තිබුණේය.

10. පරිච්ඡ. මින්පසු අම්මොන් පුත්‍ර
යන්ගේ රජ මැරුණේය. ඔහුගේ පුත්
හානූන් ඔහු හිලව්වට රජකම් කෙළේය.
2 එවිට දාවිත් හානූන්ගේ පියවූ නාහෂ් ම
ට කරුණාව පෙන්වූ ලෙස හානූන්ට ක
රුණාව පෙණවමියි කීය. දාවිත්ද ඔහුගේ
පියා ගැන සනසවන්ට තමන්ගේ මෙ
හෙකරුවන් යැවීය. දාවිත්ගේ මෙහෙ
කරුවෝද අම්මොන් පුත්‍රයන්ගේ රට
3 ට ආවෝය. අම්මොන් පුත්‍රයන්ගේ මූලා
දෑනි තමන් ස්වාමිවූ හානූන්ට කියනෙනා
දාවිත් ඔබ ලඟට සැනසිලිකාරයන් යව
මින් ඔබගේ පියානන්ට ගෞරව කරන්
නේයයි ඔබ සිතනෙනාසිද? දාවිත් නුව
ර සොයා ඔත්තු දැන විනාසකරන්ට ත
මන් මෙහෙකරුවන් ඔබ ලඟට එව්වා
4 නොවේදැයි කීවෝය. එබැවින් හානූන්
දාවිත්ගේ මෙහෙකරුවන් අරන් ඔවුන්
ගේ රැවුල දෙකෙන් පංගුවක් කපා
මුල් කලවා පටන් ඇඳුම් මැදින් කපාද
5 මා හැරියේය. ඒ බව දාවිත්ට දැන්වූ ක
ල ඔහු ඔවුන් පෙරමගට යැවීය මක්නි
සාද ඒ මිනිස්සු ඉතා ලැජ්ජ වූනෝය.
රජද තුඹලාගේ රැවුල් වැඩෙනකල්
යෙරිකෝහි නැවති ඉන්පසු හැරී එරෙ
6 ල්ලායයි කීය. තවද අම්මොන් පුත්‍රයෝ
දාවිත් ඉදිරිපිට තමන් පිළිකුල්වූ බව
දැක බෙත්රෙහොබ්හි සිරියයන්ගෙනුත්
සොබාහි සිරියයන්ගෙනුත් විසි දාහක්
පාබල සෙනගද මාකා නම් රජුගෙන් දා
හක්ද ඉෂ්ටොබ්ගෙන් දොළොස් දාහක්
7 මිනිසුන්ද කුලියට ගත්තෝය. දාවිත්ද ඒ
අසා යෝවාබ්ද සියළු යෝධ සේනාවද
8 යැවීය. අම්මොන් පුත්‍රයෝද පිටත්ව ඇ
විත් දොරටුවට ඇතුල්වෙන තැන යුද්ධ
යට සැදී සිටියෝය. සොබාගෙන්ද රෙ
හොබ්ගෙන්ද ඉෂ්ටොබ්ගෙන්ද මාකාගෙ
න්ද සිරියයෝ තනිව එළිමහනේ සිටි
9 යෝය. යෝවාබ්ද තමන් පෙර පසු යුද්ධ
ය බලවත්වූ බව දැක ඊශ්‍රායෙල්ගෙන්
සියළු දක්ෂ මිනිසුන් තෝරාගෙන සිරිය
10 යන්ට එදිරිව සැදී සිට අම්මොන් පුත්‍ර
යන්ට එදිරිව සැදී සිටිනනට ඉතිරි මිනි
සුන් සහෝදරවූ අබිෂයිට බාරදුනේත්
11 ය. ඔහුද සිරියයෝ මට වඩා බලවත්
නම් තුඹ මට පිහිට වෙයනන. අම්මොන්
පුත්‍රයෝ තුඹට වඩා බලවත්නම් මම ඇ
12 විත් තුඹට පිහිට වෙමි. අපේ මිනිසුන්
නිසාත් අපගේ දෙවියන්වහන්සේගේ
නුවරවල් නිසාත් භය නැතුව පුරුෂයන්
ලෙස සිටිමුව. යෙහෝවාවහන්සේද ත
මන්ට යහපත්ව පෙණෙන ලෙස කරණ
13 සේක්වයි කීය. යෝවාබ්ද ඔහු සමග සිටි
මිනිස්සුද සිරියයන්ට එදිරිව යුද්ධයට ළං
වූනෝය. සිරියයෝද ඔවුන් ඉදිරියෙන්
14 දිව්වෝය. අම්මොන් පුත්‍රයෝ සිරියයන්
ගේ සැඟවී යාම දැක අබිෂයි ඉදිරි
යෙන් දුව ගොස් නුවරට ඇතුල්වූනෝ
ය. යෝවාබ්ද අම්මොන් පුත්‍රයන්ගෙන්
හැරී යෙරුසලමට ආයේය.
15 සිරියයෝ ඊශ්‍රායෙල් ඉදිරිපිට පැරදුනු
16 බව දැක එක්කාසු වූනෝය. හදදේසර්
ද මිනිසුන් යවා ගඟ එගොඩ සිටි සිරිය
යන් පිටතට ගෙන්විය. ඔවුන්ද හෙළමට
ආවෝය. හදදේසර්ගේ සෙනගට මූලා
දෑනිවූ ශෝබා ඔවුන්ට ඉස්සරව ගියේය.
17 ඒ බව දාවිත්ට ආරංචිව සියළු ඊශ්‍රායෙල්
එක්කාසුකොට යොර්දානින් එගොඩ හෙ
ළමට පැමිණියේය. සිරියයෝද දාවිත්ට
18 එදිරිව සැදී ඔහු සමග යුද්ධකළෝය. සිරි
යයෝද ඊශ්‍රායෙල් ඉදිරියෙන් දිව ගි
යෝය. දාවිත්ද සිරියයන්ගෙන් සත්සිය
යක් රථරුවන්ද සතලිස් දාහක් අසරුව
න්ද මරා ඔවුන්ගේ සේනාධිපතිවූ ශෝ
බාටත් ගැසුවේය. ඔහුද එහිදී මළේය.

19 හදදෙසර්ට එකතුවූ සියළු රජ්ජුරුවරු ඊශ්‍රායෙල් ඉදිරියෙහි තමන් පැරදුනු බව දැක ඊශ්‍රායෙල් සමග ගිවිසගෙන බ වුන්ට වැඩ කලෝය. ඒ නිසා සිරියයෝ අම්මොන් පුත්‍රයන්ට තවත් උපකාර ක රන්ට භයවූහෝය.

11. පරිච්ඡේ. අවුරුද්ද පසුව රජුන් යුඬයට යන කාලේදී දාවිත් යෝවබ්ද ඔහු සමග තමන් වැඩකාරයන්ද සියළු ඊ ශ්‍රායෙල්ද යැවීය. ඔවුන් අම්මොන් පුත්‍ර යන් නසා රබ්බා වටකලෝය. එහෙත් දාවිත් යෙරුසලමේ නවම ප්‍රමාද වූහේ
2 ය. සවස් වේලේ දාවිත් යහනෙන් නැඟි සිට රජ ගෙයි පියස්ස පිට සක්මන්කර මින් ස්ත්‍රියෙක් නානවා දුටුවේය. ඒ ස්ත්‍රී
3 ද දැකිමට ඉතා ලක්‍ෂන ඇත්තිය. දාවිත්ද ස්ත්‍රිය ගැන පනිවිඩකාරයන් යවා ඇසූ විට මේ එලියම්ගේ දූවූ හිතිය උරියා ගේ භාර්‍යාවූ බෙත්සෙබායයි අරච්චිය.
4 දාවිත් පනිවිඩකාරයන් යවා ඈ ගෙනවා ගත්තේය. ඈද ඔහු ලඟට ආවාය. ඈද ඔසප්කමින් පිරිසිදු නිසා ඈ සමග සැත
5 පුනේය. ඈද ගෙදර ගියාය. ඒ ස්ත්‍රීද ග බිනිව මම ගබ්නිනිවෙමියි දාවිත්ට ද න්වා යැව්වාය.
6 දාවිත් හිතිය උරියා මා වෙතට එවා පනන කියා යෝවබ්ට පනිවිඩ යැවීය.
7 යෝවබ්ද දාවිත් ලඟට උරියා යැවීය. උ රියා ඔහු ලඟට ආකල දාවිත් යෝවබ් ගේද මිනිසුන්ගේද සනිපත් යුඬයෙහි වඩිනවිමත් නොහොමදැයි ඔහුගෙන්
8 ඇසිය. දාවිත්ද ගෙට ගොස් පාද සෝදපනන කියා උරියාට කිය. උරියා ද රජගෙයින් පිටත්ව ගියේය. රජ්ජුරු වන්ගෙන් කෑම තැටියක් ඔහුට යැවීය.
9 එහෙත් උරියා තමන් ගෙට නොගොස් තමන් ස්වාමින්ගේ සියළු වැඩකාරයන්
10 සමග රජවාසල නිදාගත්තේය. උරියා තමන් ගෙට නොගිය බව දාවිත්ට දැන් වූකල දාවිත් තුබ ගමන් ආවේ නැද්ද? තුබ ගෙදර නොගියේ මන්දැයි උරියා
11 ට කිය. උරියා ගිවිසුම් පෙට්ටියද ඊශ්‍රා යෙල්ද යූදාද කූඩාරම්වල සිටිති. මා ගේ මූලාදැනිවූ යෝවබ්ද මාගේ ස්වා මින්ගේ වැඩකාරයෝද එලිමහනේ අ ඩයම් බැඳගන සිටිනෝය. මම කා බී මාගේ ස්ත්‍රී සමග සැතපෙනනට මාගේ ගෙට යන්නෙමිද? තුබ ජීවත්වන්නේ නම් තුබගේ ප්‍රාණය පවතිනනේනම් ඒ
12 සේ නොකරම්යි කිය. දාවිත්ද අදත් මෙ හි සිටපනන හෙට පිටත්ව යන්ට තුබ හ රිම්යි උරියාට කියේය. උරියාද එදත් ප
13 සුවදත් යෙරුසලමෙහි සිටියේය. දාවිත් ඔ හුට අඬගසා කනනවත් බොන්නවත් දී වෙරිකෙලේය. ඔහු ගෙදර නොගොස් සවස තමන් ස්වාමින්ගේ වැඩකාරයන්
14 සමග ඇඳේ නිදාගත්තේය. තවද දාවිත් අළුයම යෝවබ්ට ලියුමක් ලියා ඒක උ
15 රියා අත යැවිය. උරියා තද සටන් තිබෙ න තැන සිටුවා ඔහු පහරකා නසින පි නිස ඔහු හැරපලායයි කියා ලිව්වේය.
16 යෝවබ් නුවර බලා භය නැති මිනිසුන් සිටින තැනකට උරියා නියම කෙලේය.
17 නුවර වැසියෝද පිටත්ව ගොස් යෝවබ් සමග සටන්කලෝය. එහි දාවිත්ගේ වැ ඩකාරයන්ගෙන් සමහරෙක්ද හිතිය උ
18 රියාද මැරුනෝය. එවිට යෝවබ් යුඬ ය ගැන සියළු කාරණ දාවිත්ට දනවන පිනිස පනිවිඩකාරයා යවමින් තුබ රජ්
19 ජුරුවන්ට යුඬයෙහි කාරණ කියා නිම
20 වූකල රජ්ජුරුවෝ තරහව තුබලා සටන් කල විට නුවරට ලංවුනේ මන්ද? ඔවුන් පව්රේ සිට විදින බව දන්නේ නැද්ද?
21 යෙරුබ්බෙසෙත්ගේ පුත් අබිමෙලෙක්ට පහර දුනෙන් කවුද? ස්ත්‍රියක් පව්රේ සි ට ඔහුට අඹරණ ගල් කෑල්ලක් දමා තෙ බෙස්හිදී ඔහු මැරූ බව නොදනිද්ද? තුබලා පව්ර ලඟට ගියේ මන්දැයි කියා තුබට කිව්වොත් එවිට තුබගේ මෙහෙ කරුවූ හිතිය උරියා මල බව කියාපන්
22 නැයි ඔහුට අනකෙලේය. පනිවිඩකාර යාද ගොස් යෝවබ් තමා අත කියා ඇ
23 රිය සියල්ලම දාවිත්ට දැන්නුයේය. ඔහු ද සැබෑවට මිනිස්සු අපට එදිරිව ජය ගෙන අප කර කෙතට ආවෝය. අපිත් දොර ඇතුල්වෙන තැන් දක්වා ඔවුන්ට
24 ලංවුනෙමුව. විදිනෙන්ද පව්රේ සිට ඔ බගේ මෙහෙකරුවන්ට විද්දෝය. රජ් ජුරුවන්ගේ වැඩකාරයන්ගෙන් සමහ රෙක් මලෝය. ඔබගේ මෙහෙකාරුවූ
25 හිතිය උරියාද මලේයයි කිය. එවිට දා විත් තුබ යෝවබ්ට මෙසේ කියාපනන තුබට මේ කාරණව ගැන දුක් නොසි තනන කඩුව එකෙක් නසන ලෙස අනි කත් නසන්නේය. තුබේ යුඬය නුවරට එදිරිව බලතරකොට ඒක විනාසකරප නන කියා ඔහුට වෙර උපදවාපනනැයි

26 පනිවිඩකාරයාට කීය. උරියාගේ භා
ය්‍යාව තමන් පුරුෂයාවූ උරියා මල බව
27 අසා ඔහු ගැන ශෝක වූනාය. ශෝක
සංහිඳුනු පසු දාවිත් තමන් ගෙට ඈ ගෙ
න්වාගත්තේය. ඈද ඔහුට භාය්‍යාව පු
තෙක් වැදුවාය. නුමුත් දාවිත් කල කා
රණාව යෙහෝවාවහන්සේ ඉදිරියෙහි
නපුරුව තිබුනේය.

12. පරිච්ජෙ. තවද යෙහෝවාවහන්
සේ දාවිත් වෙත නාතන් එවූසේක. නා
තන් ඔහු ළඟට ඇවිත් කියනුයේ නුවර
ක ධනවන්තයෙකුත් දිළිඳෙකුත් යන
2 මිනිස්සු දෙදෙනෙක් සිටියෝය. ධනවන්
තයාට බැටළු රැලවල්ද ගව රැලවල්ද
3 බොහෝය. දිළිඳා මිලේට ගෙන ඇති
කල කුඩා බැටළු වැස්සියක් හැර ඔහුට
කිසිවක් නොතිබුනේය. ඈ ඔහුත් ඔ
හුගේ දරුවනුත් සමග වැඩෙමින් ඔහු
කන කෑම කමින් බොන භාජනයෙන්
බොමින් ළයෙහි හෝමින් ඔහුගේ දු
4 වක් ලෙස සිටියාය. ධනවන්තයා ළඟට
මග යන්නෙක් ආයේය. ඔහුද ළඟට ආ
මග යනනාට කෑම සාදන්ට තමන් බැට
ළු රැලෙනවත් හරකුන්ගෙන්වත් ගන්ට
නොකමැතිව දිළින්දාගේ බැටළු වැස්
සි අරගෙන ඔහු ළඟට ආ මග යනනාට
5 සෑදුයේයයි කීය. දාවිත්ගේ ක්‍රෝධය ඒ
මිනිහාට එදිරිව ඇවිළුනේය. දාවිත්
ද යෙහෝවාවහන්සේ ජීවත්වනසේක්
නම් මේ දේ කල මිනිහා සත්තකටම ම
6 රණට පත්වනේය. ඔහු කරුණාවක්
නැතුව මේ දේ කල බැවින් ඒ බැටළු
වැස්සිට සතර ගුණයක් දෙනේයයි
නාතන්ට කීය. නාතන් ඒ මිනිහා ඔබ
7 යයි කීය. ඊශ්‍රායෙල්ගේ දෙවිවූ යෙහෝ
වාවහන්සේ මෙසේ කියනසේක. තා ඊ
ශ්‍රායෙල්හි රජකමට අභිෂේකකොට සා
වුල්ගේ අතින් තා ගලවා තාගේ ස්වා
මින්ගේ ගෙදරත් භාය්‍යාවනුත් තාගේ
8 ළයට දී ඊශ්‍රායෙල් සහ යූදා වංශය තට
දුනිමි. ඒ මදිනම් තවත් අසවල් අසවල්
9 දේ තට දෙමි. යෙහෝවාවහන්සේගේ
ආඥාවට නිඥාකොට උන්වහන්සේ ඉදිරි
පිට නපුරුකම් කෙලේ මන්ද? තෝ ක
ඩුවෙන් හිතීයවූ උරියා මරා ඔහුගේ භා
ය්‍යාව ගෙන අම්මොන් පුත්‍රයන්ගේ ක
10 ඩුවෙන් ඔහු මැරවීය. දැනුත් තෝ මට
නිඥාකොට හිතීයවූ උරියාගේ භාය්‍යාව
තට භාය්‍යාව කොට ගත්තේය. ඒ නිසා
කවදාවත් තාගේ වංශයෙන් කඩුව අහක්
11 නොවන්නේයයි කියේක. තවද යෙ
හෝවාවහන්සේ මෙසේ කියනසේක්
තාගේම ගෙයින් තට එදිරිව නපුර උප
දවමි තාගේ ඇස් ඉදිරිපිට තාගේ භා
ය්‍යාවන් අරගෙන තාගේ අසල්වාසියා
12 ට දෙමි. ඔහුද සූය්‍යයා ඉදිරියෙහි තාගේ
භාය්‍යාවන් කරා එළඹෙනේය. මක්නි
සාද තෝ ඒක රහසින් කෙලෙහිය එ
හෙත් සියළු ඊශ්‍රායෙල්ද සූය්‍යයාද ඉදිරියෙ
13 හි මේ දේ කරමියි කියේකැයි කීය. දා
විත්ද යෙහෝවාවහන්සේට එදිරිව පව්
කෙලෙමියි නාතන්ට කීය. නාතන් යෙ
හෝවාවහන්සේ නුඹේ පාපය පහකල
14 සේක නුඹ නොනසිනේය. නුමුත් නු
ඹ මේ දෙයින් යෙහෝවාවහන්සේගේ
සතුරන්ට නින්දාකරන්ට අවකාස දුන්
බැවින් නුඹ නිසා උපන් ළදරුවා සෑ
බැවට නසිනේයයි දාවිත්ට කීය.
15 එවිට නාතන් තමාගේ ගෙදරට ගි
යේය. යෙහෝවාවහන්සේද දාවිත් නි
සා උරියාගේ භාය්‍යාව වැදූ ළදරුවාට
පහරදුන්සේක. ඔහුද ඉතා ලෙඩ විය.
16 දාවිත්ද ළදරුවා ගැන දෙවියන්වහන්
සේට යාඥාද උපවාසද කොට ගෙට
17 ගොස් මුළු රෑ බිම හොත්තේය. තමන්
ගෙයි වැඩිමහල්ලෝ නැගිට ඔහු බිමින්
නැගුටුවන්ට ලංවූනෝය. ඔහු අකමැති
ව ඔවුන් සමග කෑම නොකෑවේය. සත්
18 වෙනි දා ළදරුවා නැසුනේය. දාවිත්ගේ
වැඩකාරයෝද ළදරුවා නැසුනු බව ඔ
හුට කියන්ට භයව ළදරුවා ජීවත්ව සි
ටින විට ඔහුට අප විසින් කථාකල නු
මුත් අපේ බස් අසන්ට නොකමැති විය.
දැන් ළදරුවා මල බව අපි ඔහුට කිවු
නම් තමන්ටම පීඩාකර නොගනේද
19 යි කීවෝය. එහෙත් දාවිත් තමන් වැඩ
කාරයන් කොඳුරණවා දැක ළදරුවා ම
ළ බව දැන ළදරුවා නැසුනේදැයි වැඩ
කාරයන්ගෙන් ඇසීය. ඔවුන් එසේයයි
20 කීවෝය. එවිට දාවිත් බිමින් නැගිට නා
විලවුන් ගාගෙන ඇඳුම් මාරුකොට
යෙහෝවාවහන්සේගේ ගෙ ඇතුලට
ඇවිත් වැඳ ගෙදර ගියේය. ඔහු ඉල්ළු
විට ඉදිරිපිට රොටි තැබුවෝය. ඔහුද
21 කෑයේය. එවිට වැඩකාරයෝ ඔබ මේ
කලේ මොකද? ළදරුවා ජීවත්ව සිටිය
විට ඔබ ඔහු ගැන නිරාහාරව හැඬුවේය.

ළදරුවා මැරුණම ඔබ නැගිට කෑවේ
22 යයි කිවෝය. ඔහුද ළදරුවා ජීවත්ව සි
ටිය විට මම නිරාහාරව සිට හැඬිම් මක්
නිසාද ළදරුවා ජීවත්ව සිටින්ට දෙවිය
න්වහන්සේ මට කරුණාකරණසේක්ද
නැද්දැයි කාට කියන්ට පුළුවන්දැයි කිම්.
23 එහෙත් දැන් ඔහු මැරුණම මම නිරාහා
රව ඉන්නේ මන්ද? ඔහු නැවත උපදවන්
ට මට පුළුවන්ද? ඔහු ළඟට මම යන්නෙ
මි ඔහු මා ළඟට නැවත නොඑන්නේය
24 යි කීය. දාවිත්ද තමන් භාර්යාවූ බැත්
සෙබා සනසා ඇ ළඟට ගොස් ඇ කර
එළඹුනේය. ඇද පුත්‍රයෙක් වැදුවාය.
දාවිත්ද ඔහුට සලමොන්යයි නම් තැබී
ය. යෙහෝවාවහන්සේද ඔහුට සෝභ
25 වූසේක. උන්වහන්සේ අනාගතවක්තෘවූ
නාතන් යවා ඔහු යෙහෝවාවහන්සේ
නිසා යෙදිදියායයි ඔහුට නම් තැබීය.

26 තවද යෝවාබ් අම්මොන් පුත්‍රයන්ට
අයිති රබ්බාට එදිරිව සටන්කොට රජ
නුවර අල්ලාගෙන දාවිත් වෙතට පනිවි
27 ඩකාරයන් යවා රබ්බාට එදිරිව මම ස
ටන්කොට වතුර ඇති නුවර අල්වාගති
28 මි. ඒ නුවර අල්ලාගෙන මාගේ නම
නොතබන්ට ඉතිරි මිනිසුන් රැස්කොට
නුවරට එදිරිව අඬයම් බැඳ ඒක අල්වා
29 ගනමැනවයි කීය. දාවිත්ද සියළු මිනි
සුන් රැස්කොට රබ්බාට ගොස් ඊට එදි
රිව සටන්කොට අල්වාගෙන ඔවුන්ගේ
30 රජුගේ හිසෙන් ඔටුන්න ගත්තේය. මැ
ණික් සහිත ඒක රත්‍රන් තලෙන්තයක
බරය. ඒක දාවිත්ගේ ඉස් මුදුනේ තැබු
31 වෝය. ඔහුද බොහෝ කොල්ලය, නුව
රින් ගෙනත් එහි සිටි මිනිසුන් පිටතට
ගෙන කියත් යකඩ පෝරු යකඩ පො
රෝ වැඩට ඔවුන් පත්කොට ගඩොල්
උදුනේ වැඩ සැලැස්වීය. ඔහු අම්මොන්
පුත්‍රයන්ගේ සියළු නුවරවලට මෙසේ
කෙලේය. එවිට දාවිත්ද සියළු මිනිස්සුද
නැවත යෙරුසලමට ගියෝය.

13. පරිච්ඡේ. තවද දාවිත්ගේ පුත්
අබ්සලෝම්ට තාමර්නම් රුවැති සහෝ
දරියක් ඇත්තේය දාවිත්ගේ පුත් අම්
2 නොන් ඇට ඇළුම්විය. අම්නොන් ත
මාගේ සහෝදරිවූ තාමර් කන්‍යාවක් නි
සා ඇ ගැන සෝකව ලෙඩවූනත් ඇර
ඇ කර එළඹෙන්නට අමාරු බව සිතී
3 ය. එහෙත් දාවිත්ගේ සහෝදර ශිමෙයා
ගේ පුත් යොනාදබ්නම් මිත්‍රයෙක් අම්
නොන්ට විය. යොනාදබ්ද ඉතා උපාමා
4 රුකාරයෙක. ඔහුද රජුගේ පුත්‍රවූ නුඹ
දවසින් දවස කෙට්ටුවෙන්නේ මන්ද?
මට කියන්නේ නැද්දැයි ඔහුට කීය. එවි
ට අම්නොන් මාගේ සහෝදර අබ්ස
ලොම්ගේ සහෝදරිවූ තාමර්ට ඇළුම්
5 ඇත්තෙමියි කීය. යොනාදබ්ද නුඹ ඇ
දේ වැතිර ලෙඩ අරගෙන නුඹේ පියා
නන් බලන්නට ආ කල මාගේ සහෝද
රිවූ තාමර් ඇවිත් මට කෑම දෙන්නටත්
මම බලා ඇ අතින් කන්නට මා ඉදිරිපි
ට කෑම සාදන්නටත් හරිණ ලෙස ඔබට
යාඥාවෙමියි ඔහුට කියාපන්නැයි කීය.
6 මෙසේ අම්නොන් වැතිර ලෙඩ ගත්තේ
ය. අම්නොන් තමා බලන්ට රජු ආ කල
මාගේ සහෝදරිවූ තාමර් අවුත් මා ඉදිරි
යෙහි කැවුම් දෙකක් උයන්නටත් ඇ
අතින් කන්නටත් හරිණ ලෙස ඔබට යා
7 ඥාවෙමියි රජුට කීයේය. එකල දාවිත්
නුඹේ සහෝදර අම්නොන්ගේ ගෙට
ගොස් ඔහුට කෑම සාදාපන්නැයි තාමර්
8 ට කියා යැවීය. එවිට තාමර් ඇගේ ස
හෝදර අම්නොන්ගේ ගෙට ගියාය. ඔ
9 හුද හාන්සිව සිටියේය. ඇ පිටි අනා ඔ
හු ඉදිරිපිට සාදා කැවුම් පිස ඇතිලියක්
ගෙන ඔහු ඉදිරිපිට තිබුවාය. එහෙත්
ඔහු කන්නට නොකමැතිවිය. සෑම දෙ
නාම මා ළඟින් අහක පලයල්ලායයි කී
ය. සියළු දෙනම ඔහු ළඟින් පිටත ගි
10 යෝය. අම්නොන් නුඹේ අතින් කන
පිණිස කැවුම් ගෙට ගෙනෙන්නැයි තා
11 මර්ට කීය. තාමර්ද සැදූ කැවුම් ඇගේ
සහෝදර අම්නොන්ගේ ගෙට ගෙන
ගොස් ඔහුට කන්ට දුන්විට ඔහු ඇ අල්
ලා මාගේ සහෝදරිය මා සමග සැතපී
12 යන්නැයි කීය. එවිට ඇ මාගේ අය්යන්
ඩියෙනි මට බලාත්කාර නොකරන්න
ඊශ්‍රායෙල්හි එබඳු දෙයක් කරන්ට හරි
13 නැත. මේ නපුරුකම නොකරන්න. මා
ගේ ලැජ්ජාව ඉවසන්නේ කොහොමද?
නුඹත් ඊශ්‍රායෙල්හි අඥානයෙක් වන්
නෙහිය. ඒ නිසා රජ මා නුඹෙන් නො
වළක්වනසේක. ඒ නිසා උන්වහන්සේට
කියන්නට යාඥාවෙමියි උත්තර දුන්නී
14 ය. නුමුත් ඔහු ඇගේ වචනය නාසා ඇ
ට වඩා බලවත් බැවින් ඇට බලාත්කා
රකොට ඇ සමග සැතපුනේය.

15 පසුව අම්නොන් ඇට ඉතා වෛර

වූනේය. ඇට කල ෛවරය තිබුන ප්‍රේ
මයට වඩා මහත්ය. නැගිට පලායනනැ
16 යි ඇට කීය. ඇද කමක් නැත මා හැරී
මේ නපුර නුබ මට කල දෙයට වඩා ම
හත්යයි ඔහුට කීවාය. නුමුත් ඔහු ඇහු
17 වේ නැත. එවිට තමාට මෙහෙකරණ
වැඩකාරයාට අඬගසා මා ලඟින් මැ පි
18 ටත දමා දොර අගුල් ලවයි කීය. ඇ
නොයෙක් පාට රෙද්දක් හැඳ සිටියාය.
මක්නිසාද කනතවූ රජ දූන් එබඳු ඇ
දුම් අඳිනෝය. එකල ඔහුගේ වැඩ
කාරයා ඇ පිටත ගෙන පසු දොර අගුල්
19 ලීය. තාමර්ද හිස අළු දමා ඇඳලා තිබූ
න නොයෙක් පාට රෙද්ද ඉරා ඉස අත්
20 තබා අඬඅඬා ගියාය. ඇගේ සහෝදර
වූ අබ්සලොම්ද නුබේ සහෝදර අම්
නොන් නුබ සමග සිටියාද? ඒ ගැන මා
ගේ සහෝදරිය කථානොකර හිඳිනන
ඔහු නුබේ සහෝදරයාය. මේ කාරණ
ව නොසලකනනැයි ඇට කීය. තාමර්ද
ඇගේ සහෝදර අබ්සලොම්ගේ ගෙයි
21 අප්‍රසිඬව සිටියාය. එහෙත් දාවිත් රජ
මේ සියළු දේ අසා බොහෝ තරහවිය.
22 අබ්සලොම්ද තමන් සහෝදරීවූ තාමර්
ට අම්නොන් බලාත්කාර කල බැවින්
තමාගේ සහෝදර අම්නොන්ට හොඳ
වත් නරකවත් නොකියා ඔහු කෙරෙහි
ෛවර බැන්දේය.

23 තවද දෑවුරුද්දක් ගිය පසු එප්‍රායිම්
අසල බාල්හෙසෝර්හි අබ්සලොම්ට බැ
ටළු ලොම් කපනනෝ සිටියෝය. අබ්ස
ලොම්ද සියළු රාජ පුත්‍රයන්ට අඬගැසී
24 ය. අබ්සලොම්ද රජු වෙතට ඇවිත් ඔ
බගේ මෙහෙකරුවාට එළු ලොම් කප
නනන් ඇතෙත්ය. රජුද තමන් වැඩකා
රයන් ඔබගේ මෙහෙකරුවා සමග ය
25 න ලෙස ඔබට යාඥාවෙමියි කීය. රජද
මාගේ පුත්‍රය එසේ නොවේවා නුබට
බරවෙන ලෙස අපි සියල්ලෝ නොයමු
යයි අබ්සලොම්ට කීය. ඔහුද ඔහුට ක
රදර කලේය. නුමුත් ඔහු යනනට නො
26 කමැතිව ඔහුට ආශීර්වාද කෙලේය. එක
ල අබ්සලොම් එහෙනම් මාගේ සහෝ
දර අම්නොන් අප සමග යනනට හරින
ලෙස යාඥාවෙමියි කීය. රජද ඔහු නුබ
27 එක්ක යනෙන් කුමටදැයි කීය. නුමුත්
අබ්සලොම් අම්නොන් අනික් සියළු රා
ජ පුත්‍රයන් ඔහු සමග යන්ට හරිණතල්
රජුට කරදර කෙලේය.

28 අබ්සලොම් තමාගේ වැඩකාරයන්ට
කථාකොට අම්නොන්ගේ හිත මිදි රස
යෙන් සතුටුව තිබෙන විට ඔහුට ගසා
මරාපල්ලායයි කියන විටක් බලාගනිල්
ලාය භයනොවී අම්නොන්ට ගසා මරා
පල්ලාය. මම නුබලාට අන නුදුනිම්ද?
වියසී වඩා භය නොවෙල්ලායයි අනකෙ
29 ලේය. අබ්සලොම්ගේ වැඩකාරයෝද
ආඥාව ලෙස අම්නොන්ට කලෝය. එ
විට සියළු රාජ පුත්‍රයෝ නැගිට තමත
මන්ගේ අසවතරයන් පිට නැගී පලාගි
30 යෝය. ඔවුන් පාරේ යනකොටම අබ්
සලොම් එකෙකුත් ඉතිරි නොකොට සි
යළු රාජ පුත්‍රයන් මැරුවේයයි දාවිත්ට
31 ආරංචිවිය. එවිට රජ නැගිට තමන් ඇ
දුම් ඉරා බිම වැතිරගතෙත්ය. ඔහුගේ
සියළු වැඩකාරයෝද තමන්ගේ ඇඳුම්
32 ඉරාගෙන ලඟ සිටියෝය. තවද දාවිත්
ගේ සහෝදර සිමියාගේ පුත් යොන
දබ් කථාකොට මාගේ ස්වාමිනි සියළු රා
ජ පුත්‍රයන් මරණලදැයි සිතනනට එපා
ය. අම්නොන් පමනක් මලේය. මක්
නිසාද ඔහුගේ සහෝදරිවූ තාමර්ට අම්
නොන් බලාත්කාර කල දා පටන් අබ්ස
ලොම් මේ කල්පනාව සිත්හි තබාගත්
33 තේය. ඒ නිසා මාගේ ස්වාමිවූ රජ්ජුරු
වෝ සියළු රාජ පුත්‍රයෝ මලෝයයි හි
තේ නොතබාවා. අම්නොන් විතරක්
34 මැරුනේයයි කීය. එහෙත් අබ්සලොම්
පලාගියේය. මුරකාරවූ යෞවනයාද ත
මාගේ ඇස් ඔසවා බැළුවාම ඔහුට පස්
සෙන් හෙල පැත්තෙන් පාරෙන් බො
35 හෝ මිනිසුන් එන බව දුටුවේය. යො
නදබ්ද රාජ පුත්‍රයන් එනවා බැළුව මැ
නව ඔබගේ මෙහෙකරුවා කී ලෙසම
36 වියයි රජුට කීය. ඔහු කථාව නිවාඩුක
ලවිටම රාජ පුත්‍රයෝ ඇවිත් ශබ්ද නගා
ඇඬුවෝය. රජද තමන් සියළු වැඩකාර
37 යෝද බොහෝකොට ඇඬුවෝය. අබ්
සලොම් ගෙශූර්හි රජවූ අම්මිහුද්ගේ
පුත් තල්මයි ලඟට පලාගියේය. දාවිත්ද
තමන් පුත්‍රයා ගැන සැමදම සෝකවිය.
38 මෙසේ අබ්සලොම් ගෙශූර්ට පලාගොස්
39 තුන් අවුරුද්දක් එහි සිටියේය. දාවිත්
රජද අම්නොන් මැරුනු පසු සැනසී
අබ්සලොම් ලඟට යනනට ඉතා කැමති
වූනේය.

14. පරිච්. තවද සේරුයාගේ පුත්

යොවබ් රජුගේ හිත අබ්සලොම් කෙ
රෙහි ඇළුම් ඇති බව දැනගත තෙ
2 කොවා නුවරට කෙනෙක් යවා නුවන
ඇති ස්ත්‍රියක් එතනින් ගෙන්වා නුඹ
සෝකව සිටිනනාක්මෙන් පෙනී සෝක
යට යුතු වස්ත්‍ර හැඳ තෙල් නොගා මල
වූන් නිසා බොහෝ කලක් සෝකව ඉ
3 න්නාක්මෙන් රජු ලඟට ඇවිත් ඔහුට
මෙසේ කියාපන්නෑයි කියා ඈට වචන
4 ඉගැන්වීය. තෙකෝවාහි ස්ත්‍රීද රජුට ක
ථාකරණවිට මූනින් බිම වැටී වැඳ අනේ
රජ්ජුරුවෙනි උපකාර කලමැනවයි කී
5 වාය. රජුද නුඹට මක්වූනාදැයි ඈට කී
යේය. ඈද මාගේ පුරුෂයා මැරුනේය
6 මම සැබෑවට කනවැන්දුම් වීමි. ඔබගේ
දාසියට පුත්තු දෙදෙනෙක් සිටියෝය ඒ
දෙදෙනා කුඹුරේදී පොර ඇල්ළුවෝය.
ඔවුන් නවත්වන්ට කවුරුවත් නැති නි
7 සා එකෙක් අනිකාට ගසා මැරීය. පවු
ලේ සිටින සියල්ලෝ ඔබගේ දාසීට විරු
ඩව කථාකොට සහෝදරයා මැරූ තැ
නැත්තා අප විසින් මරනු ලබන පිනිස
අපට භාරදියනන අපි උරුමක්කාරයා
නැතිකරමුයයි කීවෝය. මෙසේ ඔවුන්
මට ඉතුරුව තිබෙන අඟුර නිවා මාගේ
පුරුෂයාට පොලව පිට නමක්වත් ලකු
8 ණක්වත් හරිනෙත් නැතැයි කීවාය. රජ
ද නුඹ ගෙට පලයනා නුඹ ගැන මම අ
9 ණ දෙනෙනම්යි ස්ත්‍රීට කීය. තෙකෝවා
හි ස්ත්‍රීද මාගේ ස්වාමිවූ රජ්ජුරුවෙනි ම
වත් මාගේ පිය වංශයටත් ඒ දෝෂය වේ
වා රජුද සිංහාසනයද නිදෙස්වේවයි ර
10 ජුට කීවාය. රජද නුඹට මොකවත් කිය
න අය මා ලඟට ගෙනෙනනා ඔහුද දෙ
වනු නුඹට මොකවත් නොකරනේය
11 යි කීයේය. එවිට ඈ ඔවුන් මාගේ පුත්‍ර
යා නොමරණ ලෙස ලේ පලිගන්නන්ට
තවත් මරන්නට ඉඩ නොදෙන පිනිස
ඔබගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ සි
හිකලමැනවයි කීවාය. ඔහුද යෙහෝවඃ
වහන්සේ ජීවත්වනසේක්නම් නුඹේ පු
ත්‍රයාගේ කෙස් ගහක්වත් බිම නොවැ
12 ටෙනේයයි කීය. එවිට ඒ ස්ත්‍රී රජ්ජුරු
වන්ට වචනයක් කියන්නට ඔබගේ දා
සීට අවසර දුනමැනවයි කීවාය. ඔහුද
13 කියාපන්නෑයි කීවාය. ස්ත්‍රීද එසේනම්
දෙවියන්වහන්සේගේ මිනිසුන්ට එදිරිව
එහෙම දෙයක් ඔබ සිතනෙත් මන්ද? ර
ජ්ජුරුවෝ තමන්ගේ පිටපත්කල අය
නැවත නොගෙනෙන නිසා දෝෂ් ඇ
ති කෙනෙක් මෙන් මේ කාරණව කිය
14 නේය. මක්නිසාද අපි සැබෑවට මැ
රෙනනට ඕනෑය. නැවත එකතුකරණ
න්නට බැරි බිම වත්කරපු වතුර වැනි
ය. දෙවියන්වහන්සේද කිසි කෙනෙකු
ගේ තරම නොසලකනසේක නුඹූත් උ
න්වහන්සේ දුරුකල ඇත්තන් අහක
15 නොදමන හැටියක් කරණසේක. මිනි
සුන් මා භයගැන්නු නිසා මාගේ ස්වාමි
වූ රජ්ජුරුවන්ට මේ කාරණව කියන්ට
මම ආයෙමි. ඔබගේ දාසී වන මමද රජ්
ජුරුවන්ට දැන් කථාකරමි උන්වහන්සේ
ගේ දාසියගේ ඉල්ලීම රජ ඉෂ්ටකරණවා
16 ඇත. මක්නිසාද දෙවියන්වහන්සේගේ
උරුමයෙන් මාත් මාගේ පුත්‍රයාත් නැ
තිකරන්නාගේ අතින් තමන් දාසී ගල
17 වන්නට රජ අහනෙත්යයි කීමි. පසුව
මාගේ ස්වාමිවූ රජ්ජුරුවෝ හොඳ නර
ක දැනගන්ට දෙවියන්වහන්සේගේ දූත
යෙක් මෙන්ය. ඔබගේ දෙවිවූ යෙහෝ
වඃවහන්සේ ඔබ සමඟය එබැවින් මා
ගේ ස්වාමිවූ රජ්ජුරුවන්ගේ වචනයෙන්
18 සැනසීම වනෙත්යයි කියමිසි කීවාය. එ
විට රජ්ජුරුවෝ උත්තර දෙමින් මම නු
ඹෙන් අහන දේ නොසඟවන්නට යාඥා
වෙමියි ස්ත්‍රීට කීය. ස්ත්‍රීද මාගේ ස්වාමිවූ
19 රජ්ජුරුවෝ කථාකෙරෙත්වයි කීවාය. ර
ජද මේ සියල්ලෙන් යෝවබ්ගේ අත නු
ඹට එකතු නැද්දැයි කීය. ස්ත්‍රීද උත්තර
දෙමින් මාගේ ස්වාමිවූ රජ්ජුරුවෙනි ඔ
බගේ ප්‍රාණය ජීවත්වනෙත්නම් මාගේ
ස්වාමිවූ රජ්ජුරුවන් කී දෙයින් දකුනට
වත් වමටවත් හැරෙන්ට කාටවත් නුපුළු
වන. ඔබගේ මෙහෙකරුවූ යෝවබ්
මේ සියළු වචන ඔබගේ දාසිවූ මට උග
20 න්වා අනකෙලේය. මේ උපමා කථාව
දන්වන්නට ඔබගේ මෙහෙකරුවූ යෝ
වබ් මෙසේ කෙලේය. මාගේ ස්වාමිද
පොලවේ තිබෙන සියල්ල දැනගන්ට
දෙවියන්වහන්සේගේ දූතයකුගේ ඥාන
ය ලෙස ඥානවන්තව සිටිනෙත්යයි කී
21 වාය. රජද මේ දෙය ඒත්තුගතිමි දැන්
ගොස් තරුණවූ අබ්සලොම් නැවත
22 ගෙනෙන්නෑයි යෝවබ්ට කීයේය. යෝ
වබ්ද මූහුනින් බිම වැටී වැඳ රජුට ස්තු
තිකොට මාගේ ස්වාමිවූ රජ්ජුරුවෙනි
තමන් මෙහෙකරුවාගේ ඉල්ලීම සිද්ධක
ල නිසා ඔබ ඉදිරිපිට මට කරුණා ල

බුහු බව ඔබගේ මෙහෙකරුවා අද ද
23 නොත්යයි කීයේය. මෙසේ යෝවබ් පි
ටත්ව ගෙෂූර්ට ගොස් අබ්සලොම් යෙරූ
24 සලමට ගෙනාවේය. රජද ඔහු තමන්
ගෙට හැරී මාගේ මූහුන නොබලාවයි
කීයේය. අබ්සලොම්ද තමන් ගෙට හැ
රී රජ්ජුගේ මූන නොබැලීය.

25 තවද ලක්ෂනකම ගැන ප්‍රසංසා ලැබී
මට සියළු ඊශ්‍රායෙල්හි අබ්සලොම් මෙන්
කෙනෙක් නොවීය. පතුල පටන් හිස්
මුදුන දක්වා කිසි කැලලක් නොතිබුනෙ
26 ය. තමාගේ හිසකෙස් කපා කිරූවිට ඒ
නියම බර හැටියට ෂෙකෙල් දෙසියයක්
තිබුනේය. තමාගේ හිසකෙස් බරනිසා
27 අවුරුදු පතා කැපිය. අබ්සලොන් නිසා
පුත්‍රයෝ තුන් දෙනෙක්ද තාමර්නම් දු
28 වක්ද උපනෝය. ඒ දූ ලක්ෂනවත් ස්ත්‍රි
යක් වූවාය. අබ්සලොම්ද පූරා දෑවුරුද්
දක් යෙරූසලමහි සිට රජ්ජුගේ මූන නුදු
29 ටිය. ඒ නිසා අබ්සලොන් රජ්ජු ලඟට ඔ
හු යවන පිනිස යෝවබ්ට අඩගසා ඇරි
යේය. එහෙත් ඔහු එන්ට අකමැති විය.
අබ්සලොම්ද දෙවෙනි සැරේ අඩගැහූ වි
30 ට ඔහු එන්ට අකමැති වුනේය. ඒ නිසා
අබ්සලොම් තමාගේ වැඩකාරයන්ට කි
යනුයේ යෝවබ්ගේ කෙත මාගේ කෙ
ත ළඟය ඔහුට එහි යව තිබෙනේය.
තුබලා ගොස් ඒවා ගිනිලාපල්ලායයි කි
ය. අබ්සලොම්ගේ වැඩකාරයෝද ඒ
31 කෙත ගිනිලෑවෝය. එවිට යෝවබ් නැ
ගිට අබ්සලොම්ගේ ගෙට ඇවිත් තුබේ
වැඩකාරයෝ මාගේ කෙත ගිනි ලෑවෝ
32 ය. ඒ මන්දැයි ඔහුට කීය. අබ්සලොම්ද
යෝවබ්ට උත්තර දෙමින් මම ගෙෂූර්
සිට ආවේ මක්? දැන් වෙනතුරු එහි සි
ටියොත් යහපත රජ්ජුගේ මූන බලන්ට
දැන් මට ඇරපනන මා අත වරද තිබෙ
නොත් මා මැරූවාවේ යන වග තුබ ලවා
රජ්ජුට දන්වන පිනිස මෙහි එනනට කියා
33 තුබ ලඟට එව්මියි කීය. යෝවබ්ද රජ්ජු
ලඟට ඇවිත් ඒ වග කීය. රජ්ජුද අබ්ස
ලොම්ට අඩගැහූවාම ලඟට ඇවිත් රජ්ජු
ඉදිරිපිට මූන බිමට නමා වැන්දේය. රජ්ජු
ද අබ්සලොම් සිඹගනේත්ය.

15. පරිච්ඡෙ. ඉන්පසු අබ්සලොම් ර
ථද අශ්වයනුද තමන්ට ඉස්සරව දුවන මි
නිසුන් පනස් දෙනෙක්ද පංගාඩම් කෙ
2 ළේය. අබ්සලොම්ද අළුයම නැගිට නුව
ර දොර ලඟ සිට නඩුවක් ඇතෙනක් පැ
මිනිල්ලට යන විට ඔහු කැඳවා තුබ කො
යි නුවරකින්දැයි ඇසීය. ඔහුද ඔබගේ
වැඩකාරයා ඊශ්‍රායෙල් ගෝත්‍රයකින්යයි
3 කීය. අබ්සලොම්ද තුබේ කාරණ යහ
පත්ය හරිය. එහෙත් තුබේ පැමිනිල්ල
අසනනට රජ කවුරුවත් පත්නොකළේ
4 ය. නඩුවක්වත් කාරණයක්වත් ඇති සි
යල්ලන් මා ලඟට එනනට රට විනිශ්චය
කිරීමට මා නියමවූනොත් යහපත. මම
5 ඔහුට යුක්ති කරනෙනම්යි කීය. කවුරු
වත් ඔහුට වඳිනනට ලඟට ආවිට අත දි
ගුකොට ඔහු අරන් සිඹගනේත්ය. අබ්ස
6 ලොම්ද නඩුවට රජ්ජු ලඟට ආ සියළු ඊශ්‍රා
යෙල්ට ඒසේ කොට සොරෙන් ඊශ්‍රා
යෙල් මිනිසුන්ගේ සිත් ගනේත්ය.

7 තවද හතර අවුරුද්දකට පසු අබ්ස
ලොම් රජ්ජුට කථාකොට යෙහෝවාව
හන්සේට කල පොරොන්දුවක් හෙ
බ්‍රොන්හිදී ගෙවීමට යන්ට අවසර දුන
8 මැනව. ඔබගේ මෙහෙකරුවා සිරියා
යේ ගෙෂූර්හි සිටිද්දී යෙහෝවාවහන්
සේ ඒකාන්තයෙන් යෙරූසලමට මා
ගෙනයනසේක්නම් මම යෙහෝවාව
හන්සේට මෙහෙකරන්නෙම්යි කියා
9 පොරොන්දුවක් කෙළේයයි කීය. රජද
සැපසේ පලයනනෑයි ඔහුට කීය. ඔහු
10 ද නැගිට හෙබ්‍රොන්ට ගියේය. අබ්ස
ලොම් ඊශ්‍රායෙල් සියළු ගෝත්‍රවලට ඔත්
තුකාරයන් යවා හොරනෑ ශබ්දය ඇසූ
විටම අබ්සලොම් හෙබ්‍රොන්හි රජකම්
කරන්නේයයි කියාපල්ලායයි කීයේය.
11 තවද යෙරූසලමෙන් අබ්සලොම් එක්
ක අඩගහගත් මිනිසුන් දෙසියයක් ගි
යෝය. ඔවුහු මොකවත් නොදැන වචා
12 නෑති සිතින් ගියෝය. අබ්සලොම්ද දැ
විත්ගේ මන්ත්‍රනකාරවූ ගිලෝනියෙහි
අහිතෝපැල් ගිලොනම් තමාගේ නුව
රේ පූජාකරමින් සිටිද්දී ඔහු අඩගහගන
එන්ට යැවීය. අබ්සලොම්ගේ පක්ෂයට නි
තරම මිනිසුන් වැඩිවූන නිසා ඒ භේද
ය සවි විය.

13 තවද ඊශ්‍රායෙල් මිනිසුන්ගේ හිත් අබ්
සලොම්ගේ පක්ෂයටය කියා පනිවිඩකාර
14 යෙක් දැවිත් ලඟට ආයේය. දැවිත්ද යෙ
රූසලමේ සිටි තමන්ගේ සියළු වැඩකා
රයන්ට කථාකොට අපි යමුව නොගි
යොත් අබ්සලොන්ගෙන් ගැලවෙන්ට
බැරිය. ඔහු සඩිනම්න් අප ලඟට ඇවිත්

නුවර පමුණුවා කඩුමුවහතින් නුවරට ප
15 හර නොදෙන පිණිස ඉක්මනින් යමල්
ලායයි කීය. තවද රජුගේ වැඩකාරයෝ
කථාකොට අපේ ස්වාමිවූ රජ්ජුරුවන් නි
යමකල දෙයක් කරන්ට සෑදී සිටිමුයයි
16 රජුට කීවෝය. රජද තමන් ගෙපි වැසි
යන් සමග පිටත්ව ගේ ප්‍රවේසමට උප
17 භාර්යාවන් දස දෙනෙක් තැබීය. රජද
සියළු මිනිස්සුද පිටත ගොස් දුරුවූ ස්ථා
18 නයක සිටියෝය. ඔහුගේ සියළු වැඩකා
රයෝද එක්ක ගියෝය. ගාත් සිට ඔහු
එක්ක ආ සියළු කෙරෙතිවරුද පෙලෙ
තිවරුද ගිත්තිවරුද මිනිස්සු හසියයක්
19 රජුට ඉදිරිව ගියෝය. එවිට රජ ගිත්ති
ය ඉව්ටයිට කියනුයේ නුඹ අප එක්ක
එණතත් මක්ද? නුඹේ තැනට හැරී ගොස්
රජු සමග සිටපනන. නුඹ රටින් පිට දම
20 නලද ආගන්තුකයෙක. නුඹ ඊයේම ආ
නිසා අද එහා මෙහා අප සමග ඇවිදීම
ට අරින්ට සුදුසුද? මට යන්ට ලැබුන තැ
නකට යන නිසා නුඹ හැරී සහෝදරය
නුත් එක්ක පලයනන. දයාවත් සැබෑ
21 වත් නුඹට වේවයි කීය. ඉව්ටයිද රජුට
උත්තර දෙමින් යෙහෝවාවහන්සේද
මාගේ ස්වාමිවූ රජුද ජීවත්වෙනවානම්
මැරෙන නුමුත් ජීවත්වෙන නුමුත් මා
ගේ ස්වාමිවූ රජු සිටින තැනක සත්‍යක
ටම ඔබගේ වැඩකාරයා සිටිනෙන්යයි
22 කීය. දාවිත්ද එගොඩවෙයනනැයි කීය.
ගිත්තිය ඉව්ටයිද ඔහුගේ සියළු මිනිස්
සුද ඔහු සමග සිටි සියළු දරුවෝද එ
23 ගොඩ වූනෝය. සියළු රට වැස්සෝද
මහ හඬින් ඇඬුවෝය. සියළු මිනිස්සු එ
ගොඩ වූනෝය. රජුද සියළු මිනිස්සුද
කිද්‍රොන්නම් ගඟින් එගොඩව වන මා
24 වත දෙසට ගියෝය. සදෝක්ද ඔහු ස
මග දෙවියන්වහන්සේගේ ගිවිසුම් පෙට්
ටිය ගෙනයන සියළු ලෙවීයයෝද සිටි
යෝය. ඔවුන්ද දෙවියන්වහන්සේගේ
පෙට්ටිය බිම තැබුවෝය. සියළු මිනිසුන්
නුවරින් ගොස් කම්මුතුවෙනකල් අබි
25 යාතර් ආවාය. රජද සදෝක්ට කථාකො
ට දෙවියන්වහන්සේගේ ගිවිසුම් පෙට්
ටිය නුවරට අරන් පලයන්න. යෙහෝ
වාවහන්සේගේ ඇස් ඉදිරිපිට මට කරු
ණව ලැබුනොත් උන්වහන්සේ නැවත
මා ගෙනවිත් ඒකත් උන්වහන්සේගේ වා
26 සස්ථානයත් මට පෙන්වනසේක. එහෙත්
මම තා කෙරෙහි සන්තෝස නැතැයි
උන්වහන්සේ කියනසේක්නම් මම මෙන්
ය උන්වහන්සේට හොඳව පෙනෙන ලෙ
27 ස මට කරණසේකයි කීය. රජද සදෝක්
ට කථාකොට නුඹ දිවස් ඇත්තෙක් නො
වේද? නුඹ සමග අහිමාස්ද අබියාතර්
ගේ පුත් යෝනතන්ද යන නුඹලාගේ
පුතුන් දෙනනා එක්ක හැරී සමාදාන
28 යෙන් නුවරට පලයල්ලාය. මට දන්වන්
ට නුඹලාගෙන් ආරංචි ලැබෙනතුරු ව
29 නාන්තරයේ සමබිම සිටිමියි කීය. ඒ නිසා
සදෝක්ද අබියාතර්ද දෙවියන්වහන්සේ
ගේ ගිවිසුම් පෙට්ටිය නැවත යෙරුසල
30 මට අරන් ගොස් එහි සිටියෝය. දාවිත්
ද ඔලීව කන්දට නගින තැනින් නැංගේ
ය. නැගී යද්දී අඬ අඬා හිස වසා වහන්
නැතුව ගියේය. ඔහු සමග සිටි සියළු මි
නිස්සුද තමතමාගේ හිස වසා නැගී යද්
31 දී හඬමින් ගියෝය. එක්කෙනෙක් අ
හිතෝපැල් අබ්සලොන්ට එකතු ඇත්
තන් සමග සිටිනෙන්ය කියා දාවිත්ට දැන්
විය. දාවිත්ද අහෝ යෙහෝවාවහන්ස
අහිතෝපැල්ගේ මන්ත්‍රණය නිස්ඵලක
ලමැනවයි ඔබවහන්සේට යාඥාවෙමියි
32 කීය. තවද දාවිත් කන්දඋඩට ඇවිත් දෙ
වියන්වහන්සේට නමස්කාර කල පසු
අර්කියෙහි හූෂයි තමන් පොරෝනට
රෙද්ද ඉරාගෙන ඉස පිට දූවිලි දමා ඔහු
33 පෙරමගට ගියේය. දාවිත්ද නුඹ මා සම
34 ග යනොත් මට බරක් වන්නෙහිය. එ
හෙත් නුඹ නුවරට හැරී ගොස් රජ්ජුරු
වෙනි දැන් දක්වා ඔබගේ පියානන්ට
වැඩකාරයෙක්ව සිටියාක්මෙන් ඔබටද
වැඩකාරයා වෙමි කියා අබ්සලොම්ට
ගොහින් කීවොත් මා වෙනුවට අහි
තෝපැල්ගේ මන්ත්‍රණය නිස්ඵල කරන්
35 ට නුඹට පුළුවන. පූජකවූ සදෝක්ද අ
බියාතර්ද නුඹ සමග එහි නැද්ද? ඒ නි
සා රජුගේ ගෙයින් නුඹ අසන දෙය පූ
ජකවූ සදෝක්ටත් අබියාතර්ටත් දන්වන්
36 නෙය. ඔවුන්ගේ පුත්තු දෙනනා වන
සදෝක්ගේ පුත් අහිමාස්ද අබියාතර්
ගේ පුත් යෝනතන්ද එහි ඔවුන් ලඟ සි
ටිනෙනෝය. ඔවුන් ලවා නුඹලා අසන සි
37 යළු දේ මට දන්වාපනනැයි කීය. දාවිත්
ගේ මිත්‍රවූ හූෂයි නුවරට ආයේය. අබ්ස
ලොම්ද යෙරුසලමට ආයේය.

16. පරිච්ඡෙ. තවද දාවිත් කන්ද මුදු
නෙන් ටිකක් දුර ආවිට මෙපිබෝසෙත්

ගේ මෙහෙකරුවූ සිබා හැත් දූම්බූ කො
ටළුවන් බානක්ද උන් පිට රොටි දෙසිය
යක්ද වියලි මිදිඵල පොකුරු සියයක්ද
නියං කාලේ ගෙඩි සියයක්ද මිදිරස හා
ජනයක්ද අරගෙන ඔහු පෙරමගට ආ
2 වේය. රජ්ජුරුවෝද මේවා මොටදැයි සි
බාගෙන් ඇසීය. සිබාද කොටළුවන් ර
ජගෙයි පිරිවරට නැගෙනනටද රොටිත්
නියංකාලේ ගෙඩිත් තරුණ මිනිස්සුන්
ට කනනටද මිදිරස වනාන්තරයෙහි වෙ
හෙස වෙනනන්ට බොන්ටද නිසියයි කි
3 ය. රජ්ජුරුවෝ තුබේ ස්වාමියාගේ පුත්‍ර
යා කොහනදැයි ඇසීය. සිබාද අද ඊශ්‍රා
යෙල්වරු මාගේ පියානන්ගේ රාජ්‍යය
මට භාරදෙනෙනෝයයි කියා ඔහු යෙරූ
4 සලමෙ සිටිනෙන්යයි රජ්ජුට කීය. එවිට
රජ්ජුරුවෝ මෙපිබෝසෙත්ට අයිති සිය
ල්ල තුබේමයයි සිබාට කීය. සිබාද මා
ගේ ස්වාමිවූ රජ්ජුරුවනි ඔබ ඇස් ඉදිරිපි
ට මට කරුණාව ලැබෙන ලෙස ඔබට
5 බැගෑපත්ව යාඥාකරමියි කීය. දාවිත් ර
ජ්ජුරුවන් බහුරිම්ට ආකල සාවුල්ගේ ව
ංශයෙහි පවුලෙන් ගෙරාගේ පුත් ෂිමෙයි
නම් මිනිහෙක් එතනින් පිටත්ව පෙර
මගට ඇවිදින් දෙස් කියකියා දාවිත්ටත්
දාවිත් රජ්ජුරුවන්ගේ සියළු වැඩකාර
6 යන්ටත් ගල් ගැසීය. සියළු මිනිස්සුද බ
ලවන්තයෝද දාවිත්ගේ දකුනතත් ව
7 මතත් සිටියෝය. ෂිමෙයිද දෙස් කිය
කියා මිනී මරණ දුෂ්ට මිනිහා තෝ පල
8 පල කීය. තෝ සාවුල්ගේ රාජ්‍යය උදු
රාගතෙත්ය ඒ නිසා යෙහෝවඃවහන්
සේ එම සාවුල්ගේ වංශයෙහි සියළු ලේ
ගැන තට විපාක දී තාගේ පුත් අබ්ස
ලෝම්ගේ අතට රාජ්‍යය බාරදුන්සේක.
තෝ මිනීමරුවෙක් බැවින් තාගේ න
9 පුරුක්මෙන් අසුවුනෙහියයි කීය. එවිට
සෙරුවඃගේ පුත් අබිෂයි මේ මල බල්ලා
මාගේ ස්වාමිවූ රජ්ජුරුවන්ට දෙස්තිබ
නෙත් මන්ද? ඔහුගේ හිස කපාදමන්ට
මට යන්ට අවසර ලැබෙන ලෙස ඔබට
10 යාඥාවෙමියි රජ්ජුට කීය. රජ්ජුරුවෝද
සෙරුවඃගේ පුත්‍රයෙනි තුබලාගෙන් ම
ට කම මොකද? දාවිත්ට සාපකරවයි යෙ
හෝවඃවහන්සේ කී නිසා ඔහු දෙස් කි
වා තෝ මෙසේ කෙලේ මන්දැයි ඔහුට
11 කියන්නේ කවුදැයි කීය. දාවිත්ද මට ජ
නකවූ මාගේ පුත්‍රයා මා මරන්ට උත්සා
හකරන්නේනම් මේ බෙන්යාමියා ඒක
ොපමන වඩා නොකෙරේද? යෙහෝ
වඃවහන්සේ ඔහුට අන දුන් නිසා ඔහු
දෙස් කියනනට ඇරපල්ලාය. සමහරවි
12 ට යෙහෝවඃවහන්සේ මාගේ දුක බලා
අද ඔහු තැබූ දෙස්වලට මට යහපත ක
රණසේකැයි අබිසයිටත් තමන් සියළු
13 වැඩකාරයන්ටත් කීය. දාවිත්ද තමන්
මිනිසුන් මග යන කල ෂිමෙයි ඔහු ඉදි
රිපිට කන්දේ පැත්තක යෙමින් දෙස් කි
ය කියා ඔහුට ගල් ගස ගසා දූවිලි දම ද
14 මා ගියේය. රජ්ජුරුවෝද තමන් සමග
සිටි සියළු මිනිස්සුද වෙහෙසව එහි නි
වාඩු ගතෙත්ය.
15 තවද අහිතෝපැල් එක්ක අබ්සලෝම්
ද සියළු ඊශ්‍රායෙල් මිනිස්සුද යෙරූසලම
16 ට ආවෝය. දාවිත්ගේ මිත්‍රවූ අර්කිය හූෂ
යි අබ්සලෝම් ලඟට ආ විට රජ්ජුරුවෝ
ජීවත්වනසේක්වයි රජ්ජුරුවෝ ජීවත්
17 වන සේක්වයි කීය. අබ්සලෝම්ද තු
බේ මිත්‍රයාට මේ තුබේ හොඳ හිතද? තු
බේ මිත්‍රයා සමග නොගියේ මන්දැයි හූ
18 ෂයිට කීය. හූෂයිද එසේ නොවෙයි එ
හෙත් යෙහෝවඃවහන්සේද මේ මිනිසු
න්ද සියළු ඊශ්‍රායෙල්වරුන්ද තෝරාගත්
කෙනෙකුට එකතුව ඔහු සමග සිටින්
19 නෙමි. මම වැඩකරනනට ඕනෑ කාටද?
ඔහුගේ පුත්‍රයා ඉදිරිපිට මෙහෙකටයුතු
නොවේද? මම ඔබ පියානන් ඉදිරිපිට
මෙහෙකල ලෙස ඔබ ඉදිරිපිටත් මෙහෙ
20 කරනෙනමියි අබ්සලෝම්ට කීය. එවිට
අබ්සලෝම් අප විසින් කරනනට ඕනෑ
මොකදැයි තුබලා අතරේ කල්පනාකර
21 පල්ලායයි අහිතෝපැල්ට කීය. අහිතෝ
පැල්ද ඔබගේ පියානන් ගෙදර ප්‍රවේස
මට තිබෙව් ඔහුගේ උපභායයීවන් කරා
එලඹියනන. සියළු ඊශ්‍රායෙල්වරුද ඔබ
ගේ පියානන්ට ඔබ පිළිකුල් බව අසති.
එවිට ඔබ සමග සිටින සියල්ලන්ගේ අත්
22 සවිවෙයි අබ්සලෝම්ට කීය. එකල අබ්
සලෝම්ට කුඩාරමක් ගෙයි උඩ අතුලේ
ය. අබ්සලෝම්ද සියළු ඊශ්‍රායෙල්වරුන්
ඉදිරිපිට තමන් පියාගේ උපභායයීවන්
23 ට ලංවූනේය. එදවස්වලදී අහිතෝපැල්
කී මන්ත්‍රණය විචාරණලද දෙවියන්ව
හන්සේගේ වචනයක් මෙන්ය. දාවිත්
ටත් අබ්සලෝම්ටත් අහිතෝපැල්ගේ
සියළු මන්ත්‍රනය එසේය.

17. පරිච්ඡ. තවද අහිතෝපැල් අබ්

අබ්සලෝම්ට කියනුයේ මිනිසුන් දොළොස්
දහසක් තෝරාගන්ට මට අවසර දියනාන.
2 අද මම පිටත්ව දාවිත් පස්සේ එලවා ඔ
හු වෙහෙසවී කෙඬෙත්තුව සිටිද්දී ඔහු
ට ලංව භයගන්වා ඔහු සමග සිටින සිය
ළු මිනිසුන් යන්ට ඇර රජුට පමනක් ග
සා ඔබ වෙතට සියළු මිනිසුන් නැවත
3 ගෙනෙන්නෙමි. නුඹ සොයන මිනිහා
ගැසුවොත් ඒ ගැසීම සියල්ලන් හැරී ආ
වාක්මෙන් වෙයි. එසේ සියළු මිනිස්සු
4 සමාදානයෙන් සිටිතියි කීය. එබවට අබ්
සලෝම්ද සියළු ඊශ්‍රායෙල් නායකයෝද
5 මනාප වූනෝය. එවිට අබ්සලෝම් දූන්
අර්කියවූ හූෂයි කියනෙන් මොකදූයි අ
6 හනතට අඬගසාපල්ලායයි කීය. හූෂයි
අබ්සලෝම් ලඟට ආවිට අබ්සලෝම් ඔහු
ට කථාකොට අහිතෝපැල් මෙසේ කීය.
7 ඔහුගේ කිම ලෙස කරමුද? නැත්නම්
කියාපනැයි කීය. හූෂයිද අබ්සලෝම්
ට කථාකොට අහිතෝපැල්ගේ දූනිමිති
8 කම දූනට හොඳ නැත. මක්නිසාද ඔබ
ගේ පියානෝද ඔහුගේ මිනිස්සුද බල
වන්තයෝය. බැඳෙද්දී පැටියන් උදුරා
ගනු ලැබූ වලසුන්ගේ සිත මෙන් ඔවුන්
ගේ සිතේ වෛර ඇති බව ඔබ දනෙන
සිය ඔබගේ පියානෝ යෝධයෙක්ය මි
නිසුන් එක්ක නොසිටිනෙන්ය. ඒ බවද
9 ඔබ දන්නෙහිය. ඔහු දූන් වලකවත්
වෙන තැනකවත් සැංගී ඉනෙන්ය. ඔ
වුන්ගෙන් සමහරෙකුට පලමුවෙන් ජය
ගත් විට ඒ අසන කවුරුවත් අබ්සලෝම්
ට එකතු මිනිසුන්ගෙන් සමහරු මැ
10 රුණෝයයි කියති. තවත් සිංහයෙකු
මෙන් දැඩි සිත් ඇති යම් බලවන්ත
යෙක් ඇද්ද ඔහුගේ සිතත් මුළුමනෙම්
ම උනුව යන්නේය. මක්නිසාද සියළු ඊ
ශ්‍රායෙල්වරු ඔබගේ පියානෝ බලවන්
තයෙක්ය කියාත් ඔහු සමග සිටිනෙනෝ
11 වික්‍රම ඇතෙත්තෝය කියාත් දනිති. ඒ නි
සා මුහුදු වෙරල වැලිමෙන් බොහෝවූ
දන් පටන් බෙර්ෂෙබා දක්වා සිටින සියළු
ඊශ්‍රායෙල්වරුන් ඔබ වෙතට එක්කාසු
කොට ඔබම සටනට යන ලෙස මම දූ
12 නිමිතිකම දෙමි. එසේ ඔහු සම්භවූන
තැනක ඔහුට ලංව බිම වැටෙන පිනි
මෙන් ඔහු පිට වැටී ඔහුත් ඔහු සමග සි
ටින සියළු මිනිසුනුත් එකෙක්වත් ඉතු
[illegible]නොකරමුව. ඔහු කොටුවකට ඇතුල්
[illegible]ළු ඊශ්‍රායෙල්වරුන් ඒ කො

ටුවට ගොස් ලනු අරගෙන එහි කුඩා ග
ලක්වත් නොඅරින ලෙස ගඟට අදිමෝ
14 යයි කීය. අබ්සලෝම්ද ඊශ්‍රායෙල් සියළු
මිනිස්සුද අහිතෝපැල්ගේ දූනිමිතිකම
ට වඩා අර්කියවූ හූෂයිගේ දූනිමිතිකම
යහපතැයි කීවෝය. මක්නිසාද ය
හෝවඃවහන්සේ අබ්සලෝමට නපුර පැ
මුනුවන ලෙස අහිතෝපැල්ගේ දූනිමි
තිකම ඉෂ්ට නොවෙන්ට නියමකලසේ
15 ක. එවිට හූෂයි මේ මේ ලෙස අබ්සලෝම්
ටත් ඊශ්‍රායෙල්ගේ නායකයන්ටත් අහි
තෝපැල් දූනිමිතිකම කීය. මම මේ මේ
16 ලෙස දූනිමිතිකම කීමි. දූනුත් ඉක්ම
නින් යවා රජ්ජුද ඔහු සමග සිටින සියළු
මිනිසුනු නැතිනොවෙන පිනිස වනාන්
තරයෙහි සමබිම්වල අද රෑ නොසිට ඉක්
මනින් එගොඩවෙනනට දාවිත්ට කියාප
17 ල්ලායයි කීය. යෝනාතන්ද අහිමාස්ද
කොටුව ඇතුලට එනවා නොපෙනෙන
පිනිස ඒන්රොගෙල් ලඟ නැවතුනෝ
ය. තරුණියෙක්ද ගොස් ඔවුන්ට කීවා
ය ඔවුනු ගොස් දාවිත් රජුට කීවෝය.
18 නුමුත් තරුණයෙක් ඔවුන් දූක අබ්ස
ලෝම්ට කීය. එහෙත් ඔවුන් දෙන්නම
ඉක්මනින් ගොස් බහුරිම්හි මනුෂ්‍යය
කුගේ ගෙදරට ආවෝය ඒ ගෙදර මිදු
ලේ ලිඳක් විය. ඔවුන් ඒ ලිඳට බැස්සෝ
19 ය. ඒ ස්ත්‍රීද වැස්මක් අරගෙන ලින් කටේ
එලා ඒ පිට ඇඹරූ ධාන්‍ය ඉසිරෙව්වාය.
ඒ බව කවරෙකුත් දූනනොගනෙත්ය.
20 අබ්සලෝම්ගේ වැඩකාරයෝ ගෙයි ස්ත්‍රී
වෙතට ඇවිදින් අහිමාස්ද යෝනාතනුද
කොයිදූයි ඇසුවෝය. ඒ ස්ත්‍රීද ඔවුන් ඇ
ලෙන් එගොඩවූනෝයයි කීවාය. ඔවුනු
සොයා සම්භනුනු විට යෙරුසලමට හැ
21 රී ගියෝය. ඔවුන් ගියාම ලිඳේ සිටියෝ
ගොඩනැගී දාවිත් වෙතට ගොස් නුඹලා
ට එදිරිව අහිතෝපැල් මෙසේ මන්ත්‍රණ
කල නිසා පිටත්ව ගඟෙන් එගොඩට ගි
22 යමැනවයි දාවිත් රජුට කීවෝය. එවිට
දාවිත්ද ඔහු සමග සිටි සියළු මිනිස්සුද පි
ටත්ව එලිවෙනකොටම එකෙක්වත් ඉ
තුරු නොවී යොර්දනෙන් එගොඩ වූ
23 නෝය. අහිතෝපැල් තමාගේ දූනිමිති
කමට ඔවුන් යටත් නූන බව දූක තමා
ගේ කොටළුවා පිට හැඳ දමා නැගී නු
වර තමන් ගෙදරට ගොස් තමාගේ ගෙ
යි කරන්ට ඕනෑ දේ කොට එල්ලී මැරී
තමන් පියාගේ සොහොන් ගෙයි තැන්

පත්කරගු ලැබිය. තවද දුවිත් මහනා
24 යිම්ට ආයේය. අබ්සලොම්ද සියළු ඊශ්‍රා
යෙල් මිනිස්සුද ඔහු සමග යොර්දානෙන්
25 එගොඩ වුනෝය. අබ්සලොම්ද යෝ
වබ් වෙනුවට අමසා සේනාධිපතියා කෙ
ලේය. ඒ අමසා ඉත්‍රානම්වූ ඊශ්‍රායෙල් ම
නුෂ්‍යයාගේ පුත්‍රයාය. ඒ ඉත්‍රා යෝවබ්
ගේ මවූ සෙරුවාගේ සහෝදරිවූ නා
හස්ගේ දුවූ අබිගායෙල් කරා එලඹුනා
26 වූ කෙනෙක. ඊශ්‍රායෙල්ද අබ්සලොම්ද
27 ගිලියද් රටේ අන්දුයම් බැන්දෝය. පසු
ව දුවිත් මහනායිම්ට ආවිට අම්මොන්
ගේ පුත්‍රයන්ට අයිති රබ්බාහි නාහස්
ගේ පුත් සෝබිද ලොදිබාර්හි අමියෙල්
ගේ පුත් මාකිර්ද රොගෙලිම්හි ගිලියදි
28 යන බර්සිලායිද යානාවල්ද තලිද මැටි භා
29 ජනද පිටි විලද මෑ කොල්ළු බැදපු මෑ
මිපැනි වෙඩරු බැටළුවන් කේජු යන
මේවා දුවිත්ටත් ඔහු එක්ක සිටියාවූ මි
නිසුන්ටත් කනහට ගෙනාවෝය. මක්
නිසාද මිනිස්සු වනාන්තරයෙහි බඩගිනි
ව පිපාසව වෙහෙසව සිටින්නෝයයි
කිවෝය.

18. පරිච්. දුවිත්ද තමා සමග සිටි
සමූදුව ගනන්කොට දහට මුලාදනින්ද
2 සියේට මුලාදනින්ද තැබිය. දුවිත්ද සමූ
දුවෙන් තුනෙන් පංගුවක් යෝවබ්ටද
තුනෙන් පංගුවක් යෝවබ්ගේ සහෝද
ර සෙරුවාගේ පුත් අබිෂයිටද තුනෙන්
පංගුවක් ගිත්තිය ඉව්වයිටද යටත්කර
ඇරියේය. රජද සැබවින් මමත් නුබලා
3 සමග යෙමියි සමූදුවට කිය. එහෙත් ස
මූදුව ඔබ නොගියමැනව අප හැංගි ගි
යත් ඔවුන් අප නොසලකනෙනෝය. අ
පෙන් පංගුවක් මලත් අප නොසලකත්
නෝය. ඔබ අපෙන් දසදහසකටත් වඩා
වටිනෙන්ය. ඒ නිසා ඔබ නුවර සිට අප
ට උපකාර කරණවා යහපතැයි උත්තර
4 දුනෙනෝය. රජද නුබලාට හොඳව පෙ
නෙන දෙයක් කරමියි කිය. රජද දොර
වූව ලග සිටිය විට සියළු සමූදුව සියය
සියය බැගින්ද දහ දහ බැගින්ද පිටත්ව
5 ආවෝය. රජද යෝවබ්ටද අබිෂයිටද
ඉව්වයිටද කථාකොට අබ්සලොම් යෞ
වනයාට මා නිසා කරුණා කරපල්ලායයි
අන දුනෙන්ය. අබ්සලොම් ගැන මුලාදැ
නින්ට රජ අන දෙද්දී සියළු සමූදුව ඇ
6 හුවෝය. මෙසේ සමූදුව ඊශ්‍රායෙල්ට එදි
රිව එලිමහනට ගියෝය. සටනද එප්‍රා
7 යිම් වනයේදී විය. එතන ඊශ්‍රායෙල් ස
මූදුව දුවිත්ගේ වැඩකාරයන් ඉදිරිපිට
පැරදුනෝය. එදා මිනිස්සු විසි දහසක් මැ
8 රුම් කා මහත් විනාශයක් විය. සටන
රට මුළුල්ලේ ඉසිර ගියේය. එදා කඩු
වෙන් මැරුම් කෑවාට වඩා සමූදුව වන
9 යේ නැතිවුනෝය. තවද අබ්සලොම් දු
විත්ගේ වැඩකාරයන්ට සම්භවිය. අබ්ස
ලොම්ද අශ්වතරයෙක් පිට නැගුනේය.
අශ්වතරයාද මහත්වූ අලොන් ගසක අ
තු අස්සෙන් ගිය විට අබ්සලොම්ගේ ඉ
ස අලොන් ගසට හිරවුනේය. අබ්ස
ලොම්ද අහසටත් පොලොවටත් අත
රේ එල්ලී සිටියේය. ඔහු නැගී සිටි අශ්ව
10 තරයාද ගියේය. එවිට මිනිහෙක් අබ්ස
ලොම් අලොන් ගසක එල්ළුනා දුටිමියි
11 යෝවබ්ට කිය. යෝවබ්ද නුබ ඔහු දැ
ක ගසා බිමට නොහෙළුවේ මන්ද? එ
සේ කෙලෙහිනම් රිදී ෂෙකෙල් දසයක්
ද ඉනපටියක්ද නුබට නොදෙම්දැයි එ
12 පවත් කී මිනිහාට කිය. ඒ මිනිහාද මා
ගේ අතට රිදී දහසක් ලැබෙතත් රජ
පුත්‍රයාට එදිරිව මාගේ අත පොවනහට
බැරිය. මක්නිසාද රජ්ජුරුවෝ අප අහ
ගන සිටිද්දී නුබටත් අබිෂයිටත් ඉව්ව
යිටත් අබ්සලොම් යෞවනයාට කිසි
වෙක් අත නොපොවන්ට ප්‍රවේසම් වෙ
13 යල්ලායයි කියා අනකලේය. රජ්ජුරුවෝ
නොදන්නා දෙයක් නැත. ඒ නිසා එ
සේ කලොත් මාගේම ජීවිතයට එදිරිව
වැරදි කරගතිම්. නුබම මට එදිරිවෙන
14 වා ඇතැයි යෝවබ්ට කිය. එවිට යෝ
වබ් මට මෙසේ නුබ සමග පමාවෙන්ට
බැරිය කියා ඊගස් තුනක් අතින් ගෙන
අබ්සලොම් අලොන් ගස මැද පනපිටින්
සිටිද්දීම ඔහුගේ ලැපැත්තට විද්දේය.
15 යෝවබ්ගේ ආයුධ දරූ තරුණයෝ දස
දෙනාද වට ඇවිද අබ්සලොම්ට ගසා මැ
16 රුවෝය. යෝවබ්ද හොරනෑව පිඹි
ය සමූදුවද ඊශ්‍රායෙල් ඇඩවීමෙන් හැ
රුනෝය. යෝවබ් සමූදුව නැවතුයේය.
17 ඔවුන්ද අබ්සලොම් අරගෙන වනයෙහි
මහත් වලක හෙළා ඔහු පිට ඉතා මහත්
ගල් ගොඩක් ගැසූය. සියළු ඊශ්‍රායෙල්ද
තමතමන්ගේ කූඩාරම්වලට සැංගි ගි
18 යෝය. අබ්සලොම් ජීවත්ව සිටිද්දී මා
ගේ නම පවතිනහට පුත්‍රයෙක් නැත
කියා රජ්ජුගේ මිටියාවතේ තමාට කනු

වක් හිටුවා ඒට ඔහුගේම නම තැබිය.
අද දක්වා ඒට අබ්සලොම්ගේ තැනයයි
19 නම් වේ. එකල සදෙක්ගේ පුත් අහි
මාස් යෙහෝවාවහන්සේ තමන් සතු
රන්ගෙන් පලිගත් හැටි රජ්ජුරුවන්ට
ආරංචි කියන ලෙස දුවනනට මා හැරප
20 නනැයි කීය. යෝවබ්ද අද නුබ ආරංචි
ගෙනයන්ට එපාය වෙන දවසක ආරංචි
අරන් පලයනන. එහෙත් රජ්ජුගේ පුත්‍ර
යා මැරුණ නිසා අද ආරංචි ගෙනයන්ට
21 එපායයි ඔහුට කීය. එවිට යෝවබ් නු
බ ගොස් දුටු දෙය රජ්ජුට කියාපනනැයි
කූෂිට කීය. කූෂිද යෝවබ්ට වැඳ දිවි
22 ය. ඉන්පසුත් සදෙක්ගේ පුත් අහිමාස්
කොයි හැටි නුමුත් මමත් කූෂි පස්සේ
දුවනනට මට හරිණ ලෙස යාඥවෙමියි
නැවතත් යෝවබ්ට කීය. යෝවබ්ද මා
ගේ පුත්‍රය නුබට ආරංචි නැතිකොට දු
23 වනෙනත් කුමටදැයි කීය. එහෙත් ඔහු
කොයිහැටි නුමුත් මට දුවනනට හැරප
නනැයි කීය. එහෙනම් දුවපනනැයි ඔ
හුට කීය. එවිට අහිමාස් සමතලාවේ මා
24 වතින් කූෂි පසුකර දිවිය. තවද දාවිත්
දොරටු දෙක අතරේ හුනෙනේය. මුරකා
රයාද දොරටුවේ පියස්සෙන් බිත්තිය
25 පිටට ගොස් ඇස් ඔසවා බැලීය. එවිට
මිනිහෙක් තනිව දුවනෙනේයයි මුරකාර
යාද හඬගසා රජ්ජුට කීය. රජ්ජුද ඔහු ත
නියමනම් ඔහු ආරංචි දනියි කීය. ඔහුද
26 ඉක්මනට ඇවිත් ළංවිය. මුරකාරයාද දු
වන තවත් මිනිහෙක් දැක දොරටුපාල
යාට අඬගසා තව මිනිහෙකුත් තනිව දු
වනෙනේයයි කීය. රජ්ජු ඔහුද ආරංචි ගෙ
27 නෙනෙනේයයි කීය. මුරකාරයා පලමු
කොට දුවනනාගේ දිවීම සදෙක්ගේ
පුත් අහිමාස්ගේ දිවීම මෙන් මට සිතෙ
නෙනේයයි කීය. රජද ඔහු යහපත් මනු
ෂ්‍යයෙක හොඳ ආරංචි ගෙනෙනෙනේයයි
28 කීය. අහිමාස්ද රජ්ජුට අඬගසා සියල්
ලෙන් දිනුමෝයයි කීය. ඔහුද රජ්ජු ඉදි
රියෙහි මුනින් බිම වැටී මාගේ ස්වාමිවූ
රජ්ජුරුවන්ට එදිරිව අත් එසෙවූ මිනි
හුන් බාරදුන් ඔබගේ දෙවිවූ යෙහෝ
29 වාවහන්සේට ස්තුතිවේවයි කීය. රජද
අබ්සලොම් තරුණයා ගැලවුනේදැයි ඇ
සීය. එවිට අහිමාස් යෝවබ් රජ්ජුරු
වන්ගේ වැඩකාරයාත් ඔබගේ වැඩකා
රවූ මාත් එවූ කල මහත් කෝලාහලයක්
දුටු නුමුත් එය මොකද කියා නොදනි
30 මියි උත්තර දුනෙනේය. රජද අහකට
ගොස් සිටපනනැයි ඔහුට කීය. ඔහුද
31 හකට ගොස් සිටියේය. කූෂි ඇවිදින් මා
ගේ ස්වාමිවූ රජ්ජුරුවනි ආරංචි තිබෙන්
නේය. ඔබට එදිරිව නැගුටුන සියල්ලන්
ගෙන් අද යෙහෝවාවහන්සේ පලිගත්
32 සේකැයි කීය. එවිට රජ අබ්සලොම් ත
රුණයා ගැලවුනේදැයි කූෂිට කීය. කූෂි
ද මාගේ ස්වාමිවූ රජ්ජුරුවන්ගේ සතු
රෝද ඔබ වෙහෙසනනට එදිරිවෙන සි
යල්ලෝද ඒ තරුණයා මෙන් වෙත්වයි
33 උත්තර දුනෙනේය. රජ්ජුද ඉතා කනගාටු
ව දොරටුව උඩින් තිබෙන ගෙට ගොස්
අඬ අඬා අහෝ මාගේ පුත්‍රය අබ්ස
ලොම් මාගේ පුත්‍රය. මාගේ පුත්‍රය අබ්
සලොම් නුබ වෙනුවට මෙලෙවිනම්
දෙවියන්වහන්සේ කැමතිවනසේක්වා අ
හෝ අබ්සලොම් මාගේ පුත්‍රය මාගේ පු
ත්‍රයයි කීය.

19. පරිච්ඡ. තවද රජ්ජුරුවෝ අබ්
සලොම් නිසා අඬ අඬා සෝකව සිටින්
2 නේයයි යෝවබ්ට ආරංචි විය. එදා රජ්
තමන් පුත්‍රයා නිසා සෝකව සිටින බව
සියළු මිනිසුන්ට ආරංචිවී එදා ජයගැනී
3 මෙන් සෝකයට පත්වූවෝය. ඔවුන් යු
ඹයෙන් සැංගී ලැජ්ජාවෙන් යනනාවුන්
මෙන් එදා සොරෙන් නුවරට ආවෝය.
4 එහෙත් රජ තමන් මූන වසාගෙන අ
නේ මාගේ පුත්‍රවූ අබ්සලොම් අනේ
අබ්සලොම් මාගේ පුත්‍රය මාගේ පුත්‍රයයි
5 මහත් ශබ්දයකින් හඬගැසීය. යෝවබ්
6 ද රජ ගෙට ඇවිත් ඔබගේ සතුරන්ට
සෝභව මිත්‍රයන්ට වෛර කිරීමෙන් ඔ
බගේද ඔබගේ දූදරුවන්ගේද භාර්‍ය්‍යා
වන්ගේද උපභාර්‍ය්‍යාවන්ගේද ප්‍රාණද්
අද රක්ෂාකල ඔබගේ සියළු වැඩකාර
යන්ගේ මූහුණු ලැජ්ජාකලෙහිය. මූලාදෑ
නිනවත් වැඩකාරයනවත් ඔබ නොසලක
න බව අදම ප්‍රකාස කොලෙහිය. අපි සි
යල්ලෝම අද මැරී සිටියෙමු නුමුත් අබ්
සලොම් ජීවත්වූයේනම් ඔබ ඉතා සන
තෝස වනෙනහියයි අද මට පෙනෙන
7 නේය. ඒ නිසා දැන් නැගිට පිටතට
ගොස් ඔබගේ වැඩකාරයන්ට ප්‍රිය වූ
ස කථාකලමැනව. ඔබ පිටතට නො
යොත් ඔබ සමග අද රෑ කිසිවෙක් නෙ
සිටින බවට යෙහෝවාවහන්සේගේ නා
මින් දිවුරමි. ඒත් ඔබගේ තරුණ වය

පමන් දූන් දක්වා උඹ සියළු නපුරට ව
8 ඩා නපුර වෙයි කීය. එවිට රජ නැගිට
දොර හුනේය. ඔවුහු රජ දොර ඉන්
නේයයි සියළු මිනිසුන්ට කිවෝය. සිය
ළු මිනිස්සුද රජ ඉදිරිපිටට ආවෝය. මක්
නිසාද ඊශ්‍රායෙල් තමතමාගේ කූඩාරම
ට පලායන්ට සැදී සිටියෝය.

9 තවද ඊශ්‍රායෙල්ගේ සියළු ගෝත්‍රවල
මිනිසුන් අතරෙහි විවාදයක් හටගත්
තේය. ඔවුන් කියනෝ අපේ සතුරන්
අතින් පිලිස්තියයන් අතින් රජ්ජුරුවෝ
අප ගලවාගත්තෝය. දූන් අබ්සලොම්
නිසා උන්වහන්සේ රටින් පලාගියේය.
10 අප විසින් අභිෂේක කල අබ්සලොම්ද
සටනේදී මෙළේය. ඒ නිසා දූන් රජ්ජු
රුවන් නැවත ගෙන්වීම ගැන තුඹලා
වචනයක් නොකියනෙත් මන්දූයි කි
11 වෝය. දාවිත් රජ පූජකවූ සාදොක්ටද අ
බියාතර්ටද පනිවිඩකාරයෙක් යවා සිය
ළු ඊශ්‍රායෙල්ගේ කථාව රජ්ජු ලඟට ත
මන් ගෙටම ආ නිසා රජ්ජුරුවන් තමන්
ගෙට නැවත ගෙනෙන්ට තුඹලා අන්
12 තිමයෝව සිටිනෙත් මන්ද? තුඹලා මා
ගේ සහෝදරයෝය මාගේ ඇටද මාංශ
යද වේ. ඒ නිසා රජ්ජුරුවන් නැවත
ගෙනෙන්ට තුඹලා අන්තිමයෝව සිටි
නෙත් මන්දූයි යූදාහි මූලාදූනින්ට කියා
13 පලලාය. තවද අමසාට කථාකොට තුඹ
මාගේ ඇටයෙනුත් මාංශයෙනුත් නොව
නෙහිද? තුඹ යෝවබ් හිලව්වට මා
ඉදිරිපිට නිතරම සේනාධිපතියාව නො
සිටිනෙත්නම් යෙහෝවාවහන්සේ මට
එසේද ඊට වඩාද කරණසේක්වයි කියා
14 පලලායයි කීය. උන්වහන්සේද යූදාහි සි
යල්ලන්ගේ හිත් එක හිතක් මෙන් න
මාගත්තෝය. ඔවුහු ඔබ සහ ඔබගේ සි
යළු වැඩකාරයෝද වරෙල්ලායයි යන ව
15 චන කියා ඇරියෝය. රජද හැරී යො
ර්දීන් ලඟට ආයේය. යූදා රජ්ජු සම්භවී
යොර්දීනෙන් මෙගොඩට ගෙනෙන්ට
16 ගිල්ගල්ට ගියෝය. තවද බහුරිම්හි
බෙන්යමීයවූ ගෙරාගේ පුත් ෂිමෙයි ඉක්
මන්කොට යූදාහි මිනිසුන් සමග දාවිත්
17 රජ්ජු සම්භවෙන්ට බැස්සේය. බෙන්ය
මින්හි මිනිස්සු දහක්ද සාවුල්ගේ වංශ
යෙහි වැඩකාරවූ සීබාද තමන් පුත්තු
පහළොස් දෙනාද වැඩකාරයෝ විසි
දෙනාද ඔහු සමග රජ්ජුට ඉස්සරින් යො
18 ර්දීනෙන් එගොඩ වූනෝය. රජ පවුල
මෙගොඩ කරන්ටත් උන්වහන්සේගේ
මනාපයක් කරන්ටත් පාරුවක් එගො
ඩ ගියේය. රජ්ජු මෙගොඩට ආ විට ගෙ
19 රාගේ පුත් ෂිමෙයි උන්වහන්සේ ඉදිරිපිට
බිම වැටී මාගේ ස්වාමිනි මට වරද නො
තැබුවමැනව මාගේ ස්වාමිවූ රජ්ජු යෙරූ
සලමෙන් පිටත්ව ගිය දවසේදී ඔබගේ
දූසයා අඥාන ලෙස කල දේ රජ්ජුරු
වෝ හිතට ගෙන සිහිනොකලමැනව.
20 මක්නිසාද ඔබගේ දූසවූ මම පව් කෙ
ලෙම්යි දනිමි. ඒ නිසා යෝසෙප්ගේ මුළු
වංශයෙහි සියල්ලන්ට පලමුවෙන් මාගේ
ස්වාමිවූ රජ්ජුරුවන්ගේ පෙරමගට ආ
21 යෙමියි කීය. එහෙත් සෙරූවාගේ පුත්
අබිෂයි යෙහෝවාවහන්සේගේ අභිෂේ
ක ලත් තැනන්වහන්සේට දෙස් තිබූ ෂි
22 මෙයි මරන්ට යුතු නැද්දූයි කීය. දාවිත්
ද සෙරූවාගේ පුත්‍රයෙනි තුඹලා අද ම
ට එදිරිකාරයෝ වෙන්ට තුඹලාට කම
මොකද? අද මම ඊශ්‍රායෙල්හි රජව සිටි
මියි දූන කවුරුවත් මරණට පත්කරන්
23 ට යුතුදූයි කීය. ඒ නිසා රජ ෂිමෙයිට
තෝ නොනසිනෙහියයි කියා ඔහුට
දිවුරුම් දුනේය.

24 සාවුල්ගේ පුත් මෙපිබොෂෙත් රජ්ජු
සම්භවෙන්ට බැස්සේය. ඔහුද රජ්ජු ගිය
දා පටන් සමාදානයෙන් හැරී ආ දවස ද
ක්වා කකුල්වලට සාත්තුද රැවුල කැපීම
25 ද ඇඳුම් සේදීමද නොකෙලේය. ඔහුද
රජ්ජු සම්භවෙන්ට යෙරූසලමට ආකල
රජ කථාකොට මෙපිබොෂෙත් තුඹ මා
26 සමග නොගියේ මන්දූයි ඇසීය. ඔහුද
මාගේ ස්වාමිවූ රජ්ජුරුවෙනි මාගේ වැ
ඩකාරයා මා රැවටුවේය. ඔබගේ දූසවූ
මම කොර බැවින් කොටළුවෙක් පිට
නැගී රජ්ජු ලඟට යන ලෙස කොටළු
වෙක් සරසනෙනම්යි ඔබගේ දූසවූ මම
27 කීමි. නුමුත් ඔහු මාගේ ස්වාමිවූ රජ්ජුට ඔ
බගේ දූසයා ගැන කේලම් කීය. එහෙත්
මාගේ ස්වාමිවූ රජ්ජු දෙවියන්වහන්සේ
ගේ දූතයෙක් මෙන් නිසා ඔබගේ ඉදි
රිපිට හොඳව තිබෙන දේ කලමැනව.
28 මක්නිසාද මාගේ පියාගේ සියළු වංශය
මාගේ ස්වාමිවූ රජ්ජු ඉදිරිපිට මලවුන්
මෙන් වූනෝය. එසේ නුමුත් ඔබගේම
මේසයෙන් කනතන් අතරේ ඔබගේ දූ
සයා තැබුවේය. ඒ නිසා රජ්ජුට තවත් පැ
මිනිලිකරනනට මට තිබෙන යුතුකම
29 මොකදූයි කීය. රජ්ජුද තුඹේ කාරණ

ගැන තවත් කථාකරනෙත් මන්ද? නුඹ
බත් සිබාත් බිම බෙදාගනිල්ලායයි කිම්
30 සි ඔහුට කීය. මෙපිබෝෂෙත්ද එසේය
මාගේ ස්වාමිවූ රජ්ජුරුවන් තමන් ගෙ
ට සමාදානයෙන් නැවත ආසෙයින් ඔහු
සියල්ල ලබාවයි රජ්ජුට කීයේය.

31 තවද ගිලියද්හි බර්සිල්ලායි රොගෙ
ලිම් සිට ඇවිත් යොදීන් මෙගොඩට ර
ජු ගෙනෙන පිණිස ඔහු එක්ක යොදීන්
32 එගොඩ ගියේය. බර්සිල්ලායි අසූ අවුරුද්
දක් වයස්ව ඉතා මහල්ලෙක් විය. රජු ම
හනායිම්හි සිටිය විට ඔහුට කන දේ සම්
භාර දුන්නේත් ඔහුමය. ඔහු ඉතා වහගි
33 යෙක් විය. රජද මා සමග එගොඩට ඇ
විත් යෙරුසලම්හි මා සමග පදිංචිවෙය
න්න නුඹ රක්ෂාකරනෙනම්යි බර්සිල්ලායි
34 ට කීය. බර්සිල්ලායිද රජු සමග යෙරුස
ලමට යන්ට මම කොපමන කල් ජීවත්
වනෙනම්ද? අද අසූ අවුරුද්දක් වයස්
35 මට ඇතෙත්ය. හොද නොහොදේ වෙ
නස මට දැනෙනවාද? ඔබගේ වැඩකා
රවූ මට කන බොන දේ රස දැනෙන
වාද? ගී කියන පුරුෂයන්ගේත් ස්ත්‍රීන්
ගේත් ශබ්දය මට තවත් අසන්ට පුළුව
නද? එහෙනම් ඔබගේ වැඩකාරවූ මම
මාගේ ස්වාමිවූ රජ්ජුට තවම බරක්ව සිටි
36 නෙත් කුමටද? ඔබගේ මෙහෙකරුවා
රජ සමග යොදීන් එගොඩ මදක් යන්
නේය රජ්ජුරුවෝ එයාකාර විපාකයක්
37 මට දෙනෙත් මන්ද? මාගේම නුවර මැ
රී මාගේ දෙමව්පියන්ගේ සොහොන්
ගේ ලඟ තැන්පත්කරනු ලබන පිණිස
ඔබගේ දාසවූ මට හැරී යන්ට අවසර දු
නමැනව. එහෙත් ඔබගේ දාසවූ කිම්
හම් මාගේ ස්වාමිවූ රජු සමග එගොඩ
ගියාවේ. ඔබට හොදව පෙනෙන ලෙ
38 ස ඔහුට කලමැනවයි කීය. රජුද කිම්
හම් මා සමග එගොඩට යනෙන්ය නුඹ
ට හොදව පෙනෙන ලෙස ඔහුට කරන්
නෙම් නුඹ මාගෙන් ඉල්ලන කොයි දෙ
යක් නුමුත් නුඹ නිසා කරනෙනම්යි උ
39 ත්තරදී කීය. සියළු මිනිස්සුද යොදීන්
මෙගොඩට ගියෝය. රජුද එගොඩව
බර්සිල්ලායි සිඹ ආශීර්වාද කෙලේය. ඔහු
40 ද තමන් ඉඩමට ගියේය. එවිට රජ්ජුරු
වෝ කිම්හම් සමග ගිල්ගල්ට ගියේය.
යූදාහි සියළු මිනිස්සුද ඊශ්‍රායෙල්වරුන්
• නේ පංගුවක්ද රජු ගෙට වැඩමවාගෙ
න ගියෝය.

41 ඊශ්‍රායෙල් සියළු මිනිස්සු රජු ලඟට ඇ
විත් අපේ සහෝදරවූ යූදාහි මිනිස්සු මි
බවහන්සේ සොරෙන් ගෙන රජුත් මි
නුගේ ගෙයි වැසියනුත් දාවිත්ගේ සිය
පිරිවරත් උන්වහන්සේ සමග යොදීන්
මෙගොඩට ගෙනාගේ මන්දැයි රජුට කී
42 යෝය. යූදාහි සියළු මිනිස්සුද ඊශ්‍රායෙල්
වරුන්ට උත්තර දෙමින් රජ්ජුරුවෝ
අපේ කිට්ටු නෑයෙක එබැවින් නුඹලා
මේ කාරණ ගැන තරහවෙනෙත් මන්ද!
රජ්ජුරුවන්ගේ කෑම අපි කෑයෙමුද!
උන්වහන්සේ කිසි තෑග්ගක් අපට දුන්
43 නේදැයි කීවෝය. ඊශ්‍රායෙල්වරුද යූදා
හි මිනිසුන්ට උත්තර දෙමින් රජුගෙන්
දස පංගුවක් අපටය. දාවිත්ගෙන් නුඹ
ලාට වඩා අපට ඇතෙත්ය. ඒ නිසා අ
පේ රජ්ජුරුවන් නැවත ගෙනෙන්ට අ
පෙන් නොඅසා නුඹලා අපට නිසූ කෙ
ලේ මන්දැයි කීවෝය. ඊශ්‍රායෙල්වරුන්
ගේ වචනවලට වඩා යූදා මිනිසුන්ගේ
වචන රළුව තිබුනේය.

20. පරිච්ඡේ. තවද බෙන්යමින්යවූ බි
ක්‍රිගේ පුත් ෂෙබානම් දුෂ්ට මනුෂ්‍යයෙක්
එහි සිටියේය. ඔහු හොරනෑවක් පිඹ දා
විත්ගෙන් පංගුවක්වත් යෙස්සෙගේ පු
ත්‍රයාගෙන් කිසි උරුමයක්වත් අපට නැ
ත. ඊශ්‍රායෙල්වරුනි නුඹලාගේ කූඩා
2 රම්වලට පලයල්ලායයි කීය. ඊශ්‍රායෙල්
සියල්ලෝද දාවිත් පස්සේ නොගොස්
හැරී බික්‍රිගේ පුත් ෂෙබා පස්සේ ගියෝ
ය. එහෙත් යූදා මිනිස්සු යොදීන් පටන්
යෙරුසලම දක්වා තමන්ගේ රජුට එන
3 තුව ගියෝය. දාවිත්ද යෙරුසලමේ ත
මන් ගෙට ඇවිදින් ගේ ප්‍රවේසමට ති
බෙව් උපභාර්යාවන් දසදෙනා අරගෙන
සිරකොට ඔවුන් රක්ෂාකෙලේය. නුමුත්
ඔවුන් කරා නොඑලඹුනේය. ඒ නිසා ඕ
වුන් කනවැන්දම්ව ඔවුන්ගේ මරණය ද
4 ක්වා සිර ගනගේ කල්හැරියෝය. තවද
රජ්ජුරුවෝ තුන් දවසකින් යූදා මිනි
සුන් එකතුකොට මෙහි වරෙනැයි අ
5 මසාට කීය. අමසා යූදා මිනිසුන් එකතුක
රන්ට ගොස් නියමකල වේලාවට වඩා
6 ප්‍රමාද වූනේය. එවිට දාවිත් අබිෂයිට ක
ථාකොට දැන් අබ්සලොම්ට වඩා බික්‍රිගේ
පුත් ෂෙබා අපට හිංසාකරනෙත්ය ඔහු
සුරක්ෂිත නුවරවලට ඇතුල්ව අපෙන්
නොගැලවෙන ලෙස නුඹේ ස්වාමි

ගේ වැඩකාරයන් ගෙන ඔහු එලවාපන්
7 නැයි කීය. එවිට යෝවබ්ගේ මිනිස්සුද
කෙරෙතිවරුද පෙලෙතිවරුද සියළු බ
ලවන්තයෝද ඔහු පස්සේ පිටත්ව බික්‍රි
පුත් ෂෙබා එලවන්නට යෙරුසලමේ සිට
8 ගියෝය. ගිබියොන්හි මහ ගල ලඟ ඔ
වුන් සිටිවිට අමසා ඉස්සරව ගියේය.
යෝවබ් ඇන්දවූ තමන් වස්ත්‍රය ඔහු බැ
ඳ තිබුණේය ඒ පිට කොපුවේ දමූ කඩු
වක් ඉනේ බැඳ පටියකුත් තිබුණේය ඔ
9 හු යනකල ඒ කඩුව වැටුණේය. යෝ
වබ්ද අමසාට මගේ සහෝදරය තුබ ස
නීපෙත් ඉන්නවාද කියා ඔහු සිඹින්නට
10 රැවුල දකුනතින් අල්ලාගත්තේය. එ
හෙත් අමසා යෝවබ් අතේ කඩුව තිබෙ
න බව නොසැලකීය. එවිට ඔහු පසෙව
නි ඉල ඇටේට ගසා බඩවැල් පිටත්කො
ට තවත් නොගැසීය. ඔහුද මෙලේය.
ඉන්පසු යෝවබ්ද තමාගේ සහෝදරවූ
අබිෂයිද බික්‍රි පුත් ෂෙබා එලවා ගියෝ
11 ය. ඇරත් යෝවබ්ගේ මිනිසුන්ගෙන් එ
කෙක් අමසා ලඟ සිට යෝවබ්ට එකතු
දවිත්ට පක්ෂ ඇත්තෝ යෝවබ් පස්සේ
12 ගියාවෙත්යයි කීය. අමසාද මහ මාවත
මැද තමන් ලේවල දඟලීය. ඒ මිනිහා
ද සියළු මිනිසුන් නැවතුනු බව දුටුවිට ඒ
නම් ඔහු ලඟින් ආ සියල්ලන් නැවතී සි
ටි බව දුටුවිට මහ මගින් කෙතට අමසා
13 ගෙනගොස් රෙද්දකින් වැසීය. ඔහු ම
හ මගින් අහක්කරනු ලැබූවාම සිය
ළු මිනිස්සු බික්‍රි පුත් ෂෙබා එලවන්නට
14 යෝවබ් පස්සේ ගියෝය. ඔහු ආබෙල්
ද බැත්මාකාද සියළු බිරියයන්ද දක්වා
ඊශ්‍රායෙල් සියළු ගෝත්‍රවල් අතරේ ගි
යේය. ඔවුහු එකතුව ඔහු එක්ක ගියෝ
15 ය. යෝවබ් සමග සිටිය සියළු මිනිස්සු
ඇවිත් බැත්මාකාහි ආබෙල්හිදී ඔහු ව
ටකරින් සිට නුවර ලඟ අගලේ බැම්මක්
ගොඩනගා බිත්තිය හෙළන්ට ගැසු
16 වෝය. එවිට නුවර සිටි නුවණ ඇති ගැ
නියෙක් කථාකොට අහපල්ලා අහපල්ලා
මා සමග කථාකරණ පිණිස මෙහි ලඟට
එන්ට යෝවබ්ට අඬගසාපල්ලායයි කී
17 වාය. ඔහු ඈ ලඟට ආකල ඒ ස්ත්‍රී තුබ
යෝවබ්දැයි ඇසුවාය. ඔහුද එසේයයි
උත්තර දුනේය. එවිට ඈ තුබේ දාසි
යගේ වචන අහපන්නැයි ඔහුට කීවාය.
18 ඔහුද මම අසමියි කීය. එවිට ඈ කථාක
ර ඔවුන් සැබවින් ආබෙල්හිදීම විචාරන්
ට සුදුසුයයි කියා කාරණව තීන්දුකලෝ
ය ඉස්සරදී ඒක පුරුද්දක්ව තිබුණේය.
19 මම ඊශ්‍රායෙල්හි සන්සුන්වූ විශ්වාස තැ
නැත්තියෙක තුබ ඊශ්‍රායෙල්හි නුවරක්
ද මැණි කෙනෙක්ද නැතිකරන්ට සො
යන්නේය. යෙහෝවාවහන්සේගේ උ
20 රුමය ගිලගන්නේ මන්දැයි කීවාය. යෝ
වබ්ද ගිලීමත් නැතිකිරීමත් මාගෙන් දු
21 රුවේවා දුරුවේවා. කාරණව එසේ
නොවේය. එප්‍රායිම් කන්දේ බික්‍රිගේ
පුත් ෂෙබානම් මිනිහෙක් දවිත් රජුට එ
දිරිව කැරලිගැස්සිය ඔහු පමනක් පාවා
දියනහ එවිට මම නුවරින් යන්නෙමියි
උත්තර දී කීය. ඈද ඔහුගේ ඉස බිත්ති
යෙන් තුබ වෙතට විසිකරනු ලබනවා
22 යයි කීවාය. එවිට ඒ ස්ත්‍රී නුවණින් යුක්
තව සියළු මිනිසුන් ලඟට ගියාය. ඔවුහු
බික්‍රිගේ පුත් ෂෙබාගේ ඉස කපා යෝ
වබ් වෙතට දැම්මෝය. යෝවබ්ද හොර
නෑවක් පිම්බේය. ඔවුහු නුවරින් ගොස්
තමතමන්ගේ කූඩාරම්වලට ගියෝය.
යෝවබ්ද යෙරුසලමේ රජු ලඟට හැරී
ගියේය.

23 යෝවබ්ද ඊශ්‍රායෙල්හි සියළු සේනාව
24 ලට මූලාදෑනියාය. යෙහොයාදගේ පුත්
බෙනායියා කෙරෙතිවරුන්ටත් පෙලෙ
තිවරුන්ටත් මූලාදෑනියාය අදෝරම් අය
බදු ගන්නා මූලාදෑනියාය. අහිලුද්ගේ
පුත් යෙහොෂාපත් ලේකම විය. ෂෙවා
25 ලියන්නා වීය. සාදොක්ද අබියාතර්ද පූ
ජකයෝය. ජයිරියවූ ඊරාද දවිත් ලඟ ම
26 හ මූලාදෑනියෙක් විය.

21. පරිච්ඡේ තවද දවිත්ගේ දවස්ව
ල අවුරුදු බැගින් තුන් අවුරුද්දක් සා
ගතයක් විය. දවිත්ද යෙහෝවාවහන්
සේගෙන් ඇසිය යෙහෝවාවහන්සේද
ගිබියොන්වරුන් මැරූ සාවුල් සහ ඔහු
ගේ රෞද්‍රවූ වංශයද නිසායයි උත්තර
2 දුන්සේක. ගිබියොන්වරු ඊශ්‍රායෙල් පුත්‍ර
යෝ නොවෙත් ඔවුන් අමෝරිවරුන්
ගෙන් ඉතිරි ඇත්තෝය. ඊශ්‍රායෙල් පුත්‍ර
යෝ ඔවුන්ට දිවුරුම් දුන්නෝය. නුමුත්
සාවුල් ඊශ්‍රායෙල් පුත්‍රයන්ටත් යූදාටත්
ඇති වියසීයෙන් ඔවුන් මරන්ට සිතීය.
3 එහෙයින් දවිත් රජ්ජුරුවෝ ගිබියොන්ව
රුන් අඬගහගෙන තුබලා උදෙසා මම
කරන්නේ මොකද? තුබලා යෙහෝවා
වහන්සේගේ උරුමයට ආශිර්වාදකරණ

පිනිස මොන දෙයකින් ශාන්තියක් ක
4 රන්නෙමිදැයි ඔවුන්ට කීය. එවිට ගිබි
යොන්වරු අපි සාවුල්ගෙන්වත් තමන්ව
ංශයෙන්වත් රන් රිදී නොගනිමුව ඊශ්‍රා
යෙල්හි කවුරුවත් අප නිසා මරන්ටත්
එපායයි කීවෝය. රජද තුබලා කියන
5 දෙයක් කරන්නෙමියි කීය. ඔවුන්ද අප
නැතිකොට ඊශ්‍රායෙල් සීමාවලින් මුළු
මනින්ම විනාසකරණ ලෙස අපට එදි
6 රිව උපා යෙදූ මිනිහාගේ පුත්‍රයන්ගෙන්
සත් දෙනෙක් අපට පාවා දුනමැනව අ
පිත් යෙහෝවාවහන්සේ තෝරාගත් සා
වුල්ගේ ගිබියාහි යෙහෝවාවහන්සේ ඉ
දිරියෙහි ඔවුන් එල්ලමුයයි රජ්ජුරුවට උත්තර
7 දුන්නෝය. රජද මම ඔවුන් දෙන්නෙම්
යි කීය. එහෙත් දාවිත් සහ සාවුල්ගේ
පුත් යෝනාතාන් යන දෙන්නා අතරේ
යෙහෝවාවහන්සේගේ දිවුරුම නිසා
රජ්ජුරුවෝ සාවුල්ගේ පුත් යෝනාතාන්
8 ගේ පුත් මෙපිබෝශෙත් ඉතුරුකර අයි
යාගේ දූවූ රිස්පා සාවුල් නිසා වැදූ අර්මෝ
නිද මෙපිබෝශෙත්ද යන පුතුන් දෙන්
නත් සාවුල්ගේ දූවූ මිකල් මෙහොලාති
යා බර්සිල්ලයිගේ පුත් අද්‍රියෙල් නිසා වැ
9 දූ පුතුන් පස් දෙනත් ගෙන ගිබියොන්
වරුන්ගේ අතට ඔවුන් පාවාදුන්නෝය.
ඔවුන්ද යෙහෝවාවහන්සේ ඉදිරියෙහි
කන්දේ ඔවුන් එල්ලුවෝය. ඔවුන් සත්
දෙනද ගොයම් කපන අවදියේ යව ක
පන්ට පටන්ගැන්මේ පළමුවෙනි දව
10 සවල එක විටම මලෝය. එවිට අයියා
ගේ දූ රිස්පා ගෝනි වස්ත්‍රයක් ගෙන ග
ලක් පිට අතුර ගොයම් කපන කාලේ
පටන්ගැන්මේ සිට අහසින් වැසිපොද
ඔවුන් පිට වැටෙනකල් දවල් අහසේ ප
ක්ෂීන්ටවත් රෑ වනමෘගයින්ටවත් ඔවුන්
11 අල්ලා කන්නට නුදුන්නීය. ඇරත් අයියා
ගේ දූවූ සාවුල්ගේ උපභාර්‍ය්‍යාවූ රිස්පා
කල දෙය දාවිත්ට ආරංචිවිය. පිලිස්තිවරු
12 ගිල්බොවාහිදී සාවුල් මැරූකල සාවුල්
ගේද ඔහුගේ පුත් යොනාතාන්ගේද ඇට
බෙත්සන් විදියේදී ඇල්ලුවෝය. යා
බෙස් ගිලියද්හි මනුෂ්‍යයෝ ඒවා සො
13 රෙන් ගත්තෝය. දාවිත් ගොස් ඒ ඇට
යාබෙස් නුවරින් ගෙනායේය. ඔවුන්ද
එල්ලූ ඇත්තන්ගේ ඇට එකතුකලෝය.
14 සාවුල් සහ ඔහුගේ පුත් යෝනාතාන්ගේ
ද ඇට සෙලාහි බෙන්යමින්ගේ රටේ
ඔහුගේ පියවූ කිස්ගේ සොහොන් ගෙයි
තැන්පත්කොට රජ්ජු අනකල සියල්ල ක
ලෝය. ඉන්පසු දෙවියන්වහන්සේ රට
ට කරුණාකලසේක.
15 තවද පිලිස්තිවරු ඊශ්‍රායෙල් සමග යු
ද්ධකලෝය. දාවිත්ද තමන් මිනිසුන් එක්
ක ගොස් පිලිස්තිවරුන්ට එදිරිව සටන්
16 කෙලේය. දාවිත්ද ක්ලාන්ත විය. එවිට
යෝධයාගේ පුත්වූ ඉස්බිබෙනොබ් අ
එත් කඩුවකින් සැරසී දාවිත් මරන්ට සි
තීය. ඔහුගේ සෙල්ලය පිත්තල ෂෙකෙල්
17 තුන්සියයක බරය. එහෙත් සෙරුවාගේ
පුත් අබිෂයි ඔහුට උපකාරව පිලිස්තියා
ට ගසා මැරීය. එකල දාවිත්ගේ මිනිස්සු
ඊශ්‍රායෙල්ගේ එලිය නොනිවෙන පිනිස
තවත් අප සමග යුද්ධයට නොයියමැන
වයි කියා දාවිත්ට දිවුරුම් දුන්නෝය.
18 ඉන්පසු නැවතත් ගොබ්හිදී පිලිස්තිව
රුන් සමග සටනක් විය. හූෂාතියා සිබ්
බෙකයි යෝධයාගේ පුත්‍රයන්ගෙන් එ
19 කෙක්වූ සප් මැරීය. නැවතත් ගොබ්
හිදී පිලිස්තිවරුන් සමග යුද්ධයක් විය.
බෙත්ලෙහෙමියවූ යාරේයොරිගිම්ගේ
පුත් එල්හනන් ගිත්තිය ගොලියත්ගේ
සහෝදරයා මැරීය. ඔහුගේ සෙල්ලේ ක
ද වියන්නාකුගේ ඔන් කදක් සමානය.
20 නැවතත් ගත්හි සටනක් විය. යෝධයා
නිසා උපන් එක එක අතේ ඇඟිලි හය
ද එක එක පයේ ඇඟිලි හයද බැගින්
ඇඟිලි විසිහතරක් සහ මහත් ශරීරයක්
21 ඇති මනුෂ්‍යයෙක් එතන සිටියේය. ඔ
හු ඊශ්‍රායෙල්ට නිග කී කල දාවිත්ගේ ස
හෝදරවූ සිමියාගේ පුත් යෝනාතාන් ඔ
22 හු මැරීය. ඔවුන් සතරදෙන ගත්හි යෝ
ධයා නිසා උපන්නෝය: ඔවුන් දාවිත් අ
තින්ද ඔහුගේ මිනිසුන් අතින්ද වැ
ටුනෝය.

22. පරිච්ඡ. තවද යෙහෝවාවහන්
සේ දාවිත්ගේ සැම සතුරන් අතින්ද සා
වුල්ගේ අතින්ද ඔහු ගැලවූ දා දාවිත් මේ
ගීතිකා වචන යෙහෝවාවහන්සේට කී
2 ය. කෙසේද යෙහෝවාවහන්සේ මාගේ
පර්වතයද කොටුවද ගැලවුන්කාරයාද ව
3 නසේක. මාගේ පර්වතයක් වැනිවූ දෙවි
යන්වහන්සේ කෙරෙහි විශ්වාස කරමි
උන්වහන්සේ මාගේ පලිහද ගැලවීමේ
බලපරාක්‍රමයද උස් කොටුවද රක්ෂාස්ථාන
යද ගැලවුන්කාරයාද වනසේක. ඔබව
හන්සේ බලාත්කාරයෙන් මා ගලවන

4 සේක. සතුති ලැබිය යුතුවූ යෙහෝවාව
හන්සේට යාඥාකොට මාගේ සතුරන්
5 ගෙන් ගැලවී සිටිනෙනම්. මරණ නැම
ති රැලින් මා වටවී අසත්පුරුෂ නැමති
මහ සැඩ වතුර මට භය ඉපදෙව්වේය.
6 මරණයෙහි දුක් මා වටකොට මරණ නැ
7 මති මලපත් මා ඉදිරියට තිබුනේය. මා
ගේ දුකෙහි යෙහෝවාවහන්සේට අඩ
ගැසීම් උන්වහන්සේද තමන් මාලිගා
වෙහි සිට මාගේ හඬ ඇසූසේක. මාගේ
හඬගැසීම උන්වහන්සේගේ කනට ඇසු
8 නේය. එවිට උන්වහන්සේ උදහාව සිටි
සේක. ඒ නිසා පොලව සෙල්වී කම්පා
විය. අහසේ අත්තිවාරම් සෙල්වී කම්පා
9 වූහ. උන්වහන්සේගේ නාස්පුඩුවලින් දු
මක් නැංගේය. උන්වහන්සේගේ මුඛ
යෙන් පිටත්වූන ගිනි ඇවිළුනේය. එ
10 සින් අඟුරු පත්තුවූනේය. උන්වහන්සේ
අහස නමාගන බැස්සසේක. උන්වහන්
11 සේගේ පතුල් යට කළුවර විය. උන්ව
හන්සේ කෙරුබ් පිට නැගී අහසින් වඩි
මින් හුළඟ නැමති පියාසර පිට පෙනු
12 නුසේක. උන්වහන්සේ තමන් වටකර
කළු වතුරෙන්ද අහසේ මහ මේඝයෙන්ද
අන්ධකාරයෙන්ද මඩපවල් කලසේක.
13 උන්වහන්සේ ඉදිරියෙහි පවතින තේජ
14 සින් ගිනි අඟුරු දිලිහී ගියේය. යෙහෝ
වාවහන්සේ අහස පිට ගර්ජනා කලසේ
ක. මහෝත්තමයානන්වහන්සේ තමන්
15 ශබ්දයද නැංගුසේක. උන්වහන්සේ ඊ
ගස් යවා ඔවුන් විසුරුවූසේක. විදුලි
16 යෙන් ඔවුන් පරාදකලසේක. යෙහෝ
වාවහන්සේගේ උදහසෙන් උන්වහන්
සේගේ නාස්පුඩුවලින් හුස්ම පිටත්වූන
විට මුහුදේ ගැඹුරු පෙනුනේය. ලෝක
17 යෙහි අත්තිවාරම්ද ප්‍රකාශවිය. උන්ව
හන්සේ උඩින් එවා මා අල්වා මහත් ව
18 තුරෙන් මා ගොඩගත්සේක. මාගේ බ
ලවත් සතුරෝද මට එදිරිවූවෝද මට ව
ඩා බලවන්තයෝව සිටියෝය. ඒ නිසා
උන්වහන්සේ ඔවුන්ගෙන් මා ගැලවූසේ
19 ක. දුක් විඳින දවසේ ඔවුන් මා ඉදිරිපි
ටට ආවෝය. එහෙත් යෙහෝවාවහන්
20 සේ මාගේ පිහිටාධාරය වූසේක. උන්ව
හන්සේ විසාලවූ තැනකට මා ගෙනා
මා කෙරෙහි ප්‍රිය ඇතිව මා ගැලවූසේක.
21 යෙහෝවාවහන්සේ මාගේ ධර්මිෂ්ඨකම
ලෙස මට එලදුන්සේක. මාගේ අත්වල
පිරිසිදුකම ලෙස මට විපාක දුන්සේක.

22 මක්නිසාද දෙවියන්වහන්සේගෙන් න
පුරු ලෙස අහක් නොව යෙහෝවාව
23 හන්සේගේ මාර්ගවල් රක්ෂාකෙලෙම්.
උන්වහන්සේගේ සියළු ආඥාවල් මා ඉදිරි
24 පිට තිබුනේය. උන්වහන්සේගේ පනත්
වලින් අහක් නූනෙම්. මම මාගේ නපු
රුකම අත්හැර උන්වහන්සේ ඉදිරියෙහි
25 ඇද නැතුව සිටියෙම්. එබැවින් යෙහෝ
වාවහන්සේ මාගේ ධර්මිෂ්ඨකමද උන්ව
හන්සේගේ ඇස් ඉදිරිපිට මාගේ පිරිසි
26 දුකමද ලෙස මට විපාක දුන්සේක. ඔ
බවහන්සේ කරුණාවන්තයාට කරුණා
වද ඇද නැත්තාට ඇද නැතිකමද පෙ
27 න්වනසේක. ඔබවහන්සේ සුධවන්තයා
ට පිරිසිදුකමද පෙන්වනසේක. ගුණ නැ
28 ත්තාට එදිරිවනසේක. ඔබවහන්සේ
දුක් ඉවසනානන් ගලවනසේක. එහෙත්
උඩඟු ඇත්තන් පාත්කරණ පිනිස ඔබව
හන්සේගේ ඇස් ඔවුන් පිට පවත්නේය.
29 යෙහෝවාවහන්ස ඔබ මට පහනක්ය
ඔබවහන්සේ මාගේ අන්ධකාරය එලිය
30 කරණසේක. මම ඔබවහන්සේ කරණ
කොටගෙන සේනාවක් මැදින් දිවීම්.
මාගේ දෙවියන්වහන්සේ කරණකොට
31 ගෙන පවුරකින් පැනෙනෙම්. දෙවියන්ව
හන්සේගේ මාර්ගය සම්පූර්ණය යෙ
හෝවාවහන්සේගේ වචනය පරීක්ෂාක
රණ ලදේය. උන්වහන්සේ විශ්වාසකර
32 ණ සියල්ලන්ට පලිහක් වනසේක. යෙ
හෝවාවහන්සේ ඇර දෙවිකෙනෙක්
කවුද? අපේ දෙවියන්වහන්සේ ඇර කව
33 ර පර්වතයක්ද? දෙවියන්වහන්සේ මාගේ
ශක්තියද බලයද වනසේක මාගේ
34 මාර්ගය සම්පූර්ණ කරණසේක. උන්ව
හන්සේ මාගේ කකුල් මුවන් කකුල් ලෙ
ස සැහැල්ලුකරණසේක. මාගේ උස් තැ
35 න්වල මා තබනසේක. වානෙන් කල දු
නනක් මාගේ අතින් නඹන ලෙස උන්
වහන්සේ යුධයට මාගේ අත් පුරුදුකල
36 සේක. ඔබවහන්සේද ඔබගේ ගැලවීම
නැමති පලිහ මට දුන්සේක. ඔබවහන්
සේගේ මොලොක් ගුනෙන් මා මහත්
37 කලසේක. මාගේ පය ලිස්සා නොයන
ලෙස ඔබවහන්සේ මාගේ අඩි පාර ප
38 ලල්කලසේක. මාගේ සතුරන් අඹවා වි
නාස කෙලෙම්. ඔවුන් විනාසවෙනතුරු
39 ම හැරී නායෙම්. මමද ඔවුන් නොනැගි
ටින ලෙස තුවාලකර විනාසකෙලෙම්.
40 ඔවුන් මාගේ කකුල් මූල වැටී ඉඳිති.

මත්නිසාද ඔබවහන්සේ යුඬයට ශක්ති
යෙන් මා සැරහූසේක මට එදිරිව නැ
ගිටියවුන් ඔබවහන්සේ මට යටත්කර
41 දුන්සේක. මට එදිරිවූවන් විනාසකරන්
ට පුළුවන්වෙන පිනිස ඔබවහන්සේ මා
ගේ සතුරන්ගේ බෙල්ල මට දුන්සේක.
42 ඔවුන් බැළූ නුමුත් ගලවන්ට කිසිවෙක්
නොවිය යෙහෝවාවහන්සේ දෙසම බැ
ළුවෝය. නුමුත් උන්වහන්සේ ඔවුන්ට උ
43 ත්තර නුදුන්සේක. එවිට මම පොලො
වේ දූවිලි මෙන් ඔවුන් සුනුකෙලෙම් වී
දියේ මඩ මෙන් පාගා පිටත ඉහිරුවා දැ
44 මීමි. ඔබවහන්සේ මාගේ මිනිසුන්ගේ
දබරවලින් මා ගැලවූසේක. පරදේසක්
කාරයන්ට මූලාදෑනියෙක් වෙන්ට මාර
ක්‍ෂාකලසේක. මා විසින් නාඳුනන මිනිස්
45 සු මට මෙහෙකරති. අන්රට වැසියෝ
මා ගැන ඇසූවිටම කීකරුව මට යටත්
46 වෙති. අන්රට වැසියෝ ඔවුන්ගේ ර
ක්‍ෂා තැන්වලදී භයපත්ව ක්‍ෂයවෙනෝය.
47 යෙහෝවාවහන්සේ ජීවත්වනසේක මා
ගේ පර්වතයට සතුතිවේවා. මාගේ ගැල
වීමේ පර්වතය වැනිවූ දෙවියන්වහන්සේ
48 උසස්වනසේක්වා. මා උදෙසා පලිගන්
නෙත් මට මිනිසුන් යටත්කර මාගේ ස
තුරන්ගෙන් මා ගලවන්නෙත් දෙවිය
49 න්වහන්සේමය. ඔබවහන්සේ මට එදිරි
ව සිටියවුන්ට වඩා මා උසස්කොට බ
ලාත්කාර කරණ අයගෙන් මා ගැලවූ
50 සේක. ඒ නිසා යෙහෝවාවහන්ස මම
පරදේසක්කාරයන් අතරේ ඔබවහන්
සේට සතුතිකර ඔබවහන්සේගේ නා
51 මයට ප්‍රසංසා ගීතිකා කියමි. උන්වහන්
සේ තමන් රජුට ගැලවීම නැමති කො
ටුව වනසේක. උන්වහන්සේ තමන්ගේ
අභිසේකය ලත් දාවිත්ටද ඔහුගේ වංශ
යටද සදාකල් කාරුණ්‍යව පෙන්වනසේකැ
යි කීය.

23. පරිච්ඡ. තවද දාවිත්ගේ අන්ති
ම වචන මේය. උසස්කරණලද්දාවූ යා
කොබ්ගේ දෙවියන්වහන්සේගෙන් අභි
සේකය ලැබුවාවූ ඊශ්‍රායෙල්ගේ මිහිරි ගී
2 තිකාකාරවූ යෙස්සේගේ පුත් දාවිත් කි
යනුයේ යෙහෝවාවහන්සේගේ වචන
ය මාගේ දිවෙහි තිබීය. උන්වහන්සේ
3 ගේ ආත්මය මා ලවා කියෙව්සේක. ඊ
ශ්‍රායෙල්ගේ පර්වතවූ ඊශ්‍රායෙල්ගේ දෙවි
යන්වහන්සේ මට කථාකොට මිනිසුන් ආ
ඬුකරනතා ධර්මිෂ්ඨව සිට දෙවියන්වහන්
සේ කෙරෙහි භය ඇතිව ආණ්ඩුකල යු
4 තුයයි කීසේක. ඔහුද ඉර උදාවූ කල උ
දයේ එලිය මෙන්ද වලාකුළු නැතුව එ
ලියමෙන්ද වැස්සට පසු අව්ව පැවීමෙන්
බිම හටගන්නා ලපටි තන මෙන්ද වන්
5 නේය. මාගේ වංශය දෙවියන්වහන්සේ
සමග ඒ ලෙස නොසිටින නුමුත් සියළු ආ
කාරයෙන් නියමකරණලද සැබෑවූ සදා
කාල ගිවිසුමක් උන්වහන්සේ මා සමග
කලසේක. උන්වහන්සේ ඒක සඵල නො
කරණ නුමුත් මාගේ සියළු ගැලවීමද කැ
6 මැත්තද ඒක වන්නේය. එහෙත් සියළු
දුෂ්ට මනුෂ්‍යයෝ අතට ගන්ට බැරි කටු
7 මෙන් අහක දමනු ලැබෙත්. ඒවා අල්ල
න මිනිහා යකඩින්ද හෙල්ල මිටින්ද සැර
සෙන්ට ඕනෑය. ඒවා මුළුමනින්ම එත
නදී ගිනිලනවායයි කීය.
8 දාවිත්ට සිටිය බලවන්තයන්ගේ නම්
මේය. ආසනයෙහි හිඳින තක්මොනියවූ
එස්නියවූ අදිනෝ සේනානායකයන්ට
මූලාදෑනියාය. ඔහු තමන් සෙල්ලය ඔස
9 වා එක වරට අටසියයක් මැරීය. ඊලඟ
අහෝහියවූ දෙදෝගේ පුත් එලියාසර්
සිටියේය. ඔහු ඊශ්‍රායෙල්වරුන් ගිය කල
යුඬයට රැස්ව සිටි පිලිස්තියන්ට ම්ග කි
යද්දී දාවිත් සමග සිටි බලවන්තයන් තු
10 න්දෙනාගෙන් එකෙක්මය ඔහු නැගිට
අත බල නැති ලෙස කඩුවට ඇලෙන
තුරු පිලිස්තිවරුන්ට ගැසීය. යෙහෝ
වාවහන්සේ එදා මහත් ජයක් කලසේ
ක. මිනිස්සුද කොල්ලගැනීමට පමනක්
11 ඔහුට පසුව ගියෝය. ඊලඟට හරරියා
අගීගේ පුත් සම්මාය. පිලිස්තියෝද සමූ
දවක් කොල්ළු තිබෙන බිං කෑල්ලකට
එක්කාසු වූනෝය. මිනිස්සු පිලිස්තිව
12 රුන්ගෙන් පලාගියෝය. එහෙත් ඔහු බි
ම මැද සිට ඒක රැක පිලිස්තියන් මැරීය.
යෙහෝවාවහන්සේද මහත් ජයක් කල
13 සේක. මූලාදෑනි තිස් දෙනාගෙන් තුන්
දෙනෙක් ගොයම් කපන කාලේ දාවිත්
සිටි අදුල්ලම් ගුහාවට ආවෝය. පිලිස්ති
ය යුඬ සෙනගද රෙපායිම් මිටියාවතේ
14 අන්දයම් බැන්දේය. දාවිත්ද එවකට
කොටුවක හිටියේය. පිලිස්තිය යුඬ සමූ
දව එවකට බෙත්ලෙහෙමහි සිටියෝය.
15 දාවිත්ද පිපාසව බෙත්ලෙහෙම් දොරටු
ව ලඟ තිබෙන ලිඳේ වතුර මට බොන්
නට කවුරුවත් ගෙන දුනොත් හො

16 දෙයි කිය. එවිට බලවන්තයෝ තුන්
දෙන පිලිස්තිය සේනාව මැදින් ගොස්
බෙත්ලෙහෙම් දොරටුව ලඟ තිබෙන ලි
ඳේ වතුර ගෙන දාවිත්ට දුනෝය. නු
මුත් ඔහු එයින් බොන්නට අකමැතිව ඒ
වතුර යෙහෝවඃවහන්සේ ඉදිරිපිට වත්
17 කර යෙහෝවඃවහන්ස මේක කිරීම මා
ගෙන් දුරුවේවා මේ තමන්ගේ ජීවිත
ආන්ත්‍රාවට පැමිනවූ මනුෂ්‍යයන්ගේ ලෙ
ය නොවේදූයි කිය. ඒ නිසා ඒවා බො
න්නට අකමැති විය. මේ බලවන්තයෝ
18 තුන්දෙන මේ දේ කලෝය. සෙරූවඃ
ගේ පුත් යෝවබ්ගේ සහෝදර අබිෂයි
තුන් දෙනා අතරේ මූලාදෑනියාය. ඔහු
තමාගේ සෙල්ලය තුන්සියයකට විරුද්ධ
ව ඔසවා ඔවුන් මරා තුන් දෙනා අතරේ
19 නමක් ලැබිය. ඔහු තුන් දෙනාගෙන්
සමනීයෙක් නොවේද? ඒ නිසා ඔහු ඔ
වුන්ගේ මූලාදෑනියා විය. නුමුත් ඔහු ප
ලමු තුන් දෙනා ගනනට නොපැමුනු
20 නේය. බොහෝ දක්‍ෂකම් කල කබ්සෙල්
හි වෙර ඇත්තාගේ පුත් යෙහොයාදෘ
ගේ පුත් බෙනායඃද මෝවබ්ගේ සිංහ
යන් වැනිවූ මිනිසුන් දෙදෙනෙක් මැරී
ය. හිම සමයෙහි ඔහු ගොස් වලක් මැ
21 දදී සිංහයෙකුත් මැරීය. ඔහුද බල ඇති
මිසරයෙක් මැරීය. ඒ මිසරයාගේ අත
සෙල්ලයක් තිබුනේය. නුමුත් ඔහු හැර
මිටියක් ඇතිව මිසරයා ලඟට ගොස් ඔ
හු අතින් සෙල්ලය උදුරා එයින්ම ඇන
22 මැරීය. යෙහොයාදෘගේ පුත් බෙනායඃ
මේ දේ කොට බලවන්තයන් තුන්දෙනා
23 අතරේ නමක් ලැබිය. ඔහු තිස්දෙනා
ට වඩා ගරුය එහෙත් පලමු වන තුන්
දෙන ගනනට නොපැමුනේය. දාවිත්
ද තමන් මුරකාරයන්ට මූලාදෑනියෙක්
24 කොට ඔහු පත්කෙලේය. යෝවබ්ගේ
සහෝදර ආසායැල් තිස් දෙනාගෙන් එ
කෙක් විය. බෙත්ලෙහෙම්හි දොදෝ
25 ගේ පුත් එල්හනන්ය. හරෝදීය ෂම්මඃ
26 ය. හරෝදීය එලිකාය. පල්තිය හෙ
27 ලෙස්ය. තෙකොයිය ඉක්කෙෂ්ගේ පුත්
28 ඉරාය. අනෙතෝතිය අබියෙසර්ය. හුෂ
තිය මෙබුන්නයිය. අහොහිය සල්මොන්
29 ය. නෙතොඵතිය මහරයිය. නෙතොඵ
තිය බානඃගේ පුත් හෙලෙබ්ය. බෙන්
යමින් දරුවන්ගේ ගිබියඃහි රිබයිගේ
30 පුත් ඉත්තයිය. පිරෙතොනිය බෙනායඃ
31 ය. ගාෂ් දොලවල හිද්දයිය. අර්බතිය
අබියල්බොන්ය. බර්හුමීය අස්මවෙත්
32 ය. ශාල්බොනීය එලියඃබාය. යශෙන් පු
33 ත්‍රයන්ගෙන් යෝනාතන්ය. හරරීය ෂම්
මඃය. හරරීය ෂරර්ගේ පුත් අහියම්ය.
34 මඛතිය පුත් අහස්බයිගේ පුත් එලිපේ
ලෙත්ය. ගිලෝනීය අහිතෝපැල්ගේ
35 පුත් එලියම්ය. කර්මෙලීය හෙස්රයිය.
36 අර්බිය පාරයිය. සොබඃහි නාතන්ගේ
37 පුත් ඉගල්ය. ගදිය බනයිය. අම්මොනි
ය සෙලෙක්ය. සෙරූවඃගේ පුත් යෝ
වබ්ගේ ආයුධ ගෙනයන බිරොතිය න
38 හරයිය. ඉත්රිය ඉරාය. ඉත්රිය ගරෙබ්
39 ය. හිතීය උරියාය යන සියල්ලෝම තිස්
සත් දෙනය.

24. පරිච්ඡේ. නැවත යෙහෝවඃව
හන්සේගේ උදහස ඊශ්‍රායෙල්ට එදිරිව
ඇවිළුනේය. ඊශ්‍රායෙල්ද යූදඃද ගනන්
කරන්ට පලයන්නැයි කියමින් ඔවුන්ට
එදිරිව සිටින්ට දාවිත් සලස්වනලදේය.
2 රජද තමන් සමග සිටි සේනානායකවූ
යෝවබ්ට දාන් දත් පටන් බේර්ෂේබා දක්
වා ඊශ්‍රායෙල් සියළු ගෝත්‍ර අතරට ගොස්
මිනිසුන්ගේ ගනන දැනගන්නා පිනිස
3 ඔවුන් ගනන්කරපන්නැයි කිය. යෝවබ්
කථාකොට මිනිසුන් කොපමන නුමුත්
මාගේ ස්වාමිවූ රජුගේ ඇහැට පෙනෙ
න ලෙස ඔබගේ දෙවිවූ යෙහෝවඃව
හන්සේ ඔවුන් සියක් පංගුවක් වැඩික
රණසේක්වා. එහෙත් මාගේ ස්වාමිවූ රජු
මෙසේ කරන්ට කැමතිවෙනෙත් මන්
4 දැයි කිය. නුමුත් රජුගේ වචනය යෝ
වබ්ටත් සේනානායකයන්ටත් එදිරිව ජය
ගනේත්ය. යෝවබ්ද සේනානායකයෝ
ද ඊශ්‍රායෙල් මිනිසුන් ගනන්කරන්ට ර
5 ජුගේ ඉදිරියෙන් පිටත්ව ගොස් යොර්දා
නෙන් එගොඩව අරොවෙර්හි ගද් ගඟ
මැද තිබෙන නුවරට දකුනෙන් ජසේර්
6 ඉදිරියෙහි කූඩාරම් හැඹුවෝය. ඉන්ප
සු ඔවුන් ගිලියද් සහ තඃතිම් හොද්ෂි ර
ටට ඇවිදින් ගොස් දන්ජාන්ට ඇවිත්
7 සිදොන් දක්වා වටකොට තීර්හි සවි කො
ටුවටද හිව්වරුන් සහ කනානිවරුන්
ගේ සියළු නුවරවලටද ඇවිත් යූදඃ දකු
8 නු දිග බේර්ෂේබා දක්වා ගියෝය. මෙලෙ
ස ඔවුන් සියළු රට මැදින් ගොස් නව
මස් විසි දවසකට පසු යෙරුසලමට ආ
9 වෝය. යෝවබ්ද මිනිසුන්ගේ ගනන
රජුට දුනේය. ඊශ්‍රායෙල්හි කබුවෙන්

යුධකරණ දක්‍ෂයෝ අට ලක්‍ෂයක්ද යුදු
10 වරු පස් ලක්‍ෂයක්ද සිටියෝය. තවද දු
වින් මිනිසුන් ගනන්කලායින් පසු ත
මන් හිතට දුක් විය. දුවින් යෙහෝවාව
හන්සේට යාඥාවී මා විසින් කල දෙයින්
මම බොහෝකොට පව් කෙලෙමි. යෙ
හෝවාවහන්ස ඔබගේ දාසයාගේ පාප
ය මුදවන්ට ඔබවහන්සේගෙන් ඉල්වමි
11 ඉතා අඥාන ලෙස කෙලෙමියි කීය. දු
වින් උදෑසනම නැගී සිටිය කල්හි දුවින්
ට දිවස් කියන අනාගතවක්තෘවූ ගද් ල
ගට යෙහෝවාවහන්සේගේ වචනය
12 පැමිණ කියනුයේ දුවින් ලගට ගොස්
කාරණ තුනක් තට දී තිබෙනෙන්ය.
මා විසින් තට ඒක කාරණ පිනිස එයින්
එකක් තෝරාගනුවයි යෙහෝවාවහන්
සේ කියන බව ඔහුට කියාපනැයි කී
13 ය. ගද්ද දුවින් ලගට ඇවින් තුබේ ර
ටේ සත් අවුරුද්දකට සාගතයක් වීම
වත් තුබේ සතුරන් තුබ අඹවනලදුව
ඔවුන් ඉදිරිපිටින් තුන් මාසයකට සැංගී
මවත් තුබේ රටේ තුන් දවසකට වසං
ගත රෝගයකවත් යන මෙයින් මොකක්
කැමතිද ? දැන් කල්පනාකොට මා එව්
තැනන්වහන්සේට කොහොම උත්තර
යක් දියයුතුදැයි බලාගනිනැයි කීය.
14 දුවින්ද මහත් අසරණභාවයට පැමිනෙ
මි මනුෂ්‍යයන් අතට අහුනොවී යෙහෝ
වාවහන්සේගේ කරුණාව මහත් සෙ
සින් උන්වහන්සේගේ අතට බාරවෙමුය
15 යි ගද්ට කීය. එලෙස යෙහෝවාවහන්
සේ උදය පටන් නියම කාලය දක්වා
ඊශ්‍රායෙල්ට වසංගතයක් එවූසේක. ත
වද දන් පටන්ම බේෂෙබා දක්වා මිනි
සුන්ගෙන් හැත්තෑ දහක් මැරුනෝය.
16 තවද දේවදූතයා යෙරුසලම් නාසතික
රනාට අත දිගුකල විට යෙහෝවාව
හන්සේ ඒ නුවරට පශ්චාත්තාපව මිනි
සුන් නැතිකල දූතයාට දැන් ඇත තා
ගේ අත නවතාගනුවයි කීසේක. යෙ
හෝවාවහන්සේගේ දූතයාද යෙබුසිය
17 අරවුනාගේ පාවර ලග සිටියේය. දුවි
ද මිනිසුන්ට පහරදුන් දූතයා දැක ෙ
හෝවාවහන්සේට කථාකොට මම පැ
කොට දුෂ්ටකම් කෙලෙම් එහෙත් ෙ
බැටළුවෝ මක්කලෝද ? ඔබවහන්සේ
ගේ අත මටත් මාගේ පිය වංශයටත් ව
දිරිවේවයි ඔබවහන්සේට යාඥාවෙමි
18 කීය. ගද් එදා දුවින් ලගට ඇවිදින් පි
ට ගොස් යෙබුසිය අරවුනාගේ පාව
රේ යෙහෝවාවහන්සේට පූජාසනය
19 ගොඩනගනැයි ඔහුට කීය. දුවින්
යෙහෝවාවහන්සේ ගද් ලවා කියෙව්
20 ආඥාව ලෙස පිටත ගියේය. අරවුනාද
බලා රජද තමන් වැඩකාරයන්ද ඔහු දි
හාවට එන බව දැක පිටට ගොස් රජු
21 ඉදිරිපිට මූනින් බිම වැටී වැඳ මාගේ
ස්වාමිවූ රජ්ජුරුවන්වහන්සේ තමන් වැ
ඩකාරයා ලගට ආවේ මන්දැයි කීය. දු
වින්ද මිනිසුන්ගෙන් වසංගතය නවති
න ලෙස යෙහෝවාවහන්සේට පූජාස
නයක් ගොඩනගන පිනිස පාවර තු
22 බෙන් මිලේට ගැනීමටයයි කීය. අරවු
නාද මාගේ ස්වාමිවූ රජ්ජුරුවන්වහන්
සේට හොඳව තිබෙන දේ අරන් පූජ
කලමැනව. දවන පූජාවට හරකුන්ද දා
වලට ගොයම් පාගන ආයුධවල්ද හ
කුන්ගේ වියගස්ද තිබෙනෙන්යයි දුවි
23 ට කීය. අරවුනා රජ ඒ සියල්ල රජුට දී
ඔබගේ දෙවිවූ යෙහෝවාවහන්සේ ඔ
24 බ පිලිගන්නාසේක්වායි කීය. රජද එසේ
නොව සැබෑවට මම තුබෙන් මිලේට
ගනිමි. මට වියදමක් නැති දෙයින් මා
ගේ දෙවිවූ යෙහෝවාවහන්සේට දව
න පූජාවල් නොපුදනෙමියි අරවුනාට
කීය. ඒ නිසා දුවින් පාවරද හරකුන්ද
රිදී ෂෙකෙල් පනහකට මිලේට ගත්තේ
25 ය. දුවින්ද එහි පූජාසනයක් යෙහෝවා
වහන්සේට ගොඩනගා දවන පූජාද
ශාන්ති පූජාද පුදකෙලේය. යෙහෝවා
වහන්සේද රටට කරුණාකොට වසංග
තය ඊශ්‍රායෙල්ගෙන් නැවැත්වූසේක.

# රජාවලියේ පලමුවෙනි පොතය.

1\. පරිච්ඡේදය. දාවිත් රජහට බොහෝ වයස් වූ කල වස්ත්‍රවලින් වැසූ නුමුත් උණුහුම් නොලැබුණේය. 2 ඒ නිසා ඔහුගේ වැඩකාරයෝ මාගේ ස්වාමිවූ රජ්ජුරුවන්වහන්සේට තරුණ කන්‍යාවක් සොයන්ට ඕනෑය. ඈ රජ්ජු ඉදිරියෙහි සිට රජ්ජුරුවන් සනසා ස්වාමිවූ රජ්ජුරුවන්ට උණුහුම් පිනිස ඔබගේ ළයෙහි සැතපෙවයි කීවෝය. 3 ඔවුන් ලක්ෂණ කන්‍යාවක් සියළු ඊශ්‍රායෙල් රට හරියේ සොයා ෂුනම්ය අබිෂග් දැක රජ්ජු ළඟට ගෙනාවෝය. 4 කන්‍යාවද ඉතා ලක්ෂණය. ඈ රජ්ජුරුවන් සනසා ඔහුට උපස්ථාන කලාය. එහෙත් ඔහු ඈ කරා නොපැමිණියේය.

5 එකල හගිත්ගේ පුත් අදොනියා මම රජවෙමි කියා උඩඟුව රථද අසරුවන්ද තමාට ඉස්සරව දුවන්නට මිනිසුන් පනහක්ද පිළියෙල කෙළේය. 6 ඔහුගේ පියාද මෙසේ කෙළේ මන්දැයි කියා කවදාවත් ඔහුට අමනාපවූනේ නැත. ඔහුද ඉතා ලක්ෂණ කෙනෙක. ඔහුගේ මව් 7 අබ්සලොම්ට පසු ඔහු වැදුවාය. ඔහුද සෙරුයාගේ පුත් යෝවාබ් සහ අබියාතර් පූජකයාට එකතුවීය. ඔවුන් ඔහුට 8 එකතුව ඔහුට උපකාර කලෝය. එහෙත් සාදොක් පූජකයාද යෙහොයාදාගේ පුත් බෙනායාද අනාගතවක්තෘ නාතාන්ද ෂිමෙයිද රෙයිද දාවිත්ට අයිති බලවන්තයෝද අදොනියාට එකතු නූ 9 නෝය. අදොනියා බැටළුවන් හරකුන් තර සිව්පාවුන් එන්රොගෙල් ඉදිරියෙහි සොහෙලෙත් ගල ළඟ මරා තමන් සහෝදර සියළු රජ පුත්‍රයන් රාජකාරිය කරණ 10 සියළු යුදෘ මිනිසුන් අඬගැස්සීය. එහෙත් අනාගතවක්තෘ නාතාන් බෙනායාද බලවන්තයන් තමන් සහෝදර සලමොන් 11 අඬනොගෑසීය. ඒ නිසා නාතාන් සලමොන්ගේ මව්වූ බත්ෂෙබාට කථාකර අපේ ස්වාමිවූ දාවිත්ට නොදැනෙන ලෙස හගිත්ගේ පුත් අදොනියා රජකම් ක 12 රණ බව නුඹට ඇසුනේ නැද්ද? ඉන් නිසා නුඹේම ප්‍රාණයත් නුඹේ පුත් සලමොන්ගේ ප්‍රාණයත් ගලවාගන්නා හුව 13 නක් කියන්නට මට අවසර ලැබුනාවේ. නුඹ දාවිත් රජ්ජු ළඟට ගොස් මාගේ ස්වාමිවූ රජ්ජුරුවනි සත්තකටම නුඹේ පුත් සලමොන් මට පසුව රජකම් කර මාගේ සිංහාසනේ ඉන්නේයයි කියා ඔබගේ දාසියට ඔබ දිව්වේ නැද්ද? එසේනම් අදොනියා රජකම් කරන්නේ මක්නිසාදැ 14 යි ඔහුට කියාපන්න. නුඹ රජ්ජුරුවන් සමග කථාකරද්දීම මමත් නුඹට පස්සේ ඇවිත් නුඹේ වචනය සවිකරමියි කීයේ 15 ය. බත්ෂෙබාද ගෙය තුල රජ්ජු ළඟට ගියාය. රජ්ජුද ඉතා මහළුය ෂුනම්ය අබි 16 ෂග් රජ්ජුට උපස්ථාන කලාය. බත්ෂෙබා රජ්ජුට නැමී වැන්දාය. රජ්ජුද නුඹට ඕනෑ 17 මොකදැයි ඇසීය. එවිට ඈ මාගේ ස්වාමීනි සත්තකටම නුඹේ පුත් සලමොන් මට පසු රජකම් කර මාගේ සිංහාසනේ ඉන්නේයයි කියා ඔබගේ දාසියට ඔබගේ දෙවිවූ යෙහෝවාවහන්සේගේ නා 18 මින් දිව්වේය. දැන් අදොනියා රජකම් කරන්නේය. මාගේ ස්වාමිවූ රජ්ජුරුවනි 19 ඔබ ඒ බව නොදන්නෙහිය. ඔහු බොහෝ හරකුන් තර සිව්පාවුන් බැටළුවන් මරා සියළු රජ පුත්‍රයන්ද අබියාතර් පූජකයාද යෝවාබ් සේනානායකයාද අඬගහගත්තේය. එහෙත් ඔබගේ වැඩකා 20 රවූ සලමොන් අඬනොගෑසීය. මාගේ ස්වාමිවූ රජ්ජුරුවනි මාගේ ස්වාමිවූ රජ්ජුරුවන්ගේ සිංහාසනේ ඔබවහන්සේට පසු ඉන්නේ කව්ද කියා ඔබ කියනතුරු සියළු ඊශ්‍රායෙල්වරු බලා සිටිනෝ 21 ය. නැත්නම් මාගේ ස්වාමිවූ රජ්ජුරුවන් මැරුණම මමත් මාගේ පුත් සලමොනුත් වරදකාරයන් ගනනට වෙමුය 22 යි ඔහුට කීවාය. ඈ රජ්ජු සමග කථාකරද්දීම අනාගතවක්තෘවූ නාතාන් ඇතු 23 ලට ආයේය. අනාගතවක්තෘවූ නාතාන් ආ බව රජ්ජුට දන්වූ කල ඔහු රජ්ජු ඉදිරියට ඇවිත් ඔහු ඉදිරියෙහි බිමට නැමී වැ 24 න්දේය. මාගේ ස්වාමිවූ රජ්ජුරුවෙනි ඔබවහන්සේ අදොනියා මට පසුව රජකම් කර මාගේ සිංහාසනේ ඉන්නේයයි කිව්

25 වාද? ඔහු අද ගොස් බොහෝ හරකුන්ද
තර සිව්පාවුන්ද බැටළුවන්ද මරා සියළු රා
ජ පුත්‍රයන්ද සේනානායකයන්ද අබියාතර්
පූජකයාද අඬගැසීය. ඔවුන් ඔහු ඉදිරි
යෙහි කා බී අදෝනියා රජ්ජුරුවෝ ජී
26 වත්වනසේක්වායි කියති. එහෙත් ඔබගේ
වැඩකාරවූ මාද සාදොක් පූජකයාද යෙ
හොයාදාගේ පුත් බෙනායාද ඔබගේ වැ
ඩකාර සලමොන්ද ඔහු කැඳවා නොගත්
27 තේය. මාගේ ස්වාමිවූ රජ්ජුරුවන්වහන්
සේට පසු සිංහාසනයේ ඉඳෙනේ කව්ද කි
යා ඔබගේ වැඩකාරයාට නොදන්වා මා
ගේ ස්වාමිවූ රජ්ජුරුවන්වහන්සේ මේ
28 දේ කලසේක්දැයි කීය. එකල දාවිත් ර
ජ බත්ෂෙබා මා ළඟට අඬගහපනැයි
කීය. ඈද රජ්ජුරුවන් ඉදිරිපිටට ඇවිත්
29 රජ්ජු ඉදිරියෙහි සිටියාය. එවිට රජ කථා
කොට සියළු පීඩාවලින් මාගේ ප්‍රාණය
ගැළෙව්වූ යෙහෝවාවහන්සේ ජීවත්වන
30 සේක්නම් සත්‍යකටම නුඹේ පුත් සල
මොන් මට පසුව රජකම් කර මා හිලව්
වට සිංහාසනයේ ඉඳෙනේයයි කියා ඊශ්‍රා
යෙල්ගේ දෙවිවූ යෙහෝවාවහන්සේ
නමින් දිව්ලෙමි මමද දිව්රූ ම දුන් ලෙ
31 සම අද සැක නැතුව කරමියි කීය. එවි
ට බත්ෂෙබා මූනින් බිමට නැමී වැඳ ර
ජ්ජුට ගෞරව කොට මාගේ ස්වාමිවූ දා
වීත් රජ්ජුරුවෝ සදාකල් ජීවත්වේවායි
කීවාය.

32 තවද දාවිත් රජ සාදොක් පූජකයාද
නාතන් අනාගතවක්තෲද යෙහොයාදා
ගේ පුත් බෙනායාද මා ළඟට කැඳවාග
න්ලායයි කීය. ඔවුනුත් රජ්ජු ඉදිරිපිටට
33 ආවෝය. රජ්ජුද නුඹලාගේ ස්වාමිගේ වැ
ඩකාරයන් කැඳවාගෙන මාගේ පුත් ස
ලමොන් මාගේම අශ්වතරයා පිට හිඳුවා
34 ගෙන ගිහොන්ට පලයල්ලාය. එහිදී සා
දොක් පූජකයාද නාතන් අනාගතවක්
තෲද ඔහු ඊශ්‍රායෙල් කෙරෙහි රජකමට
අභිෂේක කෙරෙත්වා. නුඹලා හොරනෑ
පිඹ සලමොන් රජ්ජුරුවෝ ජීවත්වන
35 සේක්වායි කියාපල්ලාය. ඔහු මා හිලව්වට
රජව ඊශ්‍රායෙල් සහ යූදාටත් මූලාදෑනි
යෙක් වෙනතට මම නියම කෙලෙමි.
එබැවින් ඔහු මාගේ සිංහාසනයේ හිඳින
පිණිස නුඹලා ඔහු කැටුව වරෙල්ලායයි
36 කීය. එවිට යෙහොයාදාගේ පුත් බෙනා
යා රජ්ජුට උත්තර දෙමින් ආමෙන්ය කි
යා මාගේ ස්වාමින්ගේ දෙවිවූ යෙහෝ
37 වාවහන්සේත් එසේ කියනසේක්වා. යෙ
හෝවාවහන්සේ මාගේ ස්වාමිවූ රජ්ජු
රුවන් එක්ව සිටි ලෙස සලමොන් සමඟ
සිට ඔහුගේ සිංහාසනය මාගේ ස්වාමිවූ
දාවිත් රජ්ජුගේ සිංහාසනයට වඩා මහත්
38 කරණසේක්වායි කීය. සාදොක් පූජකයා
ද නාතන් අනාගතවක්තෲද යෙහොයා
දාගේ පුත් බෙනායාද කෙරෙතිවරුද
පෙලෙතිවරුද ගොස් සලමොන් දාවිත්
රජ්ජුගේ අශ්වතරයා පිට නංවාගෙන ගි
39 හොන්ට ආවෝය. සාදොක් පූජකයාද
මඩුපයෙන් තෙල් කුලාවක් අරන් සල
මොන් අභිෂේක කෙලේය. ඔවුන්ද හො
රනෑ පිඹෝය. සියළු මිනිස්සුද සල
මොන් රජ්ජුරුවෝ ජීවත්වනසේක්වායි
40 කියා ඔහු එක්ක ඇවිත් නළා පිඹ මහත්
සතුටින් පොළොව පැළෙන තරම් ඕල්
41 වර හඬ ගැසුවෝය. එවිට අදෝනියාද
ඔහු සමඟ සිටි සියළු අමුත්තෝද කෑම්
නිමවූ විටම ඒ ඇසුවෝය. යෝවාබ් හො
රනෑ අඬ අසා නුවර මේ දබර ශබ්ද
42 මොකදැයි ඇසීය. ඔහු කථාකරද්දීම අ
බියාතර් පූජකයාගේ පුත් යොනාතන්
ආයේය. එවිට අදෝනියා නුඹ බලවත්
තයෙක යහපත් ආරංචි ගෙනෙන හෙ
යින් ඇතුලට වරෙනැයි ඔහුට කීය.
43 යොනාතන්ද සැබෑවට අපේ ස්වාමිවූ දා
වීත් රජ්ජුරුවෝ සලමොන් රජකොට
44 ඔහු සමඟ සාදොක් පූජකයාද නාතන්
අනාගතවක්තෲද යෙහොයාදාගේ පුත්
බෙනායාද කෙරෙතිවරුන්ද පෙලෙතිව
රුන්ද යැවීය. ඔවුන්ද ඔහු රජ්ජුගේ අශ්වත
45 රයා පිට නැංවූවෝය. සාදොක් පූජක
යාද නාතන් අනාගතවක්තෲද ගිහොන්
හිදී ඔහු රජකමට අභිෂේක කොට නුවු
ර දෙදරණ තරම් සතුටු හඬක් පවත්ව
මින් එතනින් ආවෝය. නුඹලා ඇසූ ශබ්
46 දය මේය. සලමොන්ද රජ සිංහාසනයේ
47 ඉඳෙනේය. රජ පුරුෂයෝද දෙවියන්ව
හන්සේ සලමොන්ගේ නාමය ඔබගේ
නාමයට වඩා උතුම්කොට ඔහුගේ සිං
හාසනය ඔබගේ සිංහාසනයේට වඩා ම
හත්කරණසේක්වායි කියා අපේ ස්වාමිවූ
දාවිත් රජ්ජුට ආශීර්වාද කරනතට ආවෝය.
48 රජද ඇඳ පිටදී නමස්කාර කර අද මා
ගේ සිංහාසනයේ හිඳින මාගේ ඇස්වලින්
ම දකිනතට කෙනෙක් පත්කල ඊශ්‍රා
යෙල්ගේ දෙවිවූ යෙහෝවාවහන්සේට
ස්තුතිවේවායි කීයේයයි අදෝනියාට කි

49 ය. එකල අදොනියා සමග සිටි සියළු අ
මුත්තෝ භයෙන් නැගිට තමතමන්ගේ
50 ඉඩම්වලට ගියෝය. අදොනියා සල
මොන්ට භයින් ගොස් පූජාසනයෙහි ති
51 බෙන අං අල්ලාගත්තේය. එවිට අදොනි
යා සලමොන් රජුට භයව සලමොන්
රජ්ජුරුවෝ තමන් වැඩකාරයා කඩු
වෙන් නොමරන්ට අද මට දිව්ලාවේ කි
යා පූජාසනේ තිබෙන අං අල්ලාගත්තේ
52 යයි සලමොන්ට ආරංචිවිය. සලමොන්ද
ඔහු සුදු මිනිහෙක් බව පෙනුනොත් ඔ
හුගෙන් කෙසක්වත් බිම නොවැටෙයි.
එහෙත් ඔහුගේ නපුරුකමක් පෙනෙ
53 නනට තිබුනොත් ඔහු නසියි කීය. සල
මොන් රජද මිනිසුන් යවිය ඔවුන් පූජා
සනයෙන් ඔහු ගෙනාවෝය. ඔහු ඇ
විත් සලමොන් රජුට වැන්දේය. සල
මොන් තුඹේ ගෙට පලයනනැයි ඔහුට
කීය.

2. පරිච්ඡේ. තවද දාවිත්ගේ මරණ
කාලය ආසන්නවිය. ඔහුද තමන් පුත් ස
2 ලමොන්ට අණකරමින් කියනුයේ මම
සියල්ලන්ට නියම ලෙස යෙමි. ඒ නිසා
තුඹ බලවත්ව තමන් සැරපුරුෂයෙක්
3 බව පෙන්වාපනන. යෙහෝවාවහන්සේ
කථාකොට තාගේ පුත්‍රයෝ ඔවුන්ගේ
4 මුළු හෘදයෙන්ද මුළු ආත්මයෙන්ද සැබෑ
කමින් මා ඉදිරියෙහි දවස් අරින්ට කල්
පනා කරනනාහුනම් ඊශ්‍රායෙල්ගේ සිං
හාසනේ තාගෙන් කෙනෙක් අඩුනො
වේයයි මා ගැන කී වචන පවත්වන පි
නිසත් තුඹ කරණ සියල්ලෙහිද යන සි
යළු තැන්හිද තුඹ වැඩිදියුණුවෙන පිනි
සත් තුඹ මෝසෙස්ගේ ව්‍යවස්ථාවේ ලි
යා තිබෙන ලෙස උන්වහන්සේගේ මා
ර්ගවල හැසිර උන්වහන්සේගේ පනත
වල්ද අණවල්ද විනිශ්චවල්ද සාක්ෂිද ප
වත්වමින් තුඹේ දෙවිවූ යෙහෝවාව
5 හන්සේගේ අණ රක්ෂාකරපනන. තවද
සෙරුවාගේ පුත් යෝවබ් මටත් ඊශ්‍රා
යෙල් සේනානායකයන් දෙදෙනා වන
නේර්ගේ පුත් අබ්නේර්ටත් යෙතේර්
ගේ පුත් අමසාටත් කල දේ තුඹ දනෙන
හිය. ඔහු ඔවුන් මරා සමාදානයෙහි යුධ
ලේ වගුරුවා තමන් ඉගවියෙහි පටිය
පිටත් තමන් වහන් ඇතුලෙත් යුධ ලේ
6 තවරාගත්තේය. ඒ නිසා තුඹේ නුවන
ලෙස කොට ඔහුගේ පැසුනු ඉස සමාද
නයෙන් සොහොනට පැමිණෙන්ට දෙ
7 නනට එපාය. එහෙත් ගිලියාදිය බර්සි
ල්ලයිගේ පුත්‍රයන්ට කරුණාව පෙන්වාප
නන. තුඹේ සහෝදරවූ අබ්සලොම් නි
සා මා පැනගිය කල ඔවුන් මා ලඟට
ආ බැවින් තුඹේ මේසයෙහි කෑමට ඉන්
8 නන් අතරේ ඔවුන්ද සිටිත්වා. තවද බ
හුරිම්හි බෙන්යමීන්‍ය ගෙරාගේ පුත් ෂි
මෙයි තුඹ සමග ඇත්තේය. මහනයිම්ට
මා ගිය දා මහත් සාපයකින් ඔහු මට දෙස්
තිබීය. එහෙත් ඔහු යොර්දන් ලඟදී මා
වෙතට ආවාම කඩුවෙන් තුඹ නොමර
මියි කියා යෙහෝවාවහන්සේ ගැන ඔ
9 හුට දිව්රෙමි. ඒ නිසා දැන් ඔහු නිවරැ
දිකාරයෙක් කොට නොසිතනන. නුවණ
ඇති මිනිහෙක්වූ තුඹ විසින් කලයුතු
මොකදැයි තුඹ දනෙන්ය. එහෙත් ඔහු
ගේ පැසුනු හිස ලෙයෙන් සොහොනට
10 නොපමුනුවන්නැයි කීය. දාවිත් නැසී
දාවිත්ගේ නුවර තැන්පත්කරනු ලැබිය.
11 දාවිත් ඊශ්‍රායෙල්හි ආන්ඩුකෙලේ හත
ලිස් අවුරුද්දක්ය. ඔහු හෙබ්‍රොන්හි හත්
අවුරුද්දකුත් යෙරුසලම්හි තිස්තුන් අ
වුරුද්දකුත් ආන්ඩුකෙලේය.
12 එකල සලමොන් තමන් පියවූ දාවිත්
ගේ සිංහාසනේ හිඳගත්තේය. ඔහුගේ
13 රාජ්‍යයද ඉතා සවි විය. එවිට හගිත්ගේ
පුත් අදොනියා සලමොන්ගේ මව් බත්
ෂෙබා ලඟට ආයේය. තුඹ සමාදාන
14 යෙන් ආයෙහිදැයි ඈ ඇසුවාය. ඔහු ස
මාදානයෙන් ආමි තුඹට කාරණවක් කි
යනනට මට ඇතැයි කීය. ඈද කියාප
15 නනැයි කීවාය. ඔහු රාජ්‍යය මට අයිතිවූ
බවත් මාගේ රජකම් කිරීමට ඊශ්‍රායෙල්
සියල්ලන්ම කැමති බවත් දනෙනහිය.
නුමුත් රාජ්‍යය හැරී මාගේ සහෝදරයා
ට විය. යෙහෝවාවහන්සේගෙන් ඒක
16 ඔහුට ලැබුනු නිසාය. දැනුත් ඉල්ලීමක්
තුඹෙන් මම ඉල්ලමි ඒක වලකන්ට එ
පායයි කීය. ඈද කියාපනනැයි ඔහුට කී
17 වාය. ඔහු සලමොන් රජු තුඹට නැත
නොකියන නිසා සූනම්ය අබිෂග් මට
භාර්‍යාකොට දෙන ලෙස ඔහුට කිවමැ
18 නවයි කීය. බත්ෂෙබාද හොඳයි තුඹ ගැ
19 න රජුට කථාකරමියි කීවාය. ඒ නිසා
බත්ෂෙබා අදොනියා ගැන සලමොන්
රජුට කථාකරන්ට ගියාය. රජද ඈ සම්
භවෙන්ට නැගිට නමස්කාරකොට ත
මන් සිංහාසනේ හිඳගෙන රජුගේ මෑනි

යන්ට ආසනයක් තබන්ට කීය. ඈද ඔ
20 හුගේ දකුනත හිඳගත්තාය. එවිට ඈ
මම එක ස්වල්ප ඉල්ලීමක් ඔබගෙන් ඉ
ල්ලමි මට නැත නොකිවමැනවයි කීවා
ය. රජද මාගේ මෑණියෙනි ඉල්ලාපනාහ
මම නුඹට නැත නොකියමියි ඈට කීය.
21 ඈද ෂූනම්ය අබිෂග් ඔබගේ සහෝදර
අදොනියාට භාය්‍යාවකොට දුනමැනව
22 යි කීවාය. සලමොන් රජද උත්තර දෙ
මින් අදොනියා උදෙසා ෂූනම්ය අබිෂග්
ඉල්ලනෙන් මන්ද? ඔහු මගේ වැඩිමහල්
සහෝදරයා නිසා ඔහුටද පූජකවූ අබියා
තර්ටද සෙරූවාගේ පුත් යෝවබ්ටද රා
ජ්‍යයත් ඉල්ලාපනාහැයි තමන් මෑණියන්
23 ට කීය. එවිට සලමොන් රජ අදොනියා
තමන් ප්‍රාණයට එදිරිව ඒ වචනය කථා
නොකලානම් දෙවියන්වහන්සේ මට එ
24 සේද ඊට වඩාද කරණසේක්වා. එබැ
වින් දැන් මා ස්ථිරකොට මාගේ පියවූ දා
විත්ගේ ආසනයෙහි මා හිඳෙව්වාවූ උ
න්වහන්සේ පොරොන්දුවූහු ලෙසට ප
වුලක් මට දුන් යෙහෝවාවහන්සේ ජී
වත්ව සිටිනසේක්නම් අදොනියා මේ ද
වසෙහි මරනු ලබන්නේයයි කියමින්
25 යෙහෝවාවහන්සේ ගැන දිවිලේය. ස
ලමොන් රජද යෙහොයාදාගේ පුත් බෙ
26 නයා ලවා ඔහු මැරෙව්වේය. තවද ර
ජ පූජකවූ අබියාතර්ට කියනුයේ අනෙ
තොත්හි නුඹේම බිම්වලට පලයනහ.
නුඹ මරන්ට සුදුසු නුමුත් මාගේ පියවූ දා
විත්ගේ ඉදිරියෙහි දෙවිවූ යෙහෝවාව
හන්සේගේ පෙට්ටිය ඉසුලූ බැවිනුද මා
ගේ පියානන් විඳින පීඩාවලින් පීඩා වි
නූ බැවින්ද මේ වේලෙහි මම නුඹ නො
27 මරනෙනමියි කීය. එසේ සලමොන් ෂි
ලෝහි ඒලීගේ වංශය ගැන යෙහෝවා
වහන්සේ කී වචනය සම්පූර්ණකරණ
ලෙස අබියාතර් යෙහෝවාවහන්සේ
ගේ පූජක තනතුරෙන් අහක්කෙලේ
28 ය. එකල ඒ ආරංචිය යෝවබ්ට ඇසුනේ
ය. යෝවබ් අබ්සලොම්ගේ පක්ෂයට
නොසිටිය නුමුත් අදොනියාගේ පක්ෂයට
සිටිය නිසා ඔහු යෙහෝවාවහන්සේගේ
මඩපයට පලා ගොස් පූජාසනයෙහි අං
29 ඇල්ලීය. තවද යෝවබ් යෙහෝවාව
හන්සේගේ මඩපයට පලාගොස් පූජාස
නය ලඟ සිටින බව සලමොන්ට දන්වන
ලද්දේය. එවිට සලමොන් යෙහොයාදා
ගේ පුත් බෙනයාට කථාකොට නුඹ
30 ගොස් ඔහු මරාපනහැයි කීයේය. බෙ
නයාද යෙහෝවාවහන්සේගේ මඩප
යට ඇවිත් පිටතට එන්ට රජ කීයේයයි
ඔහුට කීයේය. ඔහුද නැවත මෙහි නසි
නෙනමියි කීය. බෙනයාද මෙසේ කිය
මින් යෝවබ් මට උත්තර දුනෙන්යයි
31 කියා රජට දැන්වීය. රජද ඔහු කී ලෙස
ම කරපනහ. යෝවබ් වැගුරූ නිවැරදි
ලේ මාගෙනුද මාගේ පියානන්ගේ ගෙ
32 සිනුද පහකරන්ට ඔහු මරා තැන්පත්කර
පනහ. මාගේ පියවූ දාවිත් නොදැන සි
ටිද්දී තමහට වඩා ධර්මිෂ්ඨවූ යහපත්වූ
දෙන්නා එනම් නේර්ගේ පුත්‍රවූ ඊශ්‍රා
යෙල් සේනාවට මූලාදානිවූ අබ්නේර් ස
හ යෙතේර්ගේ පුත්‍රවූ යූදා සේනාවට මූ
ලාදානිවූ අමසාද කඩුවෙන් මැරූසේය
ඔවුන්ගේ ලේ ඔහුගේ හිස පිට යෙහෝ
33 වාවහන්සේ පමුනුවනසේක. එබැවින්
ඔවුන්ගේ ලේ යෝවබ් සහ ඔහුගේ ද
රුවන්ගේද හිස පිට සදාකල්හි පැමිනෙ
නේය. එහෙත් දාවිත් පිටද ඔහුගේ ව
ංශය පිටද ඔහුගේ ගේ පිටද ඔහුගේ
සිංහාසනය පිටද යෙහෝවාවහන්සේ
ගෙන් සදාකල්හි සමාදානය වේනේය
34 යි ඔහුට කීය. එසේ යෙහොයාදාගේ පු
ත්‍රවූ බෙනයා ගොස් ඔහුට පහරදී මැ
රීය. ඔහු වනාන්තරයෙහිවූ තමාගේ ගේ
35 ඇතුලේ තැන්පත්කරනු ලැබීය. රජද
යෝවබ්ගේ සේනානායක තනතුරෙහි
යෙහොයාදාගේ පුත් බෙනයාද අබියා
තර්ගේ තනතුරෙහි පූජකවූ සාදොක්ද
36 තැබීය. රජ ෂිමෙයිට අඬගා යෙරූසලම්
හි ගෙයක් සාදා එහි වාසයකොට කො
යි තැනකටවත් එතනින් යන්ට එපාය.
37 නුඹ කිද්‍රොන් ගඟ එතරව යන දවසේ
සැබවින් නසිනෙනහියයි දැනගනිනහ.
නුඹේ ලේ නුඹේ ඉස පිටම වේනේයයි
38 ඔහුට කීයේය. ෂිමෙයිද ඒ කීම යහපත
මාගේ ස්වාමිවූ රජ්ජුරුවන්ගේ කීම ලෙ
ස ඔබගේ වැඩකාරයා කරන්නේයයි ර
ජුට කීය. ෂිමෙයි යෙරූසලමෙහි බො
39 හෝ දවස් සිටියේය. තුන්අවුරුද්ද අන්
තිමේදී ෂිමෙයිගේ වැඩකාරයෝ දෙන්
නෙක් පලාගොස් මාකාහ්නම් ගත්හි ර
ජුගේ පුත්‍රවූ ආකිෂ් ලඟට ගියෝය. නු
ඹේ වැඩකාරයෝ ගත්හි සිටිනෝයයි
40 ෂිමෙයිට ආරංචිවිය. ෂිමෙයිද නැගිට ත
මාගේ කොටළුවා පිට හැඳ දමා තමන්
වැඩකාරයන් සොයන්ට ගත්හි ආකිෂ්

ළඟට ගොස් ගත් සිට තමන් වැඩකාර
41 යන් ගෙනාසේය. එවිට ෂිමෙයි යෙරූ
සලමෙන් ගත් නුවරට ගොස් දෙවනු ආ
42 සේයයි සලමොන්ට කියනලද්දේය. ර
ජද දූතයන් යවා ෂිමෙයි අඬගසා නුඹ
පිටත ගොස් යම් තැනක දුර ඇවිදින ක
ල නිසැකව නසිනෙනහියයි කියා යෙ
හෝවඃවහන්සේ ගැන නොදිවිරවූයෙම්
ද? නුඹද මා ඇසූ වචන යහපතැයි මට
43 කීය. එසේවීනම් යෙහෝවඃවහන්සේ
ගේ දිවිරවීම සහ මා විසින් කල ආඥාව
ද රක්ෂා නොකලේ මන්දැයි ඔහුට කීය.
44 තවද මාගේ පියවූ දාවිත්හට කලාවූ නු
ඹේ සිතින් දැනගත් සියළු නපුරුකම ද
නෙහිය. එබැවින් යෙහෝවඃවහන්
සේ නුඹේ ඉසපිට නුඹේ නපුරුකම පමු
45 නුවනසේක. සලමොන් රජ ආශීර්වාද
ඇතිව සිටිනේය. දාවිත්ගේ සිංහාස
නයද යෙහෝවඃවහන්සේ ඉදිරියෙහි ස
දාකල්හිම පිහිටුවා තිබෙනේයයි ඔහුට
46 කියා යෙහොයාදාගේ පුත් බෙනෙයා
ට අනකලේය. ඔහු පිටත්ව ගොස් මැ
රෙනකල් ඔහුට පහර දුනේය. රාජ්‍ය
යද සලමොන්ගේ අතෙහි පිහිටා ති
බුනේය.

3. පරිච්ඡේ. සලමොන් මිසරයෙහි ර
ජවූ ඵාරාවෝ සමග එකගව ඵාරාවෝ
ගේ දූ පාවාගෙන තමාගේ ගෙයත් යෙ
හෝවඃවහන්සේගේ ගෙයත් යෙරූසල
ම වට තිබෙන පව්රත් සාදා නිමවනතු
රූ දාවිත්ගේ නුවරට ඈ ගෙනාසේය.
2 යෙහෝවඃවහන්සේගේ නාමයට කිසි
ගෙයක් එදවස්වෙනතුරූ සාදා නොති
බුනු බැවින් උස්වූ තැන්වලදී මිනිස්සු
3 පූජාකලෝය. සලමොන්ද තමාගේ පිය
වූ දාවිත්ගේ පනතවල් රක්ෂාකරමින් යෙ
හෝවඃවහන්සේට ස්නේහ කෙලේය.
නුමුත් උස්වූ තැනවලදී සුවඳ ද්‍රව්‍ය දවා
4 යාග පූජා කෙලේය. රජ පූජාකරන්ට ප්‍ර
ධාන උසස්ථානයවූ ගිබියොන්ට ගොස්
දවන පූජා දහසක් ඒ පූජාසනය පිට පූජ
5 කෙලේය. යෙහෝවඃවහන්සේ රාත්‍රියෙ
හි ස්වප්නයකින් ගිබියොන්හිදී සල
මොන්ට පෙනී තට දියයුතු දේ ඉල්වව
6 යි කීසේක. සලමොන්ද ඔබගේ වැඩ
කාරවූ මාගේ පියවූ දාවිත් ඔබගේ ඉදිරි
යෙහි සැබෑකමෙන්ද ධර්මිෂ්ඨකමෙන්ද
ඔබ කෙරෙහි හිතේ ඇදනැති කමෙණ

කල්ඇරිය ලෙසට ඔබවහන්සේ ඔහුට
මහත්වූ කරුණාව පෙන්වූසේක. ඔහුට
මේ මහත් කරුණාව පවත්වමින් මේ
දවස තිබෙනාක්මෙන්ම ඔහුගේ ආස
නයෙහි ඉනනට ඔහුට පුත්‍රයෙක් දුන්
7 සේක. දැන් මාගේ දෙවිවූ යෙහෝවඃව
හන්සේ මාගේ පියවූ දාවිත් වෙනුවට ඔ
බගේ වැඩකාරයා ඔබවහන්සේ රජක
ලසේක. මමද කුඩා දරුවෙක්ව ඇතුල
8 පිට හැසිරෙනනට නොදනිමි. ඔබගේ
වැඩකාරයා මහත්වූ ගනන්කරන්ට බැ
රිවූ ඔබ විසින් තෝරාගත් මිනිසුන් මැ
9 ද සිටිනේය. එබැවින් යහපතෙහිද
නපුරෙහිද වෙනස දකිනනට මට පුළු
වන්වෙන පිනිසත් ඔබගේ මේ මහත්
මිනිසුන් විනිශ්වයකරණ පිනිසත් ඔබ
ගේ වැඩකාරයාගේ හිතට නුවන දුන
මැනව. මක්නිසාද ඔබගේ මේ මහත්වූ
මිනිසුන් විනිශ්වයකරන්ට කාට පුළුවන්
10 දැයි කීයේය. සලමොන් මේ දේ ඉල්ළු
බැවින් මේ කාරණාව යෙහෝවඃවහන්
11 සේට ප්‍රිය විය. තවද දෙවියන්වහන්සේ
තා විසින් මේ දේ ඉල්ළු බැවිනුද තා උ
දෙසා දීර්ඝායුසවත් වස්තුවවත් තාගේ
සතුරන්ගේ ජීවිතවත් නොඉල්ලා විනිශ්
චය තෝරණ පිනිස තට නුවන ඉල්ළු
12 බැවිනුද මම තාගේ වචනය ලෙස කො
ට තට ඉස්සරවත් පස්සේවත් තා සමා
න කිසිවෙක් නොනැගිටින ලෙස නුව
13 න සහ තේරුම්වෙන සිතත් දුනිමි. ත
වද වස්තුවද නම්බුවද යන තා විසින්
නොඉල්ළු දේ දෙකම තට දුනිමි. එසේ
හෙයින් තාගේ සියළු දවස්වලදී රජුන්
අතරෙහි කිසිවෙක් තා සමාන නො
14 වෙනේය. තාගේ පියවූ දාවිත් කල් ඇ
රිය ලෙස මාගේ නියෝගවල්ද ආඥාවල්
ද රක්ෂාකරමින් මාගේ මාර්ගවල්හි පව
තිනෙනහිනම් තාගේ දවස් වැඩිකරන්
15 නෙමියි කීසේක. එවිට සලමොන් පිබි
දුනේය. එක හීනයෙක් බව දැනගත්
තේය. තවද යෙරූසලමට ඇවිත් යෙ
හෝවඃවහන්සේගේ ගිවිසුම් පෙට්ටිය ඉ
දිරිපිට සිට දවන පූජාද ශාන්ති පූජාද පූ
දා තමාගේ සියළු වැඩකාරයන්ට මඟු
ලක් දුනේය.
16 එවිට වේශ්‍යා ගෑනු දෙදෙනෙක් රජු
17 ළඟට ඇවිත් එකියක් අනේ මාගේ ස්වා
මිනි මමත් මේ ස්ත්‍රීත් එක ගෙයක සිටි
යෙමුව. ඒ ගෙයි ඈ සමග සිටිද්දී මම

18 දරුවෙක් වදුගතිමි. මා වැදූ තුන් දින
කට පසු මේ ස්ත්‍රීද වැදුවාය. අපි එකතු
ව සිටියෙමුව. ගෙයි අප දෙදෙනා ඇර
19 වෙන කිසිවෙක් නොසිටියේය. තවද
මේ ස්ත්‍රී ඇගේ දරුවා පිටට පෙරළුන
20 නිසා රාත්‍රියෙහි ඔහු මැරුණේය. ඈ ම
ධ්‍යම රාත්‍රියෙහි නැගිට ඔබගේ වැඩකා
රිවූ මා නිදාගත්විට මාගේ පුත්‍රයා මා ල
ඟින් අරගෙන ඇගේ ලෙහි තබාගෙනි
මින් ඇගේ මල දරුවා මාගේ ලෙහි තැ
21 බූවාය. උදය මාගේ දරුවාට කිරි දෙන්
ට නැගිට්ට විට ඔහු මැරී තිබුණේය. එ
හෙත් උදය මම ඒක බැළුයෙමි. එවිට ඒ
මා වැදූ මාගේ පුත්‍රයා නොවේයයි කිවා
22 ය. අනික් ස්ත්‍රීද නැත ජීවත්වූ පුත්‍රයා මා
ගේය මල පුත්‍රයා තුඹේයයි කිවාය. මේ
ස්ත්‍රීද නැත මල පුත්‍රයා තුඹේය ජීවත්වූ
පුත්‍රයා මගේයයි කිවාය. මෙසේ ඔවුන්
23 රජු ඉදිරියෙහි පැමිනිලි කලෝය. එවි
ට එකියක් මේ ජීවත්වූ පුතා මගේය ම
ල පුතා තුඹේය කියාද අනිකීද නැත
මල පුතා තුඹේය ජීවත්වූ පුතා මගේ
24 ය කියාද කී නිසා මට කඩුවක් ගෙනෙ
නුනැයි රජ කීයේය. ඔවුහුත් රජ ඉදිරි
25 යට කඩුවක් ගෙනාවෝය. එවිට රජ ජී
වත්වූ පුත්‍රයා දෙකඩකොට භාගයක් එ
කියෙකුටත් භාගයක් අනිකිටත් දීපන්
26 නැයි කීයේය. එවිට ජීවත්වූ පුත්‍රයා ඇ
ති ස්ත්‍රී ඇගේ හිත ඒ පුත්‍රයා නිසා උණු
වූ බැවින් අනේ මගේ ස්වාමිනි කොයි
ප්‍රකාරයකින්වත් ජීවත්වූ දරුවා නො
මරා ඇට දුනමැනවයි රජුට කිවාය. එ
හෙත් අනිකී මාගේවත් තුඹේවත් ඒ
නොවේවා. එහෙත් ඔහු බෙදපනැයි
27 කිවාය. එවිට රජ උත්තර දෙමින් ජීවත්
වූ දරුවා කොයි ප්‍රකාරයකින්වත් නොම
රා ඇට දීපන්න. ඈ ඔහුගේ මෑනියෝ
28 යයි කීයේය. රජු විසින් කරණලද වි
නිශ්චය සියළු ඊශ්‍රායෙල්වරුම අසා වි
නිශ්චයකරන්ට ඔහු තුලේ දෙවියන්ව
හන්සේගේ ඥුවන තිබුණු බව දැක රජු
ට භයවූණෝය.

4. පරිච්ඡේ. සලමොන් රජ සියළු ඊ
2 ශ්‍රායෙල් කෙරෙහි රජ විය. ඔහු යටතේ
සිටි මූලාදෑනිනම් පූජකවූ සාදොක්ගේ
පුත් අසරියා සහ ශිෂාගේ පුත්වූ එලිහො
3 රෙප්ද අහියාද ලියනෙනෝය. අහිළුද්
ගේ පුත්වූ යෙහොසාපත් ලේකම විය.
4 යෙහොයාදාගේ පුත් බෙනායා සේනාන
යකයාය. සාදොක් සහ අබියාතාර්ද පූජ
5 කයෝ වූනෝය. නාතාන්ගේ පුත් අස
රියා උතුම් ප්‍රධානියා විය. නාතාන්ගේ
පුත් සබුද් පලමුවෙනි නායකයාද රජ
6 මිත්‍රයාද විය. අහිෂර්ද ගේ බලන ප්‍රධා
නියාය. අබ්දාගේ පුත් අදොනිරාම්ද අ
7 බදු ගන්නා මූලාදෑනියාය. අවුරුද්දේ
එක එක මාසේට එක එකා බැගින් රජ
ජුරුවන්ට සහ තමාගේ පිරිවරටත් කෑ
ම සපයන්නාවූ සියළු ඊශ්‍රායෙල් කෙරෙ
හි මූලාදෑනි දොලසක් සලමොන් රජුට
8 සිටියෝය. ඔවුන්ගේ නාමවල්ද මේ
9 එප්‍රායිම්හි කන්දේ හූර්ගේ පුත්‍රයාය. මා
කස්හිද ශාහල්බිම්හිද බෙත්ෂෙමෙශ්හි
ද එලොන් බෙත්හනාන්හිද දෙකර්ගේ
10 පුත්‍රයාය. අරුබොත්හි හෙසෙද්ගේ පු
ත්‍රයාය. ඔහුට සොකොඃ සහ හෙපේර්හි
11 සියළු දේසයත් අයිතිය. සලමොන්ගේ
දූවූ තාපත් භායිෂාකොට ගත්තාවූ සිය
දෝර් දේසයෙහි අබිනාදබ්ගේ පුත්‍රයා
12 අහිළුද්ගේ පුත්වූ බනාය. යෙස්‍රීල්ට පා
තවූ සර්තානාට ලඟවූ බෙත්සියන් පටන්
යොක්නිමට එපිට ආබෙල් මෙහොළා
දක්වා තිබෙන මුළු බෙත්සියනද තානා
13 සහ මෙගෙද්දෝද ඔහුට අයිතිය. රා
මොත් ගිලියද්හි ගෙබෙර්ගේ පුත්‍රයාය.
ගිලියද්හි තිබෙන්නාවූ මනස්සෙස්ගේ
පුත්‍රවූ යායිර්ගේ නුවරවල් සහ පවුරුද
පිත්තලෙන් කල හරස් පොළුද තිබෙන
හැටක් මහ නුවරවල් ඇති බෂාන්හි අ
14 ර්ගොබ් රට ඔහුට අයිති විය. ඉද්දෝගේ
15 පුත්වූ අබිනාදබ්ට මහනායිම් තිබුණේ
ය. සලමොන්ගේ දූවූ බසිමත් භාර්‍යා
16 කොටගත් අහිමාස් නප්තලියෙහි සිටියේ
ය. හූෂයිගේ පුත්වූ බනාඃ අෂේර් සහ ආ
17 ලොත්හි සිටියේය. පරුයාගේ පුත්වූ
18 යෙහොෂාපත් ඉස්සාඛර්හි සිටියේය. ඒ
ලාගේ පුත්වූ ෂිමෙයි බෙන්යාමින්හි සිටි
19 යේය. ඌරිගේ පුත්වූ ගෙබෙර් ගිලියද්හි
වූ අමෝරිවරුන්ගේ රජ සිහොන්ගේ
දේසයේද බෂාන්හි රජ ඔග්ගේ දේස
යේද සිටියේය. ඔහුද දේසයෙහි තනිවූ
නායකයාය.
20 මූදු වෙරල වැලි මෙන් ඉතා බෝවූ
යූදාඃ සහ ඊශ්‍රායෙල්වරුද කමින් බො
මින් සෙලලම් කරමින් සිටියෝය. ගඟ
21 පටන් පිලිස්තිවරුන්ගේ දේසය සහ මි
සරයෙහි සීමාවත් දක්වාද තිබෙන සියළු

රාජ්‍යවල් කෙරෙහි සලමොන් අධිපති
කම් කෙලේය. ඔවුන් පඬුරු ගෙනෙ
මින් ඔහුගේ ජීවත්විමෙහි සියළු දවස්ව
22 ල සලමොන්ට මෙහෙකලෝය. සල
මොන්ගේ කෑමද දවසකට සිහින් ගෝ
ධූම පිටියෙන් නැලි තිහක්ද යව පිටි
23 යෙන් නැලි හැටක්ද ගෝනුන්ද මුවනු
සිලෑ මුවන්ද තර පක්ෂීන්ද ඇර තර
ගොන් දස දෙනෙක්ද තණ බිමින්
ගොන් විස්සක්ද බැටළුවන් සියයක්ද වි
24 ය. ඔහු තිප්සඃ පටන් අස්සඃ දක්වා ගං
ගාවේ මෙගොඩ තිබෙන සියළු රටවල
වත් ගංගාවේ මෙගොඩ සියළු රජුන්
කෙරෙහිත් අධිපතිකම් කෙලේය. ත
මන්ට වටකර සියළු දිශාවලින් සමාදාන
25 ය තිබුණේය. යූදඃ සහ ඊශ්‍රායෙල් එකි
නෙකා තමතමන්ගේ මිදිවැල් සහ අත්
තික්කා ගස් යට දන් පටන් බෙෂීබා ද
ක්වා සලමොන්ගේ සියළු දවස්වලම සෑ
පතින් සිටියෝය.

26 සලමොන්ට තමන් රථවල් පිනිස අ
ශ්වයන්ගේ අස් පන්ති සතලිස් දහසක්
තිබුණේය. අසරුවෝ දොළොස් දහසක්
27 ද සිටියෝය. ඒ මුලාදෑනියෝ සලමොන්
රජ්ජුරුවන්ටද සලමොන් රජුගේ මේස
යට ආවාවූ සියල්ලටද එකිනෙකා තම
තමන්ගේ මාසේට කෑම සපයා දුනෝ
ය. ඔවුන් කිසිවකින් අඩුනොකලෝය.
28 ඔවුන් සියල්ලෝ තමතමන්ගේ බාරය
හැටියට අශ්වයන්ටද ඔටුවන්ටද යව ස
හ පිදුරුත් මූලාදෑනියන් සිටින තැනට
29 ගෙනාවෝය. දෙවියන්වහන්සේද සල
මොන්ට බොහෝ නුවණත් ප්‍රඥාවත් ම
හත් සිතකුත් මුහුදු වෙරලෙහි වැලි මෙන්
30 දුන්සේක. සලමොන්ගේ නුවණ නැගෙ
න ඉර දිසාවේ රටවල සියළු අයවල්ගේ
නුවණටද මිසරයන්ගේ සියළු නුවණටද
31 උතුම් විය. ඔහු සියළු මනුෂ්‍යයන්ටද එ
ස්‍රාහිය ඒතාන්ටද මාහොල්ගේ පුත්වූ
හෙමන් සහ කල්කොල්ටද දර්දටද වඩා
නුවණ ඇතිවිය. ඔහුගේ කීර්තියද වට
කර සියළු වර්ගහාවලට ප්‍රසිද්ධවුණේය. ඔහු
32 ද සිත උපදෙස් තුන්දහසක් කීයේය. ඔහු
33 ගේ ගීතිකාද එක්දස් පහක් විය. ඔහු
ලෙබනොන්හි තිබෙනාවූ කිහිරි ගස්
පටන් බිත්තියෙන් හැදෙන හිසොප් ද
ක්වා ගස් ගැනත් මෘගයනු පක්ෂීනු බඩ
ගානා සතුනු මත්ස්‍යයන්ද ගැනත් කථා
34 කෙලේය. ඔහුගේ නුවණ ගැන ඇසූ
පොලොවේ සියළු රජුන්ගෙන් මිනිස්සු
සලමොන්ගේ නුවණ අසන්ට ආවෝය.

5. පරිච්. සලමොන් තමාගේ පියා
සිලව්වට රජකොට අභිෂේක ලත් බව
දාවිත්ට නිතරම ආදර ඇති තීර්ඝි රජවූ
හිරම් අසා තමාගේ වැඩකාරයන් සල
2 මොන් ලඟට යැවීය. සලමොනු හිරම් ල
3 ඟට යවමින් යෙහෝවඃවහන්සේ මාගේ
පියවූ දාවිත්ගේ සතුරන් ඔහුගේ පතුල
යට තැබූසේක. ඒ වෙනතුරු වටකර සි
යළු දිසාවල තිබුණු යුද නිසා තමාගේ
දෙවිවූ යෙහෝවඃවහන්සේගේ නාමය
ට ගෙයක් සාදන්ට මාගේ පියාට බැරි
4 වූන බව ඔබ දන්නෙහිය. දැන් මාගේ
දෙවිවූ යෙහෝවඃවහන්සේ සතුරෙක්
වත් නපුරෙකුත් නොතිබෙන ලෙස ව
ටකර සියළු දිසාවල නිවාඩු මට දුන්සේ
5 ක. යෙහෝවඃවහන්සේ මාගේ පියවූ දා
විත්ට තා වෙනුවට තාගේ සිංහාසනය
පිට මා විසින් තබන තාගේ පුත්‍රයා මා
ගේ නාමයට ගෙයක් සාදනේයයි කී
වචනය ලෙස මාගේ දෙවිවූ යෙහෝවඃ
වහන්සේගේ නාමයට ගෙයක් සාදන්
6 ට සිතමි. එබැවින් ලෙබනොන්හි කිහි
රි ගස් මට කපාදෙන්ට අණකරපනු.
මාගේ වැඩකාරයෝද ඔබගේ වැඩකා
රයන් සමග වෙති. සිදොනියයන් මෙන්
ලී කපන්නට අප අතරෙහි සමර්ථ කෙ
නෙක් නැති බව ඔබ දන්නාහෙයින් ඔ
බ නියමකරණ සියල්ල ලෙස ඔබගේ වැ
ඩකාරයන්ගේ කුලී ඔබට දෙමියි කීයේ
7 ය. හිරම් සලමොන්ගේ වචන අසා ඉතා
සන්තෝසව මේ මහත්වූ මිනිසුන් ආඩු
කරණ පිනිස නුවණ ඇති පුත්‍රයෙක් දා
විත්ට දුන්නාවූ යෙහෝවඃවහන්සේට
8 මේ දවසෙහි ස්තුති වේවයි කීය. හිරම්
සලමොන් ලඟට යවමින් ඔබ මා වෙත
ට එව්වාවූ මිනිසුන් මාගෙන් ඉල්ළූ දේ
කල්පනා කෙලෙමි කිහිරි ලී ගැනත් බ
රොෂ ලී ගැනත් ඔබගේ සියළු අභිප්‍රාව
9 ඉෂ්ටකරන්නෙමි. මාගේ වැඩකාරයෝ
ලෙබනොන් සිට මුහුද දක්වා ඒ ලී ගෙ
නෙනෝය. ඔබ නියමකරණ තැනට
මුහුදෙන් පහුරුවලින් යවා එහි ගොඩ
බාවන්නෙමි. ඔබ ඒවා ලැබ මාගේ ගෙ
යි පිරිවරට කෑම දෙමින් මාගේ අභිප්‍රා
ව සම්පූර්ණ කරන්නෙහියයි කීයේය.
10 ඒ හැටියට හිරම් සලමොන්ගේ මුළු කෑ

මැනත ලෙස කිහිරි ලීද බරොෂ ලීද දු
11 නොත්ය. සලමොන් හීරම්ගේ ගෙසි පිරි
වරට කෑමට ගෝධුමවලින් නැලි විසි ද
හක්ද පවිත්‍රවූ තෙල්වලින් නැලි විස්
සක්ද ඔහුට දුනොත්ය. මෙන සලමොන්
12 හීරම්ට අවුරුදුපතා දුනොත්ය. යෙහෝ
වාවහන්සේද සලමොන්ට පොරොන්දුවූ
ලෙස ඔහුට නුවන දුන්සේක. හීරම් ස
හ සලමොන් අතරෙහි සමගිතාව තිබු
ණේය. ඔවුන් දෙනනා ගිවිසුමක් කලෝ
13 ය. සලමොන් රජද සියළු ඊශ්‍රායෙල් කෙ
රෙන් රැස්වීමක් කෙලේය. ඒ සමූහය
14 තිස්දහක් මනුෂ්‍යයෝය. ඔහුද ඔවුන්
පිලිවෙලින් මාසේකට දසදහක් බැගින්
ලෙබනොන්ට යවීය. එක් මසක් ඔවුන්
ලෙබනොන්හිද දෙමසක් ගෙසිද සිටි
යෝය. අදෝනිරම්ද සමූහයාට මූලාදැනි
15 යාය. සලමොන්ට බර උසුලනොත් හැ
ත්තෑ දහක්ද කඳුවල කපනොත් අසූ
16 දහක්ද සිටියෝය. ඒ හැර කම්මාන්ත
යෙහි වැඩකල මිනිසුන්ට මූලාදැනිකම්
කලාවූ කම්මාන්තයට නියමකරණලද්ද
වූ සලමොන්ගේ මූලාදැනින් තුන්දහස්
17 තුන්සියයක. රජුගේ අණව පිට ඔවුන්
ගෙයි අත්තිවාරම තැබීමට මහ ගල්ද
ඔප ඇති ගල්ද කැපූ ගල්ද ගෙනාවෝ
18 ය. සලමොන්ගේ සහ හීරම්ගේත් ගෙ
බඳිනොත්ද ගල් කපනොත්ද ඒවා කැ
පූවෝය. එලෙස ගෙය සාදන පිනිස ලී
ද ගල්ද සූදානම් කලෝය.

6. පරිච්. තවද ඊශ්‍රායෙල් පුත්‍රයන්
මිසර දේසයෙන් පිටත්ව ආවාට පසු හා
රසිය අසූවෙනි අවුරුද්දේදී ඊශ්‍රායෙල්
කෙරෙහි සලමොන්ගේ රජකම් කිරීමෙ
හි සතරවෙනි අවුරුද්දෙහි සිප් නම්වූ
දෙවෙනි මාසයෙහි ඔහු යෙහෝවාව
හන්සේගේ ගේ සාදන්ට පටන්ගතෙත්
2 ය. සලමොන් රජ යෙහෝවාවහන්සේ
උදෙසා සෑදූ ගෙයි දිග රියන් හැටක එ
හි පලලද රියන් විස්සක එහි උසද රි
3 යන් තිහක. මාලිගාව ඉදිරිපිට තිබෙන
බරණ්දේ දිග ගෙයි පලල හැටියට රියන්
විස්සක. ගේ ඉදිරියෙහිද එහි පලල රි
4 යන් දහයක. ඒ ගෙට පලල් නැති ක
5 වුළු සෑදුවේය. ඔහු ගෙයි බිත්තිය ලඟ
වටකර ඒනම් මාලිගාව සහ දේව වචන
කියන තැනද වටකර කුඩා ගෙවල් සෑ
6 දුවේය යට කුඩා ගෙයි පලල පස් රිය

නක මැද එකේ පලල හරියනක. තු
වෙනි එකේ පලල සත් රියනක. ය
ගෙයි බිත්තියේ නොගහනාට ගෙයි
පිට වටකර පලල් නැති පේකඩ සෑදී
7 ගේ හදන තැනට ගෙනෙන්ට ඉස්
කැපූ ගල්වලින් සෑදූ බැවින් ගේ හද
කල මිටියකවත් පොරොවකවත් ය
යකඩ ආයුධයකවත් අඩ ඇසෙන්ට න
8 තෙත්ය. මැද කුඩා ගෙයි දොර ගෙ
කුණු පැත්තේය වට ඉණිමගවලින් ම
ද ගෙට නැගී එයින් තුන්වෙනි ගෙ
9 යන්ට තිබුණේය. එසේ ඔහු ගේ සා
10 නිමවා කිහිරි යටලී සහ ලෑලිවලින්
වසා සියළුම ගේ ලඟ පස් රියන් කු
ගෙවල් බොඩනැගීය. ඒවාද කිහිරි
වලින් ගේ වැදී තිබෙනොත්ය.
11 තවද යෙහෝවාවහන්සේගේ වච
12 ය සලමොන්ට පැමිණ කියනුයේ තා
දු මේ ගේ ගැන තෝ මාගේ සියළු ප
තවල් පවත්වමින් මාගේ විනිශ්චය
පූර්ණ කරමින් මාගේ සියළු ආඥාවල් ව
ලංඝකර රක්ෂාකරනොහිනම් තාගේ
පියවූ දාවිත්ට මා විසින් කී වචන ප
ඉෂ්ටකොට ඊශ්‍රායෙල් පුත්‍රයන් අතරෙ
සිටිමින් මාගේ ඊශ්‍රායෙල් මිනිසුන් අ
13 නොහරිමියි කීසේක. සලමොන්ද ගේ
සාදා නිමාවූකොට ඇතුල් බිත්තිය ඒ
14 නම් ගෙයි බිම සහ දූව තට්ටුවේ බිත්
15 තියද කිහිරි ලෑලිවලින් සාදා ඇතුලේ
16 ලීවලින්ද බිම දේවදාර ලෑලිවලින් වසා
ගෙයි පැතිවල බිම සහ බිත්තියද වි
රියනක් කිහිරි ලෑලිවලින් සාදා ඒත
ඇතුල ඉතා පිරිසිදු දේව වචන කිය
17 තැන සෑදුවේය. තවද ගේ ඉස්සරහ
මාලිගාව දිගින් හතලිස් රියනක් වි
18 ගෙයි ඇතුලේ කිහිරි ලීවලින් කල
ඩි සහ කිසි ගලක් නොපෙනෙනා සේ
යට පිපි මළත් කපා සියලු කිහිරි ලී
19 ලින්ම විය. ඔහු යෙහෝවාවහන්සේ
ගිවිසුම් පෙට්ටිය තබනනාට ගේ ඇතුලේ
20 දේව වචන කියන තැන සෑදීය. දේව
වචන කියන තැන ඉදිරියෙහි දිගින් ප
ලලින් විසි රියනක. උසද විසි රියනක.
ඔහු ඒක පවිත්‍ර රනින් වැසුවේය. එසේ
ම කිහිරි ලීවලින්ම පූජාසනය වැසුවේය.
21 සලමොන් ගේ ඇතුල පවිත්‍ර රනින් ව
සා දේව වචන කියන තැන ඉස්සරහ
රන් මාලාවලින් වැටක් සාදා රනින් ගේ
22 සියලුම වැසුවේය. ඒක රනින් වසා නි

මකරණතුරු දේව වචන කියන තැන
ලඟ පූජාසනය ස්වර්ණ රනින් වැසුවේය.
23 ඔහු දේව වචන කියන තැන ඇතුලේ
ඔලිව ලීවලින් දස රියන් උස කෙරුබ්
24 දෙකක් සෑදීය. කෙරුබ් එක අත්තෑඅ
ක පස් රියනක අනික් අත්තෑඅක පස්
රියනක. අත්තෑත්දක කෙලවර පටන්
අනික් අත්තෑත්දේ කෙලවර දක්වා ද
25 ස රියනක. අනික් කෙරුබ් දස රියන
ක කෙරුබ් දෙක එක මිම්මත් එක මහ
26 තත් විය. එක කෙරුබ්ගේ උස දස රියන
27 ක අනික් කෙරුබත් එම උසය. ඔහු
කෙරුබ්ම් ඇතුල් ගෙයි තැබ්ය. ඔවුන්
කෙරුබ්ම්ගේ අත්තෑඅ ගේ මැද තට්ටු
වෙන ලෙස එක අත්තෑඅක් එක බිත්
තියකද අනික් කෙරුබ්ගේ අත්තෑඅ අ
නික් බිත්තියේද තට්ටුවෙන ලෙස කෙ
28 රුබ්ම්ගේ අත්තෑදී දිගුකලෝය. ඔහු
29 කෙරුබ්ම් රනින් වසා ගෙයි සියළු බිත්
ති වටකර ඇතුලත් පිටත් කොටාපු රූ
30 පවල්වූ කෙරුබ්ම්ද තල්ගස්ද පිපි මල්ද
කපා බිම ඇතුලෙහුත් පිටිහුත් රනින්
31 වැසුවේය. දේව වචන කියන තැනට
ඇතුල්වෙන්ට ඔලිව ලීවලින් දොරවල්
සෑදීය. උඩලිපතද උළුවහු කණුද බිත්
තියේ පලලින් පස්ගෙන් පංගුවක් විය.
32 දොර දෙකද ඔලිව ලීවලින්ය. ඔහුද
කොටාපු රූපවල්වූ කෙරුබ්ම්ද තල්
ගස්ද පිපි මල්ද කපා රනින් වසා කෙරු
බ්ම්ද තල් ගස්ද පිට රතුන් අතුලේය.
33 එසේද මාලිගාවේ දොරට ඔලිව ලීව
ලින් සතරැස් කණු සෑදීය. දොර දෙක
34 දේවදුර ලීවලින්ය. එක දොර දෙපිය
නත් අනික් දොර දෙපියනත් අකුලන
35 දොරවල්ය. ඔහුද ඒ පිට කෙරුබ්ම්ද
තල් ගස්ද පිපි මල්ද කපා ඒ කැපූ ක
36 ර්මාන්තයට සුදුසු කඩවසම් රනින් ව
සා ඇතුල් මිදුල කැපූ ගල් පේළි තුනක්
37 අ කිහිරි යටලී පේළියකින්ද සෑදීය. හ
තරවෙනි අවුරුද්දේ සිප් මාසේ යෙහෝ
වාවහන්සේගේ ගෙයි අත්තිවාරම තැ
38 බ්ය. එකොලොස්වෙනි අවුරුද්දේ බුල්
නම අටවෙනි මාසේදී ඒ ගේ ඒසේ අ
අමට එහි සියළු පංගුවල් කම්මුතු වූනේ
ය. ඔහු අවුරුදු හතක් ඇතුලත ඒක
සෑදීය.

7. පරිච්ඡේ. එහෙත් සලමොන් ත
මන් ගේ සාදමින් දහ තුන් අවුරුද්දකදී
2 ඒ සියල්ල නිමකෙලේය. ඔහුද ලෙබ
නොන් වනාන්තරයෙහි ගේ කිහිරි කණු
පෙල සතරක් පිටද කණු පිට කිහිරි යට
ලී තබා ගොඩනැගීය. එහි දිග රියන්
සියයක්ද පලල රියන් පනසක්ද උස රි
3 යන් තිසක්ද විය. පේලකට පහළො
හක් බැගින් කණු හතලිස් පහක් පිට
තිබුණු යටලී මතුපිට කිහිරි ලීවලින් වැ
4 සී තිබුණේය. තවද කවුළු තුන් පේළි
යක් විය ඒ පේළි තුනේද එළියකට එ
5 ළියක් මුදිරිපිටය. සියළු දොරවල්ද කණු
ද කවුළුද සතරැස්වත් ඇර තුන් පේළි
6 ගේ එළියකට එළියක් මුදිරිපිටය. ඔහු
ද කණුවලින් බරාදයක් සෑදීය. එහි දිග
රියන් පනහක්ද පලල රියන් තිහක්ද
විය. බරාදය ගේ මුදිරිපිටය. එහි කණුද
7 යටලීද ගේ කණුද යටලීද මුදිරිපිටය. එ
විට ඔහු විනිශ්චයකිරීමට හිඳිනතට සිං
හාසනයට බරාදයක් වන විනිශ්චය සා
ලාවක් සෑදීය. ඒත් බිම පැත්තක සිට අ
නික් පැත්ත දක්වා කිහිරි ලීවලින් වැසී
8 තිබුණේය. තවද ඔහු විසූ ගෙයි බරාදේ
තුල ඒ සමාන කර්මාන්ත ඇති අනික්
සාලාවක් විය. සලමොන් ඔහු සරණගත්
ඵාරාවෝගේ දුවට මේ බරාදය මෙන්
9 ගෙයක් සෑදීය. ඒ සියල්ල කපාපු ගල්ව
ල මිම් ලෙස අත්තිවාරම පටන් පේකඩ
දක්වා ඇතුලත් පිටත් කියත්වලින් ඉරූ
ඔප ඇති ගල්වලින්ය. මහ සාලාව දෙ
ස පිට පැතෙතහුත් එසේම තිබුණේය.
10 අත්තිවාරම ඔප ඇති දස රියනක් ගල්
සහ අට රියනක් මහත් ගල්වලින්ද විය.
11 ඊපිට කපාපු ගල්වල මිම් ලෙසවූ ඔප ඇ
12 ති ගල්ද කිහිරිද විය. යෙහෝවාවහන්
සේගේ ගෙයි ඇතුල් සාලාවටත් ගෙයි
බරාදෙවත් මහ සාලාව වටට කපාපු ගල්
වලින් තුන් පෙලක්ද කිහිරි යටලීවලින්
13 පෙලක්ද විය. සලමොන් රජ වැඩකාර
14 යන් යවා හිරම් තීර් සිට ගෙන්විය. ඔහු
නප්තලිය වංශයෙහි සානවැන්දුම් ස්ත්‍රිය
කුගේ පුත්‍රාය. ඔහුගේ පියානෝ තීර්හි
බඹාලාය. ඔහු සිහි නුවනින් සම්පූර්ණ
ව සියළු බඹල්වැඩ කරන්ට සමර්ථයෙක්
විය. ඔහු සලමොන් රජ ලඟට ඇවිත් ර
ජුගේ සියළු කර්මාන්ත කරමින් වච්
15 ට දෙලොස් රියනක් ඇති දහ අට රිය
නක් උස පිත්තල කණු දෙකක් වාත්තු
16 කෙලේය. කණු මුදුනේ තබන්නට වාත්
තුකරපු පිත්තලින් පේකඩ දෙකක් සෑ

දිය. එක ජේකඩයක උස රියන් පහක
අනික් ජේකඩේ උසත් පස්රියනය. ක
17 ලු මුදුනේ ජේකඩ ගැන ජේකඩයට ස
තක් සතක් බැගින්දැල් කර්මාන්ත කල
දැල්ද මල්ද කර්මාන්ත කල මල්ද සෑදීය.
18 ඔහු ඒ පිට ජේකඩවල් දෙළුන් ආකාර
ගෙඩිවලින් වසන්ට කනුද දැල් කර්මාන්
තයෙක්හි වටකරින් පේලි දෙකක්ද සා
දා අනික් ජේකඩයටද එසේ කෙළේය.
19 තවද බරාදේකනු උඩ තිබුනු මානෙල්
වැනිවූ කර්මාන්තයෙන් ජේකඩවල් ස
20 තර රියනය. කනු දෙකක් පිටවූ ජේක
ඩවල් උඩ දැල් කර්මාන්තය ලඟ තිබුනු
ගෙඩි ඉදිරිපිට දෙළුන් ආකාර ගෙඩි ති
බුනේය. අනික් ජේකඩය පිට දෙළුන්
ආකාර ගෙඩි දෙසියයක් පේලි වස
21 යෙන් වටට විය. ඔහු මාලිගාවේ බරා
දේ කනු හිටවිය. දකුනු කනුව හිටුවා
ඊට ජකින් යන නමත් වමේ කනුව හි
ටුවා ඊට බෝවස් යන නමත් තැබීය.
22 කනු උඩ මානෙල් ආකාර කර්මාන්තය
තිබුනේය. මේ හැටියට කනුවල ක
ර්මාන්තය සම්මූනු විය.
23 ඔහු වටවූ වාත්තුකරපු මූදක් සෑදීය.
ඒක ගැට්ය පටන් අනිත් ගැට්ය දක්වා රි
යන් දහයක්ය. එහි උස පස් රියනක ඒ
24 වටේට තිස් රියනය. මූද වාත්තුකරනක
ල එහි ගැට්ය යට රියනකට දසයක් බැ
ගින් මූද වටේට ගෙඩි දෙපේලියකින්
25 වාත්තුකර තිබුනේය. ඒ මූද පස්සේ ක
කුල් ඇතුලට තිබෙන ගව රූප දොළ
සක් පිට තිබුනේය. ඉන් තුනක් උතු
රුදිගටද තුනක් බස්නාහිරටද තුනක්
දකුනු දිගටද තුනක් පෙරදිගටද තිබු
26 නේය. මූද ඒවා පිට තිබුනේය. එහි ග
නකම සතරඟුලක්ය. එහි ගැට්යද ප
ත්‍රයක ගැට්ය මෙන් මානෙල් වැනි ක
ර්මාන්ත විය. ඒද බාත් දෙදහසක් අල්ලන්
27 නේය. ඔහුද දිග රියන් සතරක්ද පළල
රියන් සතරක්ද උස රියන් තුනක්ද ඇ
ති පතුල් ජේකඩ දසයක් පිත්තලෙන්
28 සෑදීය. පතුල් ජේකඩවල කර්මාන්තය
මෙසේය ඒවාට ගැට් මැද ඉම තිබුනත්
29 ඇර ගැට් මැද තිබුනු ඉම් පිට සිංහ රූ
පද හරක් රූපද කෙරුබිම් රූපද විය.
ගැට් පිට පතුල් ජේකඩයක් තිබුනේය
සිංහ රූපද හරක් රූපද යට එල්ලෙන
30 සිහින් කර්මාන්ත විය. සියළු පතුල් ජේ
කඩවලට පිත්තල සක් හතරක්ද ලෑලි
ද තිබුනේය. එහි කොන් සතරට ඇ
රවල් විය. නාන භාජනයට එල්ලෙන
සිහින් කර්මාන්ත ලඟ වාත්තුකරපු ද
31 ඩාරවල් විය. එහි කට ජේකඩය ඇ
ලත් උඩත් රියනක්ය එහෙත් එහි ක
පතුලේ ජේකඩේ කර්මාන්තය වට
එක්රියන් හමාරක් විය. ඇරත් එහි ක
පිට එහි ඉම් සමග කැටයම්ය ඒවා ව
32 නොව සතරැස්ය. ඉම් යට එක්රියන්හ
මාරක් උස්වූ සක් සතරක් විය. රෝදේ
වට්වූ පතුල් ජේකඩයට එකතුව තිබු
33 නේය. රෝදේ කර්මාන්තය රථ රෝද
යක කර්මාන්තය මෙන්ය. ඒවායේ අ
ද දඬුද නෙම්ද නාභිද දත්ද යන සි
34 ලු වාත්තුකර තිබුනේය. එක පතුල්
ජේකඩයක සතර කොනට යවින් ජේ
35 කඩයට අයිතිවූ ආධාර සතරක් විය.
තුල් ජේකඩය උඩ රියන් බාගයක් උ
වලල්ලක් වටට තිබුනත් හැර පතුල් ජේ
36 කඩය උඩ ගැට්ද ඉම්ද එයින්ම විය.
හි ගැට්වල ලෑලි පිටද එහි ඉම්වලද ඔ
හු ඒ ඒ පමන කෙරුබිම්ද සිංහ රූපද
තල්ගස්ද සැමැන්වීම්ද වටේට කෙටුවේ
37 ය. මේ හැටියට ඔහු පතුල් ජේකඩ දහ
ය සෑදීය. ඒ සියල්ලට එකම වාත්තුව
කුත් මිම්මකුත් ප්‍රමානයකුත්ය.
38 ඉන් පසු ඔහු පිත්තලෙන් නාන භා
ජන දහයක් සෑදීය. එක භාජනයක්
බාත් හතලිහක් අල්ලන රියන් හතරක්
ය. පතුල් ජේකඩ දහයෙන් එක එක
39 නාන භාජනයක් විය. ඔහු ගෙයි දකු
පැත්තේ පතුල් ජේකඩ පහක්ද වම
තේ පහක්ද තබා ගෙයි දකුනු පැ
තේ දකුන සහ නැගෙනහිර දිසා අ
40 රේ ඒ මූද තැබීය. හීරම් නාන භාජ
හැඳිද තැටිද සාදා සලමොන් රජු වෙ
වට යෙහෝවාවහන්සේගේ ගෙයි ඕනු
කල සියළු කර්මාන්තය නිමකෙළේ
41 ඒනම් කනු දෙකද උඩ තිබුනු ජේක
වල ගුලි දෙකද කනු උඩ තිබුනු ජේක
ඩවල ගුලි දෙක වසන්ට දැල් කර්මාන්ත
දෙකද එක දැල් කර්මාන්තයකට දෙ
42 එන් ගෙඩිවලින් පේලි දෙකක්වූ දැල්
කර්මාන්ත දෙකට දෙළුන් ඵල හාරසිය
43 යක්ද පතුල් ජේකඩ දහයද පතුල් ජේ
44 කඩ පිට නාන භාජන දහයද එක මූදද
45 ඒ මූද යට හරක් දොළසක්ද සැලිද හැ
ඳිද තැටිද සලමොන් රජුට යෙහෝ
වහන්සේගේ ගෙයි හීරම් කල ඒ සි

46 භාජන දිලිහෙන පිත්තලෙන්ය. යො
දීන් සමබිමේ සුක්කොත්ද සර්තානද අත
රේ මැටි බිමදී රජ ඒවා වාත්තුකෙරෙව්
47 වේය. සියළු භාජන බොහෝ නිසා සල
මොන් ඒවා නොකිරා හැරියේය. පිත්ත
ල බර කොපමනද කියා බැළුවේ නැත.
48 සලමොන් යෙහෝවාවහන්සේගේ ගෙ
ට අයිති සියළු භාජනද රන් පූජාසනයද
49 ඉදිරියෙහි පිදූ රොටි තිබුන රන් මේස
යද දකුණු පැත්තෙත් පහක්ද වම් පැත්
තෙත් පහක්ද දේව වචන කියන තැන
ඉදිරියෙහි තිබුණු පවිත්‍ර රණින් පහන්
50 රුක්ද මල්ද පහනද රන් හඳුද පාත්‍රාද ක
තුරුද තැටිද හැඳිද පවිත්‍ර රණින් දුම්
කබල්ද ඇතුල් ගෙයි අති පවිත්‍ර තැන
දොරවලටද මාලිගාවේ දොරවලටද රන්
51 අසව්ද සෑදෙව්වේය. මෙලෙස යෙහෝ
වාවහන්සේගේ ගෙට සලමොන් රජු
කෙරෙව් සියළු කර්මාන්ත නිමවුණේය.
සලමොන්ද තමන් පියවූ දාවිත් කැපක
ල සියළු රන් රිදීද භාජනද ඇතුලට ගෙ
නවිත් යෙහෝවාවහන්සේගේ ගෙයි ව
ස්තුව සමග තැබීය.

8. පරිච්ජ. එවිට සියොන් නම් දාවිත්
ගේ නුවරින් යෙහෝවාවහන්සේගේ
ගිවිසුම් පෙට්ටිය ගෙනෙන්ට සලමොන්
ඊශ්‍රායෙල්ගේ නායකයනද ගෝත්‍රවල මූ
ලාදෑනිනද ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ ප්‍රධාන
පියවරුන්ද යෙරුසලමෙහි සලමොන් ර
2 ජු ලඟට එක්කෙලේය. ඊශ්‍රායෙල් සියළු
මිනිස්සු එතානිම් නම් සත්වෙනි මාසේ ම
ගල්‍යා කාලේ සලමොන් රජු ලඟට එක්
3 කාසු වූනෝය. ඊශ්‍රායෙල්ගේ සියළු නා
යකයෝ ආවෝය. පූජකයෝද ගිවිසුම්
4 පෙට්ටිය එසෙව්වෝය. පූජකයෝද ලෙ
වීවරුද යෙහෝවාවහන්සේගේ ගිවි
සුම් පෙට්ටියද සභාමඩපයද සභාමඩප
යේ තිබුන සියළු පිරිසිදු භාජනද ගෙනා
5 වෝය. සලමොන් රජද ඔහු වෙතට
එක්කාසුවූන ඊශ්‍රායෙල් සියළු සමූදුවද
බෝහෝ නිසා කියන්ටවත් ගනන්ක
රන්ටවත් බැරි බැටළුවනද හරකුනද පූජා
කරමින් ගිවිසුම් පෙට්ටිය ඉදිරිපිට සිටි
6 යෝය. පූජකයෝද යෙහෝවාවහන්
සේගේ ගිවිසුම් පෙට්ටිය ගෙයි දේව ව
චන කියන අති පවිත්‍ර තැනට කෙරු
බිම්ගේ පියාපත් යටට නියම තැනට ගෙ
7 නාවෝය. කෙරුබිම් තමන් පියාපත් ගි
විසුම් පෙට්ටිය තිබෙන තැන අතුරගෙ
න පෙට්ටියත් එහි පොළුත් වසාගත්
8 තෝය. ඔවුනද අති පවිත්‍ර තැන දේව ව
චන කියන ඉඩම ඉදිරිපිටට ලීවල අග්
ගිස් පෙනෙනනට පොළු පිටත ඇද්දෝ
ය. ඒවාද අති පවිත්‍ර තැන පිටතට නො
පෙනුණේය. ඒවා අද දක්වාම එහි තිබෙ
9 නෙත්ය. ඊශ්‍රායෙල් පුත්‍රයන් මිසරදේස
යෙන් ආ කල යෙහෝවාවහන්සේ ඔ
වුන් සමග ගිවිසුමක් කල විට මෝසෙස්
හොරෙබ්හිදී එහි තිබූ ගල් ලෑලි දෙක
මිස ගිවිසුම් පෙට්ටියේ මොකවත් නැත.
10 යෙහෝවාවහන්සේගේ තේජසින් උන්
11 වහන්සේගේ ගේ පිරී තිබුන බැවින් පූ
ජකයන් පවිත්‍ර තැනින් පිටත ආකල ව
ලාකුල නිසා මෙහෙකිරීමට සිටිනනට
බැරි තරම් වලාකුලෙන් යෙහෝවාව
හන්සේගේ ගේ පිරුණේය.
12 එවිට සලමොන් කියනුයේ යෙහෝ
වාවහන්සේ ගනාන්ධකාරයෙහි වසන
13 සේකැයි උන්වහන්සේ කීසේක. ඔබව
හන්සේගේ වාසය කිරීමට ගෙයක්ද නි
තර ඔබවහන්සේගේ සිටීමට සවිවූ තැ
14 නක්ද සැබෑවට සෑදිමියි කිය. රජද මූ
හුන හරවා සියළු ඊශ්‍රායෙල් සමූදුවට ආ
ශිර්වාද කෙලේය. ඊශ්‍රායෙල් සියළු සමූදු
15 ව පයින් සිටියෝය. ඔහු කියනුයේ ක
වින් මාගේ පියවූ දාවිත්ට කථාකල අ
තින් සිද්ධකලාවූ ඊශ්‍රායෙල්ගේ දෙවිවූ
16 යෙහෝවාවහන්සේට ස්තුතිවේවා. උ
න්වහන්සේ මිසර දේසයෙන් මාගේ ඊශ්‍රා
යෙල් මිනිසුන් ගෙනා දා සිට මාගේ න
ම එහි පවතිනනට ඊශ්‍රායෙල් සියළු ගෝ
ත්‍රවලින් කිසි නුවරකුත් තෝරා නොග
තිමි. එහෙත් මාගේ මිනිසුන්ට මූලාදෑනි
වෙන්ට දාවිත් තෝරාගතිමියි කීසේක.
17 ඊශ්‍රායෙල්ගේ දෙවිවූ යෙහෝවාවහන්
සේගේ නාමය උදෙසා ගෙයක් සාදන්
ට මාගේ පියවූ දාවිත්ගේ සිතේ තිබුණේ
18 ය. යෙහෝවාවහන්සේද මාගේ පියවූ
දාවිත්ට මාගේ නාමයට ගෙයක් හදන්
ට තාගේ සිතේ තිබුණු නිසා සිතේ තෝ
19 යහපත් ලෙස කෙලෙහිය. එසේ නුමුත්
තෝ ඒ ගේ නොහදන්නෙහිය. එහෙත්
තට ජනකවෙන පුත්‍රයා මාගේ නාමය
20 ට ගෙයක් හදන්නේයයි කීසේක. යෙ
හෝවාවහන්සේද කී වචනය සිද්ධකල
සේක. මමත් මාගේ පියවූ දාවිත්ගේ වෙ
නුවෙන් නැගිට්ටෙමි යෙහෝවාවහන්

සේද පොරොන්දුවූන ලෙස ඊශ්‍රායෙල්
සිංහාසනේ හිඳ ඊශ්‍රායෙල්ගේ දෙවිවූ
යෙහෝවාවහන්සේගේ නාමයට ගෙ
21 යක් ගොඩනඟා යෙහෝවාවහන්සේ අ
පේ පියවරුන් මිසර දේසයෙන් ගෙනා
කල ඔවුන් සමග කල ගිවිසුම තිබෙන
පෙට්ටිය උදෙසා එහි තැනක් තැබීමියි
කීයේය.
22 සලමොන් ඊශ්‍රායෙල් සියළු සමූහව ඉ
දිරියෙහි යෙහෝවාවහන්සේගේ පූජාස
23 නය ඉදිරිපිටදී ස්වර්ගය දෙසට තමන්
අත් ඔසවා කියනුයේ ඊශ්‍රායෙල්ගේ දෙ
විවූ යෙහෝවාවහන්ස ඔබ ඉදිරියෙහි
තමන් මුළු සිතින් පවතිනනාවූ ඔබගේ
වැඩකාරයන් සමග පොරොන්දුවත් ද
24 යාවත් රක්ෂාකරනනාවූ මාගේ පියවූ ඔ
බගේ වැඩකාරවූ දාවිත්ට පොරොන්දු
වූනූ දේ ඔහු සමග පැවැත්වූ ඔබවහන්
සේට සමාන දෙවි කෙනෙක් උඩ ස්ව
ර්ගයේවත් යට පොළවේවත් නැතොත්
ය. කටින් කියා අද තිබෙන ලෙස ඔබ
25 ගේ අතින් ඒ සියල්ල සිඩකලසේක. ඒ
නිසා දැන් ඊශ්‍රායෙල්ගේ දෙවිවූ යෙහෝ
වාවහන්ස තා මා ඉදිරියෙහි පැවතුනාක්
මෙන් තාගේ දරුවෝ මා ඉදිරියෙහි ඔ
වුන්ගේ මාර්ගය බලාගෙන හැසිරෙන්
නාහුනම් ඊශ්‍රායෙල් සිංහාසනේ හිඳගන්
ට මා ඉදිරියෙහි කෙනෙක් තට අඩුනො
වේයයි කියා මාගේ පියවූ ඔබගේ වැඩ
කාරවූ දාවිත්ට පොරොන්දුවූනූ දේ ඔහු
26 සමග පැවැත්වූවමැනව. දැන් ඊශ්‍රායෙල්
ගේ දෙවියන්වහන්ස මාගේ පියවූ ඔබ
ගේ වැඩකාරවූ දාවිත්ට කී වචනය සිඩ
27 වේවා. එහෙත් දෙවියන්වහන්සේ සැබෑ
වට පොළවේ වසනසේක්ද? ස්වර්ගය
ද ස්වර්ගවල ස්වර්ගයද ඔබවහන්සේට
ඉඩම මදිය. මා විසින් ගොඩනැගූ මේ
28 ගේ ඊට කොපමන මදි නොවේද? නු
මුත් මාගේ දෙවිවූ යෙහෝවාවහන්ස
ඔබගේ වැඩකාරයා කරණ යාඥාවද ක
නනාලව්වද පිළිගෙන අද ඔබ ඉදිරියෙහි
ඔබගේ වැඩකාරයා පවත්වන යාඥාව
29 ශ්‍රවනය කලමැනව. මාගේ නම එහි ප
වතිනෙන්යයි ඔබ කී ස්ථානය වන මේ
ගේ දෙස ඔබගේ ඇස් රෑ දවල් හැරී
මේ ස්ථානයෙහිදී ඔබගේ වැඩකාරයා
පවත්වන ඔහුගේ යාඥාවද සැලකුව මැ
30 නව. ඔබගේ වැඩකාරයාද ඔබගේ ඊශ්‍රා
යෙල් මිනිසුන්ද මේ තැනට හැරී යාඥා ක

රණවිට ඔවුන්ගේ කනනාලව්ව අසා ඔ
බ වසන ස්වර්ගයේ සිට අසා අසනාකල
ක්ෂමාවූවමැනව.
31 යමෙක් තමාගේ අසල්වාසියාට අ
රිව වරදක් කලොත් ඔහු දිවුරවනා
නම් ඒ දිවිරීම මේ තැන ඔබගේ පූජා
32 නය ඉදිරිපිටට පැමිනුනොත් ස්වර්ගයෙ
හි සිට අසමින් නපුරාගේ නපුරුකම ඔ
හුගේ හිස පිටට පැමිනෙන ලෙස වරද
තබමින් ධර්මිෂ්ඨයා තමාගේ යහපත්ක
ම හැටියට විපාක ලබන ලෙස වරද
නොතබමින් ඔබගේ වැඩකාරයන් වි
නිශ්චය කලමැනව.
33 ඔබගේ ඊශ්‍රායෙල් මිනිසුන් ඔබට එ
දිරිව පව්කල නිසා සතුරන්ට පැරදී දෙ
වනු ඔබ වෙතට හැරී ඔබගේ නාම
ප්‍රකාසකොට යාඥාකරමින් මේ ගෙයිදී
ඔබට කනනාලව් කරණ කල ස්වර්ගයේ
34 සිට අසා ඔබගේ ඊශ්‍රායෙල් මිනිසුන්ගේ
පව් ක්ෂමාවී ඔවුන්ගේ පියවරුන්ට ඔ
බ දුන් රටට නැවත ඔවුන් ගෙනඒ
මැනව.
35 ඔවුන් ඔබට එදිරිව පව්කල නිසා ස්ව
ර්ගය පියා ඔබවහන්සේ වැසි නොවස්
වා ඔවුන්ට පීඩාකල විට ඔවුන් මේ ත
නට හැරී යාඥාකොට ඔබගේ නාම
ප්‍රකාසකරමින් ඔවුන් පාපයෙන් හැරු
36 නොත් ස්වර්ගයේ සිට අසා ඔවුන් පව්
තිනනාට ඕනෑ යහපත් මාර්ගය ඔවුන්ට
උගන්වා උරුමකොට ඔබගේ මිනිසුන්ට
දුන් රටට වරුසාව දී ඔබගේ වැඩකා
රයන්ගේ පව් ක්ෂමාවූව මැනව.
37 රටේ සාගතයවත් වසංගතයවත් ගො
යම් හානියවත් ගොයම් කරක්විඩ්ඩ
පලගැටියන්වත් පනුවන්වත් වත්තේ
නම් ඔවුන්ගේ රටේ නුවරවල ඔවුන්
ගේ සතුරෝ ඔවුන් වටකරනනාහුන
කොයිවර පීඩා නුමුත් කොයිවර ලෙ
38 ඩ නුමුත් ඔවුන්ට තිබෙනොත්නම් ඒ
මිනිහෙක්වත් ඔබගේ ඊශ්‍රායෙල් සිය
ළු මිනිස්සුවත් තමතමාගේ හිතේ පීඩා
දැනගෙන මේ ගේ දිහාවට අත් දි
ගුවත්නම් එකල ඔබවහන්සේ විතරක්
සියල්ලන්ගේ සිත් දන්නාසේකින් ඔවුන්
විසින් කල යාඥාවත් කනනාලව්වත් ඔ
39 බවහන්සේ වාසයකරණ ස්වර්ගයේ සි
40 ට අසා ඔබවහන්සේ අපේ පියවරුන්
ට දුන් රටේ ජීවත්වන සියළු අවස්ථාවල
ඔවුන් ඔබට භයවෙන පිනිස ඔවුන්

ක්ෂමාවී ඔවුන්ගේ හිත් දන්නා සෙයින් සියල්ලන්ට තමතමන්ගේ පැවැත්වීම ලෙස දුන මැනව.

41 තවද මිනිසුන් ඔබගේ උතුම් නාමයත් බලවත්වූ අතත් දිගුකල බාහුවත් 42 ගැන අසන සෙයින් ඔබගේ ඊශ්‍රායෙල් මිනිසුන්ගෙන් නොව ඔබගේ නාමය උදෙසා දුරු රටින් එන දේශක්කාරයෙක් ඇවිත් මේ ගේ දෙස බලා යාඥා 43 කරණ විට පොලොවේ සියළු මිනිසුන් ඔබගේ ඊශ්‍රායෙල් මිනිසුන් මෙන් ඔබ ඇඳිනගෙන ඔබට භයවෙන්ටත් මම ගොඩනැගූ මේ ගෙට ඔබගේ නම කියනලදැයි දැනගන්ටත් ඔබ වසන ස්වර්ගයෙහි සිට දේශක්කාරයා ඔබට යාඥා කරණ සියල්ල ලෙස කල මැනව.

44 ඔබගේ මිනිසුන් ඔබ යවන තැනකට සතුරාට එදිරිව යුධකරන්නට පිටත්ව යන්නාහුනම් ඔබ තෝරාගත් නුවරටද ඔබගේ නම උදෙසා මා විසින් ගොඩනැගූ ගෙය දෙසටද හැරී යාඥා කරන් 45 නාහුනම් ස්වර්ගයේ සිට ඔවුන්ගේ යාඥාවද කන්නලව්වද අසා ඔවුන්ගේ කා 46 රණාව සවිකල මැනව. ඔබට එදිරිව පව් නොකරණ කෙනෙක් නැති නිසා ඔවුන් ඔබට එදිරිව පව් කලොත් ඔබද ඔවුන්ට තරහව සතුරාට පාවාදෙනසේක්නම් සතුරෝද ඔවුන් දාසකොට දුරවත් ලඟවත් සතුරාගේ රටට ඔවුන් 47 ගෙනගියාහුනම් ඔවුන් දාසකොට ගෙනගිය රටේදී ඔවුන් කල්පනාකොට අපි පව්කර වැරදි මාර්ගයෙහි පැවත නපුරුකම් කලෙමුයයි කියා පශ්චාත්තාපව ඔවුන් දාසකොට ගෙනගිය ඇත්තන් 48 ගේ රටේ ඔබට කන්නලව් කියා ඔවුන් දාසකොට ගෙනගිය සතුරන්ගේ රටේදී ඔවුන්ගේ සියළු හිතෙන්නුත් ආත්මයෙන්නුත් ඔබ දෙසට හැරී ඔබ ඔවුන්ගේ පියවරුන්ට දුන් ඔවුන්ගේ රටත් ඔබ තෝරාගත් නුවරත් ඔබගේ නාමයට මා 49 විසින් ගොඩනැගූ ගෙයත් දෙස බලා ඔබට යාඥා කරන්නාහුනම් ඔබගේ වාසස්ථානය වන ස්වර්ගයේ සිට ඔවුන්ගේ 50 යාඥාවද කන්නලව්වද අසා ඔවුන් මිසරයෙන් යකඩ උදුන මැදින් ඔබ ගෙ 51 න ඔබගේ මිනිසුන්ද උරුමයද නිසා ඔවුන්ගේ කාරණාව සවිකොට ඔබට එදිරිව පව්කල මිනිසුන්ට ඔවුන් ඔබට එදිරිව වරදකල සියල්ල ක්ෂමාවී ඔවුන් දාසකොට ගෙනගිය ඇත්තන් ඔවුන්ට කරුණා කරන්නට ඔවුන් ඉදිරිපිට කරුණා 52 ව දුන මැනව. ස්වාමිවූ දෙවියන්වහන්ස ඔවුන් ඔබට යාඥා කරණ සියල්ල අසා ඔබගේ වැඩකාරයාගෙත් ඔබගේ ඊශ්‍රායෙල් මිනිසුන්ගෙත් කන්නලව්ව දෙසට ඇස් හැරී තිබෙන පිනිස ඔබවහන් 53 සේ අපේ පියවරුන් මිසරයෙන් ගෙනා විට ඔබගේ වැඩකාරවූ මෝසෙස් ලවා කියෙව් ලෙස ඔබට උරුමවෙන්නට ඔබ පොලොවෙහි සියළු මිනිසුන්ගෙන් ඔවුන් වෙන්කලසේකැයි කීය.

54 තවද සලමොන් යෙහෝවාවහන්සේට මේ සියළු යාඥාවද කන්නලව්ද කියා නිවාඩුවුනුවිට යෙහෝවාවහන්සේගේ පූජාසනය ඉදිරිපිට ස්වර්ගය දෙසට 55 අත් ඔසවා දනින් හිඳිමෙන් නැගී සිට මහත් ශබ්දයෙන් ඊශ්‍රායෙල් සමූදුවට 56 ආශීර්වාදකර උන්වහන්සේ පොරොන්දුවුනු සියල්ල ලෙස තමන් ඊශ්‍රායෙල් මිනිසුන්ට නිවාඩු දුන් යෙහෝවාවහන්සේට ආශීර්වාද වේවා. උන්වහන්සේගේ වැඩකාරවූ මෝසෙස් ලවා උන්වහන්සේ දුන් යහපත් පොරොන්දුවලින් එ 57 ක වචනයක්වත් අඩුනුනේය. උන්වහන්සේ අපෙන් අහක් නොව අප අත්නැර අපේ පියවරුන් සමග සිටි ලෙස අපගේ දෙවිවූ යෙහෝවාවහන්සේ අප සමග සිට උන්වහන්සේගේ සියළු මාර්ග 58 වල පවතින්ටත් අපේ පියවරුන්ට අන කල උන්වහන්සේගේ ආඥාවල්ද පනතවල්ද විනිශ්චයවල්ද රක්ෂාකරන්ටත් අපේ හිත් තමන් කරා නමාගන්නාසේක් 59 වා. උන්වහන්සේ තමන් වැඩකාරයාගෙත් තමන් ඊශ්‍රායෙල් මිනිසුන්ගෙත් කාරනාව සෑම දම ඕනෑ ලෙස සවික 60 රන්ටත් අන් කෙනෙක් නොව යෙහෝවාවහන්සේ දෙවියන්වහන්සේයයි පොලොවේ සියල්ලන් විසින් දැනගන්ටත් යෙහෝවාවහන්සේ ඉදිරියෙහි මා විසින් කල මේ කන්නලව්වල වචන රෑ දවල් අපේ දෙවිවූ යෙහෝවාවහන්සේ ළඟ 61 පවතීවා. ඒ නිසා අද මෙන් උන්වහන්සේගේ පනතවල පවතින්ටත් ආඥාවල් රක්ෂාකරන්ටත් නුඹලාගේ හිත් අපේ දෙවිවූ යෙහෝවාවහන්සේට පැහැදේ 62 වයි කීයේය. රජද සියළු ඊශ්‍රායෙල්ද යෙහෝවාවහන්සේට යාග පූජාකලෝ 63 ය. සලමොන් යෙහෝවාවහන්සේට

ලොම් කපන ගෙට ලන්වූ වල ලඟදී
මැරුවෝය.

15 ඔහු එතනින් පිටත්වූ කාම ඔහුගේ පෙ
රමගට ආ රෙකබ්ගේ පුත් යෙහොන
දබ් සම්භවිය. ඔහුට ආචාරකොට මාගේ
හිත ඔබේ හිතට එකතු ලෙස ඔබේ හි
ත එකතුදැයි ඇසීය. යෙහොනදබ්ද එ
සේයයි උත්තර දුන්නේය. එසේනම් නු
ඹේ අත මට දිගුකරපන්නැයි කීය ඔහු
16 තමන් අතද ඔහුට දිගුකෙලේය. යෙහු
ද රථේ තමන් ලඟට ඔහු ගෙන යෙහෝ
වාවහන්සේ උදෙසා මාගේ වියසීය බල
න්නට මා එක්ක වරෙන්නැයි කීය. ඒනි
සා ඔහුගේ රථයට ඔහු නැංගෙව්වේය.
17 යෙහුද සමාරියට ආකල යෙහෝවාව
හන්සේ එලියා ලවා කියෙව් කීම ලෙ
ස සමාරියේ ආහබ්ගෙන් ඉතිරි සියල්
ලන් මරා නැතිකෙලේය.

18 යෙහුද සියළු මිනිසුන් එකතුකර ආ
හබ් බාල්ට ස්වල්පයක් සේවය කෙලේ
ය. යෙහු ඔහුට බොහෝකොට අදහන්
19 නේය. ඒ නිසා බාල්ට මහත් යාගයක්
මට කරන්නට තිබෙන නිසා කවුරුවත්
නැර බාල්ගේ සියළු අනාගතවක්තෘන්
ද වැඩකාරයන් පූජකයන්ද දූත් මා ල
ඟට අඬගහපල්ලාය. නා කෙනෙක් මර
ණට පත්වේයයි සියළු මිනිසුන්ට කීය.
යෙහු බාල්ට අදහන සියල්ලන් නැතික
රණ පිනිස රැවටිලෙන් ඒක කෙලේ
20 ය. යෙහුද බාල් ගැන සුබවූ මඟලායයක්
වේයයි ප්‍රසිඬකරපල්ලායයි කීය ඔවුන්ද
21 ප්‍රසිඬකලෝය. යෙහුද ඊශ්‍රායෙල් රට මු
ළුදුම පනිවිඩකාරයන් ඇරියේය. බාල්
අදහන සියල්ලන්ගෙන් කිසිවෙක් ඉතු
රුනොවෙන ලෙස ඔවුන් සියල්ලෝ ඇ
විත් බාල්ගේ ගේ තුලට එකතුවුනෝ
ය. බාල්ගේ ගෙයද එක් කොනක ප
22 වන් අනික් කොන දක්වා පිරුනේය. එ
විට යෙහු ඇඳුම් තිබෙන ගෙයි මූලාදෑ
නියාට බාල් අදහන හැමටම ඇඳුම් පිට
23 ත ගෙනෙන්නැයි කීය. ඔහුද ගෙනා
යේය. යෙහුද රෙකබ් පුත් යෙහොන
දබ්ද බාල්ගේ ගෙට ගොස් බාල් අදහ
නනන් මිස මෙහි නුබලා එක්ක යෙහෝ
වාවහන්සේගේ කිසි වැඩකාරයෙක්
නැති බව සොයා බලාපල්ලායයි බාල් අ
24 දහන්නන්ට කීවෝය. ඔවුන් යාගද දව
න පූජාද පුදන්නට ඇතුලට ගියවිට යෙ
හු අසූවක් මිනිසුන් පිට සිටුවා මා විසින්
නුබලාට බාරදුන් මිනිසුන්ගෙන් කවු
රුවත් ගැලවී යන්ට අරින අයගේ ප්‍රා
ණය ඔහුගේ ප්‍රාණය වෙනුවට වනේ
25 යයි අනාකෙලේය. දවනපූජාකර ඉවර
නායින් පසු ඇතුලට ගොස් කාටවත්
වත එන්ට නැර ඔවුන් මරාපල්ලායයි
රකාර සේනාවටත් සේනානායකය
වත් යෙහු කීය. ඔවුන්ද කඩුමුවහතින්
ගසා මැරුවෝය. මුරකාර සේනාවද
26 සේනානායකයෝද ඔවුන් පිට දැ
බාල්ගේ ගේ තිබෙන නුවරට ගොස්
27 බාල්ගේ ගෙයින් රූපවල් පිටතට ගෙ
නත් ගිනිලා බාල්ගේ රූපය බිඳ බාල්
ගේ ගෙය කඩා අද දක්වා තිබෙන වැසි
28 කිලියක් කලෝය. එසේ යෙහු ඊශ්‍රා
29 යෙල් රටින් බාල් නැතිකෙලේය. නු
මුත් ඊශ්‍රායෙල්වරුන්ට පව්කිරීමට සැ
ලැස්සූ නෙබත් පුත් යෙරොබෝවම් වි
සින් සෑදූ බැතැල්හිද දන්හිද රන් වස්
සන් ඇදහීමෙන් කල පව් යෙහු අත්හැ
30 රියේය. තවද යෙහෝවාවහන්සේ යෙ
හුට කියනසේක් තෝ ආහබ් ගැන ම
ගේ සිතේ තිබෙන සියල්ල කර මාගේ
ඇස් ඉදිරියෙහි යුතුකම් කෙලෙහිය. ඒ
නිසා හතරවෙනි පරම්පරාවේ තාගේ
පුතුන් ඊශ්‍රායෙල් සිංහාසනේ හිඳගනිති
31 යි කීසේක. එහෙත් යෙහු තමන් මුළු හි
තෙන් ඊශ්‍රායෙල්ගේ දෙවිවූ යෙහෝවා
වහන්සේගේ ව්‍යවස්ථාව පවත්වන්ට ප්‍රි
යි ප්‍රවේසමක් නැතුව ඊශ්‍රායෙල්වරුන්
ට පව්කිරීමට සැලැස්සූ යෙරොබෝවම්
ගේ පව් අත්නැරියේය.

32 ඒ කාලේදී යෙහෝවාවහන්සේ ඊශ්‍රා
යෙල් රට අඩුකරන්නට පටන්ගත්සේ
33 ක. හසයෙල්ද යොර්දන් පටන් නැගෙන
ඉර දෙස ගද්වරුන්ගේද රූබෙන්
රුන්ගේද මනස්සිවරුන්ගේද දේසය
ගිලියද් රටද අර්නොන් ගඟ ලඟ අරෝ
වේර් පටන් ගිලියද්ද බාශාන් දක්වා ඊශ්‍රා
යෙල් සියළු සීමාවල ඔවුන්ට පහර දුන්
34 නේය. යෙහුගේ අනික් ක්‍රියාවල්ද ඔහු
කල සියල්ලද ඔහුගේ සියළු බලයද ඊශ්‍රා
යෙල් රජුන්ගේ ලේකම් පොතේ ලියා
35 තිබෙනොත් නැද්ද? යෙහුද මැරී සමාරි
යේ තැන්පත්වුනේය. ඔහුගේ පුත් යෙ
හොවස් ඔහු හිලව්වට රජකම් කෙලේ
36 ය. යෙහු සමාරියෙහි ඊශ්‍රායෙල්ට රජ
කම් කල කාලය විසි අට අවුරුද්දක.

11. පරිච්ජෙ. තවද අහසියාගේ මව්
අතාලියා තමන් පුත්‍රයා මළ බව දැක සිය
2 ළු රාජ වංශය නැතිකළාය. එහෙත් යෙ
හොෂෙබා නම් යෝරාම් රජ්ජුගේ දූවූ අ
හසියාගේ සහෝදරී මැරූ රාජ පුත්‍රයන්
ගෙන් අහසියාගේ පුත් යෝවාස් රහ
සින් ගත්තීය. ඔහුද ඔහුගේ කිරි මවද
අතාලියාගෙන් අරන් නිදන ගෙයි සැ
ඟවුණෝය. ඒ නිසා ඔහු මැරුම් නොකෑ
3 ගේය. ඔහු යෙහෝවාවහන්සේගේ ගෙ
යි ඈ සමඟ අවුරුදු හයක් සැංගී සිටි
යේය. අතාලියාද රටට රජකම් කළාය.
4 සත්වෙනි අවුරුද්දේ යෙහොයාදා සියය
ට නායකයන්වද සේනානායකයන්වද
මුරකාර සේනාවටද අඬගසා යෙහෝ
වාවහන්සේගේ ගෙයි ඔහු ළඟට ගෙ
න ගොස් ඔවුන් සමඟ ගිවිසුමක් කොට
යෙහෝවාවහන්සේගේ ගෙයිදී ඔවුන්
5 ගෙන් දිවුරුමක් අරගෙන රාජ පුත්‍රයා
පෙන්වා තුබලා විසින් කරනතට ඕනෑ
දේ මෙය. සබත් දවසේදී ඇතුල්වෙන
තුබලාගෙන් තුනෙන් පංගුවක් රජ
6 ගෙයි මුරට සිට තුනෙන් පංගුවක් සූර්
නම් දොරටුවේ සිට තුනෙන් පංගුවක්
මුරකාර සෙනඟට පස්සෙන් දොරටුවේ
සිට ගෙය නොබිඳින ලෙස ඒක රක්‍ෂා
7 කරති. සබත් දවසේ පිට යන තුබලා
සියල්ලන්ගෙන් තුනෙන් දෙපංගුවක්ද
රජ්ජු ළඟ යෙහෝවාවහන්සේගේ ගෙය
8 රක්‍ෂාකරති. තුබලාද ආයුධ අතින් ගෙ
න රජ්ජු වටකර සිට මිදුලට එන අය ම
රා රජ්ජුගේ යාම ඒමේදී තුබලා ඔහු එක්
ක සිටපල්ලායයි ඔවුන්ට අන දුන්නේය.
9 සියයට නායකයෝද යෙහොයාදා පූජක
යා අණදුන් සියල්ල කරමින් සබත් දව
සේ ඔවුන් සමඟ ඇතුලට එන පිටට ය
න තමතමන්ගේ මිනිසුන් අරගෙන යෙ
0 හොයාදා පූජකයා ළඟට ආවෝය. පූජක
යාද යෙහෝවාවහන්සේගේ ගෙයි තිබූ
න දාවිත් රජ්ජුගේ හෙල්ලද පලිහද සියය
1 ට නායකයන්ට දුන්නේය. මුරකාර සෙ
නඟද අතින් ආයුධ අරන් මාලිගාවේ ද
කුණු කොණේ පටන් වම් කොන දක්වා
පූජාසනයත් මාලිගාවත් ළඟ රජ්ජු වටක
2 ර සිටියෝය. යෙහොයාදා රාජ පුත්‍රයා පි
ටතට ගෙන ඔහුගේ ඉස පිට ඔටුන්න ත
බා චාංචාරිත්‍ර පොතකුත් දී ඔහු රජකර අ
භිෂේක කොට අත්පිඩි ගසා රජ්ජුරුවන්
වහන්සේ ජීවත්වනසේක්වායි කීවෝය.

13 අතාලියාද මුරකාර සෙනඟගේත් මි
නිසුන්ගේත් ඝෝෂාව අසා යෙහෝවා
වහන්සේගේ මාලිගාවේ මිනිසුන් ළඟ
14 ට ආවෝය. ඈ බැළූ විට පුරුදු හැටිය
ට කණුවක් ළඟ සිටින රජද රජ්ජු ළඟ සි
ටින කුමාරයෝද හොරනෑකාරයෝද
සතුටෙන් හොරනෑ පිඹින රටේ සියළු
මිනිස්සුද සිටියෝය. ඈ ඒ දැක තමාගේ
ඇඳුම් ඉරාගන ද්‍රෝහිකමය ද්‍රෝහිකම
15 යයි කියා කෑගැසුවාය. එහෙත් යෙහො
යාදා පූජකයා යෙහෝවාවහන්සේගේ
ගෙයි ඈ මරන්ට එපාය. ඈ මිදුලෙන්
පිට ගෙනත් ඈ පස්සේ එනතාන් කඩු
වෙන් මරාපල්ලායයි සේනාවේ මූලාදැනි
16 වූ සියයට නායකයන්ට අණකර කීය. ඔ
වුහු ඈ අල්වා අශ්වයන් රජ ගෙට එන
මඟින් පිටතට ගෙන එහිදී මැරුවෝය.
17 යෙහොයාදා ඔවුන් යෙහෝවාවහන්
සේගේ මිනිසුන් වෙන ලෙස යෙහෝ
වාවහන්සේ හා රජ්ජුද මිනිසුන් අතරෙ
හි ගිවිසුමක් කෙරෙව්වේය. රජ්ජුද මිනි
සුන් අතරෙහි ගිවිසුමක් කරන්ට යෙදු
18 ණේය. රටේ සියළු මිනිස්සුද බාල්ගේ
ගෙට ගොස් ඒක කඩා ඔහුගේ පූජාසන
යද රූපද මුළුමනෙන්ම කැලිකොට ක
ඩා දමා පූජාසනය ඉදිරියෙහිදී මත්තාන්
නම් බාල්ගේ පූජකයාද මැරුවෝය. පූ
ජකයාද යෙහෝවාවහන්සේගේ ගෙට
19 මූලාදැනීන් තබා සියයට නායකයන්ද
සේනානායකයන්ද මුරකාර සෙනඟද ර
ටේ සියළු මිනිසුන්ද ගෙනාගත්තෝය. ඔ
වුහු යෙහෝවාවහන්සේගේ ගෙයි සිට
රජ්ජු වැඩමවාගෙන මුරකාර සෙනඟගේ
දොර ළඟින් රජ ගෙට ආවෝය. ඔහුද
20 රාජ සිංහාසනේ හිඳගත්තේය. රටේ සිය
ළු මිනිස්සුද සතුටුවුණෝය නුවරද නිශ්
චල විය. අතාලියා රජ ගේ ළඟදී කඩු
21 වෙන් මැරුවෝය. යෙහොවාස් සත් අ
වුරුදු වයසේ රජකමට පත්වුණේය.

12. පරිච්ජෙ. යෙහූට සත්වෙනි අවු
රුද්දේ යෙහොවාස් රජකම් කරන්ට ප
ටන්ගෙන යෙරුසලමේ සතලිස් අවුරු
ද්දක් රජකම් කෙළේය. ඔහුගේ මව් බී
2 ෂේබාහි සිබියා නම් විය. යෙහොයාදා පූ
ජකයාගෙන් ඉගැන්වීමවල් ලැබූ සියළු
කාලේදී යෙහෝවාවහන්සේ ඉදිරිපිට
3 යුතුකම් කෙළේය. නුමුත් උස් තැන් ප
හනොකෙළේය. මිනිස්සුද උස් තැන්

4 වල ශුද්ධකර තුවද දුම් ගැසුවෝය. යෙ
හෝවස් පූජකයන්ට කථාකොට කැප
කළාවූ දේවල් ගැන ලැබෙන මිලද ය
න ඒන සියල්ලන්ගේ මිලද එකින් එකා
විසින් ගෙවිය යුතු නියම මිලද තමන්
කැමැත්තෙන් යෙහෝවාවහන්සේගේ
ගෙට ගෙනෙන මිලද යන යෙහෝවා
වහන්සේගේ ගෙට ගෙනෙන සියළු මි
5 ල පූජකයන්ට බාරදිය යුතුය. ඔවුහු ඒ
මුදල් තමන් මිත්‍රයන්ගෙන් ගෙන ති
බෙන තිබෙන කැඩුම් බිඳුම් අළුත්කර
6 වයි කීය. නුමුත් පූජකයෝ යෙහෝවස්
රජ්ජුගේ විසිතුන්වෙනි අවුරුද්ද දක්වා
ගෙයි කැඩුම් බිඳුම් අළුත් නොකලෝය.
7 එවිට යෙහෝවස් රජ යෙහෝයාදා පූජ
කයාටත් අනික් පූජකයන්ටත් අඬගසා
ගෙයි බිඳුම් අළුත් නොකරන්නේ මන්ද?
තුබලාගේ මිත්‍රයන්ගෙන් තවත් මිල
නොගෙන ඒවා බිඳුම් අළුත්වැඩියා කිර්
8 මට බාරකරපල්ලායයි කීය. පූජකයෝ
ද මිනිසුන්ගෙන් තවත් මුදල් නොගන්
වත් ගෙයි බිඳුම් අළුත් නොකරන්ටත්
9 පොරොන්දුවූනෝය. එහෙත් යෙහෝයා
දා පූජකයා පෙට්ටියක් අරන් උඩ ලෑල්
ල හිල්කර යෙහෝවාවහන්සේගේ ගෙ
ට එන පාරේ දකුණෙන් පූජාසනය ළඟ ති
බ්බය. දොර රකින පූජකයෝද යෙහෝ
වාවහන්සේගේ ගෙට ගෙනා සෑම මු
10 දල් ඒකේ දැමුවෝය. පෙට්ටියේ බො
හෝ මිල තිබෙනවා දුටුවිට රජ්ජුගේ
ලේකමද නායක පූජකයාද ඇවිත් යෙ
හෝවාවහන්සේගේ ගෙයි සම්භවූන
11 මුදල් ගනන්කර මළුවල ලා ඒ ගැනපු
මිල යෙහෝවාවහන්සේගේ ගෙයි වැ
ඩට මූලාදෑනීන් අතට දුනෝය. ඔවුහු
යෙහෝවාවහන්සේගේ ගෙයි වැඩකල
12 වඩුවන්ටත් හුනු වඩුවන්ටත් ගල් වඩු
වන්ටත් ගල් කපනනන්ටත් යෙහෝවා
වහන්සේගේ ගෙයි බිඳුම් අළුත්කිරීමට
ලීත් කැපූ ගළුත් මිල දී ගන්ටද ගෙය
අළුත්කරන්ට ඕනෑ සෑම දේ ගැනද ඒ
13 මුදල් දුනෝය. නුමුත් යෙහෝවාව
හන්සේගේ ගෙට ගෙනා මිලෙන් ඒ
ගෙට රිදී පාත්‍රා කතුරු තැටි හොරනෑ
රන් රිදී භාජන නොසාදවා ඒ මුදල් වැ
14 ඩකාරයන්ට දී යෙහෝවාවහන්සේගේ
15 ගෙය අළුත් කෙරෙව්වෙය. වැඩකාර
යන්ට දෙනවට මිල භාරදුන් මිනිස්සු
විශ්වාස ඇතෝය. ඒ නිසා ඔවුන්ගෙන්
16 ගනන් නොගත්තෝය. වරදත් පාප
ගැන දුන් මිල පූජකයන්ට අයිති නි
යෙහෝවාවහන්සේගේ ගෙට නො
නාවෝය.
17 එවිට ආරම්හි හසයෙල් රජ ගාත්
දිරිව ගොස් සටන්කර අල්ලාගන
18 සලමටත් යනනට හැරුනේය. යූදයි
යෝහොවස් රජ තමන් පියාවූ යෝහො
එත්ද යෙහෝරම්ද අහසියාද යන යූද
හි රජවරුන් විසින් කැපකල සෑම පි
සිදු දේවල්ද තමාගේ පිරිසිදු දේවල්
යෙහෝවාවහන්සේගේ ගෙයි භාණ්ඩා
ලත් රජ ගෙයින් සම්භවූනු සියළු රත්‍ර
අරන් ආරම්හි හසයෙල් රජ්ජුට යවීය. හ
සයෙල්ද යෙරුසලම් කෙරෙන් ගියේ
19 ය. යෝවස්ගේ අනික් ක්‍රියාවළුත් ඔහු
කල සියල්ලත් යූදා රජ්ජුන්ගේ ලේඛ
20 පොතේ ලියා තිබෙනෙත් නැද්ද! ඔහු
ගේ වැඩකාරයෝ රහසේ කැරලිගැ
සිල්ලට යන මග තිබෙන මිලෝහි
21 ගෙයිදී යෝවස් මැරුවෝය. ශිම්යත්ගේ
පුත් යොසකර්ද ශෝමර්ගේ පුත් යෙහෝ
සබද්ද යන තමන් වැඩකාරයෝ දෙදෙ
නා ඔහුට ගසා මැරුවෝය. ඔහුද දාවිත්
ගේ නුවර තමන් පියවරුන් ළඟ තැන්
පත්කරනු ලැබීය. ඔහුගේ පුත් අමසියා
ද ඔහු හිලව්වට රජකම් කෙලේය.

13. පරිච්. යූදාහි අහසියා රජ්ජුගේ
පුත් යෝවස්ට විසි තුන්වෙනි අවුරුද්දේ
යෙහූ පුත් යෙහෝවස් සමාරියේ ඊශ්‍රා
2 යෙල්හි රජකම් කරන්ට පටන්ගෙන
හතත් අවුරුද්දක් රජව යෙහෝවාව
හන්සේ ඉදිරියෙහි නපුරුකම් කර ඊශ්‍
යෙල් පව්කිරීමට සැලැස්සූ නෙබත් පු
යෙරොබෝවම්ගේ පව් අත්නැර
3 තීය. යෙහෝවාවහන්සේගේ උදහ
ඊශ්‍රායෙල්ට එදිරිව ඇවිල නිතරම ආ
හි හසයෙල් රජ්ජුගේත් හසයෙල් පු
බෙන්හාදද්ගේත් අතට පාවාදුන්
4 ය. එවිට යෙහෝවස් යෙහෝවාවහන්
සේට යාඥාවිය. යෙහෝවාවහන්සේද
ආරම්හි රජ්ජු විසින් ඊශ්‍රායෙල්වරුන්ට
5 කල පීඩාව දුටු නිසා ඔහුට ඇහුම්කන්
දී ඊශ්‍රායෙල්වරුන් ආරම්වරුන්ට
තීමෙන් ගලවාදුන් ගැලවුම්කාරයෙක්
දුන්සේක. ඊශ්‍රායෙල් පුත්‍රයෝද
ලෙස තමන්ගේ ගෙවල්වල සිටියෝ
6 නුමුත් ඊශ්‍රායෙල් පව්කිරීමට සැලැස්සූ

යෙරොබෝවම්ගේ වංශයේ පව් ඔවුන් අත්නැර කලෝය. සමාරියේ චෛත්‍ය 7 වෘක්ෂද තිබුණේය. ආරම් රජ මිනිසුන් නැතිකර පාගා දූවිලි ලෙස කෙලේය. ඒ නිසා සේනාවෙන් අසරුවන් පනහකුත් රථ දහයකුත් දසදහසක් පාබල සෙනඟත් පමණ යෙහෝවස්ට ඉතුරු 8 කෙලේය. යෙහෝවස්ගේ අනික් ක්‍රියාවළුත් ඔහු කල සියල්ලත් ඔහුගේ බලයත් ඊශ්‍රායෙල් රජුන්ගේ ලේකම් පො 9 තේ ලියා තිබෙනේ නැද්ද? යෙහෝවස්ද මැරී සමාරියේ තැන්පත්කරනු ලැබිය. ඔහු පුත් යෝවස් ඔහු හිලව්වට රජවිය.

10 යූදාහි යෝවස් රජුට තිස් හත්වෙනි අවුරුද්දේ යෙහෝවස්ගේ පුත් යහෝවස් සමාරියේ ඊශ්‍රායෙල්හි රජකම් කරන්ට පටන්ගෙන දහසාවුරුද්දක් රජ 11 ව යෙහෝවාවහන්සේ ඉදිරියෙහි නපුරුකම් කර ඊශ්‍රායෙල් පව්කිරීමට සැලැස්සූ නෙබත් පුත් යෙරොබෝවම්ගේ 12 සැම පව් අත්නැර කෙලේය. යෝවස්ගේ අනික් ක්‍රියාවළුත් ඔහු කල සියල්ලත් යූදා රජු අමසියාට එදිරිව බලය ඇතුව සටන්කල හැටිත් ඊශ්‍රායෙල් රජුන්ගේ ලේකම් පොතේ ලියා තිබෙනේ 13 නැද්ද? යෝවස්ද මැරුණේය. යෙරොබෝවම්ද ඔහුගේ සිංහාසනයෙහි හිඳගත්තේය. යෝවස් සමාරියේ ඊශ්‍රායෙල් රජුන් සමග තැන්පත්කරනු ලැබිය.

14 එලිෂාට මරණයානා ලෙඩක් ඇල්ළුවේය. ඊශ්‍රායෙල්හි යෝවස් රජද ඔහු ළඟට ඇවිත් ඔහුගේ මූන සිඹ අඬා මාගේ පියාණනි මාගේ පියාණනි ඊශ්‍රායෙල්ගේ 15 රථයත් අසරුවන් කිය. එලිෂාද දුන්නකුත් ඊගහත් ගනිනැයි කිය. ඔහු දුන් 16 නකුත් ඊගසුත් ගත්තේය. එලිෂාද තුබේ අත දුන්න පිට තබාපනැයි ඊශ්‍රායෙල් රජුට කිය. ඔහුද ඒක පිට අත තැ 17 බිය. එලිෂා තමන් අත් රජුගේ අත් පිට තබා නැගෙන ඉර කවුළුව හැරපනැයි කිය. ඔහුද ඒක හැරියේය. එලිෂාද විදින්ට කිය. ඔහුද විද්දේය. එලිෂාද යෙහෝවාවහන්සේගේ ගැලවීමත් ආරම්ගෙන් ගැලවීමත් නැමති ඊගසය. තුඹ ආරම්වරුන් අපෙක්හිදී ගසා නැතිකර 18 නෙනාහියයි කිය. එලිෂාද ඊගස් ගනින්නැයි කිය. ඔහුද ගත්තේය. ඔහු බිම ගසන්ට ඊශ්‍රායෙල් රජුට කිය. රජද තුන් 19 වරක් බිම ගසා සිටියේය. එවිට දෙවියන්වහන්සේගේ මනුෂ්‍යයා ඔහුට තරහව තුඹ පස් වරක් සවරක් ගහනාට ඕනැව තිබුණේය. එවිට තුඹ ආරම්වරුන්ට ගසා නැතිකරනෙනාහිය. දැන් තුන් වරක් පමණක් ආරම්වරුන් පරදවනෙනා 20 හියයි කිය. එලිෂාද මැරී තැන්පත්කරනු ලැබිය. මෝවබ්වරුන්ගේ සෙනඟ අවුරුද්ද මුලදී රටට ඇතුල්වුනෝය. 21 මිනිස්සු මිනියක් වලලනකොට යුධ සේනාවක් එනවා දැක එලිෂාගේ මිනී වලේ ඒ මිනිය දැමුවෝය. ඒ මිනිය එලිෂාගේ ඇටවල තැවරුණ කල පන ඉප 22 දී පයින් සිටියේය. ආරම්හි හසායෙල් රජ යෙහෝවස්ගේ සියළු කාලේදී ඊශ්‍රා 23 යෙල්ට පීඩා කෙලේය. යෙහෝවාවහන්සේද ආබ්‍රහම් ඊසාක් යාකොබ් සමග කල තමන් ගිවිසුම නිසා ඔවුන්ට කරුණාකොට ඔවුන් කෙරෙහි අනුකම්පා කලසේක. උන්වහන්සේ ඔවුන් සලකා ඔවුන් නැතිකරනාට අකමැතිව තමන් ඉදිරිපිටින් තවවෙනතුරු ඔවුන් අහක් 24 නොකලසේක. ආරම්හි හසායෙල් රජ මෙලේය. ඔහු පුත් බෙන්හාදද් ඔහු හි 25 ලව්වට රජකම් කෙලේය. යෙහෝවස්ගේ පුත් යහෝවස් තමන් පියවූ යෙහෝවස් අතින් හසායෙල් පුත් බෙන්හාදද් විසින් යුධයේදී අල්ලාගත් නුවරවල් බෙන්හාදද්ගෙන් නැවත ගත්තේය. යෝවස් ඔහු තුන් වරක් පරදවා ඊශ්‍රායෙල් නුවරවල් දෙවනු ගත්තේය.

14. පරිච්ඡ. ඊශ්‍රායෙල්හි යහෝවස් රජුගේ පුත් යෝවස්ට දෙවෙනි අවුරුද්දේ යූදාහි යෝවස් රජුගේ පුත් අමසි 2 යා රජකමට පැමිණ විසිපස් අවුරුදු වයසේ රජකම් කරන්ට පටන්ගෙන යෙරුසලමේ විසිනව අවුරුද්දක් රජකම් කෙලේය. ඔහුගේ මව්ගේ නම යෙරු 3 සලමේ යහෝවද්දන් විය. ඔහු යෙහෝවාවහන්සේ ඉදිරියේ යුතු ලෙස කල් කල නුමුත් තමන් පියවූ දාවිත් ලෙස නොව තමන් පියවූ යෝවස් කල සියළු දේ 4 ලෙස කලේය. නුමුත් උස් තැන් නැතිකලේ නැත. තව වෙනතුරු මිනිස්සු උස් තැන්වල යාග පූජාකර සුවඳ දුම් ගැ 5 සුවෝය. තමන්ට රජකම සවිවුන කල ඔහු තමන් පිය රජ මැරූ වැඩකාරයන් 6 මැරීය. නුමුත් යෙහෝවාවහන්සේගේ

ආඥාවේ ප්‍රකාරයට දරුවන් නිසා පියවරුන්ද පියවරුන් නිසා දරුවන්ද මරණයට පත් නොවී සෑමදෙනාම තමතමන්ගේ පාපය නිසා මරණයට පත්වේවායයි කියා මෝසෙස්ගේ ව්‍යවස්ථා පොතේ ලියා තිබෙන ලෙස මැරූ ඇත්තන්ගේ දරුවන් නොමැරීය.

7 ඔහුද එලු නැනිතලාවේදී එදොම්වරුන් දසදහසක් මරා යුද්ධයෙන් සේලා අල්ලා අද දක්වා තිබෙන යොක්තේල් නම් තිබ්බිය.

8 ඉන්පසු අමසියා අපි ඔවුනොවුන්ගේ මූණු බලමුයයි ඊශ්‍රායෙල්හි යෙහූ රජුගේ පුත් යෙහොවස් පුත් යහෝවස්ට පණිවිඩකාරයන් අත කියා ඇරියේය.

9 ඊශ්‍රායෙල්හි යහොවස් රජ උත්තර දෙමින් ලෙබනොන්හි වේරැන තුඹේ දූ මාගේ පුතාට භාර්‍යාකොට දියන්නැයි ලෙබනොන්හි කිහිරි ගහට කියා ඇරියේය. ලෙබනොන්හි වල් සතෙක් ඒ ලඟින් ගොස් වේරැන පෑගීය.

10 තුඹ ඒදොම්වරුන් පැරදෙව් බව සැබෑයි එසින් හිත උඩඟු වූණේය. මෙ ගැන ගරුකම් කියා ගෙයි සිටපන්නා තුඹට නපුරක් වී තුඹද යූදාද නැතිවෙන ලෙස මැදිවෙන්නේ මන්දැයි අමසියාට කියා ඇරියේය.

11 නුමුත් අමසියා ඇහුවේ නැත. ඒ නිසා ඊශ්‍රායෙල්හි යහොවස් රජ ගියේය. ඔහුද යූදාහි අමසියා රජද යූදාහි බෙත්සෙමෙෂ්හිදී ඔවුනොවුන්ගේ මූනු බැලුවෝය.

12 ඊශ්‍රායෙල්ට යූදාවරු පැරදී සෑමෝම තමන් ගේවලට හැංගී ගියෝය.

13 ඊශ්‍රායෙල්හි යහොවස් රජද අහසියාගේ පුත් යහොවස් පුත් යූදාහි අමසියා රජු බෙත්සෙමෙෂ්හි අල්ලා යෙරුසලමට ඇවිත් එප්‍රායිම් දොරටුවේ සිට කොනේ දොර දක්වා යෙරුසලම් පවුරෙන් රියන් හාරසියයක් බිඳ

14 යෙහෝවාවහන්සේගේ ගේත් රජගෙයි ගබඩාවලත් සියළු රන් රිදී භාජනද ඇපකාරයන්ද ගෙන සමාරියට හැරී ගියේය.

15 යහොවස් කල අනික් ක්‍රියාවලත් ඔහුගේ බලයත් යූදාහි අමසියා රජු සමග යුද්ධකල හැටිත් ඊශ්‍රායෙල් රජුන්ගේ ලේකම් පොතේ ලියා තිබෙනොත් නැද්ද?

16 යහොවස්ද මැරී ඊශ්‍රායෙල් රජුන් සමග සමාරියේ තැන්පත්කරනු ලැබිය. තමන් පුත් යරොබෝවම්ද ඔහු හිලව්වට රජකම් කෙලේය.

17 යූදාහි යෝවස් රජුගේ පුත් අමසියා ඊශ්‍රායෙල්හි යෙහොවස් රජුගේ පුත් යහොවස්

මැරුණු පසු අවුරුදු පහලොහක් ජී
18 ව සිටියේය. අමසියාගේ අනික් ක්‍රි
වල් යූදා රජුන්ගේ ලේකම් පො
19 ලියා තිබෙනොත් නැද්ද? මිනිස්සු ඔ
ට එදිරිව යෙරුසලම්හිදී රහසේ කැ
ලි ගැසුවෝය. ඔහුද ලාකිෂ්ට හැංගී
යේය. නුමුත් ඔවුන් ඔහු පස්සේ මි
20 නුත් ලාකිෂ්ට යවා මරා අශ්වයන් පිට
බා ගෙනත් යෙරුසලමේ තමන් පිය
රුන් සමග දාවිත්ගේ නුවර තැන්පත්
21 කලෝය. සියළු යූදා මිනිස්සුද දහස
රුදු වයසේ අසරියා අරන් ඔහුගේ අ
සියානම් පියා හිලව්වට රජකමට ප
22 කලෝය. ඔහු ඒලත් ගොඩනගා යූදා
23 නැවත බාරදී මැරුණේය. යූදාහි යෝ
වස් රජුගේ පුත් අමසියාව පහලො
වෙනි අවුරුද්දේ ඊශ්‍රායෙල් යෝවස්
ජුගේ පුත් යරොබෝවම් සමාරියේ ර
කමට පත්ව හතලිස් එක් අවුරුද්දක්
24 රජව ඊශ්‍රායෙල් පව්කරන්ට සැලැ
නෙබත් පුත් යෙරොබෝවම්ගේ සි
පාප අත්නෑර යෙහෝවාවහන්සේ ඉ
25 රියෙහි නපුරුකම් කෙලේය. ඊශ්‍රායෙ
හි දෙවිවූ යෙහෝවාවහන්සේ තම
වැඩකාරයා ගත්හෙපර්හි අමිත්තයි පුත්
යෝනානම් අනාගතවක්තෘ ලවා කි
වූ වචනය ලෙස හාමත්ට ඇතුල්වෙ
තැන් සිට සමබිම මූද දක්වා ඊශ්‍රායෙ
26 සීමාවල් ඔහු නැවත පිහිටවූයේය. ද
වේසම්ව සිටින කෙනෙකුත් ගැලවුනු
කෙනෙක්වත් ගැලවුන්කාරයෙක්වත්
නැති නිසා ඊශ්‍රායෙල්ගේ පීඩාව දු
අමාරු බව යෙහෝවාවහන්සේ ද
27 ඊශ්‍රායෙල් යන නම අහස යට සි
නෙම්යි යෙහෝවාවහන්සේ නො
යෝවස්ගේ පුත් යරොබෝවම් ල
28 වූන් ගැලෙව්සේක. යරොබෝවම්
අනික් ක්‍රියාවලුත් ඔහු කල සියල්ල
හුගේ බලයත් යුද්ධකල හැටිත් දා
අයිති දමස්කයද හාමත්ද ඊශ්‍රායෙ
නැවත බාරදුන් හැටිත් ඊශ්‍රායෙල්
ජුන්ගේ ලේකම් පොතේ ලියා ති
29 නොත් නැද්ද? යරොබෝවම්ද ඊශ්‍රා
යෙල්හි තමන් පිය රජුන් ලෙස මැ
ණේය. ඔහුගේ පුත් සකරියා ඔහු හි
වට රජකම් කෙලේය.

15. පරිච්. ඊශ්‍රායෙල්හි යරොබෝ
වම් රජුව විසිහත්වෙනි අවුරුද්දේ

ශි අමසියඃ රජුගේ පුත් අසරියඃ රජකම්
2 කරන්ට පටන්ගත්තේය. දහසාවුරුදු
වයසේ රජකම පටන්ගෙන යෙරුසල
මේ පනස් දෑවුරුද්දක් රජකම් කෙලේ
3 ය. ඔහුගේ මව් යෙරුසලම්හි යකො
ලියඃ නම්ය. ඔහුගේ පියවූ අමසියඃ ක
4 ල සියල්ල ලෙස යෙහෝවඃවහන්සේ ඉ
දිරියේ යුතු දේ කලේය. එහෙත් උස්
තැන් නැතිනොකලේය. මිනිස්සුද උස්
තැන්වල තව යාගකොට සුවඳ දුම් ගැසූ
5 වෝය. යෙහෝවඃවහන්සේ රජුට පහ
ර දුන්සේක. ඔහු මරණ දවස දක්වා කු
ෂ්ඨ රෝගීව තනි ගෙයක සිටියේය. ර
ජුගේ යෝනතම්නම් පුතා රට අඬුකර
6 මින් රජ ගෙට මූලාදෑනියා විය. අසරියඃ
ගේ අනික් ක්‍රියාවලුත් ඔහු කල සියල්
ලත් යුදඃ රජුන්ගේ ලේකම් පොතේ ලි
7 යා තිබෙන්නේ නැද්ද? අසරියඃ මැරී
දාවිත්ගේ නුවර තමන් පියවරුන් සම
ග තැන්පත්කරනු ලැබීය. ඔහු පුත් යෝ
තම්ද ඔහු හිලව්වට රජකම් කෙලේය.
8 යුදඃහි අසරියඃ රජුට තිස් අටවෙනි අවු
රුද්දේ යෙරොබෝවම්ගේ පුත් සකාරි
යඃ සමාරියේ ඊශ්‍රායෙල්හි හමාසයක් රජ
9 ව තමන් පියවරුන් කල ලෙස යෙහෝ
වඃවහන්සේගේ ඉදිරියේ නපුරුකම් ක
ර ඊශ්‍රායෙල්වරුන් පව්කරන්ට සැලැස්
වූ නේබත් පුත් යෙරොබෝවම්ගේ පව්
10 අත්නෑරියේය. යබෙස්ගේ පුත් ෂල්ලොම්
ඔහුට එදිරිව කැරලි ගසා මිනිසුන් ඉදි
රිපිට ඔහුට ගසා මරා ඔහු හිලව්වට රජ
11 කම් කෙලේය. සකරියඃගේ අනික් ක්‍රි
යාවල් ඊශ්‍රායෙල් රජුන්ගේ ලේකම් පො
12 තේ ලියා තිබෙන්නේය. තාගේ පුත්‍ර
යෝ සතරවෙනි පරම්පරව දක්වා ඊශ්‍රා
යෙල් සිංහාසනේ හිඳගනිතියි යෙහෝ
වඃවහන්සේ යෙහූට කී වචනය ලෙස
13 මේ සිදුවූනේය. යබෙස්ගේ පුත් ෂල්ලොම්
යුදඃහි උස්සියඃ රජුට තිස්නවවෙනි අවු
රුද්දේ රජකමට පත්ව පූර්ණ මාසයක්
14 සමාරියේ රජකම් කෙලේය. ගදී පුත්
මනහම්ද තිර්ශඃ සිට පිටත්ව සමාරිය
ට ඇවිත් යබෙස් පුත් ෂල්ලොම්ට සමාරියේ
දී ගසා මරා ඔහු හිලව්වට රජකම් කෙ
15 ලේය. ෂල්ලොම්ගේ අනික් ක්‍රියාවලුත් ඔ
හු ගැසූ කැරල්ලත් ඊශ්‍රායෙල් රජුන්ගේ
16 ලේකම් පොතේ ලියා තිබෙනේය. ම
නහම්ද තිප්සටත් එහි සිටි සියල්ලන්ටත්
තිර්ශඃ පටන් සීමාවලටත් ගැසීය. ඔ
වුන් ඔහුට දොරටු නොහැරි බැවින් ඔ
හු ඔවුන්ට ගසා එහි සිටි සියළු ගැබිනි
17 යන්ගේ බඩ ඉරාදැමීය. යුදඃහි අසරියඃ
රජුට තිස් නවවෙනි අවුරුද්දේ ගදී පුත්
මනහම් ඊශ්‍රායෙල්හි රජව සමාරියේ ද
18 ස අවුරුද්දක් රජකම් කර යෙහෝවඃව
හන්සේ ඉදිරියේ නපුරුකම් කොට ඊ
ශ්‍රායෙල්ට පව්කරන්ට සැලැස්සූ නේබත්
පුත් යෙරොබෝවම්ගේ පව් තමන් සිය
19 ළු ජීවිතයේදී අත්නෑරියේය. අශෝර්හි
පූල්නම් රජ රටට එදිරිව ආයේය. මන
හම්ද පූල්ගේ පිහිටෙන් රාජ්‍යය තමා
ට සවිවෙන පිනිස පූල්ට රිදී තලෙන්ත
20 දහසක් දුනේය. මනහම්ද අශෝර් ර
ජුට ඒ මුදල් දෙන පිනිස එකකුගෙන්
රිදී ෂෙකෙල් පනහ බැගින් ඊශ්‍රායෙල්
හි සියළු බලවත් පොහොසත් මිනිසුන්
ගෙන් ගත්තේය. ඒ නිසා අශෝර් රජ ර
21 ටේ නොසිට හැරී ගියේය. මනහම්ගේ
අනික් ක්‍රියාවලුත් ඔහු කල සියල්ලත් ඊ
ශ්‍රායෙල් රජුන්ගේ ලේකම් පොතේ ලි
22 යා තිබෙනේත් නැද්ද? මනහම් මැරු
ණේය. ඔහුගේ පුත් පෙකහියඃ ඔහු හි
ලව්වට රජකම් කෙලේය.

23 යුදඃහි අසරියඃ රජුට පනස්වෙනි අවු
රුද්දේ මනහම් පුත් පෙකහියඃ සමාරි
යේදී ඊශ්‍රායෙල්හි රජකමට පත්ව දෑවුරුද්
24 දක් රජව යෙහෝවඃවහන්සේ ඉදිරියෙ
හි නපුරුකම්කර ඊශ්‍රායෙල්ට පව්කරන්
ට සැලැස්සූ නේබත් පුත් යෙරොබෝ
25 වම්ගේ පව් අත්නෑරියේය. ඉන්පසු ත
මන් සේනානායකවූ රෙමලියඃගේ පුත්
පෙකඃ ඔහුට එදිරිව කැරලිගසා සමාරි
යේ රජුගේ ගෙයි මාලිගාවේදී අර්ගොබ්
සහ අරියඃද ගිලියද්හි පනස් දෙනකුද
සමඟ ඔහු ගසා මරා ඔහු හිලව්වට රජ
26 කම් කෙලේය. පෙකහියඃගේ අනික් ක්‍රි
යාවලුත් ඔහු කල සියල්ලත් ඊශ්‍රායෙල්
රජුන්ගේ ලේකම් පොතේ ලියා තිබෙ
නේය.

27 යුදඃහි අසරියඃ රජුට පනස් දෙවෙනි
අවුරුද්දේ රෙමලියඃගේ පුත් පෙකඃ ස
මාරියේදී ඊශ්‍රායෙල් රජකමට පත්ව විසි
28 අවුරුද්දක් රජව යෙහෝවඃවහන්සේ
ඉරියෙහි නපුරුකම් කර ඊශ්‍රායෙල්ට
පව්කරන්ට සැලැස්සූ නේබත් පුත් යෙ
29 රොබෝවම්ගේ පව් අත්නෑරියේය. ඊ
ශ්‍රායෙල්හි පෙකඃ රජුගේ කාලේදී අ
ශෝර්හි තිග්ලත්පිලෙසර් රජ ඇවිත්

ඊයොනද ආබෙල් බෙත්මාකාද යනොවාඃද කෙදෙෂ්ද හසෝර්ද ගිලියද්ද ගලිලිද නප්තලී මුළු රටද අල්ලා රටවැසියන් දසකොට අසෝර්ට ගෙනගියේය. 30 උසියාඃ පුත් යෝතම්ට විසිවෙනි අවුරුද්දේ ඒලාඃ පුත් හොෂියා රෙමලියාඃ පුත් පෙකාඃට එදිරිව කැරලිගසා මරා ඔහු හිලව්වට රජකම් කෙළේය. 31 පෙකාඃගේ අනික් ක්‍රියාවලුත් ඔහු කල සියල්ලත් ඊශ්‍රායෙල් රජුන්ගේ ලේකම් පොතේ ලියා තිබෙනේය.

32 ඊශ්‍රායෙල්හි රජවූ රෙමලියාඃගේ පුත් පෙකාඃට දෙවෙනි අවුරුද්දේ යූදාහි උ 33 සියාඃ රජුගේ පුත් යෝතම් රජකමට පත්ව විසිපස් අවුරුදු වයසේ රජකම්කරන්ට පටන්ගෙන යෙරුසලමේ දහසාවුරුද්දක් රජකම් කෙළේය. ඔහුගේ මවු ස 34 දොක්ගේ යරූෂානම් දූය. ඔහුද යෙහෝවාඃවහන්සේ ඉදිරියේ යුතුකම් කර තමන් උසියාඃ පියා කල සියල්ල ලෙස කල් 35 කෙළේය. නුමුත් ඔහු උස් තැන් නැති නොකෙළේය. මිනිස්සු උස් තැන්වල තවත් යාගකොට සුවඳ දුම් ගැසුවෝය. ඔහු යෙහෝවාඃවහන්සේගේ ගෙයි උඩ 36 දොර සෑදීය. යෝතම්ගේ අනික් ක්‍රියාවලුත් ඔහු කල සියල්ලත් යූදාඃ රජුන්ගේ ලේකම් පොතේ ලියා තිබෙනේ නැද් 37 ද? ඒ කාලේදී යෙහෝවාඃවහන්සේ අරම්හි රෙසිනනම් රජුද රෙමලියාඃ පුත් පෙකාඃද යූදාඃට එදිරිව අරින්ට පටන් 38 ගත්සේක. යෝතම් මැරී තමන් පියවූ දාවිත්ගේ නුවර තමන් පියවරුන් සමග තැන්පත්කරනු ලැබීය. ඔහු පුත් ආහස් ද ඔහු හිලව්වට රජකම් කෙළේය.

16. පරිච්. රෙමලියාඃ පුත් පෙකාඃට දහ හත්වෙනි අවුරුද්දේ යූදාහි යෝ 2 තම් රජුගේ පුත් ආහස් රජකමට පත්ව විසි අවුරුදු වයසේ රජකම් කරන්ට පටන්ගෙන යෙරුසලමේ දහසාවුරුද්දක් රජව තමන් පියවූ දාවිත් ලෙස තමන් දෙවිවූ යෙහෝවාඃවහන්සේ ඉදිරියේ යුතු දේ නොකර ඊශ්‍රායෙල් රජුන් 3 ගේ අනුවේ පැවත ඊශ්‍රායෙල් පුත්‍රයන් ගෙන් යෙහෝවාඃවහන්සේ ඇරදැමූ රටවැසියන්ගේ මිථ්‍යාදෘෂ්ටිකම ලෙස තමන් 4 පුත්‍රයා ගිනි මැදින් යවූයේය. ඔහු උස් තැන්වලත් කඳුවලත් සියළු අමු ගස් යටත් යා 5 ගකොට සුවඳ දුම් ගැසීය. එකල අරම්හි රෙසින් රජද ඊශ්‍රායෙල්හි රෙමලියාඃ පුත් පෙකාඃ රජද යුධකරණ පිණිස යෙ 6 රුසලමට ඇවිත් ආහස් වටකෙළෝය. නුමුත් ඔහු පරදවන්ට බැරිවිය. ඒ කාලේ අරම්හි රෙසින් රජ යූදාඃවරුන් අඹවා ඒලත් අරම්ට දෙවනු අල්ලාදුන්නේය. අරම්වරුද ඒලත්ට ඇවිත් අද දක්වා එ 7 හි සිටිති. ඒ නිසා ආහස් අසෝර්හි රජවූ තිග්ලත්පිලේසර් වෙතට පණිවිඩකාරයන් යවා ඔබගේ වැඩකාරයාද පුත්‍රද වෙමි මට එදිරිව සිටින අරම් රජු අතිනුත් ඊශ්‍රායෙල්හි රජු අතිනුත් මා ගැ 8 ලෙව්ව මැනවයි කීයේය. ඔහුද යෙහෝවාඃවහන්සේගේ ගෙයිත් රජුගේ ගබඩාවලත් සම්භවුන රන් රිදී අරන් අසෝර් 9 රජුට තෑගිකොට යැවීය. අසෝර් රජද ඔහුගේ වචනය අසා දමස්කසට එදිරිව ගොස් අල්ලා එහි සිටින මිනිසුන් වැල් කොට කීර්ට ගෙනගොස් රෙසින් මැරී 10 ය. ආහස් රජද අසෝර්හි තිග්ලත්පිලේසර්නම් රජු බලන්ට දමස්ක නුවරට ගොස් දමස්කයේ පූජාසනයක් දැක එහි සියළු කර්මාන්ත ලෙස ඒ ආකාර අදිස 11 යක් ඌරියාඃ පූජකයාට යැවීය. ඌරියා පූජකයාද ආහස් රජු දමස්කයෙන් යවූ සියල්ල ලෙස පූජාසනයක් ගොඩනැඟුවේය. ආහස් රජු දමස්කයෙන් එන්ට පෙළ 12 මුවෙන් සෑදීය. රජු දමස්කයෙන් ඇවිට ඒ පූජාසනය දැක එයට ළංව එහි පිට පූ 13 ජාකරමින් තමන් දවන පූජාවත් කෑම් පූජාවත් දවා පාන පූජාවක් වත්කොට 14 සමගි පූජාවල ලේ ඉස්සේය. යෙහෝවාඃවහන්සේ ඉදිරියෙහි තිබුන පිත්තල පූජාසනය යෙහෝවාඃවහන්සේගේ ගෙසින් ඒනම් ගෙයි ඉදිරිපිටින් අරන් පූජා 15 සනයට උතුරු දිග තැබුවේය. අළුයම් දවන පූජාවත් සවස කෑම් පූජාවත් රජුගේ දවන යාගයත් කෑම පූජාවත් සියළු රටවැසියන්ගේ දවන පූජාවත් කෑම් පූජාවත් පාන පූජාවලුත් මේ මහත් පූජාසනයේ දවා දවන පූජාවේ සියළු ලේත් යාගයේ සියළු ලේත් එහි ඉසපනැයි ඌරියාඃ පූජකයාට අනකර පිත්තල පූජාසනය මා නිසා දේව වචන අසන්නට 16 වනේයයි කීයේය. ඌරියදාඃ ආහස් රජු 17 අනකල සියල්ල ලෙස කෙළේය. තවද ආහස් රජ අඩිවල ගැටි කපාදමා උඩින් නාන භාජනය අහකට ගෙන මූද යටි තිබුන පිත්තලෙන් කල හරකුන්ගෙන්

මුදු පහතට අරන් ගල් අතුල බිම තබා
18 සබත් දවසට ගෙයි සෑදූ වැස්මත් පිටත
තිබෙන රජ්ජුගේ ඇතුල්වෙන බරාදයත්
අෂෝර්හි රජ්ජු නිසා යෙහෝවාවහන්සේ
19 ගේ ගෙයින් අහක කැබිය. ආහස් කල අ
නික් ක්‍රියාවල් යූදාහි රජ්ජුන්ගේ ලේකම්
20 පොතේ ලියා තිබෙනෙත් නැද්ද? ආ
හස් මැරී දාවිත්ගේ නුවර තමන් පියව
රුන් සමග තැන්පත්කරනු ලැබිය. ඔ
හු පුත් හෙසකියා ඔහු හිලව්වට රජ
කම් කෙලේය.

17. පරිච්. යූදාහි ආහස් රජ්ජුම දෙ
ලොස්වනි අවුරුද්දේ සමාරියේ ඒලාගේ
පුත් හොෂියා රජකමට පත්ව ඊශ්‍රායෙල්
2 හි නව අවුරුද්දක් රජව යෙහෝවාව
හන්සේ ඉදිරියෙහි නපුරුකම් කෙලේ
ය. නුමුත් පලමුවෙන් සිටි ඊශ්‍රායෙල් ර
ජ්ජුරුවන් කලාක්මෙන් ඔහු නපුරුකම්
3 නොකලේය. අෂෝර්හි සල්මනසර් රජ
ඔහුට එදිරිව ආයේය හොෂියා ඔහුට ය
4 ටත්ව පඩුරු දුනෙන්ය. හොෂියා මිසර
යේ සෝ රජ්ජු ලඟට පණිවිඩකාරයන් ය
වා අවුරුදු පතා කල හැටියට අෂෝර්හි
රජ්ජුට පඩුරු නොගෙන කැරලි ගැසූ බ
ව අෂෝර්හි රජ දැන ඔහු හිරකර බැන්
5 දේය. එවිට අෂෝර්හි රජ රට මුළුදා ඇ
විද සමාරියට ගොස් තුන් අවුරුද්දක් ව
6 ටකරගෙන සිට හොෂියාට නවවෙනි අවු
රුද්දේ සමාරිය අල්ලා ඊශ්‍රායෙල්වරුන්
අෂෝර් රටට ගෙනගොස් හලාහිද ගො
සන් ගඟට ලංවූ හාබෝර්හිද මෙදවරුන්
7 ගේ නුවරවලද සිටෙව්වේය. මක්නිසා
ද ඊශ්‍රායෙල් දරුවෝ තමන් මිසර රටි
න්නුත් මිසරයේ ඵාරාවෝ රජ්ජු යටතෙන්නුත්
ගෙනාවාවූ තමන් දෙවිවූ යෙහෝවාව
හන්සේට එදිරිව පව්කොට වෙන දෙ
8 විවරුන් අදහා යෙහෝවාවහන්සේ ඊ
ශ්‍රායෙල් දරුවන් ඉදිරියෙන් ඇරදැමූ ර
ට වැසියන්ගේ පනත්වලද ඊශ්‍රායෙල් ර
ජ්ජුන් සාදාගත් පනත්වලද පැවත තමන්
9 දෙවිවූ යෙහෝවාවහන්සේට එදිරිව අ
යුතු දේවල් රහසින් කරමින් මුරකාර
යන්ගේ අට්ටාලේ සිට සුරක්ෂිත නුවර
10 දක්වා ඔවුන්ගේ සෑම නුවරවල උස්
තැන් සාදා සෑම උස් කඳුවල චෛත්‍ය වෘ
ක්ෂ සහ සියළු අමු ගස් යට රූපවල්ද ත
11 ගා තිබා ඔවුන් ඉදිරියෙන් යෙහෝවා
වහන්සේ ඇරදැමූ රටවැසියන් විසින් ක
12 ල හැටියට සෑම උස්තැන්වල සුවඳ දුම්
ගසා යෙහෝවාවහන්සේ මෙසේ කර
නනට එපාය කියා තහනම්කල රූපව
ලට නමස්කාර කොට යෙහෝවාවහන්
සේට උදහස් උපදවන පිණිස නපුරුකම්
13 කලෝය. එහෙත් යෙහෝවාවහන්සේ
ඊශ්‍රායෙල්ටත් සියළු යූදාටත් විරුද්ධව සා
ක්ෂිදෙන ලෙස කථාකොට නොපගේ
නපුරු පැවැත්ම අත්හැර නොපගේ පි
යවරුන්ට මා විසින් අණකලාවූ මාගේ
වැඩකාර අනාගතවක්තෘන් ලවා නො
පට දන්වාදුන්නාවූ සියළු ව්‍යවස්ථාව ලෙ
ස මාගේ අණවල්ද පනත්වල්ද රක්ෂාක
රවයයි කියා සෑම අනාගතවක්තෘන්ද දි
14 වස් ඇතත්තන් ලවා කියෙව්වේක. නුමුත්
ඔවුන් ඒ නාසා තමන් පියවරුන්ගේ බෙ
ලි මෙන් බෙලි තදකර තමන් දෙවිවූ
15 යෙහෝවාවහන්සේ නොඅදහා උන්ව
හන්සේගේ පනත්වල්ද තමන් පියව
රුන් සමග කල ගිවිසුමද ඔවුන්ට එදිරි
ව දුන් සාක්ෂිද අත්හැර නිරර්ථකය පව
ත්වා නිරර්ථකව යෙහෝවාවහන්සේ ඔ
වුන් ලෙස කරන්ට එපාය කියා තහනම්
16 කල වටකර සිටි අන්‍යදේශීන්ට එකතුවී
තමන් දෙවිවූ යෙහෝවාවහන්සේගේ
සියළු අණවල් අත්ඇර වාත්තුකල වස්
සන් දෙදෙනෙකුගේ රූපද චෛත්‍ය වෘ
ක්ෂයක්ද සාදා අහසේ සෑම තාරකාවන්
ට වැද බාල්ට නමස්කාරකොට තමන්
17 දූදරුවන් ගිනි මැදින් යන්නට සලස්වා
පේන කීමද අනාවිනද පාවිච්චිකර යෙ
හෝවාවහන්සේට උදහස් උපදවන
ලෙස උන්වහන්සේ ඉදිරියෙහි නපුරු
18 කම් කිරීමට තමන්ම පත්වූහෝය. ඒ
නිසා යෙහෝවාවහන්සේ ඊශ්‍රායෙල්ට
ඉතා උදහස්ව යූදා ගෝත්‍රය පමනක් ඉ
තුරුකර තමන් ඉදිරිපිටින් ඔවුන් ඇරදැ
19 මූසේක. යූදාවරුද තමන් දෙවිවූ යෙ
20 හෝවාවහන්සේගේ අණවල් රක්ෂානො
කර ඊශ්‍රායෙල්වරුන් විසින් හදාගත් ප
නත්වල පැවතුනෝය. යෙහෝවාවහන්
සේද සියළු ඊශ්‍රායෙල් වංශය අත්හැර ඔ
වුන්ට දුක් දී තමන් ඉදිරිපිටින් අහකද
මනතුරම් කොල්ලකාරයන්ගේ අතට ඔ
21 වුන් පාවාදුන්සේක. උන්වහන්සේ දාවිත්
ගේ වංශයෙන් ඊශ්‍රායෙල් උදුරා දැමූසේ
ක. ඔවුන්ද නෙබත් පුත් යෙරොබෝ
වම් රජකලෝය. යෙරොබෝවම්ද යෙ
22 හෝවාවහන්සේ ඇදහීමෙන් ඊශ්‍රායෙල්

අඹවා මහත් පාපයක් කරන්ට සැලැස්
23 විය. මක්නිසාද යෙහෝවාවහන්සේ ත
මන්වහන්සේගේ සියලු අනාගතවක්තෘ
වැඩකාරයන් ලවා කියෙව් ලෙස තමන්
වහන්සේ ඉදිරිපිටින් ඊශ්‍රායෙල් අහක්ක
රණ තරම් ඊශ්‍රායෙල් පුත්‍රයෝ යෙරො
බෝවම් කල සෑම පාපවල පැවත ඒවා
අත්නොහැරියෝය. මෙසේ ඊශ්‍රායෙල්ව
රු තමන් රටින් අශෝර් රටට පිටකො අ
ද දක්වා අශෝර්හි සිටිති.

24 අශෝර්හි රජද බබිලොන්ද කුතාද
ආවාද හමත්ද සෙපර්වයිම්ද සිට මිනි
සුන් ගෙනත් ඊශ්‍රායෙල් පුත්‍රයන් වෙනු
වට සමාරියේ නුවරවල සිටෙව්වේය. ඔ
වුහු සමාරිය බුත්තිවිඳිමින් එහි නුවරව
25 ල සිටියෝය. තවද ඔවුන්ගේ සිටීමේ
මුලදී යෙහෝවාවහන්සේට භයව නො
සිටියෝය. ඒ නිසා යෙහෝවාවහන්සේ
ඔවුන් අතරට සිංහයන් යවූසේක. ඒ සිං
හයෝද ඔවුන්ගෙන් සමහරෙක් මැරූ
26 වෝය. ඔවුන් අශෝර් රජුට පනිවිඩ ය
වා ඔබ පිටත්කල සමාරියේ නුවරවල
සිටින මිනිස්සු රටේ දෙවියන්ගේ අන්
දම නොදනිති. ඒ නිසා උන්වහන්සේ
ඔවුන් අතරට සිංහයන් එවූසේක. ඔ
වුන් රටේ දෙවියන්ගේ අනුම නොදන්
නා නිසා ඒ සිංහයෝ ඔවුන් මරතියි
27 දැන්වූවෝය. එවිට අශෝර්හි රජ එත
නින් ගෙනා පූජකයෙක් එතනට කැඳ
වාගෙන පලයල්ලාය ඔහුද ගොසින් සි
ට රටේ දෙවියන්ගේ අනුම ඔවුන්ට උ
28 ගන්වාවයි කීය. එකල ඔවුන් සමා
රියෙන් ගෙනා පූජකයෙක් ඇවිත් බෙ
තෙල්හි සිට යෙහෝවාවහන්සේට අද
29 හන හැටි ඔවුන්ට ඉගැන්විය. නුමුත් ඒ
සෑම ජාතියෝ තමතමන් දෙවිවරුන්
සාදා සමාරියේ තමන් සිටි නුවරවල සා
දා තිබුනු උස් තැන්වල ගෙවල්හි තිබූ
30 වෝය. බබිලොන් මිනිස්සු සුක්කොත්
31 බෙනොත්ද කුත් මිනිස්සු නර්ගල්ද හ
මත් මිනිස්සු අසිමාද ආවරු නිබ්හස්ද ත
ර්තාක්ද යන දෙවියන් සෑදූවෝය. සෙ
පර්වයිම්වරුද අද්‍රම්මෙලෙක්ද අනම්
මෙලෙක්ද යන සෙපර්වයිම් දෙවියන්
උදෙසා තමන් දරුවන් ගිනෙනන් දැවූ
32 වෝය. ඔවුහු යෙහෝවාවහන්සේට භ
යව උස් තැන්වල ගෙවල්වල පූජක තන
තුර ඉතා නීචයන්ට දුනෝය. ඒ පූජ
කයෝ එහිදී ඔවුන් උදෙසා යාගකලෝ
33 ය. ඔවුන් යෙහෝවාවහන්සේට නම
කාරකොට එතනින් පිටත්කරනලද ජ
තීන්ගේ අනුමින් තමන් දෙවියන්ට සේ
34 වය කලෝය. ඉස්සර ලෙස අද දක්වා
වුන් කරති. යෙහෝවාවහන්සේට භ
නැතුව යෙහෝවාවහන්සේ ඊශ්‍රායෙල්
නම් තිබූ යාකොබ්ගේ පුත්‍රයන්ට අණ
කල උන්වහන්සේගේ ව්‍යවස්ථාවවත් අ
ණවවත් පනතවල්වත් නියෝගවල්වත්
35 ලෙස නොකරති. තවද යෙහෝවා
හන්සේ ඔවුන් සමග ගිවිසුමක් කො
නොපි වෙන දෙවියන් ඇදහීමද වැඳී
36 ද වැඩද යාගයද නොකරව් මහත් බල
යෙනුදිගුකල අතකිනු මිසර රටින් නො
ප ගෙනා යෙහෝවාවහන්සේ ඇදහීම
37 වැඳීමද යාගයද කරව්. වෙන දෙවියන්
නොඅදහා උන්වහන්සේ නොපට ලිය
දුන් පනත්ද සිරිත්ද ව්‍යවස්ථාවද අණව
ද නිතරම පවත්වන්ට බලාගෙන නො
38 ප සමග කල ගිවිසුම මතක නැතිව
කර වෙන දෙවියන් නොඅදහා නොප
39 දෙවිවූ යෙහෝවාවහන්සේ අදහව් උ
න්වහන්සේද නොපේ සියලු සතුරන්
තින් නොප ගලවාගනනාසේකැයි කි
40 අනකලසේක. නුමුත් ඔවුන් ඒක නෑ
තමන්ගේ පලමු අනුමටම කල් කලෝ
41 මෙසේ මේ මිනිස්සු යෙහෝවාවහන්
සේටත් තමන් කැපූ රූපවලටත් නම
කාර කලෝය. ඔවුන්ගේ දරුවෝද මු
නුබුරෝද පියවරුන් කල හැටියට මේ
වෙනතුරු කරති.

18. පරිච්. තවද ඊශ්‍රායෙල්හි ඒ
ලාගේ පුත් හොසියාට තුනෙවනි අවුරු
දේ යූදාහි ආහස් රජුගේ පුත් හෙසකි
2 යා රජකමට පත්ව පස්විසි අවුරුදු ව
සේ රජකම පටන්ගෙන විසිනව අවුරුද්
දක් යෙරුසලමේ රජකම් කෙලේය. ඔ
හුගේ මව් සකාරියාගේ අබිනම් දූය. ඔ
3 මන් පියවූ දාවිත් කල සියල්ල ලෙස යෙ
හෝවාවහන්සේ ඉදිරියෙහි යුතු දේ
4 ර උස් තැන් නැතිකර රූප බිඳ හෙවන
වෘක්ෂ කපාදමා මෝසෙස් විසින් සෑදූ පිත්
තල සර්පයාට ඒ කාලය දක්වා ඊශ්‍රායෙල්
පුත්‍රයන් සුවඳ දුම් ගසන නිසා ඒක කෑ
5 දමා නෙහුෂ්තාන්යයි නම් තැබීය. ඔහු
පසුව හෝ ඉස්සර හෝ සියලු යූදා
ජුන්ගෙන් ඔහු සමාන කිසිවෙක් නැ
ලෙස ඊශ්‍රායෙල්හි දෙවිවූ යෙහෝවා

6 හන්සේ විශ්වාසකර උන්වහන්සේට ඇ
ළුම්ව උන්වහන්සේගේ ඇදහීම අත්නැ
ර යෙහෝවඃවහන්සේ විසින් මෝසෙස්
ට අනකල තමන් ආඥාවල් රක්කේය.
7 යෙහෝවඃවහන්සේද ඔහු සමග සිටිසේ
ක. ඔහු ගිය ගිය තැන සඵලව අසෝර්
8 හි රජ්ජුට වැඩ නොකර කැරලිගසා ගා
ශාද එහි සීමාවල්ද දක්වා මුර අට්ටාල
වල සිට සුරක්ෂිත නුවර දක්වා පිලිස්තිව
රුන්ට ගැසීය.

9 හෙසකියඃ රජ්ජුට සතරවෙනි අවුරුද්
දේ ඊශ්‍රායෙල්හි ඒලාඃ රජ්ජුගේ පුත් හො
සියාට සත්වෙනි අවුරුද්දේ අසෝර්හි
සල්මනසර් රජ සමාරියට එදිරිව ඇවිත්
10 වටකරගෙන තුන් අවුරුද්දක් ඇවෑ
මෙන් හෙසකියඃට සවෙනි අවුරුද්දේ
ඊශ්‍රායෙල්හි හොසියා රජ්ජුට නවවෙනි
11 අවුරුද්දේ අල්ලාගත්තෝය. ඊශ්‍රායෙල්-
වරු තමන් දෙවිවූ යෙහෝවඃවහන්සේ
12 ගේ හඬට කීකරු නොව උන්වහන්සේ
ගේ ගිවිසුමද යෙහෝවඃවහන්සේගේ
වැඩකාර මෝසෙස් අනකල සියල්ලද
කඩකොට අහන්නටවත් කරන්නටවත්
නොකැමතිව සිටියෝය. ඒ නිසා අසෝර්
හි රජ ඔවුන් අසෝර්ට පිටත්කර හලඃ
හිද ගෝෂන් ගඟ ලඟ හාබෝර්හිද මේ
දවරුන්ගේ නුවරවලද සිටෙව්වේය.
13 හෙසකියඃ රජ්ජුට දහහතරවෙනි අවුරු
ද්දේ අසෝර්හි සෙනකරිබ් රජ යූදාඃහි
සියළු සුරක්ෂිත නුවරවලට එදිරිව ඇවිත්
14 අල්ලාගත්තේය. යූදාහි හෙසකියඃ රජ
ලාකිස්හි සිටි අසෝර් රජ්ජුට පණිවිඩකා
රයන් යවා මම වරදකාරයා වෙමි. මා
ලඟින් අහක්ව ගියමැනව මට කරණ දෙ
යකට යටත්වෙමියි කීයේය. එවිට අ
සෝර්හි රජ රිදී තලෙන්ත තුන්සියයක්
ද රන් තලෙන්ත තිහක්ද යූදාඃහි හෙ
සකියඃ රජ්ජුට ගෙවන්නට නියම කෙලේ
15 ය හෙසකියඃද යෙහෝවඃවහන්සේගේ
ගෙයිද රජ ගෙයි ගබඩාවලද සම්භවූන
16 රිදී සියල්ල දී ඒ කාලේ යෙහෝවඃවහන්
සේගේ ගෙයි දොරවල්වලිනුත් යූදාඃහි
හෙසකියඃ රජ්ජු තහඩු දැම්මෙව් කනුව
ලිනුත් රන් කපා අසෝර්හි රජ්ජුට දුන්
නේය.

17 තවද අසෝර්හි රජ තර්තාන් රබ්සරිස්
ද රබ්සකඃද බොහෝ සෙනගද එක්ක
ලාකිස් සිට යෙරුසලමට එදිරිව හෙස
කියඃ රජ්ජු කරා යැව්ය. ඔවුන්ද ගොස් යෙ
රුසලමට ඇවිත් ලංවූ කල රදගෙනාවින්
යන මහ මාවත ලඟ ඉහල පොකුණේ
කානුව ලඟ සිට රජ්ජුට අඬගැසුවෝය.
18 එවිට හිල්කියඃගේ පුත් එලියකිම්නම්
ගෙහි මුලාදෑනියාද සෙබ්නා ලියන්නාද
ආසප්ගේ පුත් යෝවඃ ලේකම්ද පිටත්
19 ඔවුන් ලඟට ආවෝය. එවිට රබ්සකඃ
කථාකොට අසෝර් රජවූ මහ රජ්ජුරු
වෝ මෙසේ කියනසේක. තෝ පිහිට
20 කොට විශ්වාස කරනෙත් මොකද? යුද්ධ
යට නුවනද බලයද ඇතැයි තෝ කිය
නෙහිය. නුමුත් ඒවා නිරර්ථක වචන
වල්ය. දැන් තෝ මට එදිරිව කැරලිගස
21 න්නට කාට විශ්වාස කරනෙහිද? බල
ව මිනිහෙක් හාන්සිවූනාම අතේ ඇනී
හිල්වෙන මේ තැළුන බට දණ්ඩක් වැනි
මිසර රජ්ජුට තෝ විශ්වාස කරනෙහිය.
මිසරයේ ඵාරාවෝ රජ්ජු විශ්වාස කරණ
සැමට තැළුන බට දණ්ඩක් සේ වන්නේය.
22 අපේ දෙවිවූ යෙහෝවඃවහන්සේ විශ්
වාස කරමුයයි තොපි මට කියනවානම්
යෙරුසලමේ මේ පූජාසනය ඉදිරිපිට ව
දිව්යයි යූදාඃටත් යෙරුසලමටත් කියා
හෙසකියඃ නැතිකල උස් තැන්ද පූජාසන
23 ද උන්වහන්සේගේ නොවේද? දැන් මා
ගේ ස්වාමිවූ අසෝර්හි රජ්ජුට ඇප දෙව.
තට අසරුවන් සම්භකරගන්ට පුළුවන්
නම් තට අශ්වයන් දෙදහසක් බාරදෙමි.
24 එසේනම් රථද අසරුවන්ද ලැබෙන ලෙ
ස මිසරය විශ්වාසකරමින් මාගේ ස්වාමි
යාගේ ඉතා කුඩා සේනානායකයෙක්
25 පරදවන්ට හැකිවෙනෙත් කෙසේද? මම
මේ ඉඩම නැතිකරන්නට යෙහෝවඃව
හන්සේ නැතුව ඊට එදිරිව ආවෙම්ද?
යෙහෝවඃවහන්සේ මේ රටට ගොස්
නැතිකරවයි කීසේකැයි හෙසකියඃට
26 ගොහින් කියව්යයි කිය. එකල හිල්කි
යාගේ පුත් එලියකිම්ද සෙබ්නාද යෝ
වඃද පවුර පිට සිටින සමූදුවට නෑසෙන්
නට යුදෙව් භාෂාවෙන් අපට කථානො
කර නුඹේ වැඩකාරයන්ට අරම් භාෂා
ව තේරෙණ නිසා එයින් කථාකලමැන
27 වයි රබ්සෙකඃට කීවෝය. එහෙත් රබ්
සෙකඃ කථාකොට මාගේ ස්වාමියා තා
ගේ ස්වාමියාටත් තටත් මේ වචන කිය
න්නට මා එව්වාද? පවුර පිට සිටින මි
නිස්සු නුඹලා සමග තමන් අසූචි කන්න
වත් මුත්‍ර බොන්නටත් වේයයි ඔවුන්ට
කියන්ට මා එවුවා නොවේදැයි ඔවුන්ට

28 කීය. එකල රබ්ශාකෑ සිට යුදෙව් භාෂා
වෙන් හයියෙන් කෑගසා අශෝර්හි මහ
රජ විසින් කියන මේ වචන අහපල්ලා
29 ය. හෙසකියෑට මා අතින් තුඹලා ගල
වනනට බැරි නිසා තුඹලා රවටනනව
30 වත් යෙහෝවෑවහන්සේ අප ගලවා මේ
නුවර අශෝර්හි රජු අතට බාර නොවේ
යයි කියා යෙහෝවෑවහන්සේ විශ්වාස
31 කරවන්ටවත් ඉඩ නොදෙල්ලාය. මා ල
ඟට ඇවිත් තෑග්ගක් දී මා සමග ගිවිසු
මක් කොට තුඹලා නොනැසී ජීවත්වෙ
32 න පිණිස තුඹලාගේම රට වාගේ ගෝ
ධුම හා මුද්‍රිකාපානයද රෝග හා මිදි ව
තුද ඔලිව තෙල් හා මීද ඇති රටකට
තුඹලා ගෙනයනතුරු සෑම දෙනම ත
මතමන් මිදි එලද අත්තික්කාද කමින්
තමතමන් ලින්වල වතුරද බීපල්ලාය.
යෙහෝවෑවහන්සේ අප ගලවනසේකැ
යි කියා හෙසකියෑ තුඹලාට කියන කල
ඔහුගේ වචන අහන්ට එපායයි අශෝර්
හි රජ කියනසේක. ඒ නිසා හෙසකියෑ
33 ගේ වචන අහන්ට එපාය. නොයෙක්
ජාතීන්ගේ දෙවිවරුන්ගෙන් එකෙක්
වත් අශෝර්හි රජු අතින් තමන් රට ග
34 ලවාගත්තේද? හාමත්ගේද අර්පද්ගේද
දෙවිවරු කොයිද? සෙඵර්වයිම්ගේද
හේනාගේද ඉව්වාගේද දෙවිවරු කොයි
ද? ඔවුන් සමාරිය මා අතින් ගලවාගත්
35 තෝද? සියළු රටවල දෙවිවරුන්ගෙන්
තමන් රට මා අතින් ගැලෙව්වේ කව
ද? ඒ නිසා යෙහෝවෑවහන්සේ යෙරූ
සලම මා අතින් ගලවාගන්නාසේක්දැයි
36 ඔවුන්ට කීය. එහෙත් ඔහුට උත්තර
දෙන්ට එපාය කියා රජුගේ අණ නිසා
මිනිස්සු වචනයක් නොකියා කථානො
37 කර උන්නෝය. එවිට හිල්කියෑ පුත් එ
ලියකිම්නම් ගෙයි මුලාදෑනියාද සෙබ්නා
ලියන්නාද ආසප්ගේ පුත් යෝවෑ ලේක
මද තමන් ඇඳුම් ඉරා හෙසකියෑ ළඟට
ඇවිත් රබ්ශාකෑගේ වචන කීවෝය.

19. පරිච්. හෙසකියෑ රජ ඒ ඇසූ
විට තමන් ඇඳුම් ඉරා ගෝනි රෙදි හැ
ඳ යෙහෝවෑවහන්සේගේ ගෙට ගොස්
2 ගෝනි රෙදි ඇඳෑවූ එලියකිම් ගෙයි මු
ලාදෑනියාද සෙබ්නා ලියන්නාද පූජක
යන්ගේ වැඩිමහල්ලන්ද ආමොස්ගේ පුත්
යෙසයියෑ අනාගතවක්තෘ ළඟට යැවීය.
3 ඔවුන්ද කථාකොට මේ දවස දුක්වූ අගෞ
රවවූ නින්දිතවූ දවසක ලදරුවෝ ති
වෙන්ට ඉස්ගෙන සිටිති නුමුත් වදන
4 බල නැත්තේය. රබ්ශාකෑගේ ස්වාමි
ශෝර්හි රජ ජීවමානවූ දෙවියන්වහ
න්සේට නින්දාකරන්නට එවූ රබ්ශාකෑ
සියළු වචන ඔබගේ දෙවිවූ යෙහෝ
වහන්සේ අසා ඒ ඇසූ වචනවලට ද
වටුකරණ හැවියට ඉතුරු පංගුව සඳ
යාඥාකරපන්නැයි හෙසකියෑ කියනසෙ
5 යයි ඔහුට කීවෝය. මෙසේ හෙසකි
රජුගේ වැඩකාරයෝ යෙසයියෑ ළඟ
6 ආවෝය. යෙසයියෑද අශෝර්හි රජුගේ
වැඩකාරයන් විසින් මට නින්දාකර කී
වූ තා විසින් ඇසුවාවූ ඒ වචනවලට
7 යනොවෙව. ඔහු පිටට නද හුලඟක්
වමි ඔහුද ආරංචියක් අසා තමන් රට
හැරී යන්නේය. මමද ඔහුගේ රටේදී
හු කඩුවෙන් මරවමියි යෙහෝවෑවහ
සේ කියන බව තුඹලාගේ ස්වාමි
ගොහින් දන්වාපල්ලායයි ඔවුන්ට කී
8 අශෝර්හි රජු ලාකිස් සිට පිටත් වූ
බව රබ්ශාකෑ අසා හැරී ගොස් ලිබ්නා
එදිරිව යුධකරණ ඒ රජු වෙතට පැමිණි
9 යේය. කූෂ්හි තිර්හාකා රජ තුඹට වි
රිව සටනට එනවායයි ඔහු ඇසූ
හෙසකියෑ ළඟට දෙවනු පණිවිඩකාර
10 යන් යවමින් අශෝර්හි රජුගේ
යෙරූසලම අසුනොවේයයි කියා තු
විශ්වාස කරණ තුඹේ දෙවියන්වහන්
11 ට තුඹ රවටන්ට දෙන්ට එපාය. අශෝ
හි රජවරුන් සෑම රටවල් මුළුමනින්
නැතිකර ඒවාට කල හැටි තුඹ ඇසූ
හිය. එහෙනම් තුඹ ගැලවෙනවා
12 ගෝසන් හාරන් රෙසෙප් තෙලාසා
සිටි ඒදෙන් පුත්‍රයන් යන මාගේ පි
රුන් විසින් නැතිකල වර්ගවල දෙ
13 රු ඔවුන් ගලවාගත්තෝද? හමත්
ජද අර්පද්හි රජද සෙපර්වයිම් නු
ජද හේනා රජද ඉව්වා රජද කොයි
යුදෑහි හෙසකියෑ රජුට කියන්ට ය
14 හෙසකියෑද පණිවිඩකාරයන් ගේ
ලිවුම අරගෙන කියවා යෙහෝවෑවහ
15 න්සේගේ ගෙට ගොස් යෙහෝවෑවහ
න්සේ ඉදිරියෙහි ඒක එලා යෙහෝවෑ
හන්සේ ඉදිරියෙහි යාඥාවෙමින් කෙ
බිම් අතරේ වසන ඊශ්‍රායෙල්ගේ දෙවි
යෙහෝවෑවහන්ස පොළොවේ සි
රාජ්‍යවලට ඔබවහන්සේ පමනක්
යන්වහන්සේය ස්වර්ගයද පොළො

16 ඔබවහන්සේ මැව්වූසේක. යෙහෝවාව
හන්ස ඔබගේ කනින් අසා ඇස් ඇර බ
ලා ජීවමානවූ දෙවියන්වහන්සේට නින්‍දා
කරණ පිනිස ඔහු ඇරියාවූ සෙනාකෙ
17 රිබ්ගේ වචන ඇසුවමැනව. යෙහෝවාව
හන්ස සැබෑවට අසෝර්හි රජවරු ව
18 ශ්‍රීවල්ද ඔවුන්ගේ රටවල්ද නැතිකර
ඔවුන්ගේ දෙවියන් දෙවිවරුන් නොව
මිනිසුන් අතින් සෑදූ ලීත් ගල්ත් නිසා
19 ඒවා ගින්නේ දමා නැතිකලෝය. ඒ නි
සා අපේ දෙවිවූ යෙහෝවාවහන්ස ඔබ
පමනක් දෙවිවූ යෙහෝවාවහන්සේයයි
පොලොවේ සෑම රාජ්‍යවලට දැනෙන
පිනිස ඔහු අතින් අප ගලවන ලෙස ඔ
බට යාඥාවෙමියි කීය.

20 එවිට ආමොස්ගේ පුත් යෙසයියා හෙ
සකියාට පනිවිඩ යවා අසෝර්හි සෙන්
නාකරිබ් රජුට එදිරිව නුබ යාඥාකල
21 දේ ඇසීම් ඔහු ගැන යෙහෝවාවහන්
සේ කී වචනය මේය. සියොන්හි කන්‍යා
දූ තට නින්‍දාකර හෙළාදැක සිනැසුනිය.
යෙරුසලමේ දූව තට ඉස සෙලෙව්වා
22 ය. තෝ නින්‍දා බැනුම්ද කර තාගේ
ශබ්දය පවත්වා ඇස් එසෙව්වේ කාට එ
දිරියෙහු? ඊශ්‍රායෙල්හි සුබ තැනැත්තා
23 ට එදිරියෙන්ය. තාගේ පනිවිඩකාරයන්
ලවා යෙහෝවාවහන්සේට නින්‍දාකරවා
මාගේ බොහෝ රථ අරන් කඳු උඩට
ලෙබනොන් පැතිවලට මම නැගී ඇ
විත් එහි උස් කිහිරි ගස්ද හොඳ දේව
දාර ගස්ද කපා ඔහුගේ සීමාවල නවා
තැන්වලටත් තමන් කර්මෙල් වනයටත්
24 ඇතුල්වෙමි. මම හාරා වෙන රටේ වතු
ර බී වටකර සියළු තැන්වල ගංගාවල්
මාගේ පතුලෙන් වියලෙව්වෙමියි තෝ
25 කීයෙහිය. මම බොහොම ඉස්සර පුරාන
නදී ඒක නියමකර දැන් සිඩකෙලෙමි.
26 ඒ බව ඇසුවේ නැද්ද? පව්ර ඇති නුව
රවල් පාළුකිරීමට තා පත්කෙලෙමි ඒ
නිසා ඒ නුවර වැසියෝ බෙලහීනව භ
යව වියවුල්වී පොලොවේ තන මෙන්ද
අමු වැව්ලි මෙන් ගෙවල් උඩ තන මෙ
න් වැඩෙන්ට පලමුවෙන් වේළුන ගො
27 යම් මෙන් වූනෝය. එහෙත් තාගේ ප
දිංචියද යාම ඊමද මට එදිරිව තිබෙන
28 වෛරයද දනිමි. මට එදිරිව තාගේ
වෛරයද අඬදබරද මාගේ කනට ඇ
සුන බැවින් තාගේ නාසේ මාගේ මුදු
ද කටේ මාගේ කටකලියාවද දමා ඇ
පාරෙන් තා හැරී යන්ට සලස්වමි. තට
29 ලකුන මේය. මේ අවුරුද්දේ ඉබේම
වැඩෙන දේත් දෙවෙනි අවුරුද්දේ එ
සින් පැලවුන දේත් තොපි කා තුන්වෙ
නි අවුරුද්දේ වපුර කපා මිදි වතු වවා
30 ඵල අනුභව කරව්. යුදා වංශයෙන් ගැ
ලවී ඉතිරි ඇත්තෝද තවත් පහළට මුල්
31 ඇද ඉහලින් ඵල දෙති. මක්නිසාද යෙ
රුසලමෙන් ඉතිරි ඇත්තෝද සියොන්
කන්දෙන් ගැලවී සිටින්නෝද පිටතට
යති. යෙහෝවාවහන්සේගේ වියසීය
32 මේක කරන්නේය. ඒ නිසා අසෝර් රජ
මේ නුවරට එන්නේවත් ඊගහක් ඒට වි
දින්නේවත් පලිහ ගෙන ඒ ඉදිරිපිටට
එන්නේවත් ඉවුරක් ගොඩනගන්නේ
33 වත් නැත. මේ නුවර තුලට නෑවිත් ආ
මගින් ඔහු දෙවනු යන්නේයයි යෙහෝ
34 වාවහන්සේ කියනසේක. මා උදෙසාත්
මාගේ වැඩකාරවූ දාවිත් උදෙසාත් මේ
නුවර ගලවා රක්ෂාකරමියි ඊශ්‍රායෙල්
දෙවිවූ යෙහෝවාවහන්සේ ඔහු ගැන
කියනසේකැයි කීය.

35 ඒ රාත්‍රියේ යෙහෝවාවහන්සේගේ දූ
තයා පිටතට ගොස් අසෝර්වරුන්ගේ
අඥයමේ එක්ලක්ෂ අසූපන්දහසකට ගැසී
ය. උදයම මිනිස්සු නැගිට්ටවිට ඒ සේ
36 නාවේ අයවල් මල බව දුටුවෝය. ඒ නි
සා අසෝර්හි සෙනාකරිබ් රජු පිටත්ව
37 ගොස් නිනිවේහි සිට තමන් නිස්රොක්
දෙවියාගේ ගෙයිදී වඳිනවිට ඔහුගේ
පුත්තු අද්‍රම්මෙලෙක්ද ෂරෙසර්ද ඔහු
කඩුවෙන් මරා අරරත් රටට හැංගී ගි
යෝය. ඔහුගේ පුත් ඒසර්හද්දොන් ඔහු
හිලව්වට රජකම් කෙළේය.

20. පරිච්ජ. ඒ කාලේදී හෙසකියා
මරණසන්න ලෙඩ විය. ආමොස් පුත්
යෙසයියා අනාගතවක්තෘ ඔහු ලඟට
ඇවිත් තෝ ජීවත්නොව මැරෙන්නෙහි
ය ඒ නිසා ගෙදර කලමනා නිවාඩුකර
වයි යෙහෝවාවහන්සේ කියනසේකැ
2 යි කීය. එවිට හෙසකියා තමන් මූන
බිත්තියට හරවා යෙහෝවාවහන්සේට
3 යාඥාවෙමින් යෙහෝවාවහන්ස සැබෑ
වෙනුත් අවංක සිතිනුත් ඔබවහන්සේ
ඉදිරියෙහි පැවත හොඳව කල්කල හැ
ටි සිහිකලමැනවයි කියා බොහෝකො
4 ට හැඬිය. යෙසයියා මැද මිදුලට යන්ට
ඉස්සර යෙහෝවාවහන්සේගේ වචනය

5 ඔහුට පැමිණ තාගේ යාඥාව අසා කඳුළු
දුටිමි. තා සුවකරමි තුන්වෙනි දා තෝ
යෙහෝවාවහන්සේගේ ගෙට යන්නෙහි
6 කිය. තාගේ වයසට පහළොස් අවුරුද්
දක් එක්කරමි තාද මේ නුවරද අශෝර්
රජු අතින් ගලවා මාම උදෙසාත් මා
ගේ මෙහෙකාරවූ දාවිත් උදෙසාත් මේ නු
වර රක්ෂාකරමියි තාගේ පියවූ දාවිත්
ගේ දෙවිවූ යෙහෝවාවහන්සේ කියන
සේකැයි මාගේ මිනිසුන්ට මුලාදෑනිවූ
හෙසකියාට ගොහින් කියවයි කීසේක.
7 යෙසයියාද අත්තික්කා අහුරක් ගෙනෙ
නුයි කිය. ඔවුන්ද ගෙනත් වනපිට
8 තැබූවෝය ඔහුට සුවවිය. හෙසකියාද
යෙහෝවාවහන්සේ මා සුවකල බවටත්
තුන්වෙනි දා යෙහෝවාවහන්සේගේ
ගෙට මා යන බවටත් ලකුණු මොකදැයි
9 යෙසයියාට කිය. යෙසයියාද යෙහෝ
වාවහන්සේ කී දේ කරණවාට යෙහෝ
වාවහන්සේගෙන් ලුබට ලකුන මේය.
ඒනම් සෙවනැල්ල දස පියවරක් ඉස්සර
හට යනවාට කැමතිද නොහොත් පස්
10 සට එනවාට කැමතිදැයි ඇසිය. හෙස
කියාද සෙවනැල්ල දස පියවරක් බැසී
ම සුළු දෙයක. එසේ නොව සෙවනැල්
ල පස්සට දස පියවරක් යේවයි උත්තර
11 දුනිය. යෙසයියා අනාගතවක්තෘද යෙ
හෝවාවහන්සේට යාඥාකලේය. උන්ව
හන්සේද ආහස්ගේ හිරු මඬලේ සෙව
නැල්ල බැස්ස පියවරවලින් දස පියව
රක් පස්සට හරවා ගෙනාසේක.

12 ඒ කාලයෙහි බබිලොන්හි බලදන්
රජුගේ පුත් බෙරෝදක් බලදන් හෙ
සකියා ලෙඩවූන බව අසා ලිවුම්ද තෑග්
13 ගක්ද හෙසකියාට යැවිය. හෙසකියාද
ඔවුන්ගේ වචන අසා රන් රිදී සුවඳ ද්‍ර
ව්‍ය අගේ ඇති තෙල් යන අගේ ඇති
දේ තිබෙන ගෙයද යුධායුධ තිබෙන
ගෙයද ගබඩාවල තිබුන සියල්ලද තමා
ගේ ගෙයිවත් මුළු රාජ්‍යයේවත් තිබුන
14 මොකවත් නෑර ඔවුන්ට පෙන්විය. එවි
ට යෙසයියා අනාගතවක්තෘ හෙසකියා
රජු ළඟට ඇවිත් මේ මිනිස්සු කීවේ
මොකද? කොතනින් ආවෝදැයි ඔහුට
කිය. හෙසකියාද බබිලොන් යන දුරු
15 රට සිට ආවෝයයි කිය. යෙසයියාද නු
ඹේ ගෙයි දුටුවේ මොකදැයි ඇසිය. හෙ
සකියාද මාගේ ගෙයි සියල්ල ඔවුන් දුටු
වෝය. මාගේ වස්තුවෙන් ඔවුන්ට නො
පෙන්වූ මොකවත් නැතැයි උත්තර දු
16 ය. යෙසයියාද යෙහෝවාවහන්සේ
වචනය අහපන්නැයි හෙසකියාට කී
17 බලව තාගේ ගෙයි සියල්ලත් තා
පියවරුන් විසින් අද දක්වා රැස්ක
දේත් මොකවත් ඉතුරු නොකො
බිලොන්ට ගෙන යන දවස් පැමිණෙ
18 යි යෙහෝවාවහන්සේ කීසේක. නුඹ
දුව උපදින පුතුන් ඔවුන් පිටත්කර
ඔවුහු බබිලොන්හි රජුගේ මාලිගාවේ
19 නපුංසකයෝව සිටිතියි කිය. එවිට හෙ
සකියා ඔබ කී යෙහෝවාවහන්සේ
වචනය යහපත්ය. මාගේ දවස්වලදී
මාදානයද සැබෑවද ඇත්නම් හොඳ න
20 දැයි යෙසයියාට කිය. හෙසකියාගේ
නික් ක්‍රියාවලුත් සියළු බලයත් ඔහු
කුනක්ද කානුවක්ද සාදා නුවරට වතු
ගෙනා හැටිත් යුදාහි රජුන්ගේ ලේඛ
21 පොතේ ලියා තිබෙනෙත් නැද්ද! හෙ
සකියාද මැරුණේය. ඔහුගේ පුත්
නස්සා ඔහු හිලව්වට රජකම් කෙලේ

21. පරිච්ඡේ. මනස්සා දොළොස් අවු
රුදු වයසේ රජකමට පත්ව පනස්
අවුරුද්දක් යෙරුසලමේ රජකම් කෙ
ලේය. ඔහුගේ මව් හෙප්සිබාය
2 යෙහෝවාවහන්සේ ඊශ්‍රායෙල් ඉදිරි
පින් ඇරදැමූ රට වැසියන්ගේ පිළිකුල්
ලෙස යෙහෝවාවහන්සේ ඉදිරියේ
3 නපුරුකම් කර තමන් පියවූ හෙසකියා
නැතිකල උස් තැන් දෙවනු සාදා බා
නිසා පූජාසනද නගා ඊශ්‍රායෙල්හි අහබ්
රජු කල ලෙස චෛත්‍ය වෘක්ෂයකුත්
දා සියළු අහස් තාරුකාවලට වැඳ
4 හ නමස්කාර කරමින් යෙහෝවාවහන්
සේ මාගේ නාමය යෙරුසලමේ තබමි
යි කී උන්වහන්සේගේ ගෙයි අන් දේ
5 තාවුන්ට පූජාසන සාදා සියළු අහස්
රකා උදෙසා යෙහෝවාවහන්සේගේ
6 ගෙයි මළු දෙකේද පූජාසන සෑදීය.
මන් පුත්‍රයාද ගින්න මැදින් යවා
කැත් බලා අනාවිනකර ප්‍රේතයන්
කියන්නන්ද සමග ක්‍රියාකර යෙහෝ
වහන්සේ උදහස්කරණ ලෙස උන්වහ
සේ ඉදිරියෙහි බොහෝ නපුරුකම්
7 කොට යෙහෝවාවහන්සේගේ ගෙ
සෑදූ චෛත්‍ය වෘක්ෂයේ දේව රූපය
තැබීය. ඒ ගේ ගැන යෙහෝවාවහන්
සේ දාවිත්ටත් ඔහුගේ පුත් සලමො

වත් කථාකොට මම සියළු ඊශ්‍රායෙල්
ගෝත්‍රවලින් තෝරාගත් යෙරූසලමේ
මේ ගෙයි නිතරම මාගේ නාමය තබ
8 නෙනම්. ඊශ්‍රායෙල්වරුන්ට මා විසින් අ
නකල සියල්ලද මාගේ වැඩකාරවූ මෝ
සෙස් ඔවුන්ට අනකල මුළු ව්‍යවස්ථාවද
ලෙස කරනනට බලාගනෙතොත් ඔවුන්
ගේ පියවරුන්ට මා විසින් දුන් රටෙන්
පිටත අඩිය තිබන්ට නොසලස්වම්යි කි
9 යේක. එහෙත් ඔවුන් ඇහුවේ නැත. ම
නස්සෑද යෙහෝවෑවහන්සේ ඊශ්‍රායෙල්
පුත්‍රයන් ඉදිරිපිටින් නැතිකල වර්ග
යන් විසින් කලාවූ නපුරුකමට වඩා න
පුරුකම් කරනනට ඔවුන්ට සැලැස්සිය.
10 යෙහෝවෑවහන්සේද තමන් වැඩකා
11 ර අනාගතවක්තෘන් ලවා කථාකරවා යූ
දෑහි මනස්සෑ රජු මේ පිළිකුල්කොට
ඔහුට ඉස්සර අමෝරිවරුන් කල සියල්
ලට වඩා නපුරුකම් කොට යූදෑ ලවා
තමන් දේව රූපවලින් පව්කරවනනට
12 සැලැස්සූ නිසා අසන අයගේ කන් දෙක
විංවිංගාන තරම් නපුරුකම් යෙරූසල
ම සහ යූදෑ පිටට ගෙනවිත් සමාරියේ
13 ලණුවද ආහබ්ගේ ගෙයි ලඹකැටේද
යෙරූසලම පිටට දිගුකර තැටියක් පිහ
දමනෙනක් ඒක පිහ මුනින් පෙරලා ද
මන හැටියට මම යෙරූසලම පිහදමන්
14 නෙම්. මාගේ උරුමයෙන් ඉතුරූ අය
15 තමන් පියවරුන් මිසරයෙන් පිටට ආ
තෙක් පටන් මේ වෙනතුරූ මා ඉදිරියෙ
හි නපුරුකම්කොට මා උදහස්කල නි
සා ඔවුන් අත්හැර ඔවුන්ගේ සතුරන්
අතට පාවාදෙනෙනම්. ඔවුන්ද තමන්
සෑම සතුරන්ට ගොදුරක්ද කොල්ලයක්
6 ද වෙතියි කීයේක. මනස්සෑද යෙහෝ
වෑවහන්සේ ඉදිරියෙහි නපුරුකම් කිරී
මෙන් යූදෑ පව්කරන්ට සැලැස්වූයේය.
ඒ පාපය හැර ඔහු යෙරූසලම කෙලව
රක පටන් අනික් කෙලවර දක්වා පිරෙ
ණතුරූ නිවැරදිකාරයන්ගේ ලේ බො
7 හෝකොට වැගිරවීය. මනස්සෑගේ අ
නික් ක්‍රියාවළුත් ඔහු කල සියල්ලත් ඔහු
කල පාපයත් යූදෑ රජුන්ගේ ලේකම්
8 පොතේ ලියා තිබෙනෙත් නැද්ද? මනස්
සෑද මැරී තමන්ගේ උයනවූ උස්සාගේ
වනෙත් තැන්පත්කරනු ලැබිය. ඔහු
ගේ පුත් අමොන් ඔහු හිලව්වට රජකම්
9 කෙලේය. අමොන් විසි දෑවුරුදු වයසේ
රජකම්කරන්ට පටන්ගෙන යෙරූසල
මේ දෑවුරුද්දක් රජකම් කෙලේය. ඔහු
ගේ මව් යොත්බෑහි හරූස්ගේ දූවූ මෙ
20 සුලෙමෙත්නම් වූවාය. ඔහුද මනස්සෑ
නම් තමන් පියා කල ලෙස යෙහෝවෑ
21 වහන්සේ ඉදිරියෙහි නපුරුකම් කර ත
මන් පියා පැවතුන සෑම අඩුම් පවත්වා
22 පියා ඇදහූ දේව රූප අදහා වැඳ තමන්
පියවරුන්ගේ දෙවිවූ යෙහෝවෑවහන්
සේ අත්හැර ඒවහන්සේගේ මාර්ගයෙ
23 හි නොහැසුරුනේය. අමොන්ගේ වැ
ඩකාරයෝද ඔහුට විරුඩව රහස් කැරැ
ල්ලක් ගසා ඔහුගේ ගෙයිදී රජු මැරූ
24 වෝය. රටවැසියෝ අමොන් රජුට එදි
රිව කැරලි ගැසූ සියල්ලන් මරා ඔහුගේ
පුත් යොසියෑ ඔහු හිලව්වට රජකමට
25 පත්කලෝය. අමොන් කල අනික් ක්‍රි
යාවල් යූදෑ රජුන්ගේ ලේකම් පොතේ
26 ලියා තිබෙනෙත් නැද්ද? උස්සාගේ උ
යනේ තමන් සොහොන් ගෙයි ඔහු
තැන්පත්කරනු ලැබිය. ඔහුගේ පුත්
යොසියෑද ඔහු හිලව්වට රජකම් කෙ
ලේය.

22. පරිච්ඡෙ. යොසියෑ අට අවුරුදු ව
යසේ රජකම්කරන්ට පටන්ගෙන යෙ
රූසලමේ තිස්එක අවුරුද්දක් රජකම්
කෙලේය. ඔහුගේ මව් බොස්කත්හි අ
2 දයෑගේ දූවූ යෙදිදෑනම් වූවාය. ඔහුද
යෙහෝවෑවහන්සේගේ ඉදිරියෙහි යුතු
දේ කර තමන් පියවූ දාවිත්ගේ සෑම මා
ර්ගවල දකුනටවත් වමටවත් නොහැරී
3 හැසුරුනේය. යොසියෑ දහඅටවෙනි අ
වුරුද්දේ මෙසුල්ලම් පුත් අසලියෑ පුත්
සළුන් ලියන්නා යෙහෝවෑවහන්සේ
4 ගේ ගෙට යවා දොර රකිනනන් විසින්
මිනිසුන්ගෙන් සමාදන් කරගත් යෙ
හෝවෑවහන්සේගේ ගෙට ගෙනා රිදී
5 ගනන්කර යෙහෝවෑවහන්සේගේ ගෙ
යි වැඩට මුලාදෑනි වැඩකාරයන් අතට
දී යෙහෝවෑවහන්සේගේ ගෙයි කැඩුම්
6 බිඳුම් අළුත්කරණ පිනිස උන්වහන්සේ
ගේ ගෙයි වැඩකරණ වඩුවන්ටත් ඉදි
කරනනන්ටත් ගල් වඩුවන්ටත් ලීත් ක
පාපු ගළුත් මිල දී ගන්ටද ගේ අළුත්ක
රවන්ටද දෙන ලෙස හිල්කියෑ නායක
පූජකයාට ගොහින් කියාපනැයි කීය.
7 ඔවුන් විශ්වාස ඇත්තෝය. ඒ නිසා ඔ
වුන් අතට බාරදුන් මිල ගනන් ගනෙත්
8 නැත. හිල්කියෑ නායක පූජකයාද යෙ

යෙහෝවඃවහන්සේගේ ගෙයිදී ව්‍යවස්ථා පොත මට සම්භවූයේයයි සාෆන් ලියන්නාට කියා ඒ පොත සාෆන්ට දුන්නේය.

9 සාෆන් ඒක කියවූයේය. සාෆන් ලියන්නා රජ්ජුරුවන් ළඟට ඇවිත් ඔබගේ වැඩකාරයෝ ගෙයිදී සම්භවූ මුදල් එක්කාසුකොට යෙහෝවඃවහන්සේගේ ගෙයි වැඩට මුලාදෑනි වැඩ කරවන්නන් අතට බාරදුන්නෝයයි කීයේය.

10 සාෆන් ලියන්නා හිල්කියඃ පූජකයා පොතක් මට බාරදුන්නේයයි කියා පෙන්වා රජ්ජු ඉදිරිපිට කියෙව්වේය.

11 රජ්ජුද ඒ ව්‍යවස්ථා පොතේ වගන්තිය ඇසූවාම

12 තමන් ඇඳුම් ඉරා අප ගැන ලියා තිබෙන සියළු දේවල ප්‍රකාරයට කරණ පිනිස

13 අපේ පියවරුන් විසින් මේ පොතේ වගන්තියට කන් නුදුන් නිසා අපට එදිරිව ඇවිළුන යෙහෝවඃවහන්සේගේ උදහස මහත්ය. එබැවින් මා නිසාත් මිනිසුන් නිසාත් සියළු යූදඃවරුන් නිසාත් මේ සම්භවූ පොතේ වගන්තිය ගැන යෙහෝවඃවහන්සේගෙන් අහන්ට පලයල්ලායයි හිල්කියඃ පූජකයාටත් සාෆන් පුත් අහිකම්ටත් මිකායඃ පුත් අක්බෝර්ටත් සාෆන් ලියන්නාටත් අසහියඃනම් රජ්ජුගේ වැඩකාරයාටත් අනකර කීය.

14 එවිට හිල්කියඃ පූජකයාද අහිකම්ද අක්බෝර්ද සාෆන්ද අසහියඃද යෙරුසලමේ අක්ෂර සාලාවේ සිටි ඇඳුම් රක්ෂාකරණ හර්හස් පුත් තික්වඃ පුත් සල්ලම්ගේ භුල්දඃනම් අනාගත වචන කියන ස්ත්‍රී ළඟට

15 ගොස් ඈ එක්ක කථාකලෝය. ඈද ඔවුන්ට කියන්නී

16 ඊශ්‍රායෙල්හි යෙහෝවඃ දෙවියන්වහන්සේ කියනසේක් මේ ඉඩම වැසියෝ තමන් අතින් කරණ සෑම දෙයින්ම මට උදහස් උපදවන පිනිස

17 මා අත්හැර වෙන දෙවියන්ට සුවඳ දුම් ගැසුවෝය. ඒ නිසා මේ ඉඩමට එදිරිව මාගේ උදහස ඇවිල නොනිවෙනේය. මේ ඉඩමටත් වැසියන් පිටටත් යූදඃ රජ්ජු කියෙව් පොතේ පෙනී තිබෙන සෑම නපුර පමුණුවම්යයි යෙහෝවඃවහන්සේ කියන බව නුඹලා මා ළඟට එව් ඇත්තාට කියාපල්ලාය.

18 නුඹුත් යෙහෝවඃවහන්සේගෙන් අහන පිනිස නුඹලා එව්

19 යූදඃ රජ්ජුට මෙසේ කියාපල්ලාය. මේ ඉඩමත් වැසියනුත් නාස්තිවී සාප ලැබෙනවාය කියා ඔවුන්ට එදිරිව මා විසින් කී දේ නෝ අසා යෙහෝවඃවහන්සේ කෙරෙහි හිත් මොලොක් කමින් යටහත් වී තාගේ ඇඳුම් ඉරා මා ඉදිරිපිට හැඬු

20 නිසා. ඒ නිසා මමත් තා කී දේ අසා මේ ඉඩමට පමුණුවන සෑම නාස්තිය ඇසින් නොදැක සොහොනට සමගිනාවෙන් මිනෙන ලෙස තාගේ පියවරුන් ළඟ තා රැස්කරන්නෙමියි කියා තා විසින් ඇසූ වචනවල් ගැන ඊශ්‍රායෙල් දෙවි යෙහෝවඃවහන්සේ කියනසේකැයි වාය. ඔවුහු රජ්ජුට ගොහින් කීවෝය.

23. පරිච්ඡේ. රජද මිනිසුන් යවා දඃ සහ යෙරුසලමේ සියළු මුලාදෑනි

2 තමන් ළඟට රැස්කරවා සියළු යූදඃ මිනිසුද යෙරුසලම් වැසියන්ද පූජකයන්ද අනාගතවක්තෘන්ද කුඩා මහත් සියළු මිනිසුන් සමග යෙහෝවඃවහන්සේගේ ගෙට ගොස් යෙහෝවඃවහන්සේගේ ගෙයිදී සම්භවූන ගිවිසුම් පොතේ සියළු වගන්ති ඔවුන්ට ඇසෙන්නට කියෙවුය.

3 රජද කණුවක් ළඟ සිට යෙහෝවඃවහන්සේගේ අන ලෙස පවතින පිණිස උන්වහන්සේගේ අණවල්ද සිරිත්ද නත්ද තමන් මුළු හිතෙනුත් ආත්මයෙනුත් රක්ෂාකර මේ පොතේ ලිව් මේ ගිවිසුමේ වචන ඉෂ්ටකරන්ට යෙහෝවඃවහන්සේ ඉදිරියෙහි ගිවිසුමක් කෙරුය. සියළු මිනිස්සුද ගිවිසුමට එකඟ

4 වූහ. රජද හිල්කියඃ නායක පූජකයාටත් දෙවෙනි තරමේ පූජකයන්ටත් දොර රකින්නන්ටත් අනකරමින් බාල් නිසාත් චෛත්‍යවල් නිසාත් අහස තාරකා නිසාත් සෑදූ සෑම භාජන යෙහෝවඃවහන්සේගේ ගෙයින් ගෙනවුත් යෙරුසලමින් පිටට කිද්‍රොන් එලිමහනේ ගිනිලා අළු බැතැල්ට ගෙන

5 ය. යූදඃහි නුවරවල උස් තැන්වලද යෙරුසලම් වටකර තැන්වලද සුවඳ දුම් සනාතට යූදඃ රජ්ජුන් පත්කල චෛත්‍ය විවරුන් අදහන පූජකයන් බාල්ට ර සඳ ග්‍රහතාරුකාවලටත් සියළු අහස් තාරුකාවලටත් සුවඳ දුම් ගැසූ අය

6 ද ඇරදමා චෛත්‍යයද යෙහෝවඃවහන්සේගේ ගෙයින් අරන් යෙරුසලමෙන් පිට කිද්‍රොන් ඇල ළඟට ගෙනත් ගිනිලා දූවිලිකර පොඩිකොට දූවිලි මූදුවට පොදුවූ සොහොන් ගෙවල්

7 ඉහිරෙව්වේය. යෙහෝවඃවහන්සේගේ ළඟ චෛත්‍යයට ස්ත්‍රීන් විසින්

වියන ඉඹම ලඟින් සොදෙම්වරුන්ගේ
8 ගෙවල් බිඳ දැමූයේය. ගෙබා පටන් බී
ශේබා දක්වා යුදා නුවරවල සෑම පූජක
යන් ගෙනත් ඔවුන් සුවඳ දුම් ගැසූ උස්
තැන් අපවිත්‍රකොට නුවර දොරට වම
තේ නුවර මුලාදෑනි යෝෂුවාගේ දොර
ට ඇතුල්වෙන තැන දොරටුවල උස්
9 තැන් බිඳදැමීය. නුමුත් උස් තැන්වල පූ
ජකයෝ යෙරුසලමේ යෙහෝවාවහන්
සේගේ පූජාසනය ලඟට නෑවිත් තමන්
සහෝදරයන් එක්ක ඇඹුල් පිටි නුමුසු
10 රොටි කෑවෝය. ඔහුද කවුරුවත් තමන්
දූදරුවන් මොලොක්ට ගින්න මැදින්
යනනාට නාරින්ට හින්නොම් පුත්‍රයන්
11 ගේ පාතාලේ තොපෙත් කිළුටුකර පි
ටි නුවර නාතන් මෙලෙක් ගෙයි මුලා
දෑනියාගේ ගෙය ලඟ යෙහෝවාවහන්
සේගේ ගෙට ඇතුල්වෙන තැන යුදා
රජුන් ඉරට කැපකල අශ්වයන් ඇරදමා
12 සූර්‍ය්‍යාගේ රථ ගිනිලා ආහස්ගේ උඩුම
හල් ගෙය උඩ තිබුන යුදා රජුන් විසින්
සෑදූ පූජාසනද යෙහෝවාවහන්සේගේ
මළු දෙකේ මනස්සෑ විසින් සෑදූ පූජාස
නද කුඩුකොට එතනින් බිඳ දමා කුඩු
13 කිද්‍රොන් ඇලට දැමීය. යෙරුසලම් ඉදි
රිපිට පිලිකුල් කන්දට දකුණේ සිදොන්
රුන්ගේ පිලිකුල්වූ අෂ්තොරෙත් නිසාත්
මෝවබ්වරුන්ගේ පිලිකුල්වූ කෙමොෂ්
නිසාත් අම්මොන් පුත්‍රයන්ගේ පිලිකුල්
වූ මිල්කොම් නිසාත් ඊශ්‍රායෙල්හි සල
මොන් රජු විසින් සෑදූ උස් තැන් අප
විත්‍රකර රූපවල් කැලිකර බිඳ චෛත්‍ය
14 වෘක්ෂ කපා තිබුන තැන මිනි ඇටවලින්
පිරිවිය.

15 තවද ඊශ්‍රායෙල් පව්කිරීමට සැලැස්සූ
නෙබත් පුත් යෙරොබෝවම් සෑදූ බැ
තැල්හි පූජාසනයද උස් තැනද දෙකම
බිඳදමා උස් තැන ගිනිලා කුඩුකර අඹ
රා චෛත්‍ය වෘක්ෂද ගිනි ලෑවේය. යොසි
16 යා හැරී කන්දේ සොහොන් ගෙවල් දැ
ක සොහොන් ගෙවල්වලින් ඇට ගෙ
නවා පූජාසනය පිට ගිනිලා මේ වචන ප්‍ර
සිද්ධකල දෙවියන්වහන්සේගේ මනුෂ්‍ය
යා විසින් පතලකල යෙහෝවාවහන්
සේගේ වචනය ලෙස ඒක අපවිත්‍ර කො
17 ලේය. එවිට මා විසින් දකින ඒ ලියමන
මොකදැයි ඇසීය. යුදා සිට ඇවිත් බැ
තැල්හි පූජාසනයට එදිරිව ඔබ කල මේ
දේ පතල කල දෙවියන්වහන්සේගේ
මනුෂ්‍යයාගේ සොහොන් ගේයයි නුව
18 ර වැසියෝ කීවෝය. රජද ඔහුගේ ඇ
ට කවුරුවත් නොසොල්වා තිබුනාවේ
යි කීය. ඔවුහු ඔහුගේ ඇට සහ සමාරි
යෙන් ආ අනාගතවක්තෘගේ ඇටද
19 නොසොල්වා තිබුවෝය. යොසියාද ඊ
ශ්‍රායෙල් රජුන් විසින් යෙහෝවාවහන්
සේ උදහස්කර සෑදූ සමාරියේ නුවරව
ල තිබුන උස් තැන්වල සෑම ගෙවල් නැ
තිකර බැතැල්හිදී කල සියළු ක්‍රියාවල්
20 ලෙස කර උස් තැන්වල පූජාසන පිට සෑ
ම පූජකයන් මරා මිනි ඇට දවා යෙරුස
ලමට හැරී ගියේය.

21 රජද මේ ගිවිසුම් පොතේ ලිව් හැටි
යට නුඹලාගේ දෙවිවූ යෙහෝවාවහන්
සේට උපරිගමන මංගල්‍යය පවත්වාපල්
22 ලායයි සෑම දෙනාට අනකෙලේය. සැ
බැවට ඊශ්‍රායෙල්හි නඩු ඇසූ නඩුකාර
යන්ගේ කාලේ සිට ඊශ්‍රායෙල්හිද යුදා
හිද රජුන්ගේ කාලේදී එහෙම උපරිග
23 මන මංගල්‍යයක් නොතිබුනේය. යොසි
යා රජුට දහඅටවෙනි අවුරුද්දේ මේ ම
ගල්‍යය යෙරුසලමේ යෙහෝවාවහන්
සේට පැවැත්වූවෝය.

24 යොසියාද යෙහෝවාවහන්සේගේ
ගෙයිදී හිල්කියා පූජකයාට සම්භවුනු
පොතේ ලිව් ව්‍යවස්ථාවේ වචන ඉෂ්ටක
රණ පිනිස පේන කියනනන්ද අනවින
කාරයන්ද රූපවල්ද දේව රූපවල්ද යු
දා රටේදීත් යෙරුසලමේදීත් සොයා
25 බැළුවාවූ සෑම පිලිකුල්ද ඇරදැමීය. මෝ
සෙස්ගේ මුළු ව්‍යවස්ථාව ලෙස මුළු සිති
නුත් ආත්මයෙනුත් බලයෙනුත් යෙ
හෝවාවහන්සේ කෙරේ පැහැදුන ඔ
හු සමාන රජෙක් ඉස්සරවත් පස්සේ
26 වත් නොවීය. නුමුත් මනස්සෑ විසින්
යෙහෝවාවහන්සේට උදහස් ඉපදෙව්
සියල්ල නිසා යුදාට එදිරිව ඇවිල ගිය
උන්වහන්සේගේ මහත් උදහසේ තදක
27 ම අත්නෑර මම ඊශ්‍රායෙල් ඇරදැමූ හැ
වියට යුදාද මා ඉදිරිපිටින් ඇරදමා මා
විසින් තෝරගත් මේ යෙරුසලම් නුව
රද මාගේ නම එහි පවතිනවා ඇතැයි
මම කී ගෙයද ඇරදමම්මියි යෙහෝවාව
28 හන්සේ කීසේක. යොසියාගේ අනික්
ක්‍රියාවළුත් ඔහු කල සියල්ලත් යුදා ර
ජුන්ගේ ලේකම් පොතේ ලියා තිබෙ
29 නොත් නැද්ද? ඔහුගේ කාලේදී මිසර
යෙහි රජවූ ඵාරවෝනෙකෝ අශෝර්හි

සාදන පිණිස උළු වඩුවන්ද වඩුවෑ කි
2 හිරි ලීද ඇරියේය. යෙහෝවාවහන්සේ
තමන්වහන්සේගේ ඊශ්‍රායෙල් මිනිසුන්
නිසා රාජ්‍යය උසස්කල බැවින් උන්ව
හන්සේ ඊශ්‍රායෙල් කෙරෙහි රජකම දා
වීත්ට ස්ථිකල බව දාවීත්ට දැනුනේය.
3 දාවීත්ද යෙරූසලමේදී තවත් භාර්‍යා
වන් පාවාගෙන තවත් දූදරුවන් ඉපද
වීය. යෙරූසලමේ ඔහුට දාව උපන් දරු
4 වන්ගේ නම් මේය. ශම්මුවා ශෝබබ්ය
5 නාතාන්ය සලමොන්ය ඉබ්හර්ය එලිෂුවා
6 ය එල්පෙලෙත්ය නොගාය නෙපෙග්ය ය
පියාය එලිෂමාය බෙලියාදාය එලිපෙලෙත්
7 ය. දාවීත් සියළු ඊශ්‍රායෙල් කෙරෙහි රජ
8 ව අභිෂේක කල බව පිලිස්තිවරුන් ඇ
සූ කල ඔවුන් සියල්ලෝම දාවීත් සොයන්
ට ගියෝය. දාවීත්ද ඒ අසා ඔවුන්ට එදි
9 රිව ගියේය. පිලිස්තිවරුද ඇවිත් රෙළු
10 සිම් මිටි තැන පැතිර සිටියෝය. එකල
දාවීත් මා විසින් පිලිස්තිවරුන්ට එදිරිව
යායුතුද? ඔබවහන්සේ මා අතට ඔවුන්
පාවාදෙනසේක්දැයි දෙවියන්වහන්සේ
ගෙන් විචාලේය. යෙහෝවාවහන්සේද
මම ඔවුන් තා අතට පාවාදෙනෙමි ඒ
11 නිසා යවයි කීසේක. ඔවුන් බාල් පරසිම්
ට ආවෝය දාවීත්ද එහිදී ඔවුන්ට පහර
දී දෙවියන්වහන්සේ මා අතින් මාගේ ස
තුරන් වතුර ගැලීමක් මෙන් බින්දසේ
කැයි කීය. ඒ නිසා ඒ ස්ථානයට බාල්
12 පරසිම්නම් වීය. ඔවුන් තමන් දෙවියන්
එහි දමා ගියෝය. එකල දාවීත්ගේ අ
13 ණවට ඒවා ගිනි ලෑවෝය. පිලිස්තිවරු
14 දෙවනුව මිටි තැන පැතිර ගියෝය. දා
වීත්ද දෙවියන්වහන්සේගෙන් දෙවනුත්
විචාලේය. දෙවියන්වහන්සේද ඔවුන් ල
ගට නොගොස් හැරී තුඹද ගස් ඉදිරිපිටින්
ඔවුන්ට ලන්වී තුඹද ගස් මුදුන්වල ශබ්
15 දයක් ඇසූ විට දෙවියන්වහන්සේ පිලිස්
ති සේනාවට ගසනතට තා ඉදිරියෙන්
ගිය නිසා සටනට යවයි ඔහුට කීසේක.
16 දාවීත්ද දෙවියන්වහන්සේ අනකල ලෙ
ස කර ගිබියොන් සිට ගාසාර් දක්වා පි
17 ලිස්ති සෙනගට ගැසීය. දාවීත්ගේ කී
ර්තියද සෑම රටවල ප්‍රසිඬවිය. යෙහෝ
වාවහන්සේද සියළු ජාතීන්ට ඔහු ගැන
භය ඉපදවූසේක.

15. පරිච්ඡ. දාවීත්ද දාවීත්නම් නුව
1 රමට ගෙවල් සාදා දෙවියන්වහන්සේ
ගේ පෙට්ටියට තැනක්ද පිලියෙලකො
ට ඊට කූඩාරමකුත් තැබීය. දාවීත්ද දෙ
2 වියන්වහන්සේගේ පෙට්ටිය උසුලාගෙ
න යන්ටත් නිතරම උන්වහන්සේට සේ
වය කරනතාටත් යෙහෝවාවහන්සේ
ලෙවීවරුන් තෝරාගත් නිසා ඔවුන්
මිස දෙවියන්වහන්සේගේ පෙට්ටිය උසු
ලාගෙන යන්ට කාටවත් යුතු නැතැයි
3 කීය. දාවීත්ද තමන් හදාගත් තැනට
යෙහෝවාවහන්සේගේ පෙට්ටිය ගෙ
නෙන පිණිස සියළු ඊශ්‍රායෙල් යෙරූසල
4 මට එකතු කෙලේය. දාවීත් ආරොන්ගේ පු
5 තුන්ද ලෙවීවරුන් එකතු කෙලේය. කෙ
හත් පුතුන්ගෙන් මූලාදෑනි උරියෙල්ද ඔහු
6 සහෝදරයන් එකසිය විස්සක. මෙරාරී පු
තුන්ගෙන් මූලාදෑනි අසායාද ඔහු සහෝ
7 දරයන් දෙසිය විස්සක. ගෙර්ෂොම් පු
තුන්ගෙන් මූලාදෑනි යොවෙල්ද ඔහු ස
8 හෝදරයන් එකසිය තිහක. එලිසාපාන්
පුතුන්ගෙන් මූලාදෑනි සෙමායාද ඔහු ස
9 හෝදරයන්ද දෙසියයක. හෙබ්‍රොන් පු
තුන්ගෙන් මූලාදෑනි එලියෙල්ද ඔහු ස
හෝදරයන්ද අසූවක. උස්සියෙල් පුතුන්
ගෙන් මූලාදෑනි අම්මිනදබ් සහ ඔහු සහෝ
10 දරයන් එකසිය දොලහක යන මොවුන්
11 එක්කාසුකරනු ලැබුවෝය. දාවීත්ද සා
දොක් අබියාතර් පූජකයන්ටද උරියෙල්
අසායා යොවෙල් ෂෙමායා එලියෙල් අම්මින
12 දබ් යන ලෙවීවරුන්ටද අඬගසා තුඹලා
ලෙවීවරුන්ගේ පිය මූලාදෑනියෝය. මා
විසින් හදාගත් තැනට ඊශ්‍රායෙල් දෙවි
වූ යෙහෝවාවහන්සේගේ පෙට්ටිය ගෙ
නෙන පිණිස තුඹලාත් සහෝදරයෝත්
13 පවිත්‍ර වෙයල්ලාය. පලමු සැරේ එසේ
නොකර උන්වහන්සේට හරිහැටි සො
ඇදනු නිසා අපේ දෙවිවූ යෙහෝවාව
හන්සේ අපට පහර දුන්සේකැයි කීයේ
14 ය. පූජකයෝද ලෙවීවරුද ඊශ්‍රායෙල්
දෙවිවූ යෙහෝවාවහන්සේගේ පෙට්ටි
15 ය ගෙනෙනතාට පවිත්‍ර වූනෝය. ලෙවී
පුත්‍රයෝද යෙහෝවාවහන්සේගේ වච
නයෙන් මෝසෙස් අනදුන් ලෙස දෙවි
යන්වහන්සේගේ පෙට්ටියේ පොළු කර
16 තබා උසුලාගෙනතෝය. දාවීත්ද වීනාද
කුඹා වීනාද තාලං පට යන තූර්‍ය්‍ය ඛාණ්ඩ
වලින් ශබ්දකර ප්‍රීති හඬ පැවැත්වීමට
තමන් සහෝදරයන් ගායනාකාරයන්
කොට නියමකරනතාට ලෙවීවරුන්ගේ
17 මූලාදෑනීන්ට කීය. ලෙවීවරුද හෙ

වෙල් පුත් හෙමන්ද ඔහුගේ සහෝදර
බෙරකියාහ පුත් ආසප්ද තමන් සහෝදර
18 මෙරාරි පුත් කුෂයාහ පුත් ඒතාන්ද ඔවුන්
සමග දොර රකින දෙවෙනි තරමේ ත
මන් සහෝදර සකරියාද බෙන්ද යාසී
යෙල්ද ෂෙමිරමොත්ද යෙහියෙල්ද උන්නිද
එලියාබ්ද බෙනායාද මාසෙයාද මත්තිති
යාද එලිෆෙලෙහුද මික්නෙයාද ඕබෙද් එ
19 දොම්ද යෙයෙල්ද නියමකළෝය. හෙමන්ද
ආසප්ද ඒතාන්ද යන ගායනාකාරයෝ පි
ත්තල තාලම්පටවලින් ශබ්ද කිරීමටත්
20 සකරියාද අසියෙල්ද ෂෙමිරමොත්ද යෙහි
යෙල්ද උන්නිද එලියාබ්ද මාසෙයාද බෙනායා
ද යන මොවුන් අලමොත්නම් කුඩා වී
ණාවලින් ශබ්ද කිරීමටත් නියමවූහෝ
21 ය. මත්තිතියාද එලිෆෙලෙහුද මික්නෙයාද
ඕබෙදෙදොම්ද යෙයෙල්ද අසසියාද ෂෙමි
නිත්නාම් වීණා දක්ෂ ලෙස ගායනට නි
22 යමවූහෝය. ලෙවීවරුන්ගේ මූලාදෑනි
කෙනනියා ගායනාකිරීමට නියමවී ගාය
නාකිරීමට දක්ෂයෙක් නිසා ඒක ඉගැන්
23 වීය. බෙරකියාද එල්කනාද පෙට්ටිය නි
24 සා දොර රැක්කෝය. ෂෙබනියාද යෙහෝ
සාපත්ද නෙතනෙයෙල්ද අමසයිද සකරියා
ද බෙනායාද එලියෙසර්ද යන පූජකයෝ
හොරණෑවලින් දෙවියන්වහන්සේගේ
පෙට්ටිය ඉදිරිපිට පිඹෝය. ඕබෙදෙ
දොම්ද යෙහියාද පෙට්ටිය නිසා දොර
රැක්කෝය.

25 මෙසේ දාවිත්ද ඊශ්‍රායෙල් වැඩිමහල්
ලෝද දහසට මූලාදෑනියෝද යෙහෝවා
වහන්සේගේ ගිවිසුම් පෙට්ටිය ඕබෙදෙ
දොම්ගේ ගෙයින් ගෙනෙන්නට සතු
26 ටින් ගියෝය. යෙහෝවාවහන්සේගේ
ගිවිසුම් පෙට්ටිය උසුලන ලෙවීවරුන්ට
දෙවියන්වහන්සේ පිහිටවූ කල ඔවුන්
ගොන් හත් දෙනෙක්ද බැටළුවන් හත්
27 දෙනෙක්ද පූජාකළෝය. දාවිත්ද සිහින්
හුල් රෙද්දක් ඇඳ සිටියේය. පෙට්ටිය
උසුලාගත් සියළු ලෙවීවරුද ගායනාකා
රයෝද ඔවුන් සමග ගායනාකාර ගුරු
වූ කෙනනියාද එසේම ඇඳ සිටියෝය.
28 දාවිත්ද හුල් එඵෝදක් ඇඳ සිටියේය.
මෙසේ සැම ඊශ්‍රායෙල්වරු මහත් ඝෝ
ෂා කරමින් තූර්‍යනාදයෙනුත් හොරණෑ
වලිනුත් තාලම්පටවලිනුත් වීණාවලිනුත්
කුඩා වීණාවලිනුත් ශබ්ද පවත්වමින්
29 යෙහෝවාවහන්සේගේ ගිවිසුම් පෙට්ටි
ය ගෙනාවෝය. යෙහෝවාවහන්සේ
ගේ ගිවිසුම් පෙට්ටිය දාවිත්නම් පුරයට
පැමිණි කල සාවුල්ගේ මීකල්නම් දූ කවු
ළුවකින් බලා දාවිත් රජු නටනවා සෙ
ල්ලම්කරණවා දැක සිතින් ඔහුට නින්දා
කළාය.

16. පරිච්. ඔවුන්ද දෙවියන්වහන්
සේගේ පෙට්ටිය ගෙනත් දාවිත් ඒකට
සෑදූ කූඩාරම මැද තබා දවන යාගද
ශාන්ති පූජාවල්ද දෙවියන්වහන්සේ ඉදි
2 රියෙහි පූජාකළෝය. දාවිත්ද දවන පූ
ජාවල්ද ශාන්ති පූජාවල්ද පූජාකර කෙළවු
තුවූ විට යෙහෝවාවහන්සේගේ නමින්
3 මිනිසුන්ට ආශීර්වාදකොට සැම ස්ත්‍රී පුරු
ෂ ඊශ්‍රායෙල්වරුන් එක එකාට රොටි
කෑල්ලකුත් ලොකු මස් කෑල්ලකුත් මිදි
4 රස භාජනයකුත් බැගින් දුන්නේය. ඔ
හුද යෙහෝවාවහන්සේගේ පෙට්ටිය
ඉදිරිපිට සේවයකිරීමටත් ලේකම් ලිය
වීමටත් ඊශ්‍රායෙල් දෙවිවූ යෙහෝවාව
හන්සේට ස්තුති ප්‍රසංසා කෙරීමටත් ලෙ
වීවරුන්ගෙන් සමහරෙක් නියම කෙ
5 ළේය. මූලාදෑනිවූ ආසප්ය ඔහු ලඟට ස
කරියාය යෙයීල්ය ෂෙමිරමොත්ය යෙහි
යෙල්ය මත්තිතියාය එලියාබ්ය බෙනායාය
ඕබෙද්එදොම්ය යෙයීල්ය යන මොවුන්
වීණාවලින් හා කුඩා වීණාවලින් ගාය
නා කළෝය. ආසප්ද අත්තලින් ශබ්ද
6 පැවැත්තුවේය. බෙනායාද යහසියෙල්ද දෙ
වියන්වහන්සේගේ ගිවිසුම් පෙට්ටිය ඉදි
රිපිට නිතර හොරණෑ පිඹෝය.

7 එවිට යෙහෝවාවහන්සේට ස්තුතිකි
රීම පිණිස දාවිත් පළමුකොට ආසප් සහ
ඔහුගේ සහෝදරයන් අතට එදා මේ ගී
8 තිකාව සාදා දුන්නේය. යෙහෝවාව
හන්සේට ස්තුතිකරමින් උන්වහන්සේ
ගේ නමින් යාඥාවී උන්වහන්සේගේ ක්‍රි
යාවල් මිනිසුන්ට එළිදරව් කරපල්ලාය.
9 උන්වහන්සේට ගායනාකර ගීතිකා කි
යා උන්වහන්සේ කළ සැම භාස්කම් ගැ
10 න කථාකරපල්ලාය. උන්වහන්සේගේ පි
රිසිදු නාමය ගැන වර්ණනා කරපල්ලා
ය. යෙහෝවාවහන්සේ සොයන ඇත්
11 තන්ගේ සිත ප්‍රීතිවේවා. යෙහෝවාව
හන්සේද උන්වහන්සේගේ බලයද සො
යමින් උන්වහන්සේගේ මූන නිතර බ
12 ලාපල්ලාය. උන්වහන්සේගේ වැඩකාර
ඊශ්‍රායෙල්ගේ වංශයෙනි උන්වහන්සේ
13 තෝරාගත් යාකොබ්ගේ පුත්‍රයෙනි උන්

වහන්සේ කල තමන්ගේ පුදුම ක්‍රියාව
එත් හාස්කම්ත් උන්වහන්සේගේ මුඛ
14 යේ විනිශ්චයවලුත් සිහිකරපල්ලාය. උ
න්වහන්සේ අපේ දෙවිවූ යෙහෝවාව
හන්සේය උන්වහන්සේගේ විනිශ්චය
15 වල් මුළු පොලවේ ඇත. ස්වල්ප දෙ
නෙක්ව සිටියාවූ නුඹලා කනාන් දේස
යෙහි විදේශිකව සිටි කල්හි තොපේ උ
16 රුම කොට්ඨාසයක් කොට මේ කනාන්
දේශය තොපට දෙන්නෙමියි කියමින්
17 උන්වහන්සේ දහස් ගනන් පරම්පරාවල
18 ට අණකල වචනය ගන උන්වහන්සේ
විසින් ආබ්‍රහම් සමග කලාවූ ඊසාක්ට
19 දිවූට දුනාවූ පනතක් වශයෙන් යා
කොබ්ටද සදාකාල ගිවිසුමක් වශයෙන්
ඊශ්‍රායෙල්ටද ස්ථිරකලාවූ උන්වහන්සේ
20 ගේ ගිවිසුම සිහිකරපල්ලාය. ඔවුන් ව
ර්ගයෙන් වර්ගයටද රාජ්‍යයෙන් රාජ්‍ය
21 යටද ගිය කල ඔවුන්ට අයුත්තක් කරන්
22 ට කාටවත් ඉඩ නෑර මාගේ අභිෂේක
ලද්දවුන් ස්පර්ශ නොකොට මාගේ අනා
ගතවක්තෘන්ට වෙහෙස නොකරව්යයි
කියා ඔවුන් ගැන රජුන්ට පවා තරවටු
23 කලසේක. සෑම පොලෝ වැසියනි යෙ
හෝවාවහන්සේට ගීතිකා කියා උන්ව
හන්සේගේ ගැලවීම දවසින් දවසට ප්‍ර
24 කාශ කරපල්ලාය. උන්වහන්සේගේ ම
හත්තත්වය පරදේසීන් අතරෙහිත් උන්
වහන්සේගේ පුදුම ක්‍රියාවල් සෑම ජා
තීන් අතරෙහිත් එලිදරව් කරපල්ලාය.
25 මක්නිසාද යෙහෝවාවහන්සේ උතුම්
ව බොහෝසේ වර්ණනාකරනු ලැබිය
26 යුතුව සිටිනසේක. ජාතීන්ගේ සෑම දෙ
විවරූ රූපවල්ය එහෙත් යෙහෝවාව
හන්සේ ස්වර්ගවල් මැවූසේක. ඒ නිසා
සියළු දෙවිවරුන්ට වඩා උන්වහන්සේට
27 භයවිය යුතුය. මහත්තත්වයද ගෞරවය
ද උන්වහන්සේ ඉදිරියෙහිය. බලයද ප්‍රීති
28 යද උන්වහන්සේගේ ස්ථානයෙහිය. මනු
ෂ්‍ය වර්ගයෙනි යෙහෝවාවහන්සේට
මහත්තත්වයද බලයද අයිතියයි කියාප
29 ල්ලාය. යෙහෝවාවහන්සේගේ නාමය
ට සුදුසු මහත්තත්වය දෙමින් පූජාවක්
අරන් උන්වහන්සේ ඉදිරිපිටට ඇවිත් පි
රිසිදුකම නැමති අලංකාරයෙන් සැරහී
යෙහෝවාවහන්සේට නමස්කාර කරප
30 ල්ලාය. මුළු පොලව උන්වහන්සේ ඉදිරි
පිට භයවෙයනන ලෝකයද වචල නො
31 වෙන ලෙස සවි වනේය. ස්වර්ගයෝ
සතුටුව පොලව ප්‍රීතිවී යෙහෝවාවහ
සේ ආඩුකරණසේකැයි මනුෂ්‍ය ව
32 යන් අතරේ කියත්වා. සමුද්‍රයද එහි ස
ම්පූර්ණකමද ගොරවා කොබද එහි
33 ලදද ප්‍රීතිවෙත්වා. එවිට උන්වහන්
පොලොවේ විනිශ්චයට වඩිනාහෙයි
වනාන්තරයේ ගස් යෙහෝවාවහන්
34 ඉදිරියෙහි ගීතිකා කරති. යෙහෝව
හන්සේ යහපත්ය උන්වහන්සේගේ ද
ව නිතරම පවතියි ඒ නිසා උන්වහ
35 සේට ස්තුති කරපල්ලාය. තවද ඔබව
සේගේ පිරිසිදු නමට ස්තුතිකර ඔ
හන්සේගේ ප්‍රශංසාව ගැන ගරුකම් ක
රණ පිනිස අපේ ගැලවීමේ දෙවියන්
හන්ස අප ගලවා එක්කාසුකර පරදේ
සින්ගෙන් ගැලෙව්ව මැනවයි කියාප
36 ල්ලාය. ඊශ්‍රායෙල්ගේ දෙවිවූ යෙහෝ
වහන්සේට සදාකාලයෙන් සදාකාල
ආශීර්වාද වේවා. සියළු මිනිස්සුද ආමේ
කියා යෙහෝවාවහන්සේට ස්තුති ක
ලෝය.

37 දැවිත්ද යෙහෝවාවහන්සේගේ ගිවි
සුම් පෙට්ටිය ඉදිරිපිට සෑම දවසේ
වරට යුතු ලෙස නිතරම පෙට්ටිය ඉදි
පිට සේවයකිරීමට ආසාප්ද ඔහුගේ ස
38 හෝදරයන්ද නියමකෙලේය. ඕබේද්
දෝම් සහ ඔහුගේ සහෝදර හැට
ට දෙනාද යෙදුතුන් පුත් ඔබෙද් එදෝ
39 ද හෝසාද දොරටුපාලයෝය. සවු
දය දවස පූජාසනයේ දවස පූජාවල්
40 තර යෙහෝවාවහන්සේට පූජාකර
හෝවාවහන්සේ ඊශ්‍රායෙල්ට අන
ව්‍යවස්ථාවේ ලිව් සියලු ලෙස කිරි
ගිබියොන්හි උස් තැන තිබෙන
හෝවාවහන්සේගේ මඩපය ඉදිරිපි
දෙක්ද ඔහුගේ සහෝදරයන්ද යන
41 කයන් නියමකෙලේය. ඔවුන් සමග
මන්ද යෙදුතුන්ද නම් ලිව් තෝරාගත්
තික් අයද යෙහෝවාවහන්සේගේ
රුණාව නිතරම පවතින හෙයින් උ
හන්සේගේ නමට ස්තුති කිරීමට නි
42 කරනු ලැබුවෝය. ඔවුන් සමග දෙ
න්වහන්සේට ගායනාකරණ තූර්යවල්
ලින් ශබ්ද කරණ ඇත්තන්ට හොර
සහ අත්තලද ගත් හෙමන් යෙදුතුන්
වියෝය. යෙදුතුන් පුත්තුද දොරටුපා
43 යෝය. ඉන්පසු සියළු මිනිස්සු තමත
ගෙවලට ගියෝය. දැවිත්ද තමන් ගෙ
ට ආශීර්වාද කරණ පිනිස හැරී ගියේ

17. පරිච්. තවද දාවිත් ගෙදර සිටින විට නාතන් අනාගතවක්තෘට කථාකොට කිහිරි ලී ගෙයක මම වාසයකරමි දෙවියන්වහන්සේගේ ගිවිසුමේ පෙට්ටිය තිර ඇතුලේ තිබෙනේයයි කීය.

2 එවිට නාතන් යෙහෝවාවහන්සේ ඔබ සමග සිටින නිසා ඔබගේ හිතේ තිබෙ 3 න සියල්ල කලමැනවයි දාවිත්ට කීය. එදා රාත්‍රියේ යෙහෝවාවහන්සේගේ වච 4 නය නාතන්ට පැමින තෝ මාගේ මෙහෙකරුවූ දාවිත්ට කථාකරමින් මට වාසයකරන්ට ගෙයක් නොසාදන්නේහි 5 ය. මක්නිසාද ඊශ්‍රායෙල් පුත්‍රයන් ගෙනා කල් සිට අද දක්වා කිසි ගෙයක නොසිට කූඩාරමෙන් කූඩාරමටද මඩ 6 පයෙන් මඩපයටද ගියෙමි. සියළු ඊශ්‍රායෙල් සමග මා ඇවිද්ද කොයි ස්ථානයකදිවී මාගේ ඊශ්‍රායෙල් මිනිසුන් රක්ෂාකරනාට මා විසින් අනකල විනිශ්චයකාරයන්ගෙන් කාටවත් මට කිහිරි ලී ගෙයක් නොසාදනෙත් මන්දැයි කියා වච 7 නයක් කීයෙම්දැයි කියව. දැනුත් මාගේ වැඩකාර දාවිත්ට කථාකොට සේනාවන්ගේ යෙහෝවාවහන්සේ මෙසේ කියනසේක. මාගේ ඊශ්‍රායෙල් මිනිසුන්ට මූලාදැනියෙක් වෙන්ට තා ගාලෙන් බැටළු 8 වන් පස්සේ යාමෙන් කැඳවාගතිමි. ඇවිද්ද සෑම තැනම තා සමග සිට තාගේ සතුරන් තා ඉදිරියෙන් විනාසකර පොලෝ වැසි ශ්‍රෙෂ්ඨයන්ගේ නම ලෙස තා 9 ට මහත් නමක් තැබීමි. මාගේ ඊශ්‍රායෙල් සෙනගට වාසස්ථානයක් නියමකොට එහිදී ඔවුන් පිහිටුවනෙනමි. ඔවුන් එහි වාසයකොට තවත් වචල නො 10 වන්නෝය. පටන්ගැන්මේදී සිඩවූන ලෙසම මාගේ ඊශ්‍රායෙල් සෙනග කෙරෙහි විනිශ්චයකාරයන් මා විසින් පත්කල අවස පටන් සිඩවූන ලෙස දුෂ්ඨ මනුෂ්‍යයෝ තවත් ඔවුන්ට පිඩා නොකරන්නෝය. ඇරත් තාගේ සෑම සතුරන් පරදවමි යෙහෝවාවහන්සේද තට වංශ 11 යක් පිහිටුවනසේකැයි තට කියමි. තාගේ පියවරුන් ලඟට යන දවස් පැමිනි විටම තාගේ පුත්‍රන්ගෙන් වංශයක් පිහි 12 ටුවා ඔහුගේ රාජ්‍යය සවිකරමි. ඔහුද මට ගෙයක් සාදන්නේය. ඔහුගේ සිංහාසනයද සදාකාලයටම සවිකරනෙනමි. 13 මම ඔහුගේ පිය වෙමි ඔහුද මාගේ පුත්‍රයා වෙයි. තට ඉස්සර සිටි ඇත්තාගෙන් මාගේ කරුණාව අහක්කල ලෙස ඔහු 14 ගෙන් අහක්නොකර මාගේ ගෙයිද මාගේ රාජ්‍යයේද සදාකාලේටම සවිකරන්නෙමි. ඔහුගේ සිංහාසනයද සදාකාලයටම සවි වන්නේයයි යෙහෝවාවහන් 15 සේ කියන බව කියවයි කීසේක. නාතන් මේ සියළු වචනවලින් සියළු දර්ශනත් ලෙස දාවිත්ට කීය.

16 එවිට දාවිත් රජ ඇවිත් යෙහෝවාවහන්සේ ඉදිරියෙහි හිඳ මාගේ දෙවිවූ යෙහෝවාවහන්ස ඔබ විසින් මේ වෙනතුරු මා රක්ෂාකරන්ට මම කව්ද? මා 17 ගේ වංශය කිමෙක්ද? දෙවියන්වහන්ස ඔබගේ ඇසට මෙක ස්වල්ප දෙයක මතු බොහෝ කලකට ඔබගේ වැඩකාරයාගේ වංශය ගැන කථාකලසේක. අහෝ දෙවිවූ යෙහෝවාවහන්ස ඔබ මහ 18 තෙකු ලෙස මා සිහිකලසේක. ඔබවහන්සේගේ වැඩකාරයාගේ නම්බුව ගැන දාවිත් තවත් මක් කියනවාද? ඔබවහන්සේගේ වැඩකාරයා අඳුනනසේක. 19 අහෝ යෙහෝවාවහන්ස මේ මහත් දේ පෙන්වමින් ඔබගේ වැඩකාරයා උදෙසා ඔබගේ හිත ලෙස මේ මහත්කම් කල 20 සේක. අහෝ යෙහෝවාවහන්ස ඔබ සමාන කිසිවෙක් නැතේය. අපේ කනින් ඇසූ සියල්ල ලෙස ඔබ හැර දෙවි 21 කෙනෙක් නැත්තේය. ඔබවහන්සේගේ මිනිසුන් වෙන පිනිස ඔබ විසින් තෝරාගත් ඊශ්‍රායෙල් මිනිස්සු සමාන පොලොවේ කොයි ජාතියක්ද? මිසරයෙන් ගලවාගත් ඔබගේ මිනිසුන් කරණකොටගෙන ඔබටම මහත් භයානක නමක් කරගන්නා පිනිස ඔබවහන්සේ 22 වර්ගයන් අහක්කලසේක. ඔබගේම ඊශ්‍රායෙල් වංශය සදාකාලයටම ඔබගේ මිනිසුන් කරගෙන ඔබවහන්සේ ඔවුන් 23 ගේ දෙවිවූසේක. ඒ නිසා යෙහෝවාවහන්ස ඔබගේ වැඩකාරයාත් ඔහුගේ වංශයත් ගැන කී වචනය සදාකාලයටම 24 සවිකොට ඔබ කී ලෙස කලමැනව. සේනාවන්ගේ යෙහෝවාවහන්සේ ඊශ්‍රායෙල්ගේ දෙවියන්වහන්සේය කියා ඔබගේ නම නිතරම උසස්වෙන ලෙස ඒ කිම සවි වේවා ඔබගේ වැඩකාර දාවිත්ගේ වංශයද ඔබ ඉදිරියෙහි සවි වේවා. 25 මාගේ දෙවියන්වහන්ස ඔබගේ වැඩකාරයාට ගෙයක් සාදන බව ඔහුට කී නිසා ඔබගේ වැඩකාරයා ඔබ ඉදිරියෙහි

26 යාඥාවෙනනට හිතට ගනෙත්ය. දැනුත් යෙහෝවාවහන්ස ඔබ දෙවියන්වහන්සේමය. ඔබගේ වැඩකාරයාට මේ යහ
27 පත්කම ගිවිස්සෙස්ක. දැන් ඔබගේ වැඩකාරයාගේ වංශය ඔබ ඉදිරියෙහි සදාකාලයටම පවතින ලෙස ඊට ආශිර්වාද කලමැනව. ඔබවහන්සේ ආශිර්වාද කරණෙස්ක්නම් ඒ ආශිර්වාදය නිතරම පවත්නේයයි කීයේය.

18. පරිච්ඡේ. මින්පසු දාවිත් පිලිස්තිවරුන් පරදවා යටත්කොට ඔවුන් අතින් ගාත්ද එහි නුවරවල්ද අල්ලාගනෙත්ය.
2 ඔහු මෝවබ්ටත් ගැසීය මෝවබ්වරුද
3 දාවිත්ට යටත්ව තෑගි ගෙනාවෝය. දාවිත්ද ප්‍රාත් ගඟබඩ තමන් ආඥාව පවත්වනනට යද්දී හමත් දක්වා සොබාහි හ
4 දරසර් රජුට ගසා ඔහුගෙන් රථ දහසකුත් අසරුවන් සත්දහසකුත් පාබල සෙනග විසිදහසකුත් අල්ලා රථ සියයක් ඇර සිය
5 ළු රථ අශ්වයන්ගේ කුදි කැපීය. තවද දාවිත් දමස්කසේ ආරම්වරුන් සොබාහි හදරසර් රජුට උදව් පිණිස ආකල ඔවුන්ගෙන් විසි දෙදහසක් මරා ආරම් දමස්ක
6 යේ කොටු තැබීය. ආරම්වරුද දාවිත්ට වැඩකාරයෝව තෑගි ගෙනාවෝය. මෙසේ යෙහෝවාවහන්සේ දාවිත් ගිය
7 ගිය තැනම ආරක්ෂා කලසේක. දාවිත්ද හදරසර් වැඩකාරයන්ගේ රන් පලිස්ද
8 අරන් යෙරුසලමට ගෙනායේය. එසේම තිබ්හත්ද කූන් යන හදරසර්ගේ නුවරවලින් දාවිත් බොහෝ පිත්තල ගෙනායේය. එයින් සලමොන් පිත්තල මුහු
9 දත් කණුත් පිත්තල භාජනත් සෑදීය. හදරසර් සමග යුධයක් ඇතනාවූ හමත්හි තොව් රජ සොබාහි හදරසර් රජුගේ සියළු සෙනග දාවිත් විසින් පැරදූ බව අ
10 සා දාවිත් හදරසර්ට එදිරිව යුධකර පැරදෙව් බැවින් තමන් පුත් හදෝරම් සියළු ආකාර රන් රිදීද පිත්තල භාජනද දාවිත් රජු වෙතට ඔහුගේ සැප පහසු අසා පි
11 ළිසඳර කථාවට හැරියේය. දාවිත් රජ ඒවාත් ඒදොම් මෝවබ් අම්මොන් පුත්‍රයන් පිලිස්තිවරුන් අමලෙක් යන සෑම ජාතීන්ගෙන් ගත් රන් රිදීත් යෙහෝවා
12 වහන්සේට කැපකෙලේය. සෙරුවාගේ පුත් අබිෂයිද ලුණු තැනිතලාවේ ඒදොම්වරුන්ගෙන් දහඅට දහසක් මැරීය.
13 ඔහුද ඒදොම්හි කොටු බැන්දේය. සෑම ඒදොම්වරු දාවිත්ට වැඩකාරයෝ
නෝය. මෙසේ යෙහෝවාවහන්සේ
වීත් ගිය ගිය සෑම තැනම රක්ෂාකල
14 ස. දාවිත්ද සියළු ඊශ්‍රායෙල්හි රජ
කොට තමන් සියළු මිනිසුන්ට දැහැමි
15 සෙමින් ආඥා පැවැත්විය. සෙරුවා
යෝවබ් සේනානායකයාය. අහිළුද්
16 යොසපාත්ද ලේකම විය. අහිතුබ්
සදෝක්ද අබියාතර් පුත් අබිමෙලෙක්
17 පූජකයෝය. ෂව්ෂා ලියනනාය.
යදාගේ පුත් බෙනායාද කෙරෙතිවරුන්
ටත් පෙලෙතිවරුන්ටත් නායක
දාවිත්ගේ පුත්‍රයෝද රජු ළඟ මූලාදෑ
යෝය.

19. පරිච්ඡේ. තවද අම්මොන් පු
යන්ගේ නාහෂ්නම් රජ මෙලේ
2 ගේ පුත් ඔහු හිලව්වට රජවිය. දාවි
ඔහුගේ පියා මට යහපත්කම පෙන්
නිසා නාහෂ්ගේ පුත් හනූන්ට යහප
කම පෙන්වම්යි කියා ඔහුගේ පියා
ඔහු සනසනනට පනිවිඩකාරයන්
දාවිත්ගේ මිනිස්සුද හනූන් සනසන
අම්මොන් පුත්‍රයන්ගේ රටෙහි ඔහු ළ
3 ට ආවෝය. අම්මොන් පුත්‍රයන්ගේ මූල
දෑනී දාවිත් ඔබගේ පියාට ගෞරව
ස ඔබ සනසනනට මිනිසුන් එව්
සිතනවාද? රට නාසකිරීමට
ඔත්තු බලනනට ඔහුගේ වැඩකාර
ඔබ ළඟට ආවෝ නොවෙද්දැයි හනූ
4 ට කීවෝය, ඒ නිසා හනූන් දාවිත්
මිනිසුන් අල්ලා රැවුල් කපා මුල් සළු
5 සිට ඇඳුම් කපා හැරියේය. එවිට ස
රෙක් ගොස් ඒ මිනිසුන්ට සිඩවූන
ය දාවිත්ට කීවෝය. ඒ මිනිසුන්ට
හෝ ලැජ්ජාවූන නිසා ඔවුන් සම්
භනට දාවිත් මිනිසුන් යවා රැවුල් වැ
නතුරු යෙරිකෝහි සිටලා දෙවනු
6 රෙල්ලායයි කීය, අම්මොන් පුත්‍රයන්
විත් ඉදිරියෙහි තමන්ම වෛර උපද
ගත් බව දැක හනූන්ද අම්මොන් පු
යෝද ආරම් නාහරිම්ගෙන්ද ආරම් මා
ගෙන්ද සොබාගෙන්ද රථද අසරුවන්
ලියට ගනනට රිදී තලෙන්ත දහස
7 වා තිස් දෙදහසක් රථද මෙදිබා ඉදිරි
ඇවිදින් අඳයම් බැන්ද මාකාහි රජුද
මන් මිනිසුන් කුලියට ගනෙත්ය.
මොන් පුත්‍රයෝ තමන් නුවරවලි
8 එක්කාසුව සටනට ආවෝය. දාවිත්

අසා යෝවබ්ද සියළු බලවත් යුධ සෙන
9 ගද යැවීය. අම්මොන් පුත්‍රයෝද පිටත්ව
නුවර දොරටුව ඉස්සරහා පෙළට සිටියෝ
ය. අවුත් රජවරුද තනියම එළිමහනේ
10 සිටියෝය. යෝවබ්ද තමන්ට එදිරිව ස
ටන පෙර පසුව සෑදී තිබෙනවා දැක
ඊශ්‍රායෙල්හි සෑම තෝරාගත් ඇත්තන්
ගෙන් අරගෙන ආරම්වරුන්ට එදිරිව සි
11 ටුවා අනික් මිනිසුන් තමන් සහෝදර
අබිෂයි අතට දුන්නෝය. ඔවුන්ද අම්
මොනවරුන්ට එදිරිව පෙළට සිටියෝය.
12 ඔහුද ආරම්වරුන් මා පැරදෙව්වොත්
නුඹ මට උදව්වෙයන්න එහෙත් අම්
මොන් පුත්‍රයන් නුඹ පැරදෙව්වොත් ම
13 ම නුඹට උදව්වෙමි. අපේ මිනිසුන් නි
සාද අපේ දෙවියන්වහන්සේගේ නුවර
වල් නිසාද භයක් නැතුව දක්ෂ ලෙස යු
ධ කරමුව. යෙහෝවාවහන්සේද තමන්
ට යහපත් දේ කරණසේක්වයි කියේය.
14 මෙසේ යෝවබ්ද ඔහු සමග සිටි මිනිස්
සුද ආරම්වරුන් එක්ක සටනට ළංවූ
නෝය. ආරම්වරුද ඔහු ඉදිරිපිටින් හැං
15 ගී ගියෝය. ආරම්වරුන් හැංගී ගිය බව
අම්මොන් පුත්‍රයෝ දැක ඔවුහුත් යෝ
වබ්ගේ සහෝදර අබිෂයි ඉදිරිපිටින්
හැංගී ගොස් නුවරට ඇතුල්වූනෝය.
ඉන්පසු යෝවබ් යෙරුසලමට ආයේය.
16 ඊශ්‍රායෙල්වරුන්ට තමන් පැරදුණු බ
ව ආරම්වරු දැක පණිවිඩකාරයන් යවා
ගඟ එගොඩ සිටි ආරම්වරුන් අඬගහ
ගත්තෝය. හදරසර්ගේ සොළොක් සේ
17 නානායකයාද ඔවුන්ට මූලාදෑනි විය. ඒ
බව දාවිත්ට ආරංචිවිය. ඔහු සියළු ඊශ්‍රා
යෙල් එක්කාසුකොට යොර්දන් එගො
ඩව ඔවුන් ළඟට ඇවිත් ඔවුන්ට එදිරි
ව යුධකලේය. දාවිත් ආරම්වරුන්ට එ
දිරිව සටන සෑදූ විට ඔවුන් ඔහු සමග
යුධකොට ඊශ්‍රායෙල් ඉදිරිපිටින් පලා
18 ගියෝය. දාවිත්ද ආරම්වරුන්ගෙන් රථ
රුවන් සත් දහසක්ද හතලිස් දහසක් පා
බල සෙනඟද සොළොක් සේනානායකයා
19 ද මැරීය. ඊශ්‍රායෙල් ඉදිරිපිටින් තමන්
පැරදුණු බව හදරසර්ගේ මිනිස්සු දැක
දාවිත් සමග සමාදානය කොට ඔහුට ය
ටත්වූනෝය. ආරම්වරු අම්මොන් පුත්‍ර
යන්ට තවත් පිහිටවෙන්ට අකමැතිවූ
නෝය.

20. පරිච්ඡෙ. තවද අවුරුද්ද පසුවූ
කාම රජවරුන් යුධයට යනකල යෝ
වබ් බලවත් සෙනඟක් සමග පිටත්ව අම
මොන් පුත්‍රයන්ගේ රට නාස්තිකර රබ්
බාට ඇවිදින් වටකෙලේය. දාවිත්ද යෙ
රුසලමේ රැඳුනේය. යෝවබ්ද රබ්බා
2 ට ගසා නාස්තිකෙලේය. දාවිත්ද ඔවුන්
රජුගේ ඔටුන්න ඔහුගේ ඉසින් අරන්
තලෙන්තයක බර ඇති බව දුටිය. එහි
ද අනර්ඝ මැණික් තිබුනේය. ඒකද දා
විත්ගේ හිස පිට තිබුවෝය. ඔහුද බො
හෝ කොල්ලය නුවරින් අරන් නුවර සි
3 ටි මිනිසුන් පිටත ගෙනත් කියත් යක
ඩ පෝරු පොරෝ වැඩට පත්කෙලේ
ය. එලෙස දාවිත් අම්මොන් පුත්‍රයන්ගේ
සෑම නුවරවලටම කර සියළු මිනිසුන්
4 සමග යෙරුසලමට හැරී ආයේය. මින්
පසු පිලිස්තිවරුන් සමග ගෙසෙර්හි යු
ධයක් ඉපදවිය. එකලම හූසතීයා සිබ්බ
යි යෝධයාගේ පුත්‍රයන්ගෙන් එකෙක්
වූ සිප්පයි මැරීය. ඔවුහු යටහත් වූනෝ
5 ය. දෙවනුත් පිලිස්තිවරුන් සමග යුධ
යක් විය. යායිර්ගේ පුත් එල්හනන්ද
ගිත්තිය ගොලියත් සහෝදර ලාමි මැ
රීය. ඔහුගේ හෙල්ලේ මිට වියන්නෙකු
6 ගේ ඔන් කඳ මෙන් විය. දෙවනුත් ගත්
හි යුධයක් විය. එහි මහත් ශරීර ඇති
මිනිහෙක් විය. ඔහුගේ අත්පාවල ඇඟි
ලි හය හය බැගින් ඇඟිලි විසි හතරක
7 ඔහුද යෝධයෙකුගේ පුතාය. ඔහු ඊශ්‍රා
යෙල්ට නිග කී විට දාවිත්ගේ සහෝද
ර සිමයාගේ පුත් යෝනාතාන් ඔහු මැරී
8 ය. ගත්හි යෝධයාට උපන් මොවුන්
දාවිත්ගේද ඔහු වැඩකාරයන්ගේද අ
තින් මැරුනෝය.

21. පරිච්ඡෙ. සාතන් ඊශ්‍රායෙල්ට එ
දිරිව නැගිට ඔවුන් ගනන්කරන්ට දා
2 විත් පොලඹවූයේය. දාවිත්ද යෝවබ්
ටත් මිනිසුන්ගේ මූලාදෑනින්ටත් නුඹ
ලා ගොස් බේර්ෂෙබා සිට දාන් දක්වා ඊශ්‍රා
යෙල් ගනන්කර මා විසින් දැනගන්නට
ඔවුන්ගේ ගනන මා ළඟට ගෙනෙල්ලා
3 යයි කීය. එවිට යෝවබ් යෙහෝවාව
හන්සේ තමන් මිනිසුන් සියක්වරක් වැ
ඩිකරණසේක්වා එහෙත් මාගේ ස්වාමි
රජ්ජුරුවෙනි ඔවුන් සියල්ලෝ මගේ
ස්වාමියාගේ වැඩකාරයෝ නොවෙද්ද?
එහෙනම් මගේ ස්වාමියා මේක කරන්
ට අනකර ඊශ්‍රායෙල් වරදට පත්කරන්

4 නේ මන්දැයි කීය. නුමුත් රජුගේ වච
නය යෝවබ්ට එදිරිව දිනුවේය. ඒ නි
සා යෝවබ් පිටත්ව ඊශ්‍රායෙල් මුළු රට
5 ඇවිද යෙරුසලමට දෙවනු ඇවිත් මිනි
සුන්ගේ ගනන දාවිත්ට දුනිය. ඊශ්‍රා
යෙල්හි සැම කඩු ගත් මිනිස්සු එකො
ලොස් ලක්ෂයක කඩුගත් යුදාවරු හා
6 ර ලක්ෂ හැත්තෑ දහසක. රජුගේ වචන
ය යෝවබ්ට අප්‍රිය නිසා ලෙවිවරුන්
ගේද බෙන්යමින්ගේද ගනන නොග
ත්තේය.

7 දෙවියන්වහන්සේද මේකට සතුටු
8 නොවී ඊශ්‍රායෙල්ට උවදුර දුන්සේක. දා
විත්ද මම මේ දේ කර බොහෝ පව්කො
ලෙමි මම මෝඩකමින් ඒක කෙලෙමි
ඒ නිසා ඔබගේ වැඩකාරයාගෙන් මේ
9 වරද දුරුකලමැනවයි කීය. යෙහෝවා
10 වහන්සේද මම තා ඉදිරිපිට කාරණ තු
නක් තබමි එයින් එකක් මා විසින් තා
ට කරනනට තෝරගනුවයි යෙහෝවා
වහන්සේ කියන බව දාවිත්ට ගොහින්
කියනනට ගද් නම් දාවිත්ගේ දිවස් ඇ
11 තතාට කීසේක. ගද්ද දාවිත් ලඟට ඇ
වින් තුන් අවුරුදු සාගතයක්වත් තා
12 ගේ සතුරන් විසින් කඩු ගෙන තුන් මාස
යක් තා පසුපස්සේ එලවා විනාසකිරීම
වත් යෙහෝවාවහන්සේගේ දේවදූත
යා තුන් දවසින් ඊශ්‍රායෙල් මුළුල්ල විනා
සකරණ යෙහෝවාවහන්සේගේ කඩු
ව වැනිවූ රටේ වසංගතයවත් තෝර
ගනනට යෙහෝවාවහන්සේ කියනසේ
ක ඒ නිසා මා එවූ උන්වහන්සේට මො
න උත්තරයක් කියම්දැයි දැන් කල්පනා
13 කරපනනැයි කීය. දාවිත්ද මට ඉතා දුෂ්
කරය යෙහෝවාවහන්සේගේ කරුණා
ව ඉතා මහත් නිසා මනුෂ්‍යයාගේ අතට
අසුනොවී උන්වහන්සේගේ අතට අසුව
14 සු ලැබෙම්වයි කීය. යෙහෝවාවහන්
සේද ඊශ්‍රායෙල්ට වසංගතය එවූසේක
එවිට ඊශ්‍රායෙල්ගෙන් හැත්තෑ දහස්මි
15 නිස්සු මැරුනෝය. දෙවියන්වහන්සේද
යෙරුසලම් නසනනට දූතයෙක් යවූසේ
ක ඒක විනාසකරණ අතර උන්වහන්
සේ දැක ඒ නුවර ගැන තැවී ඒක විනා
සකරණ දූතයාට කථාකොට දැන් ඇත
තාගේ අත නවත්වවයි කීසේක. යෙ
හෝවාවහන්සේගේ දූතයාද යෙබුසිය
16 ඔර්නාන්ගේ පාවර ලඟ සිටියේය. දා
විත්ද ඇස් ඔසවා යෙරුසලම පිටට දිගු

කල අතේ ඇදගත් කඩුවක් ඇතිව
ලවටත් අහසටත් අතරේ සිටින යෙ
වාවහන්සේගේ දූතයා දුටුවේය. එවි
දාවිත්ද මූලාදෑනියෝද ගෝනි රෙදි
17 ද මූනින් වැටුනෝය. දාවිත්ද මිනිසු
ගනන්කරන්ට අන දුන්නේ මම නො
වේමද? සැබැවට පාපයද නපුරද ක
ලෙමි එහෙත් මේ බැටළුවෝ මොන
ලෝද? මාගේ දෙවිවූ යෙහෝවාවහ
ස ඔබගේ අත මටත් මාගේ පියවහ
වත් එදිරිවේවා ඔබගේ මිනිසුන්ට ව
ගතය නොවේවයි දෙවියන්වහන්සේ
18 කීය. එවිට යෙහෝවාවහන්සේගේ දූ
යා ගද්ට කථාකොට යෙහෝවාවහ
සේට යෙබුසිය ඔර්නාන්ගේ කමතේ
විත් ගොහින් පූජාසනයක් සාදන
19 යට ඔහුට කියවයි කීසේක. දාවිත්ද
හෝවාවහන්සේගේ නමින් ගද් කි
20 වන නිසා නැගී ගියේය. ඔර්නාන්
බුම පාගමින් සිට පස්සට හැරී දූතයා
වූයේය. ඔහුද තමන් පුතුන් හතර
21 නද සැඟවුනෝය. දාවිත් ඔර්නාන් ල
ට ආ කල ඔර්නාන් බලා දාවිත් දැක
තෙන් ගොස් බිම වැටී දාවිත්ට වැන්
22 ය. එවිට දාවිත් මිනිසුන්ගෙන් වසංග
ය නවත්වන පිනිස යෙහෝවාවහන්
ට පූජාසනයක් සාදනනට මේ කම
ඉඩම මට දියනන හරි මිලට මට දෙ
23 නැයි ඔර්නාන්ට කීය. ඔර්නාන්ද ඒක
රගෙන මාගේ ස්වාමි රජුගේ ඇස් ඉදි
යෙහි හොදව පෙනෙන දෙයක් ක
මැනව. දවන පූජාවලට ගොන්ද දර
පාගන අසුබද කෑම පූජාවට ගෝධුම
24 යන සියල්ල දෙමියි කීය. දාවිත්
යෙහෝවාවහන්සේට පූජාකරනනට
බේ දේ ගැනීමවත් වියදම් නොකර
වන පූජා පිදීමවත් මම නොකරණ නි
එසේ නොව ඒක හරි මිලට ගනිමි
25 ඉඩමට බර වසයෙන් රන් ෂෙකෙල්
26 සියයක් ඔර්නාන්ට දී යෙහෝවාවහ
සේට පූජාසනයක් සාදා දවන පූජාවල්
ශාන්ති පූජාවල්ද පුදා යෙහෝවාවහ
සේට යාඥාකෙලේය. උන්වහන්සේද
හසෙන් දවන පූජාසනය පිටට ගින්
27 වා ඔහුට උත්තර දුන්සේක. යෙහෝ
වහන්සේ දේවදූතයාට අඥාකලසේ
ඔහුද තමන් කඩුව නැවත කොපුවේ
28 දැම්මේය. දාවිත්ද යෙහෝවාවහන්සේ
යෙබුසිය ඔර්නාන්ගේ කමතේදී තමා

වි උත්තර දුන් බව දැක එහිදී පූජාකෙ
29 ලේය. මක්නිසාද මෝසෙස් වනාන්තර
යේදී සෑදූ යෙහෝවඃවහන්සේගේ මඩ
පයත් දවන පූජාසනයත් ඒ කාලයෙහි
30 ගිබියොන්හි උස් තැන තිබුණේය. දා
විත් යෙහෝවඃවහන්සේගේ දූතයාගේ
කඩුවට භයින් දෙවියන්වහන්සේගෙන්
අහන්නට එතනට යන්ට නොහැකිවිය.

22. පරිච්ඡේ. එකල දාවිත් යෙහෝ
වඃ දෙවියන්වහන්සේගේ ගෙය මේය.
ඊශ්‍රායෙල්ට දවන පූජාසනය මේයයි කි
2 යා ඊශ්‍රායෙල් රටේ සිටි සෑම දේසක්කා
රයන් එක්කාසු කරන්නට අනකර කැ
පූ ගල් බපකර දෙවියන්වහන්සේගේ ගෙ
ය සාදන්නට උළුවඩුවන් පත්කෙලේය.
3 දොරටුවල සුළු දොරටත් සන්දිවලටත්
4 ඇනවලටත් බොහෝ යකඩද නොකි
රූ බොහෝ පිත්තලද සිදොනිවරුන් ස
හ තූර්වැසියන් දාවිත්ට ගෙනා බොහෝ
5 කිහිරි දඬුද සූදානම් කෙලේය. දාවිත්ද
කථාකොට මාගේ පුත් සලමොන් බාල
ය ලපටිය යෙහෝවඃවහන්සේට සාදන
ගෙය සෑම රටට කීර්තියෙන් හා මහත්
තත්වයෙන් ඉතා ප්‍රසිද්ධවෙන්ට ඕනෑ නි
සා දැන් ඒ ගැන සූදානම්කරම්යි කීය.
මෙසේ දාවිත් තමාගේ මරණයට පළමු
වෙන් බොහෝසේ සූදානම් කෙලේය.
6 එවිට තමන් පුත් සලමොන් කැඳවා
ඊශ්‍රායෙල් දෙවිවූ යෙහෝවඃවහන්සේට
ගෙයක් සාදන්නට අනකරමින් මාගේ
7 පුත්‍රය මාගේ දෙවිවූ යෙහෝවඃවහන්
සේගේ නාමයට ගෙයක් සාදන්නට ම
8 ට සිතුණේය. එහෙත් යෙහෝවඃවහන්
සේගේ වචනය මට පැමිණ තෝ බො
හෝ ලේ වගුරුවා මහත් යුද්ධ කෙලෙ
හිය. තෝ මා ඉදිරිපිට බොහෝ ලේ බි
ම වැගිරෙව් නිසා මාගේ නාමයට ගෙ
9 යක් නොසාදව. සමාදාන ඇති පුතෙක්
තට උපදවා ඔහු වටකර ඔහුගේ සියළු
සතුරන්ගෙන් නිවාඩු දෙමි. ඔහුද සල
මොන් නම්වෙයි. ඔහුගේ දවස්වලදී ඊ
ශ්‍රායෙල්ට සමගිකමද සමාදානයද දෙ
10 මි. ඔහු මාගේ නාමයට ගෙයක් සාදා
මාගේ පුත්‍ර වන්නේය. මමද ඔහුගේ පි
යාව ඔහුගේ රාජ්‍යයෙහි සිංහාසනය ඊ
ශ්‍රායෙල්හි සදාකාලයට පිහිටුවවිමියි කීසේ
11 කා. එබැවින් මාගේ පුත්‍රය යෙහෝවඃව
හන්සේ තුඹ සමග වසනසේක්වා තුඹ
වැඩිදියුණුව තුඹේ දෙවිවූ යෙහෝවඃව
හන්සේගේ ගෙය උන්වහන්සේ තුඹ ගැ
12 න කී ලෙස සාදපන්න. තුඹේ දෙවිවූ
යෙහෝවඃවහන්සේගේ ව්‍යවස්ථාව රක්ෂා
කරණ පිනිස උන්වහන්සේ තුඹට ප්‍රඥාව
ද තේරුමද දී ඊශ්‍රායෙල් ගැන බාරයද
13 තුඹට දෙනුසේක්වා. එවිට තුඹ යෙහෝ
වඃවහන්සේ ඊශ්‍රායෙල් ගැන මෝසෙස්
ලවා අනකෙරෙව් පනතවලත් විනිශ්ච
යවලත් පවත්වන්ට ප්‍රවේසම් වූනොත්
තුඹ දියුණුවෙන්නෙහිය භයනොව නැති
නොගෙන බලවත්ව සිත් දැඩිකරගනි
14 න්න. මාගේ දුකේදී යෙහෝවඃවහන්
සේගේ ගෙය ගැන රන් තලෙන්ත ල
ක්ෂයකුත් රිදී තලෙන්ත දස ලක්ෂයකුත්
ගනන් නැති බොහෝ පිත්තලත් යක
ඩත් සූදානම් කෙලෙමි. දඬුද ගල්ද සූදා
නම්කෙලෙමි තුඹට තවත් වඩා එක්කා
15 සුකරන්ට පුළුවන. බොහෝ කම්මාන්
ත කාරයෝද ගල් ලී කැටයම්කරණ වඩු
වන්ද සියළු ආකාර වැඩට සියළු ආකාර
16 සිප්පම් වැඩකාරයෝද තුඹට ඇතෙත්ය. ග
නන් නැති රන් රිදීද පිත්තල සහ යක
ඩද තුඹට ඇත එබැවින් නැගිට වැඩ
පටන්ගනින්න යෙහෝවඃවහන්සේද
17 තුඹ සමග සිටිනසේක්වයි කීය. දාවිත්
18 ද තමාගේ පුත්‍රවූ සලමොන්ට උපකාර
කරණ පිනිස ඊශ්‍රායෙල්හි සියළු ප්‍රධානීන්
ට අනකරමින් තුඹලාගේ දෙවිවූ යෙ
හෝවඃවහන්සේ තුඹලා සමග නැද්ද?
උන්වහන්සේ තුඹලාට සෑම අතින් නි
වාඩු තුදුන්සේක්ද? උන්වහන්සේ රට
වැසියන් මා අතට දුන්සේක රටද යෙ
හෝවඃවහන්සේත් තමන් මිනිසුන්ත් ඉ
19 දිරියෙහි යටත්විය. ඒ නිසා තුඹලාගේ
සිතත් ආත්මයත් තුඹලාගේ දෙවිවූ යෙ
හෝවඃවහන්සේ සේවයකරන්ට යොමු
කර නැගිට යෙහෝවඃ දෙවියන්වහන්
සේගේ පිරිසිදු තැන සාදා යෙහෝවඃව
හන්සේගේ ගිවිසුම් පෙට්ටියද දෙවිය
න්වහන්සේගේ සුධ භාජනද යෙහෝවඃ
වහන්සේගේ නාමයට සෑදූ ගෙට ගෙ
නෙලායයි කීයේය.

23. පරිච්ඡේ. දාවිත්ද බොහෝ වය
සට පැමිණ ඔහුගේ පුත් සලමොන් ඊශ්‍රා
2 යෙල්හි රජකමට පත්කලේය. ඔහුද ඊ
ශ්‍රායෙල්හි සියළු මූලාදෑනීන්ද පූජකයන්ද
3 ලෙවිවරුන්ද එකතුකෙලේය. ලෙවිව

රැන්ගෙන් තිස් අවුරුද්දක පටන් ඊට
වැඩි වයස් ඇති අයවල් ගනන් ගතෙත්
ය තමන්ගේ ගනන එකිනෙකා බැගින්
4 තිස් අටදහක් විය. එයින් විසි හතර ද
හක් යෙහෝවාවහන්සේගේ ගෙයි වැ
ඩකරන්ටත් හදහක් මූලාදනිකමටත්
5 නඩු ඇහිමටත් පත්වූහෝය. හාරදහක්
දොරටුපාලයෝය හාර දහක් ස්තුතිකිරී
මට සෑදෙව් තුයෂ්වලින් යෙහෝවාව
6 හන්සේට ස්තුතිකලෝය. දාවිත්ද ලෙවි
ගේ පුත් වන ගේර්ශෝන් කොහත්ද මරාරි
7 ද පෙළිවලට බෙදුවේය. ගේර්ශෝනවරුන්
8 ගෙන් ලාදන් සහ සිමෙයිය. ලාදන්ගේ
පුත්තුනම් වැඩිමහල් යෙහියෙල්ද සේතාම්
9 ද යුයෙල්ද යන තුන්දෙනය. සිමයිගේ
පුත්තුනම් ෂෙලොමිත්ද හසියෙල්ද හර
න් යන තුන්දෙනය. ලාදන්ගේ පියව
10 රුන්ගේ වැඩිමහල්ලෝ මොවුන්ය. සිම
යිගේ පුත්තුනම් යාහත්ද සිනාද යෙ
යුෂ්ද බරියාද වූවෝය මේ සතර දෙන
11 සිමයිගේ පුත්තුය. යාහත් වැඩිමහල් වි
ය සිසා දෙවෙනියාය. එහෙත් යෙයුෂ්
ටත් බරියාටත් බොහෝ පුත්තු නැත
එබැවින් තමන් පිය වංශ අතරේ එක ග
12 නනට ගියෝය. කොහත්ගේ පුත්තුනම්
අම්රම් ඉශ්හර් හෙබ්‍රොන් උසියල් යන
සතර දෙනය අම්රම්ගේ පුත්තුනම් ආ
13 රොන් සහ මෝසෙස්ය. ආරොන්ද ඔ
හුගේ පුත්තුද ඉතා පිරිසිදු දේවල් නිත
රම කැපකර යෙහෝවාවහන්සේ ඉදිරි
යෙහි සුවඳ දුම් ගසවා වැඩකොට උන්
වහන්සේගේ නමින් නිතරම ආශිර්වාද
14 කරණ පිණිස වෙන්වූහෝය. දෙවියන්
වහන්සේගේ මනුෂ්‍යාවූ මෝසෙස්ගේ පු
15 තුන්ට ලෙවි යන නම්විය. මෝසෙස්
ගේ පුත්තුනම් ගර්ෂොම් සහ එලිය
16 සර්ය. ගර්ෂොම්ගේ පුතුන්ගෙන් සබූ
17 යල් වැඩිමහල්ලාය. එලියසර්ගේ පුතුන්
ගෙන් රෙහබියා වැඩිමහල්ලාය. එලිය
සර්ට වෙන පුත්තු නැත. නුමුත් රහබි
18 යාගේ පුත්තු බොහෝවූය. ඉශ්හර්ගේ
පුතුන්ගෙන් ෂෙලොමිත් වැඩිමහල්ලා
19 ය. හෙබ්‍රොන්ගේ පුතුන්ගෙන් වැඩිම
හල් යරියාය දෙවෙනි අමරියාය තුන්
වෙනි යහසියල්ය හතරවෙනි යකමයම්
20 ය. උසියල්ගේ පුතුන්ගෙන් වැඩිමහල්
21 මීකාය දෙවෙනි යසියාය. මෙරාරිගේ
22 පුත්තු නම් මැලි සහ මූසිය. මැලිගේ
පුත්තු නම් එලයසර් සහ කිෂ්ය. එලය
සර් මෙලේය. දූන් මිස පුතුන් ඔහුට නූ
වෝය. ඒ දූන්ගේ සහෝදර කිෂ්ගේ
23 පුත්තු ඔවුන් පාවාගත්තෝය. මූසිගේ
පුත්තුනම් මැලිය ඒදර්ය යරිමොත්ය
24 යන තුන්දෙනය. විසි අවුරුදු පටන් ඊ
ට වැඩි වයස්වූ යෙහෝවාවහන්සේගේ
ගෙයි වැඩ කලාවූ එකිනෙකා බැගින්
ගනන් ගත් නම් ලෙස පියවරුන්ගෙන්
වැඩිමහල්වූ තමන් පිය වංශ ලෙස ලෙවී
25 පුත්තු මොවුන්ය. මක්නිසාද යෙරුසල
මේ නිතරම සිටින්ට ඊශ්‍රායෙල්ගේ දෙ
විවූ යෙහෝවාවහන්සේ තමන් මිනි
26 සුන්ට නිවාඩු දුන්සේක. ලෙවිවරුද මි
තු මඩපයද එහි වැඩට ඉන් භාජනද ද
27 රනෙත් නැතැයි දාවිත් කීය. ලෙවිවරු
28 මිදුල්වලද ගෙවල්වලද සෑම පිරිසිදු දේ
කැප කිරීමටත් දෙවියන්වහන්සේගේ
ගෙයි වැඩට ඉදිරියෙහි පිදූ රොටිවල
29 ටත් සෑම පූජාවට සිහින් පිටිවලටත් ඇ
ඹුල් නූමූනූ රොටිවලටත් උයාපූ බැදපූ
30 දෙයටත් සෑම කිරුම් මිනුම්වලටත් සෑ
ම උදය සවස යෙහෝවාවහන්සේට ස්තු
තුපකාර සලකා ස්තුතිකිරීම පිණිස සි
31 ටින්ටත් සබත්වලටත් අමාවක දත් නිය
ම මංගල්‍යවලත් ගනනින් ඔවුන්ට අන
දුන් ලෙස නිතරම යෙහෝවාවහන්සේ
ඉදිරියෙහි දවන යාගවල් පූජාකරන්ටත්
32 සමූදුවගේ මඩපයේ බාරයද පිරිසිදු
තැන බාරයද යෙහෝවාවහන්සේගේ
ගෙයි වැඩකල තමන් සහෝදර අ
රොන් පුතුන්ගේ බාරයද රක්ෂාකරන්
ටත් යෙහෝවාවහන්සේගේ ගෙයි මේ
හෙවරට අරොන් පුතුන්ට වැඩකරන්
ටත් භාරතුරු ලැබුවෝය. ඒ නිසා ද
විත්ගේ අන්තිම වචනය ලෙස විසි අවු
රුද්ද පටන් ඊට වැඩි වයස් ඇත්තෝද
ගනන් ගත්තෝය.

24. පරිච්ජ. ආරොන් පුතුන්ගේ මේ
දිමවල් මේය. ආරොන්ගේ පුත්තුනම්
නදබ්ය අබිහුය එලයසර්ය ඉතාමර්ය.
2 නදබ් සහ අබිහුද් අපුත්‍රකව තමන් පි
යාට පලමුවෙන් නැසුනෝය. ඒ නිසා
එලයසර්ද ඉතාමර්ද පූජකකම් කලෝය.
3 දාවිත්ද එලයසර්ගේ පුතුන්ගෙන් ස
දොක්ද ඉතාමර්ගේ පුතුන්ගෙන් අහි
ලෙක්ද යන දෙනනා ඔවුන්ගේ නතතුරු
4 ලෙස වැඩට පත්කලේය. ඉතාමර් පු
තුන්ට වඩා එලයසර් පුතුන්ගෙන් ප්‍රධා

නයෝ වැඩිව සිටියෝය. ඔවුන් මෙසේ
බෙදනු ලැබුවෝය. එලයසර් පුතුන්
ගෙන් තමතමන් පිය වංශ ප්‍රධානියෝ
දහසදෙනෙක. ඉතමර් පුත්‍රයන්ගෙන්ද
තමතමන් පිය වංශ ලෙස අටදෙනෙක.
5 දදු ඇට දැමීමෙන් ඒ පවුල් බෙදුවෝය.
මක්නිසාද පිරිසිදු තැන්හිද දෙවියන්ව
හන්සේගේ ගෙයිද මූලාදෑනියෝ එලය
සර් පුත්‍රයන්ගෙන්ද ඉතමර් පුත්‍රයන්ගෙ
6 න්ද වූවෝය. ලෙවිවරුන්ට අයිති නත
නිල්ගේ පුත් ෂෙමයියා නම් ලේකම ර
ජ්ජුද මූලාදෑනීන්ද සෙදෙක් පූජකයාද අබි
යාතර්ගේ පුත් අහිමලෙක්ද පූජකයන් ස
හ ලෙවිවරුන්ගේත් වැඩිමහල් පියව
රුන්ද ඉදිරියෙහි එලයසර්ට ප්‍රධාන පවු
ලකුත් ඉතමර්ට ප්‍රධාන පවුලකුත් ගෙ
7 න ලිව්ය. පලමුවෙනි කොටස යෙහොය
8 රිබ්ටද දෙවෙනි එක යදයාටද තුන්වෙ
නි එක හරිම්ටද හතරවෙනි එක සෙයො
රිම්ටද පසෙවනි එක මල්කියාටද හයෙව
9 නි එක මියමින්ටද හත්වෙනි එක හක්
10 කොස්ටද අටවෙනි එක අබියාටද නව
11 වෙනි එක යෙසුවාටද දසවෙනි එක සෙක
12 නියාටද එකොලොස්වෙනි එක එලියසිබ්
ටද දොලොස්වෙනි එක යකිම්ටද දහ
13 තුනෙවනි එක හුප්පාටද දහහතරවෙනි
14 එක යෙෂෙබාබ්ටද පහලොසෙවනි එක
15 බිල්ගාටද දහසවෙනි එක ඉම්මර්ටද ද
හ හත්වෙනි එක හෙසිර්ටද දහ අටවෙ
16 නි එක අප්සෙස්ටද දහ නවවෙනි එක ප
තහියාටද විසිවෙනි එක යෙහෙසකල්ටද
17 විසිඑක්වෙනි එක යකින්ටද විසිදෙවෙ
18 නි එක ගමූල්ටද විසිතුන්වෙනි එක දෙ
ලායාටද විසිහතරවෙනි එක මාසියාටද
19 ලැබුනේය. ඔවුන්ගේ පිය ආරොන්ට ය
වත ඊශ්‍රායෙල් දෙවිවූ යෙහෝවාවහන්
සේ විසින් ඔහුට අනකල ලෙස ඔවුන්
ගේ අනුමින් ඔවුන්ගේ වැඩට යෙහෝ
වාවහන්සේගේ ගෙට ඇතුල්වීමේ නිය
මවල් මේය.

20 ලෙවිගේ ඉතිරි පුත්තු මොවුන්ය. අ
21 රම් පුතුන්ගෙන් ෂුබායෙල්ය ෂුබායෙල් පු
තුන්ගෙන් යෙදෙයාය රහබියා පුතුන්ගේ
22 වැඩිමහල් යිෂියාය. ඉස්හරීයයන්ගෙන්
ෂෙලමොත්ය ෂෙලමොත් පුත් යාහත්
23 ය ඔහු පුතුන්ගෙන් යරියා වැඩිමහල්ය
දෙවෙනි අමරියාය තුනෙවනි යහසියෙල්
24 ය හතරවෙනි යකමයම්ය. උසියෙල් පු
තුන්ගෙන් මිකාය. මිකා පුතුන්ගෙන්
25 ෂමීර්ය. මිකාගේ සහෝදරයා යිෂියාය.
26 යිෂියාගේ පුතුන්ගෙන් සකරියාය මෙ
රාරී පුත්තුනම් මැලි සහ මූෂිය. යාසියා
27 ගේ පුත් බෙනෝය. මෙරාරීගෙන්වූ යාසි
28 යාගේ පුත්තුනම් බෙනෝය ෂෝහම්ය
සක්කූර්ය ඉබ්‍රිය මැලිගෙන්වූ එලයසර්
29 ය ඔහුට පුත්තු නූවෝය. කිෂ්ගේ පුත්
යරාමයෙල්ය මූෂිගේ පුත්තුනම් මැලිය
30 එදර්ය යරිමොත්ය. තමන් පිය වංශ ලෙ
ස ලෙවී පුත්තු මොවුන්ය. දාවිත් රජ්ජුද
සෙදෙක්ද අහිමලෙක්ද පූජකයන් සහ ලෙ
විවරුන්ගේත් වැඩිමහල් පියවරුන්ද ඉදි
රියෙහි ඔවුන් ආරොන් පුත්වූ තමන් ස
හෝදරයන් සමග දදු ඇට දැම්මෝය.
31 වැඩිමහල් පියවරු තමන් බාල සහෝද
රයන් සමග දදු ඇට දැම්මෝය.

25. පරිච්ජ. තවද දාවිත්ද සේනා
වේ මූලාදෑනියෝද අසප්ගේත් හේමන්
ගේත් යදුතුන්ගේත් පුතුන්ගේ වැඩට
වීනාවෙන්ද කුඩා වීනාවෙන්ද අතතලින්ද
2 ශබ්දකිරීමට මිනිසුන් පත්කලෝය. අ
සප්ගේ පුතුන්ගෙන් සකූර්ද යෝසෙප්ද
නතනියාද අසරලයාද යන මොවුන් අ
සප් යටතේ රජ්ජුගේ අණ ලෙස ගීතිකා
3 කලෝය. යෙදුතුන්ගේ පුතුන්ගෙන්
ගෙදලියාද සෙරිද යෙසයාද හසබියාද
මතතියාද සමයිද යන මේ හදෙන ත
මන්ගේ පියවූ යෙදුතුන් යටතේ යෙ
හෝවාවහන්සේට වීනාවෙන් ස්තුති ප්‍ර
4 සංසා කලෝය. හේමන්ගේත්වූ හේමන්
පුත්තුනම් බුක්කියාය මතනියාය උසි
යෙල්ය ෂෙබුවෙල්ය යරිමූත්ය හනනියාය
හනානිය එලියාතාය ගිදල්තිය රොමම්
තිසර්ය යොස්බකාෂාය මලෝතිය හො
5 තිර්ය මහසියොත්ය. මේ සියල්ලෝ දෙ
වියන්වහන්සේගේ වචන රජ්ජුට දිවසින්
කියන හේමන්ගේ හොරනෑ පිඹින පුත්
තුය. දෙවියන්වහන්සේ හේමන්ට පුතුන්
දහහතර දෙනෙකුත් දූන් තුන්දෙනෙ
6 කුත් දුන්සේක. අෂප්ටත් යදුතුන්ටත්
හේමන්ටත් රජ්ජුගේ අණුවට දෙවියන්ව
හන්සේගේ ගෙයි වැඩට යෙහෝවාව
හන්සේගේ ගෙයි අතතලින්නුත් වීනාවලි
න්නුත් කුඩා වීනාවලින්නුත් ශබ්දකිරීමටද
මේ සැවොම තමන් පියානන් අතට ය
7 ටත්වූනෝය. යෙහෝවාවහන්සේගේ
ගීතිකා ඉගනගෙන සමර්ථවූ ඔවුන් සහ
සහෝදරයන්ගේද ගනන් දෙසිය අසූ

8 අට දෙනෙක. ඔවුහු ලොකු කුඩා අය
වල්ද ගුරු ගෝලයෝද පෙලින් පෙල
9 ට ඇදු ඇට දැමුවෝය. පළමුවෙනි කො
ටස අසප්ට අයිති යෝසෙප්ටද දෙවෙනි
එක ගෙදලියඃටද ලැබුණේය. ඔහු ඇතුළු
ව ඔහුගේ සහෝදරයෝද පුත්තුද දෙ
10 ලොස් දෙනෙක. තුන්වෙනි එක සක්
කුර්ට ලැබුණේය ඔහුද ඔහුගේ පුත්තුද
11 සහෝදරයෝද දෙලොස් දෙනෙක. හ
තරවෙනි එක ඉස්රිට ලැබුණේය ඔහුද
ඔහුගේ පුත්තුද සහෝදරයෝද දෙ
12 ලොස් දෙනෙක. පස්වෙනි එක නතනි
යාට ලැබුණේය ඔහුද ඔහුගේ පුත්තුද
13 සහෝදරයෝද දෙලොස් දෙනෙක. හ
වෙනි එක බුක්කියඃට ලැබුණේය ඔහුද
ඔහුගේ පුත්තුද සහෝදරයෝද දෙ
14 ලොස් දෙනෙක. හත්වෙනි එක යසරි
ලඃට ලැබුණේය ඔහුද ඔහුගේ පුත්තුද
15 සහෝදරයෝද දෙලොස් දෙනෙක. අ
ටවෙනි එක යෂියඃට ලැබුණේය ඔහුද
ඔහුගේ පුත්තුද සහෝදරයෝද දෙ
16 ලොස් දෙනෙක. නවවෙනි එක මතන
නියඃට ලැබුණේය ඔහුද ඔහුගේ පුත්තු
ද සහෝදරයෝද දෙලොස් දෙනෙක.
17 දහවෙනි එක ෂිමෙයිට ලැබුණේය ඔහුද
ඔහුගේ පුත්තුද සහෝදරයෝද දෙ
18 ලොස් දෙනෙක. එකොළොස්වෙනි එ
ක අසරියල්ට ලැබුණේය ඔහුද ඔහුගේ
පුත්තුද සහෝදරයෝද දෙලොස් දෙ
19 නෙක. දොළොස්වෙනි එක හෂබියඃට
ලැබුණේය ඔහුද ඔහුගේ පුත්තුද සහෝ
20 දරයෝද දෙලොස් දෙනෙක. දහතුන්
වෙනි එක ෂුබායල්ට ලැබුණේය ඔහුද
ඔහුගේ පුත්තුද සහෝදරයෝද දෙ
21 ලොස් දෙනෙක. දහහතරවෙනි එක
මත්තිතියඃට ලැබුණේය ඔහුද ඔහුගේ
පුත්තුද සහෝදරයෝද දෙලොස් දෙ
22 නෙක. පහළොස්වෙනි එක යරිමොත්
ට ලැබුණේය ඔහුද ඔහුගේ පුත්තුද ස
23 හෝදරයෝද දෙලොස් දෙනෙක. දහ
සවෙනි එක හනනියඃට ලැබුණේය ඔහු
ද ඔහුගේ පුත්තුද සහෝදරයෝද දෙ
24 ලොස් දෙනෙක. දහ හත්වෙනි එක
යොස්බකසඃට ලැබුණේය ඔහුද ඔහුගේ
පුත්තුද සහෝදරයෝද දෙලොස් දෙ
25 නෙක. දහ අටවෙනි එක හනනිට ලැ
බුණේය ඔහුද ඔහුගේ පුත්තුද සහෝද
26 රයෝද දෙලොස් දෙනෙක. දහ නව
වෙනි එක මලෝතිට ලැබුණේය ඔහුද
ඔහුගේ පුත්තුද සහෝදරයෝද දෙ
27 ලොස් දෙනෙක. විසිවෙනි එක එලියා
තඃට ලැබුණේය ඔහුද ඔහුගේ පුත්තුද
28 සහෝදරයෝද දෙලොස් දෙනෙක. වි
සිඑක්වෙනි එක හොතිර්ට ලැබුණේය
ඔහුද ඔහුගේ පුත්තුද සහෝදරයෝද
29 දෙලොස් දෙනෙක. විසි දෙවෙනි එක
ගිද්දල්තිට ලැබුණේය ඔහුද ඔහුගේ පුත්
තුද සහෝදරයෝද දෙලොස් දෙනෙ
30 ක. විසිතුන්වෙනි එක මහසියොත්ට ලැ
බුණේය ඔහුද ඔහුගේ පුත්තුද සහෝද
31 රයෝද දෙලොස් දෙනෙක. විසිහතර
වෙනි එක රොමම්තියෙසර්ට ලැබුණේය
ඔහුද ඔහුගේ පුත්තුද සහෝදරයෝද
දෙලොස් දෙනෙක.

26. පරිච්. දොරටුපාලයන්ගේ බෙ
දීමවල් නම් කොර්හිවරුන්වූ ආසප් පු
තුන්ගෙන් කොරගේ පුත් මෂෙලෙමියඃය.
2 මෂෙලෙමියඃගේ පුත්තුනම් වැඩිමහල් සඛ
රියඃය දෙවෙනි යදියාල්ය තුන්වෙනි සබ
3 දියඃය සතරවෙනි යත්නියල්ය පස්වෙනි
එලම්ය හවෙනි යෙහොහනන්ය සත්වෙ
4 නි එලියොනයිය. ඔබෙද් එදොම්ට දෙවි
යන්වහන්සේ ආශීර්වාද කල නිසා ඔහුගේ
පුත්තුනම් මැඩිමහල් ෂෙමයඃය දෙවෙනි
යෙහොසබද්ය තුන්වෙනි යොවඃය සතර
වෙනි සකර්ය පස්වෙනි නතනායල්ය හ
5 වෙනි අම්මියල්ය සත්වෙනි ඉසකර්ය අට
6 වෙනි පෙවුල්තයිය. ඔහුගේ පුත් ෂෙමයඃ
ට බලවත් ගත්ත නිසා තමන් මුළු පියා
වංශෙ මූලාදෑනිකම් කල පුත්තු උපන්
7 නෝය. ෂෙමයඃගේ පුත්තුනම් ඔත්නිඃ
රඵයල්ය ඔබෙද්ය එල්සබද්ය. ඔහුගේ
සහෝදර වන එලිහු සහ සමකියඃද බ
8 ලවන්තයෝය. මොවුන් සියල්ලෝ ඔ
බෙද් එදොම්ගේ පුතුන්ගෙන්ය. ඔවු
හුත් ඔවුන්ගේ පුත්තුත් සහෝදරයෝත්
වැඩට හපන් වෙර ඇත්තාවූ ඔබෙද් එ
9 දොම්ගෙන් සැට දෙනෙනක්ය. මෂෙලෙමි
යඃට පුත්තු සහෝදරයෝ වෙර ඇති
10 දහ අට දෙනෙක්ය. මෙරරි පුත්‍රයන්
ගෙන් පැවතාවූ හෝසඃගේ පුත්තු
නම් වැඩිමහල් ෂිම්රිය. ඔහු වැඩිමහල්
ඉන්න නුමුත් ඔහුගේ පියා ඔහු ප්‍රධාන කෙ
11 ලේය. දෙවෙනි හිල්කියාය තුන්වෙනි
තබලියඃය සතරවෙනි සකරියඃය. හෝ
සඃගේ සියළු පුත්‍රයෝද සහෝදරයෝ
12 ද දහතුන් දෙනෙක. ප්‍රධාන මොවුන්

ගෙන් යෙහෝවඃවහන්සේගේ ගෙයි
වැඩට එකිනෙකාට පේරුවෙන් දොර
13 ටුපාලයන්ගේ බෙදීමවල් විය. ඔවුන් ත
මන් පිය වංශ ලෙස ලොකු කුඩා ඇත්
තෝ එකාකාරයෙන් සියළු දොරටු ගැන
දාදු ඇට දැමුවෝය. පෙරදිග දාදු ඇටය
14 ෂෙලෙමියාඃට පැමිනුනේය. එවිට ඔහුගේ
පුත් නුවන දැනමුතුකම් දෙන සකරියාඃ
නිසා දාදු ඇට දැමුවෝය. ඔහුගේ දාදු ඇ
15 ට උතුරු දිගට වැටුනේය. ඔබෙද් එ
දොමට දකුණු දිග විය. අසුප්පිම්ගේ ගෙ
16 ය ඔහුගේ පුතුන්ටය. නැගෙන මහ මා
වත ලඟ සල්ලකත් දොරටුව ලඟ බස්නා
ඉර සුප්පිම්ටත් හොසාඃටත් පැමුනුනේය.
17 පෙලෙන් පෙලට තිබුනේය. නැගෙන
ඉරට ලෙවිවරු හදෙනය උතුරට දවස
කට හතර දෙනය දකුනට දවසකට හ
18 තර දෙනය. අසුප්පිම්ගේ පැත්තට දෙ
නානා දෙනාය. බස්නා ඉර පර්බර් ලඟ
19 මහ මාවත හතර දෙනය. පර්බර් ලඟ
දෙනාය. කොරගේ පුතුන්ගෙනුත් මෙ
රාරි පුතුන්ගෙනුත් දොරටුපාලයන්ගේ
බෙදීමවල් මේය.

20 ලෙවිවරුන්ගෙන් අහියාඃට දේව මා
ලිගාවේ අරමුදළුත් කැපකරපු දේවල
21 අරමුදළුත් බාරය. ගර්සනිය ලාදන් පුත්
ලාදන්ගේ පුත් වන වංශ මූලාදෑනි ලා
දන්ය. ගර්සනිය යෙහයලීය යෙහයලීගේ
22 පුත්නම් සෙතම්ය ඔහුගේ සහෝදර යූ
වල්ය. ඔවුන් යෙහෝවඃවහන්සේගේ
23 ගෙයි අරමුදලවල මූලාදෑනියෝය. අම්
රම්වරුද ඉස්හර්වරුද හෙබ්‍රොන්වරු
24 ද උස්සියල්වරුද සිටියෝය. මෝසෙස්
පුත් ගෙර්ෂොන් පුත් සබුවල් අරමුදලට
25 මූලාදෑනියාය. ඔහුගේ සහෝදර එලිය
සර්ගෙන් පැවත ආවාවූ ඔහු පුත් රහබි
යාඃය ඔහු පුත් යසයාඃය ඔහු පුත් යොරම්
ය ඔහු පුත් සික්‍රිය ඔහු පුත් ෂෙලමිත්ය.
26 මෙම ෂෙලමිත් සහ ඔහුගේ සහෝදර
යෝ දාවිත් රජු විසිනුද වැඩිමහල් පියව
රුන් විසිනුද දහට මූලාදෑනීන් විසිනුද සිය
යට මූලාදෑනීන් විසිනුද සමුදා මූලාදෑනීන්
විසිනුද කැපකරපු දේවල සෑම අරමුදල
27 ට නායකයෝය. ඔවුන් යුධ ජයගත්
කොල්ලවලින් යෙහෝවඃවහන්සේගේ
28 ගෙයි වියදමට කැපකලෝය. දිවස් ඇ
ති සාමුවෙල්ද කිස් පුත් සාවුල්ද නෙර්
පුත් අබ්නෙර්ද සෙරුවාඃ පුත් යෝවබ්
ද කැපකල සියල්ලද වෙන ඇත්තන්
විසින් කැපකල දේත් ෂෙලමිත්ද ඔහු
29 ගේ සහෝදරයන්ද යටතේ විය. ඊස්‍රා
යෙල්හි පිට වැඩවලටත් මූලාදෑනිකම
ටත් නඩු ඇසීමටත් ඉස්හර්වරුන්ගෙන්
කනනියාඃද ඔහුගේ පුත්තුද සිටියෝය.
30 හෙබ්‍රොන්වරුන්ගෙන් හෂබියාඃද ඔහු
ගේ සහෝදරයෝද යන එක්දාස් සත්සි
යයක් බලවත් මූලාදෑනියෝ බස්නා ඉර
දෙසින් මෙගොඩ ඊස්‍රායෙල්හි යෙ
හෝවඃවහන්සේගේ සෑම වැඩටත් රාජ
31 කාරියටත් මූලාදෑනියෝය. හෙබ්‍රොන්ව
රුන්ට තමන් පිය වංශය ලෙස යෙරියාඃ
මූලාදෑනියාය. දාවිත් රාජ්‍යය කරණ හත
ලිස්වන අවුරුද්දේ ඔවුන් සොයා ගිලි
යද් යසර්හිදී ඔවුන්ගෙන් බලවත් දක්ෂ
32 යෝ සම්භවූනෝය. ඔහුගේ සහෝදර
වූ බල ඇත්තාවූ දෙදාස් හත්සියයක් ප්‍ර
ධාන පියවරුන් දාවිත් රජ රූබෙන්වරුන්
ටත් ගද්වරුන්ටත් මනස්සෑගේ අඩ
ගෝත්‍රයටත් දෙවියන්වහන්සේට අයිති
සෑම කාරණාවලටත් රාජකාරියටත් මූ
ලාදෑනීන් කෙලේය.

27. පරිචෙ. ප්‍රධාන පියවරුනු දහට
මූලාදෑනීනු සියේට මූලාදෑනීනු රාජකාරි
ය කරණ වෙන මූලාදෑනීන්ද සමග අවු
රුද්ද මුළුල්ලේ රජුට වැඩකරණ පිනිස
එක එක මසක් බැගින් පේලි වසයෙන්
ඇතුලට එනාවූ පිටට යනාවූ ඊස්‍රා
යෙල් පුත්‍රයන්ගේ ගනන නම් විසිහාර
2 දහස. පලමුවෙනි මාසේට පලමුවෙනි
පේලියට සබ්දියල් පුත් යෂොබියම්ය.
3 ඔහුගේ පේලියේ විසිහාරදහක්ය. ප
රෙස් පුත්‍රයන්ගෙන් සියළු සේනානායක
යන්ට ප්‍රධානයා පලමුවෙනි මාසේට විය.
4 දෙවෙනි මාසේ පේලියට අහොයිය දෝ
දයිය ඔහුගේ පේලියේ මූලාදෑනියා මික්
ලොත්ය. ඒ පේලියටද විසිහාරදහක්ය.
5 තුන්වෙනි මාසේට සේනානායකයන්
ගෙන් තුන්වෙනියා යෙහොයදාගේ පුත්
නායක පූජකවූ බෙනයාඃය. ඔහුගේ පේ
6 ලියට විසිහාරදහක්ය. තිස් දෙනාගෙන්
දක්ෂවූ තිස් දෙනාට උතුම්වූ බෙනයාඃ
මොහුය. ඔහුගේ පුත් අම්සබද් ඔහුගේ
7 පේලියේ විය. සතරවෙනි මාසේට සත
රවෙනි මූලාදෑනියානම් යෝවබ්ගේ ස
හෝදර අසයෙල්ද ඊලඟ ඔහු පුත් සබද
යාඃද වූවෝය. ඔහුගේ පේලියටද විසිහා
8 රදහක්ය. පස්වෙනි මාසේට පස්වෙනි

මූලාදූනියානම් ඉශ්‍රාහිය ෂම්හූත්ය ඔහු
9 ගේ පේලියටත් විසිහාරදහක්ය. හවෙ
නි මාසේට හවෙනි මූලාදූනියානම් ත
කොයවූ ඉක්කෂ් පුත් ඊරය. ඔහුගේ
10 පේලියටත් විසිහාරදහක්ය. හත්වෙනි
මාසේට හත්වෙනි මූලාදූනියානම් එප්‍රා
සිම් පුත්‍රයන්ගෙන් පලොනිය හෙලෙස්ය.
11 ඔහුගේ පේලියට විසිහාරදහක්ය. අට
වෙනි මාසේට අටවෙනි මූලාදූනියානම්
සර්හිවරුන්ගෙන් හුසතියා සිබ්බකයි
ය. ඔහුගේ පේලියටත් විසිහාරදහක්ය.
12 නවවෙනි මාසේට නවවෙනි මූලාදූනි
යානම් බෙන්යමිවරුන්ගෙන් අනතෝ
තිය අබියෙසර්ය. ඔහුගේ පේලියටත් වි
13 සිහාරදහක්ය. දසවෙනි මාසේට දස
වෙනි මූලාදූනියානම් සර්හිවරුන්ගෙන්
නෙතෝපාතිය මහරයිය. ඔහුගේ පේලි
14 යටත් විසිහාරදහක්ය. එකොලොසෙව
නි මාසේට එකොලොස්වෙනි මූලාදූනි
යානම් එප්‍රායිම් පුත්‍රයන්ගෙන් පිරතෝ
නිය බෙනායාය. ඔහුගේ පේලියටත් වි
15 සිහාරදහක්ය. දොලොස්වෙනි මාසේට
දොලොස්වෙනි මූලාදූනියානම් ඔත්නි
යල්ගෙන් නතොපාතිය හෙල්දයිය. ඔ
හුගේ පේලියටත් විසිහාරදහක්ය.

16 ඊශ්‍රායෙල් ගෝත්‍රවලට රූබෙනවරුන්
ගේ ආඥකාරයා සික්‍රි පුත් එලියෙසර්ය.
සිමියොන්වරුන්ගේ ආඥකාරයා මකා
17 පුත් ෂෙපතියාය. ලෙවිවරුන්ගෙන් කමූ
යල්ගේ පුත් හෂබියාය. ආරොණවරුන්
18 ගෙන් සදොක්ය. යූදාගෙන් දාවිත්ගේ
සහෝදරයෙක් වන එලිහූය. ඉස්සාඛර්
19 ගෙන් මිකායල් පුත් ඔම්රිය. සෙබුලොන්
ගෙන් ඔබදියා පුත් ඉශ්මයාය. නප්තලී
20 ගෙන් අස්‍රියල් පුත් යරිමොත්ය. එප්‍රායිම්
පුත්‍රයන්ගෙන් අසසියා පුත් හොසයාය.
මනස්සා අඩ ගෝත්‍රයෙන් පෙදයා පුත්
21 යුවල්ය. ගිලියද්හි මනස්සා අඩ ගෝත්‍ර
යෙන් සකරියා පුත් ඉද්දෝය. බෙන්ය
22 මින්ගෙන් අබ්නෙර් පුත් යසයල්ය. දාන්
ගෙන් යරොහම් පුත් අසරයල්ය. ඊශ්‍රා
යෙල් ගෝත්‍රවල මූලාදූනියෝ මොවුන්
23 ය. එහෙත් අහසේ තාරකා මෙන් ඊශ්‍රා
යෙල් බෝකරනෙනම්යි යෙහෝවාව
හන්සේ කී නිසා දාවිත් අවුරුදු විස්සක
ට අඩු වයස් ඇත්තන්ගේ ගනන නොග
24 ත්තේය. සෙරුවා පුත් යෝවබ් ගනන්
කරන්ට පටන්ගෙන ඒ ගැන ඊශ්‍රායෙල්
ට එදිරිව උදහස් ඉපදුන නිසා කම්මුතු
නොකලේය. දාවිත් රජ්ජුගේ ලේකම්
පොතේ ඒ ගනන නොලිව්වේය.

25 රජ්ජුගේ වස්තුවට අදියල් පුත් අස්මා
වත් මූලාදූනියාය. දනව්වලද නුවරව
ලද ගම්වලද කොටුවලද වස්තු ගබඩා
වලටද උස්සියා පුත් යහෝනාතන් මූලා
26 දූනියාය. පොලවේ ගොයිතැන් වැව
කලවුන්ට කළුබ් පුත් එස්‍රි මූලාදූනියාය
27 මිදිවතුවලට රමතිය සිමයි මූලාදූනියා
ය. මිදිරස ගබඩාවලට මිදිවතුවල ප්‍රයෝ
28 ජනයට සිප්මිය සබ්දි මූලාදූනියාය. පා
ත බිම්වල ඔලිව ගස්වලටද සිකමෝර
ගස්වලටද ගදරීය බාල්හනන් මූලාදූනි
29 යාය. තෙල් ගබඩාවලට යුවාස් මූලාදූ
නියාය. ෂරෝන්හි ගොදුරු කන රංචුව
ලට ෂරොනිය සිත්‍රයිද මිටියාවතවල සිටි
හරක් රංචුවලට අද්ලයි පුත් ෂාපත්ද මූ
30 ලාදූනියෝය. ඔටුවන්ට ඉෂ්මලිය ඕබිල්
ද කොටළුවන්ට මෙරොනොතිය යෑදයා
31 ද මූලාදූනියෝය. බැටළුවන්ට හගරීය
යසිස් මූලාදූනියාය. මේ සියල්ලෝ දාවිත්
32 රජ්ජුගේ වස්තුවට මූලාදූනියෝය. දාවිත්
ගේ නෑයාවූ යෝනාතන් දූනිමිතිකම්
දෙන නුවන ඇති ලේකමකව සිටියේය.
හක්මොනි පුත් යෙහියල් රජ පුත්‍රයන් ස
33 මග විය. රජ්ජුට දූනිමිතිකම් දෙන්නා අ
හිතෝපෙල්ය. රජ මිත්‍රයා අර්කිය හූසය්
34 ය. අහිතෝපෙල්ට පසු බෙනායා පුත් ය
හොයදා සහ අබියාතර්ද සිටියෝය රජ්ජු
ගේ සේනානායකයා යෝවබ්ය.

28. පරිච්ඡ. තවද දාවිත් ඊශ්‍රායෙල්
සියළු මූලාදූනි වන ගෝත්‍ර මූලාදූනීන්
පෙලින් රජ්ජුට වැඩකල සමූහවල මූලා
දූනීන් දහට මූලාදූනීන් සියයට මූලාදූ
නීන් රජ්ජුගේත් තමන් පුතුන්ගේත් සි
ම වස්තුව සහ සම්පත්වලට ගබඩාකාර
යන් මූලාදූනීන් බල ඇත්තන් වෙර ඇ
2 ත්තන් යෙරුසලමට එකතුකෙලේය. දා
විත් රජ සිටගෙන කියනුයේ මාගේ ස
හෝදරවූ සෙනගෙනි මට ඇහුම්කන්
දියල්ලාය. යෙහෝවාවහන්සේගේ ගිවි
සුම් පෙට්ටියද අපගේ දෙවියන්වහන්
සේගේ පාපුටුවද තබන පිනිස නවා
තැන් ගෙයක් සාදන්ට මම සිතා ඒක
3 හදන්ට සූදානම් කෙලෙම්. එහෙත් යු
ධකාරයෙක්වූ තා විසින් ලේ වැක්කෙ
රෙව් නිසා මාගේ නාමය උදෙසා ගෙ
යක් නොසාදවයි දෙවියන්වහන්සේ මි

4 කීසේක. තුමුත් ඊශ්‍රායෙල්ගේ දෙවිවූ
යෙහෝවාවහන්සේ ඊශ්‍රායෙල්හි නිත
රම රජකම් කරණ පිනිස මාගේ සියළු
පිය වංශයෙන් මා තෝරාගත්සේක. මක්
නිසාද ආඥකාරයා වෙනතට යූදාද යූදා
ගේ වංශයෙන් මාගේ පියාගේ පවුලද
තෝරාගෙන මාගේ පියාගේ පුතුන්
ගෙන් ඊශ්‍රායෙල් මුළුල්ලෙහි මා රජකිරි
5 මට කැමතිවූසේක. යෙහෝවාවහන්
සේ මට බොහෝ පුතුන් දුන්සේක. තු
මුත් යෙහෝවාවහන්සේගේ රාජ්‍යයවූ
ඊශ්‍රායෙල්හි සිංහාසනයේ හිඳගන්නට
මාගේ සියළු පුතුන්ගෙන් මා පුත් සල
6 මොන් තෝරාගත්සේක. උන්වහන්සේ
මට කථාකොට තාගේ පුත් සලමොන්
මාගේ පුත්‍රයා වෙනතට තෝරාගෙන බ
හුගේ පියාද වෙමි. ඒ නිසා ඔහු මාගේ
7 ගෙයද මළුද සාදනෙත්ය. මාගේ අන
ද විනිශ්චයද තොර නොව රක්‍ෂාකරණ
වානම් ඔහුගේ රාජ්‍යය අද තිබෙන ලෙ
8 ස නිතරම ස්ථිරකරම්යි කීසේක. ඒ නිසා
තුබලා මේ හොඳ රට හිමිකරගෙන තු
බලාට පසු තුබලාගේ පුත්‍රයන්ට උරු
මයක් කොට නිතරම තිබෙන පිනිස
දූත් යෙහෝවාවහන්සේගේ සෙනග
වූ සියළු ඊශ්‍රායෙල්ගේ ඇස් ඉදිරිපිටද අ
පගේ දෙවියන්වහන්සේගේ ඇසිමෙහිද
තුබලාගේ දෙවිවූ යෙහෝවාවහන්සේ
ගේ සියළු ආඥාවල් සොයා රක්‍ෂාකරප
9 ල්ලාය. යෙහෝවාවහන්සේ සෑම සිත්
විමසා හිතන සෑම අභිප්‍රාවල් දනනාහෙ
පින් මාගේ පුත් සලමොන් තුබේ පියා
ගේ දෙවියන්වහන්සේ ඇඳිනගෙන අවං
ක සිතිනු හොඳ කැමැත්තෙන්ද උන්ව
හන්සේ සේවයකරපනන. උන්වහන්සේ
සෙව්වොත් තුබට සම්භවෙනසේක. උ
න්වහන්සේ අත්හැරියොත් නිතරම තුබ
10 පහකරණසේක. පිරිසිදු තැනට ගෙයක්
සෑදීමට යෙහෝවාවහන්සේ විසින් තු
බ තෝරාගත් නිසා ප්‍රවේසම්ව බලවත්
ව ඒක කරපනනැයි කීය.

11 එවිට දාවිත් බරාදෙත් එහි ගෙවලත්
ගබඩාවලත් උඩුමාල්වලත් ඇතුල් ගේ
12 වලත් කරුණාසනය තිබූන ඉඩමේත්
ආදර්ශයද යෙහෝවාවහන්සේගේ ගෙ
යි මළුවලත් වටකර ගේවලත් දෙවියන්
වහන්සේගේ ගෙයි ගබඩාවලත් කැප
කරණ දේවල ගබඩාවලත් පූජකයන්
13 ගේද ලෙවිවරුන්ගේද පෙළවලත් ගෙ
හෝවාවහන්සේගේ ගෙයි වැඩට සෑ
ම කර්මාන්තයෙත් යෙහෝවාවහන්සේ
ගේ ගෙයි වැඩට සෑම භාජනවලත් ආත්
මයෙන් ලැබුන ආදර්ශයද පෙන්වූනෙත්
14 ය. සියළු ආකාර වැඩට ගන්න නො
යෙක් රත්‍රන් භාජනවලට කිරාපු රත්‍රන්
බරද සියළු ආකාර වැඩට ගනන සෑම
රිදී භාජනවලට කිරාපු රිදීද තමන් පුත්
15 සලමොන්ට දුනෙත්ය. රන් පාන් රුක්
වලටත් එහි රන් පාණවලටත් එක එක
පාන් රුකටද එහි පාණවලටද බර ලෙස
දුනෙත්ය. රිදී පාන් රුක්වල පාන් රු
කවලටත් එහි පාණවලටත් සියළු පාන් ක
16 දුවල වැඩ ලෙස කිරා දුනෙත්ය. ඉදිරි
යෙහි පිදූ රොටි තබන මේසයටත් සිය
ළු මේසවලටත් රත්‍රන් රිදී මේසවලට රි
17 දීද කිරා දුනෙත්ය. මස් කොකුවලටත්
වට තැටිවලටත් පාත්‍රවලටත් පිරිසිදු ර
ත්‍රන් රන් කුසලාන්වලට රත්‍රන් සෑම රිදී
18 කුසලාන්වලට රිදීද කිරා දුනෙත්ය. දුම්
ගසන ආසනයට පිරිසිදුකරපු රත්‍රන්ද පි
යාපත් දිග ඇර යෙහෝවාවහන්සේගේ
ගිවිසුම් පෙට්ටිය වසාගත් කෙරුබිම්
ගේ රථයේ ආදර්ශයට රත්‍රන් කිරා දුනෙත්
19 ය. මේ ආදර්ශයේ සෑම වැඩ මට හැඟෙ
න ලෙස යෙහෝවාවහන්සේගේ අතින්
20 මට ලියා දුන්සේකැයි කීයේය. තවද
දාවිත් තමාගේ පුත් සලමොන්ට කථා
කොට මාගේ දෙවිවූ යෙහෝවාවහන්
සේ තුබ සමග සිට උන්වහන්සේගේ ගෙ
යි වැඩට සියළු කර්මාන්තය තුබ නිමව
නතුරු උන්වහන්සේ තුබට පිහිටව අත්
නොහරිණ නිසා භය නොව තැති නො
ගෙන බලවත්ව සිත් දැඩිව සිට ඒක ක
21 රපනනැයි කීයේය. පූජකයන්ගේද ලෙ
විවරුන්ගේද පෙළ දෙවියන්වහන්සේ
ගේ ගෙයි සෑම වැඩට සිටිති. යම් වැඩ
කටවත් සියළු ආකාර කර්මාන්තයටවත්
සිත් කැමති දක්‍ෂ ඇත්තෝ ඇඳ ඔවුන්
තුබ සමගය මුලාදෑනියෝද සියළු මිනිස්
සුද තුබේ අනට යටත්වෙතියි කීය.

29. පරිච්ඡේ. තවද දාවිත් රජ සියළු
සමූහයට කියනුයේ දෙවියන්වහන්සේම
තෝරාගත් මාගේ පුත් සලමොන් බාලය
ළදරුය. මාලිගාව මනුෂ්‍යයාට නොව
දෙවිවූ යෙහෝවාවහන්සේට වන බැ
2 වින් වැඩ මහත්ය. මාගේ මුළු සවියෙන්
මාගේ දෙවියන්වහන්සේගේ ගෙයි සෑ

දිම පිනිස රන් වැඩට රන්ද රිදී වැඩට රිදී
ද පිත්තල වැඩට පිත්තලද යකඩ වැඩට
යකඩද ලී වැඩට ලීද ඔබ්බනනට ගෙව
ත්‍රුයී මැණික්දදිලිහෙන මැණික්ද නො
යෙක් පාට මැණික්ද සියළු ආකාර අගේ
ඇති මැණික්ද බොහෝ කිරුවානේ ගල්
3 ද සූදානම් කොලෙම්. මාගේ දෙවියන්ව
හන්සේගේ ගෙට මාගේ ආදරය තැබූ
නිසා පිරිසිදු ගෙට මා විසින් සූදානම්ක
ල සියල්ලට වඩා මාගේම නියම වස්තු
4 වෙන් රන් රිදීත් ගෙයි බිත්ති වැසීමට
ඔපිර්හි රන් තලෙන්ත තුන්දහකුත් පි
5 රිසිදුකල රිදී තලෙන්ත හත්දහකුත් ර
න්‍රන් වැඩට රන්ද රිදී වැඩට රිදීද යන
කර්මාන්තකාරයන් අතින් කලමනා සි
යළු ආකාර වැඩටත් මාගේ දෙවියන්ව
හන්සේගේ ගෙට දුනිමි. අද යෙහෝ
වාවහන්සේට තමන් වැඩ කැපකරන්ට
6 කැමති කවුදැයි කීය. එවිට පිය මූලාදෑ
නිද ඊශ්‍රායෙල් ගෝත්‍රවල මූලාදෑනිද රා
ජකාරියට මූලාදෑනිද දහට මූලාදෑනිද සි
යයට මූලාදෑනිද කැමැත්තෙන් පූජාකර
7 මින් දෙවියන්වහන්සේගේ ගෙයි වැඩට
රන් තලෙන්ත පන්දහක් සහ කලන්
දසදහකුත් රිදී තලෙන්ත දසදහකුත්
පිත්තල තලෙන්ත දහඅට දහකුත් යක
8 ඩ තලෙන්ත ලක්ෂයකුත් දුන්නෝය. අ
ගේ ඇති මැණික් ඇත්තෝද යෙහෝ
වාවහන්සේගේ ගබඩාවට ගර්ෂෝනීය
9 යහියල් ලවා එවා දෙව්වෝය. එවිට මි
නිස්සු සතුටුව කැමැත්තෙන් පූජාකලෝ
ය. පැහැදී සිතින් සතුටුව යෙහෝවාව
හන්සේට පූජාකලෝය. දාවිත් රජද ම
10 හත් ප්‍රීතියෙන් සතුටු වූයේය. ඒ නිසා
දාවිත් රජ සැම සමූදුව ඉදිරිපිට යෙහෝ
වාවහන්සේට ස්තුතිකරමින් අපගේ පි
යවූ ඊශ්‍රායෙල් දෙවිවූ යෙහෝවාවහන්
11 ස ඔබට සදාකාලේටම ස්තුතිවේවා. යෙ
හෝවාවහන්ස මහත්තත්වයද බලයද
තේජසද ජයද අනුභාවද ඔබවහන්සේ
ගේය. ස්වර්ගයෙහිද පොලොවෙහිද ති
බෙන සියල්ල ඔබවහන්සේගේය. යෙ
හෝවාවහන්ස රාජ්‍යය ඔබවහන්සේ
ගේය ඔබවහන්සේ සියල්ලට හිසක්
12 මෙන් උසස්ව සිටිනසේක. වස්තුවද ගෞ
රවයද ඔබගෙන්ය ඔබ සියල්ලට අධි
පතිසේක. බලයද පරාක්‍රමයද ඔබගේ
අතෙහිය. උතුම්කමද ශක්තියද සියල්
ලන්ට දෙන ලෙස ඔබගේ අතේ බලය
13 ඇත. එබැවින් අපේ දෙවියන්වහන්ස ඔ
බට ස්තුතිකර ඔබගේ උතුම් නාමයට ප්‍ර
14 සංසා කරමුව. එහෙත් සියළු දේ ඔබ
ගෙන් ලැබෙනකොට මෙබදු කැමැත්
තෙන්නුත් අනුමෙන්නුත් පූජාකිරීමට මමත්
මාගේ මිනිස්සුත් කවුරුද? ඔබවහන්
15 සේගේ දෙසින් ඔබට දුනිමුව. මක්නි
සාද අපේ සියළු පියවරුන් සිටියාක්
මෙන් අපි ඔබ ඉදිරියෙහි විදේශීයෝද
නවාතැන්කාරයෝද වෙමුව. පොලො
ව පිට අපට පැවතීමක් නැත. අපේ ද
16 වස් සෙවනැල්ලක් මෙන්ය. අපගේ දෙ
විවූ යෙහෝවාවහන්ස ඔබගේ පිරිසිදු
නාමය නිසා ඔබට ගෙයක් ගොඩනැගී
මට අප විසින් සූදානම්කල මේ සියළු දේ
17 ඔබවහන්සේගේ අතින් ලැබුනේය. සි
යල්ල ඔබගේමය. මාගේ දෙවියන්වහන්
ස ඔබ සිත් විමසා ඇද නැතිකමට සතුටු
බව දනිමි. මාගේ සිතේ ඇදනැතික
මෙන් මේ සියළු දේ කැමැත්තෙන් පූජා
කොලෙම් මෙහි ඉදිරිපිට සිටින ඔබගේ
මිනිසුන් කැමැත්තෙන් ඔබට පූජාකරණ
18 බව සතුටින් දුටිමි. ආබ්‍රහම් ඊසාක් ඊශ්‍රා
යෙල් යන අපේ පියවරුන්ගේ දෙවිවූ
යෙහෝවාවහන්ස ඔබගේ මිනිසුන්ගේ
සිතේ කල්පනාවල මේ කැමැත්ත නිතා
ර පවත්වමින් ඔවුන්ගේ සිත් ඔබට පෑ
19 දවාගතමැනව. ඔබගේ ආඥාවල්ද සා
ක්ෂිද පනතවල්ද රක්ෂාකරමින් මේ සැ
ම දේ කරන්ටත් මා විසින් සූදානම්කල
දෙසින් මාලිගාව සාදන්ටත් මාගේ පුත්
සලමොන්ට පැහැදු සිතක් දුනමැනව
යි කීය.
20 එවිට දාවිත් සියළු සමූදුවට කථාකො
ට නුබලාගේ දෙවිවූ යෙහෝවාවහන්
සේට ස්තුතිකරපල්ලායයි කීය. සියළු ස
මූදුවද තමන් පියවරුන්ගේ දෙවිවූ යෙ
හෝවාවහන්සේට ස්තුතිකර ඉස් නමා
21 යෙහෝවාවහන්සේටත් රජුටත් වැද
යෙහෝවාවහන්සේට යාග පූජා කලෝ
ය. පසුව දා යෙහෝවාවහන්සේට ගොන්
දහකුත් බැටළුවන් දහකුත් බැටළු වස්
සන් දහකුත් යන දවන පූජාද ඔවුන්
22 ගේ බොන පූජාද සියළු ඊශ්‍රායෙල් උදෙ
සා බොහෝ යාගවල්ද පූජාකර එදා යෙ
හෝවාවහන්සේ ඉදිරියෙහි මහත් සතු
ටින් කා බී දාවිත් පුත් සලමොන් දෙව
නු රජකොට ඔහු යෙහෝවාවහන්සේ
නිසා පලමුවෙනි මූලාදෑනිකමටද ස

දෙක් පූජකකමටද අභිෂේක කලෝය.
23 එවිට සලමොන් තමන් පිය දාවිත් හිලව්
වට රජව යෙහෝවඃවහන්සේගේ සිං
හාසනයේ හිඳ වැඩිදියුණු වූනේය. සිය
ළු ඉශ්‍රායෙල්වරුද ඔහුට කීකරු වූනෝ
24 ය. සියළු රාජ කුමාරයෝද බලවත් මනු
ෂ්‍යයෝද දාවිත් රජ්ජුගේ සියළු පුත්‍රයෝ
25 ද සලමොන් රජ්ජුට යටත් වූනෝය. යෙ
හෝවඃවහන්සේද සියළු ඉශ්‍රායෙල් ඉදි
රිපිට සලමොන් ඉතා උසස්කර ඉශ්‍රා
යෙල්හි ඔහුට පෙරතුන් සිටි කිසි රජෙ
කුට නොතිබුන රාජ අනුහාව ඔහුට
දුන්සේක.
26 මෙසේ යෙස්සේගේ පුත් දාවිත් සිය
ළු ඉශ්‍රායෙල් කෙරෙහි රජකම් කෙලේ
27 ය. ඔහු හෙබ්‍රොන්හි හත් අවුරුද්දකුත්
යෙරුසලමේ තිස්තුන් අවුරුද්දකුත් ර
ජකම් කෙලේය. මෙසේ ඔහු ඉශ්‍රායෙල්
28 හි හතලිස් අවුරුද්දක් රජකම් කර වය
සෙන්ද වස්තුවෙන්ද ගෞරවයෙන්ද සම්
පූර්ණව සිට හොඳ මහළු වයසේදී මෙ
ලේය. ඔහු පුත් සලමොන්ද ඔහු හිලව්ව
29 ට රජකම් කෙලේය. දාවිත් රජ්ජුගේ ප
ළමු ක්‍රියා පටන් අන්තිම ක්‍රියා දක්වා සි
30 යල්ලද ඔහුගේ සියළු අධිපතිකමද බල
යද ඔහුගේ කාලයෙහිදී ඉශ්‍රායෙල්හිද
පොළොවේ සෑම රාජ්‍යවල්හිද සිදුවූන
කාරණද සාමුවෙල්නම් දිවස් ඇත්තාගේ
පොතේද නාතන් අනාගතවක්තෘගේ
පොතේද ගද්නම් දිවස් ඇත්තාගේ පො
තේද ලියා තිබෙනෝය.

# දෙ වෙ නි ලේ ක ම් පො ත ය.

1. පරිච්ඡේදය. තවද දාවිත්ගේ පුත්
සලමොන් තමන් රාජ්‍යයෙහි බලවත්ව
සිටියේය. ඔහුගේ දෙවිවූ යෙහෝවඃව
හන්සේද ඔහුට පිහිටව ඉතා උසස්කල
2 සේක. එවිට සලමොන් දහට මුලාදෑනි
න්ද සියයට මුලාදෑනීන්ද විනිශ්චයකාරය
න්ද ඉශ්‍රායෙල් මුළුලෙහි සෑම ආඥකාර
යන්ද පිය මුලාදෑනීන්ද යන ඉශ්‍රායෙල්හි
සියල්ලන්ට කථාකෙලේය. යෙහෝවඃ
3 වහන්සේගේ වැඩකාර මෝසෙස් විසින්
වනාන්තරයේ සෑදූ දෙවියන්වහන්සේගේ
සභාමඩපය එහි තිබුන නිසා සලමොන්
සියළු සමූහව පිරිවරාගෙන ගිබියොන්
4 හි උස් තැනට ගියේය. එහෙත් දාවිත්
දෙවියන්වහන්සේගේ පෙට්ටියට ඔහු වි
සින් සූදානම්කල තැනට කිර්ජත් ජියා
රිම් සිට ඒක ගෙන ගියේය. මක්නිසාද
යෙරුසලමේ ඊට කූඩාරමක් තබා ති
5 බුනේය. හූර් පුත් ඌරි පුත් බසලයෙල් වි
සින් සෑදූ පිත්තල පූජාසනය යෙහෝවඃ
වහන්සේගේ මඩපය ඉදිරිපිට තැබිය.
6 සලමොන්ද සමූහවද ඒ ලඟට ගියෝය.
සලමොන්ද යෙහෝවඃවහන්සේ ඉදිරි
යෙහි තිබෙන සභාමඩපයේ පිත්තල පූ
ජාසනයට ලංව එහි පිට දවන පූජාවල්
දහක් පූදකෙලේය.
7 තවද එදා රාත්‍රියේ දෙවියන්වහන්සේ
සලමොන්ට පෙනී තට ඕනෑ දෙයක් ඉ
8 ල්ලවයි ඔහුට කීසේක. සලමොන්ද ඔබ
වහන්සේ මාගේ පිය දාවිත්ට මහත් කා
රුණාව පෙන්වමින් ඔහු හිලව්වට මා ආ
9 ඥුවට පත්කලසේක. දැන් දෙවිවූ යෙ
හෝවඃවහන්ස පොළොවේ දූවිලි මෙන්
බොහෝ මිනිසුන්ට මා රජකල නිසා මා
ගේ පිය දාවිත්ට දුන් ඔබගේ පොරොන්
10 දුව සවිකර මේ මිනිසුන් ඉදිරිපිට ඇතු
ල පිට ඇවිදින්ට මට නුවනද දැනීමද
දෙවා වදාලමැනව. මක්නිසාද ඔබගේ
මේ මහත් මිනිසුන් විනිශ්චයකරන්ට
කාට පුළුවන්දැයි දෙවියන්වහන්සේට කී
11 ය. දෙවියන්වහන්සේද මේ කාරණාව තා
ගේ හිතේ තිබුන බැවින් වස්තුවද පො
හොසත්කමද නම්බුවද තාගේ සතුරන්
ගේ නාස්තියද බොහෝ ආයුසද නො
ඉල්වා මා විසින් තාගේ රජකමට යටත්
කල මාගේ මිනිසුන් විනිශ්චයකරන්ට
නුවනද දැනීමද තා විසින් ඉල්ළු නිසා දැ
12 නීමද නුවනද තට දී තට ඉස්සරවත් පස්
සේවත් සිටි කොයියම් රජෙකුටවත්
නොතිබුන වස්තුවද පොහොසත්කමද
නම්බුවද තට දෙමියි සලමොන්ට කීසේ
13 ක. එවිට සලමොන් ගිබියොන්හි උස්
තැන සභාමඩපය ලඟින් යෙරුසලමට
ඇවිත් ඉශ්‍රායෙල්ට රජකම් කර රටද අ

14 සරුවන්ද එක්කාසුකෙලේය. ඔහුට එක්
දහස් හාරසියයක් රථද දොළොස් දහසක්
අසරුවන්ද ඇත්තේය. රථ තබන නුවර
වලද යෙරුසලමේ රජු ලඟද ඒවා ත
15 බාගත්තේය. රජද ගල් මෙන් රන් රිදී
ද මිටියාවගේ සීකමෝර ගස් තිබෙන්
නාක්මෙන් කිහිරි ගස්ද යෙරුසලමේ
බෝකර අසුන්ද හන නූල්ද මිසරයෙන්
16 ගෙන්නුවේය. රජුගේ වෙළෙන්දෝ ඒ
17 හන නූල් නියම මුදලට ගත්තෝය. ඔවු
න්ද රිදී ශෙකෙල් හසියයකට රථයක්ද
එකසිය පනහකට අශ්වයෙක්ද මිසර
යෙන් ගෙනාවෝය. මෙලෙස ඔවුන්
හිත්තිවරුන් සහ ආරම් රජුන්ද උදෙ
සා අසුන් ගෙණාගත්තෝය.

2. පරිච්ඡේ. සලමොන් යෙහෝවාව
හන්සේගේ නාමයට ගෙයක්ද තමන්
ට රජ ගෙයක්ද සාදන්ට හිතට ගෙන
2 බර අදින මිනිසුන් හැත්තෑ දහසකුත් ක
දුවල ලී කැපීමට අසූ දහසකුත් ඔවුන්ගේ
වැඩ බලනනට තුන්දහස් හසියකුත් පත්
3 කලේය. සලමොන් සූර්හි හූරම් රජුට
පනිවිඩයක් යවා නුඹ මාගේ පිය දාවිත්
ට හිටිනනට ගෙයක් සෑදීමට කිහිරි ද
4 ඬු එවා උපකාර කල ලෙස මාත් එක්ක
කරපනන මාගේ දෙවිවූ යෙහෝවාව
හන්සේගේ නමට කැපකර සුවඳ දුම් ගැ
සීමටත් ඉදිරිපිට තබන රොටි නිතර තැ
බීමටත් සබත් දවස්වලද අමාවක්වලද
ඊශ්‍රායෙල්ට නිතරම ආඥා තිබෙන ලෙස
අපගේ දෙවිවූ යෙහෝවාවහන්සේගේ
පිරසිදු මගුල්‍ය දවස්වලද සවස උදය ද
5 වන පූජා කිරීමටත් ගෙයක් සාදමි. අප
ගේ දෙවියන්වහන්සේ සියළු දෙවියන්ට
උතුම් නිසා මා විසින් සාදන ගෙය ම
6 හත්ය. එහෙත් ස්වර්ගයද ස්වර්ගවල
ස්වර්ගයද උන්වහන්සේට ඉඩම් මදි බැ
වින් උන්වහන්සේට ගෙයක් සාදන්ට කා
ට පුළුවන්ද? උන්වහන්සේ ඉදිරියෙහි යා
ගය දවන්ට මිස උන්වහන්සේට ගෙයක්
7 සාදනනට මම කව්ද? ඒ නිසා මාගේ පි
ය දාවිත් සම්හකල මා ලඟ යූදාහිද යෙ
රුසලමිහිද සිටින දක්ෂ ඇත්තන් සමග
කැටයමටත් රන් රිදී පිත්තල යකඩ වැ
ඩටත් වඩුවූ පාටට රත් පාට නිල්පාට වැ
ඩටත් දන්නා මිනිහෙක් මා ලඟට එව්
8 ව මැනව නුඹේ වැඩකාරයන් ලෙබ
නොන්හි ලී කපනනට හපන් බව මම
දැනගතිමි ඒ නිසා ලෙබනොන් සිට කි
9 හිරි ගස්ද දේවදාරු ගස්ද අල්ගුම් ගස්ද
මට එව්ව මැනව. මා විසින් සාදන ගේ
පුදුම ලෙස මහත් නිසා බොහොම ලී සූ
දානම්කරනනට මාගේ වැඩකාරයෝද
10 නුඹේ වැඩකාරයන්ට එකතුවෙති. ලී
කපන නුඹේ වැඩකාරයන්ට කොටූ ගෝ
ධූම මිම් විසිදහසකුත් යව මිම් විසිදහසකුත්
මිදිරස බාත් විසිදහසකුත් තෙල් බාත් වි
සිදහසකුත් දෙමියි කියා ඇරියේය. එවිට
11 සූර්හි හූරම් රජ සලමොන් රජුට ලිය
මනකින් උත්තර දෙමින් යෙහෝවාව
හන්සේ තමන් මිනිසුන්ට ආදර නිසා නු
12 ඹ ඔවුන්ට රජකලසේක. අහසත් පො
ළොවත් මැවූ යෙහෝවාවහන්සේට ගෙ
යක්ද තමාට රජ ගෙයක්ද සෑදීමට නු
වනද සිහියද දැනීමද ඇති පුත්‍රයෙක් දා
විත් රජුට දුන්නාවූ අහසත් පොලවත්
මැවූවාවූ ඊශ්‍රායෙල් දෙවිවූ යෙහෝවාව
13 හන්සේට සතුති වේවා. මාගේ පිය හූ
රම්ගේ සිහි නුවන ඇති මිනිහෙක් එවි
14 මි ඔහු දාන්ගේ දූ ස්ත්‍රියෙකුගේ පුත්‍රය ඔ
හුගේ පියා සූර්හි මිනිහෙක රන් රිදී පිත්
තල යකඩ ලී වඩුවූපාට නිල්පාට සිහින් ව
ස්ත්‍ර රත් පාට වැඩටත් සියළු ආකාර කැට
යමටත් නුඹේත් නුඹ පිය මාගේ ස්වාමිවූ
දාවිත්ගේත් දක්ෂයන් සමග සැම උපාක
15 රන්ටත් සමර්ථයාය. මාගේ ස්වාමියා කී
ගෝධූම යව තෙල් මිදිරස නුඹේ වැඩකා
16 රයන්ට එවූව මැනව. අපිද ලෙබනොන්
සිට නුඹට ඕනෑ පමන ලී කපා පහුරු
බැඳ මූදෙන් යොප්පාවට නුඹ ලඟට
ගෙනෙමුව. නුඹත් ඒවා යෙරුසලමට
17 අද්දවනෙනහියයි කීය. සලමොන් ඊශ්‍රා
යෙල් රටේ සිටි සැම දේසක්කාරයන්
තමන් පිය දාවිත්ගේ ගනන ලෙස ග
නන්කෙලේය ඔවුන්ද එක්ලක්ෂ පනස් තු
18 න්දස් හසියයක. ඔහුද ඔවුන්ගෙන් හැ
ත්තෑ දහසක් බර ඉසිලීමටද අසූ දහස්
කඳුවලින් ලී කැපීමටද තුන්දහස් හසි
යක් මිනිසුන් ලවා වැඩකරවන මූලාදෑ
නිකමටද පත්කෙලේය.

3. පරිච්ඡේ. එවිට සලමොන් යෙරු
සලමේ මොරියා කන්දේ තමාගේ පිය
දාවිත්ට යෙහෝවාවහන්සේ පෙනුනු
යෙබූසිය ඔර්නාන්ගේ කමතේ දාවිත් වි
සින් සූදානම්කල තැනම යෙහෝවාව
හන්සේගේ ගෙය සාදන්ට පටන්ගත්

2 ත්ය. රජකමට පැමිනි හතරවෙනි අ
වුරුද්දේ දෙවෙනි මාසේ දෙවෙනි ද
3 සාදන්ට පටන්ගත්තේය. තවද දෙවිය
න්වහන්සේගේ ගෙය සෑදීමට සලමොන්
ට දන්වාදුන් ආද්‍රිසය මේය පලමුවෙනි
මිම්මෙන් දිග හැට රියනක පලල විසි
4 රියනක ඉස්සරහ බරාඳේ දිග ගෙයි පල
ල ලෙසම දිග විසි රියනක උස එකසිය
විස්සක. ඔහුද ඒ ඇතුල පවිත්‍ර රනින්
5 වැසිය. ලොකු ගෙයද දේවදුරුවලින්
දූව තට්ටුව සාදා පවිත්‍ර රනින් වසා තල්
6 ගසුත් දම්වැළුත් සාදා අගය ඇති ලක්‍ෂ
න ගල්වලින් ගෙය සැරසිය. රණ පව්
7 සිම්හි රත්‍රන්ය. ගෙයද දූවද කණුද බිත්
තිද දොරවල්ද රනින් වසා බිත්ති පිට
8 කෙරුබිම් කොටා ඉතා පවිත්‍ර ගෙය සෑ
දීය. ගෙයි පලල ලෙසම දිග විසි රියන
ක. පලල විසි රියනක. උතුම් රන් ත
9 ලෙන්ත හයසියයකින් වැසිය. ඇනවල
10 බර රන් ශෙකෙල් පනහක්ය. ඔහුද උ
ඩ ගෙවල් රනින් වසා ඉතා පිරිසිදු තැ
න රූප කර්මාන්තයෙන් කෙරුබ් දෙ
11 කක් සාදා රනින් වැසිය. කෙරුබ්වල
අත්හැඳිවල දිග විසි රියනක. එකෙකු
ගේ එක් අත්හැඳක් රියන් පහක් දිග
ඇතුව ගෙයි බිත්තියට දික්ව තිබුනේය.
අනික් අත්හැඳද රියන් පහක් දිග ඇ
තුව අනික් කෙරුබ්ගේ අත්හැඳට දික්
12 ව තිබුනේය. අනික් කෙරුබ්ගේ අත්
හැඳක්ද රියන් පහක් දිග ඇතුව ගෙ
යි බිත්තියට දික්ව තිබුනේය. අනික්
අත්හැඳද රියන් පහක් දිග ඇතුව අ
නික් කෙරුබ්ගේ අත්හැන්දේ ගෑසී ති
13 බුනේය. මේ කෙරුබ්වල අත්හැඳ විසි
රියනක් ඇරී ගියේය. ඔවුන්ගේ මූන
ඇතුලට හැරී ඔවුන් පයින් සිටියෝය.
14 ඔහුද නිල් පාටෙහුත් තඹ පාටෙහුත්
රතු පාටෙහුත් සිහින් වස්ත්‍රයෙහුත් ති
රය සාදා ඒ පිට කෙරුබිම් කර්මාන්ත
15 කෙලේය. ගේ ඉදිරිපිට රියන් තිස්පහක්
උස කණු දෙකක් සෑදිය. ඒ පිට ජේක
16 බ පස් රියනක. දේව වචන අහන තැ
න තිබුන ලෙස දම්වැල් සාදා කණු පිට
තබා දෙළුම් ගෙඩි සියයකුත් සාදා දම්
17 වැල් පිට තැබිය. මාලිගාව ඉදිරිපිට වම
ට දකුනට කණු දෙකක් හිටුවා දකුනේ
කණුවට යකින්ද වමෙත් කණුවට බෝ
වස්ද යන නම් තැබිය.

4. පරිච්. තවද පිත්තල පූජාසන
යක් සෑදිය. දිග පලල විසි රියනය. උ
2 සින් දහ රියනය. වටවූ වාත්තු මූදක්
සෑදීය එක ගැවියකින් අනික් ගැවියට
රියන් දහයක උස රියන් පහක වට රි
3 යන් තිහක. වටේට රියනකට දහය බැ
ගින් එහි යට වටේට හරක් රූප තිබු
නේය. ඒක වාත්තුකරද්දි හරක් රූපව
ලින් පේලි දෙකක් වාත්තුකෙලේය.
4 තුනක් උතුරටත් තුනක් බස්නාහිරටත්
තුනක් දකුනටත් තුනක් නැගෙන ඉර
වත් මූන ලා තිබුන හරක් රූප දොළ
හක් පිට තිබුනේය. මූද ඒ පිට තිබුනේ
ය. ඒවායේ පස්ස කොන් ඇතුලට තිබු
5 නේය. එහි ගනකම සතර අඟල්ය ගැ
වියද පාත්‍රයක ගැවිය මෙන් මානෙල්
මල් ඇතුව බාත් තුන්දහක් අල්ලනවාය.
6 ඔහුද සෝදන භාජන දහයක් සාදා
සේදීම පිනිස දකුනට පහක්ද වමට ප
හක්ද තැබිය. දවන පූජාවට ගන්නා දේ
එහි සේදුවෝය. එහෙත් පූජකයන්ගේ
7 සේදීමට මූද තිබුනේය. ඒවායේ අණුම
ව රත්‍රන් පාන්රුක් දහයක් සාදා දකුන
ට පහකුත් මාලිගාවේ වමට පහකුත්
8 තැබිය. මේස දහයක් සාදා දකුනට පහ
කුත් වමට පහකුත් මාලිගාවේ තබා ර
9 ත්‍රන් වට්ටි සියයක් සෑදිය. පූජක
යන්ගේ මළුද මහත් මළුවද මළුවේ දො
10 රවල්ද සාදා ඒ දොරවල් පිත්තලෙන් ව
සා උතුරු පැත්තේ පෙරදිග කෙලවරේ
දකුණු දිග බලා තිබෙන්ට මූද තැබිය.
11 හූරම්ද සැලිත් හැඳිත් භාජනත් සාදා
දෙවියන්වහන්සේගේ ගෙට සලමොන්
රජ්ජු වෙනුවෙන් කටයුතු වැඩ නිම කෙ
12 ලේය. ඒනම් කණු දෙකද එහි ගුලිද ක
ණු දෙක උඩ ජේකබද කණු උඩ ජේක
බෙහි ගුලි වසනාට මල්දම් දෙකද ක
13 ණු උඩ ජේකබෙහි ගුලි දෙක වසනාට
එක එක මල්දමට දෙළුන් ගෙඩිවලින්
පේලි දෙක දෙක බැගින් දෙළුන් ගෙඩි
14 හාරසියයක්ද ජේකබවල් සාදා ජේකබ
15 පිට සෝදන භාජනද මූදක්ද ඒ යට හ
රක් දොළසක්ද හැලිද අඟුරු හැඳිද
16 මස් කොකුද ඒවායේ සෑම ඇඳුබඩ යන
මේවා යෙහෝවාවහන්සේගේ ගෙට
ඔහු පිය හූරම් සලමොන් රජ වෙනු
17 වෙන් දිලිහෙන පිත්තලෙන් සෑදිය. සුක්
කොත් සහ සරදතා අතරේ යොර්දන් ස
මතලාවේ මැටි බිමදී රජ ඒවා වාත්තු

18 කොට්ටෙවිය. මෙලෙස සලමොන් මේ
සැම භාජන පිතතල බර දැනගන්ට බැ
19 රි ලෙස බොහොමයක් සෑදීය. සලමො
න් දෙවියන්වහන්සේගේ ගෙයි සැම භා
ජනද රත්‍රන් පූජාසනයද ඉදිරිපිට පෙට්
20 තබන මේසද දේව වචන අහන තැන
සිරිත් ලෙස පත්තුවීමට පාත්‍රුක්ද ඒ
21 වාගේ පාත් පවිත්‍ර රනින් සෑදීය. මල්ද
පහන් අඬුද කතුරුද වට තැටිද හැඳිද
දුම් භාජනද පිරිසිදු රනින් සෑදීය. ගෙ
ව ඇතුල්වෙන ඉඩමද ඉතා පිරිසිදු තැ
න ඇතුල් දොරවල්ද මාලිගාවේ ගෙයි
දොරවල්ද රනින් විය.

5. පරිච්ඡෙ. යෙහෝවාවහන්සේගේ
ගෙට සලමොන් කල සැම වැඩ මෙසේ
කම්වූතුවූනේය. සලමොන් තමන් පිය
දාවිත් කැපකල දේ ඇතුලට ගෙනත්
රන් රිදීද සැම භාජනද දෙවියන්වහන්
2 සේගේ ගෙයි වස්තු එක්ක තැබීය. ඉන්
පසු සියොන් නම් දාවිත්ගේ පුරවර සිට
යෙහෝවාවහන්සේගේ ගිවිසුම් පෙට්ටි
ය ගෙනෙන්ට ඊශ්‍රායෙල්ගේ වැඩිමහල්
ලන් සැම ගෝත්‍ර මූලාදෑනින් ඊශ්‍රායෙල්
හි පවුල්වල පියවරුන් යෙරුසලමට එ
3 කතුකොට්ටෙවිය. සැම ඊශ්‍රායෙල් මි
නිස්සුද සත්වෙනි මාසේදී මහලෝය පි
4 නිස රජ්ජු වෙතට එකතුවූනෝය. ඊශ්‍රා
5 යෙල්හි සැම මූලාදෑනිද ආවෝය ලෙවි
වරුද පෙට්ටිය උසුලාගෙන ඒකත් ස
භාමඩපයත් මඩපයේ සැම පිරිසිදු භාජ
නත් යන දේවල් පූජකයෝද ලෙවිවරු
6 ද ගෙනාවෝය. සලමොන් රජද පෙට්
ටිය ඉදිරිපිට ඔහු වෙතට එකතුවූන සැ
ම ඊශ්‍රායෙල් සෙනගද කියනතාටවත්
ගණිනතාටවත් බැරි පමන බොහෝ බැ
7 ටළුවන් හරක් යාගකලෝය. පූජකයෝ
ද යෙහෝවාවහන්සේගේ ගිවිසුම් පෙට්
ටිය ගෙයි නියම ඉඩමට ඒනම් කෙරූ
බිම් අත්හැඳි යට ඉතා පිරිසිදු ස්ථානයේ
දේව වචන කියන තැනට ගෙනාවෝ
8 ය. කෙරුබිම්වල අත්හැඳි පෙට්ටිය ති
බෙන තැන උඩ දිගඇරුනේය කෙරූ
බිම් පෙට්ටියද එහි පොළුද උඩින් වසා
9 ගත්තේය. පොළු අග්ගිස් පෙට්ටියෙන්
පිට දේව වචන කියන තැන ඉස්සරහ
පෙනෙන්ට ඒ ලී ඇදගත්තෝය. නුමුත්
ඒවා පිට පැත්තේ පෙනුනේ නැත. මේ
10 වෙනකල් එහි තිබෙනතේය. ඊශ්‍රායෙල්
පුත්‍රයන් මිසරයෙන් පිටත්ව ආ වේලේ
යෙහෝවාවහන්සේ ඔවුන් සමග ගිවිසු
මක් කලවිට හෝරබ්හිදී මෝසෙස් තැ
බූ ගල් ලෑලි දෙක මිස පෙට්ටියේ වෙ
නවත් නොතිබුනේය.
11 එතන සිටි සැම පූජකයන් පිරිසිදුව
මුරෙන් මුරට නොසිටිය නිසා පූජකයන්
12 පිරිසිදු තැනින් පිට ආකල අසප්ගෙන්ද
හෙමන්ගෙන් යදුතුන්ගෙන් පැවතාවි
වූ ගී කියන ලෙවිවරුද ඔවුන්ගේ පුත්
තුද සහෝදරයෝද සුදු රෙදි ඇඳ අත්
තාල වීනා කුඩා වීනා ගෙන පූජාසනයට
පෙර දිගින් සිටියෝය. ඔවුන් ලඟට
පූජකයෝ එකසිය විස්සක් හොරනෑ පි
13 ඹිමින් සිටියෝය. යෙහෝවාවහන්සේට
ස්තුති ප්‍රසංසා කිරීමට එක ශබ්දයක්ව
ඇසෙන ලෙස හොරනෑ පිඹිනතාද ගී
කියනතාද එක්කෙනෙක් මෙන් සිටිද්
දී යෙහෝවාවහන්සේ යහපත්ය උන්ව
හන්සේගේ කරුණාව සදාකාලයටම පැ
වත්නේයයි කියා හොරනෑ අත්තාල වී
නා සමග තමන් ශබ්ද පවත්වා යෙහෝ
වාවහන්සේට ස්තුති කලවිට යෙහෝවා
වහන්සේගේ ගෙය වලාකුලෙන් පිරු
14 නේය. එහෙයින් පූජකයන්ට වලාකුල
නිසා වැඩට සිටින්ට බැරිවිය. මක්නිසා
ද යෙහෝවාවහන්සේගේ තේජසින් දෙවි
යන්වහන්සේගේ ගෙය පිරී තිබුනේය.

6. පරිච්ඡෙ. එවිට සලමොන් යෙ
හෝවාවහන්සේ ඝනාන්ධකාරයෙහි වා
2 සයකැයි උන්වහන්සේ කීසේක නුමුත්
ඔබවහන්සේගේ වාසයකිරීම පිණිස ගෙ
යක්ද සදාකාලයටම ඔබවහන්සේගේ
3 පදිංචියට ඉඩමක්ද සෑදුයෙමියි කීය. රජ
ද සැම ඊශ්‍රායෙල් සමූහව දෙසට හැරී
ආශීර්වාද කෙළේය. සැම ඊශ්‍රායෙල් සමූ
4 හවද කෙලින් සිටියෝය. රජද ස්
තොට මාගේ මිනිසුන් මිසරයෙන් ගෙ
5 නා දා සිට මාගේ නාමය එහි පවතින්ට
ඊශ්‍රායෙල්ගේ සැම ගෝත්‍රවලින් පුර
රක් තෝරාගෙනාගතිමියි කියාත් මාගේ
ඊශ්‍රායෙල් මිනිසුන්ට මූලාදෑනි වෙන්ට
6 කිසි මිනිහෙක් තෝරානොගතිමියි කි
යාත් මාගේ නාමය එහි පවතින්ට යෙ
රුසලම්ද මාගේ ඊශ්‍රායෙල් මිනිසුන්ට
මූලාදෑනියා වෙන්ට දාවිත්ද තෝරාගති
මියි කියාත් කීවාවූ මාගේ පිය දාවිත්ට
ඔබගෙන් කී දේ අතින් සිඩකලාවූ ඊශ්‍ර

යෙල් දෙවිවූ යෙහෝවාවහන්සේට ආ
7 ශීර්වාද වේවා. ඊශ්‍රායෙල්ගේ දෙවිවූ යෙ
හෝවාවහන්සේගේ නාමය උදෙසා
ගෙයක් සාදනතට මාගේ පිය දාවිත් හි
8 තට ගනත්ය. එහෙත් යෙහෝවාව
හන්සේ මාගේ පියවූ දාවිත්ට කථාකො
ට තෝ මාගේ නාමය උදෙසා ගෙයක්
සාදනතට තාගේ හිතේ තිබුන නිසා එ
සේ හිතීමෙන් යහපතක් කෙලෙහිය.
9 නුමුත් ඒ ගෙය තෝ නොසාදනෙනාහිය
තට දාව උපන් පුත්‍රයා මාගේ නාමය උ
දෙසා ඒ ගෙය සාදානත්යයි කීසේක.
10 මාගේ පිය දාවිත් වෙනුවෙන් මම නැගි
ට යෙහෝවාවහන්සේගේ පොරොන්දුව
ලෙස ඊශ්‍රායෙල් සිංහාසනයේ හිඳ ඊශ්‍රා
යෙල් දෙවිවූ යෙහෝවාවහන්සේගේ
11 නාමය උදෙසා ගෙයක් ගොඩනගා යෙ
හෝවාවහන්සේ ඊශ්‍රායෙල් පුත්‍රයන් ස
මග කල ගිවිසුම අඩංගුව තිබෙන පෙට්
ටිය එහි තැබීමි. ඒ නිසා යෙහෝවාව
හන්සේ විසින් කී වචන උන්වහන්සේ
සිඩකලසේකැයි කීය.

12 ඔහුද සෑම ඊශ්‍රායෙල් සමූදුව සහ යෙ
හෝවාවහන්සේගේ පූජාසනයද ඉදිරිපි
13 ට සිට අත් දික්කලේය. මක්නිසාද සල
මොන් පස් රියනක් දිග පස් රියනක් ප
ළල තුන් රියනක් උස පිත්තල අට්ටාල
යක් සාදා මළුව මැද තබා ඒ පිට සිටගෙන
සෑම ඊශ්‍රායෙල් සමූදුව ඉදිරිපිට දනගා
සා ස්වර්ගය දෙසට අත් ඔසවා කියනු
14 යේ ඊශ්‍රායෙල්ගේ දෙවිවූ යෙහෝවාව
හන්ස ඔබ ඉදිරිපිට තමන් මුළු හිතින්
පවතින ඔබගේ වැඩකාරයන් සමග ගි
විසුමද කරුණාවද පවත්වන ඔබ හා ස
මාන දෙවි කෙනෙක් ස්වර්ගයේවත්
15 පොළොවේවත් නැතෙත්ය. ඔබවහන්
සේගේ වැඩකාරවූ මාගේ පිය දාවිත්ට
පොරොන්දුවූන දේ ඔහු සමග පවත්වා ඔ
බවහන්සේගේම මුඛයෙන් කී දේ අද
16 තිබෙන ලෙස අතින් සිඩකලසේක. එ
බැවින් ඊශ්‍රායෙල් දෙවිවූ යෙහෝවාව
හන්ස ඔබගේ වැඩකාරවූ මාගේ පිය දා
විත්ට කථාකොට තා විසින් මා ඉදිරිපිට
පැවතුන ලෙස තාගේ දරුවෝත් මා
ගේ ව්‍යවස්ථාව පවත්වන්ට තමන්ගේ මා
ර්ගය කල්පනා කලොත්තම් ඊශ්‍රායෙල්
සිංහාසනයේ හිඳගන්නට මා ඉදිරිපිට ම
නුෂ්‍යයෙක් තට අඩුනොවේයයි කියන
ලද පොරොන්දුව ඔහු සමග පැවැත්වූව
17 මැනව. දැන් ඊශ්‍රායෙල් දෙවිවූ යෙහෝ
වාවහන්ස ඔබගේ වැඩකාර දාවිත්ට
18 කී ඔබගේ වචනය ඉෂ්ඨකලමැනව. එ
හෙත් පොළොවේ මිනිසුන් සමග දෙවි
යන්වහන්සේ සැබෑවටම වාසයකරණ
සේක්ද? බලව ස්වර්ගය සහ ස්වර්ගවල
ස්වර්ගය ඔබවහන්සේට ඉඩම් මදිය. මා
විසින් සෑදූ ගෙය ඊට වඩා කොපමන
19 මදි නොවේද? ඒ නිසා මාගේ දෙවිවූ
20 යෙහෝවාවහන්ස මාගේ නම එහි තබ
මියි ඔබ කී මේ ගෙය දෙසට රෑ දාවල්
ඔබගේ ඇස් ඇර ඔබගේ වැඩකාරයා
මේ ස්ථානයෙහිදී කරණ යාඥාවට ඇ
හුම්කන් දෙන ලෙස ඔබ ඉදිරිපිට ඔබ
වැඩකාරයාගේ අඩගැසීමද යාඥාවද අ
සා ඔබගේ වැඩකාරයාගේ යාඥාවද ක
21 න්නලව්වද සැලකුවමැනව. ඔබවහන්
සේගේ වැඩකාරයාද ඔබගේ ඊශ්‍රායෙල්
මිනිසුන්ද මේ ස්ථානයේදී කරණ කන්න
ලව් අසා ඔබ වසන ස්වර්ගයේ සිට ඇ
සුවමැනව අසා සමාවූවමැනව.

22 යමෙක් තමන් අසල්වාසියාට එදිරිව
පව්කල මිනිහෙකුට දිවුරන්ට සලස්වා
ඒ දිවිරීම පිනිස මේ ගෙයි ඔබගේ පූජා
23 සනය ඉදිරිපිටට ආවොත් ස්වර්ගයෙහි
සිට අසා නපුරට අව්වූ දෙමින් තමන්
ඉස පිට තමන් ක්‍රියාවට විපාක දී ධර්මි
ෂ්ඨයාට තමන් ධර්මිෂ්ඨකමට විපාක දී
මෙන් ඔහු නිදෝෂකරමින් ඔබගේ වැ
ඩකාරයන් විනිශ්චය කලමැනව.

24 ඔබගේ ඊශ්‍රායෙල් මිනිසුන් ඔබට එදිරි
ව පව්කල නිසා සතුරන්ට පැරදුනාම ඔ
වුන් හැරී ඔබගේ නම මතක්කොට මේ
ගෙයි ඔබ ඉදිරියෙහි යාඥා කන්නලව් ක
25 ලොත් ස්වර්ගයේ සිට අසා ඔබගේ ඊශ්‍රා
යෙල් මිනිසුන්ගේ පාපය සමාවී ඔවුන්
ටත් ඔවුන්ගේ පියවරුන්ටත් දුන් රටට
ඔවුන් නැවත ගෙන ගියමැනව.

26 ඔවුන් ඔබට එදිරිව පව්කල නිසා අහ
ස පියවී වරුෂාව නැතිවිටද ඔබවහන්
සේ ඔවුන්ට පීඩාකරණ කල්හිද ඔවුන්
මෙතනට හැරී යාඥාකරමින් ඔබගේ
නාමය මතක්කොට තමන්ගේ පාප
27 යෙන් හැරුනොත් ස්වර්ගයේ සිට අසා
හැසිරිය යුතු යහපත් මාර්ගය ඔවුන්ට
උගන්වා ඔබගේ වැඩකාරයන්ගේද ඊශ්‍රා
යෙල් මිනිසුන්ගේද පාපය සමාවී ඔබ
ගේ මිනිසුන්ට උරුමයට දුන් ඔබගේ
රටට වැසි වැස්සුවමැනව.

28 රටේ සාගතයක්වත් වසංගතයක්වත්
ගොයමට මල්ලාවවත් කළුදඹාවවත් ප
ලඟැටියෝවත් පනුවෝවත් අටගත්
තොත් ඔවුන්ගේ රටේ නුවරවල සතු
රෝ ඔවුන් වටකරන්නාහුනම් කිසියම්
29 රෝග පීඩා පැමුනුනොත් එක එකා ත
මතමාගේ ගාය පීඩා දැනගෙන මේ ගේ
30 දිහාවට අත එසෙව්විට ඔබ අපේ පියව
31 රුන්ට දුන් රටේ ඔවුන් ජීවත්වෙන සෑ
ම දවසවලදී ඔබගේ මාර්ගවල පැවත
ඔබට භයවෙන පිනිස මිනිහෙකුවත් ඔබ
ගේ සෑම ඊශ්‍රායෙල් මිනිසුනුවත් කරණ
යාඥා කන්නලව් ඔබ වසන ස්වර්ගයේ
සිට අසා සමාවුවමැනව. ඔබ පමනක්
මිනිසුන්ගේ සිත් දන්නා හෙයින් සිත්
දන්නාවූ ඔබවහන්සේ සෑම මිනිසුන්ට
තමතමන් මාර්ගවල් ලෙස විපාක දුන
මැනව.
32 ඔබගේ ඊශ්‍රායෙල් මිනිසුන්ගෙන් නො
ව ඔබගේ මහත් නම ගැනද බලවත්
අත ගැනද දිගුකල බාහුව ගැනද දුරු
රටින් ආ දේසක්කාරයෝ ඇවිත් මේ
33 ගෙයිදී යාඥාකලෝනම් සියළු පොලො
වේ මිනිසුන් ඔබගේ ඊශ්‍රායෙල් මිනිසුන්
මෙන් ඔබ ඇඳිනගෙන භයව මා විසින්
සෑදූ මේ ගෙය ඔබගේ නාමය ධරණවා
යයි දැනගන්නා පිනිස ඔබ වසන ඉඩම
වන ස්වර්ගයේ සිට අසා දේසක්කාරයා
ඔබවහන්සේට යාඥාකල සියල්ල ලෙස
කලමැනව.
34 ඔබගේ මිනිස්සු ඔබ යවන මාවතින්
තමන් සතුරන්ට එදිරිව සටනට පිටත්
යන්නාහුනම් ඔබ තෝරාගත් මේ නුව
ර දෙසටද ඔබගේ නාමය උදෙසා මා
විසින් සෑදූ ගේ දෙසටද හැරී ඔබට යා
35 ඥාවූනොත් ස්වර්ගයේ සිට ඔවුන්ගේ
යාඥා කන්නලව් අසා ඔවුන්ගේ කාරණ
36 ව සවිකලමැනව. පව් නොකරණ මිනි
හෙක් නැති නිසා ඔවුන් ඔබවහන්සේ
ට එදිරිව පව්කලොත් ඔබ ඔවුන්ට උද
හසව සතුරන්ට පාවාදුන්නොත් සතු
රෝ ඔවුන් වාල්කර දුරවත් ලඟවත් ර
37 ටකට ගෙන ගියෝනම් ඔවුන් වාල්කර
ගෙන ගිය රටේදී ඔවුන්ට සිහිවී පාපය
ද වැරදිද නපුරද කලෙමුව කියා පශ්
38 චාත්තාපව ඔවුන් වාල්කර ගෙනගිය
ඇත්තන්ගේ රටේදී ඔබ වෙතට හැරී
කන්නලව් කලොත් වාල්කර ගෙන ගි
ය සතුරන්ගේ රටේදී තමන් මුළු සිතෙ
න්නුත් ආත්මයෙනුත් ඔබ දෙසට හැරී ත
මන් පියවරුන්ට ඔබ දුන් රට දෙසද
ඔබ තෝරාගත් නුවර සහ ඔබගේ නා
මය උදෙසා මා විසින් සෑදූ ගෙය දෙසද
බලා ඔබට යාඥාකලොත් ඔබ වසන ස්ව
39 ර්ගයේ සිට ඔබට එදිරිව පවුකල ඔබ
ගේ මිනිසුන්ගේ යාඥා කන්නලව් අසා
ඔවුන්ට සමාවී ඔවුන්ගේ කාරණවා
40 පිහිටවූවමැනව. දැනුත් මාගේ දෙවියන්
වහන්ස ඔබගේ ඇස් හැර මෙතන කර
41 ණ යාඥාවට ඇහුම්කන් දුනමැනව. ඒ
නිසා දැන් දෙවිවූ යෙහෝවාවහන්ස ඔ
බගේ ශක්තියෙහි පෙට්ටියද ඔබගේ
නිවාඩූ තැනට නැගී ගියමැනව. දෙවි
වූ යෙහෝවාවහන්ස ඔබගේ පූජකයෝ
ගැලවීමෙන් සැරහෙත්වා ඔබගේ පිරිසි
දු ඇත්තෝ යහපත්කමෙන් සතුටුවෙ
42 ත්වා. දෙවිවූ යෙහෝවාවහන්ස ඔබගේ
අභිෂේක ලත් තැනැත්තාගේ මූන නො
හැරවූවමැනව ඔබගේ වැඩකාර දවිත්
කෙරෙහි පැවැත්වූ කරුණාවල් සිහිකල
මැනවයි කීය.

7. පරිච්ජ. සලමොන් යාඥාව සම්
මුතුකලවිට අහසින් ගිනි බැස ඇවිත් ද
වන පූජාවද යාගවල්ද පිළිස්සුවේ
යෙහෝවාවහන්සේගේ තේජසින් ගෙ
2 ය පිරුනේය. යෙහෝවාවහන්සේගේ
තේජසින් යෙහෝවාවහන්සේගේ ගෙ
ය පිරී තිබුන නිසා පූජකයන්ට යෙහෝ
වාවහන්සේගේ ගෙට ඇතුල්වෙන්
3 බැරිවිය. සෑම ඊශ්‍රායෙල් පුත්‍රයෝද බැ
ආවාවූ ගිනිද මාලිගාව පිට තිබුන යෙ
හෝවාවහන්සේගේ තේජසද දැක ග
ඩොල් අතුල බිමට තමන් මූන නමා
ද උන්වහන්සේගේ කරුණාව සදාකල්
පවතින නිසා උන්වහන්සේ යහපත්
කැයි කියමින් යෙහෝවාවහන්සේට ප්‍ර
4 සංසා කලෝය. එවිට රජද සියළු මිනි
සුද යෙහෝවාවහන්සේ ඉදිරියෙහි
5 ග පූජා කලෝය. සලමොන් රජදහරද
විසිදෙදහක්ද එක්ලක්ෂ විසි දහක් බැ
ටළුවන්ද ගෙන යාගයක් පූජාකලෝ
ය. මෙසේ රජද සෑම මිනිස්සුද දෙවි
6 යන්වහන්සේගේ ගේ කැපකලෝය. පූ
ජකයෝද තමන් තනතුරු ලෙස කලෝ
ය. යෙහෝවාවහන්සේගේ කරුණාව
සදාකල් පවතින නිසා දවිත් ලෙවී
රුන් ලවා ප්‍රසංසා කෙරෙව් විට දවිත්

රජ් යෙහෝවාවහන්සේට ස්තුතිකිරීම
පිනිස සාදවා තිබුන යෙහෝවාවහන්
සේගේ තූර්යභාණ්ඩ ලෙවිවරු ගෙන ගා
යනාකලෝය. පූජකයෝද ඔවුන් ඉදිරි
7 පිට හොරනෑ ගෙන පිඹෝය. සෑම ඊශ්‍රා
යෙල්වරුද සිටියෝය. තවද සලමොන්
තමා විසින් සෑදෙව් පිත්තල පූජාසනය
දවන පූජාවලත් කෑම පූජාවලත් තෙලත්
ධරන්ට මදි නිසා දවන පූජාවලත් ශාන්
ති පූජාවල තෙලත් පූජාකිරීමට යෙහෝ
වාවහන්සේගේ ගේ ඉදිරිපිට තිබුන ම
8 එලේ මැද පවිත්‍ර කෙලේය. ඒ අවස්ථා
වේම සලමොන් සත් දවසක් මඟුල් පැ
වැත්විය සෑම ඊශ්‍රායෙල්වරු හමත්ට ය
න තැන් සිට මිසරයේ ගඟ දක්වා බො
9 හෝ සමූහයක් ඔහු සමඟ සිටියෝය. ස
තියක් පූජාසනය කැපකිරීමේ මඟුල්ද
සතියක් මඟුල්ද පැවැත්වූ නිසා අටවෙ
නි දා පවිත්‍ර එකතුකිරීමක් නියමකලෝ
10 ය. තවද යෙහෝවාවහන්සේ දාවිත්ටත්
සලමොන්ටත් තමන්වහන්සේගේ ඊශ්‍රා
යෙල් මිනිසුන්ටත් පෙන්නූ යහපත්කම
ට පැහැදුන සිතින් සතුටුවූ මිනිසුන් ත
මතමන් කූඩාරම්වලට හත්වෙනි මාසේ
11 විසිතුන්වෙනි දා ඇරියේය. මෙසේ සල
මොන් යෙහෝවාවහන්සේගේ ගෙයත්
රජ ගෙයත් යෙහෝවාවහන්සේගේ
ගෙයිද තමන් ගෙයිද කරන්නට සල
මොන් සිතූ සෑම වැඩත් සුවසේ සාදා නි
මකෙලේය.

12 යෙහෝවාවහන්සේද රෑ සලමොන්
ට පෙනී තාගේ යාච්ඤාව අසා මේ ඉඩම
මට යාගකරන ගෙයක් කොට තෝරා
13 ගතිමි. වැසි නොවසිනතට අහස වැසූ
වොත් රට නැතිකිරීමට පලගැටියන්ට
අන දුනොත් මාගේ මිනිසුන්ට වසං
14 ගතය පැමිනෙව්වොත් මාගේ නම ලත්
මාගේ මිනිස්සු යටත්ව තමන් නපුරු
මාර්ගවලින් හැරී යාච්ඤාවෙන් මාගේ මූ
න බලන්නම් මම ස්වර්ගයේ සිට අසා
ඔවුන්ගේ පව් ක්ෂමාවී රට සුවපත් කර
15 නෙතමි. මාගේ නම සදාකල් පවතිනතා
ට මා විසින් තෝරාගත් මේ ගෙය පවි
16 ත්‍රකෙලෙමි. ඒ නිසා මෙතන කරන යා
ච්ඤාවට මාගේ ඇස් ඇර කන් දෙමි. මා
17 ගේ ඇස්ද සිතද නිතරම එහි වෙති. ත
වද තාගේ පිය දාවිත් පැවතුනු ලෙස මා
ඉදිරිපිට පැවතුනෙහිනම් මා විසින් තට
අනකල සියල්ල කර මාගේ පනතවලත්
විනිශ්චයවලත් රක්ෂාකරනෙහිනම් ඊ
18 ශ්‍රායෙල්හි මූලාදෘනිකමට කෙනෙක් ත
ට අඩුනොවේයයි කියමින් තාගේ පිය
දාවිත් සමඟ පොරොන්දුවූන ලෙස තා
19 ගේ රාජ සිංහාසනය පිහිටුවනෙතමි. එ
හෙත් මා විසින් තොප ඉදිරිපිට තැබූ
මාගේ පනතවල්ද අනද අත්ඇර වෙන
දෙවියන් අතට හැරී වැඩ හා නමස්කා
20 ර කලොත් ඔවුන්ට දුන් රටින් මුලින්
උදුරා මාගේ නමට මා විසින් පවිත්‍රකල
මේ ගේත් මා ඉදිරිපිටින් අහක දමා
සෑම ජාතීන් අතරේ කටින් කටට කීමක්
21 ද කවටකමක්ද කරනෙතමි. යෙහෝ
වාවහන්සේ මේ රටටත් මේ ගෙටත්
මෙසේ කලේ මන්දැයි කියන තරම් මෙ
හි යන එන සැමොටම මේ උස් ගේ ම
22 විතයක් වේ. එකල මිනිස්සු කථාකො
ට ඔවුන් මිසර රටින් ගෙනා තමන් පිය
වරුන්ගේ දෙවිවූ යෙහෝවාවහන්සේ
අත්ඇර වෙන දෙවියන් හදාගෙන අදහා
වැඩකල නිසා උන්වහන්සේ ඔවුන්ට මේ
සෑම නපුර පැමිනවූසේකැයි උත්තර දෙ
නොතෝයයි ඔහුට කියේක.

8. පරිච්ඡේ. තවද සලමොන් යෙහෝ
වාවහන්සේගේ ගේද තමන් ගේද සෑ
දූ විසි අවුරුද්දකට පසු හූරම් විසින්
2 සලමොන්ට දෙවිනූ දුන් නුවරවල් ස
ලමොන් අළුත්වැඩියාකොට එහි ඊශ්‍රා
3 යෙල් පුත්‍රයන් සිටෙව්වේය. සලමොනු
හමත් සොබාට එදිරිව ගොස් ජයගත්
4 තේය. වනාන්තරයෙහි තද්මෝර්ද හ
මත්හි ගබඩා නුවරවල්ද සාදා ඉහළ ප
5 හළ බෙත්හොරොන් යන පව්රු දොර
වූ අගුළු ඇති සුරක්ෂිත නුවරවල්ද බා
ලත්ද සලමොන්ට අයිති සෑම ගබඩා
6 නුවරවල්ද සියළු රථ අසරුවන් සිටින නු
වරවල්ද යෙරුසලමෙත් ලෙබනොන්
හිත් තමාගේ ආඥාව පවතින රට මුළු
ල්ලේත් සලමොන් සාදන්ට කැමති සිය
7 ල්ලද සෑදිය. ඊශ්‍රායෙල්ගෙන් නොවූ හි
ත්තිවරුන්ගෙන්ද අමෝරිවරුන්ගෙන්ද
පෙරිසිවරුන්ගෙනුද හිව්වරුන්ගෙන්ද
යෙබූසිවරුන්ගෙනුද ඊශ්‍රායෙල් පුත්‍රයන්
8 විසින් නැතිනොකර රටේ සිටින්ට හැ
රියවූන්ගේ දරුවන්ගෙන්වූ ඉතිරි සෑ
ම මිනිසුන්ගෙන් අද දක්වා අයබදු ගන්
9 නට සලමොන් නියමකෙලේය. එහෙත්
සලමොන් ඊශ්‍රායෙල් පුත්‍රයන්ගෙන් ත

මත් වැඩට දාසයන් නොගත්තෝය ඔ
වුන් යුධකාරයෝද ප්‍රධාන සේනාපති
යෝද රථ අසරුවන්ගේ මූලාදෑනීද වූ
10 නෝය. මිනිසුන් ආඥාකරණ සලමොන්
රජුගේ ප්‍රධාන මූලාදෑනී දෙසිය පනහ
11 ක. සලමොන් යෙහෝවාවහන්සේගේ
ගිවිසුම්පෙට්ටිය පිහිටි තැන පිරිසිදු නි
සා මගේ ස්ත්‍රිය ඊශ්‍රායෙල්හි දාවිත් රජු
ගේ ගෙයි සිටින්ට නුසුදුසුය කියා ඈට
සෑදූ ගෙට ඵාරවෝගේ දුව දාවිත්ගේ
12 නුවරින් පිට ගෙනාවේය. එකල සල
මොන් බරණ්ඩේ ඉදිරිපිටින් තමා විසින්
සෑදූ යෙහෝවාවහන්සේගේ පූජාසනය
13 පිට සබත්ලදීද අමාවක්වලදීද ඈඹුල්
පිටි නුමුසු රොටිවල මගුලත් සතිවල ම
ගුලත් වඩපවල මගුලත් යන අවුරුද්ද
ට තුන් වතාවක් කරණ මහ මගුල්වලදී
ද මෝසෙස්ගේ ආඥාව ලෙස සෑම දව
සවලදීද නියමේ ප්‍රකාරයට පූජාකරණ ද
වස පූජාවල් යෙහෝවාවහන්සේට පිදී
14 ය. තමන් පිය දාවිත්ගේ නියමය ලෙස
ඔවුනොවුන්ගේ වැඩට පූජකයන්ගේ
නියමද දවස්පතා කලමනා සිරිත් ප්‍රකා
රයට පූජකයන් ඉදිරිපිට ප්‍රසංසාකිරීම
වත් සේවයකිරීමටත් ඔවුන්ගේ බාරය
ට ලෙවීවරුන් සෑම දොරටුවලට ඔවු
නොවුන්ගේ නියමයට දොර රකින්නනු
නියමකලේය මක්නිසාද දෙවියනවහන්
සේගේ මනුෂ්‍යයාවූ දාවිත් මෙසේ අන
15 කලේය. ඔවුහු කොයි කාරණාවක් අ
රමුදලක් ගැන පූජකයන්ටත් ලෙවීව
16 රුන්ටත් රජු දුන් ආඥාව අත්නැරියෝ
ය. යෙහෝවාවහන්සේගේ ගෙයි අත්
තිවාරම තිබූ දා සිට ඒක නිමවනතුරු
සලමොන් විසින් සෑම දේ සූදානම්කර
තිබුණේය. මෙසේ යෙහෝවාවහන්සේ
ගේ ගෙය නිමවිය.

17 එකල සලමොන් එදෙම් රටේ මූදුබ
ඩ එසියොන් ගෙබෙර්ටත් එලොත්ටත්
18 ගියේය. හූරම්ද තමන් වැඩකාරයන්
අත නැව්ද මූදේ පුරුදු වැඩකාරයන් ස
ලමොන්ට හැරියේය. ඔවුහු සලමොන්
ගේ වැඩකාරයන් සමග ඔපිර්ට ගොස්
එතනින් රන් තලෙන්ත හාරසිය පන
හක් අරන් සලමොන් රජු ලඟට ගෙ
නාවෝය.

9. පරිච්ඡෙ. තවද සෙබාහි බිසෝ ස
ලමොන්ගේ කීර්තිය අසා මහත් සේන
ගක් පිරිවර සුවඳ බඩු උසුලන ඔටුවනු
බොහෝ රන්ද අගේ ඇති ගල්ද අරන්
අසීරු ප්‍රශ්ණවලින් සලමොන් විමසන
පිනිස යෙරුසලමේ සලමොන් ලඟට ඇ
විත් සිතාපු සියල්ල ගැන ඔහු සමග ක
2 ථාකලාය. සලමොන් ඈගේ සෑම ප්‍රශ්ණ
තෝරාදුන්නේය කියන්ට නොහැකිවූ
3 කිසිවත් නොතිබුණේය. සෙබාහි බිසෝ
4 සලමොන්ගේ ඥානයද ඔහු විසින් සෑදූ
ගෙයද ඔහුගේ මේසයේ කෑමද වැඩ
කාරයන්ගේ හිඳීමද ඇමතියන්ගේ වැ
ඩ හා ඇඳුම්ද ඔහුගේ පාත්‍ර ධරන්නන්
හා ඇඳුම්ද යෙහෝවාවහන්සේගේ ගෙ
ට නගින හිනද දැක ඈට සිහිනැතිවිය.
5 ඈද ඔබගේ ක්‍රියාවලුත් ඥානයත් ගැන
6 මගේ රටේ මා ඇසූ පවත් සැබෑය. නු
මුත් ඇවිත් ඇසින් දකිනකල් ඔවුන්ගේ
වචන විශ්වාස නොකලෙමි ඔබගේ ඥා
නයේ මහත්කමින් පංගුවක්වත් මට
නොඇසිමි මා ඇසූ පවත්වලට වඩා ඔ
7 බ මහත්ය. ඔබගේ මිනිස්සු ඔබ ඉදිරිපි
ට නිතරම සිට ඔබගේ ඥානය අසන මේ
ඔබගේ වැඩකාරයෝද වාසනාවන්ත
8 යෝය. ඔබගේ දෙවිවූ යෙහෝවාවහන්
සේ වෙනුවට රජවෙන ලෙස උන්වහන්
සේගේ සිංහාසනයේ ඔබ තබන පිනිස
ඔබ කෙරෙහි ප්‍රියවූ ඔබගේ දෙවිවූ යෙ
හෝවාවහන්සේට ස්තුතිවේවා. ඊශ්‍රා
යෙල් නිතරම පිහිටුවන තරම් උන්වහන්
සේ ඔවුන්ට සෙනේහකල නිසා දැහැමෙන්
සෙමෙන් ඔවුන්ට රජකම්කරණ පිනිස
9 ඔබ පත්කලසේකැයි රජුට කීවාය. ඈ
ද රන් තලෙන්ත එකසිය විස්සකුත් බො
හෝ සුවඳ බඩුත් අගේ ඇති ගලුත් රජු
ට දුන්නාය. සේබාහි බිසව විසින් සල
මොන්රජුට දුන් සුවඳ බඩු මෙන් සුවඳ බ
10 ඩු නොතිබුණේය. ඔපිර් සිට රන් ගෙනා
වාවූ හූරම් වැඩකාරයෝද සලමොන්
ගේ වැඩකාරයෝද අල්ගුම් ගසුත් අගේ
11 ඇති ගලුත් ගෙනාවෝය. රජුද අල්ගුම්
ගස්වලින් යෙහෝවාවහන්සේගේ ගෙ
වත් රජ ගෙටත් ආලඹනද ගිතිකාවට කු
ඩා වීනාද සෑදීය. ඊට පලමුවෙන් යූදා ර
12 ටේ එසේවූ ගස් දුටුවේ නැත. සලමොන්
රජුට සේබා බිසව විසින් ගෙනාවාවූ දේ
වලට සුදුසු දේ හැර ඈ ඉල්ලූ ඈගේ සි
යළු අභිප්‍රාව ලෙස ඈට දුන්නේය ඈද
හැරී ඈගේ වැඩකාරයන් සමග තමන්
රටට ගියාය.

13 තවද වෙළෙන්දන් සහ ඇවිදින වෙළෙඳුන්ද ගෙනෙන රන් හැර අවුරුදු 14 පතා සලමොන්ට ගෙනාවාවූ රන් බර තලෙන්ත හසිය හැට හයක්ය අරාබියෙහි සෑම රජදරුවෝද මූලාදෑනිද රන් රිදී 15 සලමොන්ට ගෙනාවෝය. සලමොන් රජද තැළූ රනින් පලිස් දෙසියක් සෑදිය පලිහකට තැළූ රන් ෂෙකෙල් හසි 16 යයක් ගියේය. තැළූ රනින් කුඩා පලිස් තුන්සියයක්ද සෑදීය. රන් ෂෙකෙල් තුන්සියයක් කුඩා පලිහකට ගියේය. රජ්ජුද ලෙබනොන් වනයේ ගෙයි ඒවා 17 තැබීය. රජද ඇත්දතින් මහත් සිංහා 18 සනයක් සාදා පවිත්‍ර රනින් වැසීය. ඒ සිංහාසනයට අඩි හයකුත් රන් පාපුටුවකුත් හිඳින තැන දෙපැත්තෙන් අත්දඬුත් 19 අත්දඬු ළඟ සිංහ රූප දෙකකුත් දෙපැත්තෙන් අඩි හය පිට සිංහ රූප දොළහකුත් තිබුණේය. කොයි රාජ්‍යයකවත් එ 20 යාකාර දේ සාදනු නොලද්දේය. සලමොන් රජ්ජුගේ සෑම බොන භාජනද ලෙබනොන් වනයේ ගෙයි සෑම භාජ 21 නද පවිත්‍ර රනින් විය. රිදියෙන් කිසි භාජනයක් නොතිබුණේය සලමොන්ගේ දවස්වලදී රිදී අගයක් නැත්තේය. රජ්ජුගේ නැව් හූරම්ගේ වැඩකාරයන් සමග තර්ෂිස්ට ගොස් තුන් අවුරුද්දකට වරක් රන් රිදීද ඇත්දත්ද වඳුරනු මොන 22 රුන්ද ගෙනාවෝය. පොළොවේ සෑම රජ්ජුන්ට වඩා සලමොන් රජ වස්තුවෙනුත් 23 ඥානයෙනුත් උතුම්විය. පොළොවේ සෑම රජදරුවෝ සලමොන්ගේ හිතේ දෙවියන්වහන්සේ තැබූ ඥානය අසන පිණිස ඔහු දකිනතට ගොස් රන් රිදී භාජන ව 24 ස්ත්‍ර ආයුධ සුවඳ බඩු අශ්වයන් අශ්වතරයන් යන තෑගි එකිනෙකා අවුරුදුප 25 තා නියමයට ගෙනාවෝය. සලමොන්ගේ අශ්වරථවලට අස්පන්ති හාරදහකුත් දොළොස් දහසක් අසරුවොත් වූවෝය. ඔහුද නුවරවලද යෙරුසලමේ 26 රජ්ජු ළඟද රථ සිටෙවුවේය. ඔහුද ගඟපටන් පිලිස්තිවරුන්ගේ රටටත් මිසර සීමාවටත් සියළු රජ්ජුන් කෙරේ ආඥාකෙ 27 ළේය. රජද පාත බිම්වල සිකම් ගස් බොහෝ මෙන් කිහිරි ගස්ද යෙරුසල 28 මේ ගල් මෙන් රිදීද බෝකෙළේය. ඔවුන්ද මිසරයෙනුත් සෑම රටවලිනුත් අ 29 ශ්වයන් සලමොන්ට ගෙනාවෝය. මුල පටන් අන්තිම දක්වා සලමොන්ගේ අනික් ක්‍රියාවල් නාතාන් අනාගතවක්තෘගේ පොතේද සිලෝනිය අහියාගේ අනාගත වචනයේද නේබත් පුත් යෙරොබෝවම්ට එදිරිව ඉද්දෝ නම් දිවස් ඇත්තාගේ දිවස්වලද ලියා තිබෙනොත් නො 30 වේද සලමොන් මුළු ඊශ්‍රායෙල්ට යෙරුසලමේ හතළිස් අවුරුද්දක් රජකම් 31 කර මැරුණේය. තමන් පිය දාවිත් නුවර ඔහු තැන්පත්කරනු ලැබීය ඔහු පුත් රෙහොබෝවම්ද ඔහු හිලව්වට රජකම් කෙළේය.

10. පරිච්. තවද සෑම ඊශ්‍රායෙල්වරු රෙහොබෝවම් රජකමට පත්කරණ පිණිස ෂෙකෙම්ට ආවෝය රෙහොබෝවම්ද ෂෙකෙම්ට ගියේය. සලමොන් ර 2 ජ්ජු ළඟින් හැංගී ගොස් මිසරයේ සිටියාවූ නේබත්ගේ පුත් යෙරොබෝවම් ඒ 3 අසා මිසරයෙන් හැරී ආයේය. ඔවුහු පණිවිඩකාරයන් යවා ඔහු කැඳෙව්වෝය. යෙරොබෝවම්ද සෑම ඊශ්‍රායෙල්ද ඇවිත් රෙහොබෝවම්ට කථාකොට ඔබගේ පියානෝ අපේ වියගහ බරකෙළේ 4 ය ඒ නිසා ඔබ පියාගේ තිරිහැර වැඩද අප පිට තැබූ ඔහුගේ බර වියගහද මදක් සැහැල්ලුකලමැනව එවිට අපි ඔබ 5 ට වැඩකරමුයයි කීවෝය. ඔහුද තුන් දවසකින් පසු මා ළඟට වරෙල්ලායයි ඔ 6 වුන්ට කීය මිනිස්සුද ගියෝය. රෙහොබෝවම් රජද මා විසින් මේ මිනිසුන්ට උත්තර දෙන ලෙස නුඹලාගේ දැනිමිතිකම මොකදැයි තමන් පිය සලමොන් ජීවත්ව සිටිද්දී ඉදිරිපිට සිටි මහළු මිනිසුන් 7 ගෙන් නුවන ඇසීය. ඔවුන් මේ මිනිසුන්ට කරුණාවී ඔවුන් සතුටුකොට හොඳ වචනවලින් කථාකරනොතොත් තම ඔවුන් නිතරම ඔබගේ වැඩකාරයෝ වෙතියි 8 ඔහුට කීවෝය. එහෙත් ඔහු මහළු මිනිසුන් විසින් දුන් දැනිමිතිකම හැර ඔබ 9 ගේ පියානන් විසින් අප පිට තැබූ වියගහ මදක් සැහැල්ලු කලමැනවයි මට කී මේ මිනිසුන්ට උත්තර දෙනතට නුඹලාගේ දැනිමිතිකම මොකදැයි තමන් සමග හැදී ඉදිරිපිට සිටි ඉළන්දාරි මිනි 10 සුන්ගෙන් ඇසීය. ඔහු සමග හැදුනු ඉළන්දාරි ඔහුට කථාකොට ඔබගේ පියාණෝ අපේ වියගහ බරකෙළේය එහෙත් ඔබ ඒක ටිකක් සැහැල්ලුකල මැනවයි ඔබට කී මේ මිනිසුන්ට උත්තර

දෙමින් මාගේ පියානන්ගේ තුනටියට
වඩා මගේ හුළගිල්ල මහත්ය මගේ පියා
11 නෝ තුබලා පිට බර වියගහක් තැබිය
මම තුබලාගේ වියගහ වඩා මහත්කර
මි මගේ පියානෝ තුබලාට කසවලින්
අච්චුකෙලේය මම ගෝනුස්සන්ගෙන්
අච්චුකරනෙනම්යි ඔවුන්ට කියාපනතැ
12 යි කීවෝය. තුන්වෙනි දා මා ලඟට ව
රෙල්ලායයි රජ්ජු අනකල ලෙස යෙරෙ
බෝවම්ද සෑම මිනිස්සුද රෙහොබෝ
13 වම ලඟට ආවෝය. රෙහොබෝවම් ර
ජද මහළු මිනිසුන්ගේ දූනිම්තිකම අත්
හැර ඉලන්දරීන්ගේ දූනිම්තිකව ලෙ
14 ස තදින් ඔවුන්ට උත්තර දෙමින් මාගේ
පියානෝ තුබලාගේ වියගහ බරකෙ
ලේය මම තුබලාගේ වියගහ වඩා මහත්
කරනෙනම් මාගේ පියානෝ තුබලාට
කසවලින් අච්චුකෙලේය මම ගෝනුස්
සන්ගෙන් තුබලාට අච්චුකරනෙනම්යි
15 කීයේය. යෙහෝවඃවහන්සේ සිලෝනි
ය අහියඃ ලවා නේබත් පුත් යෙරෙබෝ
වම්ට කියෙව් උන්වහන්සේගේ කීම ඉ
ෂ්ටකරණ පිනිස ඒ කාරණව දෙවියන්
වහන්සේගෙන් විය. ඒ නිසා රජ මිනි
සුන්ට ඇහුම්කන් නුදුනෙන්ය.

16 සෑම ඊශ්‍රායෙල්වරු රජ්ජු ඔවුන්ට ඇ
හුම්කන් නුදුන් බව දැක රජ්ජුට උත්තර
දෙමින් දාවිත්ගෙන් අපට මොන පංගු
වක්ද යෙස්සේගේ පුත්‍රාගෙන් අපට උ
රුමයක් නැත. ඊශ්‍රායෙල්වරුනි තුබලා
ගේ කූඩාරම්වලට පලයල්ලාය දාවිත් ඔබ
ගේ වංශය රැක්කමැනවයි කීවෝය. මෙ
සේ ඊශ්‍රායෙල් සෑවෝම තමතමන්ගේ
17 කූඩාරම්වලට ගියෝය. එහෙත් යූදඃ නු
වරවල වාසයකරණ ඊශ්‍රායෙල් පුත්‍රයන්
කෙරෙහි රෙහොබෝවම් රජකම් කෙ
18 ලේය. එවිට රෙහොබෝවම් රජ අයබ
දු මූලාදෑනිවූ අදෝරම් යැවිය. ඊශ්‍රායෙල්
පුත්‍රයෝද ඔහුට ගල් ගසා මැරුවෝය.
එහෙත් රෙහොබෝවම් රජ යෙරුසල
මට හැංගී යන්ට ඉක්මනින් රථයට නැං
19 ගේය. මෙසේ ඊශ්‍රායෙල්වරුද දාවිත්ගේ
වංශයට එදිරිව මේ වෙනතුරු කැරලි
ගැහුවෝය.

11 පරිච්ඡේ. රෙහොබෝවම යෙරු
සලමට ආකල රාජ්‍යය දෙවනු ගන්නා
පිනිස එක් ලක්‍ෂ අසූ දහක් තෝරාගත්
යුධකාරයන් ඊශ්‍රායෙල්ට එදිරිව යුධක
රණ පිනිස යූදඃ සහ බෙන්යමින්ගේ ව
2 ංශවලින් එක්කාසුකෙලේය. එහෙත්
යෙහෝවඃවහන්සේගේ වචනය දෙවිය
න්වහන්සේගේ මනුෂ්‍යයාවූ සෙමයඃ ෙව
3 තට පැමිනු යූදාගේ රජවූ සලමොන්ගේ
පුත් රෙහොබෝවමටත් යූද සහ බෙන්
යමින්ගේ වංශයේ සියල්ලන්වත් කථා
කොට තොපගේ සහෝදරයන්ට විරු
4 ධව යුධකරණ පිනිස නොගොස් සියල්
ලෝම තමතමන්ගේ ගේවලට හැරීයව්
මේ කාරණව මාගෙන්යයි යෙහෝවඃ
වහන්සේ කියන බව කියවයි කීයේය.
ඔවුහු යෙහෝවඃවහන්සේගේ වචනය
සා යෙරොබෝවමට එදිරිව යාමෙන් හැ
5 රී ගියෝය. රෙහොබෝවම්ද යෙරුස
ලමේ පදිංචිව යූදඃ රක්‍ෂාකරණ පිනිස නු
6 වරවල් සෑදීය. බැත්ලෙහෙම් ඒතම් ත
7 කොවා බැත්සූර් සොකෝ අදුලම් ගත්
8 මරෙසඃ සිප් අදෝරයිම් ලකිස් අසෙ
9 සොරඃ අයලොන් හෙබ්‍රොන් යන යූද
හිද බෙන්යමින්හිද තිබෙන සුරක්‍ෂිත
10 නුවරවල් සාදා ආරක්‍ෂා තැන් සවිසා
11 සේනානායකයනුත් බොහෝ කනබ
12 න දේත් තෙල් මිදිරසත් එහි තිබා යූ
දඃ සහ බෙන්යමින් තමින් පැත්තට ග
නෙත්ය ඒ නිසා සෑම නුවරවල් සවිසො
ට එහි පලිස්ද හෙල්ලද තිබුයේය. ඊශ්‍රා
13 යෙල් මුළුලෙහි සිටි පූජකයෝද ලේ
වරුද තමන් සෑම රටවලින් ඔහු ලඟ
14 ගියෝය. යෙරොබෝවම් හා ඔහුගේ
පුතුන් විසින් යෙහෝවඃවහන්සේට පූ
ජක කමෙන් ඔවුන් අහක දැමූ නිසා
ලෙවිවරු තමන් පිටි නුවරද උරුමය
හැර යූදඃටත් යෙරුසලමටත් ආවෝ
15 ය. යෙරොබෝවම්ද උස් තැන්වලටද
ක්‍ෂයන්ටද සෑදූ වස්සන්වද පූජකය
16 පත්කෙලේය. ලෙවිවරුන්ට පසුව ඊ
ශ්‍රායෙල්හි සෑම ගෝත්‍රවලින් ඊශ්‍රායෙල්
දෙවිවූ යෙහෝවඃවහන්සේ සොයන්
කල්පනාකරගත් සෑවෝම තමන් පියා
රුන්ගේ දෙවිවූ යෙහෝවඃවහන්සේ
පූජාකරණ පිනිස යෙරුසලමට ඇවිත් දා
17 විත් සහ සලමොන්ගේ මාර්ගයේ තුන්
අවුරුද්දක් පැවත යූදඃ රාජ්‍යය සවිස
සලමොන් පුත් රෙහොබෝවම් තුන් අ
18 වුරුද්දකට ස්ථිරකලෝය. රෙහොබෝ
වම්ද දාවිත්ගේ පුත් යරිමොත්ගේ දූ
හලඃද යෙස්සේගේ පුත් එලියබ්ගේ
දූ අබිහයල්ද භාර්යාකොට ගත්තේ

19 ඇද ඔහුට දුව යහුෂ් ෂමාරියඃ සහම් යන
20 දරුවන් වැදුවාය. ඉන්පසු ඔහු අබ්ස
ලොම්ගේ දූ මාකාඃ පාවාගත්තේය ඈ
ඔහුට දුව අබීයාඃද අත්තායිද සීසාද ස
21 ලමිත්ද වැදුවාය. රෙහොබෝවම්ද ත
මන් සෑම භාර්යාවන්ටත් උපභාර්යාවන්
ටත් වඩා අබ්සලොම්ගේ දූ මාකාඃට ප්‍රේ
මකෙලේය ඔහු භාර්යාවන් දහ අට දෙ
නෙකුත් උපභාර්යාවන් හැටදෙනෙ
කුත් පාවාගෙන පුතුන් විසිඅට දෙනෙ
22 කුත් දූන් හැටදෙනෙකුත් ඉපදවීය. රෙ
හොබෝවම්ද මාකාඃ පුත් අබීයාඃ රජකර
න්නට සිතා තමන් සහෝදරයන්ට පලමු
23 වෙනි මූලාදෑනියා කෙලේය. ඔහුද නුව
ණින් පැවත තමන් සෑම දරුවන්ගෙන්
යූදාඃ බෙන්යමින් යන සියළු රටවල සෑම
සුරක්‍ෂිත නුවරවලට බෙදා යවා බොහෝ
කෑම ඔවුන්ට දුන්නේය ඔහුද බොහෝ
භාර්යාවන් පාවාගන්ට ආසාවීය.

12. පරිච්ජේ. තවද රෙහොබෝවම්
රජකමේ පිහිටා සවිවූකල ඔහුත් සෑ
ම ඊශ්‍රායෙල්වරුත් යෙහෝවාඃවහන්සේ
2 ගේ ව්‍යවස්ථාව අත්හැරියෝය. ඔවුන්
යෙහෝවාඃවහන්සේට එදිරිව වරද ක
ළ නිසා රෙහොබෝවම් රජුට පස්වෙ
3 නි අවුරුද්දේ මිසරයේ සිසක් රජ දෙ
ලොස් සියයක් රථද සැටදහසක් අසරු
වන්ද එබ්ම්වරුන්ද සුක්කිම්වරුන්ද කූෂ්ව
රුන්ද යන ගනනක් නැති මිනිසුන් සමග
4 මිසරයෙන් ඇවිදින් යූදාඃහි සුරක්‍ෂිත නු
වරවල් අල්ලාගෙන යෙරුසලමට ආයේ
5 ය. එකල සමයාඃ අනාගතවක්තෘ රෙ
හොබෝවම් සහ සිෂක් නිසා යෙරුස
ලමට එකතුවූන යූදාඃහි මූලාදෑනීන් ල
ඟට ගොස් තොප විසින් මා ඇරියෝය
එබැවින් මමද තොප සිෂක්ගේ අතට
ඇරියෙම්යි යෙහෝවාඃවහන්සේ කියන
6 සේකැයි කිය. ඒ නිසා ඊශ්‍රායෙල්හි මූලා
දෑනිද රජද තමන්ම යටත්ව යෙහෝවාඃ
වහන්සේ ධර්මිෂ්ඨසේකැයි කීවෝය.
7 යෙහෝවාඃවහන්සේද ඔවුන් යටත්වූ බ
ව දුටුවිට උන්වහන්සේගේ වචනය සම
යාඃට පැමින ඔවුන් යටත්වූන නිසා මම
ඔවුන් නැතිනොකර මද ගැලවීමක් දී
මාගේ උදහස සිෂක් අතින් යෙරුසල
8 ම පිට වත්නොකරමි. නුමුත් මාගේ වැ
ඩද වෙන රට වැසියන්ගේ රාජ්‍යවල
වැඩද දැනගන්නට ඔහුගේ වාල්ළු වෙ
9 තියි කීසේක. එබැවින් මිසරයේ සිෂක්
රජ යෙරුසලමට එදිරිව ඇවිත් යෙහෝ
වාඃවහන්සේගේ ගෙයිද රජ ගෙයිද ති
බෙන වස්තු පැහැරගෙන සලමොන්
සෑදූ රන් පලිස්ද ගෙන ගියේය. රෙ
10 හොබෝවම් රජ ඒ කිලව්වට පිත්තල
පලිස් සාදා රජගෙයි දොර රකින සේ
නානායකයාගේ අතට බාරකෙලේය.
11 රජු යෙහෝවාඃවහන්සේගේ ගෙට ඇ
තුල්වෙන විට මුරකාරයෝ ඒවා ගෙ
නත් දෙවනු මුරපලට ගෙන ගියෝය.
12 තවද රජු යටත්වූනාම ඔහු මුළුමනින්
නැතිනොවෙන ලෙස යෙහෝවාඃවහන්
සේගේ උදහස ඔහුගෙන් හැරුනේය.
යූදාඃහි සෑම දේද වැඩිදිවුනු වූනේය.
13 රෙහොබෝවම් රජ යෙරුසලමේ ස
විව රජකම් කෙලේය. හතලිස් එක අ
වුරුදු වයසේදී රජකමට පැමින යෙහෝ
වාඃවහන්සේ තමන් නම පවත්වන්නට
සෑම ඊශ්‍රායෙල් ගෝත්‍රවලින් තෝරාගත්
යෙරුසලම් නුවර දහහත් අවුරුද්දක් ර
ජ කෙලේය ඔහුගේ මව්ගේ නම අම්
14 මොනිය නාමාඃය. යෙහෝවාඃවහන්සේ
සේවයකරන්ට හිත පහදා නොගෙන
15 නපුරුකම් කෙලේය. මුල පටන් අන්
තිම දක්වා රෙහොබෝවම්ගේ ක්‍රියාවල්
පෙලපත් ගැන ලිව් ෂමයාඃ අනාගතවක්
තෘ සහ ඉද්දො දිවස් ඇත්තාගේ පො
තේ ලියා තිබෙනෙන් නැද්ද? රෙහො
බෝවම්ද යෙරොබෝවම්ද අතරේ නි
16 තරම යුධ තිබුනේය. රෙහොබෝවම්
මැරී දාවිත්ගේ නුවර තැන්පත්කරනු
ලැබීය ඔහු පුත් අබීයාඃද ඔහු කිලව්වට
රජකම් කෙලේය.

13. පරිච්ජේ. තවද යෙරොබෝවම්
රජුට දහ අටවෙනි අවුරුද්දේ අබීයාඃ
යූදාඃහි රජකම්කරන්ට පටන්ගෙන යෙ
රුසලමේ තුන් අවුරුද්දක් රජකම් කෙ
2 ලේය. ඔහුගේ මව් ගිබියාඃහි උරියල්ගේ
දූවූ මිකායාඃය. අබීයාඃද යෙරොබෝවම්ද
3 අතරේ යුධ තිබුනේය. අබීයාඃ තෝරා
ගත් සාර ලක්‍ෂයක් දක්‍ෂ යෝධ සෙන
ගක් සටනට සෑදීය යෙරොබෝවම්ද ඔ
හුට එදිරිව දක්‍ෂ බලවත් තෝරාගත් අ
4 ට ලක්‍ෂයක් සටනට සෑදීය. අබීයාඃද එ
ප්‍රායිම් කන්දේ සමරයිම් හෙළ පිට සිට
කියනුයේ යෙරොබෝවම් සහ සෑම ඊ
ශ්‍රායෙල්වරුනි මගේ බස් අසාපල්ලාය

5 ඊශ්‍රායෙල් දෙවිවූ යෙහෝවඃවහන්සේ
දාවිත්ටද ඔහුගේ පුතුන්ටද එනු වැනි
ගිවිසුමකින් ඊශ්‍රායෙල්හි රජකම සදාකා
ලයට දුන් බව නුබලාට දැනගන්නට යු
6 තු නැද්ද? එහෙත් දාවිත් පුත් සලමොන්
ගේ වැඩකාර නෙබත් පුත් යෙරොබෝ
වම් තමන් ස්වාමිට එදිරිව කැරලිගැසි
7 ය. නපුරුවූ නිරර්ථකවූ මිනිස්සු ඔහුට
එක්ව සලමොන් පුත් රෙහොබෝවම්
විසින් ඔවුන්ට විරුඬව සිටින්ට බැරි බා
ල මොලොක් සිත් ඇති කාලේ ඔහුට
8 එදිරිව තමන්ම සවිකරගත්තෝය. දැන්
දාවිත්ගේ පුත්‍රයන් අත යටතේ තිබෙන
යෙහෝවඃවහන්සේගේ රාජ්‍යයට එදිරි
ව සිටිනට නුබලා සිතති නුබලා ම
හත් සමූහයක්ය නුබලාට දෙවියන්කො
ට යෙරොබෝවම් සෑදූ රන් වස්සන් ඇ
9 ත. නුබලා යෙහෝවඃවහන්සේගේ පූ
ජකයන්වූ ආරොන් පුතුන්ද ලෙවිවරුන්ද
හැරදමා අන් රට ජාතීන් ලෙස පූජක
යන් සාදගත්තේ නැද්ද? නාඹු ගොනෙ
කුත් බැටළුවන් සත්දෙනෙකුත් අරන්
පිරිසිදුවෙනනට එන කවුරුවත් දෙවි
10 නුවූවන්ට පූජකයෙක් වෙතොත්ය. එ
හෙත් යෙහෝවඃවහන්සේ අපේ දෙවි
යන්වහන්සේය අපි උන්වහන්සේ අත්
නොහැරියෙමුව. යෙහෝවඃවහන්සේ
ට වැඩකරණ පූජකයෝ ආරොන්ගේ
11 පුත්තුය. ලෙවිවරුද තමන්ට නියමවූ
වැඩ කරමින් යෙහෝවඃවහන්සේට සෑ
ම උදය සවස දවන යාගවළුත් සුවඳ බ
ඩුත් පුළුස්සා පවිත්‍ර මේසයේ ඉදිරිපිට ත
බන රොටිද තබා එහි පහනද රන් පහන්
රුකද සෑම සවස් වේලාවට පත්තුකෙ
රෙති. මක්නිසාද අපි අපගේ දෙවිවූ
යෙහෝවඃවහන්සේගේ ආඥාව පවත්
වමුව. එහෙත් නුබලා උන්වහන්සේ අත්
12 හැරියෝය. බලව අපේ මූලාදෑනියා ව
න දෙවියන්වහන්සේම අප සමගය නුබ
ලාට එදිරිව නාද පවත්වනනට හොර
නෑ ගත් උන්වහන්සේගේ පූජකයෝද
අප සමග සිටිති. ඊශ්‍රායෙල් පුත්‍රයෙනි
නුබලාට අනුබයක් නොවන පිනිස නු
බලාගේ පියවරුන්ගේ දෙවිවූ යෙහෝ
වඃවහන්සේට එදිරිව සටන් නොකර
13 ලායයි කිය. එහෙත් යෙරොබෝවම්
ඔවුන් පස්සෙන් වටේට හොරෙන් සෙ
නගක් යැවිය. ඔවුන්ද යූදඃ ඉදිරිපිට සිටි
යෝය. ඔවුන් හොරෙන් සිටිය සෙනග
14 පස්සෙන්ය. යූදඃද පස්ස බැලූකල ඉදි
රිපිටිත් පස්සෙත් යුඬ තිබෙන බව දැ
ක යෙහෝවඃවහන්සේට හඬගැසුවෝ
ය පූජකයෝ හොරනෑ ගෙන ශබ්දක
15 ලෝය. එවිට යූදඃ මිනිස්සු මල්වර හඬ
ගැසුවෝය. යූදඃ මිනිසුන් මල්වර හඬ
දුන් කල දෙවියන්වහන්සේ යෙරොබෝ
වම් සහ සෑම ඊශ්‍රායෙල්වරුන්ද අබියා
16 ද යූදඃද ඉදිරිපිට පැරදෙව්වේක. එවිට
ඊශ්‍රායෙල් පුත්‍රයෝ යූදඃගෙන් හැංගිගි
යෝය. දෙවියන්වහන්සේද ඔවුන් යූදඃ
17 අතට පාවාදුන්සේක. අබියාද ඔහුගේ
මිනිස්සුද මහත් මැරීමකින් ඔවුන් මැ
රුවෝය. මෙසේ ඊශ්‍රායෙල්ගෙන් පස්
ලක්ෂයක් තෝරාගත් මිනිස්සු මැරුම්කෑ
18 වෝය. මෙසේ ඒ කාලේදී ඊශ්‍රායෙල්පු
ත්‍රයෝ යටත්වූනෝය. යූදඃවරු තමන්
පියවරුන්ගේ දෙවිවූ යෙහෝවඃවහන්
19 සේ විස්වාසකල නිසා ජයගත්තෝය. අ
බියාද යෙරොබෝවම් එලවා ඔහුගෙන්
බෙතෙල්ද එහි නුවරවල්ද යෂනාද එහි
නුවරවල්ද එප්‍රායිනද එහි නුවරවල්ද අ
20 ල්ලාගත්තේය. යෙරොබෝවම්ද අබියා
ගේ කාලේදී දෙවනුව සවිවූනේය යෙ
හෝවඃවහන්සේ ඔහුට පහරදුන්සේක
21 ඔහුද මළේය. එහෙත් අබියා බලවත්
ව භාර්‍යාවන් දහ හතර දෙනෙක් ස
රණපාවාගෙන පුතුන් විසි දෙනෙකුත්
22 දූන් දහ දෙනෙකුත් ඉපදවිය. අබියා
ගේ ඉතිරි ක්‍රියාවළුත් මාර්ගවළුත් කථා
වළුත් ඉද්දෝ අනාගත වක්තෘගේ ප
ඨාන්තරයේ ලියා තිබෙනේය.

14. පරිච්ඡේ. අබියාද මැරී දාවිත්ගේ
නුවර තැන්පත්කරනු ලැබිය. ඔහුගේ
පුත් ආසා ඔහු කිලව්වට රජකම් කෙළේ
ය. ඔහුගේ කාලේ දස අවුරුද්දක් රටේ
2 සමාදානය තිබුණේය. ආසාද තමාගේ
දෙවිවූ යෙහෝවඃවහන්සේ ඉදිරියෙහි
3 යුතු යහපත් දේ කර වෙන රට දෙවි
යන්ගේ පූජාසනත් උස් තැනුත් පහ
කොට රූපවල් බිඳ චෛත්‍ය වෘක්ෂ ක
4 පා තමන් පියවරුන්ගේ දෙවිවූ යෙහෝ
වඃවහන්සේ සේවයකරන්ටද ව්‍යවස්ථා
වත් ආඥාවත් කරන්ටද යූදඃට අණකෙ
5 ළේය. යූදඃ සෑම නුවරවලින් උස් ත
නුත් රූපත් පහකෙළේය. රාජ්‍යයද ඔ
6 හු ඉදිරියෙහි සමාදානව තිබුණේය. යෙ
හෝවඃවහන්සේ ඔහුට සමාදානය දුන්

නිසා ඒ අවදියේ යුධ නැතුව රටේ සමා
දානය තිබුණේය. ඔහු යූදාහි සුරක්ෂිත
7 නුවරවල් සෑදීය. ඒ නිසා ඔහු යූදා වැසි
යන්ට කථාකොට අපට සමාදානය ති
බෙද්දී මේ නුවරවල් සාදා වටකර පව
රුද කොටුද දොරටුද අගුළුද සාදමුව
මක්නිසාද අපේ දෙවිවූ යෙහෝවාව
හන්සේ අපි සෙව්වෙමුව උන්වහන්සේද
වටකර නිවාඩුව අපට දුන්සේකැයි කී
ය. ඔවුහු ඒවා සාදා දියුණු වූනෝය. යු
8 ධ සේනාවක් ආසාට සිටියේය. යූදාහු
ගෙන් පලිස් සෙලල ගත් තුන් ලක්ෂය
ක. බෙන්යමින්ගෙන් පලිස් ගත් දුනු
අදින දෙලක්ෂ අසූ දහසක. ඒ සැමෝම බ
9 ලවත් යුධ දක්ෂයෝය. කූෂ්හි සෙරාද දස
ලක්ෂයක් සෙනගද රථ තුන්සියයක්ද
ගෙන ඔවුන්ට එදිරිව මරේෂාට ආයේය.
10 එවිට ආසා ඔහුට එදිරිව ගියේය. ඔවුහු
මරේෂා ලඟ සපතා මිටියාවතේ සටන
11 සැදුවෝය. ආසාද තමන් දෙවිවූ යෙ
හෝවාවහන්සේට හඬගසා යෙහෝවා
වහන්ස බොහෝ දෙනෙක් ලවාවත්
බල නැත්තන් ලවාවත් උපකාර කර
වන්ට ඔබවහන්සේට අමාරුවක් නැත.
අපේ දෙවිවූ යෙහෝවාවහන්ස අපි ඔ
බ විශ්වාසකර ඔබගේ නාමින් මේ සමූ
දාවට එදිරිව යමුව ඒ නිසා අපට උදව්
උනමැනව. යෙහෝවාවහන්ස ඔබ අ
පේ දෙවියන්වහන්සේය ඔබගෙන් ජය
ගන්ට මනුෂ්‍යයෙකුට නුදුනමැනවයි කී
12 ය. යෙහෝවාවහන්සේද ආසා සහ යූ
දා ලවා කූෂ්වරුන් පැරදෙව්සේක. කූෂ්
13 වරුද හැංගී ගියෝය. ආසාද තමන්
එක්ක සිටි මිනිස්සුද ඔවුන් ගෙරර්ට එ
ලෙව්වෝය. කූෂ්වරුද දෙවනු යුධක
රන්ට බැරි තරම් පැරදුනෝය. යෙහෝ
වාවහන්සේද උන්වහන්සේගේ සෙන
ගද ඉදිරිපිටින් ඔවුන් නාස්තිවූනෝය.
යූදාවරුද බොහෝ කොල්ලකෑවෝය.
14 ගෙරර් වටකර සැම නුවරවලට යෙහෝ
වාවහන්සේගෙන් බය පැමිණි නිසා ඒ
නුවරවල තිබුන බොහෝ වස්තු කො
ල්ලගෙන ඒවාට ගසා සැම නුවරවල් නා
15 ස්තිකලෝය. සිව්පාවුන්ගේ ගාල්වලට
ගසා බොහෝ බැටළුවනු එළුවනු ගෙ
න යෙරුසලමට දෙවනු ආවෝය.

15. පරිච්ඡේ. තවද දෙවියන්වහන්
සේගේ ආත්මය ඕදෙඩ්ගේ පුත් අසර
2 යාට පැමිනියේය. ඔහුද ආසා පෙරමග
ට ගොස් කථාකොට ආසා සහ සැම යූ
දාවරුනි බෙන්යමින්වරුනි මාගේ බස්
අසාපල්ලාය. නුබලා යෙහෝවාවහන්
සේ සමග සිටිනතුරු උන්වහන්සේ නු
බලා සමග සිටිනසේක. නුබලා උන්ව
හන්සේ සෙව්වොත් උන්වහන්සේ නුබ
ලාට සම්භවනසේක. උන්වහන්සේ අත්
හැරියොත් උන්වහන්සේ නුබලාත් අත්
3 හරිණසේක. බොහෝ කල් සිට ඊශ්‍රා
යෙල් සැබෑවූ දෙවියන්වහන්සේද උග
න්වන පූජකයෙක්ද ව්‍යවස්ථාවද නැතුව
4 සිටියේය. එහෙත් ඔවුන් තමන්ගේ දු
කෙහිදී ඊශ්‍රායෙල් දෙවිවූ යෙහෝවාව
හන්සේ දෙසට හැරී උන්වහන්සේ සෙව්
කල උන්වහන්සේ ඔවුන්ට සම්භවූනුසේ
5 ක. ඒ කාලවල යන එන කෙනෙකුට
කිසි සමාදානයක් නැතුව රටවල සැම
6 වැසියන්ට මහත් විපත්ති විය. දෙවිය
න්වහන්සේ සැම විපත්තිවලින් ඔවුන්
වෙහෙසෙව් නිසා වර්ගයක් වර්ගයකි
නුද නුවරක් නුවරකිනුද නැතිකරනු ලැ
7 බුවෝය. ඒ නිසා නුබලාගේ වැඩට වි
පාක ලැබෙන හෙයින් නුබලා සවිවී
අත් බෙලහීන වෙන්ට නොදෙල්ලායයි
8 කීය. ආසාද මේ වචනද ඕදෙඩ් අනාග
තවක්තෘගේ අනාගත වචනයද අසා වී
ර්‍යවත්ව යූදා බෙන්යමින් සැම රටිනුද
එප්‍රායිම් කඳුකරයෙන්ද තමා විසින් අල්වා
ගත් සැම නුවරවලිනුද පිළිකුල් රූපවල්
අහක්කර යෙහෝවාවහන්සේගේ බ
රැදය ඉදිරිපිට තිබුනු යෙහෝවාවහන්
සේගේ පූජාසනය අළුත්කර සැම යූදා
9 සහ බෙන්යමිනුද ඔවුන් සමග එප්‍රායිම්
ගෙනුද මනස්සෙස්ගෙනුද සිමියොන්ගෙ
නුද ආවාවූ දේසක්කාරයනුද එක්කාසුකො
ලේය. ඔහුගේ දෙවිවූ යෙහෝවාවහන්
සේ ඔහු සමග සිටින බව දුටුවාම ඊශ්‍රා
යෙල්ගෙන් බොහෝ දෙනා ඔහු අතට
10 වූනෝය. ආසාගේ රජකමේ පහළොස්
වෙනි අවුරුද්දේ තුන්වෙනි මාසේ යෙ
11 රුසලමට ඔවුන් රැස්වූවෝය. එකල ඔ
වුන් විසින් අල්වාගත් කොල්ලයෙන්
ගොන් සත්සියයකුත් බැටළුවන් සත්
දහසකුත් යෙහෝවාවහන්සේට පූජාකර
12 තමන් පියවරුන්ගේ දෙවිවූ යෙහෝ
වාවහන්සේ තමන් මුළු සිතිනුත් ආත්ම
13 යෙනුත් සොයන්ට ගිවිසුමක් කර ඊශ්‍රා
යෙල් දෙවිවූ යෙහෝවාවහන්සේ සෙව

යකරන්ට අකමැති ස්ත්‍රී පුරුෂ ලොකු
කුඩා ඇත්තන් කවුරු නුමුත් මරණට
14 පත්කොට මහත් ශබ්දයකින්ද ඔල්වර
හඬකින්ද හොරනෑවලින්ද අංවලින්ද නා
දකර යෙහෝවඃවහන්සේට දිව්වෝය.
15 සෑම යූදවරු තමන් මුළු සිතින් දිව්ර සි
යළු කැමැත්තෙන් උන්වහන්සේ සෙව් නි
සා ඒ දිවුරුමට සතුටු වූනෝය. උන්ව
හන්සේද ඔවුන්ට සම්භව් වටකර නිවා
16 ඩු දුන්සේක. ආසා රජුගේ මව්වූ මාකඃ
විසින් චෛත්‍ය වෘක්ෂයක රූපයක් සෑදූ
නිසා බිසෝකමෙන් ඈ අහක්කර ඈවි
සින් සෑදූ රූපය කපාදමා පාගා කිද්‍රොන්
17 ඇල ලඟ ගිනි ලෑවේය. ආසා උස් තැන්
ඊශ්‍රායෙල්ගෙන් පහනොකල නුමුත් ඔ
හුගේ සිත ඔහුගේ සියළු ජීවිතයේදී අවං
18 කව තිබුනේය. තමන් පියාද තමන්ද
කැපකල රන් රිදීද භාජනද දෙවියන්ව
19 හන්සේගේ ගෙට ගෙනාවේය. ආසා
ගේ රජකමේ පන්තිස්වෙනි අවුරුද්ද
දක්වා තවත් යුද නොවිය.

16. පරිච්ඡෙ. තවද ආසාගේ ආන්ඩු
වේ තිස් හයෙනි අවුරුද්දේ ඊශ්‍රායෙල්
හි බාසා රජ යූදඃට එදිරිව ඇවිත් යූදඃ
හි ආසා රජු වෙතින් යන්ටවත් ඔහු වෙ
තට එන්ටවත් කිසිවෙකුට ඉඩ නාරිණ
2 පිනිස රාමඃ ගොඩනැගුවේය. එවිට ආ
සා යෙහෝවඃවහන්සේගේ ගෙයිද රජ
ගෙයිද ගබඩාවෙන් රන් රිදී ගෙනත්
දමස්කයෙහි සිටින ආරමේ බෙන්හා
3 දද් රජුට යවා තුඹේ පියාද මාගේ පියා
ද අතරේ තිබුනාක්මෙන් අප දෙනතා
අතරේ ගිවිසුමක් තිබෙනෙන්ය. තුඹ
ට රන් රිදී එවිමි ඊශ්‍රායෙල්හි බාසා රජ
මා ලඟින් යන පිනිස ඔහු සමග තුඹේ
ගිවිසුම කඩකරපනතැයි කිය. බෙන්
4 හාදද්ද ආසා රජුගේ බස් අසා තමන්
සෙනගට මුලාදෑනින් ඊශ්‍රායෙල් නුවර
වලට එදිරිව යවිය. ඔවුන් ඉයෝන් දන්
අබෙල්මායිම් සහ නප්තලීහි සෑම ගබඩා
ඇති නුවරවලට ගැහුවෝය. බාසා ඒ
5 අසා රාමඃ සෑදීම අත්හැර තමන් වැඩ
6 නැවැත්විය. එවිට ආසා රජ සෑම යූදඃ
වරුන් අඬගහගෙන බාසා සෑදූ ගල් දැ
ව ගෙනගොස් එයින් ගෙබාද මිස්පාද
7 ගොඩනැගුවේය. ඒ කාලේදී හනානි දි
වස් ඇත්තා යූදඃහි ආසා රජු ලඟට ඇ
වින් තුඹේ දෙවිවූ යෙහෝවඃවහන්සේ
විශ්වාස නොකර ආරමේ රජු විශ්වාස
කල බැවින් ආරමේ රජුගේ සෙනග
8 තුඹ අතින් ගැලවී ගියෝය. කුස්වරු
ලූබිම්වරු බොහෝ රථ අසරුවින් සම
ග ඉතා මහත් සේනා සමූහයක් නොවී
ද? නුමුත් තුඹ යෙහෝවඃවහන්සේ වි
ශ්වාස කල නිසා උන්වහන්සේ තුඹ අත
9 ට ඔවුන් පාවාදුන්සේක. මක්නිසාද යෙ
හෝවඃවහන්සේ කෙරෙහි අවංක සිත්
ඇති සියල්ලන් බලවත්කිරීමට උන්ව
හන්සේගේ ඇස් පොලොව මුළුල්ලේහි
එහා මෙහා පවතිනෙන්ය. මෙයින් තුඹ
අඥාන ලෙස කල නිසා මෙතැන් සිට
10 තුඹට යුධය තිබේයයි ඔහුට කිය. අස
ද දිවස් ඇත්තාට කෝපව මේ කාරණ
ව ගැන තද කෝපයෙන් හිරගෙයි ද
මා එවලේම මිනිසුන්ගෙන් සමහරෙකු
11 ට හිරිහරකෙලේය. මුල පටන් අන්ති
ම දක්වා ආසාගේ ක්‍රියාවල් යූදඃ සහ ඊ
ශ්‍රායෙල් රජුන්ගේ පොතේ ලියා තිබෙ
12 නෙන්ය. ආසාගේ ආන්ඩුවේ තිස් නවවෙ
නි අවුරුද්දේදී තද රෝගයකින් පෑ
ලෙඩවිය එහෙත් තමන්ගේ රෝගයේ
දී යෙහෝවඃවහන්සේ නොව වෙදුන්
13 සෙවිය. ආසාද මැරුනේය තමන් ආන්ඩු
වේ සතලිස් එක්වෙනි අවුරුද්දේ මැරු
14 නේය. දාවිත් නුවර ඔහුටම සෑදූ සො
හොනේ ඔහු තැන්පත්කර මිහිරි සුවඳ
සහ වෛද්‍ය ශාස්ත්‍රය ලෙස සෑදූ සො
යෙක් සුවඳ බඩු පිරූ ඇඳක් පිට මිනී
තබා ඔහු නිසා බොහෝ සුවඳ දුම්
දැම්මෝය.

17. පරිච්ඡෙ. ආසාගේ පුත් යෙහෝ
පත්ද ඔහු හිලව්ට රජකමට පැමින ඊ
2 ශ්‍රායෙල්ට එදිරිව තමන් සවිකර යූදඃහි
සුරක්ෂිත සෑම නුවරවල යුධසේනාව සි
ටුවා යූදඃ රටේ තමන් පිය ආසා අල්ලා
ගත් එප්‍රායිම් නුවරවලද සේනාවල් ත
3 බිය. යෙහොසපත් බාලීම් සේවය නො
කොට තමන් පියාගේ පලමුවෙනි ම
ග්ගවලද දාවිත්ගේ මාර්ගවලද පැවතු
න නිසා යෙහෝවඃවහන්සේ ඔහු සම
4 ග සිටිසේක. ඔහු තමන් පියාගේ දෙවි
වූ යෙහෝවඃවහන්සේ සේවයකරමින්
ඊශ්‍රායෙල්ගේ ක්‍රියා ලෙස නොකො
උන්වහන්සේගේ ආඥාවල පැවතුනේ
5 ඒ නිසා යෙහෝවඃවහන්සේ රාජ්‍යය
හුගේ අතේ සවිකලසේක. සෑම යූදඃ

වරූ යෙහොෂාපත්ට තෑගි ගෙනාවෝය.
ඔහුට බොහෝසේ වස්තුද නම්බුවද ලැබු
6 නේය. ඔහුගේ හිතද යෙහෝවාවහන්
සේගේ මාර්ගවල වියශීවත්ව යූදාරටින්
උස් තැනුද ශෛලත්‍ය වෘක්ෂද පහකෙලේ
7 ය. තවද ඔහු තමාගේ රජකමේ තුනෙව
නි අවුරුද්දේ යූදාහි නුවරවල්වල උග
න්වන පිණිස බෙන්හයිල් ඔබදියා සකර
යා නතනයෙල් මිකායා යන තමන් මූලා
8 දෑනින් යවා ඔවුන් සමග ලෙවියවූ සම
යා නතනයා සබද්‍යා අසහෙල් සමිර
මොත් යෙහොනතන් අදෝනියා තොබි
යා තොබදෝනියා යන ලෙවිවරුන්ද
පූජකවූ එලිෂමාද යෙහොරම්ද ඇරියේ
9 ය. ඔවුහු යූදාහි උගන්වා යෙහෝවාව
හන්සේගේ ව්‍යවස්ථා පොත අරන් යූ
දාහි සෑම නුවරවලට ගොස් මිනිසුන්ට
10 ඉගැන්වූවෝය. තවද යෙහෝවාවහන්
සේගේ බිය යූදා වටකර සෑම රටවල
රාජ්‍ය පිට වැටුනේය ඔවුන් යෙහොෂ
11 පත්ට එදිරිව යුද්ධ නොකළෝය. සමහ
ර පිලිස්තිවරුද යෙහොෂපත්ට තෑගිද
පඩුරු පිණිස රිදීද ගෙනාවෝය. අරාබි
වරුද හත්දහස් හත්සියයක් බැටළුවනුද
හත්දහස් හත්සියයක් එළුවනුද යන සිවු
12 පාවුන් ගෙනාවෝය. යෙහොෂපත්ද ඉ
තා උතුම්ව යූදාහි කොටුද ගබඩා නුව
13 රවල්ද සෑදීය. ඔහුටද යූදා නුවරවල
බොහෝ වැඩ තිබුනේය. බලවත් දක්ෂ
14 යුද්ධකාරයෝ යෙරූසලමේ සිටියෝය. ඔ
වුන්ගේ පිය වංශ ලෙස ඔවුන්ගේ ගනන්
මේය. යූදාගෙන් දහට මූලාදෑනිනම් ප්‍ර
ධාන අද්නාය ඔහු සමග දක්ෂ බලවත්
15 මිනිසුන් තුන් ලක්ෂයක. ඊ ලඟ මූලාදෑ
නි යෙහොහානාන්ය ඔහු සමග දෙලක්ෂ
16 අසූ දහක්ය. ඊ ලඟ යෙහෝවාවහන්
සේට තමාම කැමැත්තෙන් කැපවූන සි
ක්‍රි පුත් අමසියාය ඔහු සමග දක්ෂ බල
17 වත් යුද්ධකාරයන් දෙලක්ෂයක. බෙන්
යමින්ගෙන් එලියාදානම් දක්ෂ බලවන්
තයෙක. ඔහු සමග දුනු පලිස් ගත් මි
18 නිස්සු දෙලක්ෂයක. ඊ ලඟට යෙහොස
බද්ය ඔහු සමග යුද්ධයට සැරසී සිටි එක්
19 ලක්ෂ අසූදහක. රජු විසින් යූදාහි සිය
එ සුරක්ෂිත නුවරවල සිටෙව් අය හැර
මොවුන් රජු ලඟ සේවයකරමින් සි
ටියෝය.

18. පරිච්. තවද යෙහොෂපත්ට
බොහෝ වස්තුවද ගෞරවයද තිබුනේ
2 ය. ඔහුද ආහබ් සමග නෑකම්වී කීප අ
වුරුද්දකට පසු ආහබ් ලඟට සමාරියට
ගියේය. ආහබ්ද ඔහුද ඔහු සමග සිටි මි
නිසුන්ද නිසා බොහෝ බැටළුවන් හර
කුන් මරා තමා සමග රාමොත් ගිලියද්
3 ට යනතට ඔහු කැමතිකෙලේය. ඊශ්‍රා
යෙල්හි ආහබ් රජද යූදාහි යෙහොෂපත්
රජුට කථාකොට නුඹ මා සමග රාමොත්
ගිලියද්ට යනවාදැයි ඇසීය. ඔහුද මම
නුඹ ලෙසය මාගේ මිනිස්සුද නුඹේ මි
නිසුන් ලෙසය යුද්ධයෙහි නුඹේ පක්ෂ
4 ව සිටිමුයයි ඔහුට උත්තර දුනේය. ය
හොෂපත්ද අද යෙහෝවාවහන්සේ
ගේ වචනයෙන් ඇසුව මැනවයි ඊශ්‍රා
5 යෙල් රජුට කීය. ඒ නිසා ඊශ්‍රායෙල් ර
ජ අනාගතවක්තෘන්ගෙන් හාරසියයක්
එක්කොට අපි රාමොත් ගිලියද්ට විරූ
ධව සටනට යමුද නොයමුදැයි ඔවුන්
ගෙන් ඇසීය. ඔවුහු දෙවියන්වහන්සේ
රජු අතට ඒක පාවාදෙනසේක ඒ නි
6 සා නැගී ගියමැනවයි කීවෝය. එහෙත්
යෙහොෂපත් මොවුන් ඇර අපට අහන
පිණිස යෙහෝවාවහන්සේගේ අනාග
තවක්තෘ කෙනෙක් මෙහි නැද්දැයි කී
7 ය.එවිට ඊශ්‍රායෙල් රජ අපට යෙහෝවා
වහන්සේගෙන් අහන පිණිස තව එක්
කෙනෙක් ඇත. එහෙත් මා ගැන නිතර
නපුර මිස යහපතක් කිසි කලෙකත් අ
නාගත වචනයෙන් නොකියනේය
ඒ නිසා ඔහු මට අප්‍රියය. ඔහු ඉම්ලාගේ
පුත් මීකායායයි යෙහොෂපත්ට කීය. ය
8 හොෂපත්ද රජ එසේ නොකියමැනවයි
කීය. ඊශ්‍රායෙල් රජද ඇමතියෙකුට අඩ
ගසා ඉම්ලාගේ පුත් මීකායා ඉක්මනින්
9 කැඳවා වරෙන්නැයි කීය. ඊශ්‍රායෙල් ර
ජද යූදාහි යෙහොෂපත් රජද තමන් සැ
රසීගෙන සමාරිය දොරටුවට ඇතුල්වෙ
න තැන අවකාශ ඉඩමක තමතමන්
ගේ සිංහාසනවල උන්නෝය. සෑම අ
නාගතවක්තෘවරුද ඔවුන් ඉදිරිපිට අනා
10 ගත වචන කීවෝය. කනනා පුත් ස
දකියා තමාට යකඩ අං සාදා තෝ අ
රම්වරුන් නාස්තිකරණතුරු මෙයින්
ඔවුන්ට ඇනදමවයි යෙහෝවාවහන්
11 සේ කියනසේකැයි කීය. මෙසේ සෑම
අනාගතවක්තෘද යෙහෝවාවහන්සේ
රාමොත් ගිලියද් රජු අතට පාවාදෙන
සේක ඒ නිසා එතනට ගොහින් ජය

ගනමැනවයි අනාගත වචනය කීවෝ
12 ය. මිකයාට අඬගසන්නට ගිය පණිවිඩ
කාරයාද අනාගතවක්තෘන්ගේ වචන
ඒකාකාරව රජ්ජුට යහපත්ය ඒ නිසා තු
ඹේ බස ඔවුන් එකෙකුගේ බස මෙන්
වේවා යහපත කිවමැනවයි ඔහුට කී
13 ය. එවිට මිකයා යෙහෝවාවහන්සේ
ජීවත්වනසේක්නම් මාගේ දෙවියන්ව
14 හන්සේ කියන දෙයම කියම්යි කීය. ර
ජ්ජු ලඟට ආකල රජ කථාකොට මිකයා
අපි රාමොත් ගිලියද්ට විරුඬව සටනට
යමුද නොයමුදැයි ඔහුගෙන් ඇසීය. ඔ
හුද නැගී ගොස් ජයගනමැනව තුඹලා
15 අතට පාවාදෙනු ලබතියි කීය. රජද
යෙහෝවාවහන්සේගේ නමින් මට සැ
බෑව මිස වෙන කිසිවක් නොකියන්ට
තුඹට කොපමන වර අනකරම්දැයි ඔහු
16 ට කීය. එවිට ඔහු සැම ඊශ්‍රායෙල්වරුන්
එඬේරා නැති බැටළුවන් මෙන් කඳු පිට
ඉසිරගිය බව දුටිමි යෙහෝවාවහන්සේ
ද මොවුන්ට එඬේරෙක් නැතොත්ය ඒ
නිසා ඔවුන් සියල්ලෝ තමන් ගේවලට
සමාදානයෙන් යෙත්වයි කීසේකැයි කී
17 ය. ඊශ්‍රායෙල් රජද ඔහු මා ගැන නපුර
මිස යහපත අනාගත වචනයෙන් නො
කියන බව මම තුඹට නොකීයෙම්දැයි
18 යෙහොෂපත්ට කීය. දෙවනු මිකයා ක
ථාකොට යෙහෝවාවහන්සේගේ වච
න අහපන්න යෙහෝවාවහන්සේ ත
මන් සිංහාසනයේ හිඳින බවද ස්වර්ග
යේ සියළු සේනාව උන්වහන්සේගේ ද
19 කුණෙන් වමෙන් සිටින බවද දුටිමි. යෙ
හෝවාවහන්සේද රාමොත් ගිලියද්ට
ගොස් මැරුන්කන්නට ඊශ්‍රායෙල්හි අ
හබ් රජ්ජු පොලඹනෙන් කව්දැයි ඇසූසේ
ක. එවිට එකෙක් එක හැටියකටත් අනි
20 කෙක් වෙන හැටියකටත් කීයේය. එවි
ට ආත්මයෙක් එහි ඇවිත් යෙහෝවාව
හන්සේ ඉදිරිපිට සිට මම ඔහු පොලඹන්
නෙම්යි කීය. යෙහෝවාවහන්සේ කො
හොමදැයි ඇසූසේක. ඔහුද මම ගොස්
21 ඔහුගේ සැම අනාගතවක්තෘන්ගේ මුඛ
යේ බොරු කියන ආත්මයෙක් වෙම්යි
කීය. යෙහෝවාවහන්සේද තෝ ඔහු
කැමතිකරවා ජය ගන්නෙහිය ඒ නිසා
22 ගොස් එසේම කරවයි කීසේක. ඒ නිසා
යෙහෝවාවහන්සේ මේ තුඹේ සැම
අනාගතවක්තෘන්ගේ මුඛයේ බොරු
කියන ආත්මයක් තබා තුඹ ගැන න

23 පුර කීසේකැයි කීය. එකල කෙනානාගේ
පුත් සදකියා ලංව මිකයාගේ කන්පා
ගෑ තට කථාකරන්නට යෙහෝවාව
හන්සේගේ ආත්මය මාගෙන් කොයි අ
24 තට ගියේදැයි කීය. මිකයාද තා විසින්
සැඟවෙන්නට ඇතුල් ගෙයකට යන ද
25 තට දකින්යයි කීය. එවිට ඊශ්‍රායෙල් ර
ජ මිකයා අරන් නුවර මුලාදෑනියාවූ අම්
මොන් යොවාෂ් රාජ පුත්‍රයාද වෙතට
26 ගෙනගොස් මේකා හිරේ ලා මා සමාද
නයෙන් දෙවනු එනතුරු දුක් දෙන
කෑම බීමෙන් මොහු රක්ෂාකරන්නට ර
27 ජ්ජු කියන බව කියාපල්ලායයි කීය. එවි
ට මිකයා කථාකොට සැම දෙනම අහ
පල්ලාය සැබෑවට තුඹ සමාදානයෙන්
හැරී ආවොත් යෙහෝවාවහන්සේ මා
28 ලවා කථානොකරෙව්සේකැයි කීය. මෙ
සේ ඊශ්‍රායෙල් රජද යූදාහි යෙහොෂපත්
රජද රාමොත් ගිලියද්ට පිටත්ව ගියෝ
29 ය. ඊශ්‍රායෙල් රජද මම වෙස් පෙරලා
ගෙන සටනට යම් එහෙත් තුඹ සැරසී
යන්නැයි යෙහොෂපත්ට කීය. ඊශ්‍රායෙල්
රජද වෙස් පෙරලාගෙනොත්ය ඔවුන් ස
30 ටනට ගියෝය. එකල ආරමේ රජ ත
මන් සමග සිටි රථ මුලාදෑනින්ට කථා
කොට ඊශ්‍රායෙල් රජ්ජු එක්ක මිස ලො
කු කුඩා කවුරුවත් සමග යුඬ නොකර
31 ල්ලායයි අනකෙළේය. රථ මුලාදෑනීද
යෙහොෂපත් දැක මොහු ඊශ්‍රායෙල් රජ්
ය කියා සටනට ඔහු වටකළෝය. යෙහො
ෂපත්ද මොරගැසීය. යෙහෝවාවහන්සේ
ද ඔහුට පිහිටව ඔහු ලඟින් ඔවුන් අහස්
32 කෙරෙව්සේක. මක්නිසාද රථ මුලාදෑ
නියෝ ඔහු ඊශ්‍රායෙල් රජ්ජු නොවන බ
ව ඔහු දැන නෝඑලවා පස්සට හැරී ගි
33 යෝය. මිනිහෙක් දුනෙන්නන් විද්දහැ
නොදැනිවත්ව ඊශ්‍රායෙල් රජ්ජුගේ සන්
නාහයේ සන්දියට වැදුනේය රජද ම
ම තුවාලවිමි ඒ නිසා සේනාවෙන් පිට
මා ගෙනයන්නට හරවාපන්නැයි රථා
34 චායකීට කීය. එදා සටනද වැඩිවිය තු
මුත් ඊශ්‍රායෙල් රජ සවස්වෙනතුරු අ
රම්වරුන්ට එදිරිව තමන් රථයේ හාන්
සිව සිට ඉර බසින වෙලාවට මළේය.

19. පරිච්ඡේ. තවද යූදාහි යෙහොෂ
පත් රජ යෙරුසලමේ තිබෙන තමන්
2 ගෙට සමාදානයෙන් හැරී ගියේය. හන
නිගේ පුත් යෙහු නම් දිවැස් ඇත්තා ඔහු

ගේ පෙරමගට ගොස් ඇදහිලි නැත්තන්
ට පිහිටව යෙහෝවාවහන්සේට වෛර
කරන්නන්ට ස්නේහවෙන්ට තුඹට සුදු
ද? ඒ නිසා යෙහෝවාවහන්සේගෙන්
3 තුඹට උදහස් ඇත. නුමුත් තුඹ දෙව
තා වෘක්ෂ රටින් නැතිකර දෙවියන්වහන්
සේ සොයන්නට සිත පැහැදවූ හෙයින්
තුඹ තුලේ යහපත් දේ තිබෙන බව ස
4 ඔවුනේයයි කීය. යෙහොෂපත්ද යෙරූ
සලමේ සිට බීර්ෂෙබා පටන් එප්‍රායිම් ක
ඳු දක්වා රට මුළුල්ලේ ගොස් ඔවුන්
පියවරුන්ගේ දෙවිවූ යෙහෝවාවහන්
5 සේට දෙවනු හරවාගත්තේය. යූදෘහි
සෑම සුරක්ෂිත නුවරවල නුවරක් නුව
රක් පාසා විනිශ්චයකාරයන් හිටුවා තු
6 බලා මනුෂ්‍යයා උදෙසා නොව විනිශ්ච
යේදී තුඹලා සමග සිටින යෙහෝවාව
හන්සේ උදෙසා විනිශ්චය කරති ඒ නි
7 සා කරණ දේ බලාගනිල්ලාය. අපේ දෙ
විවූ යෙහෝවාවහන්සේ අයුතුකමක්
නොකරණසේක. මනුෂ්‍යයාගේ තරාති
රම් නොබලනසේක තෑගි නොගන්
නාසේක එහෙයින් යෙහෝවාවහන්සේ
ට භය ඇතුව සිහියෙන් සියල්ලම කර
8 පල්ලායයි විනිශ්චයකාරයන්ට කීය. ත
වද ඔවුන් යෙරූසලමට හැරී ආවායින්
පසු යෙහොෂපත් ලෙවිවරුන්ගෙන්ද පූජ
කයන්ගෙන්ද ඊශ්‍රායෙල් වංශයෙහි මූලාදෑ
නින්ගෙන්ද සමහරෙක් යෙහෝවාව
හන්සේගේ විනිශ්චයටත් විවාද කාර
ණවලටත් යෙරූසලමේ හිටුවා අන දෙ
9 මින් යෙහෝවාවහන්සේට භයින් විශ්
වාසව පැහැදුන සිතින් මෙසේ කරපල්
10 ලාය තමන් නුවරවල සිටින තුඹලාගේ
සහෝදරයන්ගේ මැරීම ගැනවත් ව්‍යව
ස්ථාවද ආඥාවල්ද පනතවල්ද විනිශ්ච
යවල්ද ගැනවත් තුඹලාට පැමිණෙන
කොයි පැමිණිල්ලකදීවත් තුඹලාටත් තු
බලාගේ සහෝදරයන්ටත් උදහස් නො
වෙන ලෙස යෙහෝවාවහන්සේට එදි
රිව වරද නොකරන්ට ඔවුන්ට අවවාද
කරපල්ලාය මෙසේ කරන්නාහුනම් තු
11 බලා නිරපරාදවෙති. යෙහෝවාවහන්
සේගේ සෑම කාරණවලදී අමරයානම්
නායකපූජකයාද රජුගේ සෑම කාරණ
වලදී යූදෘහි ගෙයි මූලාදෑනි ඉෂ්මායෙල්
පුත් සබදියාද තුඹලාට මූලාදෑනියෝය
ලෙවිවරුද තුඹලා ඉදිරියෙහි සේවක
යෝ වෙති භය නැතුව කල්කරපල්ලාය
යෙහෝවාවහන්සේ යහපතුන් සමග සි
ටිනසේකැයි කීය.

20. පරිච්ඡේ. මින්පසු මෝවබ් පුත්‍ර
යෝද අම්මොන් පුත්‍රයෝද අම්මොනව
රුන් ඇර වෙන අයවල්ද යුද්ධකරණ පි
2 නිස යෙහොෂපත්ට එදිරිව ආවෝය. එ
විට සමහරු ඇවිත් යෙහොෂපත්ට කථා
කොට අරමෙන් මෙහා මූද එගොඩින්
මහත් සමූහයක් ඔබට එදිරිව එනෙත්ය.
ඔවුන් එන්ගෙදිනම් හසසොන් තමාර්හි
3 සිටිතියි කීවෝය. යෙහොෂපත්ද භයව
යෙහෝවාවහන්සේ සරණ යන්ට සිතා
යූදෘ මුළුල්ලෙහි උපවාසයක් ප්‍රසිද්ධකෙ
4 ලේය. යෙහෝවාවහන්සේගෙන් පිහිට
ඉල්ලන පිණිස යූදාවරු යූදෘ සෑම නුවර
5 වලින් රැස්වූනෝය. යෙහොෂපත්ද අ
ළුත් මළුව ඉදිරිපිට යෙහෝවාවහන්සේ
ගේ ගෙයි යූදෘ සහ යෙරූසලමේ සභා
6 වද අතරේ සිට අපේ පියවරුන්ගේ දෙ
විවූ යෙහෝවාවහන්ස ඔබ ස්වර්ගයේ
දෙවියන්වහන්සේය සෑම ජාතීන්ගේ රට
වල් පිට ආන්ඩුකරණසේක. කාටවත් ඔ
බවහන්සේ වලක්වන්ට බැරි තරම් ඔ
බගේ අත පරාක්‍රමයද බලයද නැද්ද?
7 ඔබගේ ඊශ්‍රායෙල් මිනිසුන් ඉදිරිපිටින්
මේ රටවැසියන් එලවා ඔබගේ මිත්‍රවූ
ආබ්‍රහම්ගේ වංශයට සෑම දාටම ඒක දු
න්නාවූ අපගේ දෙවියන්වහන්සේ ඔබ
8 නොවේද? ඔවුහු එහි වාසයකොට ක
9 ඩුවවත් දඬුවමවත් වසංගතයවත් හානි
යවත් යන යම් නපුරක් අපට පැමිණි වි
ට ඔබගේ නම් කියවෙන මේ ගේ ඉදිරි
පිටද ඔබවහන්සේ හමුයෙහිද සිට අපේ
දුක්හි ඔබට යාඥාකරමූනම් එවිට ඔබ අ
සා උපකාර කරණසේකැයි කියා ඔබ
නමට පවිත්‍ර තැනක් එහි සෑදුවෝය.
10 දූන් අම්මොන්ගේද මෝවබ්ගේද සේර්
කන්දේද පුත්‍රයන් බැළුවමැනව ඊශ්‍රා
යෙල් මිසරයෙන් පිට ආකල ඔවුන්ගේ
රටට ඇතුල්වෙන්ට ඔබ ඉඩ නුදුන්සේ
ක. ඊශ්‍රායෙල්ද ඔවුන් නැතිනොකර ඔ
11 වුන්ගෙන් හැරී ගියෝය. ඔබවහන්සේ
හිමිවෙන්නට අපට දුන් උරුමයෙන් අ
ප අහක්කරණ පිණිස ඔවුන් ඇවිදින්
මෙසේ අපට විපාක දෙන බව බැළුවමැ
12 නව. අනේ අපේ දෙවියන්වහන්ස ඔබ
ඔවුන් විනිශ්චය නොකරණසේක්ද?
මක්නිසාද අපට එදිරිව එන මේ මහත්

සමූහයාට කිසි බලයක් අපට නැත. අප
විසින් කටයුතු කිමෙක්දැයි නොදන්නම්
13 හ අපේ ඇස් ඔබ වෙතයයි කීය. සියළු
යූදාවරු තමන් අඹුදරුවනූ අතදරුව
ෆූ සමග යෙහෝවාවහන්සේ ඉදිරිපිට
සිටියෝය.

14 එවිට යෙහෝවාවහන්සේගේ ආත්
මය සභාව අතරේ ආසප් පුත්‍රත්‍රගෙන්
ලෙවියවූ මතනයා පුත් යහසියල් පුත් බ
නයා පුත් සකරියා පුත් යහසියල් වෙතට
15 පැමිනියේය. ඔහු කථාකොට යූදා සහ
යෙරුසලමේ සැම වැසියෙනි යහොෂ
පත් රජ්ජුනි අහපල්ලාය. මේ යුඬය දෙවි
යන්වහන්සේගේ මිස තුබලාගේ නො
16 වේය. ඒ නිසා මේ මහත් සමූහයාට භය
නොව තැති නොගෙන හෙට ඔවුන්ට
එදිරිව පලයල්ලාය. ඔවුන් සිස්නම් ගල
පාරෙන් ඇවිත් සිටිති යරුයල්නම් වන
ය ඉදිරිපිට ඇල අන්තිමේදී තුබලාට
17 ඔවුන් සම්භවෙති. යූදා සහ යෙරුසලම්
වැසියෙනි මේ යුඬයේදී තුබලාව සටන්
කරන්ට කම් නැත. සැරසී සිට තුබලා
ට යෙහෝවාවහන්සේ දෙන ගැලවීම
බලාපල්ලාය. යෙහෝවාවහන්සේ තු
බලා සමග සිටින නිසා භයනොව තැ
ති නොගෙන හෙට ඔවුන්ට එදිරිව
යන්ට යෙහෝවාවහන්සේ කියනසේ
18 කැයි කීය. යහොෂපත්ද මූනින්බිම වැ
ටි වැන්දේය. යූදා සහ යෙරුසලමේ
සැම වැසියෝද යෙහෝවාවහන්සේ
19 ඉදිරිපිට වැටි වැන්දෝය. කෝහතිව
රුන්ගේද කොර්හිවරුන්ගේද පුත්‍රයෝ
වන ලෙවිවරු ඊශ්‍රායෙල්ගේ දෙවිවූ
යෙහෝවාවහන්සේට ඉතා මහත් ශබ්
20 දයකින් ස්තුතිකිරීමට සිටියෝය. මිනිස්
සූද ඉතා උදය නැගිට තකෝවානම්
වනයට පිටත්ව ගියෝය යද්දී යහො
ෂපත් සිට ඔවුන්ට කථාකොට යූදා සහ
යෙරුසලමේ වැසියෙනි මාගේ බස් අ
හපල්ලාය. තුබලාගේ දෙවිවූ යෙහෝ
වාවහන්සේ විශ්වාස කරපල්ලාය එසේ
තුබලා ස්ථිරව සිටිති. උන්වහන්සේගේ
අනාගතවක්තෘන් විශ්වාසකරපල්ලාය එ
21 සේ තුබලා දියුණුවෙතියි කීය. ඔහුද මි
නිසුන් සමග මන්ත්‍රණයකොට සෙනග
ඉදිරිපිටින් පිටත්ව යද්දී පිරිසිදුකමේ
සෝභනයට ස්තුතිකරණ පිනිසද යෙ
හෝවාවහන්සේගේ කරුණාව නිතරම
පවතින නිසා උන්වහන්සේට ප්‍රසංසා ක
රපල්ලායයි කියන පිනිසද යෙහෝවාව
හන්සේට ගී කියනානන් නියමකෙළේ.
22 ඔවුන් ගී කියා ස්තුතිකරන්ට පටන්
ගත් කල යූදාට එදිරිව ඇවිත් සිටි අ
මොන් සහ මෝවබ් පුත්‍රයන්ටද සේ
කන්දේ වැසියන්ටද එදිරිව යෙහෝවා
වහන්සේ සේනාවල් සඟවා සිටෙව්වේ
23 ය. අම්මොන් සහ මෝවබ් පුත්‍රයෝ
සේර් කන්දේ වැසියන් මුළුමනෙම්ම වි
ශ නැතිකරණ පිනිස ඔවුන්ට එදිරිව සි
ට සේර් වැසියන් කම්වූතුකල විට එ
24 කෙක් අනිකෙක් නැතිකලෝය. ඒ නි
සා ඔවුන් පහරදෙන්නූ ලැබුවෝය. යූදාව
රු වනයේ මුර කොටුව ලගට ඇවිත්
සෙනග දිහාව බැළුවාව ඔවුන් මලසි
25 න්ව බිමට වැටුනු බව දුටුවෝය. කි
වෙක් නොගැලවුනේය. යහොෂපත්
තමන් මිනිස්සූද ඔවුන්ගෙන් කොල්ල
ගෙනයන පිනිස ආකල ගෙනයන්ට නු
පුළුවන් පමන වස්තුව සහ ආභරණද ති
බුනේය ඒවා ඔවුන්ගෙන් ලිහාගත්තෝ
ය. තුන් දවසක් මුළුල්ලේ එකතුකරණ
26 තරම් කොල්ලගත් බඩු තිබුනේය. හ
රවෙනි දා ඔවුන් බරකා මිටි තැන යෙ
හෝවාවහන්සේට ස්තුති කල නිසා ඒ
එක්කාසු වූනෝය. ඒ නිසා එම ඉඩම
බරකා මිටි තැනයයි අද දක්වා කියනු ල
27 බේ. එවිට යෙහෝවාවහන්සේ ඔවුන්
ගේ සතුරන් ගැන සතුටුවෙන්ට සැල
සූ නිසා යූදාහිද යෙරුසලමේද සැම මි
ස්නිසුද ඔවුන් ඉදිරිපිට යහොෂපත්ද
තුටින් යෙරුසලමට යන්ට හැරී වීනා
28 ඩා වීනා හොරනෑ ගෙන යෙරුසලමේ
යෙහෝවාවහන්සේගේ ගෙට ආවෝය.
29 ඒ සැම රටවල මිනිසුන් යෙහෝවාව
හන්සේ ඊශ්‍රායෙල් සතුරන්ට එදිරිව ස
ටන්කල බව ඇසූවිට දෙවියන්වහන්සේ
30 ගෙන් භය ඔවුන්ට පැමුනුනේය. එසේ
ඔහුගේ දෙවියන්වහන්සේ සැම දිහින්
නිවාඩු දුන් නිසා යහොෂපත්ගේ රජ
31 ය සමාදනව පැවතුනේය. යහොෂපත්
ද යූදාහි රජකම් කෙලේය. ඔහු පස්
තිස් අවුරුදු වයසේ රජකමට පැමින
යෙරුසලමේ පස්විසි අවුරුද්දක් රජ
32 කම් කෙලේය. ඔහුගේ මව් සිල්හිගේ
දූ අසූබාය. ඔහුද තමන් පිය ආසාගේ
මාර්ගයේ පැවත යෙහෝවාවහන්සේ
ගේ ඇස් ඉදිරියෙහි යුතුකම් කරමින්
33 මාර්ගයෙන් පහව නොගියේය. නුමුත්

ඒ වෙනතුරු මිනිසුන් තමන් පියවරුන්
ගේ දෙවියන්වහන්සේගේ අතට සිත්
පැහැදුවේ නැති නිසා උස් තැන් නැති
34 නොකරනු ලැබුවෝය. මුල පටන් අන්
තිම දක්වා යෙහොෂාපත්ගේ අනික් ක්‍රියා
වල් ඊශ්‍රායෙල් රජුන්ගේ පොතේ සඳ
හන්වූ හනානි පුත් යේහුගේ පොතේ
ලියා තිබෙනේය.

35 මින්පසුද ඉතා නපුරුව පැවතුනු ඊ
ශ්‍රායෙල්හි අහසියා රජුට යුදාහි යෙහො
36 ෂාපත් රජ එකතුවිය. තර්ෂිෂ්ට යන
නැව් සාදනනට ඔහුට එක්වූයේය. ඔ
වුන් එසියොන් ගෙබෙර්හිදී නැව් සෑදු
37 වෝය. එවිට මරේෂාහි දෝදවා පුත් එ
ලියෙසර් යෙහොෂාපත්ට විරුද්ධව අනාග
ත වාක්‍ය ප්‍රකාශකොට නුඹ අහසියාට
එකතුවුන නිසා යෙහෝවාවහන්සේ
නුඹේ කර්මාන්ත බින්දසේකැයි කීයේ
ය. නැව්ද තර්ෂිෂ්ට යන්ට බැරි ලෙස
බිඳුනේය.

21. පරිච්ඡේ. යෙහොෂාපත්ද මැරී දා
වීත් නුවර තමන් පියවරුන් සමග තැන්
පත්කරනු ලැබීය. ඔහුගේ පුත් යෙහෝ
රම්ද ඔහු වෙනුවට රජකම් කෙළේය.
2 යෙහොෂාපත්ගේ පුත්තු අසරයා යෙහියෙල්
සකරයා අසරයා මීකායෙල් සපතයා යන
මොවුන් යෙහෝරම්ගේ සහෝදරයෝ
ය. මේ සියල්ලෝ ඊශ්‍රායෙල්හි යෙහොෂා
3 පත්ගේ පුත්‍රයෝ වූවෝය. ඔවුන්ගේ පි
යාද රන් රිදී සහ අනර්ඝ දේවලින්
බොහෝ තෑගිද සුරක්ෂිත නුවරවල්ද
ඔවුන්ට දී යෙහෝරම් වැඩිමහල්ලා නිසා
4 රාජ්‍යය ඔහුට දුනේය. යෙහෝරම්ද ත
මන් පියාගේ රාජ්‍යයට පැමුනුනාම ත
මන්ම සවිකරගෙන තමන් සැම සහෝ
දරයන්ටත් ඊශ්‍රායෙල්ගේ සමහර මූලා
5 දෑනින්ටත් කඩුවෙන් ගසා මැරීය. ය
හෝරම් තිස් දෑවුරුදු වයසේදී රජව යෙ
රූසලමේ අට අවුරුද්දක් ආඩුකෙළේ
6 ය. ආහබ්ගේ දුව ඔහුට භාර්‍යා වුන නි
සා ආහබ්ගේ වංශය පැවතුන ලෙස ඊ
ශ්‍රායෙල් රජුන්ගේ මාර්ගයේ පැවත යෙ
හෝවාවහන්සේ ඉදිරියෙහි නපුරුකම්
7 කෙළේය. නුමුත් යෙහෝවාවහන්සේ
දාවිත්ටත් ඔහුගේ පුතුන්ටත් නිතරම එ
ළියක් දෙන්ට පොරොන්දුවී දාවිත් සමග
ගිවිසුමක් කල නිසා ඔහුගේ වංශය නැ
තිකරන්ට නොකමැතිවූසේක.

8 ඔහුගේ කාලේදී යුදා ආඩුව යටතෙන්
එදොම්වරු කැරලි ගසා තමන්ටම ර
9 ජෙක් පත්කරගත්තෝය. එවිට යෙහෝ
රම් තමන් මූලාදෑනීන් සැම රථද සමග
පිටත්ව ගොස් රාත්‍රියේ නැගිට ඔහු වට
කර සිටි එදොම්වරුන්ටත් රථ මූලාදෑ
නීන්ටත් ගැසීය. ඔහු තමන් දෙවිවූ යෙ
10 හෝවාවහන්සේ අත්හැරිය නිසා එ
දොම්වරු යුදා යටතෙන් අද දක්වා කැ
රලි ගැහුවෝය. ලිබ්නාද ඔවුන් යට
11 තෙන් එවේලේම කැරලි ගැසීය. ඔහු
යුදා කඳුවල උස් තැන් සාදා යෙරූසලම්
වැසියන්ටත් යුදා වැසියන්ටත් මිථ්‍යාචා
12 රයට බලාත්කාර කෙළේය. තවද තා
ගේ පියවූ යෙහොෂාපත්ගේද යුදාහි ආසා
රජුගේද මාර්ගවල නොපැවත ඊශ්‍රා
13 යෙල් රජුන්ගේ මාර්ගයේ පැවත යුදා
ද යෙරූසලම් වැසියන්ද ආහබ් වංශයේ
මිථ්‍යාචාර ලෙස කරවා තාගේ පියාගේ
ගෙයි තට වඩා යහපත්වූ තාගේ සහෝ
14 දරයන් මැරූ බැවින් යෙහෝවාවහන්
සේ තාගේ මිනිසුන්ටද පුත්‍රයන්ටද භා
ර්‍යාවන්ටද සැම දේවලටද මහත් හිං
15 සාවකින් පහරදෙනසේක. තාගේ බඩ
වැල් දවස්පතා රෝගයෙන් පිටවෙන
තරම් බඩවැල්වල ලෙඩක් තට වේයයි
තාගේ පිය දාවිත්ගේ දෙවිවූ යෙහෝවා
වහන්සේ කියන බව ලියා තිබුන ලිවු
මක් එලියා අනාගතවක්තෘගෙන් ඔහු
ට ලැබුනේය.

16 යෙහෝවාවහන්සේද පිලිස්තිවරුන්
ගේද කූෂ්වරුන් ලඟ සිටි අරාබියන්
ගේද සිත් යෙහෝරම්ට එදිරිව පෙලඹවූ
17 සේක. ඔවුහු යුදාට ඇවිත් ඇතුල්ව ර
ජුගේ අඹුදරුවන් තමන් ගෙයි සම්භවූ
නු සැම දේද ගෙන ගියෝය. එසේ ත
මන් පුතුන්ගෙන් බාල පුත් යෙහොවහස්
හැර කිසි පුත්‍රයෙක් ඔහුට ඉතිරිනොවූ
18 යේය. මේ සියල්ලට පසු යෙහෝවාව
හන්සේ සුවකරන්ට බැරි ලෙඩක් බඩ
19 වැලට පැමිනවූසේක. දෑවුරුද්දක් යා
මෙන් ඒ ලෙඩින් තමන් බඩවැල් කුනු
වී වැටුනේය. එසේ තද ලෙඩවලින් ඔ
හු මලේය. තමන් පියවරුන්ට සුවඳ දෑ
වුවාක්මෙන් මිනිස්සු ඔහුට සුවඳ නො
20 දෑවුවෝය. ඔහු තිස් දෑවුරුදු වයසේදී ර
ජව යෙරූසලමේ අට අවුරුද්දක් රජ
කම්කොට ආදර නොලැබ මලේය. ඔ
වුන් දාවිත් නුවර ඔහු තැන්පත්කල නු

වුන් රජ්ජුන්ගේ සොහොන්වල තැන්පත්
නොකලෝය.

22. පරිච්ජේ. අරාබිවරුන් සමග අනූ
යමට ආ සෙනඟ යෙහෝරම්ගේ සැම වැ
ඩිමහල් පුතුන් මැරූ නිසා යෙරූසලම්
වැසියෝ ඔහුගේ බාල පුත් අහසියා ඔ
හු සිලව්වට රජකමට පත්කලෝය. යූ
දාහි යෙහෝරම් රජ්ජුගේ පුත් අහසියා ර
2 ජකම් කෙලේය. අහසියා විසි දෙවුරුදු
වයසේදී රජව අවුරුද්දක් යෙරූසලමේ
රජකම් කෙලේය. ඔහුගේ මව ඔම්රිගේ
3 දූ අතලියාය. ඔහුගේ මව් නපුරුකම
කිරීමට ඔහුට මන්ත්‍රණය කල නිසා ඔහු
ආහබ් වංශයෙහි මාර්ගවල හැසිරුණේ
4 ය. තමන් පියාගේ මරණයට පසු තමන්
නාශයට ආහබ්ගේ වංශය මන්ත්‍රණය
කල නිසා ඔවුන් කලාක්මෙන් ඔහු යෙ
හෝවාවහන්සේගේ ඉදිරියෙහි නපුරු
5 කම් කෙලේය. ඔහු ඔවුන්ගේ දුනිමිති
කමෙන් පැවත රාමොත් ගිලියද්හි ආර
මේ හසායෙල් රජ්ජුට එදිරිව සටන්කරන්
ට ඊශ්‍රායෙල්හි ආහබ් රජ්ජුගේ පුත් ය
හෝරම් සමග ගියේය. ආරම්වරුද යෝ
6 රම්ට ගැසුවෝය. ඔහුද ආරම්හි හස
යෙල් රජ්ජු සමග රාමාහිදී සටන්කල විට
තුවාල උනු නිසා යෙස්‍රිල්හිදී සුවකරග
න්නට හැරී ගියේය. යූදාහි යෙහෝරම්
රජ්ජුගේ පුත් අසරියාද යෙස්‍රිල්හි ආහබ්
පුත් යෙහෝරම් ලෙඩ නිසා ඔහු දකින්න
7 ට ගියේය. අහසියා යෝරම් ලඟට ආ
නිසා ඔහුගේ විනාසය දෙවියන්වහන්
සේගෙන් විය. මක්නිසාද ඔහු ආ කල
යෙහෝවාවහන්සේ ආහබ් වංශය නැති
කරන්ට අභිෂේක කල නිම්ෂි පුත් යෙ
හූට එදිරිව යෙහෝරම් එක්ක ගියේය.
8 යෙහූද ආහබ් වංශයේ දඩුවම ඉෂ්ටකරණ
කල යූදා මූලාදනින්ද අහසියාට වැඩක
ල අහසියාගේ සහෝදරයන්ගේ පුතුන්ද
9 දැක මරා අහසියාද සෙව්ය. ඔවුන් සමා
රියෙහි සැංගී සිටි ඔහු අල්ලා යෙහූ ලඟ
ට ගෙනත් මැරූ කල මුළු හෘදයෙන් යෙ
හෝවාවහන්සේ සෙවූ යෙහෝෂාපත්ගේ
පුත්‍රයාය කියා ඔහු තැන්පත් කලෝය.
ඒ නිසා අහසියාගේ වංශයට රාජ්‍යය ර
ක්ෂාකරන්ට කිසි බලයක් නොතිබුණේ
10 ය. තවද අහසියාගේ මව්වූ අතලියා ත
මන් පුත්‍රයා මල බව දැක නැගිට යූදා වං
ශයේ සැම රාජ පුත්‍රයන් නැතිකලාය.
11 එහෙත් රජ දූ යෙහෝෂබියත් මැරූ රජ
පුතුන්ගෙන් අහසියා පුත් යෝවාස් රහ
සින් ගෙන ඔහුද ඔහුගේ කිරි මව්ද ඇ
තපෙන ගෙයක තිබුවාය. මෙසේ ය
හෝරම් රජ්ජුගේ දූ යෙහෝයාදා පූජකයා
ගේ ස්ත්‍රී අහසියාගේ සහෝදරී යෙහෝෂ
බියත් අතලියාගෙන් ඔහු සඟවා තැබූ
12 නිසා අතලියා ඔහු නොමැරුවේය. ඔහු
ද දෙවියන්වහන්සේගේ ගෙයි සවුරුද්
දක් සැඟවී සිටියේය. අතලියාද රට
රජකම් කලාය.

23. පරිච්ජේ. තවද සත්වෙනි අවුරු
ද්දේ යෙහෝයාදා බලවත්ව යෙරෝහම් පුත්
අසරියාද යෙහෝහානාන් පුත් ඉෂ්මායෙල්
ද ඕබෙද් පුත් අසරියාද අදායා පුත් මා
සියාද සිත්‍රි පුත් එලිෂාපාත්ද යන සියා
සට මූලාදනින් තමන් සමග ගිවිසුමට
2 ව යූදා මුළුල්ලෙහි ගෙන ගොස් යූදා නු
ම නුවරවලින් ලෙවිවරුන්ද ඊශ්‍රායෙල්
වංශයෙහි මූලාදනින්ද එකතුකොට යෙ
3 රූසලමට ආවෝය. සියළු සමූහයාද දෙ
ව මාලිගාවේ රජ්ජු සමග ගිවිසුමක් ව
ලෝය. ඔහුද කථාකොට යෙහෝවාව
හන්සේ දාවිත්ගේ පුතුන් ගැන කී ලෙ
4 ස රාජ පුත්‍රයා රජකම් කරන්නේය. තු
ලා කරනනට ඕනෑ දේ මේය. සබත්
වස ඇතුල්වෙන පූජක ලෙවිවරුවූ තු
5 ලාගෙන් තුනෙන් පංගුවක් දොරටු
කිනාතන්ටද තුනෙන් පංගුවක් රජ ගෙ
ටද තුනෙන් පංගුවක් පදනම් දොරටු
වෙති. සැම මිනිස්සුද යෙහෝවාවහන්
6 සේගේ ගෙයි මළුවල සිටිති. එහෙත් පූ
ජකයන්ද වැඩකරණ ලෙවිවරුන්ද හැ
කවුරුවත් යෙහෝවාවහන්සේගේ ගෙ
ට නොඑව්වා ලෙවිවරුන් සුඩ නිසා ඔ
වුන් ඇතුල්වෙති. එහෙත් සැම මිනිස්සු
යෙහෝවාවහන්සේගේ මුරට සිටිති
7 ලෙවිවරුද තමන් කඩු අතින් ගෙන
ජු පිරිවර සිටිති. වෙන කෙනෙක් ගෙ
ට ආවොත් ඔහු මරනු ලබන්නේය. එ
හෙත් රජ්ජු ඇතුල පිට ඇවිදින කල තු
ඹලා ඔහු සමග සිටපල්ලායයි ඔවුන්ට කී
8 ය. මෙසේ ලෙවිවරුද සියළු යූදාවරුද
යෙහෝයාදා පූජකයා අනකල සැම දේ
කොට සබත් දවස ඇතුල එන පිටත
යන තමන් සැම මිනිසුන් ගෙනෙයි
මක්නිසාද යෙහෝයාදා පූජකයා මුරකාර
9 යන්ට යනාව නෑරියේය. යෙහෝයා

පූජකයාද දේව මාලිගාවේ තිබුන දාවිත්
රජුගේ හෙල්ල සහ සම් පලිස්ද සියයක
10 ව මූලාදෑනීන්ට බාරදී අතින් ආයුධ ගත්
සෑම මිනිසුන් මාලිගාවේ දකුණු දිග සි
ට උතුරු දිග දක්වා පූජාසනයද මාලිගා
11 වද ලඟ රජු වටකර සිටවීය. එකල රජ
පුත්‍රයා පිට ගෙනත් ඔහු පිට ඔටුන්න ත
බා ව්‍යවස්ථා පොත දී රජකමට පත්ක
ලෝය. යෙහොයාදාද ඔහුගේ පුත්‍රයෝද
ඔහු අභිෂේකකොට රජ ජීවත්වනසේ
ක්වයි කීවෝය.

12 අතලියාද දුවන්නාවූ රජුට ආශීර්වාද
කරණ මිනිසුන්ගේ ඝෝෂාව අසා යෙ
හෝවාවහන්සේගේ ගෙට මිනිසුන් ල
13 ගට ඇවිත් බැලුවාය. ඇතුල්වෙන තැ
න කණුව ලඟ රජද මූලාදෑනිද රජු ලඟ
හොරණෑකාරයෝද සිටියෝය. රටේ
සෑම මිනිස්සුද සතුටුව හොරණෑ නාද
කලෝය. ගායනාකාරයෝද තූර්ය බඩු
වලින් ස්තුති ගායනා කරන්නට උගන්ව
න්නෝද නාදකලෝය. එවිට අතලියා
ඒ දැක ඇඳුම් ඉරාගෙන ද්‍රෝහිය ද්‍රෝහි
14 යයි කීවාය. එකල යෙහොයාදා පූජකයා
සේනාවට ප්‍රධාන මූලාදෑනීන් ගෙනත්
යෙහෝවාවහන්සේගේ ගෙයි ඈ ම
රන්ට එපාය පේලිවලින් ඈ පිටකරප
ල්ලාය පස්සේ යන කවුරුවත් කඩුවෙන්
15 ඈ මරන්නලැබේවයි ඔවුන්ට කීය. ඔවුන්
ඈ අල්ලා රජ ගේ ලඟ අස් දොරටුවට
ඇතුල්වෙන තැනට ගෙනැවිත් එතන
16 දී මැරුවෝය. යෙහොයාදාද සෑම මිනි
සුන් හා රජුද අතරේ තමන් යෙහෝවා
වහන්සේගේ මිනිසුන් වෙන ලෙස ගිවි
17 සුමක් කෙලේය. එකල සෑම මිනිස්සු
බාල්ගේ ගෙට ගොස් ඒක කඩාදමා ඔ
හුගේ පූජාසනද රූපද කැබලිකොට බි
ද බාල්ගේ පූජක මත්තාන් පූජාසනය
18 ඉදිරිපිට මැරුවෝය. යෙහොයාදාද දාවිත්
විසින් නියමකල ලෙස සතුටින් ගායනා
කර යෙහෝවාවහන්සේගේ දවන යා
ගවල් මෝසෙස්ගේ ව්‍යවස්ථාවේ ලියා
තිබෙන ලෙස පූජාකරන්ට දාවිත් යෙ
හෝවාවහන්සේගේ ගෙට පත්කල ලේ
විය පූජකයන් ලවා යෙහෝවාවහන්
සේගේ ගෙට නන්තුර නියමකෙලේය.
19 අපවිත්‍ර කිසිවෙක් ඇතුල්නොවෙන පි
නිස යෙහෝවාවහන්සේගේ ගෙයි දො
20 රටුව රකින්නන් සිටුවා සියයකට මූලා
දෑනින්ද වැඩිමහල්ලන්ද මිනිසුන්ට මූලාදෑ
නීන්ද රටේ සෑම මිනිසුන්ද ගෙන යෙ
හෝවාවහන්සේගේ ගෙයින් රජු ගෙ
නාගෙන ඔවුන් මහ දොරින් රජ ගෙට
ඇවිත් රජු රාජ සිංහාසනයේ සිටෙව්වෝ
21 ය. රටේ සෑම මිනිස්සු සතුටුවූවෝය.
අතලියා කඩුවෙන් මැරූපසු නුවර නිස්
කලංක විය.

24. පරිච්ඡේ. යෝවාෂ් සත් අවුරුදු
වයසේදී රජව යෙරුසලමේ සතලිස් අ
වුරුද්දක් රජකම් කෙලේය. ඔහුගේ
2 මව් බෙයර්ෂෙබාහි සිබියාය. යෙහොයාදා පූජ
කයා ජීවත්ව සිටි සියළු කාලයෙහි යෝ
වාෂ් යෙහෝවාවහන්සේ ඉදිරියෙහි යුතු
3 දේ කෙලේය. යෙහොයාදාද යෝවාෂ්ට
භාර්යාවන් දෙදෙනෙක් ගෙන දුන්නේ
4 ය ඔහුද පුතුන් දූවරුන් උපදවීය. ඉන්පසු
යෝවාෂ් යෙහෝවාවහන්සේගේ ගේ අ
5 ළුත්කරන්ට කැමතිව පූජකයන්ද ලේවී
වරුන්ද රැස්කොට ඔවුන්ට කියනුයේ යූ
දාහි නුවරවලට ගොස් නුඹලාගේ දෙ
වියන්වහන්සේගේ ගේ අළුත්කරණ පිනි
ස සෑම ඊශ්‍රායෙල්වරුන්ගෙන් අවුරුදු
පතා මිල සම්පාදන්කොට ඒක ඉක්මනින්
කරපල්ලායයි ඔවුන්ට කීය. නුමුත් ලේ
6 වීවරු ඒක ඉක්මන් නොකලෝය. ර
ජද යෙහොයාදා මූලාදෑනියාට අඬගසා
යෙහෝවාවහන්සේගේ වැඩකාර මෝ
සෙස්ගේ අණවේ ප්‍රකාරයටද ඊශ්‍රායෙල්
සභාවේ අණවේ ප්‍රකාරයටද සාක්ෂියේ
මණ්ඩපයට යූදා සහ යෙරුසලම සිට එක
තුකල මිල ගෙනෙන්ට ලේවීවරුන්ට
7 අන නොකලේ මන්දැයි කීය. මක්නිසා
ද අතලියා නම් නපුරු ස්ත්‍රීගේ පුත්තු
දෙවියන්වහන්සේගේ ගේ බිඳ උන්වහන්
සේගේ ගෙයි සෑම කැපකල දේ බා
8 ලිම්ට දුන්නෝය. ඒවද රජුගේ අණව
ට පෙට්ටියක් සාදා යෙහෝවාවහන්සේ
9 ගේ ගෙයින් පිට දොර ලඟ තබා දෙවි
යන්වහන්සේගේ වැඩකාර මෝසෙස් ව
නාන්තරයේදී ඊශ්‍රායෙල්ට නියමකල ආද
යම යෙහෝවාවහන්සේට ගෙනෙන්ට
යූදාද යෙරුසලම්ද මුළුල්ලෙහි ප්‍රසිද්ධ ක
10 ලෝය. සෑම මූලාදෑන්ද මිනිස්සුද මිල
ගෙනැත් සතුටින් කම්මුතුවට ඒ පෙට්
ටියේ දැම්මෝය. ලේවීවරුන් රජ ගබ
11 ඩාවට පෙට්ටිය ගෙනත්තුවාම එහි බො
හෝ මිල තිබෙන බව දැක රජුගේ ලේ
කම්ද නායක පූජකයාගේ වැඩකාරයාද

ඇවිත් පෙට්ටිය හිස්කර ඒක තිබුන තැ
න ගෙනිහින් තිබුවෝය. දවසින් දවසට
මෙසේ කර බොහෝ මිල එකතුකළෝ
12 ය. රජද යෙහොයාදාද යෙහෝවාවහන්
සේගේ ගෙයි වැඩ කරනනට ඒ මිල දු
න්නෝය. ඔවුන්ද යෙහෝවාවහන්සේ
ගේ ගේ අළුත්කරන්ට හුන්නු වඩුවන්ද ව
ඩුවන්ද ගේ අළුත්කිරීමට යකඩ පිත්තල
13 වැඩකරනනන්ද කුලියට ගත්තෝය. ක
ර්මාන්තකාරයෝද වැඩකර සම්පූර්ණ
කොට දෙවියන්වහන්සේගේ ගේ පළමු
14 තිබුන ලෙස සාදා සවිකළෝය. ඒක නි
මාවූකර ඉතිරි මිල රජ්ජද යෙහොයාදාද ඉ
දිරිපිටට ගෙනාවෝය එයින් යෙහෝ
වාවහන්සේගේ ගෙයි වැඩකිරීමටත් පූ
ජකිරීමටත් භාජන හැඳි රන් රිදී භාජ
න සැදූවෝය. යෙහොයාදා ජීවත්ව සිටිය
සියළු කාලයෙහිදී යෙහෝවාවහන්සේ
ගේ ගෙයි දවන යාග නිතරම පූජාක
15 ළෝය. යෙහොයාදාද වයස් සම්පූර්ණව
වුඩ වයසට පැමින මැරුණේය. නසින
කොට එකසිය තිස් අවුරුද්දක් වයස්ය.
16 ඔහු ඊශ්‍රායෙල්හි දෙවියන්වහන්සේටත්
උන්වහන්සේගේ ගෙටත් යහපත්කම්
කල නිසා දවිත්ගේ නුවර රජුන් අත
17 රේ තැන්පත්කරනු ලැබිය. යෙහොයාදා
ද මැරුණු පසු යූදාහි මූලාදෑනි ඇවිත් ර
ජුට වැන්දෝය. රජද ඔවුන්ට ඇහුම්
18 කන් දුන්නේය. ඔවුන් තමන් පියවරුන්
ගේ දෙවිවූ යෙහෝවාවහන්සේගේ
ගේ අත්හැර දේවතා වෘක්ෂවලටත් රූප
වලටත් සේවය කළෝය ඔවුන්ගේ මෙ
වැරුද්ද නිසා යූදාවද යෙරුසලමටද උ
19 දහස් පැමුනුනේය. නුමුත් ඔවුන් යෙ
හෝවාවහන්සේ වෙතට දෙවනු හරවා
ගන්නා පිනිස උන්වහන්සේ අනාගත
වක්තෘන් ඔවුන් වෙතට යවූසේක. ඒ අ
නාගතවක්තෘන් ඔවුන්ට එදිරිව සාක්ෂි
20 දුන් නුමුත් ඔවුන් ඇහුවේ නැත. දෙවි
යන්වහන්සේගේ ආත්මයද යෙහොයාදා පූ
ජකයාගේ පුත් සකරයාට පැමිණියේය.
ඔහුද මිනිසුන් අතරෙහි උස් තැනක සි
ට ඔවුන්ට කථාකොට දිවුනුවෙන්ට බැ
රි තරම් යෙහෝවාවහන්සේගේ ආඥා
වල් කඩකරනෙන් මන්ද? තොප යෙ
හෝවාවහන්සේ හැරිය නිසා උන්වහන්
සේද තොප හැරිය බව දෙවියන්වහන්
21 සේ කියනසේකැයි කිය. ඔවුන් රජ අ
ඥාව පිට ඔහුට එදිරිව කැරලි ගැසී යෙ
හෝවාවහන්සේගේ ගෙයි මිදුලේදී ඔ
22 හුට ගල් ගැහුවෝය. මෙසේ යෝවාශ්
රජ සකරයාගේ පිය යෙහොයාදා ඔහුට ක
ළ යහපත සිහිනොකර ඔහුගේ පුත්‍රයා
මැරීය. ඔහු මැරෙද්දී යෙහෝවාවහන්
සේ බලා විපාක දෙනසේක්වයි කීය.
23 තවද අවුරුද්ද අන්තිමේදී අරම් සේ
නාග ඔහුට එදිරිව යූදාවද යෙරුසලමට
ද ඇවිත් මිනිසුන්ගේ සැම මූලාදෑනින්
මරා ගත් කොල්ල දමස්කසේ රජුට යැවී
24 වෝය. අරම්වරු ආවේ සුළු සේනාගේ
සමගය යූදාවරුන් තමන් පියවරුන්ගේ
දෙවිවූ යෙහෝවාවහන්සේ අත්හැරිය
නිසා යෙහෝවාවහන්සේද ඔවුන්ගෙන්
මහත් සමූහයක් අරම්වරුන්ගේ අතට
25 පාවාදුන්සේක. ඔවුන් යෝවාශ්ට එදිරි
ව විනිශ්චය ඉෂ්ටකර ලෙඩින් ඉතා පී
ඩාවූ ඔහු හැර ගියාම තමන් වැඩකාර
යෝ යෙහොයාදා පූජකයාගේ පුතුන්ගේ
ලේ නිසා ඔහුට එදිරිව කැරලි ගැසී ඔ
හුගේ ඇඳේදී ගැහුවෝය ඔහුද මැරු
ණේය. මිනිස්සුද ඔහු රජ සොහොන්
ගේවල තැන්පත් නොකර දවිත් නුවර
26 තැන්පත්කළෝය. ඔහුට එදිරිව කැරලි
ගැසුවේ අම්මෝනිය සිමයත් පුත් සබද්
හා මෝවබ්හි සිම්රිත්නම් ස්ත්‍රියගේ
27 පුත් යෙහොසබද්ය. ඔහුගේ පුතුන් ග
නද ඔහු පිට තැබූ මහත් බර ගැනද දෙ
වියන්වහන්සේගේ ගේ අළුත්කිරීම ගැ
නද රාජවලියේ ලියා තිබෙනේය ඔ
හු පුත් අමසියාද ඔහු හිලව්වට රජක
කෙළේය.

25. පරිච්ජ. අමසියාද විසිපස් අවු
රුදු වයසේදී රජව යෙරුසලමේ විසි
නව අවුරුද්දක් රජකම් කෙළේය. ඔ
හුගේ මව යෙරුසලමේ යෙහොවද්දන්
2 ය. ඔහු යෙහෝවාවහන්සේගේ ඉදිරි
යෙහි යුතු දේ කෙළේය. නුමුත් පැහැ
3 දුන සිතින් ඒ දේ නොකළේය. රාජ්‍ය
ය ඔහුට සවිවූනාම ඔහු තමාගේ පිය
4 ජු මැරූ වැඩකාරයන් මැරීය. නුමුත් ද
රුවන් නිසා පියවරුන් පියවරුන් නිසා
දරුවන් මරණට පත්නොව සැම දෙ
නම තමතමන් වරදට මරණට පත්වේ
යයි කියා යෙහෝවාවහන්සේගේ ආ
ඥාවේ ප්‍රකාරයට මෝසෙස්ගේ ව්‍යවස්ථා
පොතේ ලියා තිබෙන ලෙස ඔවුන්ගේ
5 දරුවන් නොමැරීය. අමසියාද යූදා

රැස්කර යූදාද බෙන්යමින්ද මුළුල්ලෙහි
තමන් පිය වංශ ලෙස දහවත් සියයවත්
මුලාදෑනීන් පත්කර විසි අවුරුදු වයස්
ඇත්තන් සිට ඊට වැඩිවූවන් ගනන්කර
සෙල්ල පලිස් පුරුදු යුධයට යන්ට දක්ෂ
මිනිස්සු තුන් ලක්ෂයක් සම්භවූහෝය.
6 රිදී තලෙන්ත සියයක් දී ඊශ්‍රායෙල්
ගෙන් බලවත් දක්ෂයන් ලක්ෂයක්ද කු
7 ලියට ගත්තේය. එහෙත් දෙවියන්වහන්
සේගේ මනුෂ්‍යයෙක් ඔහු ළඟට ඇවිත්
රජ්ජුරුවනි සෑම එප්‍රායිම් පුතුන්වූ ඊශ්‍රා
යෙල්වරුන් සමග යෙහෝවාවහන්සේ
නොසිටින නිසා ඊශ්‍රායෙල් සේනාව තු
8 බ සමග යන්ට නොදෙන්න. එහෙත්
තුබ යන්ට කැමතිනම් යුධයට බලවත්
ව පලයන්න. උපකාරකරන්ටද නැති
කරන්ටද දෙවියන්වහන්සේටද බලය
ඇති නිසා උන්වහන්සේ සතුරන්ගෙන්
9 තුබ පරදවනසේක්යැයි කීය. අමසියාද
ඊශ්‍රායෙල් සේනාවට මා විසින් දුන් ත
ලෙන්ත සියේට මක්කරමුදැයි දෙවිය
න්වහන්සේගේ මනුෂ්‍යයාට කීය. දෙවි
යන්වහන්සේගේ මනුෂ්‍යයාද යෙහෝ
වාවහන්සේ ඊට වඩා බොහෝකොට
තුබට දෙන්ට හැකිවනසේක්යැයි උත්ත
10 ර දුන්නේය. අමසියාද එප්‍රායිම්හි සිට
තමා ළඟට ආ සේනාව ඔවුන්ගේ රටට
යන්නට වෙන්කෙළේය ඒ නිසා ඔවුන්
ගේ කෝපය යූදාට එදිරිව බොහෝ
සෙයින් ඇවිල මහත් ක්‍රෝධයෙන් ත
11 මන් ගෙදරවලට ගියෝය. අමසියාද
තමන් සවිකර තමන් මිනිසුන් ගෙන එ
න්නම් මිටි තැනට ගොස් සේර් පුත්‍රයන්
12 ගෙන් දසදහසක් මැරීය. යූදා පුත්‍රයෝ
පනපිටින් දසදහසකුත් අල්ලාගෙන පව්
ව මුදුනට ගෙනැත් පාතට දැම්මෝය.
ඔවුන් සියල්ලෝද කැළිකැළිව පොඩි
13 වූහෝය. තවද අමසියා තමන් එක්ක
සටනට නොයන්නට හැරිය මිනිස්සු ස
මාරිය සිට බෙත්හොරොන් දක්වා යූදා
නුවරවලට වැද තුන්දහසක් මිනිසුන්ට
ගසා බොහෝ කොල්ල ගත්තෝය.

14 අමසියාද එදොම්වරුන් මරා ආපසු
සේර් පුතුන්ගේ දෙවියන් ගෙනැත් ත
මන්ට දෙවිකොට තබාගෙන ඔවුන්ට
15 වැද සුවඳ දුම් ගැසීය. ඒ නිසා යෙහෝ
වාවහන්සේගේ උදහස අමසියාට එදිරි
ව ඇවිළුණේය උන්වහන්සේ අනාගත
වක්තෘකෙනෙක් ඔහු ළඟට යවූසේක.
ඔහුද කථාකොට තමන් මිනිසුන් තුබ
අතින් ගලවාගන්ට බැරිවූ ඒ මිනිසුන්
ගේ දෙවියන් ඇදහුවේ මක්නිසාදැයි අ
16 මසියාගෙන් ඇසීය. ඔහු රජු සමග ක
ථාකරද්දී තෝ රජ ඇමතියෙක්ද? නි
කම් සිටුව බැට කන්නට හාදනේ මන්
දැයි රජ ඔහුට කීය. එවිට අනාගතවක්
තෘ නිකම් හිඳ මගේ දූනිමිතිකම නො
අසා මේක කල නිසා දෙවියන්වහන්සේ
තුබ නැතිකරන්ට නියමකල බව දනි
17 මියි කීය. එකල යූදාහි අමසියා රජ දූ
නිමිතිකම් අසා අපි ඔවුනොවුන් මූන
දකිමුයයි ඊශ්‍රායෙල්හි යෙහූ රජු පුත් ය
හෝවහස් පුත් යෝවස්ට කියා ඇරියේ
18 ය. ඊශ්‍රායෙල්හි යෝවස් රජද ලෙබ
නොන්හි වෙරළන තුඹේ දුව මගේ පුත්‍ර
යාට අඹුකමට දියන්නැයි ලෙබනොන්
හි කිහිරි ගහට කියා ඇරියේය. ලෙබ
නොන්හි වල් සතෙක් ඒ මඟින් ගොස්
19 වෙරළන පාගාදැම්මේය. මම එදොම්වරුන්
පැරදෙව්වෙමි කියා ගරුකම් කිරීමට
තුඹේ සිත උඩඟුවූයේය ගෙයි සිටප
න්න තුබ සහ යූදාද නැතිවෙන ලෙස
තුබට නපුරක් වෙන්ට මැදිවෙන්නේ
20 මන්දැයි යූදාහි අමසියා රජුට කියා ය
විය. තුඹුත් ඔවුන් එදොම්හි දෙවියන්
ඇදහූ නිසා දෙවියන්වහන්සේ විසින් ස
තුරන් අතට ඔවුන් පාවාදීම දෙවියන්ව
හන්සේගෙන් සිඹවූයේය. ඒ නිසා අම
21 සියා ඇහුවේ නැත. ඊශ්‍රායෙල්හි යෝ
වස් රජද ගොස් ඔහුද යූදා අමසියාද
යූදාහි බෙත්ෂෙමෙස්හිදී ඔවුනොවුන් මූනු
22 දුටුවෝය. යූදා ඊශ්‍රායෙල්ට පැරද තම
23 තමන් කූඩාරම්වලට පලාගියෝය. ඊ
ශ්‍රායෙල්හි යෝවස් රජ යෙහෝවහස් පුත්
යෝවස් පුත් යූදාහි අමසියා රජු බෙත්
ෂෙමෙස්හිදී අල්ලා යෙරුසලමට ගෙනත්
එප්‍රායිම් දොර සිට කොණේ දොර දක්
වා රියන් හාරසියයක් යෙරුසලමේ ප
වුරෙන් බිඳදමා දෙවියන්වහන්සේගේ
24 ගෙයි ඔබේදෙදොම් ළඟ තිබුණු රන්
රිදීද සෑම භාජනද රජගෙයි වස්තුද සෑ
ම ඇපකාරයන්ද අරන් සමාරියට හැරී
25 ගියේය. යූදාහි යෝවස් පුත් අමසියා
රජ ඊශ්‍රායෙල්හි යෙහෝවහස් පුත් යෝවස්
රජු මැරුණු පසු පහළොස් අවුරුද්දක්
26 ජීවත්ව සිටියේය. පළමු පටන් අන්ති
ම දක්වා අමසියාගේ අනිත් ක්‍රියාවල් යූ
දා සහ ඊශ්‍රායෙල් රජුන්ගේ පොතේ

27 ලියා තිබෙනොත්ය. අමසියා යෙහෝවා
වහන්සේගේ ඇදහිම අත්හැරිය පසු
යෙරුසලමේ ඔහුට විරුද්ධව කැරලිගැසු
වෝය. ඔහුද ලකිෂ්ට හැංගි ගියේය එ
28 හෙත් ඔහු පස්සේ ලකිෂ්ට හේවායන්
යවා එහිදී ඔහු මරා අශ්වයන් පිටින් ගෙ
නත් යුදාහි පුරවර තමන් පියවරුන් ස
මඟ තැන්පත්කලෝය.

26. පරිච්. එවිට යුදාහි සෑම මිනිස්
සු දහසාවුරුදු වයසේදි උසියා අරන්
ඔහුගේ පිය අමසියා සිලව්වට රජකමට
2 පත්කලෝය. අමසියා මැරුණු පසු උසි
යා එලොත් ගොඩනගා යුදාට දෙවනු
3 දුනොත්ය. උසියා දහසාවුරුදු වයසේ ර
ජකමට පත්ව යෙරුසලමේ පනස් දෙවු
රුද්දක් රජකම් කෙලේය. ඔහුගේ මව
4 යෙරුසලමේ යෙකොලියා විය. තමන්
පිය අමසියා කල සියලු ලෙස ඔහු යෙ
හෝවාවහන්සේ ඉදිරියෙහි යුතුකම ක
5 ලේය. දේව දර්ශන ගැන දැනුම ඇතාවූ
දෙවියන්වහන්සේගේ අනාගතවක්තෘ ස
කරයාගේ දවස්වලදී දෙවියන්වහන්සේ
ඇදහිය. ඔහු යෙහෝවාවහන්සේ ඇද
හු පමන කල් උන්වහන්සේ ඔහු දියුනුක
6 ලසේක. ඔහු පිලිස්තිවරුන්ට විරුඩව
ගොස් සටන්කර ගත්හිද යබ්නාහිද අස්
දෝද්හිද පවුරු බිඳ දමා අස්දෝද් වටක
ර පිලිස්තිවරුන් අතරේ පුවරවල් ගො
7 ඩ නැගීය. දෙවියන්වහන්සේද පිලිස්ති
වරුන්ටත් ගුර්බාල්හි සිටි අරාබිවරුන්
ටත් මෙහුනිම්වරුන්ටත් විරුද්ධව ඔහුට උ
8 දව්වූහුසේක. අම්මොනිවරුද උසියාට
තෑගි දුනොත්ය. ඔහු බොහෝසෙයින්
දියුනු නිසා ඔහුගේ නම මිසරයට ඇතුල්
9 වෙන තැන දක්වා ප්‍රසිඩවිය. උසියාද
යෙරුසලමේ කොනේ දොරටුවේත් බෑ
වුමේ දොරටුවේත් පවුර හැරෙන ඉඩ
මේත් කොටු ගොඩනගා ඒවා සවිකෙ
10 ලේය. පහළ රටේත් සමබිම්වලත් බො
හෝ සිව්පාවුන් ඔහුට සිටි නිසා වනාන්
තරයේද කොටු ගොඩනගා බොහෝ
ලින් හෑරීය. ඔහු ගොවිකම් කිරීමට කැ
මති නිසා කර්මෙල්හිත් කඳුවලත් ගො
වියෝද මිදිවතු ගොවියෝද ඇතිව සිටි
11 යෝය. යයිල් ලේකම්ගේ අතින්නුත් මාස
යා මූලාදනියාගේ අතින්නුත් ගනන්කලා
වූ රජ්ජුගේ මූලාදනීන්ගෙන් එකෙක්වූ
හනනියාගේ අත යටතේ සිටි ගනන් ව
සයෙන් සමූහ වශයෙන්ද සටනම යන
12 හේවා සමූදුවක් උසියාට සිටියේය. ද
ක්ෂ බලවතුන්ගේ වැඩිමහල් මූලාදනීන්
13 ගේ මුළු ගනන දෙදහස් හයසියයක. සතු
රන්ට විරුද්ධව රජ්ජුට උදව්වෙන පිනිස ම
හත් බලයෙන් සටන්කරනායන් අතය
මෙත් සිටිය සේනාවේ ගනනනම් තුන්
14 ලක්ෂ සත්දස් පන්සියයක. උසියාද ප
ලිස් හෙලුම් තොප්පි ඉහලුමු දුනු ගල්
පටි සෑම සේනාට සූදානම්කර ඊගස්
15 ලොකු ගල් හරිනාට කොටු පිටද පවු
රු පිටද තබන පිනිස දක්ෂ මිනිස්සුන්
විසින් සොද තිබුන යන්ත්‍ර යෙරුසල
මේ සෑදෙව්වේය. ඔහු පුදුම ලෙස උප
කාර ලැබ සවිව ඔහුගේ නම ඉතා දුර
ට ප්‍රසිඩ විය.
16 එහෙත් ඔහු බලවත්වූ කල තමන් නැ
තිව්මට සිත උඩඟු වූයේය. මක්නිසා
ද තමන් දෙවිවූ යෙහෝවාවහන්සේට
විරුද්ධව පව්කරමින් දුම් ආසනයේ සුවඳ
දුව්‍ය දවනනාට යෙහෝවාවහන්සේගේ
17 ගෙට ඇතුල්වූයේය. අසරියා පූජකයා
ද ඔහු සමඟ යෙහෝවාවහන්සේගේ පූ
ජකවූ බලවත් මිනිස්සු අසූ දෙනෙක්
18 ද රජ්ජු පස්සේ ඇතුල්ව ඔහුට කථාකො
ට උසියා යෙහෝවාවහන්සේ ඉදිරිපිට
සුවඳ දුම් ගැසීමට වෙන්කරනු ලැබුවා
වූ ආරොන් සුත් පූජකයන්ට මිස සුවඳ
දුම් ගසනනාට සුබට සුදුසු නැත. පිරිසි
දු තැනින් පලයනත ඔබ වරද කලෙ
හිය. දෙවිවූ යෙහෝවාවහන්සේගෙන්
මේ ගැන ඔබට තම්වක් නොලැබෙන්
19 නේයයි ඔහු වලක්වමින් කීවෝය. එවි
ට උසියා සුවඳ දුම් ගසනනාට අතේ දුම්
භාජන ඇතුව තරහ වූයේය. පූජකයන්
ට විරුද්ධව කෝපව සිටි විට යෙහෝවා
වහන්සේගේ ගෙයි දුම් ආසනය ලඟ සි
ට පූජකයන් ඉදිරිපිටදී ඔහුගේ නලලේ
20 කුෂ්ට රෝගය අටගත්තේය. අසරියා නා
යක පූජකයාද සෑම පූජකයෝද ඔහුගේ
නලලේ කුෂ්ට රෝගය තිබෙන බව ද
ක ඔහු එතැනින් අහක්කලෝය. යෙ
හෝවාවහන්සේ ඔහුට උවදුරු දුන් නි
21 සා ඔහු වහාම පිටත්ව ගියේය. උසියා
රජද ඔහුගේ මරණය දක්වා කුෂ්ට රෝ
ගියෙක්ව සිටියේය. කුෂ්ට රෝගය ති
බුන නිසා යෙහෝවාවහන්සේගේ ගෙ
යෙන් අහක්කරනු ලැබ තනි ගෙයක
සිටියේය. තමන් පුත් යෝතම් රටේ වි

නිසූන් අත්බූකරණ රජගෙයි මුලාදෑනි
22 යාය. පළමු පටන් අන්තිම දක්වා උසි
යාගේ අනික් ක්‍රියාවල් ආමොස්ගේ පුත්
23 අනාගතවක්තෘ යෙසයියා ලිව්ය. උසියා
මැරුණේය ඔහු කුෂ්ට රෝගියෙක නියා
ඔවුන් රජුන්ගේ සොහොන් ගෙවල් ති
බුන කෙතේ ඔහුගේ පියවරුන් සමග
ඔහු තැන්පත්කළෝය. ඔහුගේ පුත්
යෝතාම්ද ඔහු හිලව්වට රජකම් කෙ
ළේය.

27. පරිච්. යෝතාම් පස්විසි අවුරු
දු වයසේදී රජකමට පැමිණ දහසාවුරු
ද්දක් යෙරුසලමේ රාජ්‍යය කෙළේය.
ඔහුගේ මව් සාදොක්ගේ දූවූ යරූසාය.
2 ඔහුද තමන් පිය උසියා කළ සියල්ල
ලෙස යෙහෝවාවහන්සේ ඉදිරියෙහි සු
තුකම් කෙළේය. හුමුත් යෙහෝවාව
හන්සේගේ ගෙට ඇතුල් නූනේය. මි
3 නිස්සුද තවම නපුරුකම් කළෝය. ඔහු
යෙහෝවාවහන්සේගේ ගෙයි උස් දොර
ටුව සාදා ඔපෙල් පවුර පිට බොහෝසේ
4 ඉදිකළේය. යුදා කඳුවල නුවරවල්ද ව
නයේ සුරක්ෂිත ස්ථානවල්ද කොටුද සෑ
5 දීය. ඔහුද අම්මොනිවරුන්ගේ රජුට වි
රුද්ධව සටන්කර ඔවුන් පැරදුවිය. අම්
මොන් පුත්තුද එම අවුරුද්දේ රිදී ත
ලෙන්ත සියයකුත් යෝධුම් නැළි දස
දහසකුත් යව නැළි දසදහසකුත් ඔහුට දු
න්නෝය. අම්මොන්ගේ පුත්‍රයෝ දෙ
වෙනි තුන්වෙනි අවුරුදුවලදී ඔහුට මෙ
6 පමණ ගෙව්වෝය. යෝතාම් තමන් දෙ
විවූ යෙහෝවාවහන්සේ ඉදිරියෙහි ප්‍ර
වේසමෙන් පැවතුන නිසා බලවත් විය.
7 යෝතාම්ගේ අනික් ක්‍රියාවත් සෑම ස
ටනුත් හැසිරීමුත් ඊශ්‍රායෙල් සහ යුදාහි
රජුන්ගේ පොතේ ලියා තිබෙනේය.
8 ඔහු පස්විසි අවුරුදු වයසේ රජකමට පැ
මිණ යෙරුසලමේ දහසාවුරුද්දක් රාජ්‍ය
9 ය කෙළේය. යෝතාම් මැරුණේය ඔවු
හු දාවිත්ගේ නුවර ඔහු තැන්පත්කළෝ
ය. ඔහුගේ පුත් ආහාස්ද ඔහු හිලව්වට ර
ජකම් කෙළේය.

28. පරිච්. ආහාස් විසි අවුරුදු වය
සේදී රජකමට පැමිණ දහසාවුරුද්දක්
යෙරුසලමේ රාජ්‍යය කෙළේය. එහෙත්
තමන් පිය දාවිත් මෙන් යෙහෝවාවහන්
සේ ඉදිරියෙහි යුතු දේ නොකොට ඊශ්‍රා
2 යෙල් රජුන්ගේ මාර්ගවල හැසිර බාලිම්
3 ට වාත්තු රූපවල් සෑදීය. හින්නොම් පු
ත්‍රයාගේ මිටියාවතේ සුවඳ දුම් ගසා යෙ
හෝවාවහන්සේ විසින් ඊශ්‍රායෙල් පුත්‍ර
යන්ගෙන් හැර දැමූ ජාතීන්ගේ පිළි
කුල් ලෙස තමාගේ දරුවන් ගිනෙහාන්
4 දුවිය. උස්තැනවලත් කඳුවලත් සෑම
අමු ගස් යටත් යාග පූජාකර සුවඳ දුම්
5 දුවිය. ඒ නිසා ඔහුගේ දෙවිවූ යෙහෝ
වාවහන්සේ ඔහු අරම්හි රජු අතට පා
වාදුන්සේක. ඔවුහු ඔහු පරදවා මහත්
සමූහයක් දාසකර දමස්කයට ගෙනා
වෝය. තවද ඔහු ඊශ්‍රායෙල් රජු අතට
පාවාදෙනු ලැබ මහත් මරණඝාතියක
6 ට පැමිණියේය. ඔවුන් තමන් පියවරුන්
ගේ දෙවිවූ යෙහෝවාවහන්සේ අත්
ඇරිය නිසා රමලියා පුත් පෙකා එකසිය
විසිදහසක් මිනිසුන් වන යුදාහි සෑම බල
7 වතුන් එක දවසේම මැරුවේය. එප්‍රා
යිම්හි සික්‍රිනම් බලවත්තයෙකු රජ පුත්
මාසේයාද ගෙයි මුලාදෑනියාවූ අස්‍රිකාම්ද
රජුට දෙවෙනියාවූ එල්කානාද මැරීය.
8 ඊශ්‍රායෙල් පුත්‍රයෝ තමන් සහෝදරයන්
ගෙන දෙලක්ෂයක් ස්ත්‍රීන් දූදරුවන්
වාල්කරගෙන බොහෝ කොල්ලද සමාරි
9 යට ගෙනගියෝය. එහෙත් එහි සිටි ඔ
දෙද්නම් යෙහෝවාවහන්සේගේ අනා
ගතවක්තෘ කෙනෙක් සමාරියට ආ සේ
නාග ඉස්සරහට ගොස් ඔවුන්ට කථාකො
ට නුඹලාගේ පියවරුන්ගේ දෙවිවූ යෙ
හෝවාවහන්සේ යුදාට උදහස් උන නි
සා ඔවුන් නුඹලා අතට පාවාදුන්සේක.
නුඹලා ස්වර්ගය දක්වා නැගී තිබෙන
10 කෝපයකින් ඔවුන් මැරුවෝය. දැනුත්
නුඹලා යුදාද යෙරුසලම් වැසියන් දාසි
දාසයන් කර යටත්කරගන්නට සිතති.
එහෙත් නුඹලාගේ දෙවිවූ යෙහෝවා
වහන්සේට එදිරිව නුඹලාවත් පව් නැද්
11 ද? ඒ නිසා මාගේ බස් අසා යෙහෝ
වාවහන්සේගේ සැඩ උදහස නුඹලා
කෙරෙහි තිබෙන නිසා නුඹලාගේ ස
හෝදරයන්ගෙන් වාල්කරගත් දාසයන්
12 නැවත ඇරපලායයි කීය. එකල එප්‍රා
යිම් පුත්‍රයන්ගේ සමහර මුලාදෑනි වන
යොහානාන් පුත් අසරියාද මෙෂිල්ලෙමොත්
පුත් බෙරෙකියාද සල්ලුම් පුත් යෙහිස්කියාද
හද්ලයි පුත් අමාසාද යුද්ධයෙන් ආ ඇත්
13 තන්ට එදිරිව සිට අප විසින් යෙහෝ
වාවහන්සේට එදිරිව වරද කළ හෙයින්

අපේ වරදවත් පව්වලටත් නුබලා වැඩි
කරනනට සිතන නිසා නුබලා වාලව ග
නනවුන් මෙහි ගෙනෙනන්නට එපාය.
මක්නිසාද අපේ වරද මහත්ය ඊශ්‍රායෙල්
ට එදිරිව තද උදහස ඇතැයි ඔවුන්ට
14 කීවෝය. මෙසේ ඒ යුඞකාරයෝ වාල
ව ගනනවුන්ද කොල්ලයද මූලාදැනීන්ද සැ
15 ම සභාවද ඉදිරියෙහි හැරියෝය. නම්
කිවූ මිනිස්සුද නැගිට වාලට ගනනවුන්
ගෙන නිර්වස්ත්‍රව සිටියාවූ සැමටම කො
ල්ලයෙන් අඳවා සරහා වහන්ද කෑමබීම
ද දී තෙල් ගාලා සැම බෙලහීනවුන්
කොටළුවන් පිට හිඳුවා යෙරීකෝනම්
තල්ගස් නුවර ඔවුන්ගේ සහෝදරයන්
ලගට ගෙනැත් පසුව සමාරියට හැරී
ආවෝය.

16 එකල එදෙම්වරුන් දෙවනු ඇවිත්
17 යුදා පරදවා වාල්කරගත් නිසා ආහස්
රජ තමාට උදව්වෙනනට අශූර්හි රජුන්
18 ට කියා ඇරියේය. පිලිස්තිවරුද යුදා
දකුනු දිග පිට්සර නුවරවලට වැද බෙත්
ෂමෙස්ද අයලොන්ද ගදෙරොත්ද සොකො
සමග ගම්ද තිම්නා සමග ගම්ද ගිම්
සො සමග ගම්ද අල්වාගෙන එහි පදිංචි
19 වූහෝය. යුදාහි ආහස් රජු යුදාට සිග
කොට යෙහෝවාවහන්සේට එදිරිව ත
ද වරද කල නිසා උන්වහන්සේ යුදා ය
20 ටත්කලසේක. අශූර්හි තිල්ගත්පිල්නෙ
සර් රජ ඔහු ලගට ඇවිත් පීඩා කලා මි
21 ස උදව් නුනේය. ආහස්ද යෙහෝවාව
හන්සේගේ ගෙයිනුත් රජගෙයිනුත් මූ
ලාදැනීන්ගෙනුත් කොල්ල ගෙන අශූර්
හි රජුට දුනේය. නුමුත් අශූර්හි රජ
22 ඔහුට උපකාර වූනේ නැත. ඔහුට දුක්
වූකල යෙහෝවාවහන්සේට එදිරිව ව
23 ඩා වරද කෙලේය. මේ ආහස් රජ ඔහු
පැරදෙව් දමස්කයේ දෙවිවරුන්ට යාග
කර අරම් රජුන්ගේ දෙවිවරුන් ඔවුන්
ට පිහිටවූන නිසා මටත් පිහිට වෙතැයි
සිතා ඔවුන්ට යාගකරම්යි කීය. එහෙත්
ඔවුන් නිසා ඔහුටත් ඊශ්‍රායෙල්ටත් හා
24 නි විය. ආහස්ද දේවමාලිගාවේ භාජන
එක්කොට කෑලි කපා යෙහෝවාවහන්
සේගේ ගෙයි දොර පියා යෙරූසලමේ
සැම මං සන්දිවල තමාට පූජාසන සෑදී
25 ය. යුදාහි නුවරක් පාසා වෙන දෙවිව
රුන්ට සුවඳ දුම් ගසනනට උස් තැන්
සාදා තමන් පියවරුන්ගේ දෙවිවූ යෙ
26 හෝවාවහන්සේ උදහස් කෙලේය. ප
ලමූ පටන් අන්තිම දක්වා ඔහුගේ ක්‍රියා
වළුත් සැම මාර්ගවළුත් යුදා සහ ඊශ්‍රා
යෙල් රජුන්ගේ පොතේ ලියා තිබෙ
27 නෙන්ය. ආහස් මැරුනේය ඔවුහු ඊශ්‍රා
යෙල් රජුන්ගේ සොහොන් ගේවලට
ඔහු නොගෙනත් යෙරූසලම් නුවර
ඔහු තැන්පත් කලෝය. ඔහුගේ පුත්
හෙසකියාද ඔහු හිලව්වට රජකම් කෙ
ලේය.

29. පරිච්. හෙසකියා විසිපස් අවු
රුදු වයසේදී රජකමට පැමින යෙරූස
ලමේ විසිනව අවුරුද්දක් රාජ්‍යය කෙ
ලේය. ඔහුගේ මව් සකරයාගේ අබියා
2 නම් දූය. ඔහුද තමන් පිය දාවිත් කල සි
යල්ල ලෙස යෙහෝවාවහන්සේ ඉදිරි
3 යෙහි යුතුකම් කෙලේය. ඔහු රජකමට
පැමිනි පලමුවෙනි අවුරුද්දේ පලමු මා
සේදී යෙහෝවාවහන්සේගේ ගෙහි දො
රවල් ඇර අළුත්වැඩියාකර පූජකයන්
4 ලෙව්වරුන්ද ඇතුලට ගෙනවා නැගෙන
ඉර විදියේ ඔවුන් රැස්කොට කියනුයේ
5 ලෙව්වරුනි මට ඇහුම්කන් දියල්ලා.
නුබලා දැන් පවිත්‍රව් නුබලාගේ පියව
රුන්ගේ දෙවිවූ යෙහෝවාවහන්සේ
ගේ ගෙයද ශුඞකර පිරිසිදු තැන තිබෙ
න කුනු සේරම පිටතට ගෙනෙල්ලා.
6 අපේ පියවරු අපරාධකොට අපේ දෙවි
වූ යෙහෝවාවහන්සේ ඉදිරියෙහි නපු
රුකම කර උන්වහන්සේ අත්හැර උ
න්වහන්සේ සිටින තැනින් තමන් මූන
7 හරවා පිටපාගතෝය. ඔවුන් බරණ්ඩේ
දොරද පියා පාන් නිවා පිරිසිදු තැනදී
ඊශ්‍රායෙල් දෙවියන්වහන්සේට සුවඳ දුම්
ගැසීමද දවන පූජා කිරීමද අත්ඇරියෝ
8 ය. ඒ නිසා යෙහෝවාවහන්සේගේ උ
දහස යුදා සහ යෙරූසලම කෙරෙහි
පැමිනියේය. උන්වහන්සේ නුබලාගේ
ඇස්වලට පෙනෙන ලෙස දුකටත් පුදුම
යටත් නින්දාවටත් ඔවුන් පාවාදුන්සේක.
9 අපේ පියවරු කඩුවෙන් වැටුනෝය. අ
පේ දූදරුවන් හා අඹුවෝ මේ නිසා
10 වාල්ව සිටිති. දැන් ඊශ්‍රායෙල් දෙවිවූ
යෙහෝවාවහන්සේගේ තද උදහස අ
පෙන් පහවෙන පිනිස උන්වහන්සේ ස
මග ගිවිසුමක් කරන්ට මාගේ හිතේ තී
11 බෙනෙන්ය. මාගේ පුත්‍රයෙනි උන්වහන්
සේ ඉදිරිපිට සිට මෙහෙකරන්ටද වැඩ
කරන්ටද සුවඳ දුම් ගසන්ටද යෙහෝවා

වහන්සේ ස්තුබලා තෝරාගත් නිසා ප්‍රමා
12 ද නොවෙල්ලායයි ඔවුන්ට කීය. එවිට
කෝහති පුතුන්ගෙන් අමසයි පුත් මා
හත්ද අසරයා පුත් යොවෙල්ද මෙරරි පු
තුන්ගෙන් අබ්දි පුත් කිෂ්ද යහලලිල්
13 පුත් අසරයාද ගර්ෂොන්වරුන්ගෙන්
සිම්මා පුත් යුවාද යුවා පුත් ඒදෙනු එලි
සපන් පුතුන්ගෙන් සිම්රිද යයිල්ද අ
සප් පුතුන්ගෙන් සකරයාද මත්තනයාද
14 හෙමන් පුතුන්ගෙන් යහියල්ද ෂිමයිද
යෙදුතුන් පුතුන්ගෙන් ෂමයාද උසියල්
ද යන ලෙව්වරු නැගිට තමන් සහෝ
15 දරයන් රැස්කර තමන්ම පවිත්‍රව රජු
ගේ අණුවට යෙහෝවාවහන්සේගේ
වචනය ලෙස උන්වහන්සේගේ ගේ පි
16 රිසිදුකරණ පිණිස ආවෝය. පූජකයෝ
ද යෙහෝවාවහන්සේගේ ගෙයි ඇතුල
පිරිසිදු කරණ පිණිස ගොස් උන්වහන්
සේගේ ගෙයි තිබුණු කුණු සේරම ගෙ
යි මළුවට ගෙනාවෝය. ලෙව්වරුද කි
ද්‍රොන් ඔයට ඒවා ගෙනයන්නට ගත්
17 තෝය. පලමුවෙනි මාසේ පලමුවෙනි
ද පිරිසිදුකරනනට පටන්ගෙන මාසේ
අටවෙනි ද යෙහෝවාවහන්සේගේ බ
රාදෙට ආවෝය. මෙලෙස අට දවසකින්
යෙහෝවාවහන්සේගේ ගේ පිරිසිදුකර
පලමුවෙනි මාසේ දහසවෙනි ද සම්පූ
18 තු කලෝය. එවිට ඔවුන් හෙසකියා ර
ජු ලඟට ගොස් යෙහෝවාවහන්සේගේ
මුළු ගේත් දවන පූජාසනයත් එහි සෑම
භාජනත් ඉදිරිපිට තබන රොටි මේස
19 යත් එහි සෑම භාජනත් අපි පිරිසිදුකර
ආහස් රජු රජකරණ කල තමන් අපරා
ධයෙන් අහක දැමූ සෑම භාජනත් සූද
නම්කර පිරිසිදුකලෙමුව. යෙහෝවාව
හන්සේගේ පූජාසනය ඉදිරිපිට ඒවා ඇ
තැයි කීවෝය.

20 එවිට හෙසකියා රජ වේලාසනින් නැ
ගිට නුවර මූලාදෑනින් රැස්කර යෙහෝ
21 වාවහන්සේගේ ගෙට ගියේය. ඔවුහුත්
රාජ්‍යයද පවිත්‍ර ස්ථානයද යූදායද උදෙසා
පව් නසන පූජාවකට ගොන් සත් දෙ
නෙකුත් බැටළුවන් සත් දෙනෙකුත්
බැටළු වස්සන් සත් දෙනෙකුත් එළුවන්
සත් දෙනෙකුත් ගෙනාවෝය. ඔහුද
යෙහෝවාවහන්සේගේ පූජාසනයේ පූ
දන්ට ආරොන් පුත් පූජකයන්ට අනා දු
22 නෙත්ය. ඔවුහු ගොන් මැරුවෝය. පූ
ජකයෝද ඒ ලේ ගෙන පූජාසනය පිට
ඉස්සෝය. එසේම බැටළුවන්නුත් මරා ලේ
පූජාසනය පිට ඉස්සෝය. බැටළු වස්ස
න් මරා ලේ පූජාසනය පිට ඉස්සෝය.
23 පව් නසන පූජාව පිණිස රජුද සභාවද ඉ
දිරිපිට එළුවන් ගෙනත් ඔවුන් පිට අත්
24 තැබුවෝය. දවන පූජාවද පව් නසන පූ
ජාවද සෑම ඊශ්‍රායෙල් උදෙසා කරන්ට
රජු විසින් අණකල නිසා පූජකයෝ ඒ
සතුන් මරා සෑම ඊශ්‍රායෙල් උදෙසා සම
ගි යාගයක් කරණ පිණිස උන්ගේ ලෙ
යෙන් පූජාසනය පිට ඉස්සෝය රජද අ
25 නාගතවක්තෘන් ලවා යෙහෝවාවහන්
සේ විසින් අණකල ලෙසද දාවිත් රජු
ගේත් දිවස් ඇති ගද්ගේත් නාතන් අනා
ගතවක්තෘගේත් අණුවේ ප්‍රකාරයටද අ
ත්තලවලින්ද වීණාවලින්ද කුඩා වීණාවලි
න්ද ගායනාකල ලෙව්වරුන් යෙහෝවා
වහන්සේගේ ගෙයි සිටවිය. දාවිත්ගේ
26 තූර්‍ය්‍ය බඩු ගත් ලෙව්වරුද හොරනෑ
27 ගත් පූජකයෝද සිටියෝය. හෙසකියාද
පූජාසනයේ දවන පූජාව පුදන්ට අණකෙ
ලේය. දවන පූජාව පුදන්ට පටන්ගත්
විට යෙහෝවාවහන්සේගේ ගීතිකාව
හොරනෑවලින්නුත් ඊශ්‍රායෙල්හි දාවිත් ර
ජු විසින් නියමකල තූර්‍ය්‍යවලින්නුත් පටන්
28 ගනෙත්ය. මුළු සමූහයද වැන්දේය. ගී කි
යනෙනෝද ගී කීවෝය. හොරනෑකාර
යෝද පිම්බෝය. දවන පූජාව නිමවෙන
තුරු මේ සියල්ල පැවතුනේය. පූජාව නි
29 මවූකල රජද ඔහු සමග සිටිය සියල්ලෝ
ද නැමී වැන්දේය. හෙසකියා රජද මූලා
30 දෑනිද දාවිත්ගේත් දිවස් ඇති අස්සප්
ගේත් වචනවලින් යෙහෝවාවහන්සේ
ට ස්තුති ගීතිකා කියනනට ලෙව්වරුන්
ට අනා දුනෙනෝය ඔවුහු සතුටින් ස්තුති
ගීතිකා කියා තමන් ඉස් නමා වැන්දේ
ය. එවිට හෙසකියා කථාකොට දැන් යෙ
31 හෝවාවහන්සේට ස්තුබලා පවිත්‍රව වෙ
න සිටිති. ඒ නිසා ලංව යාගද ස්තුති පූජා
ද යෙහෝවාවහන්සේගේ ගෙට ගෙ
නෙල්ලායයි කීය. සමූහවද යාග ස්තුති පූ
ජා ගෙනාවෝය. පැහැදුන සිත් ඇත්
32 තෝ දවන පූජාවල් ගෙනාවෝය. සමූහ
ව ගෙනා දවන පූජාවල ගනන ගොන්
හැත්තෑවකුත් බැටළුවන් සියයකුත් බැ
ටළු වස්සන් දෙසියයකුත්ය මේ සියල්
ල යෙහෝවාවහන්සේට දවන පූජාවක්
33 පිණිසය. කැපකල දේනම් ගොන් ස
සියයකුත් බැටළුවන් තුන්දහසකුත්ය.

34 එහෙත් පූජකයන් මදි නිසා සෑම දවන
පූජාවල් හමගහනනට බැරිවිය. ඒ නිසා
වැඩ නිමවෙන තුරුද පූජකයන් පවිත්‍ර
වෙන තුරුද ඔවුන්ගේ සහෝදර ලෙවි
වරු ඔවුන්ට උදව් වූනෝය. ලෙවිවරු
තමන්ම පවිත්‍ර කිරීමට පූජකයන්ට ව
35 ඩා අවංක සිත් ඇතිවූවෝය. දවන පූ
ජාද සමගි යාගවල තෙලද දවන පූජා
වට නියම පාන පූජාද බොහෝසේ තිබූ
ණේය. මෙසේ යෙහෝවාවහන්සේගේ
ගෙයි සේවය පිළියෙලකරනු ලැබිය.
36 හෙසකියාද සෑම මිනිස්සුද දෙවියන්ව
හන්සේ සමූදුව සූදානම්කල නිසා සතු
ටුවූනෝය. මක්නිසාද මේ කාරණ ඉක්
මනින් සිඩවූණේය.

30. පරිච්ඡ. හෙසකියාද ඊශ්‍රායෙල්
ගේ දෙවිවූ යෙහෝවාවහන්සේට උපරි
ගමන මඟල්‍යය පවත්වන පිණිස යෙරු
සලමේ යෙහෝවාවහන්සේගේ ගෙට
එන්ට ඊශ්‍රායෙල් සහ යූදා සෑම තැන
ලට කියා ඇර එප්‍රායිම්ටද මනස්සෑටද
2 ලියා ඇරියේය. පූජකයන් යුතු ලෙස
පවිත්‍ර නූන නිසාත් මිනිසුන් යෙරුසල
3 මට එකතු නූන නිසාත් නියම කාලයේ
උපරිගමන මංගල්‍යය පවත්වන්ට බැරු
ව දෙවෙනි මාසේදී පවත්වන්ට රජද
මූලාදෑනිද යෙරුසලමේ සෑම සමූදුවද
4 කථාකරගත්තෝය. රජද සියළු සමූදුව
ද ඊට සතුටුවූවෝය. ව්‍යවස්ථාවෙහි නි
5 යම්කල ලෙස බොහෝ කලක් ඒ මංග
ල්‍යය පැවැත්තුවේ නැති නිසා යෙරුස
ලමේ ඇවිත් දෙවිවූ යෙහෝවාවහන්
සේට උපරිගමන මංගල්‍යය පවත්වන්
නට බීර්ශෙබා හිට දන් දක්වා ඊශ්‍රායෙල්
මුළුලෙලහි ප්‍රසිඩකරන්ට නියමකලෝ
6 ය. එහෙයින් රජුගෙනුත් තමන් මූලා
දෑනින්ගෙනුත් පනිවිඩකාරයෝ ලිවුම්
ගෙන රජුගේ අණෙවේ ප්‍රකාරයට ඊශ්‍රා
යෙල්දයූදාද මුළුලෙලහි ගොස් මිනිසුන්
ට කථාකොට ඊශ්‍රායෙල් පුත්‍රයෙනි අබ්‍ර
හම් ඊසාක් ඊශ්‍රායෙල්ගේ දෙවිවූ යෙ
හෝවාවහන්සේ දෙසට දෙවනුහැරිය
ල්ලාය. උන්වහන්සේද අෂූර් රජු අතින්
ගැලවී ඉතුරුව සිටින නුබලා දෙසට හැ
7 රෙණසේක. නුබලාගේ පියවරුන්ගේ
දෙවිවූ යෙහෝවාවහන්සේට එදිරිව අප
රාධ කලාවූ නුබලාගේ පියවරුන්ටත් ස
හෝදරයන්ටත් සමාන නොවෙල්ලාය.
නුබලාට පෙනෙන ලෙස උන්වහන්සේ
8 ඔවුන් නාස්තියට පත්කලසේක. නුබ
ලාගේ පියවරුන් ලෙස තුලල් තද නො
කර යෙහෝවාවහන්සේට යටත් උන්ව
හන්සේ සදාකාලේටම පවිත්‍රකල පිරි
සිදු තැනට ඇතුල්ව උන්වහන්සේගේ
තද උදහස නුබලාගෙන් පහවෙන පි
ණිස නුබලාගේ දෙවිවූ යෙහෝවාව
9 හන්සේට සේවයකරපල්ලාය. නුබලා
ගේ දෙවිවූ යෙහෝවාවහන්සේ දයා
ඇති කරුණාවන්ත දෙවිකෙනෙක. ඒ
හෙයින් නුබලා යෙහෝවාවහන්සේ
වෙතට නැවත හැරුනොත් නුබලාගේ
සහෝදරයන්ද දරුවන්ද ගෙනගිය ඇ
තතන්ගෙන් ඔවුන් කරුණාව ලැබ දෙ
වනු මේ රටට එනෙනෝය. නුබලා උන්
වහන්සේ වෙතට හැරුනොත් උන්ව
හන්සේ නුබලා වෙතින් මූන ඉවත්නො
10 කරණසේකැයි කීවෝය. පනිවිඩකාර
යෝද එප්‍රායිම් සහ මනස්සෑ රට මුළු
ලෙලහි සමුළුන් දක්වාම නුවරින් නුවර
ට ගියෝය. එහෙත් ඔවුන් පනිවිඩකා
11 රයන්ට සිනාසී නින්දා කලෝය. නුමුත්
ආෂෙර් සහ මනස්සෑගෙන්ද සෙබුලොන්
ගෙන්ද නොයෙක් දෙන යටත්ව යෙරු
12 සලමට ආවෝය. යෙහෝවාවහන්සේ
ගේ වචනය ලෙස රජුගේ සහ මූලාදෑ
නින්ගේ අණව පවත්වන පිණිස යූදාව
වැසියන් එක්සිත් කරනනට දෙවියන්ව
13 හන්සේගේ අත එහි විය. තවද දෙවෙ
නි මාසේ ඇඹුල් පිටි නුමුසු රොටි මංග
ල්‍යය පවත්වනනට යෙරුසලමට ඉතා ම
14 හත් සෙනගක් එකතුව යෙරුසලමේ පූ
ජාසන නැතිකර දුම් පූජාසන දුරුකො
15 කිද්‍රොන්නම් ඔයට දැම්මෝය. එවිට දෙ
වෙනි මාසේ දහහතරවෙනිදා උපරිග
මන මංගල්‍යයට බැටළු පැටියන් මැරූ
වෝය. පූජකයෝද ලෙවිවරුද ලැජ්ජ
වී තමන් පවිත්‍රව යෙහෝවාවහන්සේ
ගේ ගෙට දවන පූජාවල් ගෙනාත් දෙවි
16 යන්වහන්සේගේ මනුෂ්‍යයාවූ මෝසෙස්
ගේ ව්‍යවස්ථාව ලෙස තමන් පිළිවෙ
ලින් තමතමන්ගේ ඉඩම්වල සිටියෝය.
පූජකයෝ ලෙවිවරුන්ගේ අතින් ලේ
17 පිළිගෙන ඉස්සෝය. පිරිසිදු නූන බො
හෝ දෙනෙක් සභාවේ සිටියෝය. ඒ
නිසා අපවිත්‍ර සියල්ලන් යෙහෝවාවහන්
සේට පවිත්‍රකරණ පිණිස ඔවුන් නිසා
උපරිගමන මංගල්‍යයට බැටළු පැටියන්

18 මැරීම ලෙවිවරුන්ට බාරවිය. මක්නිසා
ද එප්‍රායිම්ගෙනුද මනස්සෙගෙනු ඉස්සා
බර්ගෙනු සෙබුලොන්ගෙනු බොහෝ
සමූහයෝ පවිත්‍ර නූනෝය. නුමුත් ලිය
විල්ලට එදිරිව උපරිගමන මංගල්‍යය පැ
19 වැත්තුවෝය. පවිත්‍ර ස්ථානයේ සිරිත්
ලෙස පිරිසිදු නූන නුමුත් තමන් පියව
රුන්ගේ දෙවිවූ යෙහෝවාවහන්සේ
සේවයකරන්ට තමන් සිත පහදවන සෑ
මටම යහපත් යෙහෝවාවහන්සේ සමා
මාවෙනසේක්වයි කියා හෙසකියා ඔවුන්
20 උදෙසා යාඥාකෙලේය. යෙහෝවාව
හන්සේද හෙසකියාගේ බස් අසා මිනි
21 සුන් සුවකලසේක. යෙරුසලමේ සිටිය
ඊශ්‍රායෙල් පුත්‍රයෝද මහත් සතුටින් ඇ
ඹුල් පිටි නූමුසු රොටි මංගල්‍යය සත් දව
සක් පැවැත්වූවෝය. ලෙවිවරුද පූජක
යෝද යෙහෝවාවහන්සේට තූර්‍ය්‍ය නාද
යෙන් ගායනාකරමින් දවස්පතා යෙ
22 හෝවාවහන්සේට සතුති කලෝය. හෙ
සකියාද යෙහෝවාවහන්සේ ගැන යහ
පත් ලෙස ඉගැන්වූ සෑම ලෙවිවරුන්ට
ප්‍රිය වචනවලින් කථාකෙලේය. ඔවුනු
ශාන්ති පූජා කරමින් තමන් පියවරුන්
ගේ දෙවිවූ යෙහෝවාවහන්සේට කියා
දෙමින් මංගල්‍යයෙහි සත් දවසක් කෑ
23 ම කමින් සිටියෝය. සෑම සෙනගද තව
සත් දවසක් මංගල්‍යය පවත්වනනට ක
24 ථාකරගත්තෝය. යූදාහි හෙසකියා රජු
විසින් ගොන් දහසකුත් බැටළුවන් සත්ද
හසකුත් මූලාදෑනීන් විසින් ගොන් දහ
සකුත් බැටළුවන් දසදහසකුත් සෙනගට
දුන්නිසා තව සත් දවසක් සතුටින් මංග
ල්‍ය පැවැත්වූවෝය. පූජකයන්ගෙන්
25 බොහෝ දෙනෙක්ද පවිත්‍රවූනෝය. යූ
දාහි සියළු සමූහයද පූජකයෝද ලෙවිව
රුද ඊශ්‍රායෙල්ගෙන් ආ සියළු සමූහයද ඊ
ශ්‍රායෙල් රටින් ආ දේසක්කාරයෝද යූදා
26 හි වැසි විදේසියෝද සතුටු වූනෝය. ඊ
ශ්‍රායෙල්හි දාවිත් රජුගේ පුත් සලමොන්
ගෙන් පසු යෙරුසලමේ එබඳු මගල්‍ය
පැවැත්විමක් නූන නිසා එහිදී මහත්
27 සන්තෝසයක් විය. එවිට පූජකයෝද
ලෙවිවරුද නැගිට මිනිසුන්ට ආශීවාද
කලෝය. ඔවුන්ගේ අඬ අසනු ලැබිය
ඔවුන්ගේ යාඥාව උන්වහන්සේ වසන පි
රිසිදු තැන්වන ස්වර්ගයට පැමුනුනේය.

31. පරිච්ඡේ. මේ සියල්ල නිමවූ කල
එහි සිටිය සෑම ඊශ්‍රායෙල්වරු යූදා නු
වරවලට ගොස් රූප බිඳ චෛත්‍ය වෘක්ෂ
කපා යූදා බෙන්යමින් එප්‍රායිම් මනස්
සෑ මුළුලෙහි තිබුන උස් තැනු පූජාස
නද යන සියල්ල සහමුලින්ම නැතිකර
දැමූවෝය. එවිට සෑම ඊශ්‍රායෙල් පුත්‍රයෝ
තමතමන්ගේ නුවරවල උරුමවලට හැ
2 රී ගියෝය. හෙසකියා පූජකයනු ලෙවි
වරුනු දවන පූජාවල් සහ ශාන්ති පූජා
වල්ද පූජාකරනනටත් සේවයකොට සතු
ති කරනනටත් යෙහෝවාවහන්සේගේ
මඬප දොරටුවල ප්‍රසංසා කරනනටත් එ
කිනෙකා තමාගේ වැඩ ලෙස පූජකයන්
ගේත් ලෙවිවරුන්ගේත් පේරුවල් නි
3 යම කෙලේය. තවද ඔහු සවස උදය ද
වන පූජාවලටත් සබත් දවස දවන පූජා
වලටත් අමාවකද නියම මංගල්‍යවලද ද
වන පූජාවලටත් යෙහෝවාවහන්සේ
ගේ ව්‍යවස්ථාවේ ලියවී තිබෙන ලෙස
තමන් දෙයින් රජුගේ කොටසක් නිය
4 මකෙලේය. පූජකයනු ලෙවිවරුනු යෙ
හෝවාවහන්සේගේ ව්‍යවස්ථාවේ පැහැ
දෙනනට යෙරුසලම් වැසියන් විසින්
කොටස දෙනනට අණකෙලේය.
5 මේ අණව එළිදරව්වූන ඇසිලෙල්ම
ඊශ්‍රායෙල් පුත්‍රයෝ බොහෝ ගෝධුම
යෙහිද මිදිරසෙහිද තෙලෙහිද මීපැනි
යෙහිද බිම හටගත් දේවලද අගස් එ
ල සහ සියල්ලෙන් දහයෙන් පංගුවක්ද
6 බොහෝසේ ගෙනාවෝය. යූදා නුවර
වල සිටි යූදා සහ ඊශ්‍රායෙල් පුත්‍රයෝද
ගොන් සහ බැටළුවන්ගෙන් දහයෙන්
පංගුවක්ද ඔවුන්ගේ දෙවිවූ යෙහෝවා
වහන්සේට කැපකරපු පිරිසිදු දෙයින්
දහයෙන් පංගුවක්ද ගෙනත් ගොඩකර
7 තැබූවෝය. තුන්වෙනි මාසේදී ගොඩ
කරන්ට පටන්ගෙන හත්වෙනි මාසේදී
8 නිමකලෝය. හෙසකියාද මූලාදෑනිද ඇ
විත් ගොඩවල් දැක යෙහෝවාවහන්සේ
ටත් තමන් ඊශ්‍රායෙල් මිනිසුන්ටත් ආශී
9 වාද කලෝය. හෙසකියාද පූජකයන්
ගෙනුත් ලෙවිවරුන්ගෙනුත් ඒ ගොඩ
10 වල් කුමටදැයි ඇසිය. සඳොක්ගේ වංශෙ
අසරයා නම් නායක පූජකයා උත්තර දෙ
මින් යෙහෝවාවහන්සේ තමන් මිනි
සුන් දිවූහුකල නිසා මිනිසුන් යෙහෝ
වාවහන්සේගේ ගෙට පූජාවල් ගෙනෙ
නනට පටන්ගත් තැන් සිට අපේ කෑම
සෑහිම අපට ලැබූනේය. බොහෝ ඉතු

රුවත් තිබුණේය. මේ ගොඩවල් ඉතු
11 රු පහුයයි කීය. එවිට හෙසකියා යෙ
හෝවාවහන්සේගේ ගෙයි ඇතුල් ගෙ
12 වල් සාදන්නට අන දුන්නෝය. ඔවුහු ඒ
වා සාදු පූජාවලුත් දහයෙන් පංගුවත් කැ
පකල දේත් විශ්වාස ලෙස ගෙනැත් එ
හි තැබුවෝය. ලෙවිය කොනනියා ඔ
වුන්ට මූලාදෑනියාය. ඔහුගේ සහෝදර
13 ෂිමෙයි ඔහුට දෙවෙනියාය. හෙසකියා
රජුගේද දෙවියන්වහන්සේගේ ගෙයි මූ
ලාදෑනියාවූ අසරයාගේද ආඥාවේ ප්‍රකා
රයට කොනනියා සහ ඔහුගේ සහෝද
ර ෂිමෙයිගේ අත යටතේ යහියෙල්ද අ
සසියාද නහත්ද අසහෙල්ද යරිමොත්
ද යොසබත්ද එලියෙල්ද ඉස්මකියාද ම
හත්ද බෙනායාද යන මොවුන් මූලාදෑනි
14 යෝය. නැගෙනහිර දෙර රකින ලෙවි
යවූ ඉම්නාගේ පුත් කෝරේ යෙහෝවාවහන්
සේට යාගකල දේත් ඉතා පිරිසිදු දේත්
බෙදා දීමට දෙවියන්වහන්සේට කැමැත්
තෙන්ම පූජාකල දේවලට මූලාදෑනියා
15 ය. පූජකයන්ගේ නුවරවලදී ඔවුන්ගේ
නියම තනතුරේ පෙළිවලින් කුඩා ම
හත් ඔවුන්ගේ සහෝදරයන්ට බෙදුදෙ
16 න පිණිසද තුන් අවුරුදු වයස් ඇත්තන්
සහ ඊට වැඩි පිරිමින්ට එනම් යෙහෝ
වාවහන්සේගේ ගෙට ඇතුල්වෙන සිය
ල්ලන්ට ඔවුන්ගේ තනතුරුවල වැඩට
දවස්පතා කොටස් දෙන පිණිසද පරම්
17 පරාවේ පෙළපත්වල නමන් පියවරුන්
ගේ වංශ ලෙස පූජකයන්ටද ඔවුන්ගේ
පෙළිවල බාරවලදී විසි අවුරුදුවූද ඊට
18 වැඩිවූද වයස් ඇති ලෙවිවරුන්ටත් සි
යළු සමූහයෙන් තමන්ගේ පරම්පරාවේ
පෙළිවලින් ඔවුන්ගේ සැම ස්ත්‍රීන්ටත්
දූදරුවන්ටත් බෙදා දෙන පිණිසද කෝර්
ලගට ඒදෑනු මිනියම්නු යෙෂූවාද ෂමයා
ද අමරයාද ෂකනයාද සිටියෝය. මක්
නිසාද ඔවුන් තමන්ගේ නියම තනතුර
19 ට ශුද්ධකමෙන් පිරිසිදුවූහෝය. තවද ආ
රොන් පුතුන්ගෙන් නුවරවලට අයිති
සැම පිට නුවර බිම්වල සිටි නම් කියා
තෝරාගත් ඇත්තෝ පූජකයන්ගේ සැ
ම පිරිමින්ටත් ලෙවිවරුන්ගේ පෙළප
ත් ගනන්කල සැමටත් පංගු දෙන්න
20 ට පත්වූහෝය. හෙසකියා යූදා මුළුල්
ලෙහි මෙසේ කරමින් තමන් දෙවිවූ
යෙහෝවාවහන්සේ ඉදිරියෙහි යහපත්
21 ශුද්ධ සැබෑ දේ කෙලේය. ඔහු තමන්
ගේ දෙවියන්වහන්සේ සොයමින් උන්
හන්සේගේ ගෙයි වැඩටත් ව්‍යවස්ථා
වත් පනතවලටත් තමා විසින් පටන්
ගත් සැම ක්‍රියාවල් තමාගේ මුළු හිතින්
කර දියුණු වූයේය.

32. පරිච්. මේ කාරණ පිහිටුවා
තින්දුකල පසු අෂූර්හි සනකෙරිබ් රජ යූ
දාහි සුරක්ෂිත නුවරවල් අල්ලන්ට අද
හස් ඇතුව ඇවිත් ඒවාට විරුද්ධව අඥ
2 යම් බැඳගත්තෝය. හෙසකියාද සනක
රිබ් ඇවිත් යෙරුසලමට එදිරිව සටන්
3 කරන්ට සිතූ බව දැනගත් විට ඔහු නුව
රින් පිට තිබුන උල්පත්වල වතුර හිඳු
වන්ට තමන් මූලාදෑනීන්ද බලවතුන්ද ස
මග කථාකරගත්තෝය. ඔවුහු ඔහුට උ
4 පකාර කලෝය. බොහෝ මිනිස්සුද රැ
ස්ව අෂූර්හි රජුන්ට බොහෝ වතුර දෙ
නෙන් මන්ද්දැයි කියා සැම උල්පත්ද රා
5 මැදින් දිව් ඔයද හිරෙව්වෝය. ඔහු ත
මාම සවිකරගෙන බිඳපු සැම පවුරු හ
ලකොත් සාදා පිටතින් තවත් පවුරක් බ
ඩනගා දාවිත් නුවරෙහි තිබෙන මිලෝ
අළුත්කොට බොහෝ හෙල්ල පලිස් සා
6 දවා සෙනගට මූලාදෑනීන් පත්කර නුවා
දෙර වීදියේ තමන් ලඟට ඔවුන් රැස්ක
7 රවා ඔවුන්ගේ සිත් විශ්වාසවෙන ලෙස ක
ථාකොට ඔහු සමග සිටිනතාන්ට වඩා අ
ප සමග සිටින නිසා අෂූර්හි රජුටත් ඔ
හු සමග සිටින සැම සමූහයටත් භයනො
ව තැතිනොගෙන බලවත්ව සිත් දෑඩි
8 වෙයල්ලාය. ඔහුට මනුෂ්‍ය බලය පමනක්
තිබෙන්නේය. අපට පිහිටවෙ අප වෙනුව
ට යුද්ධකරණ පිණිස අපගේ දෙවිවූ යෙ
හෝවාවහන්සේ අප එක්ව සිටිනසේ
කැයි කීය. මිනිස්සුද යූදාහි හෙසකියා
රජුගේ වචන විශ්වාස කලෝය.
9 මින්පසු අෂූර්හි සනකෙරිබ් රජ සියළු
සෙනග ගෙන ලකිස්ට එදිරිව අන්දුනේ
බැඳ තමන් මෙහෙකරුවන් යෙරුසලම
ට යැවිය. ඔවුන්ද යූදාහි හෙසකියා රජුට
ද යෙරුසලමෙහි සිටි සැම යූදාවරුන්ටද
10 කියන්නෝ අෂූර්හි සනකෙරිබ් රජ මෙ
සේ කියනසේක. වටකරණ කල යෙරු
සලමෙහි සිටින නුඹලා කා කෙරෙහි වි
11 ශ්වාස කරද්ද? අපේ දෙවිවූ යෙහෝවා
වහන්සේ අෂූර්හි රජු අතින් අප ගලවා
ගන්නාසේකැයි කියා නුඹලා සාගින්
නෙන් නසන පිණිස හෙසකියා නුඹලා

12 පොලඹනවා නොවේද? තුඹලා එකම
පූජාසනය ඉදිරිපිට වඳිමින් සුවඳ දුම් ග
සතනට කියා යූදෑටත් යෙරුසලමටත්
අනකර එම හෙසකියා උන්වහන්සේගේ
උස් තැන්ද පූජාසනද අහක දැමූවේ නො
13 වේද? මා විසින්ද මාගේ පියවරුන් විසි
න්ද වෙන රටවල සැම මිනිසුන්ට කල
දේ තුඹලා නොදනිද්ද? ඒ රටවල ජා
තීන්ගේ දෙවියෝ යම් උපායකින් ත
මන් රටවල් මාගේ අතින් රැකගන්ට පු
14 ළුවන්ව සිටියෝද? මාගේ පියවරුන් වි
සින් මුලින්ම නැතිකල ඒ ජාතිවල සැම
දෙවියන් අතරෙන් තමන් මිනිසුන් මා
ගේ අතින් රැකගන්ට කාට පුළුවන් උ
නාද? එසේනම් මාගේ අතින් තුඹලා
රක්ෂාකරගන්ට තුඹලාගේ දෙවියන්ට
15 පුළුවන්ද? එසේනම් හෙසකියාට තුඹ
ලා රවටනනාටවත් මේ ලෙස තුඹලා
පොලඹන්ටවත් නොදෙල්ලාය. ඔහු වි
ශ්වාසකරනනාටවත් එපාය. මාගේ අති
නුත් මාගේ පියාගේ අතිනුත් ඔහුගේ
මිනිසුන් ගලවාගන්ට පුළුවන් කොයි ජා
තියකවත් රාජ්‍යයකවත් දෙවියෙක් නැ
තිකොට මා අතින් තුඹලා ගලවාගන්ට
තුඹලාගේ දෙවියන්ට පුළුවන් කොහො
16 මදැයි කිව්ය. ඔහුගේ වැඩකාරයෝද දෙ
විවූ යෙහෝවාවහන්සේටත් උන්වහන්
සේගේ වැඩකාර හෙසකියාටත් එදිරිව
17 තවත් කථාකලෝය. ඔහුද වෙන රට
ජාතීන්ගේ දෙවියෝ තමන් මිනිසුන් මා
ගේ අතින් රක්ෂානොකලෝය එලෙසම
හෙසකියාගේ දෙවියෝත් තමන් මිනි
සුන් මාගේ අතින් රක්ෂානොකරතියි කි
යා ඊශ්‍රායෙල් දෙවිවූ යෙහෝවාවහන්
සේට නින්දා කරන්ටද උන්වහන්සේට වි
18 රුද්ධව දෙදන්ට ලියුම් ලිව්ය. ඔවුන්ද නුව
ර අල්ලන ලෙස පවුර පිට සිට යෙරුසල
මේ මිනිසුන්ට භය උපදවා වෙහෙසන්
19 ට යුදෙව් භාෂාවෙන් තද අඬකින් මො
රගසමින් අතින් හැදූ පොලවේ මිනි
සුන්ගේ දෙවියන්ට මෙන් යෙරුසලමේ
20 දෙවියන්ට එදිරිව කථාකලෝය. හෙස
කියා රජද අමොස්ගේ පුත් යෙසයියා
අනාගතවක්තෘද මේ ගැන යාඥාකර
21 ස්වර්ගයට කඩගෑසුවෝය. යෙහෝවාව
හන්සේ අශූර් රජුගේ අන්ඩුයමේ සැම
බලවත් වෙර ඇත්තාවූ මුලාදෑනීන්ද සේ
නාපතීන්ද මරනනාවූ දේවදූතයෙක් එවූ
සේක. ඒ රජද ලැජ්ජාවෙන් තමන් රට
ට හැරී ගියේය. තමන් දෙවියාගේ ගෙ
ට ආකල තමන් පුත්තුම ඔහු කඩුවෙන්
22 මැරුවෝය. මෙසේ යෙහෝවාවහන්
සේ හෙසකියාද යෙරුසලම් වැසියන්ද
අශූර්හි සනකරිබ් රජුගේ අතින්ද සියල්
ලන්ගේ අතින්ද ගලවා සැම ආකාර
23 යෙන්ම ඔවුන්ට පිහිටවූසේක. බො
හෝ මිනිස්සුද යෙහෝවාවහන්සේට ප
ඬුරුද යූදාහි හෙසකියා රජුට තෑගිද
යෙරුසලමට ගෙනාවෝය. ඔහුද එ
තැන් සිට සියළු ජාතීන් අතරේ ප්‍රසිඬවීය.
24 ඒ කාලේදී හෙසකියා මරණසනන
ලෙඩක් වී යෙහෝවාවහන්සේට යාඥා
කෙලේය උන්වහන්සේද ඔහුට කථාක
25 ර ලකුනක් දුන්සේක. එහෙත් හෙසකි
යාගේ සිත උඩඟුව තමන්ට කල උපකා
රයට කෙලෙහි ගුණ නොසැලකීය. ඒ
නිසා ඔහුටත් යූදා සහ යෙරුසලමටත්
26 උදහස් විය. නුමුත් හෙසකියාද යෙරු
සලම් වැසියන්ද තමන් සිත් උඩඟුකම
ගැන යටත්වූන නිසා හෙසකියාගේ කා
ලේදී යෙහෝවාවහන්සේගේ උදහස
27 ඔවුන්ට නොපැමුනුනේය. හෙසකියාට
ද බොහෝ වස්තුද ගෞරවයද තිබුනේ
ය. ඔහුද රන් රිදීයටත් මැණික්වලටත් සු
වඳ දේවලටත් පලිස්වලටත් සියළු ආකා
ර ශෝභන ආභරණවලටත් භාණ්ඩාගාර
28 සැදෙව්වේය. ධාන්‍යයටත් මිදිරසයටත්
තෙල්වලටත් ගබඩාද සැම ආකාර ස
29 තුන්ට පට්ටිද රැලවලට ගාල්ද සැදෙව්
වේය. දෙවියන්වහන්සේ ඔහුට බොහෝ
වස්තු දුන් නිසා නුවරවළුත් බොහෝ බැ
වළු රැලවළුත් හරක් රැලවළුත් සපයාග
30 ත්තේය. මෙම හෙසකියාද ගීහොන්හි උ
ඩ කානුව නවතා දාවිත් නුවරට බස්නා
හිරට කෙලින් ගෙනාවේය. හෙසකියාද
31 කල සියල්ලෙන් වැඩිදියුණු විය. නුමුත් ඔ
හුගේ රටේදී කල අපූරු දේ ගැන විභාග
කරන්ට බබිලෝන්හි මූලාදෑනි තානාප
තියන් ඔහු ලඟට එවූවිට දෙවියන්වහන්
සේ ඔහු විපරම්කර ඔහුගේ සිතේ තිබූ
න සියල්ල දැනගන්නාට ඔහු අත්හැරිය
32 සේක. හෙසකියාගේ අනික් ක්‍රියාවළුත්
ඔහු කල යහපත්කමත් ආමොස් පුත් යෙ
සයියා අනාගතවක්තෘගේ දර්ශනවල් ගැ
න ලියාපු පොත්ද යූදා සහ ඊශ්‍රායෙල්
රජුන්ගේ පොතේද ලියා තිබෙන්නේ
33 ය. හෙසකියා මැරුනේය. ඔවුන්ද දාවිත්
පුතුන්ගේ ප්‍රධාන සොහොන් ගෙයි ඔහු

තැන්පත් කලෝය. සැම යූදාවරුද යෙ
රුසලමේ වැසියෝද ඔහුගේ මරණයේ
දී ඔහුට ගෞරව කලෝය. ඔහුගේ පුත්
මනස්සෑද ඔහු හිලව්වට රජකම් කෙ
ලේය.

33. පරිච්ඡෙ. මනස්සෑ දොලොස් අ
වුරුදු වයසේදී රජකමට පැමින පනස්
පස් අවුරුද්දක් යෙරුසලමෙහි රජකම්
2 කෙලේය. එහෙත් යෙහෝවඃවහන්සේ
ඊශ්‍රායෙල් පුත්‍රයන් ඉදිරියෙන් ඇරදැමූ
රටවැසියන්ගේ පිළිකුල් ලෙස යෙහෝ
3 වඃවහන්සේ ඉදිරියෙහි නපුරුකම් කො
ට තමන් පිය හෙසකියඃ කඩාදැමූ උස්
තැන් දෙවනු සාදා බාලිම්ට පූජාසන
ගොඩනගා චෛත්‍ය වෘක්ෂ කර සැම අ
4 හස් තාරකාවලට වැඳ අදහා යෙරුසල
මෙහි මාගේ නාමය සදාකාලේට පවතින්
නේයයි යෙහෝවඃවහන්සේ කී ගෙයිද
5 වළ දෙකේද සැම අහස් තාරකාවලට පූ
6 ජාසන සෑදීය. ඔහුද තමන් පුතුන්ද හි
න්නොම් පුත්‍රයාගේ මිටියාවතේ ගිනි මැ
දින් යවා වේලා බැලීමද මන්ත්‍රද අන
විනද භාවිතාකර යක්දෙස්සන්ටද පේ
න කියනනන්ටද එකතුව යෙහෝවඃව
හන්සේ උදහස්කරනනට උන්වහන්
සේ ඉදිරියෙහි බොහෝ නපුරුකම් කෙ
7 ලේය. තවද මේ ගෙයි සහ මෝසෙස්
ලවා ඔවුන්ට අනකල සැම ව්‍යවස්ථාවල්
ද පනත්ද සිරිත්ද කරනනට ඔවුන් බ
ලාගෙනනොත් නුඹලාගේ පියවරුන්ට
නියමකල දේසයෙන් ඊශ්‍රායෙල් තවත්
අහක්නොකරනෙනම්යි කියාද සියළු ඊ
8 ශ්‍රායෙල් ගෝත්‍රවලට මා විසින් තෝරා
ගත්තාවූ යෙරුසලමේද මාගේ නාමය
සදාකාලේටම තබම්යි කියාද යම් ගෙ
යක් ගැන දෙවියන්වහන්සේ දාවිත්ටත්
ඔහුගේ පුත් සලමොන්ටත් කීසේක්ද
ඒ ගෙයි මනස්සෑ තමා විසින් සෑදුවාවූ
9 කැටයම් රූපය තැබුවේය. මෙසේ ම
නස්සෑ යූදාද යෙරුසලම් වැසියන්ද අප
රාධ කරන්ට සලස්වා යෙහෝවඃවහන්
සේ ඊශ්‍රායෙල් පුත්‍රයන් ඉදිරියෙන් නැති
කල රටවැසියන්ටත් වඩා පව් කෙරෙව්
10 වේය. යෙහෝවඃවහන්සේද මනස්සෑ
ටත් ඔහුගේ මිනිසුන්ටත් කථාකලසේක
11 නුමුත් ඔවුන් ඇහුවේ නැත. ඒ නිසා
යෙහෝවඃවහන්සේ අසූර් රජුගේ සේ
නානායකයන් ඔවුන්ට එදිරිව ගෙන්වූ
සේක ඔවුහු මනස්සෑ කටු අතරෙන් අල්
වාගෙන විලංගු දමා බබිලෝනියට ගෙ
12 න ගියෝය. ඔහුද දුක් ලැබූනකල ත
මන් දෙවිවූ යෙහෝවඃවහන්සේට කන්
නලව් කොට තමන් පියවරුන්ගේ දෙ
වියන්වහන්සේ ඉදිරියෙහි ඉතා යටත්ව
13 උන්වහන්සේට යාඥාකලේය. උන්වහන්
සේද ඔහුගේ වචන පිලිගෙන ඔහුගේ
කන්නලව්ව අසා යෙරුසලම් නුවර ඔහු
ගේ රාජ්‍යයට දෙවනු ගෙනාසේක. එක
ල මනස්සෑ යෙහෝවඃවහන්සේ දෙවිය
14 න්වහන්සේ බව දැනගත්තේය. මින් පසු
දාවිත්ගේ නුවරින් පිට මිටියාවතේ ගි
හොන්ට බස්නාහිර මත්ස්‍යනම් දොරට
ඇතුල්වෙන තැන දක්වාම ඕපෙල් වි
ටේට පවුරක් සාදා ඉතා උස්කර යූදායි
සුරක්ෂිත සැම නුවරවල යුධ සේනානා
15 යකයන් තැබීය. යෙහෝවඃවහන්සේ
ගේ ගෙයින් වෙන දෙවිවරුන්ද රූපද
යෙහෝවඃවහන්සේගේ ගෙයි තිබෙන
කන්දෙත් යෙරුසලමේත් ඔහු සෑදූ සැ
ම පූජාසනද නැතිකර නුවරින් පිට දමා
16 යෙහෝවඃවහන්සේගේ පූජාසනය අ
ළුත්කර එහි ශාන්ති පූජාද ස්තුති පූජාද
යාගකර ඊශ්‍රායෙල්ගේ දෙවිවූ යෙහෝ
වඃවහන්සේට සේවයකරනනට යූදාට
17 අනකෙලේය. නුමුත් මිනිස්සු උස් තැන්
වල තමන් දෙවිවූ යෙහෝවඃවහන්සේ
18 ට පමනක්ම තවම යාගකලෝය. මනස්
සෑගේ අනිත් ක්‍රියාවළුත් තමන් දෙවිය
න්වහන්සේට කල යාඥාත් ඊශ්‍රායෙල්ගේ
දෙවිවූ යෙහෝවඃවහන්සේගේ නමින්
ඔහුට කථාකල දිවස් ඇත්තන්ගේ වච
නත් ඊශ්‍රායෙල් රජුන්ගේ පොතේ ලියා
19 තිබෙනේය. ඔහුගේ යාඥාවද දෙවිය
න්වහන්සේ ඔහුගේ වචන පිලිගත් හැටි
ද ඔහුගේ සැම පාපයද අපරාධද යටත්
වෙනනට ඉස්සර සෑදූ චෛත්‍ය වෘක්ෂ සහ
කැපූ රූප තැබූ උස් තැන් ගැන දිවස්
ඇත්තන්ගේ කියවිලිවල ලියා තිබේන්
20 නේය. මනස්සෑද මැරුනේය. ඔවුන්ද
ඔහුගේ ගෙයිම ඔහු තැන්පත්කලෝය.
ඔහුගේ පුත් අමොන් ඔහු හිලව්වට රජ
කම් කෙලේය.

21 අමොන් විසිදෑවුරුදු වයසේදී රජක
22 මට පැමින යෙරුසලමේ දෑවුරුද්දක් ර
ජකම්කරමින් තමන් පිය මනස්සෑ ලෙස
යෙහෝවඃවහන්සේ ඉදිරියෙහි නපුරු
කම් කෙලේය. අමොන් තමන් පිය

මනස්සෑ සෑදූ කැපූ සෑම රූපවලට යාග
23 කර අදහා තමන් පිය මනස්සෑ යටත්වූ
න ලෙස යෙහෝවෑවහන්සේ ඉදිරියෙ
හි යටත්නොව වඩ වඩා අපරාධ කෙ
24 ළේය. ඔහුගේ වැඩකාරයෝද ඔහුට එ
දිරිව කැරලිගැසී ඔහුගේ ගෙයිදීම ඔහු
25 මැරූවෝය. රටේ මිනිස්සු අමොන් රජු
ට එදිරිව කැරලිගැසූ සියල්ලන් මරා ඔ
හුගේ පුත් යෝසියෑ ඔහු හිලව්වට රජ
කමට පත්කළෝය.

34. පරිච්ඡේ. යෝසියෑ අට අවුරුදු
වයසේදී රජකමට පැමිණ යෙරූසලමේ
එක්තිස් අවුරුද්දක් රජකම් කරමින්
2 යෙහෝවෑවහන්සේ ඉදිරියෙහි යුතුකම්
කර දකුණටවත් වමටවත් නොහැරී ත
මන් පිය දාවිත්ගේ මාර්ගවල හැසිරු
3 ණේය. තමන් රජකම්කරණ අටවෙනි
අවුරුද්දේ බාල වයසේදීම තමන් පිය
දාවිත්ගේ දෙවියන්වහන්සේ සොයන්ට
පටන්ගෙන දොළොස්වෙනි අවුරුද්දේ
උස් තැන්ද චෛත්‍ය වෘක්ෂද කොටාපු රූ
පද වාත්තු රූපද නැතිකර යූදෑ සහ
යෙරූසලම පවිත්‍ර කරන්ට පටන්ගත්තේ
4 ය. ඔවුන් ඔහු ඉදිරිපිට බාලිම්ගේ පූජාස
න බින්දෝය. එහි උඩ තිබුණ රූපද ඔ
හු කපාදමා චෛත්‍ය වෘක්ෂද කොටාපු
රූපද වාත්තු රූපද කැලිකර කඩා කු
ඩුකොට ඒවාට පූජාකළවුන්ගේ මිනීවල
5 වල් පිට ඒ කුඩු ඉස පූජකයන්ගේ ඇට ඔ
වුන්ගේ පූජාසනවල දවා යූදෑද යෙරූ
6 සලමද පවිත්‍ර කෙළේය. නප්තලී දක්වා
මනස්සෑගේත් එප්‍රායිම්ගේත් සිමියොන්
ගේත් නුවරවල වටකර තමන් උදළුව
7 ලින් එලෙස කළෝය. පූජාසනද චෛ
ත්‍යයද කඩා කැපූ රූප කුඩුකර ඊශ්‍රා
යෙල් මුළුලෙහි සියළු දේව රූප කපා
දමූවායින් පසු යෙරූසලමට හැරී ආ
ශේය.

8 තවද ඔහුගේ රජකමේ දහඅටවෙනි
අවුරුද්දේදී රටත් දේවමාලිගාවත් පවි
ත්‍රකර නිමාවූව තමන් දෙවිවූ යෙහෝවෑ
වහන්සේගේ ගෙය අළුත්වැඩියා කරණ
පිණිස අසලයෑගේ පුත් ෂාඵාන් නුවර මූ
ලාදෑනි මාසයෑද යෝවහස් පුත් යෝවෑ
9 ලේකමද යැවීය. ඔවුන් හිල්කියෑ නායක
පූජකයා ලඟට ඇවිත් මනස්සෑගෙන්ද
එප්‍රායිම්ගෙන් ඊශ්‍රායෙල්හි අනිත් සියල්
ලන්ගෙන් සෑම යූදෑ සහ බෙන්යමින්
ගෙන්ද දොර රකින ලෙවීවරුන්ගෙන්
සමාදන්කර දෙවියන්වහන්සේගේ ගෙට
ගෙනා මිල බාරදී යෙරූසලමට හැරී ඇ
10 විත් යෙහෝවෑවහන්සේගේ ගෙයි වැඩ
බලන කර්මාන්තකාරයන්ගේ අත්වල
ඒවා තැබූවෝය. ඔවුන් ගේ අළුත්කර
සාදවන පිණිස ගෙයි කර්මාන්ත කරන්
11 නන්ට දුන්නෝය. කැපූ ගළුත් බැඳුම්ව
ලට ලීත් යූදෑ රජවරුන් විසින් නැතික
ල ගේවල දූව තව්වූ තැබීමට ලීත් මිලේ
ට ගන්නා පිණිස කර්මාන්තකාරයන්ටද
12 හුණුවඩුවන්ටද ඒ මිල දුන්නෝය. ඒ මි
නිස්සුද විශ්වාසයෙන් වැඩ කළෝය. මර
රි පුත්වූ ලෙවීවරු වන යහත්ද ඔබදියෑ
සහ කොහතිය පුත්වූ සකරයෑද මෂුලම්
ද තුයම් ශබ්දකිරීමට සමර්ථ අනිත් සිය
13 ළු ලෙවීවරුද ඔවුන්ගේ මූලාදෑනිව බර
උසුලන්නන්ටත් සියළු වැඩකරණ ඇත්
තන්ටත් මූලාදෑනියෝය. ලෙවීවරුන්
ගෙන් ලේකම්වරුද මූලාදෑනිවරුද දො
ර රකින්නෝද වූනෝය.

14 තවද යෙහෝවෑවහන්සේගේ ගෙට
ගෙනා මිල පිටත ගන්නාම මෝසෙස් වි
සින් දුන් යෙහෝවෑවහන්සේගේ ව්‍යව
ස්ථා පොතක් හිල්කියෑ පූජකයාට සම්
15 භවිය. හිල්කියෑද යෙහෝවෑවහන්සේ
ගේ ගෙයිදී ව්‍යවස්ථා පොත මට සම්භ
වියයි ෂාඵාන්නම් ලේකමට කීය. හිල්කි
යෑද ඒ පොත ෂාඵාන්ට බාරදුන්නේය.
16 ෂාඵාන්ද ඒක රජු ලඟට ගෙනගොස් ඔ
බගේ වැඩකාරයන්ට බාරදුන් සියල්ල
17 ම කරමින් යෙහෝවෑවහන්සේගේ ගෙ
යි ඔවුන්ට සම්භවූනු මිල එකතුකර මූ
ලාදෑනින් අතටද කර්මාන්තකාරයන් අ
තටද බාරදුන්නෝයයි රජුට කීවෝය.
18 හිල්කියෑ පූජකයා මට පොතක් දුන්නේ
යයි කියා රජු ඉදිරිපිට ඒ පොත කියෙව්
19 වේය. රජද ව්‍යවස්ථාවේ වචන අසා ත
20 මන් ඇඳුම් ඉරාගෙන මේ පොතේ ලියා
21 තිබෙන සියල්ල ලෙස කරනතට අපේ
පියවරුන් විසින් යෙහෝවෑවහන්සේ
ගේ වචනය රක්ෂා නොකළ නිසා අප
වෙතට පැමුනුන යෙහෝවෑවහන්සේ
ගේ උදහස මහත්යයි කියේය. ඒ නිසා
රජ හිල්කියෑටද ෂාඵාන් පුත් අහිකම්ටද
මීකෑ පුත් අබ්දොන්ටද ෂාඵාන්නම් ලේ
කමටද අසයෑනම් රජ වැඩකාරයෙකුට
ද කථාකොට නුඹලා ගොස් සම්භවූන
පොතේ වචනවල් ගැන මාත් ඊශ්‍රායෙල්

හිද යූදාහිද ඉතුරු අයත් උදෙසා යෙ
හෝවාවහන්සේගෙන් අසාපල්ලායයි අ
22 ණකළේය. හිල්කියාද රජු විසින් නියම
කළ ඇත්තෝද ඇඳුම් බාරව සිටින හ
ස්‍රාගේ පුත් තික්වාගේ පුත් ෂළුම්ගේ
භාර්‍යාවූ යෙරුසලමේ සිල්පසාලාවේ සි
ටියාවූ හුල්දාහම් අනාගතවක්ත්‍රී වෙ
23 තට ගොස් ඇට ඒ බව කීවෝය. ඈද
උත්තර දෙමින් ඉශ්‍රායෙල්හි දෙවිවූ යෙ
හෝවාවහන්සේ මෙසේ කියනසේක.
24 යූදාහි රජු කියෙවූ පොතේ පෙනී ති
බෙනාවූ සියළු නපුර මේ ස්ථානයටත්
25 මෙහි වැසියන්ටත් පමුණුවන්නෙමි. ඔ
වුන් මා අත්හැර තමන් සෑම අත් වැ
ඩෙන් මා උදහස්කරනනාට වෙන දෙ
වියන්ට හුවද දුම් ගැසූ නිසා මාගේ උද
හස මේ ස්ථානයට විරුඬව ඇවිල නො
නිවෙන්නේයයි යෙහෝවාවහන්සේ කි
යන බව තුබලා එවූ මනුෂ්‍යයාට කියන්
නට ඉශ්‍රායෙල්හි දෙවිවූ යෙහෝවාව
26 හන්සේ කියනසේකැයි කීවාය. තවද
මේ ඉඩමටත් වැසියන්ටත් එදිරිව දෙවි
27 යන්වහන්සේගේ වචන ඇසූවිට තාගේ
හිත මොලොක්කමින් උන්වහන්සේ ඉ
දිරියෙහි යටත්ව මා ඉදිරියෙහි කීතරුවී
ඇඳුම් ඉරාගෙන මා ඉදිරියෙහි ඇඬූ නි
28 සා මමත් තාගේ බස් අසා තාගේ පියව
රුන්ට තා එකතුකරන්නෙමි. තාගේ
සොහොනට සමාදානයෙන් පැමිණ මේ
ඉඩමටත් වැසියන්ටත් මා විසින් පමුණු
වන සෑම නපුර ඇසින් නොදකින්නෙහි
යයි තුබ ඇසූ වචන ගැන ඉශ්‍රායෙල්හි
දෙවිවූ යෙහෝවාවහන්සේ කියනසේ
කැයි උන්වහන්සේගෙන් අසාහාට තුබ
ලා එවූ යූදා රජුට කියාපල්ලායයි කීවා
ය ඔවුහු ගොස් රජුට එලෙස කීවෝය.
29 එවිට රජ පනිවිඩකාරයන් යවා යූදා ස
හ යෙරුසලමේ සෑම මූලාදෑනින් රැස්ක
30 ළේය. රජද යූදාහි සෑම මිනිස්සුද යෙ
රුසලම් වැසියෝද පූජකයෝද ලෙවී
වරුද ලොකු කුඩා සියළු ඇත්තෝද යෙ
හෝවාවහන්සේගේ ගෙට ගියෝය. ඔ
හුද යෙහෝවාවහන්සේගේ ගෙයිදී සම්
භවූන ගිවිසුම් පොතේ සෑම වචනවල්
31 ඔවුන්ට ඇසෙනනාට කියවා තමන් ඉඩ
මේ සිටගෙන යෙහෝවාවහන්සේ අද
හමින් උන්වහන්සේගේ ආඥාවල්ද සා
ක්ෂිද පනත්ද මුළු හිතිනද ආත්මයෙනද ර
ක්ෂාකරමින් මේ පොතේ ලියා තිබෙන
ගිවිසුමේ වචනවල් ඉෂ්ටකරණ ලෙස
යෙහෝවාවහන්සේ ඉදිරියෙහි ගිවිසු
මක් කර යෙරුසලම් සහ බෙන්යමින්
32 හෙනු ඉදිරිපිට සිටි සියල්ලන් ගිවිසුම ඉ
ෂ්ටකරන්ට සැලැස්සිය. යෙරුසලම් වැසි
යෝද තමන් පියවරුන්ගේ දෙවියන්ව
හන්සේගේ ගිවිසුම ලෙස කළෝය.
33 යොසියාද ඉශ්‍රායෙල් පුත්‍රයන්ට අයිති
සෑම රටවලින් සියළු පිළිකුල් නැතිකර
ඉශ්‍රායෙල්හි ඉදිරිපිට සිටි සියල්ලන් ත
මන් දෙවිවූ යෙහෝවාවහන්සේට අද
හන්ට සැලැස්සිය. ඔහුද යොසියාගේ
මුළු ජීවිතයේ තමන් පියවරුන්ගේ දෙ
විවූ යෙහෝවාවහන්සේ ඇදහීම අත්
ඇරියේ නැත.

35. පරිච්ඡේ. තවද යොසියා යෙරු
සලමේදී යෙහෝවාවහන්සේට උපරිග
මන මංගල්‍යයක් පැවැත්විය. ඔවුහු ප
ළමුවෙනි මාසේ දහහතරවෙනි දා උප
රිගමන මංගල්‍යයට සතුන් මැරුවෝය.
2 ඔහුද පූජකයන් ඔවුන්ගේ බාර තනතු
රුවලම තබා යෙහෝවාවහන්සේගේ
ගෙයි වැඩකිරීම පිණිස ඔවුන්ට ධෛර්‍ය
3 දී සියළු ඉශ්‍රායෙල්ට ඉගැන්වූ යෙහෝ
වාවහන්සේට කැපවූ ලෙවීවරුන්ට කි
යනුයේ ඉශ්‍රායෙල්හි දාවිත් රජුගේ පුත්
සලමොන් සෑදූ ගෙයි පිරිසිදු පෙට්ටිය
තබාපල්ලාය. ඒක තුබලාගේ කර පිට
බරක් නොවන්නේය. දැන් තුබලාගේ
දෙවිවූ යෙහෝවාවහන්සේටත් උන්ව
හන්සේගේ ඉශ්‍රායෙල් මිනිසුන්ටත් සේ
4 වයකර ඉශ්‍රායෙල්හි දාවිත් රජුගේද ම
හුගේ පුත් සලමොන්ගේද ලියවිලි ලෙ
සද තුබලාගේ පිය වංශ ලෙසද පේලි
වසයෙන් සූදානම්ව සහෝදර මිනිසුන්
5 ගේ පියවරුන්ගේ පවුල්වලද ලෙවීව
රුන්ගේ පවුල්වලද බෙදීම ලෙස පිරිසු
6 දු තැන සිට උපරිගමන මංගල්‍යයට ස
තුන් මරා තුබලා පවිත්‍රව තුබලාගේ
සහෝදරයන් මෝසෙස් ලවා කියෙවූ
යෙහෝවාවහන්සේගේ වචනය ලෙස
කරනනාට සූදානම්වෙන පිණිස සූදානම්
7 කරපල්ලායයි කීය. යොසියාද එහි සිටි
සෑමදෙන රැළෙන් බැටළු පැටියනුත් එ
ළු පැටියනුත් ගනනින් තිස්දහසක් සහ
ගොන් තුන්දහසක්ද රජ වස්තුවෙන් සි
යල්ලම උපරිගමන මංගල්‍ය යාගවලට
8 මිනිසුන්ට දුන්නේය. ඔහුගේ මූලාදෑනිද

මිනිසුන්ටත් පූජකයන්ටත් ලෙවිවරුන්
ටත් කැමැත්තෙන් දුන්නෝය. දෙවියන්
වහන්සේගේ ගෙයි මූලාදෘනි හිල්කියා
ද සකරයාද යෙහියෙල්ද උපරිගමන මංග
ල්‍ය යාගවලට දෙදහස් හයසියයක් කුඩා
සිව්පාවුන්ද තුන්සියයක් ගොන්ද පූජක
9 යන්ට දුන්නෝය. ලෙවිවරුන්ට මූලාදෘ
නි වන කොනනයාද ඔහුගේ සහෝදර
ෂෙමයාද නතනයෙල්ද හෂබියාද යෙයෙල්ද
යොසබද්ද උපරිගමන මංගල්‍ය යාගව
ලට කුඩා සිව්පාවුන් පන්දහසකුත්ගොන්
පන්සියයකුත් ලෙවිවරුන්ට දුන්නෝ
10 ය. එසේ වැඩ සූදානම් විය. පූජකයෝ
තමන් ඉඩමේද ලෙවිවරු පේළිවලද ර
11 ජුගේ අනලෙස සිට උපරිගමන මංගල්‍ය
යට සතුන් මැරුවෝය. පූජකයෝ ත
මන් අත්වලින් ලේ ඉස්සෝය. ලෙවිව
12 රුද සතුන් හමගැසුවෝය. ඔවුන්ද මිනි
සුන්ගේ පවුල්වල බෙදීම් ලෙස දෙනන
ට මෝසෙස්ගේ පොතේ ලියවී තිබෙන
ලෙස යෙහෝවාවහන්සේට පූජාකරණ
පිනිස දවන යාගවල් වෙන තැනක ති
13 බා ගොනුන්ගෙනුත් එසේම කර ව්‍යව
ස්ථාව ලෙස උපරිගමන මංගල්‍යයට ස
තුන් පුළුස්සා අනිත් කැප පූජාවල් කලව
ලද හැළිවලද කටාරම්වලද පිස ඉක්ම
14 නින් මිනිසුන්ට බෙදා දුන්නෝය. ඉන්ප
සු තමන්ටත් පූජකයන්ටත් සූදානම් කා
ළෝය. ආරොන් පුත්වූ පූජකයන් දවන
යාගද තෙල්ද රෑවෙනතුරු පූජාකරමින්
සිටියෝය. ඒ නිසා ලෙවිවරු තමන්ටත්
ආරොන් පුත් පූජකයන්ටත් පිළියෙල කා
15 ළෝය. දාවිත්ගේද ආසාප්ගේද හෙමන්
ගේද රජුට දිවස් කියන යදුතුන්ගේද
ආඥාවේ ප්‍රකාරයට ආසාප් පුත්තු ගිතිකා
කියන්නෝ තමන් ඉඩමේද දොර රකි
න්නෝ සෑම දොරටු ළඟද සිටියෝය.
ඔවුන්ගේ වැඩ ඇර යන්ට ඔවුන්ට බැරි
නිසා ඔවුන්ගේ සහෝදරවූ ලෙවිවරු ඔ
16 වුන්ට කෑම සාදා දුන්නෝය. එසේ යො
සියා රජුගේ ආඥාව ලෙස උපරිගමන
මංගල්‍යය පවත්වමින් යෙහෝවාවහන්
සේගේ පූජාසනය පිට දවන යාග පූජා
කරණ පිනිස යෙහෝවාවහන්සේගේ
17 සෑම වැඩ එදම පිළියෙල කළෝය. එ
හි සිටි ඊශ්‍රායෙල් පුත්‍රයෝ උපරිගමන
මංගල්‍යයත් ඇඹුල් පිටි නුමුසු රොටි මං
ගල්‍යයත් ඒ කාලේ සත් දවසක් පැවැත්
18 තුවෝය. සාමුවෙල් අනාගතවක්තෘගේ
කාලයේ සිට ඊට සමාන උපරිගමන මඟ
ල්‍යයක් නොතිබුණේය. යොසියාද පූජ
කයන්ද ලෙවිවරුන්ද එහි සිටි සෑම යුදා ස
හ ඊශ්‍රායෙල්වරුන්ද යෙරුසලම් වැසියන්ද
පැවැත්වූ උපරිගමන මංගල්‍යය වාගේ ඊ
ශ්‍රායෙල්හි සෑම රජුන්ගෙන් කිසිවෙක්
උපරිගමන මංගල්‍යයක් නොපැවැත්තු
19 වේය. යොසියාගේ රජකමේ දහඅටවෙ
නි අවුරුද්දේදී මේ මංගල්‍යය පැවැත්විය
20 මින් පසු යොසියා මාළිගාව නිමකලා
ම මිසරයේ නෙකෝ රජ ප්‍රාත් ගඟ ළඟ
තිබෙන කකිමිස්ට එදිරිව සටනට ආවේ
ය. යොසියාද ඔහුට එදිරිව පිටතට ගි
21 යේය. එහෙත් මිසර රජ පනිවිඩකාර
යන් යවා යුදාහි රජ්ජුරුවෙනි මගෙන්
නුඹට කම මොකද? නුඹට විරුධව නො
ව මා සමග යුධකරණ මිනිසුන්ට විරුධ
ව අද මම ආයෙමි. දෙවියන්වහන්සේ ම
ට ඉක්මනින් යන්ට අනකලසේක. මා
සමග සිටින දෙවියන්වහන්සේගෙන් නු
බ නැතිනොවෙන පිනිස නිකම් සිටප
22 නැයි කීයේය. නුමුත් යොසියා හැරී
යන්නට අකමැතිව නෙකෝ කී දෙවිය
න්වහන්සේගේ වචනය නාසා ඔහු සම
ග යුධකරණ පිනිස වෙස් පෙරලාගෙන
මෙගිද්දෝ මිටියාවතේදී පැමිණියේය.
23 දුනුකාරයෝද යොසියා රජුට විද්දෝය.
රජද මම බොහෝ තුවාල වූනෙමි මා අ
රන් පලයල්ලායයි තමන් වැඩකාරයන්
24 ට කීය. වැඩකාරයෝද ඒ රථයෙන් ඔ
හු අරන් ඔහුට තිබුන අනිත් රථයේ ති
බා යෙරුසලමට ගෙනාවෝය. ඔහුද
නැසී තමන් පියවරුන්ගේ සොහොන්
ගේවල තැන්පත්කරනු ලැබීය. සියළු
යුදාවරුද යෙරුසලම් වැසියෝද යො
25 සියා නිසා වැලපුනෝය. යරමියාද යො
සියා නිසා විලාප කීය. ගී කියන සියළු
ස්ත්‍රී පුරුෂයෝ අදදක්වා තමන් විලාපව
ලින් යොසියා නිසා විලාප කීම් කියමින්
ඒ ගැන ඊශ්‍රායෙල්හි නියමය කළෝ
ය. ඒවා විලාප පොතේ පෙනී තිබෙන්
26 නේය. යොසියාගේ අනිත් ක්‍රියාවළුත්
යෙහෝවාවහන්සේගේ ව්‍යවස්ථාවේ ලිං
27 යවිල් ලෙස ඔහුගේ යහපත්කමුත් පල
මු පටන් අන්තිම දක්වා ඔහුගේ ක්‍රියා
වළුත් ඊශ්‍රායෙල් සහ යුදාහි රජුන්ගේ
පොතේ ලියා තිබෙනේය.

36. පරිච්ඡ. එවිට රටේ මිනිස්සු යො

සියාගේ පුත් යහොවහස් අරන් ඔහුගේ
පියා හිලව්වට යෙරුසලමේ රජකමට
2 පත්කලෝය. යහොවහස් විසිතුන් අවු
රුදු වයසේදී රජකමට පැමිනි යෙරුස
ලමේ තුන් මාසයක් රජකම් කෙලේය.
3 මිසරයේ රජද යෙරුසලමේදී ඔහු යටත්
කර රිදී තලෙන්ත සියයකුත් රන් ත
ලෙන්තයකුත් ගෙවනාට රටට අඬක
4 ර ඔහුගේ සහෝදර එලියකිම් යූදාහිත්
යෙරුසලමෙහිත් රජකමට පත්කොට
ඔහුගේ නම මාරුකොට යහොයකිම්
යන නාමය ඔහුට තබා ඔහුගේ සහෝ
දර යහොවස් අරගෙන මිසරයට ගියේ
5 ය. යහොයකිම් විසිපස් අවුරුදු වයසේ
දී රජකමට පැමිනි යෙරුසලමේ එකො
ලොස් අවුරුද්දක් රජකම් කරමින් ත
මන් දෙවිවූ යෙහෝවාවහන්සේ ඉදිරි
6 යෙහි නපුරුකම් කෙලේය. බබිලොන්
හි නබූකද්නෙසර් රජද ඔහුට එදිරිව
ඇවිත් ඔහු විලංගු දමා බබිලෝනියට
7 ගෙන ගියේය. ඔහුද යෙහෝවාවහන්
සේගේ ගෙයි භාජන බබිලෝනියට
ගෙනගොස් බබිලොන්හි තමන් දේවා
8 ලයේ තබාගත්තේය. යහොයකිම්ගේ
අනිත් ක්‍රියාවළුත් ඔහු කල පිලිකුළුත් ඔ
හු පැවැත්වූ කාරනාත් ඊශ්‍රායෙල් සහ
යූදාඃ රජ්ජුන්ගේ පොතේ ලියා තිබෙන්
නේය. ඔහුගේ පුත් යහොයකිම්ද ඔහු
9 හිලව්වට රජකම් කෙලේය. යහොය
කිම් අට අවුරුදු වයසේදී රජකමට පැ
මිනි යෙරුසලමේ තුන්මස් දහ දවසක්
රජකම් කරමින් යෙහෝවාවහන්සේ ඉ
10 දිරියෙහි නපුරුකම් කෙලේය. ඇරත්
අවුරුද්ද අන්තිමේදී නෙබූකද්නෙසර්
රජ ඔහුද යෙහෝවාවහන්සේගේ ගෙ
යි තිබුන හොඳ භාජනද බබිලෝනිය
ට ගෙනවා ඔහුගේ සහෝදර සදකියාඃ
යූදාඃහිත් යෙරුසලමේත් රජකමට පත්
කෙලේය.

11 සදකියාඃද විසි එක අවුරුදු වයසේදී
රජකමට පැමිනි යෙරුසලමේ එකො
12 ලොස් අවුරුද්දක් රජකම් කරමින් ත
මන් දෙවිවූ යෙහෝවාවහන්සේ ඉදිරි
යෙහි නපුරුකම් කොට යෙහෝවාව
හන්සේගේ වචන කථාකල යරමියාඃ අ
13 නාගතවක්තෘට යටත්නූනේය. ඔහුද
දෙවියන්වහන්සේගේ නමින් ඔහු දිවි
රෙවූ නබූකද්නෙසර් රජ්ජුට එදිරිව කැ
රලිගසා බෙල්ල තදකරගනිමින් සිත
දූඩිකරගෙන ඊශ්‍රායෙල් දෙවිවූ යෙහෝ
වාවහන්සේ වෙතට නොහැරුණේ
14 සැම නායක පූජකයොත් මිනිස්සුත් ප
රදේසින්ගේ පිලිකුල් ලෙස බොහෝ
වරද කර යෙහෝවාවහන්සේ විසින්
යෙරුසලමේ පවිත්‍රකල උන්වහන්සේ
15 ගේ ගේ අපවිත්‍ර කලෝය. ඔවුන්ගේ පි
යවරුන්ගේ දෙවිවූ යෙහෝවාවහන්
සේ තමන් මිනිසුන්ටත් වසන ඉඩමටත්
අනුකම්පාකොට කඩ නැතුව වේලා
නින් තමන් පනිවිඩකාරයන් ඔවුන් ල
16 ගට යවූසේක. එහෙත් ඔවුන් යෙහෝ
වාවහන්සේ කෝපකර උන්වහන්සේ
ගේ මිනිසුන්ට කිසි පිහිටක් ලැබෙන්
බැරි තරම් දෙවියන්වහන්සේගේ පන්
විඩකාරයන්ට කවටකම්කොට උන්
වහන්සේගේ වචනවලටත් නිඥකො
උන්වහන්සේගේ අනාගතවක්තෘන්
17 හිංසා කලෝය. ඒ නිසා උන්වහන්සේ
වුන්ට එදිරිව කල්දිවරුන්ගේ රජ්ජු ගෙ
නාසේක. කල්දිවරුද ඔවුන්ගේ පිරිසිදු
නැතම ඔවුන්ගේ ඉලන්දරින් කඩුවෙන්
මරා ඉලන්දරීන්ටත් කනනවන්ටත්
හලුන්ටත් වයසින් කුදුවූවන්ටත් අනු
කම්පා නොකලෝය. දෙවියන්වහන
සේ ඔවුන් සියල්ලන් ඔවුන්ගේ අත
18 පාවාදුන්සේක. ඔහුද දෙවියන්වහන්සේ
ගේ ගෙයි ලොකු කුඩා සැම භාජන
යෙහෝවාවහන්සේගේ ගෙයි වස්තු
රජ්ජුගේත් ඔහුගේ මූලාදෑනීන්ගේත් සැ
ම වස්තුද බබිලෝනියට ගෙන ගියේ
19 ඔවුන් දෙවියන්වහන්සේගේ ගේ ගිනි
ලා යෙරුසලමේ පවුර කඩාදමා සැඩ
ලිගාවල් ගිනිලා එහි සැම හොඳ භාජ
20 න නැතිකලෝය. ඒ රජද කඩුවෙන්
ගැලවුන අය බබිලෝනියට ගෙන
යේය. ඔවුහු පාර්සිවරු රජකමට පැ
21 නෙන තුරුද යරමියාඃ ලවා යෙහෝවා
වහන්සේ කියෙව් වචන සම්පූර්ණවෙ
න පිනිස දේසයට නියමවූ සබත් ලැ
න තුරුද ඔවුන් රජ්ජුටත් ඔහුගේ පුතුන්
ටත් දසයෝව සිටියෝය. මක්නිසාද
ට පාළුව තිබෙන හැත්තෑ අවුරුද්දම
22 බත් විය. ඇරත් පාරසි රජ්ජු කොරෙස්
පලමු අවුරුද්දේදී යරමියාඃ ලවා යෙහෝ
වාවහන්සේ කී වචන සම්පූර්ණවෙන
පිනිස යෙහෝවාවහන්සේ පාරසි රජ්
23 කොරස්ගේ හිත ප්‍රබෝධකලසේක. ඔ
හුද ස්වර්ගයේ දෙවිවූ යෙහෝවාවහන්

